# විනයප්‍රදීපනී
# නම්
# මාතිකට්ඨකථා ව්‍යාඛ්‍යානය

ප්‍රථම භාගය



පූජ්‍ය මහව ඤාණාලෝක හිමි

# විනයත්ථදීපනී

## නම්

# මාතිකට්ඨකථා ව්‍යාඛ්‍යානය

ප්‍රථම භාගය

# විනයත්ථදීපනී

## නම්

# මාතිකට්ඨකථා ව්‍යාඛ්‍යානය

## ප්‍රථම භාගය

මහාවිහාරවංශාවතංස

**පූජ්‍යපාද නුවරඑළියේ ඤාණසීලාභිධාන**

මහාස්ථවිරයන් වහන්සේගේ

ශිෂ්‍ය

ත්‍රිපිටක විශාරද, විද්‍යාවේදී, ශාස්ත්‍රපති, රාජකීය පණ්ඩිත

## පූජ්‍ය මහව ඤාණාලෝක හිමි

විසින් සම්පාදිතයි.

ත්‍රිපිටකාචාර්ය, රාජකීය පණ්ඩිත

**පූජ්‍ය කුණ්ඩසාලේ අරණගවේසී**

ස්ථවිරයන් වහන්සේ විසින්

සෝදුපත් බැලීමෙන් පිළිගන්නා ලදී.




ශ්‍රී බු.ව. 2564

# විනයත්ථදීපනී නම් මාතිකට්ඨකථා ව්‍යාඛ්‍යානය
## ප්‍රථම භාගය

**ප්‍රථම මුද්‍රණය:** ශ්‍රී බුද්ධ වර්ෂ 2564 වප් මස අව තෙළෙස්වක නම් තිථිය ලත් කිවි දින (ව්‍ය. ව. 2020 නොවැම්බර් මස 13)

**ISBN – 978-624-5495-00-9**



ප්‍රකාශනය

**මහාවිහාරය පදනම**
**Web:** **www.mahaviharaya.lk**
**Email:** **publisher@mahaviharaya.lk**

මහාවිහාරය මගින් ප්‍රකාශිත වෙනත් ධර්මග්‍රන්ථ

- ස්වාක්ඛාතො
- ලෝකවිදූ

**කඤ්චුක නිර්මාණය:** ජයනාත් පරාක්‍රම

**කඤ්චුකයේ සිතුවම:** වට්ටගාමිණී අභය රාජ්‍ය සමයේ මහාවිහාරීය මහාසංඝරත්නය විසින් මාතලේ අලුලෙන දී ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම දක්වෙන කැලණි විහාරයේ බිතුසිතුවම (මූලාශ්‍රය: අන්තර්ජාලය)

මුද්‍රණය

පියසිරි මුද්‍රණාලය
534/බී 3, අමරසිංහ මාවත, අතුරුගිරිය පාර, මාලබේ.
දුරකථනය : **011-2561 551**

# Vinayatthadīpanī

## The Exposition of Mātikaṭṭhakathā

Part I

Edited and Compiled by

**Venerable Maho Ñânâloka**

A pupil of
The Most Venerable
**Nuwaraeliye Ñāṇasīla**

Revised and Accepted by
Venerable
**Kundasale Araṇagawesī**

Published by
**The Mahaviharaya Foundation**
Sri Kawantissa Mahaviharaya,
Nelumgala, Bambaragaswewa,
Sri Lanka.
B.E. 2564 | C.E. 2020

# Vinayatthadīpanī the Exposition of Mātikaṭṭhakathā - Part I

**First Print:** 13th November 2020

**ISBN – 978-624-5495-00-9**



**Published by**

## The Mahaviharaya Foundation

**Web:** www.mahaviharaya.lk
**Email:** publisher@mahaviharaya.lk

**Cover Designed by:** Jayanath Parakrama

**Front Cover:** Writing of the Tipiṭaka on ola leaves by the Mahaviharaya monks at the Matale Alu Vihara cave temple in Sri Lanka, during the reign of King Vaṭṭagāminī Abhaya, in the 5th Century B.E. (A mural from Kelaniya Temple Sri Lanka)

**Printed by:** Piyasiri Printers
534/B 3, Amarasinghe Mw,
Athurugiriya Rd, Malambe.
Tel: 011-2561 551

# පිදුම

**පුබ්බෙ හි ධම්මවිනයං සකජීවිතන්ති**
**මන්ත්වා චිරට්ඨිතිමකංසු යතිස්සරා තෙ,**
**ඤාණාදිසීලපවරා'චරියම්පි මය්හං**
**පූජෙමි ගන්ධකුසුමෙ'හිමිනා'දරෙන.**

පෙර යතිඳු උතුමන් - සිය දිවි සේ සලකමින්
බෝ කල් දහම රැකදුන් - සිහිකර නැමඳ සතොසින්
කුළුණු මෙත් ගුණ දුන් - ඇදුරුවර හිමි **නැණසිල්**
ම හද පිරි ගරු බැතියෙන් - පුදනෙමි මෙ ගත් කුසුමින්



# සංකේත නිරූපණය

| | |
|---|---|
| **අංනි.** | අංගුත්තරනිකාය |
| **අංනිඅ.** | අංගුත්තරනිකාය අට්ඨකථා |
| **කඞ්ඛා.** | කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථා |
| **කඞ්ඛා.ටී.** | වියත්ථමඤ්ජුසා කඞ්ඛාවිතරණී අභිනවටීකා |
| **කඞ්ඛා.පි.** | කඞ්ඛාවිතරණී පිටපොත |
| **කච්චා.** | කච්චායනසරූපවිඤ්ඤාපන |
| **කාලවිල.** | කඞ්ඛාවිතරණී, කාලවිල ඉන්දරතන හිමි සංස්කරණය |
| **කුදුසික** | කුදුසික හා පුරාතන විස්තර සන්නය |
| **චුල්ල.** | චුල්ලවග්ගපාළි |
| **දීනි.** | දීඝනිකාය |
| **දීනිඅ.** | දීඝනිකාය අට්ඨකථා |
| **පාරා.** | පාරාජිකපාළි |
| **පරිවා.** | පරිවාරපාළි |
| **පාලිමු.** | පාලිමුත්තකවිනයවිනිච්ඡය සඞ්ගහො |
| **බුජමු.** | බුද්ධ ජයන්ති මුද්‍රණය |
| **බෞසංම.** | බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය |
| **මඡසං** | මරම්මරට්ඨ ඡට්ඨසංගායනා මෘදුකාංගය |
| **මනි.** | මජ්ඣිමනිකාය |
| **මනිඅ.** | මජ්ඣිමනිකාය අට්ඨකථා |
| **මහාව.** | මහාවග්ගපාළි |
| **වජිර.** | වජිරබුද්ධිටීකාව |
| **විමති.** | විමතිවිනෝදනීටීකාව |
| **විවිනි.** | විනයවිනිශ්චයටීකාව |
| **සංනි.** | සංයුත්තනිකාය |
| **සංනිඅ.** | සංයුත්තනිකාය අට්ඨකථාව |
| **සම.පා.** | සමන්තපාසාදිකා |
| **සාරදී.** | සාරත්ථදීපනීටීකාව |
| **හෙමු.** | හේවාවිතාරණ මුද්‍රණය |

# පූර්විකාව

**'විනයො නාම සාසනස්ස ආයු'** යනු පුරාණ ථෙරවාදීන්ගේ මූලික පිළිගැනීමයි. සාසන ඉතිහාසය පුරාවට විනය පිටකයට ලැබී ඇති සැලකිල්ල එයින් කියවෙයි. විනය නැති තැන ආයතන බිඳ වැටෙන්නේ ඇසිපිය හෙළන වේලාවකිනි. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පා අවුරුදු 2562 ගෙවෙන අද දවසේ පවා බුද්ධ ශාසනය සුරක්ෂිතව ඇත්තේ සම විනය පද්ධතියක් තුළ ථෙරවාදි බෞද්ධ භික්ෂුව හික්මෙන බැවිනි.

ශ්‍රී ලංකාද්වීපය තුළ විනය ශාසනය ගැන කථා කරන විට ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සම්ප්‍රදායට හිමි වන්නේ අද්විතීය ස්ථානයකි. බුදුරජාණන් වහන්සේ ධරමාන කාලයෙහි මෙන් ම කුඩා අනුකුඩා සිකපද රැකීමෙහි දිවිහිමියෙන් උත්සුක වන භික්ෂු පිරිසක් අදටත් ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රමය තුළ දැකිය හැකිය.

ඒ සඳහා ප්‍රමාණවත් වැඩ පිළිවෙළක් ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රමය තුළ ඇත. ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රමය, භාවනා ප්‍රගුණ කරන සම්ප්‍රදායක් පමණක් ම නොව, පරියත්තිය ප්‍රගුණ කරන සම්ප්‍රදායක් ලෙසින් ද දශක 6 කට අධික කාලයක් පුරාවට කීර්තියක් උසුලයි.

එම විනය පරපුර ශක්තිමත් කරන ඇදුරුවරු යටතේ විනය දැනුම ප්‍රගුණ කළ ශිෂ්‍ය නමක් ලෙසින් **මහව ඤාණාලෝක** හිමියන් හඳුන්වා දිය හැකිය. ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රමයෙහි පරියත්ති සංවර්ධන මණ්ඩලය මඟින් පිරිනමන 'විනය විශාරද' උපාධිය සඳහා මහව ඤාණාලෝක

හිමියන් විසින් රචිත **'විනයත්ථදීපනී නම් මාතිකට්ඨකථා ව්‍යාඛ්‍යානය'** කෘතිය කියවා බැලීමි.

දශක 6 ක් පුරාවට ගෙන ගිය යෝගාශ්‍රමයෙහි පරියත්ති වැඩපිළිවෙළ මල්ඵල ගැන් වී ඇති සැටියක් එයින් හැඟින. විනයාර්ථීන්ට එයින් මහඟු පිටුවහලක් ලැබෙන බව පසක් වේ. කර්තෘහුගේ වෑයම සාර්ථක බව ඉඳුරාම ප්‍රකාශ කරමි.

මහව ඤාණාලෝක හිමියන්ගේ ධර්ම-විනය ඥානය තවතවත් දියුණු වේවා !

මෙයට කාරුණික,

**කහගොල්ලේ සෝමවංශ මහාස්ථවිර,**
මහා ලේඛකාධිකාරී,
ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සංස්ථාව,
ශ්‍රී ලංකා රාමඤ්ඤ මහා නිකාය.
2020.11.08

# ප්‍රස්තාවනා

පළමු, දෙවන, සහ තෙවන ධර්ම සංගායනාවන්ගෙන් සංගෘහිත සද්ධර්මය ලක්දිව පිහිටුවන ලද්දේ මිහිඳු මහ රහතන් වහන්සේ විසිනි. උන්වහන්සේගෙන් ධර්ම විනයෝද්ග්‍රහණය කළ අරිට්ඨ, තිස්සදත්ත, කාලසුමනාදී ධර්ම විනයධර මහරහත් ථේර පරම්පරාව සහ අනුශිෂ්‍ය පරම්පරාව විසින් කාලාන්තරයෙහි ධර්ම විනයෙහි සුරක්ෂිතභාවය පිණිස තම යුතුකම හා වගකීම මැනවින් ඉටුකරන ලදී.

**"සබ්බං ථෙරවාදන්ති ච සඞ්ගීතියො ආරුළ්හා පාළි. සා හි මහා සඞ්ඝිකාදි භින්නලද්ධිකාහි විවෙචෙතුං ථෙරවාදො'ති වුත්තා. අයඤ්හි විභජ්ජවාදො මහා කස්සපත්ථෙරාදීහි අසඞ්කරතො රක්ඛිතො ආනීතොචා'ති ථෙරවාදොති වුච්චති."** යැයි තෙවන ධර්ම සංගායනා කථාවෙහි ථේරවාදය ගැන පුරාණ ඇදුරුවරයන්ගේ අර්ථකථනය දක්වා ඇත.

මහින්දාගමන සමයෙහි දෙවන පෑතිස් මහ රජු විසින් මහසඟරුවනට පළමු කොට වාසය පිණිස පූජා කළ මහාමේඝ වනෝද්‍යානයෙහි පිහිටි තිස්සාරාමය මූලික කොට අනුරාධපුරය හා තදාසන්න ප්‍රදේශවලත් ලක්දිව පුරාවටත් මහා භික්ෂු පිරිසක් වාසය කළ අතර පසුකාලීනව අභයගිරිය හා ජේතවනාරාමය මුල්කොට හටගත් වෛතුල්‍යය, අභයගිරික හා සාගලිකාදී විපරීත මත දරන භික්ෂු සමූහය වෙතින් පිරිසිදු ධර්ම විනය දැරූ භික්ෂු සමූහය වෙන්කොට හඳුනාගැනීම පිණිස අනුරාධපුර මූල තිස්සාරාමය 'මහාවිහාරය' ලෙසත් තදනුයාත භික්ෂු පිරිස හා පිරිසිදු ධර්ම විනය පරම්පරාව 'මහාවිහාරීය පරපුර' ලෙසත් ප්‍රචලිත විය. මෙකී තිස්සාරාමය රෝහණයෙහි ප්‍රතිෂ්ඨිත තිස්සමහාරාමය නොවන බව ඉතිහාසගත කරුණුවලින් පෙනේ.

බුද්ධ දෙශිතය, පිටක විසින් තෙවදෑරුම් ය. විනය, සූත්‍ර, අභිධර්ම වශයෙනි. එම දේශනා අතරින් බොහොමයක් දේශනා වී ඇත්තේ මිනිස් මසැසට හා සෙසු ඉඳුරනට අවිෂය දෑ සම්බන්ධව ය. ඒවා දියුණු මනසකට පමණක් විෂය වෙති.

ලොවෙහි අදහස් ප්‍රකාශ කළ හැකි ප්‍රධානතම මාධ්‍ය භාෂාව යි. "**භාසන්ති සත්තා අජ්ඣාසයං පකාසන්ති එතෙනාති භාසා**" යන නිරුක්ති පාඨයෙන් එය ස්ඵුට වෙයි. සාමාන්‍යයෙන් අදහස් ප්‍රකාශ වනුයේ අපගේ ඇසට කනට පෙනෙන ඇහෙන, එසේ ම දිව නාසය හා කය යන ඉඳුරන්ට දැනෙන දෑ සම්බන්ධව යි. එබැවින් භාෂාවක වචන මාලාව සකස් වනුයේ ඊට අනුරූපීව ය. බත් කම්, පාසැල් යම්, ගෙවල් බඳිම්, ආදි එක් මුවෙකින් දිනකට ප්‍රකාශ වෙන බොහෝ අදහස් ලොකයේ පෙනෙන්ට ඇහෙන්නට තිබෙන, කෙරෙන කියෙන දෑ සම්බන්ධව වෙති. එබැවින් ව්‍යවහාර භාෂා සියල්ලක් ම පාහේ සැකසී ඇත්තේ ලෝකයේ පවතින ඇස කන දිව නාසය කය යන පසිඳුරන්ට ගෝචර වන ප්‍රපංච සඳහා සැකැසී ඇති වදන් සමුදායකිනි.

ලෝකයේ පවතින ඇස, කන, දිව, නාසය, කය යන පසිඳුරන්ට ගෝචර වන ප්‍රපංච හැඳින්වීමට අමතරව එබඳු තත්ත්ව ඉක්මවූ පසිඳුරන්ට විෂය නොවන විශ්වයේ යථා තත්ත්වයන් පිළිබඳ අදහස් ප්‍රකාශනයක අවශ්‍යතාවයක් මතු වුවහොත් එය ව්‍යවහාර භාෂාවක් මගින් කිරීම කළ නොහැක්කක් නොවුණත් එතරම් පහසු වන්නේ නම් නැත. ව්‍යවහාර වදන් හා සඤ්ඤා සැකසී ඇත්තේ පසිඳුරන්ට විෂය දෑ ප්‍රකාශ කිරීම පිණිස නිසා ය.

බුදු දහම වනාහි ඓහලෞකික සේ ම පාරලෞකික විශ්ලේෂණ මත පදනම් වූ දහමෙකි. අපට පෙනෙන ලෝකය සේ ම අපට නොපෙනෙන ලෝකය සම්බන්ධ විශ්ලේෂණ මත පදනම් වූ දහමෙකි. අපට නොපෙනෙන ලෝකය පමණක් නොව අපට නොපෙනෙන මුළු විශ්වය සම්බන්ධව ම සමන්තභද්‍ර විශ්ලේෂණයක් ඉදිරිපත් කෙරෙන දහමෙකි.

ඒ අනුව, අපට නොපෙනෙන විශ්වය සම්බන්ධව විශ්ලේෂණයක් ව්‍යවහාර භාෂාවක් මගින් ඉදිරිපත් කිරීම සුළුපටු නො වේ. ව්‍යවහාර භාෂා අතුරින් වඩාත් සුපෝෂිත, සුලලිත හා සුමධුර වදන් හා වියරණ

මාලාවක් ඇති බසක් ම ඊට සරිලනු ලබයි. එදා භාරතයෙහි පැවැති ව්‍යවහාර භාෂා අතුරින් මාගධී භාෂාව මෙම කර්තව්‍යයට පැවති අති යෝග්‍යතම භාෂාව වීය.

අද වන විට මාගධී භාෂාව සම්භාව්‍ය භාෂාවක් ලෙසින් සංරක්ෂණය වුවත් එදා එය මගධයෙහි ව්‍යවහාර භාෂාව වීය. ව්‍යවහාර භාෂාවක්, වදන් හා වියරණ මාලාවෙන් කොතෙක් සුපෝෂිත වුවත් එය අපට නොපෙනෙන විශ්වය සම්බන්ධව විශ්ලේෂණයක් ඉදිරිපත් කිරීමට තරම් ප්‍රාමාණික නො වේ. එබැවින් ශබ්ද ශාස්ත්‍ර ඥානයෙහි පාරප්‍රාප්ත වූ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ විසින් එම ව්‍යවහාර මාගධී ය, ශුද්ධ මාගධී ලෙසකට හරවා අපට නොපෙනෙන විශ්වය සම්බන්ධව විශ්ලේෂණ ඉදිරිපත් කොට වදාළ සේක. එබැවින් මාගධී භාෂාව අර්ධ මාගධී හා ශුද්ධ මාගධී වශයෙන් දෙයාකාර වෙයි.

භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ හා සව්වන් ව්‍යවහාර කළ භාෂාව ශුද්ධ මාගධීය බවත් අන් තොටුවන් හා තත් සව්වන් සේ ම සාමාන්‍ය ජනයාත් භාවිත කළ භාෂාව අර්ධ මාගධීය බවත් තතු දන්නෝ දනිති. දීඝනිකායේ සාමඤ්ඤඵල සූත්‍රාදියෙන් මෙයට නිදසුන් ලැබේ.

එදා භාග්‍යවත් බුදුරජානන් වහන්සේ හා සව්වන් ශුද්ධ මාගධියෙන් දහම් දෙසුව ද අද වන විට එම මාගධී භාෂාව ව්‍යවහාරයෙහි නොමැත. සම්භාව්‍ය භාෂාවක් ලෙසින් එය සංරක්ෂිත ය. දහම් දතයුත්තන් විසින් මාගධීය නිවැරදිව හදාරා දහම් දත යුතු ය. එබැවින් ත්‍රිපිටකය ඉගැන්මට නම් මාගධීය හෙවත් අද හැඳින්වෙන පරිදි පාලි භාෂාව නිවැරදිව හැදෑරිය යුතු ය.

පාලි භාෂාව පිළිබඳ ප්‍රාමාණික ප්‍රාගුණ්‍යයක් නොමැතිව ත්‍රිපිටක පාඨයන්හි අරුත් ගැනීමට යාම දහම් විකෘති වීමට හේතු වෙයි. වැරදි ලෙස පද අරුත් ගැනෙන බැවිනි.

**"යො නිරුත්තිං න ජානාති - ජානාති පිටකත්තයං**

**පදෙ පදෙ විකඞ්ඛෙය්‍ය - වනෙ අන්ධ ගජො විය"** යැයි කීවේ එබැවිනි.

එබැවින් කච්චායන ව්‍යාකරණය පිළිබඳව හසල දැනුමක් ඇතිව ම තත් කාර්යයට බැසිය යුතු ය. මෞද්ගල්‍යායන හෝ ශබ්ද නීති

සම්ප්‍රදායයන් ආදේශ වශයෙන් උගැන්ම වරද නැති වුව ද, මහාවිහාරීය ප්‍රවේණිය නම් කච්චායන ව්‍යාකරණය යි. "**වාදශහීර් වශෛෂීර් ව්‍යාකරණං ශ්‍රූයතෙ**" යැයි කී පරිදි වියරණයෙහි විශාරදත්වය දොළොස් වසකින් කළ උද්ග්‍රහණ පරිචය ඇත්තවුනට සමෘද්ධ වේ ය.

නමුත් දොළොස් වසක් පුරාවට කළ වියරණ පරිචය ඇති පමණකින් ම ත්‍රිපිටකයෙහි අරුත් නිවරදව ග්‍රහණය කළ නොහැක. ත්‍රිපිටකයෙහි අරුත් නිවරදව ග්‍රහණය කිරීමට බලපාන ප්‍රධාන කාරණා දෙකකි. ව්‍යාකරණ ප්‍රාගුණ්‍යය මින් එකකි. අනෙක බුද්ධ අධ්‍යාශ ජානන කුසලත්වය යි. බුද්ධ අධ්‍යාශ ජානන කුසලත්වය බුදුරජාණන් වහන්සේගේ සමීපචාරී ශ්‍රාවකයින් තුළ පිරිපුන්ව පවතියි. තත් ථෙරීය පරපරපුරෙහි පසුකාලීන මහාප්‍රාඥයින් තුළ, මාගධී භාෂාව ප්‍රගුණ වූ විට ද පිහිටයි. කල් යත් යත් ම එය ද හීන වනු ඇත.

එබැවින් මහාකාශ්‍යපාදි මහරතන් වහන්සේලා බුදුරජාණන්වහන්සේ දෙසූ දහම් පදයන්හි අර්ථ දැන වදාරා ගෙන අනුශිෂ්‍ය පරම්පරාවට ද ඉගැන්වූහ. එම අර්ථකථනය පිළිවෙලින් උපාලි මහරහතන් වහන්සේ ය, දාසක මහරහතන් වහන්සේ ය, සොනක මහරහතන් වහන්සේ ය, සිග්ගව මහරහතන් වහන්සේ ය, තිස්ස මහරහතන් වහන්සේ ය, මොග්ගලිපුත්තතිස්ස මහරහතන් වහන්සේ ය යන ජම්බුද්වීප ඇදුරු පරපුර විසින් තෙවන සංගායනාව තෙක් සියවස් තුනක් පුරාවට සුරක්ෂිතව ගෙන එන ලදුව මොග්ගලීපුත්තතිස්ස මහරහතන් වහන්සේ වෙතින් මිහිඳු මහරහතන් වහන්සේ වෙත ද, උන්වහන්සේ විසින් මෙම ශ්‍රී ලංකා දේශයට ගෙන එන ලද බවඃ

**දීඝස්ස දීඝසුත්තඞ්කිතස්ස නිපුණස්ස ආගමවරස්ස**
**බුද්ධානුබුද්ධ සංවණ්ණිතස්ස සද්ධාවහගුණස්ස**

**අත්ථප්පකාසනත්ථං අට්ඨකථා ආදිතො වසීසතෙහි**
**පඤ්චහි යා සඞ්ගීතා අනුසඞ්ගීතා ච පච්ඡාපි**

**සීහළදීපං පන ආභතාථ වසිනා මහාමහින්දෙන**
**ඨපිතා සීහළ භාසාය දීපවාසීනමත්ථාය**

යන සුමංගලවිලාසිනීයෙහි එන ප්‍රාරම්භ ගාථා මගින් පැහැදිලි වෙයි. මෙසේ මිහිඳු මහරහතන් වහන්සේ විසින් ශ්‍රී ලංකා

දේශයට ගෙන එන ලද බුද්ධ දේශනයේ ගණ්ඨිස්ථාන පිළිබඳ අර්ථ විවරණය උන්වහන්සේගේ ශ්‍රේෂ්ඨ සිංහල ශිෂ්‍යරත්නය වූ අරිට්ඨ මහ රහතන් වහන්සේ වෙත වාචනය කරන ලදුව;

එතැන් පටන්,

සිංහල මහ රහත් පරපුර වූ අරිට්ඨ මහ රහතන් වහන්සේ ය, තිස්සදත්ත මහ රහතන් වහන්සේ, කාලසුමන මහ රහතන් වහන්සේ, දීඝ මහ රහතන් වහන්සේ ය, දීඝසුමන මහ රහතන් වහන්සේ ය, දෙවන කාලසුමන මහ රහතන් වහන්සේ ය, නාග මහ රහතන් වහන්සේ ය, බුද්ධරක්ඛිත මහ රහතන් වහන්සේ ය, තිස්ස මහ රහතන් වහන්සේ ය, දෙව මහ රහතන් වහන්සේ ය, දෙවන සුමන මහ රහතන් වහන්සේ ය, චූලනාග මහ රහතන් වහන්සේ ය, ධම්මපාලිත මහ රහතන් වහන්සේ ය, ඛෙම මහ රහතන් වහන්සේ ය, උපතිස්ස මහ රහතන් වහන්සේ ය, ඵුස්සදෙව මහ රහතන් වහන්සේ ය, තෙවන සුමන මහ රහතන් වහන්සේ ය, පුෂ්පදේව මහ රහතන් වහන්සේ ය, මහසීව මහ රහතන් වහන්සේ ය, උපාලි මහ රහතන් වහන්සේ ය, මහනාග මහ රහතන් වහන්සේ ය, අභය මහ රහතන් වහන්සේ ය, තිස්ස මහ රහතන් වහන්සේ ය, පුෂ්ප මහ රහතන් වහන්සේ ය, චූලාභය මහ රහතන් වහන්සේ ය, තිස්ස මහ රහතන් වහන්සේ ය, චූලදේව මහ රහතන් වහන්සේ ය, සීව මහ රහතන් වහන්සේ ය යන ඇදුරු පරපුර විසින් දරා ගෙන එන අතරතුර මහා අට්ඨකථා නමින් සිංහල භාෂාවෙන් මාතුල ජනපදයේ දී ග්‍රන්ථාරූඪ වීය.

එම මහාඅට්ඨකථා සංඛ්‍යාත පරම්පරාභූත තත් අර්ථකථාව පස්වැනි සියවසේ මුල් භාගයේ දී මාගධී භාෂාවට නැවත පරිවර්තනය විය. මෙම අටුවා පරිවර්තන මෙහෙයේ දී විනය අර්ථකථනය සමන්තපාසාදිකා විනය අට්ඨකථාව නමින් ද, සුමඞ්ගලවිලාසිනී නමින් දීඝනිකාය අර්ථකථනය ද, පපඤ්චසූදනී නමින් මැදුම් සඟි අර්ථ කථනය ද, සාරත්ථපකාසිනී නමින් සංයුත්තනිකාය අර්ථකථනය ද, මනොරථපූරණී නමින් අංගුත්තර නිකාය අර්ථකථනය ද, පරමත්ථජෝතිකා නමින් ඛුද්දක පාඨ අර්ථකථනය ද, එනමින් ම සුත්ත නිපාත අර්ථකථනය ද, ධම්මපදට්ඨකථා නමින් ධම්මපද පාළි අර්ථ කථනය ද, ජාතකට්ඨකථා නමින් ජාතකපාළි අර්ථකථනය ද, භදන්ත බුද්ඝෝෂාචාර්යයන් විසින් මාගධී හෙවත් පාලි භාෂාවට පරිවර්තනය කරන ලදී.

ඇතැම්හු පාළි අටුවාවන්හි කර්තෘත්වය භදන්ත බුද්ඝෝෂාචාර්යයන් වෙත පැවරීමට උත්සාහ දරන බවක් පෙනේ. එය නිවැරදි නො වේ. භදන්ත බුද්ඝෝෂාචාර්යයන් වහන්සේ අටුවා පරිවර්තකයෙකු පමණක් බව ප්‍රකටයහ. ඒ බව;

**"අපනෙත්වාන තතො'හං සීහළභාසං මනොරමං**
**භාසං තන්තිනයානුච්ඡවිකං ආරොපෙන්තො විගතදොසං**

**සමයං අවිලොමෙන්තො ථෙරානං ථෙරවංසප්පදීපානං**
**සුනිපුණවිනිච්ඡයානං මහාවිහාරවාසීනං**

**හිත්වා පුනප්පුනාගතමත්ථං අත්ථං පකාසයිස්සාමි**
**සුජනස්ස ච තුට්ඨත්ථං චිරට්ඨිතත්ථඤ්ච ධම්මස්ස"** යන සුමඞ්ගලවිලාසිනී පාඨයෙන් ස්ඵුට වෙයි.

එබැවින් අප අතට පත්ව ඇති පාළි අට්ඨකථා කර්තෘත්වය බුද්ධඝෝෂ ඇදුරුපාණන් වෙත පැවරීම උන්වහන්සේට කරනු ලබන උපහාසයක් සේ ම මහාවිහාරීය ථේර පරපුරට කරන අපහාසයක් ද වෙයි.

බුදුගොස් ඇදුරුපාණෝ අටුවා පරිවර්තනය කරන යුගය වන විට ථේරීය ධර්මවිනය විනිශ්චය හා ථෙරීය භික්ෂු පරපුර රැක ගත් ලොව ප්‍රධානතම ආයතනය වූ මහාවිහාරයට ප්‍රතිපාක්ෂිකයෙකු ද බිහිව සිටියේය. අභයගිරි විහාරය එම ආයතනය යි. මහායාන බලපෑම පෘථුල වශයෙන් පැතිරුණු මෙම ආයතනය ථෙරීය ධර්මවිනය විනිශ්චයට පටහැනි බහුල මත පළ කළ ආයතයක් ලෙස දූෂිතව පැවතිණ. වෛතුල්‍යවාදීන්ගේ බලපෑමට පවා හසු වුණු අභයගිරිය එම විනය පිටකයෙහි එන 'එකාධිප්පාය මෙථුනධම්ම' පඤ්ඤත්තිය පවා පිළිගත් ආයතනක්ව කලක් පැවැතීම මීට කදිම නිදසුනකි. 'එකාධිප්පාය මෙථුනධම්ම' නම් මාගමගේත් කැමැත්ත ඇති නම් භික්ෂුවගේත් කැමැත්ත ඇති නම් මෙවුන්දම් සේවනයෙහි වරද නැති බව ය. එහෙම පිටින් ම විනය විරෝධී මෙබඳු මතවලින් සිදු වූ හානියට වඩා, ධර්ම විනය ප්‍රතිරූපී මත මගින් වූ හානිය අතිශය බරපතල විය.

නමුත් මහාවිහාරීය මහ රහත් පරපුර නිවැරදි විනිශ්චයන් ඒ අයුරින් ම අනුශිෂ්‍ය පරම්පරා වෙත වාචනා මාර්ගයෙන් දායාද කළහ. ක්‍රිස්තු වර්ෂ පස්වන සියවසේ මුල් භාගයෙහි රජ පැමිණි සිරිනිවාස

නම් අපර නාම ලත් මහනාම රජුගේ කාලය තුළ සිදු වූ අටුවා පරිවර්තනයේ ප්‍රධානත ම මෙහෙය බුදුගොස් තෙරපාණන් අතින් සිදු වීය. එහි දී එතුමෝ මහාට්ඨකථාව ශරීරය කොටගෙන එවකට පැවැති සෙසු අට්ඨකථාවන්ගේ ද සාරය ගෙන මහාවිහාර ප්‍රවේණියට අනුකූලව ම එම කර්තව්‍යය කළහ.

මෙම අටුවා පරිවර්තන කාර්යයේ දී, මහාවිහාරයේ පුහුදුන් වූ ඇතැම් ස්ථවිරවරුන් අභයගිරියෙන් ලත් බලපෑම හේතුවෙන් දැරූ විසදෘශ මත ද විභාග කොට, ථෙරීය අර්ථකථනයන්ට නොගැළපෙන දෑ ධර්ම විනයානුකූලව විනිශ්චය කොට බැහැරලමින්, යමක් ථෙරීය අර්ථකථනයන් මගින් නිශ්චය වන පරිදි ධර්ම විනයට එකඟ නම් එම මත පසසා, අතිරේක මෙහෙවරක් ද ඉටු කිරීමට බුදුගොස් හිමියෝ පසුබට නොවූහ.

බුද්ධඝෝෂ මහා ඇදුරුපාණන්ගේ ම කෘතියක් සේ සැලකිය හැක්කේ විශුද්ධිමාර්ග අට්ඨකථාව ය. එය ද මහාවිහාරවාසීන්ගේ ධර්මවිනය විනිශ්චයන් හා පැහැසී යන පරිද්දෙන් ම කිරීමට ආචාර්යපාදයෝ වග බලාගත් බව සනාථ ය. තව ද එය එතෙක් මහාවිහාරීය පරපුරේ භාවනා මාර්ග ක්‍රමවේද ඇතුළත් වන සේ ශීලයේ පටන් මහරහත් බව දක්වා ම නිවන් මග හෙළිපෙහෙළි වන සේ එළිදක්වන ලද අගනා කෘතියෙකි.

අට්ඨකථා පරිවර්තනයෙහි ලා බුදුගොස් හිමිපාණන්ට අතිරේකව සමකාලීනව ම වාගේ කටයුතු කළ ඇදුරු පරපුර අතර උදානපාළි, ඉතිවුත්තකපාළි, චරියාපිටකපාළි, විමානවත්‍ථුපාළි, පෙතවත්‍ථුපාළි, ථෙරගාථාපාළි, ථෙරීගාථාපාළි යන අට්ඨකථාවන්ට පරමත්‍ථදීපනී නමින් අටුවා සතක් ද නෙත්තිප්පකරණට්ඨකථාව ද කළ බදරතිත්‍ථවාසී ධම්මපාල තෙරපාණන් ද වූහ. ධර්මපාල හිමියන් මේවා පරිවර්තනය නොකළ බවත් ඒවා උන්වහන්සේ ම කළ කෘති බවත් ඇතැමුන්ගේ මතය යි. එනමුත් ඇතැම් නිගමන ගාථාවන්හි පුරාණ අටුවා ඇසුරු කරමින් කළ බව කියා ඇති නියායෙන් වැටහෙනුයේ මේවා ද පුරාණ අටුවාවන්ගේ ම පරිවර්තන බව යි.

තව ද නිද්දේසපාළියට සද්ධම්මපජ්ජෝතිකා නමින් අටුවාවක් උපසේන ඇදුරුපාණන් අතින් ද, පටිසම්භිදාමග්ගපාළියට

සද්ධම්මපකාසිනී නමින් අටුවාවක් මහනාම තෙරපාණන් අතින් ද, බුද්ධවංසපාළියට මධුරත්ථවිලාසිනී නමින් අටුවාවක් බුද්ධදත්ත තෙරපාණන් අතින් ද සිදුවී ඇති අතර ඒ සියල්ල ථෙරීය පරපුරේ අර්ථ විශ්ලේෂණ නය අනුව ම සිදුව ඇති බවට සැකයක් නැත. අපදාන පාළියට ලියැවී ඇති විසුද්ධජනවිලාසිනී නම් අටුවාවෙහි පරිවර්තක අඥාතය.

අද පාලි භාෂාවෙන් දක්නට ලැබෙන මේ අටුවා හුදු පරිවර්තන මිසෙක කෘතීන් නොවන බවට ටීකානුසාරයෙන් සාධක පෙනෙත්. **"අත්ථො කථීයති එතායාති අත්ථකතා. සායෙව අඨකථා ථකාරස්ස ඨකාරං කත්වා"** යනාදි පාඨයන්ට අනුව ද **"භගවතා හි තත්ථ තත්ථ පවත්තිතා පකිණ්ණකදෙසනා අඨකථා නාම"** යනාදි පාඨයන්ට අනුව ද අර්ථකථාව යනු ඒ ඒ තැන භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ කළ විස්තාර දේශනාව ම බව පෙනේ.

සෑම ටීකාවක් ම පාහේ ත්‍රිපිටක පාළියෙහි අර්ථ විග්‍රහ කර ගැනීමේදී අටුවාවන්ට දී ඇති සම්භාවනාව අතිශය ඉහළ ය. අටුවා මතයන්ට පිටුපා පාළි අර්ථ ගැනීම ආර්යෝපවාදයට පවා හේතු විය හැකි බව මහාවිහාර ප්‍රවේණියේ ටීකාවන්හි සඳහන්ව තිබීමෙන් අට්ඨකථාවන්ට ටීකාවන්හි කළ සම්භාවනාවේ තරම පැහැදිලි වෙයි.

මහාකාශ්‍යපාදි මහරහතන් වහන්සේලා විසින් පරපුරෙන් පරපුරට පැවත යන සේ දායාද කොට දුන් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ප්‍රකීර්ණක දේශනාව වූ අට්ඨකථාව සිංහල දේශයහි මුල් කාලයේ සිංහල බසෙනුත්, පසුව ඒ සියල්ල පාලි භාෂාවට නංවන ලදුව අද දක්වා පාලි භාෂාවෙනුත් පවතියි. එය බුද්ධ භාෂිතය නිවැරදිව දැන කියා ගැනීමට පවතින එක ම හා හොඳ ම ක්‍රමය බව ථෙරීය පරපුරේ අත්‍යන්ත පිළිගැනීම යි.

ක්‍රි.ව. 1017 - 1235 කාලය පොළොන්නරු යුගය ලෙස සැලකේ. ලක්දිව රාජාවලියේ මෙම යුගයේ විසූ අසමසම මහාරජාණන් වූ පළමු වන පරාක්‍රමබාහු නරේන්ද්‍රයන් විසින් ශාසන ශෝධනයක් කොට සුප්‍රකට නිකාය සාමග්‍රිය ඇති කරලීමෙන් අනතුරුව කළ වටිනාම ශාසනික මෙහෙවර වූයේ ටීකා සම්පාදක මණ්ඩලයක් බිහිකිරීම යි. ඒ අනුව ටීකා සම්පාදනය සිදුවීය.

අභයගිරිය ජේතවනය හා මහාවිහාරය යන නිකායත්‍රය සාමග්‍රී වීම මහාවිහාරය මූලිකව සිදුවුව ද, ජේතවන හා අභයගිරි නිකායයන්ගෙන් සාමග්‍රියට එකතු වූ තත් නිකාය සම්ප්‍රදායයන්ට අනුව බහුශ්‍රැත වූත්, උගත් වූත්, කීර්තිමත් වූත් මහා තෙරවරුන් සහමුලින් ම මහාවිහාර ප්‍රවේණිය වැළඳගත්තා විය නොහැක.

එබැවින් ම අභයගිරි හා ජේතවන නිකායන්හි බලවත්ව පැන නැගී තිබුණු වෛතුල්‍යය, සාගලිකාදී විපරීත මත මුලුමනින් ම ටීකාකරණයේ දී බල නොපෑවේ නො වෙයි. එකී බලපෑම ඇතැම් ග්‍රන්ථයක් ස්වල්ප වශයෙන් එබඳු මතයන්ට නතු වීමෙන් සහ ඇතැම් ග්‍රන්ථයක් ඍජුව ම කරුණු ගෙනහැර පාමින් විරුද්ධ වීමෙන් ප්‍රකට වෙයි. විනය ටීකාකරණයෙහි දී එබඳු නතු වීම් කිහිපයක් සාරත්ථදීපනී ටීකාවෙහි ද දක්නට ලැබීමෙන් කාරණය සනාථ වෙයි. එබැවින් විනය ටීකා අතුරින්:

1. වජිරබුද්ධි ටීකාව
2. විමතිවිනෝදනී ටීකාව
3. විනයාලංකාර ටීකාව

යන ටීකා තුන මහාවිහාර ප්‍රවේණියේ ටීකා බව පෙනේ.

මෙම ටීකාත්‍රය සම්බන්ධව ථෙරීය පරපුරේ සමීප අතීතයෙහි වැඩ විසූ ආචාර්යවරුන් පවා දැක්වූ පහන් ගරුත්වය හා පිළිගැනීම අතින් ඉහළය.

බුද්ධඝෝෂ මහා ඇදුරුපාණන් අතින් රචිත තවත් කෘතියක් වනුයේ **කංඛාවිතරණී** නම් අට්ඨකථාව යි. මහාවිහාරය තුළ නිඃශ්‍රය මුඤ්චනක භික්ෂුව විසින් හැදෑරිය යුතු ග්‍රන්ථ මාලාවට උභය විභංගය සංග්‍රහ වූ ප්‍රාතිමොක්ෂය ද ඇතුළත් ව තිබුණාට සැකයක් නැත. ඒ සඳහා සීහළ බසින් ම සම්පාදිතව මාතිකාට්ඨකථාවක් තිබූ බව පෙනෙයි. එකී සීහළ මාතිකාට්ඨකථා සාරයත් සමන්තපාසාදිකා අට්ඨකථා සාරයත් ගනිමින් මෙම කංඛාවිතරණී නම් අට්ඨකථාව කර ඇති බව පෙනේ. සෝණ නම් මහා තෙරපාණන් කෙනෙකුන් මෙම කෘතිය කරන ලෙසට ඇරයුම් කොට ඇති බව ද ප්‍රාරම්භ ගාථාවන්ගෙන් පැහැදිලි වෙයි. මාතිකාට්ඨකථා යනු ද කංඛාවිතරණී අට්ඨකථා යනු ද එකිනෙකට පරියාය නාමයෝ වෙති.

**'සා ඛො පනායං කඞ්ඛාවිතරණී විනයෙ පාරාජිකපාචිත්තියගන්ථවයනිස්සිතෙසු උභතොවිභඞ්ගෙසු වත්ථු-පදභාජනීය-තිකපරිච්ඡෙද-අනන්තරාපත්ති-අනාපත්තිවසෙන විභත්තානං නිද්දෙසානං ජනනිඨානෙ ඨිතත්තා මාතා වියාති මාතිකාති වුච්චමානානං', 'යො පනාති ආදි සික්ඛාපදානං-පද-පදත්ථ-විනිච්ඡයකථා හෙතුතො මාතිකට්ඨකථාති වුච්චති'** යන පාඨයෙන් මෙයට මාතිකාට්ඨකථා යැයි කියූ නිරුක්ති නය පැහැදිලි ය.

තවද, **'කුසලානං ධම්මානං ප-අතිමොක්ඛං, අතිඋත්තමන්ති වා මොක්ඛප්පවෙසාය මුඛං ඬාරං වියාති වා, යො නං පාති රක්ඛති තං පාතිං මොක්ඛෙති මොචෙති ආපායිකාදි දුක්ඛෙහි අත්තානුවාදාදි භයෙහීති වා, පාතිමොක්ඛන්ති සඞ්ඛ්‍යායිතස්ස සික්ඛාපදසීලස්ස තද්දීපනගන්ථස්ස වා වණ්ණීයති කථීයති අත්ථො එතායාති පාතිමොක්ඛවණ්ණනාති වුච්චති'** යන පාඨයෙන් මෙයට පාතිමොක්ඛවණ්ණනා යැයි කියූ නිරුක්ති නය පැහැදිලි ය.

විනයත්ථමඤ්ජුසා යැයි ටීකාවක් ද, කඞ්ඛාවිතරණී පුරාණ ටීකා ය, කඞ්ඛාවිතරණී පිටපොත යැයි ග්‍රන්ථයක් ද මීට රැසැයුණු පරිවාර ග්‍රන්ථ අතරෙහි ඇතුළත්ව පවතිත්. පොරාණකගණ්ඨිදීපනී යැයි ගැටපදයක් ගැන ද අසන්නට ලැබෙතත් එය නාමමාත්‍ර පමණක් ම බව පෙනේ.

මාතිකාට්ඨකථාව දිගු කලක් මුළුල්ලෙහි ම ශ්‍රී ලංකාව තුළ විනයාර්ථකාමීන් මහත් උනන්දුවෙන් පරිහරණය කළ ග්‍රන්ථයකි. උපසම්පදාව ලැබීමට පෙරාතුව හදාරන ප්‍රධාන ග්‍රන්ථය මෙය ය. එසේ වුවත් පාලි භාෂාවෙහි අදක්ෂ වූවන්ට එයින් ලැබිය හැකි ප්‍රයෝජන සීමිත ය. කඞ්ඛාවිතරණී පිටපොතෙන් තරමක් දුරට එම අසීරුව පහව ගිය නමුත් එම ග්‍රන්ථය සුලභ නො වේ.

කාලාන්තරයෙහි පැවති මේ අසීරුතා ජයගැනීමට නම් මාතිකාට්ඨකථාවට ලියවුණු සන්නයක අවශ්‍යතාවය දැඩිව පැවතිණ. එම අවශ්‍යතාවය සපුරාලමින් විනයත්ථදීපනී නම් මෙම සන්නය ප්‍රකාශයට පත්කිරීම කාලෝචිත ය.

එම සත් කාර්යයෙහි නිරත වූ රාජකීය පණ්ඩිත පූජ්‍ය මහව ඤාණාලෝක යතිවරයන් සිදුකොට ඇත්තේ ධර්මවිනය බබුලුවන මාහැඟි කටයුත්තකි. එම ව්‍යාපාරයට එතුමෝ සමර්ථයහ. ඉපැරණි

විනය පරපුරකින් පැවත ඒම එයට ඇති හොඳ ම සුදුසුකම ය. විනයඥාන, ධර්මඥාන හා ශබ්දශාස්ත්‍රඥානයන්හි සාමර්ථ්‍යය කතුවරයා සතු බව මම හොඳින් දනිමි. විනයත්‍ථදීපනී නම් කෘතියෙහි ප්‍රශස්තතර බව එයින් සාධනය වී ඇත.

කර්තෘහුගේ ග්‍රන්ථකරණය අන්තර් හා බාහිර නිමිති සාර්ථක වී ඇතැයි සිතීම යුක්තියුක්ත ය.

මේ වගට,
ශාසනස්ථිතිකාමී,

**නුවරඑළියේ ඤාණසීල මහාස්ථවිර වම්හ.**

ශ්‍රී බු.ව. 2564 (2020) ක් වූ ඉල් (නොවැම්බර්) මස 13 වන දින

නෙළුම්ගල, බඹරගස්වැව,
ශ්‍රී කාවන්තිස්ස මහාවිහාරයේ දී ය.

## සසුනට දිරි දීමට සමත් භික්ෂුව;

"අනානුවජ්ජෝ පඨමේන සීලතො
අවෙක්ඛිතාචාරො සුසංවුතින්ද්‍රියො
පච්චත්‍ථිකා නොපවදෙන්ති ධම්මතො
න භිස්ස තං හොති වදෙය්‍යු යෙන නං."

පළමු කොට ශීලයෙන් උපවාද රහිත වූයේ වෙයි. 'ආලොකිතෙ විලොකිතෙ සම්පජානකාරී හොති' යනාදි ආකාරයෙන් පරීක්ෂා කරන ලද ආචාර ඇත්තේ වෙයි. මනා ලෙස සංවර කරන ලද ඉඳුරන් ඇත්තේ වෙයි. පසමිතුරෝ ඔහුට ධර්මයෙන් අපවාද නො කියත්. යම් කරුණකින් කියන්නාහු නම් ඒ චෝදනාව උන්වහන්සේට නැත්තේ වෙයි.

(උපාලි මහරහතන් වහන්සේ)

# සංක්ෂේපනය

දීපඞ්කර පාදමූලයේ ලත් අභිනීහාර සම්පන්නව සාරාසංඛෙය්‍ය කල්ප ලක්‍ෂයකට අති දීර්ඝ කාලයක් මහා කරුණාවෙන් නොයෙක් දුක්ඛස්කන්‍ධයන් අනුභව කර පශ්චිම ආත්මභවයේ අශ්වත්‍ථ බෝධිද්‍රැම මූලයේ දී සවාසන සකල ක්ලේශයන් විධ්වංසනය කරමින් උතුම් සර්වඥතාඥාන ප්‍රතිලාභය කළා වූ ඒ අප සම්මා සම්බුදුරජාණන් වහන්සේ පන්සාළිස් වසක් මුළුල්ලේ ඥාතාර්ථ, ලෝකාර්ථ, බුද්ධාර්ථ යන ත්‍රිවිධාර්ථචර්යාවන්හි නියැලෙමින් ධන්‍ය පුණ්‍ය ශක්තීන්ගෙන් යුක්ත සූවිසි අසංඛෙය්‍යයකට අධික සත්ත්ව ප්‍රජාවකට නිර්වාණ ප්‍රතිලාභය අත් කර දුන් සේක. ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද පර්යාප්ති, ප්‍රතිපත්ති, ප්‍රතිවේධ සංඛ්‍යාත ත්‍රිවිධ ශාසනය බෞද්ධ සුධීජනයා විසින් ලබන ලද උතුම් ම දායාදය යි. අභිසම්බෝධියේ පටන් අනුපාදිශේෂ පරිනිර්වාණ ධාතුවෙන් පිරිනිවීම දක්වා දේශනා කර වදාළ සුපරිශුද්ධ වූ එක ම එක විමුක්ති රසයෙන් යුක්ත වූ සුත්ත, ගෙය්‍ය, වෙය්‍යාකරණාදි සකල නවාංග ශාස්තෘ ශාසන සංඛ්‍යාත පරම ගම්භීර වූ සුදුර්දශ වූ සුප්‍රාඥයන් විසින් ම අවබෝධකොටගෙන නිර්වාණාධිගමය කළා වූ නෛර්යාණික වූ ශ්‍රී සද්ධර්මය පර්යාප්ති ශාසනය නම් වේ. අර්ථකථා සහිත ත්‍රිපිටක පාළිය පර්යාප්තිය බව අංගුත්තරනිකාය අර්ථකථාව දක්වයි. ශීල, සමාධි හා විදර්ශනාව, තෙළෙස් ධුතාංග, තුදුස් කඳුවත්, දෑසූවක් වූ මහවත් යනාදිය  ප්‍රතිපත්ති ශාසනය යි. ලෝකෝත්තර සුඛ සංඛ්‍යාත සතර මාර්ග, සතර ඵල හා නිර්වාණය ප්‍රතිවේධ ශාසනය යි.

සම්බුද්ධ ශාසනයේ චිරස්ථිතිය පිණිස පර්යාප්තිය ම මූලික වන බැව් පුරාණාචාර්යවරයෝ පැවසූහ. එබැවින් පර්යාප්තිය හෙවත් ත්‍රිපිටක බුද්ධවචනය නිසි පරිදි උගෙන, ශීල-සමාධි සංඛ්‍යාත ප්‍රතිපත්තිය පූරණය කොට, සතර මාර්ග-ඵල නිර්වාණය සාක්‍ෂාත් කරගැනීමෙන් සම්බුද්ධ ශාසනයේ චිරප්‍රවෘත්තිය සුස්ථිර වේ. ඒ බව

තථාගතයන් වහන්සේ අංගුත්තරනිකාය දුක නිපාතයේ "**ද්වෙ මෙ භික්ඛවෙ ධම්මා සද්ධම්මස්ස ඨිතියා අසම්මොසාය අනන්තරධානාය සංවත්තන්ති. කතමෙ ද්වෙ? සුනික්ඛිත්තඤ්ච පදබ්‍යඤ්ජනං, අත්‍ථො ච සුනීතො (අංනි, පිටු.116-117)**" යැයි 'මැනවින් උගත් පෙළ දහමත්, මැනවින් උගත් අර්ථයත් (අටුවාවත්) ඇති කල්හි සද්ධර්මයාගේ පැවැත්ම, අවිනාශය, අතුරුදන් නොවීම සිදුවන බව' දේශනා කොට තිබීමෙන් පර්යාප්ති ශාසනයේ මහර්ඝත්වය මනාව පිළිබිඹු වේ. එහෙයින් අර්ථකථාචාර්යයන් වහන්සේලා ද ත්‍රිපිටක ධර්ම සංඛ්‍යාත පර්යාප්තිය මැනවින් ඉගෙනගන්නා ඥානවන්ත භික්ෂුව ප්‍රතිපත්ති හා ප්‍රතිවේධ යන ශාසන ද්වය ම ද සාක්ෂාත් කරගන්නා බව "**පඤ්ඤවා භික්ඛු පරියත්තිං සුත්වා ද්වෙ'පි පූරෙති. තස්මා පරියත්තියා ඨිතාය සාසනං ඨිතං හොති (දීනිඅ, පි.654)**" යනුවෙන් පැවසූහ .

"**යො බො ආනන්ද මයා ධම්මො ච විනයො ච දෙසිතො පඤ්ඤත්තො සො වො මමච්චයෙන සත්‍ථා** (දීනි, පි.242)" යනුවෙන් තථාගතයන් වහන්සේ පරිනිර්වාණ සමයේ වදාළ බැවින් සම්බුද්ධ පරිනිරිවාණයෙන් අනතුරුව බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කොට වදාළ ධර්මය ද පනවා වදාළ විනය ද ශාස්තෘ කෘත්‍යය සිද්ධ කරන්නේ ම ය. එහෙයින් "**සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාණ සච්ඡිකරණත්‍ථාය**" යනුවෙන් සියලු දුකින් මිදී ලබන නිර්වාණය සාක්ෂාත් කරගනු පිණිස අත්‍යුත්තම ප්‍රව්‍රජ්‍යා භූමියට පත්වන කුල පුත්‍රයන් වහන්සේලා විසින් ව්‍යක්ත ප්‍රතිබල සම්පන්න ධර්මවිනයධර ආචාර්යයන් වහන්සේ නිශ්‍රයෙහි ත්‍රිපිටක බුද්ධවචනය පෙළ අර්ථකථා සහිතව මැනවින් ඉගෙන ගත යුතු වේ. මෙසේ ත්‍රිපිටක ධර්මය ඉගෙනීමෙන් ලැබෙන ආනිශංස හතරක් (04) ඇති බව අංගුත්තරනිකාය චතුක්ක නිපාතයේ සෝතානුගත සූත්‍රාන්තයේ සඳහන් වේ (අංනි. 2, පි.358). එබැවින් නිර්වාණාභිලාෂී සියල්ලන්ට ම නිවැරදිව පෙළ, අර්ථකථා සහිතව ත්‍රිපිටක ධර්මය හැදෑරීම මහෝපකාරී වේ මැ යි.

## ත්‍රිපිටකය

තථාගත ශාසනයෙහි ප්‍රව්‍රජ්‍යෝපසම්පදව ලත් භික්ෂු-භික්ෂුණී උභය පාර්ශ්වය විසින් අනුගමනය කළ යුතු බුද්ධ ප්‍රඥප්ත ශික්ෂාවන් අන්තර්ගත ග්‍රන්ථය **විනය පිටකය** යි. පන්සාළිස් වසරක් මුළුල්ලේ භාග්‍යවතුන් වහන්සේ විසින් විවිධ පුද්ගලයන් අරමුණු කොටගෙන

විවිධ ස්ථානයන්හි අනේක ධර්ම මාතෘකාවන් ඉස්මතු කරමින් වෛනෙය්‍ය ජනයන් උදෙසා ලෝක සම්මුතිය වශයෙන් දේශනා කරන ලද සූත්‍ර දේශනා සංඛ්‍යාත ධර්මය **සූත්‍ර පිටකය** වේ. බුද්ධත්ත්වයෙන් සත්වන වස තව්තිසා දිව්‍යලෝකයේ දී මාතෘ දිව්‍යරාජයා ප්‍රමුඛ දිව්‍යතාමණ්ඩලයට තුන් මාසයක් පුරාවට දේශිත ස්කන්ධ, ආයතන, ධාත්වාදි පරමාර්ථ මාතෘකාවන් සහිත ගම්භීර වූ ධර්ම කොට්ඨාසය **අභිධර්ම පිටකය** නමි. එම විනය, සූත්‍ර හා අභිධර්ම යන පිටකත්‍රය අතරින් සූත්‍රපිටකයෙහි දීඝ, මජ්ඣිම, සංයුත්ත, අංගුත්තර, ඛුද්දක යනුවෙන් පඤ්ච නිකාය ග්‍රන්ථ ප්‍රභේදයක් ඇති අතර ධම්මසඞ්ගණී, විභඞ්ග, ධාතුකථා, පුග්ගලපඤ්ඤත්ති, කථාවත්‍ථු, යමක, පට්ඨාන යනුවෙන් සප්ත ප්‍රකරණයක් අභිධර්ම පිටකයෙහි වෙයි.

## විනයපිටකය

**"විවිධවිසෙසනයත්තා - විනයනතො චෙව කාය වාචානං**
**විනයත්‍ථවිදූහි අයං - විනයො විනයො'ති අක්ඛාතො (සම.පා, පි.10)"**

පූර්වාචාර්යයන් වහන්සේලා විසින් 'විනය' ශබ්දාර්ථය දක්වන ලද්දේ මෙසේ ය. විනය විවිධ නය ඇති බැවින් ද විශේෂ නය ඇති බැවින් ද කය වචන දෙක හික්මවන බැවින් ද විනයාර්ථ දන්නවුන් විසින් 'විනය' යැයි කියන ලදී. මෙහි ලා විවිධ නය ඇති බව නම් පඤ්චවිධ ප්‍රාතිමෝක්ෂය උද්දේස, පාරාජිකාදි සප්ත ආපත්තිස්කන්ධ, මාතෘකා, විභඞ්ගාදි ප්‍රභේද නය යි. විශේෂ නය ඇති බව නම් ලෝකවද්‍ය ශික්ෂාපදයන්හි දැඩි කිරීමේ ප්‍රයෝජනය ද ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපදයන්හි ලිහිල් කිරීමේ ප්‍රයෝජනය ද සහිත අනුප්‍රඥප්ති න්‍යාය යි. විනය වනාහි කායික වාචසික අධ්‍යාචාරයන් වළකාලීමෙන් කය වචන දෙක හික්මවයි. එබැවින් විවිධ නය ඇති බැවින් ද, විශේෂ නය ඇති බැවින් ද කය හා වචන යන ද්වාර ද්වය හික්මවන බැවින් ද 'විනය' යැයි කියනු ලැබේ. මේ අයුරින් බුදුරජාණන් වහන්සේ විසින් ස්වකීය ශ්‍රාවකයන්ගේ ශීල සංවරය පිණිස ප්‍රඥප්ත විනය ප්‍රඥප්තීන් සංගෘහීත ධර්ම කොට්ඨාසය **'විනය පිටකය'** නම් වේ.

මෙම විනය පිටකය විභඞ්ග, ඛන්ධක, පරිවාර වශයෙන් ප්‍රධාන කොටස් තුනක් වන අතර ග්‍රන්ථ වශයෙන් පාරාජිකපාළි, පාචිත්තියපාළි, මහාවග්ගපාළි, චුල්ලවග්ගපාළි සහ පරිවාරපාළි

වශයෙන් පඤ්චවිධ වේ. එයින් පාරාජිකපාළි සහ පාචිත්තියපාළි යන ග්‍රන්ථ ද්වය **විභඞ්ග** කොටසට අයත් වන අතර මහාවග්ගපාළි සහ චුල්ලවග්ගපාළි යන ග්‍රන්ථ ද්වය **ඛන්ධක** කොටසට අයත් වේ. පරිවාරපාළිය **පරිවාර** කොටස ලෙස ගැනේ.

## පාරාජිකපාළි

බුදුරජාණන් වහන්සේ විසින් භික්ෂු සංඝයා උදෙසා පනවා වදාළ පාරාජිකා, සංඝාදිසේස, අනියත සහ නිස්සග්ගිය පාචිත්තිය ශික්ෂාපද සංගෘහීත ග්‍රන්ථය '**පාරාජිකපාළි**' නම් වේ. මෙය වේරඤ්ජා කාණ්ඩය, පාරාජික කාණ්ඩය, සංඝාදිසේස කාණ්ඩය, අනියත කාණ්ඩය සහ නිස්සග්ගිය කාණ්ඩය යනුවෙන් කාණ්ඩ පසකින් සමන්විත වේ. ග්‍රන්ථාරම්භය වන්නේ වේරඤ්ජා බණවරෙනි. ඒ අනුව එහි ඇතුළත් වන්නේ වේරඤ්ජා බ්‍රාහ්මණයාගේ ආරාධනය පිළිගත් භාග්‍යවතුන් වහන්සේ වේරඤ්ජාවෙහි වස් වාසය කළ සමයේ එනම් බුද්ධත්වයෙන් දොළොස්වන වස් කාලයේ දී ධර්මසේනාධිපති සාරිපුත්ත මහරහතන් වහන්සේ විසින් ශික්ෂාපද පැනවීමට ඇරයුම් කිරීමාදිය යි. ඉන්පසු සුදින්න ස්ථවිරයන් වහන්සේ විසින් සිය ගිහි කල බිරිඳ සමඟ මෛථුන්දම් සේවනය කිරීමේ වස්තුවෙහි පනවන ලද ප්‍රථම පාරාජිකාවේ පටන් සතර පාරාජිකා ප්‍රඥප්තීහු සඳහන් වෙති. අනතුරුව පැමිණෙන්නේ සංඝාදිසේස කාණ්ඩය යි. එහි සෙය්‍යසක භික්ෂුව විසින් අතින් උපක්‍රම කොට ශුක්‍ර ධාතු විසර්ජනය කිරීමේ වස්තුවෙහි පනවන ලද ප්‍රථම සංඝාදිසේසයේ පටන් දහතුනක් වූ සංඝාදිසේස ප්‍රඥප්තීහු ඇතුළත් වෙති. තදනන්තරව එන අනියත කාණ්ඩයේ අනියත ශික්ෂාපද ප්‍රඥප්ති ද්වය ද අවසානයේ නිස්සග්ගිය කාණ්ඩයේ තිස් නිසඟි පචිති ශික්ෂාපද චීවර වග්ගය, කෝසිය වග්ගය සහ පත්ත වග්ගය යනුවෙන් වග්ග තුනකින් සමන්විත ද වේ.

මෙම සියලු ශික්ෂාපද එකිනෙකට අදාළ නිදාන කථා, මූල ප්‍රඥප්ති, අනුප්‍රඥප්ති, මාතිකාර්ථ දක්වෙන පදභාජනිය, උද්දේස-නිද්දේස වශයෙන් ඇවැත් විනිශ්චයන් සහ බුදුරජාණන් වහන්සේ විසින් ම විනිශ්චය කරන ලදුව ඇවැත් තීරණය කරන ලද විනීතවස්තු විස්තර වශයෙන් බෙදා දක්වේ. මෙසේ එකිනෙක ශික්ෂාපදය බෙදමින් විස්තර කෙරෙන බැවින් මෙම කොටස විභඞ්ග කොටසට අයත් වේ.

## පාචිත්තියපාළි

පාචිත්තියපාළි ග්‍රන්ථය භික්ඛු විභඞ්ගය හා භික්ඛුණී විභඞ්ගය යනුවෙන් කොටස් දෙකකින් සමන්විත වේ. එහි භික්ඛු විභඞ්ගය අනූ දෙකක් (92) වූ පාචිත්තිය ශික්ෂාපද, සතර පාටිදේසනීය ශික්ෂාපද සහ පන්සැත්තෑවක් (75) වූ සේඛියාවලින් සමන්විත වේ. මෙහි පාචිත්තිය 92 මුසාවාද වග්ගය, සේනාසන වග්ගය, භික්ඛුණී වග්ගය, භෝජන වග්ගය, අචේලක වග්ගය, සුරාපාන වග්ගය, සප්පාණක වග්ගය, සහධම්මික වග්ගය සහ රාජ වග්ගය යනුවෙන් වග්ග නවයක් යටතේ සංගෘහිත ය. එහි සහධම්මික වග්ගය ශික්ෂාපද 12 කින් සමන්විත වන අතර සෙසු වර්ගයෝ ශික්ෂාපද 10 බැගින් සමන්විත වෙති. මෙම පාචිත්තිය ශික්ෂාපද 'ඛුද්දක' යන නමින් ද අර්ථකථාවෙහි දක්වා ඇත. ඉන් අනතුරුව සතර පාටිදේසනීය ශික්ෂාපද සංග්‍රහ වී ඇති අතර ග්‍රන්ථය අවසන් වන්නේ සේඛියා ශික්ෂාපදවලිනි.

භික්ඛුණී විභඞ්ගයේ දක්වෙන්නේ භික්ෂුණීන්ට පමණක් අදාළ වන ශික්ෂාපද සමූහය යි. ඒ අනුව භික්ෂුණීන්ට පමණක් පනවා වදාළ පාරාජිකා ශික්ෂාපද සතරක් මෙහි ඇති අතර භික්ෂූන්ට ද සාධාරණ වන පාරාජිකා ශික්ෂාපද සතර ද ඇතුළත්ව භික්ෂුණී පාරාජිකා ශික්ෂාපද සියල්ල අටක් වේ. භික්ෂූන්ට පනවා වදාළ සංඝාදිසේස ශික්ෂාපදයන්ගෙන් සතක් භික්ෂුණීන්ට ද සාධාරණ වන අතර මෙම භික්ඛුණී විභඞ්ගයේ එන භික්ෂුණීන්ට පමණක් අදාළ වන සංඝාදිසේස ශික්ෂාපද 10 කි. භික්ෂුණීන්ට අනියත ශික්ෂාපද පැනවීමක් නොමැති අතර නිස්සග්ගිය ශික්ෂාපදයෝ 30 ක් වෙති. ඒ අතරින් භික්ඛුණී විභඞ්ගයේ එන අසාධාරණ ශික්ෂාපද 12 කි. සෙසු ශික්ෂාපද 18 භික්ෂූන්ට සාධාරණ වෙයි. භික්ඛුණී විභඞ්ගයේ එන පාචිත්තිය ශික්ෂාපද 96 ක් වන අතර ඒවා ලසුණ වග්ගය, අන්ධකාර වග්ගය, නග්ග වග්ගය, තුවට්ට වග්ගය, චිත්තාගාර වග්ගය, ආරාම වග්ගය, ගබ්භිනී වග්ගය, කුමාරීභූත වග්ගය සහ ඡත්තුපාහන වග්ගය යනුවෙන් වග්ග නවයක් යටතේ දක්වේ. භික්ඛු විභඞ්ගයේ එන සාධාරණ පාචිත්තිය ශික්ෂාපද 70 ක් සමඟ භික්ෂුණීන්ට අදාළ පාචිත්තිය ශික්ෂාපද සියල්ල 166 කි. භික්ෂුණීන්ට අදාළ පාටිදේසනීය ශික්ෂාපද අටක් වන අතර සේඛියා සියල්ල භික්ෂූන්ට ද පොදු වූ ශික්ෂාපදයෝ පන්සැත්තෑවක් (75) වෙති.

## මහාවග්ගපාළි

පැවිදි කිරීම, උපසම්පදාව, උපෝසථය, වස් එළඹීම, පවාරණය ආදි ශාසනයෙහි වැදගත් විනය කරුණු විස්තර කෙරෙන විනය පිටකයෙහි ඛන්ධක කොටසට අයත් වන ග්‍රන්ථය **මහාවග්ගපාළිය** යි. භාග්‍යවතුන් වහන්සේ බුද්ධත්වයෙන් අනතුරුව බෝ මැඩ විමුක්ති සුවය විඳිමින් ගත කළ ප්‍රථම සතිය පටන් ඒ ඒ අවස්ථාවල දී පනවන ලද වැදගත් විනය ප්‍රඥප්තීහු මෙහි ඇතුළත් වෙති. මෙය මහාඛන්ධකය, උපෝසථක්ඛන්ධකය, වස්සූපනායිකක්ඛන්ධකය, පවාරණක්ඛන්ධකය, චම්මක්ඛන්ධකය, භෙසජ්ජක්ඛන්ධකය, කඨිනක්ඛන්ධකය, චීවරක්ඛන්ධකය, චම්පෙය්‍යක්ඛන්ධකය සහ කොසම්බක්ඛන්ධකය යනුවෙන් ඛන්ධක 10 කින් සමන්විත වේ.

## චුල්ලවග්ගපාළි

සාපේක්ෂව කුඩා විනය පැනවීම්වලින් සමන්විත ඛන්ධකය **චුල්ලවග්ගපාළිය** යි. මෙය කම්මක්ඛන්ධකය, පාරිවාසිකක්ඛන්ධකය, සමුච්චයක්ඛන්ධකය, සමථක්ඛන්ධකය, ඛුද්දකවත්‍ථුක්ඛන්ධකය, සේනාසනක්ඛන්ධකය, සඞ්ඝභේදකක්ඛන්ධකය, වත්තක්ඛන්ධකය, පාතිමොක්ඛට්ඨපනක්ඛන්ධකය, භික්ඛුනීඛන්ධකය, පඤ්චසතික-ක්ඛන්ධකය සහ සත්තසතිකක්ඛන්ධකය යනුවෙන් ඛන්ධක 12 කින් සමන්විත වේ.

## පරිවාරපාළි

විභඞ්ග හා ඛන්ධකාගත විනය කාරණාවන්හි විශිෂ්ටාවබෝධය සඳහා වදළ විනයධර්ම න්‍යාය සංග්‍රහ කළ ග්‍රන්ථය පරිවාරය යි. බුදුරජාණන් වහන්සේ විසින් භික්ඛු-භික්ඛුණී උභය විභඞ්ගයෙහි ද ඛන්ධකවල ද පනවන ලද විනය ප්‍රඥප්තීන්ගෙන් තෝරා '**පඨමං පාරාජිකං කත්‍ථ පඤ්ඤත්තං**' යනාදි ක්‍රමයෙන් දක්වන ලද විනය න්‍යාය සමුච්චය පරිවාරපාළියෙහි එයි. මෙහි පඤ්ඤත්තිවාරය, කතාපත්තිවාරය, විපත්තිවාරය, සඞ්ගහවාරය, සමුට්ඨානවාරය, අධිකරණවාරය, සමථවාරය, සමුච්චයවාරය යන අෂ්ටවාරයක් ද යළි ඒ එකිනෙක වාරයන් ම 'පච්චය' පදයකින් විශේෂ කොට කීමෙන් අනෙකුත් අෂ්ටවාරයක් දැයි සොළොස් (16) පරිවාරයක් සංග්‍රහ කරන

ලදී. පරිවාරපාළිය මෙම භික්ඛු විභඞ්ගය පිළිබඳ සොළොස් පරිවාරයකින් ආරම්භ වන බැවින් සමස්ත පරිවාරපාළිය ම 'සොළසපරිවාර' ලෙස හැඳින්වේ. එහෙයින් විමතිවිනෝදනියෙහි **"යෙහි වාරෙහි ආදිභූතෙහි උපලක්ඛිතත්තා අයං සකලො'පි පරිවාරො සොළසපරිවාරො'ති වොහරීයති (විමති, පි.484)"** යි කියන ලදී.

පරිවාරපාළිය මෙම සොළොස් පරිවාරයන්ගෙන් අවසන් නො වේ. තදනන්තරව ඇති **සමුට්ඨාන සීස සඞ්ඛේපය** පටන් **සේදමෝචනගාථා** දක්වා ඇති සියල්ල පරිවාරපාළිය වේ. උභතොවිභඞ්ග, ඛන්ධක, මාතිකා සංඛ්‍යාත විනය පර්යාප්තිය හූයකින් බැඳුණු මල්දමක් සේ මේ පරිවාරපාළියෙන් ගෙතී සිටුණේ වෙයි. එහෙයින් උපාලි මහරහතන් වහන්සේ, මෙසේ කීහ.

**"එවං නීයති සද්ධම්මො විනයෙ යදි තිට්ඨති**
**උභතො ච විභඞ්ගානි ඛන්ධකා යා ච මාතිකා**

**මාලා සුත්තගුණෙනෙව පරිවාරෙන ගන්ථිතා ... පෙ ...**
**තස්මා සික්ඛෙ පරිවාරං ධම්මකාමො සුපෙසලො"**

(පරිවා. 1, පි.304).

## සමන්තපාසාදිකා නම් විනයාර්ථකථාව

**'සමන්තපාසාදිකාව'** වනාහි සමස්ත විනය පිටකයේ අර්ථ වර්ණනාව වශයෙන් භදන්තාචරිය අනුබුද්ධ බුද්ධඝෝෂ ස්ථවිරයන් වහන්සේ විසින් විරචිත වර්තමානයේ අප සතුව ඇති පාලි විනය අට්ඨකථාව යි. ක්‍රි. ව. 5 වන සියවසේ දී පමණ (බු.ව. 953-975) අනුරාධපුරයේ රජ කළ සිරිනිවාස යන අපර නාමයෙන් සඳහන් වන මහානාම රාජ්‍ය සමයේ දඹදිව රේවත නම් ක්ෂීණාශ්‍රවයන් වහන්සේගේ මෙහෙයවීමෙන් ලක්දිවට සම්ප්‍රාප්ත බුද්ධඝෝෂාචාරීහු අනුරාධපුර මහාවිහාරයට තිලකයක් බඳු වූ සඞ්ඝපාල සංඝ ස්ථවිරයන් වහන්සේ වෙතින් ත්‍රිපිටකය සීහළාර්ථකථා, ථෙරවාද සහිතව උගෙන ඒ මහාවිහාරීය මහස්ථවිරයන් වහන්සේලා විසින් දෙන ලද සංයුත්ත නිකායේ දේවතා සංයුත්තයේ එන 'අන්තො ජටා බහි ජටා' යනාදි ගාථා ද්වයක් අරබයා **'විශුද්ධිමාර්ගය'** නමැති අතිප්‍රශස්ත මහාවිහාරීය භාවනාමාර්ගය රචනා කළහ. තත් ග්‍රන්ථකරණයෙන් චිත්තාරාධිත මහාවිහාරීය ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා සීහළාර්ථකථා ශුද්ධමාගධියට නැංවීම පිළිබඳ ඒ බුද්ධඝෝෂාචාරීහුගේ සාමර්ථ්‍යය අතිශයෙන් ප්‍රශංසා

කොට ඒ සත් කර්තව්‍යය උන්වහන්සේට පැවරූහ[1]. ඉක්බිති ඒ මහාවිහාරීය මහාස්ථවිරයන් විසින් සමාරාධිත බුද්ධඝෝෂාචාරීහු දූරසඞ්කර ග්‍රන්ථාකර පිරිවෙණෙහි වැඩ වෙසෙමින් සීහළාර්ථකථා ශුද්ධ මාගධියට නැගූහ.

බුද්ධඝෝෂාචාරීන් විසින් ශුද්ධමාගධියට නඟන ලද අර්ථකථා අතර ග්‍රන්ථ විසිහත්දහසකට අධික ප්‍රමාණයකින් ප්‍රතිමණ්ඩිත වූ **සමන්තපාසාදිකා** යන නම් ලත් විනයාර්ථකථාව උන්වහන්සේගේ ප්‍රථම අර්ථකථා රචනය ලෙස සැලකේ. සමස්ත විනයපිටකයට ම අර්ථකථාවක් ලෙස පැවති මහාඅට්ඨකථාව, මහාපච්චරිය අට්ඨකථාව, කුරුන්දි අට්ඨකථාව යන ප්‍රධාන සීහළට්ඨකථා තුන ද සඞ්ඛෙපට්ඨකථාව, අන්ධකට්ඨකථාව යන අටුවා ද ඇසුරු කරමින් මෙය රචනා කළ බව සමන්තපාසාදිකා ප්‍රාරම්භ ගාථාවන්හි සඳහන් වේ. තත් ග්‍රන්ථාවසානයේ නිගමන ගාථාවන්හි සඳහන් අන්දමට මහානාම රජුගේ අභිෂේකයෙන් විසිවන වසරෙහි ආරම්භ කරන ලද මෙය විසිඑක්වන වසරෙහි නිම කරන ලදී[2]. විනයධරයෙකු විසින් අවශ්‍යයෙන් ම දත යුතු සූත්‍රාර්ථ වර්ණනාවන් ද ඇතුළත් කරමින් ථෙරවාදී ත්‍රිපිටකය පිළිබඳ නිදන වර්ණනාව සහ ආචාර්ය පරම්පරා ආදිය ද ඇතුළත් කරමින් සර්ව සම්පූර්ණ ලෙස සම්පාදනය කර ඇති බැවින් මෙය බුද්ධඝෝෂ ස්ථවිරයන්ගේ ප්‍රථම අර්ථකථා රචනය ලෙස සැලකීම යුක්තිතර වේ.

## කඞ්ඛාවිතරණී නම් මාතිකට්ඨකථාව

**කඞ්ඛාවිතරණී නම් මාතිකට්ඨකථාව** බුද්ධඝෝෂාචාර්යයන් විසින් උභය ප්‍රාතිමෝක්ෂයේ එන ශික්ෂාපද පිළිබඳ අර්ථ වර්ණනා කරමින් රචනා කරන ලද අර්ථකථාව යි. සමන්තපාසාදිකා විනයාර්ථකථාව සමස්ත විනය පිටකයට ම අර්ථකථාවක් වන අතර භික්ෂු-භික්ෂුණීන්

---

1 මහාවංශය සඳහන් කරන්නේ විශුද්ධිමාර්ගය මහාවිහාරීය භික්ෂූන් වෙත පිරිනැමීමෙන් අනතුරුව එයින් විස්මයට පත් ඒ මහතෙරුන් වහන්සේලා 'මේ නම් ඒකාන්තයෙන් ම මෛත්‍රී බෝසතාණන් වහන්සේ යැ'යි උද්ඝෝෂණය කළ බව යි.

**අථ උග්ඝොසයී සඞ්ඝො, තුට්ඨහට්ඨො විසෙසතො**
**නිස්සංසයං'ස මෙත්තෙය්‍යො ඉති වත්‍වා පුනප්පුනං.** (මහාවංශය, පරි.37, 242 ගාථාව)

2 **පාලයන්තස්ස සකලං - ලඞ්කාදීපං නිරබ්බුදං**
**රඤ්ඤො සිරිනිවාසස්ස - සිරිපාලයසස්සිනො**
**සමවීසතිමෙ ඛෙමෙ - ජය සංවච්ඡරෙ අයං**
**ආරද්ධා එකවීසම්හි - සම්පත්තෙ පරිනිට්ඨිතා** (සම.පා, පි.1056)

විසින් සෑම අඩ මසකට වරක් පොහොය කිරීමේ දී උදෙසනු ලබන ප්‍රාතිමෝක්ෂ ශික්ෂාපද සියල්ල වෙනුවෙන් සංක්ෂිප්ත අර්ථකථාවක් ලෙස **කඞ්ඛාවිතරණී** නම් වූ මාතිකාර්ථකථාව සම්පාදිත ය. **'විනයෙ ජාතකඞ්ඛානං කඞ්ඛානිත්ථරණත්ථිකො (කඞ්ඛා,** පි.204)' යැයි ග්‍රන්ථාවසානයේ දැක්වෙන ආකාරයට උභය ප්‍රාතිමෝක්ෂයෙහි ලා භික්ෂු-භික්ෂුණීන්ට ඇති වන කාංක්ෂා දුරු කිරීම පිණිස මෙය රචනා වී ඇත. තද් කාරණය ම මෙය කඞ්ඛාවිතරණී යන නාමකරණයට ද හේතුව වූ බව පැවසිය හැකිය.

මහා අට්ඨකථාව ආදි සමස්ථ ත්‍රිපිටකයටම පොදු අර්ථකථාවලට අමතරව නිඃශ්‍රය මුඤ්චනකභාවය ලැබීම පිණිස අවම වශයෙන් හැදෑරීම කළ යුතු අඩමසකට වරක් පොහොය කිරීමේ දී උදෙසනු ලබන ප්‍රාතිමෝක්ෂාන්තර්ගත ශික්ෂාපද පිළිබඳ අර්ථකථාවක් සීහළ බසින් සම්පාදිතව තිබූ බව සිතිය හැකි අතර ඒ සීහළ මාතිකට්ඨකථාව මාගධී භාෂාවට පරිවර්තනය කිරීමක් වශයෙන් මෙම කඞ්ඛාවිතරණී නම් මාතිකට්ඨකථාව රචනා කොට ඇති බව ඔබ පරිශීලනයෙන් වැටහේ. ඒකදේශයක් වශයෙන් සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ සාරාංශයක් ලෙස ද, තවත් ආකාරයෙන් ඇතැම් විනය විනිශ්චයන්හි දී පදනම සලසන මූලධර්මාන්තර්ගත වන මූලාශ්‍රය ග්‍රන්ථයක් ලෙස ද අතීතයේ පටන් විනයධරයන්ගේ අත්‍යන්ත සම්භාවනාවට පාත්‍ර වූ ග්‍රන්ථයක් ලෙස ද මෙම කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව හැඳින්විය හැකිය. ඒ බව අනුරාධපුර යුගය අවසන් භාගයේ සහ පොළොන්නරු යුගයේ මුල් භාගයේ රචිත විනය ටීකා ග්‍රන්ථවලින් ද මොනවට පසක් වේ. මෙසේ අතිශය සම්භාවනාවට පාත්‍ර වූ කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව විනය විනිශ්චයෙහි ලා මහෝපකාරී වන හස්තසාර ග්‍රන්ථයකි. සසුනෙහි ප්‍රව්‍රජ්‍යාව ලබා පස් වසක් ඇවෑමෙන් නිඃශ්‍රය මුඤ්චනක භාවය ලැබීම පිණිස විනයෙහි නිපුණතාව ලබා තිබිය යුතු අතර යටත් පිරිසෙයින් උභය ප්‍රාතිමෝක්ෂය හෝ වාචෝද්ග්‍රහණයෙන් ප්‍රගුණ කළ යුතු බව සමන්තපාසාදිකා විනයාර්ථකථාව අවධාරණය කරයි. එහෙයින් සකල විනය පිටකයෙහි කළ හැදෑරීම් නොමැති වුව ද උභය ප්‍රාතිමෝක්ෂාන්තර්ගත ශික්ෂාපද පිළිබඳ ප්‍රාමාණික අවබෝධයක් ලබාගැනීම පිණිස කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාවෙන් ලැබෙන අනුග්‍රහය සුප්‍රශස්ත ය.

## කඞ්ඛාවිතරණී පරිවාර ග්‍රන්ථ

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව විනයධරයන් අතර සම්භාවිත බැව් ඒ සඳහා රචනා වූ පරිවාර ග්‍රන්ථ පිළිබඳ විමසීමේ දී සුපැහැදිලි වේ. ඇතැම් ග්‍රන්ථයන් නාමමාත්‍රාවශේෂ වී ඇති නමුදු ඒ තුළින් ද ප්‍රකට වන්නේ මෙම මාහැඟි ග්‍රන්ථය විනයධරයන් විසින් පරිශීලනය කළ අන්දම යි.

### විනයත්‍ථමඤ්ජුසා නම් කඞ්ඛාවිතරණී ටීකාව

පොළොන්නරු යුගයේ වැඩ විසූ **බුද්ධනාග** නම් ස්ථවිරයන් වහන්සේ කෙනෙකුන් විසින් කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාවෙහි එන අවිශද වූ අර්ථ සහිත පද විශද කරමින් **විනයත්‍ථමඤ්ජුසා** නම් කඞ්ඛාවිතරණී ටීකාව රචනා කර ඇත. මෙහි නිගමන ගාථාවන්හි දැක්වෙන අන්දමට පොළොන්නරු රාජධානි සමයේ පරාක්‍රමබාහු මහරජතුමා විසින් කරවන ලද පච්ඡිමාරාම මහාවිහාරයේ වැඩසිටි බුද්ධනාග තෙරුන් වහන්සේ **ටීකාචාර්ය සාරිපුත්ත** ස්ථවිරයන් වහන්සේගේ ශිෂ්‍යවරයෙකි. විනය පිටකයේ පෙළ ග්‍රන්ථ, සමන්තපාසාදිකා විනයාර්ථකථාව, තදීය විනය ටීකා ද ඇසුරු කරගෙන පරිපූර්ණ විනිශ්චයන් සහිත කෘතියක් ලෙස මෙම ග්‍රන්ථය රචනා කර ඇත.

### කඞ්ඛාවිතරණී පුරාණ ටීකාව

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාවට ලියන ලද 'පුරාණ ටීකාව' නම් ටීකාවක් ද බුරුම ඡට්ඨ සංගායනා මෘදුකාංගයේ ඇති අතර එය අතිශය සංක්ෂිප්ත ටීකාවක් වේ. කර්තෘ කාලය ආදිය පිළිබඳ කිසිදු සඳහනක් නොමැත.

### කඞ්ඛාවිතරණී පිටපොත

කඞ්ඛාවිතරණී පිටපොත සංස්කරණය කළ **කලුකොඳයාවේ පඤ්ඤාසේඛර** ස්ථවිරයන් වහන්සේ සඳහන් කරන අන්දමට මෙය පොළොන්නරු හා දඹදෙණි යුගයන්ට ආසන්න කාලයක රචනා වූ කෘතියක් වේ. භාෂා විලාසය අනුව 18-19 ශතවර්ෂයන්ට අයත් විය හැකි බව උන්වහන්සේ පවසති. නිස්සන්ද නම් වනවිනිස සන්නයෙන් උපුටාගත් උද්ධෘත සඳහන්ව තිබීමත් එම වනවිනිස සන්නය ද්විතීය

පණ්ඩිත පරාක්‍රමබාහු රජුගේ කෘතියක් ලෙස පිළිගැනීමත් නිසා මෙය ඉන් පසු රචනා වී ඇති බව පිළිගත හැකිය. මේ කරුණු සලකා බලන පඤ්ඤාසේඛර හිමියෝ 19 වන ශත වර්ෂයේ මුල් භාගයේ රචනා කරන ලද කෘතියක් බව නිගමනය කරති. කර්තෘ පිළිබඳ කිසිදු සඳහනක් නොවන නමුත් විවිධ භාෂා ශාස්ත්‍රයන්හි හා විනය පිටකයෙහි ප්‍රවීණයෙකුගේ කෘතියක් බව නිගමනය කළ හැකිය.

මෙම ග්‍රන්ථයන්ට අමතරව **කඞ්ඛාවිතරණී ගැටපදය, කඞ්ඛාවිතරණී සන්නය, හෙළු කඞ්ඛාවිතරණිය** වැනි පරිවාර කෘති ද රචනා වී තිබූ බව ග්‍රන්ථාන්තරයෙන් හෙළි වේ. ඤාණකිත්ති නම් ස්ථවිර කෙනෙකුන් විසින් රචිත **භික්ෂු ප්‍රාතිමෝක්ෂය සහිත ගණ්ඨිදීපනිය** ද කඞ්ඛාවිතරණිය ඇසුරු කළ ග්‍රන්ථයක් වේ. මොරටුවේ සාසනරතන හිමියෝ (1955) ස්වකීය විනයකෝශයේ සඳහන් කරන්නේ නාමමාත්‍ර වශයෙන් ශේෂ වී ඇති කඞ්ඛාවිතරණී ගැටපදහෙි උද්ධෘතයන් අර්ථකථා රචිත කාලයෙන් මොබ රචිත ගාථා සංගෘහිත කුදුසික නම් විනය ග්‍රන්ථයට ලියැවුණු පුරාතන සන්නයේ දක්නට ලැබෙන බව යි[1].

**සෙසු සංග්‍රහ ග්‍රන්ථ**

විනය සාහිත්‍යයෙහි ලියැවී ඇති සංග්‍රහ ග්‍රන්ථ අතරින් බහුතරය ප්‍රාතිමෝක්ෂයේ එන ශික්ෂාපද විවරණය පිණිස ලියැවී ඇති බව හඳුනාගත හැකි වේ. ඒ සෑම සංග්‍රහ ග්‍රන්ථයක් ම පාහේ කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව ඇසුරු කරගෙන රචනා වී ඇත. ඒ අතර සිංහල බසින් ලියැවී ඇති සෝණුත්තර ජිනරතන හිමි සහ රත්ගම පඤ්ඤාසේඛර හිමියන් විසින් රචිත **භික්ෂු භික්ෂුණී ප්‍රාතිමෝක්ෂ වර්ණනාව**, ඇස්වත්තේ රේවත හිමියන් විසින් රචිත **වහලය ගලවන්න**, බුජ්ජම්පොල ධම්මපරායනතිස්ස හිමියන්ගේ **ප්‍රාතිමෝක්ෂ විවරණය** ආදිය වැදගත් වේ. ඉංග්‍රීසි බසින් ප්‍රධාන වශයෙන් K.R. Norman ලියූ The Pātimokkha ග්‍රන්ථය ද Bhikkhu Ñāṇatusita ලියූ The Bhikkhu Pātimokkha A Word by Word Translation සහ Analysis of the Bhikkhu Pātimokkha යන ග්‍රන්ථද්වය ද Ṭhānissaro Bhikkhu විසින් ලියන ලද

---

[1] 'මෙ මැසිපුටු ඈ සඟහට දෙමි යි කළ ගුරුබඩු වෙයි. ...' යනු කංඛාවිතරණී ගැටපද යි (කුදුසික, පි.150)' යනුවෙන් ද 'සාමිකෙ අපලොකෙත්වා ...' යනු කංඛාවිතරණී ගැටපද යි (කුදුසික, පි.164)' යනුවෙන් ද සඳහන් වීමෙන් කඞ්ඛාවිතරණී ගැටපදය පරිශීලනය කළ බව හෙළි වේ.

The Buddhist Monastic Code යන ග්‍රන්ථයන් ද හඳුනාගත හැකිය. මීට අමතරව තවත් බුරුම, තායිලන්ත, චීන ආදි භාෂාවලින් ප්‍රාතිමෝක්ෂය පිළිබඳ නොයෙක් කෘති රචනා වී ඇති අතර ඒ සියල්ලට ම කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව මූලාශ්‍රය වී ඇත.

## විනය සාහිත්‍යයෙහි කඞ්ඛාවිතරණීයෙහි ආස්ථානය

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව කරුණු කිහිපයකින් විනය සාහිත්‍යයෙහි අතිශය වැදගත් කෘතියක් බවට පත් වේ.

### 1. සප්තදශාකාර විනිශ්චය දක්වීම

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාවේ සුවිශේෂී ලක්ෂණයක් වන්නේ එකිනෙක ප්‍රාතිමෝක්ෂ ශික්ෂාපද පිළිබඳ සතළොස් ආකාරයකට සාධාරණ විනිශ්චයක් ඉදිරිපත් කිරීම යි. සමන්තපාසාදිකා විනයාර්ථකථාව එකිනෙක ශික්ෂාපදය පිළිබඳ ප්‍රකීර්ණක විනිශ්චයක් ඉදිරිපත් කරන ලද්දේ වුව ද මාතිකට්ඨකථාවේ (1) නිදානය (2) පුද්ගලයා (3) වස්තුව (4) ප්‍රඥප්ති විධිය (5) ආණත්තිය (6) ආපත්තිය (7) අනාපත්තිය (8) විපත්තිය (9) අංග (10) සමුට්ඨාන විධිය (11) කිරියා ය (12) සඤ්ඤාව ය (13) චිත්තය (14) වජ්ජ (15) කම්ම (16) කුශල ත්‍රිකය (17) වේදනා ත්‍රිකය යනුවෙන් එක් ශික්ෂාපදයක් පිළිබඳ සප්ත දශාකාර විනිශ්චයක් ඉදිරිපත් කෙරේ[1]. මේ සප්තදශාකාර විනිශ්චයන් අතරින් ශික්ෂාපද පිළිබඳ ඇවත හටගන්නා 'සමුට්ඨාන, කිරියා විධිය' ආදිය පිළිබඳ විනය පිටකයේ පරිවාරපාළිය

---

[1] සමන්තපාසාදිකාව **'සමුට්ඨානඤ්ච කිරියා අථො සඤ්ඤා සචිත්තකං ලොකවජ්ජඤ්ච කම්මඤ්ච කුසලං වෙදනාය ච** (සම.පා, පි.194)' යනුවෙන් ප්‍රකීර්ණක විනිශ්චයක් ඉදිරිපත් කරයි. මාතිකට්ඨකථාවේ දී මෙය සප්තදශාකාර විනිශ්චයක් ලෙසඃ

**'නිදානං පුග්ගලං වත්‍ථුං පඤ්ඤත්තිවිධිමෙව ච**
**ආණත්තාපත්තිනාපත්තිවිපත්තිං අඞ්ගමෙව ච**

**සමුට්ඨානවිධිං කිරියා සඤ්ඤාචිත්තෙහි නානතං**
**වජ්ජකම්මප්පභෙදඤ්ච තිකද්වයවිධිං තථා**

**ලක්ඛණං සත්තදසධා ඨිතං සාධාරණං ඉදං**
**ඤත්වා යොජෙය්‍ය මෙධාවී තත්‍ථ තත්‍ථ යථාරහං'**

යනුවෙන් දක්වේ. (කඞ්ඛා, පි.21)

ඇසුරුකරගෙන ඉදිරිපත් කරන විනිශ්චය සමන්තපාසාදිකා විනයාර්ථකථාවෙහි ද විස්තර නො වේ. එහෙයින් සමන්තපාසාදිකාවෙහි එන ප්‍රකීර්ණක විනිශ්චය අවබෝධ කරගැනීමේ දී ද කඞ්ඛාවිතරණිය දක්වන දායකත්වය අනල්ප වන අතර විනයධරයකුහට තදීය විනය විනිශ්චයෙහි ලා නුමුළාව පිණිස ද මහෝපකාරී වේ ම ය.

## 2. ව්‍යතික්‍රමණ අංග දැක්වීම

ප්‍රාතිමෝක්ෂයෙහි එන ශික්ෂාපද පිළිබඳ ආපත්ති අනාපත්ති විනිශ්චයේ දී විනයධරයා සතුව එම ශික්ෂාපදය ව්‍යතික්‍රමණය කිරීමට සම්පූර්ණ විය යුතු අංග පිළිබඳ දැනුමක් තිබිය යුතු වේ. විනය පිටකයේ විභඞ්ගයෙහි එකිනෙක ශික්ෂාපදය මාතිකා, පදභාජනිය වශයෙන් බෙදමින් දීර්ඝ විවරණයක් ඉදිරිපත් වුව ද ඒ ශික්ෂාපද ව්‍යතික්‍රමණ අංග පැහැදිලිව වෙන්කොට දැක්වීමක් දක්නට නො ලැබේ. උදාහරණයක් ලෙස භික්ඛු විභඞ්ගයෙහි දුතිය පාරාජිකා ශික්ෂාපදය පිළිබඳ උද්දේස නිද්දේස ක්‍රමයෙන් දැක්වෙන නය මාතිකා විවරණයේ දී **'පඤ්චහාකාරෙහි අදින්නං ආදියන්තස්ස ... ඡහාකාරෙහි අදින්නං ආදියන්තස්ස ...(පාරා, පිටු.122-124)'** යනාදි ක්‍රමයෙන් ඇවැතට පත්වන ආකාරය දැක්වේ. නිශ්චිත වශයෙන් ම ඇවැතට පත්වන අංග කොපමණක් ද යන්න මෙහි සඳහන් නොවන අතර සමන්තපාසාදිකා විනයාර්ථකථාව ද ඒ පිළිබඳ විශේෂ විවරණයක් නොම දක්වයි. එහෙත් ඇවැතට පත්වන ආකාරය නිශ්චිතව දැනගනු කැමති පුද්ගලයා හට කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව පරිශීලනයෙන් ඒ පිළිබඳ නිශ්චිත මඟපෙන්වීමක් ලබා ගත හැකි වන්නේ

> **'අඤ්ඤස්ස මනුස්සජාතිකස්ස වසෙන පරපරිග්ගහිතං, පරපරිග්ගහිතසඤ්ඤිතා, ගරුපරික්ඛාරො, ථෙය්‍යචිත්තං, වුත්තප්පකාරානං අවහාරානං වසෙන අවහාරකරණඤ්චාති ඉමානෙත්ථ පඤ්ච අඞ්ගානි'**
>
> (කඞ්ඛා, පි.29)

යැයි නිශ්චිතව ම අංග පසක් ඉදිරිපත් කර ඇති බැවිනි. පොළොන්නරු යුගයේ රචිත සාරත්ථදීපනී, විමතිවිනෝදනී ආදී විනය ටීකාවන්හි ව්‍යතික්‍රමණාංග දැක්වීමට මූලාශය වී ඇත්තේ ද මෙම කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව බව නිසැක ය.

### 3. ටීකා ග්‍රන්ථයන්හි උද්ධෘත කිරීම්

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව විනය විනිශ්චයෙහි ලා දක්වන අනල්ප දයකත්වයට සාක්‍ෂ්‍ය සැපයෙන්නේ අනුරාධපුර යුගයේ අග භාගයේ සහ පොළොන්නරු යුගයේ රචනා වූ බවට සැලකෙන විනය ටීකා ග්‍රන්ථයන්ගෙනි. ප්‍රථමයෙන් ම රචිත විනය ටීකාව ලෙස සැලකෙන **වජිරබුද්ධි ටීකාව** ස්වකීය විනිශ්චයන් තහවුරු කිරීම පිණිස කඞ්ඛාවිතරණී උද්ධෘතයන් දක්වමින් එහි අන්තර්ගත විනය න්‍යායයන් ඉස්මතු කර පෙන්වයි. උදාහරණයක් ලෙස භික්‍ෂුවක් ශුක්‍ර විසර්ජන ඇවැතට පත්වන අවස්ථාව කුමක් ද යන්න විවරණය කරන සමන්තපාසාදිකා විනයාර්ථකථාව ආචාර්යවාද තුනක් දක්වමින් ඒ සියල්ලට ම අනුව දැන දැන ශුක්‍ර විසර්ජනය කරන භික්‍ෂුවකගේ ශුක්‍ර ධාතුව තිබූ තැනින් පහ වී මුත්‍රා මාර්ගයට බැසගත් විට ඇවැතට පත් වන බව දක්වයි. එහි දී වැඩිදුරටත් පවසන්නේ ශුක්‍ර ධාතුව තිබූ තැනින් පහ වීම සිදුවූයේ නම් මුත්‍රා මාර්ගයට බැස ගැනීම අනිවාර්යයෙන් ම සිදුවන බව යි. එය වැළැක්විය නොහැකි වේ. එහෙත් ඇවැත ප්‍රකට වන්නේ මුත්‍රා මාර්ගයට ශුක්‍ර ධාතුව පිවිසීම නිසාවෙනි (**සම.පා,** 2, පි.369). මෙම කාරණය විවරණය කරන වජිරබුද්ධි ටීකාව 'භික්‍ෂුව ඇවැතට පත් වන්නේ ශුක්‍ර ධාතුව තිබූ තැනින් පහවූ අවස්ථාවේ බවත් මුත්‍රා මාර්ගයට පිවිසීමෙන් එය ප්‍රකට වීම සිදුවන බවත් පවසා එය සාධනය කිරීම පිණිස කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාවේ එන '**දකසොතං අනොතිණ්ණෙ'පි සඞ්ඝාදිසෙසො (කඞ්ඛා,** පි.34)' යන පාඨය ඉදිරිපත් කරයි (**වජිර,** පිටු.236-7).

**සාරත්ථදීපනී ටීකාව** ද ස්වකීය විනිශ්චයන් සාධනය කිරීමෙහි ලා කඞ්ඛාවිතරණිය ප්‍රමාණ කරයි. සමන්තපාසාදිකාවෙහි අදින්නාදාන පාරාජිකාව පිළිබඳ පස්විසි අවහාරයන් සංක්ෂිප්තව දැක්වීමේ දී පුබ්බපයෝග පඤ්චකයේ එන 'සහපයොගො' යන්න '**ඨානාචාවනවසෙන සහපයොගො (සම.පා,** 1, පි.219)' යි තිබූ තැනින් පහ කිරීම් වශයෙන් දත යුතු බව පවසයි. මේ පිළිබඳ විවරණය කරන සාරත්ථදීපනිය දක්වන්නේ මෙම පාඨයෙන් නිදර්ශන මාත්‍රයක් දක්වන බව යි (**ඨානාචාවනවසෙන සහපයොගොති ඉදං පන නිදස්සනමත්තං දට්ඨබ්බං**). තිබූ තැනින් පහ කිරීම විශේෂයෙන් දක්නට ලැබෙන අන් සතු ඉඩම් සොර සිතින් තමන්ට අත්පත් කරගැනීම පිණිස වැට ඉණි, කුඤ්ඤ ආදිය වෙනස් කිරීමේ දී (ඛීල සඞ්කාමනය) පමණක් මෙම

සහපයෝග අවහාරය පවතින බවට පාඨකයා වැරදි අදහසක් ඇති කර ගන්නේ යැයි සැක කරන සාරත්ථදීපනී කර්තෘපාදයෝ සෙසු අවස්ථාවල දී ද සහපයෝගය වන බව පවසමින් එය සාධනය කිරීම පිණිස කඞ්ඛාවිතරණී පාඨයක් උපුටා දක්වයි[1].

පොළොන්නරු යුගයේ ම විනය පිටකයට රචිත සුප්‍රශස්ත විනය ටීකාවක් වන **විමතිවිනෝදනී ටීකාව** ද ඇතැම් ස්වකීය විනිශ්චයන් සාධනය කරනුයේ කඞ්ඛාවිතරණී පාඨ උපුටා දක්වමිනි. යම් භික්ෂුවකට අමූලික පාරාජිකා ඇවැතකින් චෝදනා කිරීමෙන් සඞ්ඝාදිසේස ඇවැතකට පත් වේ. ඒ අමූලික භාවය සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ 'දිට්ඨ, සුත, පරිසඞ්කිත' වශයෙන් බෙදමින් විවරණය කෙරේ. එහි දී යම් භික්ෂුවක් සත්‍ය වශයෙන් ම පාරාජිකාපත්තියට පත්වන බව දුටුවේ නමුදු ඒ පාරාජිකාවට පත් භික්ෂුව පාරාජිකා නොවූයේ යැයි පිරිසිදු සංඥාවක් ඇති වෙනත් භික්ෂුවක් 'මේ භික්ෂුව සසුනෙන් නෙරපන්නෙමි' යන අදහසින් පාරාජිකාපත්තියෙන් චෝදනා කරයි ද සඟවෙසෙස් ඇවැත් වේ. ඇතැම් ආචාර්යවරයෙක් පවසන්නේ ඒ භික්ෂුව සත්‍ය වශයෙන් ම පාරාජිකාපත්තියට පත් වී ඇති බැවින් සසුනෙන් පහ කරනු පිණිස කරන චෝදනාවෙන් අනාපත්ති බව යි. එහෙත් විමතිවිනෝදනී ටීකාචාර්ය චෝළිය කාශ්‍යප හිමියෝ ඒ මතය බැහැර කරති. මෙහි දී සඟවෙසෙස් ඇවැත් වන බවට සමහරෙක් දරන මතය පිළිගනිමින් එය සාධනය කරනුයේ කඞ්ඛාවිතරණියේ එන '**යෙන පාරාජිකෙන චොදෙති තං අයං අනජ්ඣාපන්නොති ඤත්වා චාවනාධිප්පායෙන ...පෙ... සඞ්ඝාදිසෙසො** (**කඞ්ඛා**, පිටු.42-43)' යන පාඨය උපුටා දක්වමිනි (**විමති**, පි.244).

මෙසේ විනය පිටකයට ලියැවුණු ප්‍රධාන ටීකා ග්‍රන්ථත්‍රය ම ස්වකීය විනිශ්චයන් සමර්ථණය කරනු වස් කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව ප්‍රාමාණික සාධකයක් ලෙස ගැනීමෙන් ස්ඵුට වන්නේ පුරාණාචාර්යයන් වහන්සේලා කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව ප්‍රමාණ කොට සැලකූ අන්දම යි.

---

[1] **බිලසංකමනාදිසුපි අසති ච ඨානාචාවනෙ සහපයොගො දට්ඨබ්බො. වුත්තං හෙතං මාතිකට්ඨකථාය 'ඨානාචාවනවසෙන ඛීලාදීනි සංකාමෙත්වා ඛෙත්තාදිගහණවසෙන ච සහපයොගො වෙදිතබ්බො'ති** (සාරදී, පි.499).

## 4. විනය විනිශ්චයන්හි දී වැදගත් වීම

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව නොයෙක් විනය විනිශ්චයන්හි දී සප්‍රයෝජනවත් භාවය ප්‍රකට කරන අවස්ථාවක් වනුයේ සීමා පිළිබඳ විනිශ්චය යි. විනය පිටකයේ මහාවග්ගපාළි උපෝසථක්ඛන්‍ධකයේ බුදුරජාණන් වහන්සේ සීමාවක් සම්මත කළ යුතු බවට පැනවීමක් කළ ද එය සිදුකරන ආකාරය පිළිබඳ දීර්ඝ විස්තරයක් දේශනා නො කරති. ඒ පිළිබඳ දීර්ඝ විස්තරය සමන්තපාදසාදිකා විනයාර්ථකථාවෙන් දත යුතු වේ. එහෙත් ඇතැම් න්‍යායාත්මක කාරණා ඉස්මතු කරගැනීමේ දී සමන්තපාසාදිකාවේ එන දීර්ඝ විස්තරය අභිබවා මාතිකට්ඨකථාවේ එන සංක්ෂිප්ත පැහැදිලි කිරීම මහෝපකාරී වන බව ප්‍රකට වේ. උදකුක්ඛෙප සීමාව පිළිබඳ අර්ථ විවරණයේ දී සමන්තපාසාදිකාව පවසන්නේ යම් නදියක හෝ ජාතස්සරයක හෝ සමුද්‍රයේ සඟ පිරිස් දෙකක් වෙන වෙන ම විනය කර්ම කරත් නම් ඔවුනොවුන්ගේ උදකුක්ඛෙප සීමා අතර තවත් උදකුක්ඛෙප සීමාවකට පොහෝනා ඉඩ ප්‍රමාණයක් සීමාන්තරිකයක් ලෙස ඉතිරි කළ යුතු බව යි. මෙහි දී විනය කර්ම කරන උදකුක්ඛෙපසීමා පිරිසිඳීමට බැහැරින් දියෙහි කිසියම් එක් භික්ෂුවක් නමුදු සිටින්නේ නම් විනය කර්මය කෝප්‍ය වන්නේ ද යි සැකයක් ඇති වේ. එය විසඳන මාතිකට්ඨකථාව පවසන්නේ උදකුක්ඛෙපයට බැහැරින් තවත් උදකුක්ඛෙපයක දුරක් නො ඉක්මවා සිටින භික්ෂුව කර්ම කෝප්‍ය කරන බව යි (**කඞ්ඛා**, පි.07).

මෙවැනි දුරවබෝධ විනය විනිශ්චයන්හි දී කඞ්ඛාවිතරණිය දක්වන දායකත්වය අනල්ප ය. විශේෂයෙන් ම මෙම සීමා විනිශ්චයන්හි දී කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව උද්ධෘත කරමින් කරුණු ඉදිරිපත් කිරීමට පැරණි ගත් කතුවරුන් දක්වූ අභිරුචිය '**සීමානයදප්පනය**' නම් ග්‍රන්ථයෙන් ද පිළිබිඹු වේ. එහි ලා සීමා විනිශ්චය විවරණය කිරීමේ දී අවස්ථා කිහිපයක ම මාතිකට්ඨකථාව උද්ධෘත කෙරේ (**ධම්මාලංකාර හිමි**, 1885, පි.55; පි.82).

## කඞ්ඛාවිතරණී කර්තෘත්වය

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව බුද්ධඝෝෂාචාර්යපාදයන්ගේ බව එහි අවසානයේ '**බුද්ධඝොසොති ගරුගහිතනාමධෙය්‍යෙන**' යනාදි ලෙස සඳහන් වන පාඨයෙන් පෙනේ. තව ද බුද්ධඝෝෂ ස්ථවිරයන්ගේ බවට නිසැකව ම සඳහන් කෙරෙන සමන්තපාසාදිකා විනයාර්ථකථාව

සමඟ සැසඳීමේ දී මෙම මාතිකට්ඨකථාව ද උන්වහන්සේගේ ම කෘතියක් බව මොනවට පසක් වේ. සමස්ත විනයපිටකයට අර්ථ වර්ණනාවක් වන සමන්තපාසාදිකාවේ දී විනයධරයෙකු සතු විය යුතු පරිපූර්ණ දැනුම පිළිබඳ අවධානය යොමු කරමින් බුද්ධඝෝෂ ස්ථවිරපාදයෝ විනයපිටකයේ පෙළගැස්ම අනුව ම අර්ථකථාව රචනා කරති. එහෙත් හුදු ප්‍රාතිමෝක්ෂාන්තර්ගත ශික්ෂාපද විවරණය කිරීම අරමුණු කරගත් මාතිකට්ඨකථාවේ දී එවකට පැවති බව සිතිය හැකි සීහළ මාතිකට්ඨකථාව අනුව යමින් උභය විභඞ්ගාගත ප්‍රාතිමෝක්ෂ ශික්ෂාපද පිළිවෙළින් අර්ථකථනය දක්වේ. එබැවින් මෙම ග්‍රන්ථ ද්වයෙහි පෙළ ගැස්ම එකිනෙකට වෙනස් වීම එම ග්‍රන්ථ ද්වය ම ඒක කර්තෘක වීමට බාධාවක් නොවේ. මෙසේ පෙළ ගැස්ම වෙනස් වුව ද විනිශ්චයන්හි දී ග්‍රන්ථ ද්වය ම එක ම විනය න්‍යායයන් නොයෙක් ආකාරයෙන් විවරණය කෙරේ.

කෙසේ වුව ද ඇතැම් පඬිවරු සමන්තපාසාදිකාව සහ කඞ්ඛාවිතරණිය සසඳා බලා එහි එන ඇතැම් විනිශ්චයන් පරස්පර විරෝධී බව දක්වමින් මෙම ග්‍රන්ථද්වය ඒක කර්තෘක නොවන බව පවසති[1]. මෙහි දී ප්‍රකට වන කරුණක් වන්නේ බොහෝ විද්වතුන් මෙම

[1] ඔස්කාර් වොන් හිනෲබර් විසින් සිය A Handbook of Pāli Literature නම් කෘතියේ කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව පිළිබඳව විවරණයක් ඉදිරිපත් කර ඇති අතර එහි දී මෙහි කර්තෘත්වය පිළිබඳ සඳහන් කරන්නේ සමන්තපාසාදිකාව සහ කඞ්ඛාවිතරණිය යන ග්‍රන්ථ ද්වය ම ඒක කර්තෘක විය නොහැකි බව යි (හිනෲබර්, 1996, 110 පි). එසේ ම අන්තර්ජාතික බෞද්ධ අධ්‍යයන සංගමයට ඉදිරිපත් කරන ලද ලිපියකින් හෙතෙම පවසන්නේ ඇතැම් විනය විනිශ්චයන් පිළිබඳ සමන්තපාසාදිකාවේ සහ කඞ්ඛාවිතරණියේ දක්වා ඇති මතයන් එකිනෙකට පරස්පර බව යි. එහි දී සමන්තපාසාදිකාවෙහි අනුප්‍රඥප්ති පිළිබඳ ඉදිරිපත් කරන විනිශ්චයට ඉඳුරා ම වෙනස් ආකාරයට කඞ්ඛාවිතරණිය විනිශ්චය කරන බව දක්වමින් ඒක කර්තෘක කෘති දෙකක එසේ පරස්පර ඇතිවිය නොහැකි බව පවසයි (Hinuber, 1995). මෙම මතය ද උපුටා දක්වමින් මෙම ග්‍රන්ථද්වය කර්තෘන් දෙදෙනෙකුට අයත් බව නිගමනය කරන Petra Kieffer-Pülz (2015) කඞ්ඛාවිතරණිය කර්තෘ අඥාත කෘතියක් ලෙස දක්වයි. ඇය තවදුරටත් දක්වන්නේ මෙම ග්‍රන්ථද්වයෙහි සැකැස්ම අතින් ද එකිනෙකට සමාන නොවන බැවින් එක් කර්තෘ කෙනෙකුන්ගේ විය නොහැකි බව යි. කෙසේ නමුත් කඞ්ඛාවිතරණිය සමන්තපාසාදිකාවට පසුව රචනා වී ඇති බව ඇය පිළිගනී. B. C. Law (1933) මෙම කඞ්ඛාවිතරණිය ද බුද්ධඝෝෂ හිමියන්ගේම බව පිළිගනී.

ඔලිවර් අබේනායක මහතා එක් අවස්ථාවක කඞ්ඛාවිතරණිය බුද්ධඝෝෂ හිමියන් විසින් කරන ලද අටුවාවක් බව පවසන අතර (අබේනායක, 2009, පි. 204) සෙසු

ග්‍රන්ථ හුදු අධ්‍යයන පරමාර්ථයෙන් විමසා බලා ඇති නමුදු ප්‍රායෝගිකව මෙහි ඇති වැදගත්කම අත්දැක නොමැති බව යි. ප්‍රායෝගිකව විනය විනිශ්චයෙහි නිරත වන අයෙකුට කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව සහ සමන්තපාසාදිකාව ඇවැත් විනිශ්චයේ දී කිසිදු ලෙසකින් පරස්පර නොවන බව ප්‍රකට වේ. උදාහරණයක් වශයෙන් හිනෑුබර් (1996) දක්වන අනුප්‍රඥප්තිය පිළිබඳ විවරණය දැක්විය හැකිය.

සමන්තපාසාදිකා විනයාර්ථකථාව අනුප්‍රඥප්තිය විවරණය කරන්නේ ලෝකවද්‍ය ශික්ෂාපද සහ ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපද වශයෙන් දෙවැදෑරුම් ශික්ෂාපදයන්හි පනවා ඇති ආකාරය සලකා බැලීමෙනි. ඒ අනුව ලෝකවද්‍ය ශික්ෂාපදයන්හි අනුප්‍රඥප්තිය මඟින් ශික්ෂාපදය දැඩි කිරීමක් කරන අතර ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපදයන්හි ලිහිල් කරයි. උදාහරණයක් ලෙස ප්‍රථම පාරාජික ශික්ෂාපදය ලෝකවද්‍ය ශික්ෂාපදයක් වන අතර **'අන්තමසො තිරච්ඡානගතායපි'** යන අනුප්‍රඥප්තියෙන් මෛථුන්දම් සේවනය පිළිබඳ ප්‍රඥප්තිය දැඩි කිරීමක් කරන ලදී. එහෙත් ගණභෝජන, පරම්පරභෝජන වැනි ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපදයන්හි 'චීවර සමය, චීවරකාර සමය, ගිලාන සමය' යනාදි ලෙස පනවන ලද අනුප්‍රඥප්තිවලින් කරනු ලබන්නේ ශික්ෂාපදය ලිහිල් කිරීම යි. මෙසේ සමන්තපාසාදිකාව ලෝකවද්‍ය, ප්‍රඥප්තිවද්‍ය බව අනුව අනුප්‍රඥප්තිය විවරණය කළ ද මාතිකට්ඨකථාව අනුප්‍රඥප්තිය ආපත්තිකර, අනාපත්තිකර සහ ආපත්ති උපස්ථම්භකර වශයෙන් කොටස් තුනකට බෙදා දක්වයි. ඒ අනුව ලෝකවද්‍ය ශික්ෂාපද තුනක් වන අඤ්ඤවාදක, සුක්කවිසට්ඨි සහ අදින්නාදාන ශික්ෂාපද උදාහරණ ලෙස දක්වමින් එකිනෙකෙහි අනුප්‍රඥප්තිය පිළිවෙළින් ආපත්තිකර, අනාපත්තිකර සහ ආපත්ති උපස්ථම්භකර බව දැක්වේ.

මෙම අනුප්‍රඥප්තිය පිළිබඳ විවරණද්වය එකිනෙකට පරස්පර බව පෙනුණ ද එය එසේ නොවන බැව් වඩාත් සැලකිල්ලෙන් කරන විමසීමක දී හෙළි වේ. සකල විනය පිටකයට ම අර්ථකථාවක් වන සමන්තපාසාදිකාව විනයපිටකයේ එකිනෙක පද පිළිබඳ ඉදිරිපත් කරනුයේ සාර්ව විවරණයකි. එහි දී විනය විනිශ්චයකට බැසගැනීමට විනයධරයා සතු විය යුතු පරිපූර්ණ අවබෝධය පිළිබඳ සැලකිලිමත් වන

විද්වතුන්ගේ ද අදහස් සලකා බලමින් තවත් අවස්ථාවක පවසන්නේ සමන්තපාසාදිකාව ආශ්‍රයෙන් අනෙක් ආචාර්යවරයකු රචනය කරන ලද පොතක් හැටියට කඞ්ඛාවිතරණිය සැලකුම් ලබන බව යි (අබේනායක, 2009, පි. 47).

බැවින් ලෝකවද්‍ය ශික්ෂාපදයන්හි හා ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපදයන්හි අනුප්‍රඥප්තියකින් සිදුවන කාර්යභාරය පිළිබඳ විවරණය කිරීම අභිමතය. එවිට විනයධරයා එකිනෙක ශික්ෂාපදය පිළිබඳ පරිපූර්ණ දැනුමකින් යුතුව විනිශ්චය කරයි. මාතිකට්ඨකථාව අරමුණු කරන්නේ එකිනෙක ශික්ෂාපදය පිළිබඳ සංක්ෂිප්ත එසේ ම ඉක්මනින් නිගමනයකට බැසගැනීමේ දැනුමකි. සමන්තපාසාදිකාවේ විවරණය කෙරෙන බොහෝ ප්‍රස්තුතයන් මාතිකට්ඨකථාවේ දී සංක්ෂිප්තව දැක්වෙන ආකාරය ඉහත දක්වන ලදී. මෙ අනුප්‍රඥප්තිය පිළිබඳ විවරණය මෙයට මනා නිදසුනකි. මාතිකට්ඨකථාවේ දී ශික්ෂාපදය පිළිබඳ ලුහුඬු දැනුමක් අභිමත වන බැවින් එකිනෙක අනුප්‍රඥප්තියෙන් සිදුවන කාර්යභාරය තුන් ආකාරයකට විශ්ලේෂණය කර දක්වන ලදී. එයින් සමන්තපාසාදිකා විනිශ්චය බැහැර කරන ලද්දේ නො වේ. ග්‍රන්ථද්වය අතර විෂම බවක් වැටහෙන්නේ හුදු අධ්‍යයනයක් ලෙස අන්තර්ගතය විමසීම නිසාවෙනි. විනය ප්‍රඥප්තිය තුළ ප්‍රායෝගික අනුභූතිය ඇති භික්ෂුවකට එහි ඇති සාම්‍යය සක් සුදක් සේ පැහැදිලිව වටහා ගත හැකි වේ. ඒ විෂමභාවය දුරුකිරීම පිණිස සමන්තපාසාදිකාවේ දී සුක්කවිසට්ඨි සංඝාදිසේසයේ 'අඤ්ඤත්‍ර සුපිනන්තා' යන අනුප්‍රඥප්තිය පිළිබඳව විශේෂයෙන් සඳහන් කර ඇත. එය අනාපත්තිකර අනුප්‍රඥප්තියක් වන්නේ සිහිනයේ දී සිදු වන ශුක්‍ර ධාතු මෝචනය අබ්බෝහාරික නිසාවෙනි. මේ දැනුමෙන් යුක්ත වන විනයධරයා සහේතුකව කිසියම් ශික්ෂාපදයක අනුප්‍රඥප්තියේ කාර්යභාරය විශද කර ගනී. මාතිකට්ඨකථාව පරිශීලනයෙන් අවස්ථානුකූලව ශික්ෂාපදය විශ්ලේෂණය කරගැනීමේ දැනුමක් ද අතිරේකව සම්පාදනය කරගත හැකි වේ.

තව ද මෙයින් හෙළි වන වැදගත් කරුණක් වන්නේ බුද්ධඝෝෂ ස්ථවිරපාදයන් විසින් සමන්තපාසාදිකාව ආදි අර්ථකථා රචනයේ දී මහාවිහාරීය සීහළ අර්ථකථාව සංස්කරණාත්මකව මාගධී භාෂාවට පරිවර්තනය කළ බවත් හුදු ස්ව කෘතියක් රචනා නො කළ බවත් ය. මහා අට්ඨකථාව ආදි සීහළ අර්ථකථා ඇසුරෙන් සමන්තපාසාදිකා විනයාර්ථකථාව රචනා කිරීමේ දී ඒ මහා අට්ඨකථාව ආදියෙහි එන විනිශ්චය ඇසුරු කළ උන්වහන්සේ මාතිකට්ඨකථාව රචනා කිරීමේ දී සීහළ මාතිකට්ඨකථාවෙහි එන විනිශ්චය ඇසුරු කර ඇති බව සිතීම යුක්ති යුක්තය. ඒ අනුව අනුප්‍රඥප්තිය පිළිබඳ මහා අට්ඨකථාදියෙහි

එන විවරණය ඒ ආකාරයෙන් ම මාගධී භාෂාවට නැගූ අතර මාතිකට්ඨකථාවේ දී සීහළ මාතිකට්ඨකථාව අනුගමනය කළ බව නිගමනය කළ හැකි වේ.

එබැවින් මෙම කරුණු මත පදනම්ව ග්‍රන්ථ ද්වය කතුවරයන් දෙදෙනෙකුගේ බව නිගමනය කිරීම අනුචිත ය. නුවණැති ධර්මදේශකයෙක් බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කළ එක ම ධර්ම කාරණය නොයෙක් ආකාරයෙන් විවරණය කර ශ්‍රාවකයන්ගේ අවබෝධය පුළුල් කරයි. එසේ ම එකම විනය විනිශ්චය නොයෙක් ආකාරයෙන් අවස්ථානුකූලව විනිශ්චය කිරීම දක්ෂ ලේඛකයකු සතු කෞශල්‍යයට නිදසුනකි.

පොල්වත්තේ බුද්ධදත්ත ස්ථවිරයන් සිය පාලි සාහිත්‍යය කෘතියේ පවසන්නේ කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව බුද්ධඝෝෂ ස්ථවිරයන්ගේ යැයි පිළිගැනීමට අපහසු බව යි. උන්වහන්සේ ඒ සඳහා ප්‍රමාණ කරගන්නේ කඞ්ඛාවිතරණී ආරම්භයේ හා අවසානයේ ඇති ගාථාවලින් තත් කතුවරයාගේ පැරණි සීහළ අර්ථකථා පරිශීලනය කිරීම ගම්‍ය වන බව යි. එසේ ම කඞ්ඛාවිතරණියේ දී 'සමන්තපාසාදිකාවෙන් බලාගත යුතුය'යි කියා නැති බව ද උන්වහන්සේ පවසති (බුද්ධදත්ත හිමි, 2007, පිටු 194-195). කෙසේ නමුත් ග්‍රන්ථාවසානයේ කතුවරයාණන් මහාවිහාර වාසීන්ගේ වාචනා මාර්ගය නිශ්‍රිත වූ පැරණි සීහළට්ඨකථා නය ඇසුරුකළ බව[1] පැවසීම නිසාවෙන් සමන්තපාසාදිකාව රචනා කිරීමට පෙර රචනා වූ කෘතියක් බව නිගමනය කිරීම අප්‍රශස්ත නිගමනයකි. කතුවරයා පවසන්නේ තමන් මහාවිහාරවාසීන්ගේ වාචනා මාර්ගය පදනම් කරගන්නා බව යි. එනම් එවකට ප්‍රචලිතව පැවති අභයගිරික වාචනා මාර්ගාදිය ප්‍රතික්ෂේප කරන බව යි. තමන් මුලින් රචනා කළ සමන්තපාසාදිකා ග්‍රන්ථය සර්වාකාරයෙන් සම්පූර්ණ අර්ථකථා රචනයක් වුව ද එය මූලාශ්‍රය කරගැනීම කතුවරයා පිළිබඳ පාඨකයාගේ අවිශ්වාසය ජනිත වීමට හේතු වන්නකි. එහෙයින් පළමු මූලාශ්‍රය වන සීහළට්ඨකථා නය ඇසුරු කළ බව පැවසීමෙන් බුද්ධඝෝෂාචාරීහු පාඨක සිත් තුළ ස්වකීය විනිශ්චයන් පිළිබඳ විශ්වාසනීයත්වය ජනිත කළහ.

---

1 **ආරභිං යමහං සබ්බං සීහළට්ඨකථානයං**
**මහාවහාරවාසීනං වාචනාමග්ගනිස්සිතං** (කඞ්ඛා, පි. 204)

තව ද බුද්ධදත්ත හිමියන් තමන්ට හමු නොවූ බව පවසන 'සමන්තපාසාදිකාවෙන් බලාගත යුතුය'යි සඳහන් කිරීම් කඞ්ඛාවිතරණියේ දුර්ලභ නොවන බව එය කියවන ඕනෑම කෙනෙකුට දැකගත හැකි වේ. කඞ්ඛාවිතරණී හේවාවිතාරණ මුද්‍රණය අනුව සංඝාදිසේස වර්ණනාව අවසන් වන 50-51 පිටුවල පමණක් ස්ථාන හතරක දී අදාළ විනිශ්චය පිළිබඳ විස්තර කථාව සමන්තපාසාදිකාව ඇසුරෙන් දත යුතු බව පැවසේ[1]. එයින් පැහැදිලි වන්නේ දෙස් නගන්නන් විවේක බුද්ධියෙන් යුතුව කඞ්ඛාවිතරණිය කියවා නොමැති බව යි. එබැවින් උන්වහන්සේගේ මෙම ප්‍රකාශද්වය ම පදනම් විරහිත බව පැවසිය යුතු වේ.

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව බුද්ධඝෝෂ ස්ථවිරයන්ගේ කෘතියක් බව විනයත්ථමඤ්ජූසාව නම් කඞ්ඛාවිතරණී ටීකාව රචනා කළ බුද්ධනාග ස්ථවිරයෝ ද සඳහන් කරති. එබැවින් ඒ පිළිබඳව තවදුරටත් කාංක්‍ෂා ඇති නොකර බුද්ධඝෝෂාචාරීහු මෙම ග්‍රන්ථද්වයේ ම කර්තෘ බව පිළිගත යුතු වේ.

## විනයත්ථදීපනී නම් අපගේ ව්‍යාඛ්‍යානය

කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාව විනය විනිශ්චයෙහි ලා අතිශය වැදගත් වන්නා සේ ම විනය සාහිත්‍යය තුළ වැදගත්කමක් උසුලන ග්‍රන්ථයක් බව මනාව පැහැදිලි ය. මෙම මාතිකට්ඨකථාව පිළිබඳ අතීතයේ සන්න, ගැටපද රචනා කර තිබූ නමුදු වර්තමානයේ කඞ්ඛාවිතරණී පිටපොත පමණක් ඇති අතර එය ද අතිශය දුර්ලභ පොතක් බවට පත්ව තිබේ. සිංහල භාෂාවෙන් භික්‍ෂු ප්‍රාතිමෝක්‍ෂය විවරණය කරමින් නොයෙක් ග්‍රන්ථ රචනා වී තිබෙන නමුදු ඇතැම් විට මූලික පෙළ හා අර්ථකථාවන්ට අනුව සංසන්දනය කිරීමේ දී විසදෘශ තැන් ඇති බව හඳුනාගත හැකි වේ. භික්‍ෂුවකට මූලික වශයෙන් හික්මිය යුතු සිකපද පිළිබඳ මනා අවබෝධයක් ලබාගැනීමට මාතිකට්ඨකථාව

---

[1] විත්ථාරො පන **සමන්තපාසාදිකාය** විනයසංවණ්ණනාය වුත්තනයෙනෙව වෙදිතබ්බො. (කඞ්ඛා, පි.50); විනිච්ඡයකථා පන විත්ථාරතො **සමන්තපාසාදිකායං** වුත්තා. (කඞ්ඛා, පි.50); උභින්නම්පි පනෙතෙසං දානවිධි විනිච්ඡයකථා ච **සමන්තපාසාදිකායං** වුත්තනයෙන වෙදිතබ්බා (කඞ්ඛා, පි.50); අබ්භානකම්මං පන පාළිවසෙන ඛන්ධකෙ විනිච්ඡයවසෙන **සමන්තපාසාදිකායං** වුත්තං (කඞ්ඛා, පි.51)

මෙන් වැදගත් වන කෘතියක් තවත් නොමැත. එහෙත් ශුද්ධ මාගධී භාෂාව හා ව්‍යාකරණය මැනවින් නොහැසිරවිය හැකි අයෙකුට මාතිකට්ඨකථාව පරිශීලනය කිරීම අපහසු විය හැකි බැවින් ඒ පිළිබඳ පදනුපදික සන්නයක් ලිවීමට අදහස් කළෙමු. බොහෝ ආරණ්‍යවාසී භික්ෂූහු ස්වකීය විනය දැනුම උදෙසා අධ්‍යයනය කරන ග්‍රන්ථයක් වශයෙන් මාතිකට්ඨකථාව සම්භාවිත බැවින් මෙවැනි පදනුපදික සන්නයක් ඒ විනයාර්ථ ගවේෂක සුධීමතුන්ගේ මනදෙළ පුරාලන බව අපගේ අදහස යි. **විනයත්ථදීපනී** යනු අපගේ ඒ වෑයමේ සුරත් ඵලය යි. එහි දී පදනුපදික පරිවර්තනයකින් නොනැවතී තදනුබද්ධ පෙළ, අර්ථකථා හා ටීකා ඇසුරු කරගනිමින් තදීය අර්ථ විවරණයක් ද කළෙමු. එය වනාහි විනයෙහි අර්ථ දීපනය කිරීම සඳහා අප දැරූ උත්සාහයකි. එහෙත් සමස්ථ කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථාවට ම සන්නයක් ඉදිරිපත් කිරීමේ දී ග්‍රන්ථය විශාල වන බැවින් මෙම ප්‍රථම භාගය ඉදිරිපත් කරනුයේ ආරම්භක නිදානුද්දේස වර්ණනාවේ පටන් සංඝාදිසේසුද්දේස වර්ණනාව දක්වා පමණි. සෙසු කොටස ඉදිරියේ ප්‍රකාශයට පත් වනු ඇත.

**පිටපත් සංසන්දනය**

මාතිකට්ඨකථාවට පරිවර්තනයක් හා විවරණයක් ඉදිරිපත් කිරීමෙන් නොනැවතී අනෙකුත් මුද්‍රිත පිටපත් කිහිපයක් සමඟ සැසඳීම ද මෙහි දී අප විසින් කරන ලදී. ඒ අනුව බුරුම රට ඡට්ඨ සංගායනා පිටපත (මඡසං), හේවාවිතාරණ මුද්‍රණය (හෙමු), බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථාන මුද්‍රණය (බෞසංම), කාළවිල ඉන්දරතන හිමියන්ගේ සංස්කරණය (කාළවිල) යන ග්‍රන්ථයන් ඇසුරුකරගෙන අපපාඨ හඳුනා ගනිමින් පාඨ ශෝධනය සඳහා තදීය පිටපත් යොදාගන්නා ලදී. තව ද යූ.පී. ඒකනායකයන් විසින් සංස්කරණය කරන ලද විනයත්ථමඤ්ජූසා කඞ්ඛාවිතරණී ටීකාව (කඞ්ඛා.ටී.) ද කඞ්ඛාවිතරණී පිටපොත (කඞ්ඛා.පි.) ද පාලි පදවල නිරවද්‍ය භාවය සඳහා සංසන්දනය කරන ලදී. අපගේ සන්නයේ යොදන ලද පාලි පදය තෝරා ගැනීමේ දී හේවාවිතාරණ මුද්‍රණය (1991) මූලාකෘතියක් වශයෙන් තබන ලද අතර ඇතැම් විටක ව්‍යාකරණානුකූලව වඩාත් යෝග්‍ය වන පදයක් සෙසු සංස්කරණයක ඇති නම් එය තෝරාගෙන සෙසු වෙනස් කියවීම් සහිත පද පාඨාන්තරයන් අධෝලිපියේ සඳහන් කොට ඇත. උදාහරණයක් ලෙස '**දුබ්බුට්ඨිකාලෙ**' යන පදය හේවාවිතාරණ මුද්‍රණයේ

**'දුබ්බුට්ඨීකාලෙ'** යැයි 'දු'කාරය වශයෙන් දීර්ඝව යොදා ඇති අතර එය වඩාත් නිවැරදි වන්නේ හ්‍රස්වව යෙදීමෙන් බැවින් නිවැරදි පදය තෝරාගන්නා ලදී. නිගමනයකට එළඹීම දුෂ්කර ඇතැම් පාලි පද පිළිබඳ විනය පාළිය හා සංසන්දනය කරන ලදී. උදහරණයක් ලෙස **'සාමන්තා ආවාසා සජ්ජුකං පාහෙතබ්බං'** යන පාලි පාඨයෙහි බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථාන මුද්‍රණයේ 'ආවාසං' යැයි යෙදී තිබේ. එය ව්‍යාකරණානුකූලව වඩාත් යෝග්‍ය වුව ද විනය පිටකයේ මහාවග්ගපාළි උපෝසථක්ඛන්ධකයේ අදළ පෙළෙහි 'ආවාසා' යැයි යොද සමන්තපාසාදිකාවේ **'සාමන්තා ආවාසා'ති සාමන්තං ආවාසං (කඞ්ඛා,** පි.791).' යැයි අර්ථ සංවර්ණනා කර ඇති බැවින් හේවාවිතාරණ මුද්‍රණයේ දක්වා ඇති ආකාරයට ම යොදන ලදී. තව ද විනයත්ථමඤ්ජුසාවේ (**කඞ්ඛා.ටී**, පි.27) ද එලෙස ම අර්ථ දක්වා ඇති බව හඳුනාගන්නා ලදී.

**මූල ග්‍රන්ථයේ පිටු අංක සඳහන් කිරීම**

මෙම අර්ථ ව්‍යාඛ්‍යානය සම්පාදනය කිරීමේ දී කරන්දන ජිනරතන හිමියන් විසින් සංස්කරණය කරන ලද මාතිකට්ඨකථාව, හේවාවිතාරණ මුද්‍රණය (1991) පදනම් කරගන්නා ලදී. සන්න ග්‍රන්ථයක් බොහෝ සෙයින් මූල ග්‍රන්ථය කියවීමට උපකාරයක් ලෙස භාවිත කරන බැවින් පරිශීලකයන්ට මූල ග්‍රන්ථයේ පිටු අංක බෙදීම දැනගැනීම වැදගත් වේ. ඒ අනුව පරිශීලකයන්ගේ පහසුව පිණිස හේවාවිතාරණ මුද්‍රණයේ පිටු අංක සන්නය අතර මැද සඳහන් කරන ලදී.

**විනිශ්චය ඇසුරු කළ ග්‍රන්ථ**

මෙම අර්ථ ව්‍යාඛ්‍යානය සම්පාදනය කිරීමේ දී විනිශ්චයන් ඉදිරිපත් කිරීම පිණිස විනය පිටකය පෙළ සහ සමන්තපාසාදිකා විනයාර්ථකථාව අපගේ ප්‍රධාන මූලාශ්‍රය විය. විනය ටීකා අතරින් මහාවිහාරීය මතය දීපනය කිරීමට උත්සාහ දරන විමතිවිනෝදනී ටීකාව මෙහි දී බොහෝ සෙයින් ඇසුරු කරන ලදී. තව ද විනයත්ථමඤ්ජුසා කඞ්ඛාවිතරණී ටීකාව ද උපකාර කරගන්නා ලදී. වජිරබුද්ධි, විනයාලඞ්කාර, සාරත්ථදීපනී යන විනය ටීකාවන් ද ඇතැම් තැනක ඇසුරු කළ අතර විනය විනිශ්චය සහ විනය විනිශ්චය ටීකාව ද උපකාරී විය. පදනුපදික අර්ථ විවරණයේ දී කඞ්ඛාවිතරණී පිටපොත මහත් සේ උපකාර වූ අතර සන්දේහඝාතිනී නම් පැරණි කඞ්ඛාවිතරණී සන්නයෙන් අපට හමු වූ

කොටසක් ද උපකාර කරගන්නා ලදී. එසේ ම සෝණුත්තර ජිනරතන හිමි සහ රත්ගම පඤ්ඤසේඛර හිමියන් විසින් රචිත භික්ෂු භික්ෂුණී ප්‍රාතිමෝක්ෂ වර්ණනාව ද ඇතැම් අවස්ථාවල දී උපකාරී නොවූයේ නොවේ.

**විනයත්ථදීපනී භාෂා ශෛලිය**

මෙම අර්ථ ව්‍යාඛ්‍යානය සම්පාදනය කිරීමේ දී අප විසින් ස්වාධීන භාෂා ශෛලියක් අනුගමනය කරන ලදී. පදනුපදික පරිවර්තනයේ දී යෙදෙන පාලි පද ඊට ආවේණික ක්‍රමයට යොදන ලද අතර සිංහල බසින් ඇති පද ස්වාධීන ක්‍රමයකට වේ. මාතෘභාෂාගත තත්සම ශබ්ද යෙදීමේ දී සංස්කෘත ශබ්දරූපය යෙදීම පණ්ඩිතවාචී වේ. එසේ වුව ද පෙළ අර්ථකථාවල පැනෙන ඇතැම් පද සංස්කෘත ශබ්දය ලෙස යෙදීමෙන් ආගන්තුක බවක් දැනෙන බැවින් එවැනි පද පාලි රූපයෙන් ම යෙදීමට උත්සුක වීමු. **කඞ්ඛාවිතරණී, මාතිකට්ඨකථා, භික්ඛුනෝවාදක** (සංස්කෘතඃ **කාංක්ෂාවිතරණී, මාතිකාර්ථකථා, භික්ෂුණ්‍යවවාදක**) වැනි පද උදාහරණ ලෙස දැක්විය හැකි වේ. එසේ ම **භික්ෂු, ප්‍රාතිමෝක්ෂ, දශ, ශ්‍රැත** ආදි ඇතැම් පද සංස්කෘත තත්සම පද වශයෙන් ම යොදන ලදී. සිංහල ව්‍යවහාරයේ යෙදෙන ආකාරයෙන් **සිකපද, ශික්ෂාපද** වැනි ඇතැම් පද සිංහල සහ සංස්කෘත තත්සම යන දෙයාකාරයෙන් ම අවස්ථානුකූලව යොදා ඇත.

සිංහල පද අතර ඇති පාලි හා සංස්කෘත තත්සම පදවල ඒකාර, ඕකාර හල් කර යෙදීමට බොහෝ විට උත්සාහ කරන ලදී. එහෙත් සිංහල වාක්‍ය අතර පාලි පදය ම යෙදෙන විට ඒකාර, ඕකාර හල් නොකර පෙළට ආවේණික ක්‍රමයෙන් ම තබන ලදී. විශේෂයෙන් ම **'ථෙරවාදී'** වැනි පද හල් නොකර තැබීම අපට අභිමත විය. පාලි පදයන් සන්නය තුළ යෙදීමේ දී සන්ධි පද විසන්ධිකර යෙදීමට උත්සාහ ගත් අතර **චෙව, කිඤ්චාපි, සචෙපි** වැනි ඇතැම් පද විසන්ධි නොකර එලෙසින් ම තබන ලදී.

සිංහලයේ පද බෙදීමේ දී ස්වාධීන රීතියක් අනුගමනය කිරීමට බොහෝ විට උත්සාහ ගෙන ඇත. ඒ අනුව **'නො'** නිපාතය ක්‍රියාපදයක් හා යෙදුණු විට වෙන්කර ඇති අතර නාමපදයක් සමඟ යෙදෙන විට එකතු කර ඇත. 'කොට' යන නිපාතය තත්සම ක්‍රියාපද සමඟ පූර්වක්‍රියා

අර්ථයෙන් යෙදෙන  අවස්ථාවල දී වෙන් කිරීමට උත්සාහ ගෙන ඇත. උදහරණයක් ලෙස 'ප්‍රකාශ කොට, නිශ්‍රිත කොට' වැනි පදවල දී වෙනම ලියා ඇත. එහෙත් 'වෙන් කොට' වැනි පූර්වක්‍රියා අර්ථයෙන් යෙදෙන මව්බස පදයක් සමඟ ඇති විට පූර්ව පදයට එක්කර ඇත. එසේ ම 'පළමු කොට' වැනි කාලාර්ථවාචීව යෙදෙන 'කොට' යන නිපාතය වෙන ම ලියා ඇත. අවධාරණාර්ථ 'ම' නිපාතය වෙන් කිරීම අපට අභිමත විය. 'ණ, න', 'ළ, ල' භේදය ඒකාකාරීව නොයෙදෙන අතර පාළි, පාලි යන දෙයාකාරයෙන් ම යොදා ඇත. මේ හැර ඒකාකාරී නොවන තවත් පද තිබිය හැකි අතර භාෂා ශෛලිය සඳෙස් වෙතොත් ආධුනික අප පිළිබඳ සුධීහු කමත්වා.

## උපකාරානුස්මෘතිය

ථෙරවාදී බුද්ධ ශාසනයේ උන්නතිය වෙනුවෙන් අප විසින් කළ යුතු මෙහෙවර නිරන්තරයෙන් සිහිපත් කරමින් ඒ කර්තව්‍යයට අප මෙහෙය වූ නියමුවාණ කෙනෙක් නිරතුරු අප පසුපස සිටියහ. හුදු සසර කෙටි කරගෙන ඉක්මනින් සතර සතිපට්ඨානය වඩා නිවන් සාක්ෂාත් කරගැනීමේ ප්‍රතිපත්ති පූරණාභිලාෂීව ම සසුන් ගත වුව ද ශාසනික චිර පැවැත්ම උදෙසා ධර්මවිනය අධ්‍යාපනය ලැබිය යුතු බවට සිහිපත් කළෝ උන්වහන්සේ ය. ඒ මතු ද නොව ශාසනික වගකීමක් ඇති බව නිරන්තරයෙන් සිහිපත් කරමින් අපගේ දිශානතිය ඒදෙසට යොමු කිරීමට උන්වහන්සේ ගත් සත් ව්‍යායාමය ප්‍රමාණ කළ නොහැකිය. ධර්මවිනයඥනයෙන් ද ව්‍යාකරණඥනයෙන් ද අප පොහොසත් කිරීමට තමන් සතු සියලු වැර යොදා වෙහෙසුණු ඒ අස්මදාචාර්ය **අතිපූජ්‍ය නුවරඑළියේ ඤාණසීලාභිධාන** මහාස්ථවිරයන් වහන්සේට අපගේ නමස්කාර පූර්වක කෘතඥතාවය පුදා කරම්හ. පිරිපුන්ව ශීලය ආරක්ෂා කිරීමට උත්සුක වන ලජ්ජී සුපේශල භික්ෂූන් හට ධර්ම දනයක් වන මෙයින් ජනිත උදාර පුණ්‍යසම්භාරය ඒ ගුරුදේවෝත්තමයන් වහන්සේගේ පුණ්‍යසාගරයේ දිය බිඳුවක් ම වේවා.

නිරතුරු අපගේ ශාසනික කර්තව්‍යයන්හි දී අප දිරිමත් කරන ඇවැසි උපදෙස් හා උපකාර නිතැතින් ම සපයන ශ්‍රී ලංකා රාමඤ්ඤ මහානිකායේ ගෞරවනීය අධිකරණ නායක මහාචාර්ය **අතිපූජ්‍ය අත්තංගනේ රතනපාලාභිධාන** මහාස්ථවිරයන් වහන්සේ මෙම

ග්‍රන්ථයට පසුවදනක් සපයමින් ලබාදුන් ශාසනික සහාය සැම කල්හි සිහිපත් කරන්නේ ගෞරව බහුමාන පුරස්සර යුතුව ය. එසේ ම ශ්‍රී කල්‍යාණී යෝගාශ්‍රම සංස්ථාවේ අතිරේක විංශද්වාර්ගික කාරක සංඝසභාව විසින් මෙම ග්‍රන්ථය පිළිගෙන ඊට **විනය විශාරද උපාධිය** ලබාදෙමින් අපව දිරිමත් කිරීම අතිශය ගෞරව පූර්වකව සිහිපත් කරම්හ. තව ද මහාලේඛකාධිකාරී **පූජ්‍යතර කහගොල්ලේ සෝමවංශාභිධාන** මහාස්ථවිරයන් වහන්සේ අප වෑයම ප්‍රශංසා කරමින් පූර්විකාවක් සම්පාදනය කර දුන් අතර උන්වහන්සේගේ කුළුණු සිත අපට මහත් ආශිර්වාදයක් විය. කැලණිය විශ්වවිද්‍යාලයේ පාලි හා බෞද්ධ අධ්‍යයනාංශයේ අංශාධිපති ජ්‍යෙෂ්ඨ මහාචාර්ය **පූජ්‍ය මකුරුප්පේ ධම්මානන්ද** හිමියන් මෙම කර්තව්‍යයේ දී අපව දිරිගන්වමින් උපකාර කරමින් කළ මෙහෙවර සුපසන් සිතින් කෘතඥ පූර්වකව සිහිපත් කරම්හ.

රණගිරිලෙන සේනාසනවාසී **පූජ්‍ය කඹුරුපිටියේ කරුණාසාර** ස්ථවිරයන් වහන්සේ ද නිරතුරු අප දිරිමත් කළ අතර සෝදුපත් බැලීමේ කටයුතුවල දී ද සහාය වූ බව කෘතඥ පූර්වකව සිහිපත් කරම්හ. **පූජ්‍ය ලන්ඩනයේ ධම්මගවේසී** ස්ථවිරයන් වහන්සේගේ දිරිමත් කිරීමේ වචන ද අපට ශක්තියක් විය. එසේ ම නිරතුරු අප වෙත පැවරෙන ශාසනික වගකීම පිළිබඳව සිහි ගන්වමින් අප දිරිමත් කළෝ අප ඇදුරුවර **පූජ්‍ය කුණ්ඩසාලේ අරණගවේසී** ස්ථවිරයන් වහන්සේ ය. උන්වහන්සේගේ දිරිමත් කිරීම හැරෙන්නට මෙය තවත් සැඟවුණු උත්සාහයක් පමණක් වන්නට තිබුණි. එසේ ම අත්පිටපත පරිගණකගත කිරීමෙන් ද සෝදුපත් බැලීමෙන් ද සහාය වූ **පූජ්‍ය නේපාලයේ සෝමරතන** හිමියන් ද මෙය යථාර්ථයක් බවට පත් කිරීමට ඇවැසි සියලු කටයුතු පිළිබඳ නිරන්තරයෙන් උනන්දුවෙන් සොයා බලා උපකාර කළ කල්‍යාණමිත්‍ර **පූජ්‍ය ගාල්ලේ ඤාණෝභාස** හිමියන් ද විශේෂයෙන් සිහිපත් කළ යුතු ම ය. මෙම ධර්ම පුස්තකය මුද්‍රණය කරන විට අපත් සමඟ කයින් නොසිටිය ද සිතෙන් සැමදා බැඳී සිටින මියන්මාරයේ ධර්මාධ්‍යයන කටයුතුවල තත්පරව සිටින **පූජ්‍ය කඩුවෙල අතුලඤාණ** හිමියන්ගේ ශක්තිය නිරතුරු සිහිපත් කළ යුතු වේ. මෙය සාර්ථක නිමාවක් බවට පත් කරගැනීමට සහාය වූ **පූජ්‍ය මානාපිටියේ වජිරබුද්ධි හිමියන්** ද සෝදුපත් බැලීමේ දී හා පරිගණකගත කිරීම්වල දී

සහාය දක්වූ **පූජ්‍ය වත්තේගම රතනසාර හිමි, පූජ්‍ය හුරිගස්වැවේ මේධාලංකාර හිමි, පූජ්‍ය පුවක්පිටියේ සුමංගලරතන හිමි, පූජ්‍ය කොටදෙණියාවේ විමලරංසි හිමි, පූජ්‍ය අරලගංවිල නිමලචිත්ත හිමි, පූජ්‍ය බලංගොඩ ඤාණදීප හිමි, පූජ්‍ය පූජාපිටියේ සුරියරතන හිමි, පූජ්‍ය කොටුගොඩ නන්දසීල හිමි, පූජ්‍ය මාතර නන්දාරාම හිමි, පූජ්‍ය ගංගොඩවිල පඤ්ඤාතිස්ස හිමි, පූජ්‍ය මිනුවන්ගොඩ පඤ්ඤාසීහ හිමි** ආදි කොටැති සියලු ම රණගිරිලෙන ආරණ්‍ය සේනාසනවාසී භික්ෂු පිරිස ද මෙම කර්තව්‍යයේ සාර්ථකත්වය පිටුපස සිටි බලසෙනඟ වූහ. ඒ සියලුදෙනා ම මෙම පුණ්‍යලාභයේ හිමිකරුවෝ වෙති.

මෙම කටයුත්තේ දී සත්පුරුෂ උපකාර ලබාදුන් සන්මිත්‍ර කැලණිය විශ්වවිද්‍යාලයයේ පාලි හා බෞද්ධාධ්‍යයනාංශයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, **ආචාර්ය අරුණ කේ. ගමගේ** මහතාට ස්තුතිවන්ත විය යුතු අතර අත්පිටපත පරිගණකගත කරගැනීමට සහාය වූ හිතවත් සොහොයුරු **බුද්ධික කොඩිතුවක්කු** මහතාට ද කෘතඥ වෙමු. කඤ්චුක නිර්මාණයෙන් අපට සහාය වූවෝ සැමදු මහාවිහාර නිර්මාණකරණයේ සහායක හිතවත් **ජයනාත් පරාක්‍රමයෝ** ය. ඒ සියලුදෙනාගේ එකතුවෙන් බිහිවන මෙම නිර්මාණය ස්වකීය ධර්මදනාභිලාශයෙන් ම ලාභාපේක්ෂාවකින් තොරව මුද්‍රණය කර දුන් මාලඹේ පියසිරි මුද්‍රණාලයාධිපති සත්ගුණවත් **කුමුදු ලියනගේ** මැතිතුමා, එම මැතිණිය, පවුලේ සැම සහ කාර්ය මණ්ඩලය වෙත අපගේ විශේෂ ස්තුති පූර්වක පුණ්‍යානුමෝදනාව හිමි විය යුතුය. මේ සියලුදෙනා සංවිධානය කරමින් ධර්මදනාභිලාෂීව එකතු ව යටත් පිරිසෙයින් ස්වකීය නම හෝ සඳහන් නො කරමින් දායකත්වය දැරූ සියලු දෙනාටත් කෘතඥතාවෙන් යුතුව පුණ්‍යානුමෝදනය කරම්හ. මෙම ධර්ම දනමය කුශලය ඒ සියලු දෙනාට ස්වකීය මෙලොව පරලොව ජීවිත යහපත් බවට පත්ව සුබ ප්‍රතිපදාවෙන් උතුම් නිර්වාණාවබෝධයෙන් සැනසීමට හේතු වේවා.

මෙය සර්වාකාරයෙන් සම්පූර්ණ අර්ථ ව්‍යාඛ්‍යානයක් බව අපි කිසිසේත් නො සිතම්හ. ඇදුරු මුවින් සහ ග්‍රන්ථාන්තරයෙන් ලත් ධර්මවිනයඥානයත් ශබ්දශාස්ත්‍රඥානයත් ඇසුරෙන් අපගේ ශක්ති ප්‍රමාණයෙන් මෙම ව්‍යාඛ්‍යානය කළෙමු. එහි ධර්ම විනයකාමී සුධීන්ගේ අවධානයට ලක් වන දෙස් තිබිය හැකි වේ. එබඳු යම් දෙසක් වේ නම් අප කෙරෙහි අනුකම්පාවෙන් ථෙරවාදී සම්බුද්ධ ශාසනයේ උන්නතිය

වෙනුවෙන් අප දැනුවත් කරන මෙන් මෙත් සිතින් සිහිපත් කරම්හ. මේ කර්තව්‍යය හුදු ථෙරවාදී සම්බුද්ධ ශාසනයේ චිරස්ථිතිය අපේක්ෂාවෙන් අප විසින් සිදු කරන ලදී. පුරාණ මහ රහතන් වහන්සේලා විසින් ස්වකීය දිවි දෙවැනි කොට ආරක්ෂා කරන ලද ථෙරවාදී ත්‍රිපිටක පෙළ සහ තදීය පාළි අර්ථකථාව තුළින් නිරූපිත ඒ නිර්මල මහාවිහාරීය ථෙරවාදී ශාසනය චිරාත්කාලයක් මේ මිහිතලය මත බැබළේවා !

මෙයට,
ශාසනස්ථිතිකාමී,

**පූජ්‍ය මහව ඤාණාලෝක හිමි,**

රණගිරිලෙන ආරණ්‍ය සේනාසනය,
දේවගිරිය - දිද්දෙණිය,
මැල්සිරිපුර.

ශ්‍රී බු.ව. 2564 / ක්‍රි.ව. 2020 නොවැම්බර් මස 12

# පටුන

# පණාමාඤ්ජලී

1. අනන්තරං ලොකදිවාකරස්ස
නිබ්බාණතො සාසනසංගහං යෙ,
අකංසු ථෙරා වචනං ජිනස්ස
රක්ඛිංසු ලද්ධීහි අමිස්සයිත්වා.

2. කදාචි යස්මා සකජීවිතම්පි
පරිච්චජිත්වාන’පි දුක්කරෙසු,
සුගොපයුං පාවචනං හි ථෙරා
වන්දමි තෙ මෙ හදයෙ ඨපෙත්වා.

3. භාසාය දීපෙ ඉධ සීහළානං
සංවණ්ණනා පාවචනස්ස’හොසි,
දීපන්තරානම්පි හිතාය තන්ති
භාසං පුරා යෙ පරිවත්තයිංසු.

4. බුද්ධාදිඝොසාචරියො ච ධම්ම
පාලාදිථෙරා ඉධ විස්සුතා තෙ,
සබ්බෙව බුද්ධස්ස මතිං විජානා
ලභන්තු පූජං ගරුගාරවෙන.

5. පොරාණිකත්ථෙරපරම්පරාය
ආනීතධම්මස්ස විනිච්ඡයානි,
අසංකරොන්තා රචයිංසු ටීකා
චරියෙ’පි තෙ’හං සිරසා නමාමි.

6. තතො පරං නෙකවිධා'පි ථෙරා
පග්ගණ්හණං ගොතම සාසනස්ස,
අකංසු සම්මා සමනුග්ගහං තෙ
නිච්චං සුඛං සන්තිපදං ලභන්තු.

7. පරිහීනලංකාජිනසාසනස්ස
අභිවුද්ධියා යෙ ථෙරා සමග්ගා,
සම්මා සමාගම්ම සමාරභිංසු
කල්‍යාණියොගස්සමනාම වංසං.

8. ජිනාදිවංසො හි යතිස්සරො ච
ඤාණාදිරාමා'චරියාදිකා ච,
යෙ ආදිථෙරා වරභික්ඛුවංසං
ඔභාසයුං තෙ පනමාමි නිච්චං.

9. පොරාණිකත්ථවිරවාදවර'ම්බරස්මිං
ධම්මාදිරංසිවිසරෙන විරොචමානො,
ඤාණාදිසීලපවරා'චරියොසධීසො
මය්හම්'පි දිප්පතු නභෙ හදයෙ සදා සො.

10. සුත්තා'භිධම්මවිනයා'ගම-සද්දසත්ථෙ
සික්ඛාපනෙ විනයනෙ'පි ච ථෙරවාදෙ,
යෙ'නුග්ගහං මෙ කතා බහුසො මුදා තෙ
සබ්බෙ සමාචරියකා'පි ලභන්තු මොක්ඛං.

11. අද්ධා මයා හි යදිදං කුසලං ලභෙය්‍ය
සද්ධාය පොත්ථකමිදං පරිවත්තයිත්වා,
ලද්ධායිමං විපුලපුඤ්ඤඵලං භදන්තා
සුද්ධාසයා සිවපදං සුඛිතා ලභන්තු.

# විනයත්ථදීපනී
## නාම
## මාතිකට්ඨකථා ව්‍යාඛ්‍යානය

නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස

යො ලොකනාථො කරුණාගුණෙන
සත්තෙ සමුද්දිස්ස සුදුක්කරානි
අකා, නමො තස්ස තථාගතස්ස
ධම්මස්ස සඞ්ඝස්ස ච නිම්මලස්ස

සුත්තාභිධම්මෙ විනයෙ ච සබ්බථා
ගම්භීරඤාණෙ සුබුමෙන දස්සිනා
බුද්ධාදිඝොසාචරියාභිසඞ්ඛතං
යං පාතිමොක්ඛස්ස පදත්ථවණ්ණනං

හිතාය සීලෙස්වභිනින්නභික්ඛුනං
භාසාය’හං සීහළදීපකානි’ධ
සංවණ්ණයිස්සාමි යථා බලං මමං
සක්කච්ච සම්මා’ව සුණන්තු සාධවො

පරම පවිත්‍ර ශ්‍රද්ධා-බුද්ධි-වීර්යයෙන් ප්‍රතිමණ්ඩිත වූ, ශීලාචාරාදි ගුණාවහනය කරන්නා වූ, ත්‍රිපිටක පර්යාප්ති ශාසනයෙහි අප්‍රතිහත ප්‍රඥාප්‍රභාව ඇත්තා වූ, මහාවිහාරවාසී තෙරුන් වහන්සේලාගේ ආචාර්ය ප්‍රවේණියට ආභරණයක් වැනි වූ, සුපරිශුද්ධ බුද්ධිප්‍රභාව ඇත්තා වූ, මහාප්‍රාඥ වූ භදන්තාචරිය අනුබුද්ධ බුද්ධඝෝෂ මහාස්ථවිරයන්

වහන්සේ, සුපේශල ශික්ෂාකාමී භික්ෂු-භික්ෂුණීන් හට උභය ප්‍රාතිමෝක්ෂයෙහි හටගන්නා වූ කාංක්ෂා දුරුකරවනු වස් රචනා කරන්නා වූ කඞ්ඛාවිතරණී නම් මේ මාතිකට්ඨකථාව සමාරම්භයේ, රතනත්‍රයප්‍රණාමාභිවන්‍දන පූර්වක වූ '**බුද්ධං ධම්මඤ්ච සඞ්ඝඤ්ච**' යනාදි ගාථා පෙළ දක්වූහ.

අර්ථ ව්‍යාඛ්‍යානය කරන්නාහු,

**"සඤ්ඤා නිමිත්තං කත්තා ච, පරිමාණං පයොජනං**
**සබ්බාගමස්ස පුබ්බෙව, වත්තබ්බං වත්තුමිච්ඡතා"**

යැයි සංඥා ය, නිමිත්ත ය, කර්තෘ ය, ප්‍රමාණය ය, ප්‍රයෝජනය යන අර්ථපඤ්චකය ප්‍රකාශ කොට, තදනන්තරව අර්ථ වර්ණනා කිරීම සාධු සම්මත බැවින්, පළමු කොට ඒ සංඥාද්‍යර්ථපඤ්චකය දක්වම්හ.

**"සංඥා"** නම් :- අභිධානය හෙවත් ප්‍රාරබ්ධ ග්‍රන්ථයෙහි ව්‍යවහාර පහසුව සඳහා තබනු ලබන නාමය යි. සංඥා තොමෝ වනාහි සාමාන්‍ය සංඥාව, විශේෂ සංඥාව යැයි ද්විප්‍රකාර වන්නීය. එහි ලා භික්ෂු-භික්ෂුණී උභය ප්‍රාතිමෝක්ෂයෙහි අන්තර්ගත ශික්ෂාපද හෙවත් මාතිකා පිළිබඳ අර්ථ විවරණය කෙරෙන බැවින් '**මාතිකට්ඨකථා**' යනු සාමාන්‍ය සංඥාව යි. '**කඞ්ඛාවිතරණී**' යනු විශේෂ සංඥාව යි.

**"නිමිත්ත"** නම් :- ග්‍රන්ථය කිරීමට මූලික හේතුව යි. එකී නිමිත්ත කථනය වනාහි සිහිකරන්නා වූ ජනයන්ට ප්‍රකරණයෙහි ගෞරව උපදනා පිණිස වන අතර අභ්‍යන්තර නිමිත්ත, බාහිර නිමිත්ත වශයෙන් ද්විප්‍රකාර වේ. භදන්තාචරිය බුද්ධඝෝෂ ආචාර්යයන්ගේ කරුණා හෘදය මෙම ප්‍රකරණයට අන්තර් නිමිත්ත වන අතර '**භික්ඛූනං**' යනුවෙන් ප්‍රාරම්භ ගාථාවන්හි දක්වා ඇති පරිදි බාහිර නිමිත්ත වශයෙන් භික්ෂූන් ද, ප්‍රකරණාන්තර්ගතානුකූලව භික්ෂුණී ප්‍රාතිමෝක්ෂය පිළිබඳ වර්ණනාව අන්තර්ගත බැවින් භික්ෂුණීන් ද සලකා ගත යුතු.

**"කර්තෘ"** නම් :- ග්‍රන්ථකාරක ආචාර්යයෝ ය. කර්තෘ කථනය පුද්ගල ගරුකයා හට ප්‍රකරණයෙහි ගෞරවය පුද්ගලද්වාරයෙන් නමුදු වන බැවිනි. ග්‍රන්ථාවසානයේ '**පරමවිසුද්ධසද්ධාබුද්ධිවීරියපතිමණ්ඩිතෙන -පෙ- විපුලවිසුද්ධිබුද්ධිනා බුද්ධඝොසො'ති ගරුගහිතනාමධෙය්‍යෙන ථෙරෙන කතායං (කඞ්ඛා, පි.208)**" යනාදි ලෙසින් ප්‍රකට වන **අනුබුද්ධ බුද්ධඝෝෂ මහතෙරුන් වහන්සේ** මෙහි කර්තෘවරයාණෝ ය.

මහාවංශාගතානුසාරයෙන් දඹදිව බෝමැඩ සමීපයේ ඉපිද, ත්‍රිවේදයෙහි පාරප්‍රාප්තව රේවත නම් මහ තෙරුන් වහන්සේ නමක් වෙතින් පැවිදි උපසම්පදව ලැබූ භදන්තාචරිය බුද්ධඝෝෂ මහ තෙරුන් වහන්සේ, සකල ලෝකවාසීන්ට හිත පිණිස ලක්දිව පැවති සීහළට්ඨකථා පාලියට පරිවර්තනය කරනු කැමැත්තෙන් ශ්‍රී බුද්ධ වර්ෂ 953-975 අතර කාලයේ, එනම් ක්‍රි.ව. 410-432 අතර ලක්දිව රජකළ මහානාම රජු දවස ලක්දිවට වැඩම කළහ. මහාවිහාරයෙහි සංඝපාල මහාස්ථවිරයන් වහන්සේ වෙතින් අට්ඨකථා සහිත ත්‍රිපිටක ධර්මය සහ සියලු ස්ථවිරවාද ද හදාරා, විශුද්ධිමාර්ගය නමැති පෞරාණික මහාවිහාරීය භාවනාමාර්ගය සංගෘහිත ග්‍රන්ථය රචනා කොට, ඒ මහාවිහාරවාසී මහාසංඝයාගේ සම්භාවනාවට පාත්‍රව, උන්වහන්සේලා විසින් සමාරාධිතව සීහළට්ඨකථා ශුද්ධ මාගධී භාෂාවට පරිවර්තනය කළහ. සියලු විනය පිටකයට සමන්තපාසාදිකා නම් අර්ථකථාව රචනා කළ ඒ බුද්ධඝෝෂාචාර්යයන් වහන්සේ ම භික්ඛු-භික්ඛුණී උභය ප්‍රාතිමෝක්ෂයට මේ 'කඞ්ඛාවිතරණී' නම් වූ මාතිකාර්ථකථාව ද රචනා කළහ.

එහි ලා '**සොණත්ථෙරෙන යාචිතො**' යැයි සඳහන් වන බැවින් ග්‍රන්ථකරණය පිණිස ආරාධනා කළ මහාවිහාරවාසී සොණ නම් ස්ථවිරයන් වහන්සේ හේතුකර්තෘ වූහ.

"**ප්‍රමාණය**" නම් :- ග්‍රන්ථ පරිච්ඡේද ප්‍රමාණය යි. අධ්‍යයනාදියෙහි යෙදෙන අයට ප්‍රීති උපදනා පිණිස පරිමාණ කථනය වේ. එය ද පරිච්ඡේද ප්‍රමාණය, ග්‍රන්ථ ප්‍රමාණය යනුවෙන් ද්විප්‍රකාර වේ. පරිච්ඡේද ප්‍රමාණය නම් මෙම ප්‍රකාරණයෙහි ලා මූලිකව ම පාරාජිකවණ්ණනා, සඞ්ඝාදිසේසකණ්ඩවණ්ණනා, අනියතවණ්ණනා, නිස්සග්ගියවණ්ණනා, පාටිදේසනීයවණ්ණනා, සෙඛියාවණ්ණනා යනුවෙන් භික්ඛු ප්‍රාතිමෝක්ෂය පිළිබඳ සප්තවිධ වර්ණනාවෝ ය. තදනන්තරව භික්ඛුණී විභඞ්ගවර්ණනාව වේ. ග්‍රන්ථ ප්‍රමාණය වූ කලි ග්‍රන්ථාවසානයේ දැක්වෙන

"**යථා ච තිට්ඨං සම්පත්තා කඞ්ඛාවිතරණී අයං**
**ද්වාවීසතිභාණවාර-පරිමාණාය පාලියා.**" (කඞ්ඛා, පි.204)

යන ගාථාවට අනුව බණවර දෙවිස්සක් පමණ වන බව දත යුතු.

"**ප්‍රයෝජන**" නම් :- ඒ ග්‍රන්ථයෙන් සාධ්‍ය ඵලය යි. ග්‍රන්ථය අධ්‍යයනය කරන්නවුන්ගේ අවධානය පිණිස ප්‍රයෝජන කථනය වන අතර එය ද මුඛ්‍ය හා ආනුෂාංගික වශයෙන් ද්විවිධ ය. "**විනයෙ ජාතකඞ්ඛානං කඞ්ඛාවිතරණත්ථිකො**" යැයි ග්‍රන්ථාවසානයේ ද දැක්වූ බැවින් උභය ප්‍රාතිමෝක්‍ෂයෙහි ලා කාංක්‍ෂා දුරුකරගනු කැමති භික්‍ෂූන්ගේ ඒ කාංක්‍ෂා දුරුකිරීම මෙහි මුඛ්‍ය ප්‍රයෝජනය යි. විනය අධ්‍යයනයෙන් ස්වකීය ශීලස්කන්ධය සපුරාගෙන ශාසනික වශයෙන් සබ්‍රහ්මචාරීන් වහන්සේලා හට විනය දැනුම බෙදදෙමින් ශාසනාභිවෘද්ධිය පිණිස කටයුතු කිරීමෙන් ලැබෙන කවිත්වය, කීර්තිය ආදි ඓහලෞකික ඵලය මෙන් ම, ශීලස්කන්ධය සපුරාගෙන සමථවිදර්ශනා වඩා නිර්වාණාධිගමය පිණිස හේතු වීමත්, ශාසනික වශයෙන් සම්බුද්ධ ධර්මවිනය චිරාත්කාලයක් පවත්වාගෙන යාමට සෙසු සබ්‍රහ්මචාරීන් වහන්සේලාට උපකාර කිරීමෙන් ලැබෙන පුණ්‍ය ඵලය වශයෙන් මතු ස්වර්ගාදි සම්පත් අත්විඳ කෙළවර නිර්වාණාධිගමය කිරීමත් යන පාරලෞකික ඵලය ආනුෂාංගික ප්‍රයෝජනය යි.

## රත්නත්‍රයප්‍රණාමාභිවන්‍දන ගාථා

මෙසේ ඒ සංඥාදි අර්ථ පඤ්චකය සංක්‍ෂේපයෙන් වර්ණනා කොට, තදනන්තරව 'බුද්ධං ධම්මඤ්ච සඞ්ඝඤ්ච' යනාදි රත්නත්‍රයප්‍රණාමාභිවන්‍දනය කෙරෙන ගාථාවන්හි අර්ථය වර්ණනා කරම්හ.

**බුද්ධං ධම්මඤ්ච සඞ්ඝඤ්ච, විප්පසන්නෙන චෙතසා**
**වන්දිත්වා වන්දනාමාන, පූජාසක්කාරභාජනං**

"**වන්දනාමාන පූජාසක්කාරභාජනං බුද්ධං, වන්දනාමාන පූජාසක්කාරභාජනං ධම්මං, වන්දනාමාන පූජාසක්කාරභාජනං සඞ්ඝං විප්පසන්නෙන චෙතසා වන්දිත්වා**" යනුවෙන් පද සම්බන්‍ධය දත යුතු. එහි ලා '**වන්දනාමාන, පූජාසක්කාරභාජනං**' යනු 'බුද්ධං ධම්මං සඞ්ඝං' යන ත්‍රිවිධ රත්නය පිළිබඳව ම තත්තුල්‍යාධිකරණ විශේෂණය යි. අවසන් ගාථාවෙහි එන '**කථයිස්සාමි**' යන අනාගතකාලවාචී උත්තම පුරුෂ ඒකවචන ආඛ්‍යාතය විසින් 'අහං' යනු ආධ්‍යාහාර උක්ත කර්තෘ වේ.

**සන්නය :** (අහං, බුද්ධඝෝෂාචාර්ය නම් මම;) **වන්දනාමාන පූජාසක්කාරභාජනං**, වන්දනා, මානන, පූජා, සත්කාර යන මොවුන්ට

ආධාර ස්ථාන වූ; **බුද්ධං**, සර්වඥයන් වහන්සේ; (**වන්දනාමාන පූජාසක්කාරභාජනං**, වන්දනා, මානන, පූජා, සත්කාර යන මොවුන්ට ආධාර ස්ථාන වූ;) **ධම්මං**, ධර්මරත්නය; (**වන්දනාමාන පූජාසක්කාරභාජනං**, වන්දනා, මානන, පූජා, සත්කාර යන මොවුන්ට ආධාර ස්ථාන වූ;) **සඞ්ඝං**, සංඝරත්නය; **විප්පසන්නෙන**, අර්හත් ආදි වූ අනේකප්‍රකාර ගුණ විශේෂයෙන් අනුස්මරණය කිරීම් වශයෙන් විවිධ විශේෂ වශයෙන් පැහැදුණා වූ; **චෙතසා**, සිතින් (ත්‍රිවිධ ද්වාරයෙන් ම යන අභිප්‍රාය යි); **වන්දිත්වා**, සකසා වැඳ;

**1. විස්තර:** සියලු කුශල ධර්මයන්ට ප්‍රමුඛ වූ, මහත් උදර ගුණ විශේෂයන් ආවහනය කරන්නා වූ, පරම ගම්භීර වූ ප්‍රාතිමෝක්ෂයාගේ අර්ථය වර්ණනා කරනු කැමති බුද්ධඝෝෂාචාර්යපාදයෝ ප්‍රකරණාරම්භයෙහි, '**බුද්ධං ධම්මං**' යන ආදි ක්‍රමයෙන් රත්නත්‍රය ප්‍රණාමාභිවන්‍දනා කිරීමෙන් ස්වකීය චිත්ත සන්තානය පවිත්‍ර කරගනිති. සුපරිශුද්ධ චිත්ත සන්තානය නිශ්‍රය කරගත් ප්‍රඥාව වනාහි තීක්ෂ්ණ, විශදභාවයට පත්වන බැවින් අදහස් කරන ලද වර්ණනාව අවසානය දක්වා ම නොපැකිළව කරගෙන යාමට සමර්ථ වේ. තව ද රත්නත්‍රය ප්‍රණාම කිරීමෙන් ජනිත වන කුශල සම්භාරයාගේ අනිශංස වශයෙන් මේ ප්‍රකරණය කිරීම උදෙසා වන අන්තරායයක් වේ නම් ඒ සියල්ල දුරුව, බාධක රහිතව අදහස් කළ ආකාරයෙන් ම මෙම අර්ථවර්ණනාව කිරීමට හැකි වේවා යැයි පළමුව ත්‍රිවිධරත්නය අභිවන්දනය කළහ.

එහි ලා බුද්ධ ශබ්දය වනාහි "**බුජ්ඣිතා සච්චානී'ති බුද්ධො බොධෙතා පජායා'ති බුද්ධො**" යනාදි නිද්දේස නයින් අර්ථ දත යුතු ය. පිරූ පාරමී බෙලෙන්, ස්වකීය ස්වයම්භූඥානයෙන් අශ්වත්ථ බෝධිද්‍රැම මූලයේ දී සවාසන සකල ක්ලේශයන් නිරවශේෂයෙන් ප්‍රහාණය කරන ලද, මහාකරුණා, සර්වඥතාඥානාදි අප්‍රමේය ගුණස්කන්‍ධයෙන් යුක්ත වූ ස්කන්‍ධ සන්තානය සංක්ෂිප්ත වශයෙන් **බුද්ධ** යැයි දත යුතු.

**ධම්ම** ශබ්දයෙන් සපර්යාප්තික නව ලෝකෝත්තර ශ්‍රී සද්ධර්මය අදහස් වේ. එනම් සතර මාර්ගඥානයෝ ද සතර ඵලඥානයෝ ද ඊට අනුකූල බැවින් පර්යාප්ති ධර්මය ද **ධම්ම** නම් වේ. ඒ ධර්මරත්නය ද අභිවන්දනය කෙරේ. මෙහි ලා 'ච' ශබ්දය සමුච්චයාර්ථවාචී වේ. එනම් බුද්ධරත්නය වන්දනා කිරීමත් සමඟ ධර්මරත්නය වන්දනා කිරීම ද එකතු කිරීම යි.

**සඞ්ඝ** යන්නෙන් අෂ්ටාර්‍ය පුද්ගල මහාසංඝරත්නය අදහස් වේ. එහෙයින් **'තෙහි තෙහි වා මග්ගඵලෙහි කිලෙසදරථානං, සමුච්ඡෙදපටිප්පස්සම්භනවසෙන සම්මදෙව සඞ්ඝාතත්තා සඞ්ඝො (කඞ්ඛා.ටී, පි.02)'** යැයි කියන ලදී. එතකුදු වුවත් පෘථග්ජන සංඝයා නමුදු පූර්වභාග ප්‍රතිපදවෙහි සිටි බැවින් **සඞ්ඝ** යන්නට අයත් වේ. ඒ මහාසංඝරත්නය ද අභිවන්දනය කෙරේ.

මෙම ත්‍රිවිධරත්නය පිළිබඳව විශේෂණ වශයෙන් **'වන්දනාමාන, පූජාසක්කාරභාජනං'** යැයි කියන ලදී. එය වෙන වෙනම බුද්ධං, ධම්මං, සඞ්ඝං යන ත්‍රිවිධරත්නයෙහි ම යෙදිය යුතු වේ. ඒ ත්‍රිවිධරත්නය ම අර්හත් ආදි අනේකප්‍රකාර ගුණ විශේෂයන් ස්මරණය කිරීම් වශයෙන් විවිධ වූ ද විශේෂ වූ ද පැහැදුණා වූ ද මනසින් යුතුව කාය වාග් ද්වාරයන්ගෙන් අභිවන්දනය කොට මේ ප්‍රකරණය අරඹන බව **'විපසන්නෙන චෙතසා වන්දිත්වා'** යි කී නියා ය. එනම් 'ත්‍රිවිධද්වාරයන්ගෙන් ම නමස්කාර කොට' යන අර්ථය යි.

මෙසේ ග්‍රන්ථ ප්‍රාරම්භයෙහි රත්නත්‍රයප්‍රණාමාභිවන්දනය කොට තදනන්තරව තමන් වහන්සේගේ නිශ්‍රයභූත වූ අර්ථකථාචාර්යයන් වහන්සේලාට ද ප්‍රණාම දක්වනුයේ **'ථෙරවංසප්පදීපානං'** යනාදිය ඇරඹූහ.

**ථෙරවංසප්පදීපානං, ථිරානං විනයක්කමෙ**
**පුබ්බාචරියසීහානං, නමො කත්වා කතඤ්ජලි.**

**සඃ ථෙරවංසප්පදීපානං**, ස්ථවිර වංශයෙහි දල්වන ලද ප්‍රදීපයන් සේ බබලන්නා වූ; **විනයක්කමෙ**, අනේකවිධ වූ විනය ක්‍රමයෙහි; **ථිරානං**, ස්ථිර වූ; **පුබ්බාචරියසීහානං**, පූර්වාචාර්ය ශ්‍රේෂ්ඨයන් හට; **කතඤ්ජලි**, කරන ලද ඇඳිලි බැඳීම් ඇතිව (ඇඳිලි බැඳ); **නමො කත්වා**, නමස්කාර කොට;

**2. විඃ** මෙහි ලා පූර්වාචාර්යයෝ නම්, ලංකාද්වීපවාසී පුරාණ අර්ථකථාචාර්යයන් වහන්සේලා වෙති. උන්වහන්සේලා කෙබඳු වෙත් ද යන්න **ථෙරවංසප්පදීපානං** යැයි දක්වේ. **'ථිරෙහි සීලක්ඛන්ධාදීහි සමන්නාගතා'ති ථෙරා (කඞ්ඛා.ටී, පි.03)'** යනුවෙන් මහාකාශ්‍යප මහරහතන් වහන්සේ ආදීහු 'ථෙර' යැයි අදහස් කරන ලදී. ඒ තෙරුන් වහන්සේලාගේ වංශයට පර්යාපන්න වූ ආගමාධිගම සම්පන්න බැවින්

ප්‍රඥලෝකයෙන් ඒ ස්ථවිර වංශය බබුලුවන බැවින් **ථෙරවංසප්පදීපා** නම් වේ. ඒ ස්ථවිර වංශය බබුලුවන්නා වූ පූර්වාචාර්යයෝ වනාහි විනය ක්‍රමයෙහි හෙවත් විනය පිටකයෙහි ස්ථිරව පිහිටියාහුය. මෙහි **'විනයක්කමෙ'** යන්න මේ ප්‍රකරණය ඇරඹීමට අනුරූප වචනයක් ලෙස යොදන ලද අතර උන්වහන්සේලා සූත්‍රාභිධර්මයන්හිදු සුස්ථිර වූවෝ ම ය.

පළමුව රත්නත්‍රය ප්‍රණාමාභිවන්දනයෙන් අන්තරාය නිවාරණය කොට තදනන්තරව පූර්වාචාර්යයන් වහන්සේලාට ප්‍රණාම දක්වීමෙන් උපකාරානුස්මෘති දක්වා ඉක්බිති සංවර්ණනා කළ යුතු ධර්මයාගේ අභිධානානිශංසය ද දේශක සම්පත්තිය ද දක්වනුයේ **පාමොක්ඛං** යනාදිය කීහු.

**පාමොක්ඛං අනවජ්ජානං, ධම්මානං යං මහෙසිනා**
**මුඛං මොක්ඛප්පවෙසාය, පාතිමොක්ඛං පකාසිතං.**

**සඃ මහෙසිනා**, මහර්ෂී වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ විසින්; **අනවජ්ජානං ධම්මානං,** නිරවද්‍ය වූ සමාධි ප්‍රඥ සංඛ්‍යාත පරිත්ත මහද්ගත ලෝකෝත්තර කුශල ධර්මයන්ට; **පාමොක්ඛං,** ප්‍රමුඛ වූ නොහොත් ආදි ප්‍රතිෂ්ඨාව වූ; **මොක්ඛප්පවෙසාය,** නිර්වාණාධිගමය පිණිස; **මුඛං,** දොරටුවක් බඳු වූ; **යං පාතිමොක්ඛං,** යම්බඳු වූ ප්‍රාතිමෝක්ෂය; **පකාසිතං,** ප්‍රකාශ කරන ලදී.

**3. විඃ** '**මහන්තෙ සීලාදිකෙ පඤ්ච ධම්මක්ඛන්ධෙ එසි ගවෙසී'ති මහෙසී** (**කඞ්ඛා.ටී,** පි.04)' යනුවෙන් මහත් වූ හෙවත් පූජ්‍ය වූ ශීලාදි පඤ්ච ප්‍රකාර ධර්මයන් ඒෂණය ගවේෂණය කළ බැවින් සම්මා සම්බුදුරජාණන් වහන්සේ 'මහෙසී' නම් වන සේක. නැතහොත් **'මහන්තෙහි එසිතො'ති මහෙසී (කඞ්ඛා.ටී,** පි.04)' යනුවෙන් දැක්වෙන පරිදි මහත්වූවන් (උත්තමයන්) විසින් සේවනය කරන ලද බැවින් 'මහෙසී' වේ. එසේ මහර්ෂී වූ බුදුරජාණන් වහන්සේ විසින් ප්‍රාතිමෝක්ෂය දේශනා කරන ලදී. එනම් සප්ත ආපත්තිස්කන්ධ සංඛ්‍යාත ශික්ෂාපද ශීලයත්, තදුද්දීපනය කරන්නා වූ උභතො විභඞ්ග සූත්‍ර සංඛ්‍යාත වූ ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂයත් වදාළ සේක. එකී ප්‍රාතිමෝක්ෂය වනාහි නිරවද්‍ය හෙවත් දෝෂ ප්‍රතිපක්ෂ වූ සමාධි, ප්‍රඥ සංඛ්‍යාත පරිත්ත, මහද්ගත, ලෝකෝත්තර කුශල ධර්මයන්ට ප්‍රමුඛ වේ. එනම් ප්‍රධාන වේ. **'සීලෙ පතිට්ඨාය නරො සපඤ්ඤො චිත්තං පඤ්ඤඤ්ච**

**භාවයං** (සංනි. 1, පි.26)' යැයි වදළේ ද එබැවිනි. තව ද ඒ ප්‍රාතිමෝක්ෂය වනාහි නිර්වාණ සාක්ෂාත්කරණය පිණිස දොරටුවක් බැවින් '**මුඛං මොක්ඛප්පවෙසාය**' යි කීහ. යම් සේ සත්ත්වයන්ගේ ඛාද්‍ය, භොජ්‍ය ආදි චතුර්විධ වූ ම ආහාර මුඛයෙන් පිවිස අංග ප්‍රත්‍යංගයන්හි පැතිරේ ද එසේ ම භික්ෂුවගේ ද චතුර්භූමක කුශලය ශීල මුඛයෙන් පිවිස අර්ථසිද්ධිය සම්පාදනය කරයි. එබැවින් භාග්‍යවතුන් වහන්සේ '**අවිප්පටිසාරානි ඛො ආනන්ද කුසලානි සීලානි** (අංනි. 6, පි.02)' යැයි වදාළ සේක. මෙසේ සංවර්ණනා කළ යුතු ධර්මයාගේ අභිධානය ආනිශංසාදිය දක්වා තදනන්තරව මේ සංවර්ණනාවගේ නිමිත්ත හෙවත් හේතුව දක්වනු පිණිස '**සුරතෙන නිවාතෙන**' යනාදිය කීහ.

**සුරතෙන**[1] **නිවාතෙන, සුචිසල්ලෙඛවුත්තිනා**
**විනයාචාරයුත්තෙන, සොණත්ථෙරෙන යාචිතො.**

**සඃ සුරතෙන**, ශෝභන කාය-වාක් කර්මයන්හි ඇලුණා වූ; **නිවාතෙන**, මානාදිය රහිත යටහත් පැවැතුම් ඇත්තා වූ; **සුචිසල්ලෙඛවුත්තිනා**, පවිත්‍ර වූ කෙලෙස් ලියාහැරීමේ සමර්ථ ප්‍රතිපදාවන්ගෙන් සමන්විත වූ; **විනයාචාරයුත්තෙන**, චාරිත්‍රවාරිත්‍ර ශීලයෙන් සම්පන්න වූ; **සොණත්ථෙරෙන යාචිතො**, සොණ නම් ස්ථවිරයන් වහන්සේ විසින් අභියාචනා කරන ලදුයේ,

**4. විඃ** මහාවිහාරවාසී සෝණ නම් ස්ථවිරයන් වහන්සේ නමකගේ ආරාධනය මත මෙම ප්‍රාතිමෝක්ෂ වර්ණනාව සිදුකරන බව මෙම ගාථාවෙන් පැවසේ. එම සෝණ ස්ථවිරයන් වහන්සේ පිළිබඳ ගුණ කථනයක් ඉදිරිපත් කරන බුදුගොස් ඇදුරුපාණෝ, උන්වහන්සේ ශෝභන කාය-වාක් කර්මයන්හි ඇලුණු බැවින් '**සොභනෙ රතො'ති සුරතො**' යැයි කියන ආකාරයෙන් සුරත ගුණයෙන් සමන්වාගත බව පවසත්. එසේ ම යටහත් පැවතුම් ඇති බැවින් නිවාත ගුණයෙන් ද යුතු වෙති. මාන රහිත බැවින් නිවාත පැවතුම් ඇති යැයි පැවසේ. යම් නිවාත පැවැත්මකින් යුත් පුද්ගල තෙමේ නිහතමානී වේ ද **නිහතදප්ප** හෙවත් උඩඟු නො වේ ද පාපිස්නාවක් බඳුව, බිඳුණු අං ඇති වෘෂභයකු බඳුව උපුටාදමන ලද දළ ඇති සර්පයකු බඳුව මෘදු වූ, මොළොක් වූ, සුව එළවන වචන ඇතියේ වෙයි ද එහෙයින් **නිවාතෙන** යැයි

[1] **සූරතෙන**, බෞසංම; මජසං

කියන ලදී. **සුචිසල්ලෙඛවුත්තිනා** යන මෙයින් පවිත්‍ර වූ අල්පේච්ඡ පැවතුම් ඇති, කෙලෙස් ලියාහැරීමේ ප්‍රතිප්‍රදාවෙන් යුතු බව දක්වේ. එනම් මෙයින් ඉන්ද්‍රියසංවර, ප්‍රත්‍යයසන්නිශ්‍රිත, ආජීවපාරිශුද්ධි ශීලය දක්වේ. **විනයාචාරයුත්තෙන** යන්නෙන් ප්‍රාතිමෝක්ෂසංවර ශීලය දක්වන ලදී. මෙසේ නොයෙක් ගුණයන්ගෙන් සමන්වාගත සබ්‍රහ්මචාරීන් වහන්සේ කෙනෙකුන්ගේ ආරාධනය ප්‍රතිබාහනය කළ නො හැක්කේය. එහෙයින් පරම ගම්භීර වූ ප්‍රාතිමෝක්ෂයාගේ අර්ථ වර්ණනාව කරන බව දක්වේ.

මෙසේ ඒ සංවර්ණනාවගේ නිමිති වූ හේතුව දක්වා දැන් එය ශ්‍රවණය කිරීමෙහි ඒ ශ්‍රාවක ජනයා හට ආදර ගෞරව ඉපදවීමට එය ශ්‍රවණය කිරීමෙන් ලැබෙන්නා වූ ප්‍රයෝජන ආදිය දක්වමින් '**තත්‍ථ සඤ්ජාතකඞ්ඛානං**' යනාදි ගාථාව තැබූහ.

**තත්‍ථ සඤ්ජාතකඞ්ඛානං, භික්ඛූනං තස්ස වණ්ණනං**
**කඞ්ඛාවිතරණත්‍ථාය, පරිපුණ්ණවිනිච්ඡයං.**

**මහාවිහාරවාසීනං, වාචනාමග්ගනිස්සිතං**
**කථයිස්සාමි[1] නාමෙන, කඞ්ඛාවිතරණිං සුභන්ති.**

**සඃ තත්‍ථ**, ඒ ප්‍රාතිමෝක්ෂයෙහි ('**යං මහෙසිනා පාතිමොක්ඛං පකාසිතං**' යැයි ඉහත දක්වන ලද ප්‍රාතිමෝක්ෂයෙහි); **සඤ්ජාතකඞ්ඛානං**, හටගත් කාංක්‍ෂා ඇති; **භික්ඛූනං**, භික්‍ෂූන්ගේ; **කඞ්ඛාවිතරණත්‍ථාය**, කාංක්‍ෂා දුරුකිරීම පිණිස; **පරිපුණ්ණවිනිච්ඡයං**, ඛන්‍ධක පරිවාර පදභාජනියාදි වශයෙන් ද, නිදානාදි වශයෙන් ද සියලු සිකපදයන්ට සාධාරණ වූ පිරිපුන් විනිශ්චය ඇත්තා වූ; **මහාවිහාරවාසීනං**, අනුරාධපුර මහාමේඝ වනෝද්‍යානයෙහි පිහිටියා වූ ප්‍රථම ධර්ම සංගායනාවේ පටන් සුපිරිසිදු ථෙරවාදී ධර්මවිනය පෙළ අර්ථකථා සහිතව රැගෙනවිත්, මිහිඳු මහ රහතන් වහන්සේ විසින් ලක්දිවට ගෙනෙන ලද ඒ ථෙරවාදී බුදු දහමේ ප්‍රතිෂ්ඨාපන ස්ථානය වූ, මහාවිහාරවාසී භික්‍ෂූන්ගේ; **වාචනාමග්ගනිස්සිතං**, වාචනා මාර්ගය නිශ්‍රිත කොට ඇත්තා වූ; **සුභං**, අර්ථ, ව්‍යඤ්ජන සම්පන්න බැවින් සුන්දර වූ, ශබ්ද ලක්‍ෂණ වශයෙන්, විනිශ්චය වශයෙන්, ශුභ වූ, පරිශුද්ධ වූ; **නාමෙන කඞ්ඛාවිතරණිං**, ස්වකීය ගුණ නාමය

[1] '**වත්තයිස්සාමි**' මජසං; කඞ්ඛා.ටී; **වණ්ණයිස්සාමි.** කත්‍ථචි

කරණකොටගෙන කඞ්ඛාවිතරණී යන නම් ලද්ද වූ; **තස්ස (පාතිමොක්ඛස්ස)**, ඒ ප්‍රාතිමෝක්ෂයාගේ; **වණ්ණනං**, අර්ථ වර්ණනාව; **කථයිස්සාමි**, කථනය කරන්නෙමි.

**5. වි:** ඉහත '**පාතිමොක්ඛං අනවජ්ජානං**' යන ගාථාවෙහි දක්වන ලද මහර්ෂී වූ බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද ගාම්භීර අර්ථ සහිත ප්‍රාතිමෝක්ෂයෙහි, පද-පදර්ථ විනිශ්චය වශයෙන් භික්‍ෂූන්ට කාංක්‍ෂා හෙවත් සැක ඇති වේ. 'එසේ හටගත් සැක දුරුකරවීම හෙවත් කඞ්ඛාවිතරණය පිණිස ඒ ප්‍රාතිමෝක්ෂයාගේ අර්ථ වර්ණනාව කරන්නෙමි' යැයි සම්බන්ධ වේ. ඒ අර්ථ වර්ණනාව කෙබඳු වේ ද යන්න පිළිබඳව '**පරිපුණ්ණවිනිච්ඡයං**' යනාදිය කීහ. ඒ අනුව ඛන්ධක, පරිවාර, පදභාජනිය යනාදි වශයෙන් අසාධාරණ විනිශ්චය ඇත්තා වූ ද නිදනාදි වශයෙන් සියලු සිකපදයන්ට සාධාරණ සප්තදශාකාර විනිශ්චය ඇත්තා වූ ද ප්‍රාතිමෝක්ෂ වර්ණනාවක් බැවින් පිරිපුන් විනිශ්චයක් ම වේ. හෙ ද හුදෙක් විනිශ්චයක් ම නොව මහාවිහාරවාසී මහතෙරුන් වහන්සේලාගේ විනිශ්චය ඇසුරුකොට ගන්නා ලද්දක් ම වේ. මිහිඳු මාහිමියන් වහන්සේ විසින් ලක්දිවට රැගෙන එන ලද සංගායනාත්‍රයට නංවන ලද අර්ථකථා සහිත ත්‍රිපිටක ධර්මය ථෙරවාදී බුද්ධ ධර්මය වේ. එකී ථෙරවාදී බුදු දහම ලක්දිව ප්‍රතිෂ්ඨාපනය වූයේ අනුරාධපුර මහමෙව්නා උයනේ ඉදි වූ මහාවිහාරය පදනම් කරගෙන ය. ඒ මහාවිහාරවාසී උපතිස්ස, මහාපදුම, මහාසුම්ම ආදි මහතෙරුන් වහන්සේලාගේ වාචනා මාර්ගය ඇසුරුකොට ගෙන මෙම අර්ථවර්ණනාව සිදුකරන බව පැවසීමෙන් අභයගිරිකාදි භින්නලබ්ධික මත ප්‍රතිබාහනය කෙරේ. තව ද මෙහි '**වාචනාමග්ගනිස්සිතං**' යනු මහාවිහාරවාසීන්ගේ සීහළට්ඨකථාව මෙහි ලා ඇසුරුකරගත් බව යි. එසේ සිදුකරනු ලබන වර්ණනාව අර්ථ හා ව්‍යඤ්ජන සම්පන්නභාවයෙන් සුන්දර වූ බැවින් **සුභං** නම් වේ.

තව ද මෙම ගාථාද්වයෙහි ලා '**කඞ්ඛාවිතරණත්ථාය**' යන මෙයින් මේ සංවර්ණනාවගේ ප්‍රයෝජනය දක්වේ. '**පරිපුණ්ණවිනිච්ඡයං**' යන්නෙන් මේ අර්ථ වර්ණ්නාවෙහි ලා නිශ්‍රය විශුද්ධිය ද නිකායාන්තරික ලබ්ධීන්ගෙන් සංකර දෝෂ නොමැති බව ද '**කථයිස්සාමි**' යන්නෙන් ස්වකීය අධ්‍යාශය ද දක්වන්නේ යැයි දත යුතු බව අභිනවටීකාව යි (**කඞ්ඛා.ටී**, පි.06).

මෙසේ **කඞ්ඛාවිතරණී** නම් වූ මෙම ප්‍රාතිමෝක්ෂ අර්ථ වර්ණනාව කරන්නා වූ බුදුගොස් ඇදුරුපාණෝ පළමු ගාථාවෙන් රත්නත්‍රය ප්‍රණාමාභිවන්දනය කොට දෙවන ගාථාවෙන් සිය පූර්වාචාර්යභූත වූ අර්ථකථාචාර්යයන් වහන්සේලා වැඳ අනතුරු ගාථාවෙන් මෙහි අභිධාන ප්‍රයෝජනය හා දේශක සම්පත්තිය දක්වා ඉක්බිති ගාථාවෙන් මේ සඳහා නිමිත්ත වූ හේතුව ද අවසාන ගාථාද්වයෙන් මෙම වර්ණනාවගේ ප්‍රයෝජන හා ඊට නිශ්‍රිතය ද දක්වා ප්‍රාතිමෝක්ෂයාගේ වර්ණනාවට මත්තෙන් එහි පදගතාර්ථය දක්වනු වස් **'තත්‍ථ පාතිමොක්ඛං'** යැයි ඇරඹූහ.

**සඃ තත්‍ථ**, ඒ **"පාතිමොක්ඛං අනවජ්ජානං"** යනාදි ගාථා පදයෙහි; **පාතිමොක්ඛං ඉති**, පාතිමොක්ඛං යනු; **ප අති මොක්ඛං**, ප්‍රභේද වශයෙන් ශීලයන්හි අතිශයින් උතුම් වූ; නැතහොත් 'ප අති මොක්ඛං' යැයි පද බෙදිය යුතු. **අති පමොක්ඛං**, යථෝක්ත අර්ථය ම 'අති පමොක්ඛ' යැයි උපසර්ග සහිතව කියයි. **අතිසෙට්ඨං**, අතිශයින් ශ්‍රේෂ්ඨ වූ; **අතිඋත්තමං**, අතිශයින් උතුම් වූ; **ඉති අත්‍ථො**, යන අර්ථය යි. **ඉති**, මෙසේ; **ඉමිනා වචනත්‍ථෙන**, මෙබඳු වූ ශබ්දර්ථයෙන්; **එකවිධං අපි**, එක්වැදෑරුම් වූයේ ද; **සීලගන්‍ථභෙදතො**, ශීල-ග්‍රන්ථ ප්‍රභේද වශයෙන්; **දුවිධං හොති**, දෙවැදෑරුම් වේ. **තථා හි**, ඒ එසේ මැ යි. **'පාතිමොක්ඛසංවරසංවුතො විහරති' ඉති ච**, පාතිමොක්ඛසංවරසංවුතො විහරති (**පාතිමොක්ඛසංවරසංවුතො**, ප්‍රාතිමෝක්ෂ සංවර ශීලයෙන් සංවෘත හෙවත් ආරක්ෂා කරන ලදුව; **විහරති**, වාසය කරයි) යැයි ද; **'ආදිමෙතං මුඛමෙතං පමුඛමෙතං කුසලානං ධම්මානං, තෙන වුච්චති පාතිමොක්ඛං ඉති ච**, 'ආදිමෙතං මුඛමෙතං -පෙ- පාතිමොක්ඛං' යැයි ද (**එතං**, මේ ප්‍රාතිමෝක්ෂය හෙවත් ශික්ෂාපද ශීලය තෙමේ; **කුසලානං ධම්මානං**, නිරවද්‍ය වූ සමාධි ප්‍රඥා ධර්මයන්ට; **ආදි**, ආදිය හෙවත් පූර්වෝත්පත්තිය වෙයි. **එතං**, මේ ප්‍රාතිමෝක්ෂය තෙමේ; **කුසලානං ධම්මානං**, නිරවද්‍ය වූ සමාධි, ප්‍රඥා ධර්මයන්ට; **මුඛං**, ද්වාරයක් බඳු වෙයි. **එතං**, මේ ප්‍රාතිමෝක්ෂ තෙමේ; **කුසලානං ධම්මානං**, නිරවද්‍ය වූ සමාධි ප්‍රඥා ධර්මයන්ට; **පමුඛං**, ප්‍රධාන වෙයි. **තෙන**, එහෙයින්; **පාතිමොක්ඛං ඉති**, ප්‍රාතිමෝක්ෂය යැයි; **වුච්චති**, කියනු ලැබේ); **ආදීසු**, මේ ආදි පාඨයන්හි; **සීලං**, ශීලය; **පාතිමොක්ඛං ඉති**, ප්‍රාතිමෝක්ෂය යැයි; **වුච්චති**, කියනු ලැබේ. **'උභයානි ඛො පනස්ස පාතිමොක්ඛානි විත්‍ථාරෙන ස්වාගතානි හොන්ති' ඉති ආදීසු**, 'උභයානි ඛො -පෙ- ස්වාගතානි හොන්ති' (**අස්ස**, ඒ භික්ඛුනෝවාදක භික්ෂුවට; **උභයානි පාතිමොක්ඛානි**,

භික්ඛු-භික්ඛුණී උභය ප්‍රාතිමෝක්ෂයෝ; **විත්ථාරෙන**, උභතො විභඞ්ගය හා සමඟ; **ස්වාගතානි**, මොනවට පැමිණෙන ලද්දාහු නොහොත් දන්නා ලද්දාහු; **හොන්ති**, වෙත් ද;) යන ආදීන්හි; **ගන්ථො**, ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය තෙමේ; **පාතිමොක්ඛං ඉති**, ප්‍රාතිමෝක්ෂ යැයි; **වුච්චති**, කියනු ලැබේ. **තත්ථ**, ඒ ශීල-ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂයන් අතරින්; **යො**, යම් භික්ෂුවක්; **තං (සීලං**[1]**)**, ඒ විනය පර්යාපන්න වූ ප්‍රාතිමෝක්ෂ ශීලය; **පාති රක්ඛති**, සමාදන්ව නොකඩකොට රකියි ද; **තං පාතිං**[2], ඒ ප්‍රාතිමෝක්ෂ ශීලයෙහි පිහිටියා වූ (ආරක්ෂා කරන්නා වූ) භික්ෂුව; **මොක්ඛෙති**, නගා නු යි; **ආපායිකාදීහි දුක්ඛෙහි වා**, සතර අපායේ හටගන්නා වූ දුක් සමූහයෙන් හෝ; **අත්තානුවාදාදීහි භයෙහි**, තම ආත්මයට ගැරහීම් ආදි වූ බියෙන්; **මොචයති ඉති**, මුදවයි නු යි; **සීලං**, ශීලය තෙමේ; **පාතිමොක්ඛං**, ප්‍රාතිමෝක්ෂය (නම් වේ). ('පාති' යන්නෙහි රක්ෂණාර්ථ වාචක 'පා' ධාතු යි. 'ති' විභක්ති යි. තදර්ථ සූචනය පිණිස 'පාති' පදය 'රක්ඛති' යනුවෙන් විවරණය කළහ.) **ගන්ථො පන**, ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය තෙමේ; **තස්ස පාතිමොක්ඛස්ස**, ඒ ශීල ප්‍රාතිමෝක්ෂයාගේ; **ජොතකත්තා**, දීපනය කරන (ප්‍රකට කරන) බැවින්; **පාතිමොක්ඛං ඉති**, ප්‍රාතිමෝක්ෂය යැයි; **වුච්චති**, කියනු ලැබේ. **ආදිම්හි වුත්තො**, ආදියෙහි (මුලින්) (අතිසෙට්ඨං යනාදි ලෙස) කියන ලද ; **වචනත්ථො පන**, වචනාර්ථය වනාහි; **උභින්නං අපි**, ශීල ග්‍රන්ථ යන ප්‍රාතිමෝක්ෂ දෙදෙනාහට ම; **සාධාරණො හොති**; සාධාරණ වෙයි. **තත්ථ**, ඒ ශීල, ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂ දෙදෙනා අතරින්, **අයං වණ්ණනා**, මේ කියනු ලබන වර්ණනාව; **සීලපාතිමොක්ඛස්ස අපි**, ශීල ප්‍රාතිමෝක්ෂයාට ද; **ගන්ථපාතිමොක්ඛස්ස අපි**, ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂයාට ද; **යුජ්ජති**, යෙදේ. **ගන්ථෙ හි වණ්ණිතෙ**, ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය වර්ණනා කළ කල්හි; **තස්ස**, ඒ ග්‍රන්ථයාගේ; **අත්ථො**, ශීලය; **වණ්ණිතො එව හොති**, වර්ණනා කරන ලද්දේ ම වෙයි.

## ප්‍රාතිමෝක්ෂය

**6. වි:** මෙසේ රත්නත්‍රය ප්‍රණාමකරණයෙන් ස්වකීය චිත්ත සන්තානය පිරිසිදු කරගෙන දැන් 'ප්‍රාතිමෝක්ෂයාගේ වර්ණනාව කරන්නෙමි' *(පාතිමොක්ඛස්ස වණ්ණනං කථයිස්සාමි)* යැයි කියූ බැවින්

---

[1] **නං සීලං**, කඞ්ඛා.පි.

[2] බුරුම රට ඡට්ඨ සංගායනා මෘදුකාංගගත (මජසං) පිටපතෙහි '**පාතිං**' යන්න දක්නා නොලැබේ. '**පාති රක්ඛති, තං මොක්ඛෙති මොචයති**' යනාදි ක්‍රමයෙනි.

පළමු කොට ම 'පාතිමොක්ඛ' යන වචනය ශබ්දාර්ථ වශයෙන් ද ස්වරූපභේද වශයෙන් ද ග්‍රන්ථභේද වශයෙන් ද උද්දේසවිභාග වශයෙන් ද උද්දෙසපරිච්ඡේද වශයෙන් ද ව්‍යවස්ථාපනය කොට ඒ උදෙසීම් ක්‍රමයෙන් මෙම වර්ණනාව වන්නේ යැයි දැක්වීමට '**තත්‍ථ පාතිමොක්ඛං**' යනාදිය කීහ.

ඒ '**පාතිමොක්ඛං අනවජ්ජානං**' යන ගාථා පදයෙහි දැක්වුණු '**පාතිමොක්ඛං**' යන පදය '**ප අති මොක්ඛං**' යැයි පද බෙදගත යුතු යි. එනම් 'ප්‍රභේද වශයෙන් ශීලයන් කෙරෙහි අතිශයින් උතුම් වූ' යන අර්ථය යි *(අතිමොක්ඛන්'ති පකාරතො අතිවිය සීලෙසු මුඛභූතං. අතිපමොක්ඛන්ති තමෙව පදං උපසග්ගබ්‍යත්තයෙන වදති. අථ වා 'පඅතිමොක්ඛ'න්ති පදච්ඡෙදෙ* - **කඞ්ඛා.ටී,** පි.06). මෙසේ ප්‍රභේද වශයෙන් පද වර්ණනා කොට යළි අර්ථ වශයෙන් දක්වනුයේ '**අතිසෙට්ඨං අතිඋත්තමන්ති අත්‍ථො**' යැයි කියන ලදී.

මෙසේ මෙහි ලා මෙම වචනාර්ථයෙන් ප්‍රාතිමෝක්ෂය එක්වැදෑරුම් වුව ද ශීල-ග්‍රන්ථ යන ප්‍රභේද වශයෙන් දෙවැදෑරුම් වේ. ඒ එසේ මැ යි. '**පාතිමොක්ඛසංවරසංවුතො විහරති**' යැයි ද '**ආදිමෙතං මුඛමෙතං, පමුඛමෙතං කුසලානං ධම්මානං තෙන වුච්චති පාතිමොක්ඛං**' යනාදි තැන්වල ද 'ශීලය' ප්‍රාතිමෝක්ෂය යැයි දැක්වේ. '**පාතිමොක්ඛානි විත්‍ථාරෙන ස්වාගතානි හොන්ති**' යනාදි තැන්වල ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය කියන ලදී.

යම් භික්ෂුවක් විනය පර්යාපන්න ශීලය සමාදන්ව නොකඩකොට රකී ද ප්‍රාතිමෝක්ෂ සංවර ශීලයෙහි පිහිටියා වූ ඒ භික්ෂුව සතර අපායාදියෙහි හටගන්නා වූ දුක් සමූහයෙන් ද නැතහොත් තමාට වන ගැරහීම් ආදි වූ බියෙන් ද මුදවන බැවින් 'ශීලය' ප්‍රාතිමෝක්ෂය නම් වේ. ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය ද ඒ ශීල ප්‍රාතිමෝක්ෂය ම දීපනය (ප්‍රකට කිරීම) කරන බැවින් ප්‍රාතිමෝක්ෂය යැයි කියන ලදී. තව ද යට කියන ලද '**අතිසෙට්ඨං අති උත්තමං**' යනාදි වචනාර්ථය වනාහි ශීල හා ග්‍රන්ථ යන ප්‍රාතිමෝක්ෂ දෙදෙනා හට ම සාධාරණ වේ. එනම් ශීල ප්‍රාතිමෝක්ෂය සියලු ගුණයන් හට මූලය බැවින් ශ්‍රේෂ්ඨ වේ. ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය ශ්‍රේෂ්ඨ ගුණ සහචරණභාවයෙන් ශ්‍රේෂ්ඨ වේ.

ඒ ශීල හා ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය අතරින් මේ කියනු ලබන වර්ණනාව ශීල ප්‍රාතිමෝක්ෂයාට ද ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂයාට ද යන දෙදෙනාට ම

යෙදේ. ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය වර්ණනා කළ කල්හි ශීලය ද වර්ණනා කරන ලද්දේ ම වන බැවිනි. මෙසේ ස්වරූපභේද වශයෙන් ව්‍යවස්ථාපනය කොට දැන් ග්‍රන්ථභේද වශයෙන් නියම කිරීමට '**තං පනෙතං**' යනාදිය දන්වන ලදී.

-2-

**සඃ තං එතං ගන්ථපාතිමොක්ඛං පන**, ඒ මේ ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය වනාහි; **භික්ඛුපාතිමොක්ඛං**, භික්ෂු ප්‍රාතිමෝක්ෂය ය; **භික්ඛුනීපාතිමොක්ඛං ඉති**, භික්ෂුණී ප්‍රාතිමෝක්ෂය යැයි; **දුවිධං හොති**, දෙවැදෑරුම් වෙයි. **තත්ථ**, ඒ දෙවැදෑරුම් ප්‍රාතිමෝක්ෂයන් අතරින් '**සුණාතු මෙ, භන්තෙ, සඞ්ඝො' ඉති ආදිකං**, 'සුණාතු මෙ භන්තෙ සංඝො' යනාදි වූ; **පඤ්චහි උද්දෙසපරිච්ඡෙදෙහි**, පස්වැදෑරුම් උද්දෙස පරිච්ඡේදයන් කරණකොටගෙන; **වවත්ථිතං**, නියම කරන ලද ප්‍රාතිමෝක්ෂය; **භික්ඛුපාතිමොක්ඛං**, භික්ෂු ප්‍රාතිමෝක්ෂය නම් වේ. '**සුණාතු මෙ, අය්‍යෙ' ඉති ආදිකං**, 'සුණාතු මෙ අය්‍යෙ' යනාදි වූ; **චතූහි උද්දෙසපරිච්ඡෙදෙහි**, සතරවැදෑරුම් උද්දේස පරිච්ඡේදයන් කරණකොටගෙන; **වවත්ථිතං**, නියම කරන ලද ප්‍රාතිමෝක්ෂය; **භික්ඛුනීපාතිමොක්ඛං**, භික්ෂුණී ප්‍රාතිමෝක්ෂය නම් වේ.

**තත්ථ**, ඒ දෙවැදෑරුම් ප්‍රාතිමෝක්ෂය අතරින්; **භික්ඛුපාතිමොක්ඛෙ**, භික්ෂු ප්‍රාතිමෝක්ෂයහි; **නිදානුද්දෙසො**, නිදානුද්දේසය ය; **පාරාජිකුද්දෙසො**, පාරාජිකුද්දේසය ය; **සඞ්ඝාදිසෙසුද්දෙසො**, සංඝාදිසෙසුද්දේසය ය; **අනියතුද්දෙසො**, අනියතුද්දේසය ය; **විත්ථාරුද්දෙසො ඉති**, විත්ථාරුද්දේසය යනුවෙන්; **පඤ්ච උද්දෙසා නාම**, පස්වැදෑරුම් උද්දේසයෝ නම් වෙත්. **තත්ථ**, ඒ පස්වැදෑරුම් උද්දේසයන් අතරින්; **නිදානුද්දෙසො නාම**, නිදානුද්දේසය නම්; **"සුණාතු මෙ භන්තෙ සංඝො -පෙ- ආවිකතා හිස්ස ඵාසු හොති. තත්ථායස්මන්තෙ පුච්ඡාමි, කච්චිත්ථ පරිසුද්ධා, දුතියම්පි පුච්ඡාමි, -පෙ- තස්මා තුණ්හී, එවමෙතං ධාරයාමි ඉති වත්වා**, 'සුණාතු මේ භන්තෙ -පෙ- එවමෙතං ධාරයාමි' යැයි කියා; **"උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං" ඉති ආදිනා නයෙන**, 'උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං' යනාදි ක්‍රමයෙන්; **අවසෙසෙ**, සෙසු උද්දේසයන්; **සුතෙන සාවිතෙ**, ශ්‍රැත වශයෙන් (සුත ශබ්දය කරණකොටගෙන) අස්සවන ලද කල්හි; **උද්දිට්ඨො හොති**, (නිදානුද්දේසය) උදෙසන ලද්දේ වෙයි. **පාරාජිකුද්දෙසාදීනං**, පාරාජික

උද්දේස ආදීන්ගේ; **පරිච්ඡෙද**, පිරිසිඳීම; **නිදානස්ස**, නිදාන උද්දේසයාගේ; **ආදිතො පට්ඨාය**, මුල පටන්; **පාරාජිකාදීනි**, පාරාජික උද්දෙස ආදීන්; **ඔසාපෙත්වා**, කෙළවරකොට; **යොජෙතබ්බා**, යෙදිය යුතු ය. **විත්ථාරො**, විත්ථාරුද්දේසය; **විත්ථාරො එව**, විස්තර ම ය (විස්තර වශයෙන් උදෙසිය යුතු ප්‍රාතිමෝක්ෂය ම ය). '**අවසෙසං සුතෙන සාවෙතබ්බං**' **ඉති වචනතො පන**, අවසෙසං සුතෙන සාවෙතබ්බං (**අවසෙසං**, සෙස්ස; **සුතෙන**, ශ්‍රැත වශයෙන්; **සාවෙතබ්බං**, ඇස්සවිය යුතු ය) යන වචනයෙන් වනාහි; **පාරාජිකුද්දෙසාදීසු**, පාරාජික උද්දේස ආදිය අතරින්; **යස්මිං විප්පකතෙ**, යම් උද්දේසයක් අඩාලකළ කල්හි; **අන්තරායො උප්පජ්ජති**, දශවිධ අන්තරායයන් අතරින් යම් අන්තරායයෙක් උපදී ද; **තෙන සද්ධිං**, ඒ අඩාලකළ උද්දේසය ද සමඟ; **අවසෙසං**, සෙසු උද්දේස, **සුතෙන**, ශ්‍රැත වශයෙන් (සුත ශබ්දය කරණකොට); **සාවෙතබ්බං**, ඇස්සවිය යුතු ය. **නිදානුද්දෙසෙ අනිට්ඨිතෙ පන**, නිදානුද්දේසය නොනිමි කල්හි වනාහි; **සුතෙන**, ශ්‍රැත වශයෙන්; **සාවෙතබ්බං නාම නත්ථි**, ඇස්සවිය යුත්තක් (හැක්කක්) නම් නැත්තේය. **භික්ඛුනීපාතිමොක්ඛෙ පන**, භික්ෂුණී ප්‍රාතිමෝක්ෂයෙහි වනාහි; **අනියතුද්දෙසො**, අනියතුද්දේසය; **පරිහායති**, අඩු වේ. **සෙසං**, සෙස්ස; **වුත්තනයං එව**, කියන ලද ක්‍රම ඇත්තේ ම ය.

**එවං**, මෙසේ; **පඤ්චහි චෙව**, පස්වැදෑරුම් වූ ද; **චතූහි ච**, සතරවැදෑරුම් වූ ද; **උද්දෙසපරිච්ඡෙදෙහි**, උද්දේස පරිච්ඡේදයන් කරණකොටගෙන; **වවත්ථිතානං**, නියම කරන ලද්දා වූ; **එතෙසං ද්වින්නං පාතිමොක්ඛානං අපි**, මේ දෙවැදෑරුම් වූ ද (භික්ෂු-භික්ෂුණී) ප්‍රාතිමෝක්ෂයන්ගේ; **අයං සංවණ්ණනා**[1], මේ අර්ථ වර්ණනා තොමෝ; **භවිස්සති**, වන්නීය.

**7. වි:** ස්වරූප වශයෙන් ශීල හා ග්‍රන්ථ යැයි ද්විවිධ වූ ප්‍රාතිමෝක්ෂයන් අතරින් ග්‍රන්ථ ප්‍රාතිමෝක්ෂය වනාහි ග්‍රන්ථභේද වශයෙන් භික්ෂු ප්‍රාතිමෝක්ෂය ය, භික්ෂුණී ප්‍රාතිමෝක්ෂය යැයි දෙවැදෑරුම් වේ. ඒ අතරින් '**සුණාතු මෙ භන්තෙ සංඝො**' යනාදි වූ පස්වැදෑරුම් උද්දේස පරිච්ඡේද කරණකොටගෙන නියම කරන ලද (අසංකරව සිටි) ප්‍රාතිමෝක්ෂය, භික්ෂු ප්‍රාතිමෝක්ෂය නම් වේ. '**සුණාතු මෙ අය්‍යෙ සඞ්ඝො**' යනාදි වූ සතරවැදෑරුම් උද්දේස පරිච්ඡේද

[1] **වණ්ණනා,** මජසං

කරණකොටගෙන නියම කරන ලද ප්‍රාතිමෝක්ෂය, භික්ෂුණී ප්‍රාතිමෝක්ෂය නම් වේ.

ග්‍රන්ථභේද වශයෙන් ඒ ප්‍රාතිමෝක්ෂයාගේ ව්‍යවස්ථාපනය දක්වා අනතුරුව උද්දේස වශයෙන් දක්වේ. භික්ෂු-භික්ෂුණී උභය ප්‍රාතිමෝක්ෂය අතරින් භික්ෂු ප්‍රාතිමෝක්ෂය වනාහි නිදානුද්දේසය, පාරාජිකුද්දේසය, සංඝාදිසේසුද්දේසය, අනියතුද්දේසය සහ විත්ථාරුද්දේසය යැයි උද්දේස පසකින් සමන්විත වේ. '**නිදානස්ස උද්දෙසො නිදානුද්දෙසො**'යි විග්‍රහ කළ පරිදි නිදානයාගේ උදෙසීම නිදානුද්දේසය යි. සෙස්සෙහි ද මෙසේ මැ යි. ඒ පස්වැදෑරුම් උද්දේසයන් අතරින් නිදානුද්දේසය වනාහි,

> **"සුණාතු මෙ භන්තෙ සංඝො -පෙ- ආවිකතා හිස්ස ඵාසු හොති, තත්ථායස්මන්තෙ පුච්ඡාමි, කච්චිත්ථ පරිසුද්ධා, දුතියම්පි පුච්ඡාමි, -පෙ- තස්මා තුණ්හී, එවමෙතං ධාරයාමි."**

යනුවෙන් කියා ඉන් අනතුරුව '**උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං**' යනාදි ක්‍රමයෙන් සෙසු පාරාජික ආදි උද්දේසයන් ශ්‍රැත වශයෙන් අස්සවන ලද කල්හි උදෙසන ලද්දේ වෙයි. එනම් නිදාන පාලිය උදෙසා සෙසු උද්දේසයන් මුළුමනින් ම නොම උදෙසා 'සුත' ශබ්දය කරණකොටගෙන ඇස්සවූ කල්හි, නිදානුද්දේසය උදෙසන ලද්දේ නම් වෙයි. මෙම විවරණයේ '**සුණාතු මෙ භන්තෙ සංඝො -පෙ- ආවිකතා හිස්ස ඵාසු හොති**' යනුවෙන් නිදානුද්දේසයාගේ පිරිසිඳීම දක්වා අනතුරුව පාමොක් උදෙසීමේ දී කිය යුතු '**උද්දිට්ඨං ඛො ආයස්මන්තො ....**' යන මේ පාඨය නොයොදා '**තත්ථායස්මන්තෙ පුච්ඡාමි ....**' යන අනුශ්‍රාවණාදිය ම දක්වන ලදී. එසේ වුව ද පාමොක් උදෙසීමේ දී '**ආවිකතා හිස්ස ඵාසු හොති**' යන්නට අනතුරුව '**උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං, තත්ථායස්මන්තෙ පුච්ඡාමි ....**' යනාදි ක්‍රමයෙන් තුන්යළ දක්වා අනුශ්‍රාවණය කළ යුත්තේ මැ යි දත යුතු. සෙසු උද්දේසයන් 'සුත' ශබ්දය කරණකොටගෙන ඇස්සවීම නම්, සෙසු පාරාජික ආදි උදෙසීම් සතර, "**උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං, සුතා ඛො පනායස්මන්තෙහි චත්තාරො පාරාජිකා ධම්මා -පෙ- අවිවදමානෙහි සික්ඛිතබ්බං**" යනුවෙන් මෙසේ **සුත** ශබ්දය කරණකොටගෙන ඇස්සවීම යි.

මෙසේ පාරාජික ආදි එකිනෙක උද්දේසයන්ගේ පිරිසිඳීම නිදානුද්දේසයාගේ පටන් ඒ එකිනෙක උද්දේස කෙළවරකොට යෙදිය යුතු. ඒ අනුව නිදානුද්දේසයත්, පාරාජිකුද්දේසයත් යන දෙක උදෙසීමෙන් අනතුරුව සෙස්ස ශ්‍රැත වශයෙන් ඇස්සවීමෙන් පාරාජිකුද්දේසය උදෙසන ලද්දේ වෙයි. නිදාන, පාරාජික, සංඝාදිසේස යන උද්දේස තුන ම උදෙසා සෙස්ස ශ්‍රැත වශයෙන් ඇස්සවීම මගින් සංඝාදිසේසුද්දේසය උදෙසන ලද්දේ වෙයි. මේ ආදි ක්‍රමයෙන් සියලු උදෙසීම්වල පිරිසිඳීම දත යුතු.

## කෙටියෙන් පාමොක් උදෙසීම

මහාවග්ගපාළි, උපෝසථක්ඛන්ධකයේ "**පඤ්චිමෙ භික්ඛවෙ පාතිමොක්ඛුද්දෙසා. නිදානං උද්දිසිත්වා අවසෙසං සුතෙන සාවෙතබ්බං** (මහාව.1, පි.270)" යනාදි ලෙස වදාළ හෙයින්, පාරාජික ආදි උද්දේසයන් අතරින් යම් උද්දේසයක් අඩාලකළ කල්හි දශවිධ අන්තරායයන් අතරින් යම් අන්තරායයක් උපදී නම්, ඒ අඩාලකළ උද්දේසය ද සමඟ සෙසු උද්දේසයන් ශ්‍රැත වශයෙන් ඇස්සවිය හැකි වේ. *(අවසෙසං සුතෙන සාවෙතබ්බං)*

### දශවිධ අන්තරාය

(1) **රාජ අන්තරායː** 'භික්ෂූහු උපෝසථය කරන්නෙමු' යැයි හුන් කල්හි රජු පැමිණීම හේතුවෙන් පාමොක් උදෙසීම අඩාල කරන්නට වේ නම් එය රාජ අන්තරාය නම් වේ.

(2) **චොර (සොර) අන්තරායː** සොරු පැමිණීම චෝර අන්තරාය යි.

(3) **අග්ගි (ගිනි) අන්තරායː** ලැව්ගින්නක් හෝ පැමිණීම, නැතිනම් ආවාසයෙහි ගින්නක් හටගැනීමාදිය යි.

(4) **උදක (ජල) අන්තරායː** උපෝසථයට බාධා ඇති වන අන්දමේ වර්ෂාවක් ඇති වීම, ගංවතුර ගැලීම උදක අන්තරාය නම් වේ.

(5) **මනුස්ස අන්තරායː** බොහෝ මිනිසුන්ගේ පැමිණීම ය.

(6) **අමනුස්ස අන්තරායː** භික්ෂුවක් යක්ෂ ග්‍රහණයට ලක්වීම.

(7) **වාළ (සැඩ මෘග) අන්තරායː** ව්‍යාඝ්‍ර ආදි සැඩ මෘගයන් පැමිණීම ය.

(8) **සිරිංසප (සර්ප) අන්තරාය:** භික්ෂුවකට සර්පාදීන් විසින් දෂ්ට කිරීම ය.

(9) **ජීවිත අන්තරාය:** භික්ෂුවක් ගිලන්වීම, කලුරිය කිරීම හෝ වෛරීන් විසින් මරනු පිණිස රැගෙන යාම.

(10) **බ්‍රහ්මචරිය අන්තරාය:** මිනිස්සු එක් භික්ෂුවක් හෝ බොහෝ භික්ෂූන් බඹසරින් චුත කරනු පිණිස රැගෙන යාම බ්‍රහ්මචරිය අන්තරාය නම් වේ.

**ස:** **යස්මා පන**, යම්හෙයකින් වනාහි; **එත්ථ**, මේ දෙවැදෑරුම් ප්‍රාතිමෝක්ෂයන් අතරින්; **භික්ඛුපාතිමොක්ඛං**, භික්ෂු ප්‍රාතිමෝක්ෂය; **පඨමං**, පළමුවෙනි වේ ද; **තස්මා**, එහෙයින්; **තාව**, පළමු කොට, **තස්ස**, ඒ භික්ෂු ප්‍රාතිමෝක්ෂයාගේ; **වණ්ණනත්ථං**, අර්ථ වර්ණනා කරනු පිණිස "**සුණාතු මෙති ආදීනං -පෙ- සුණන්තු මෙ" ඉති**, 'සුණාතු මෙති ආදීනං -පෙ- සුණන්තු මෙ" යන; **ඉදං**, මේ ගය; **වුච්චති**, කියනු ලැබේ.

> **"සුණාතු මෙති ආදීනං පදනං අත්ථනිච්ඡයං**
> **භික්ඛවො සීලසම්පන්නා සික්ඛාකාමා සුණන්තු මෙ" ති.**

**(කඞ්ඛා, පි.02)**

**සුණාතු මෙති ආදීනං පදනං**, "සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අජ්ජුපොසථො ...." යනාදි භික්ෂු ප්‍රාතිමෝක්ෂයේ පැමිණියා වූ සූත්‍ර පදයන්ගේ; **අත්ථනිච්ඡයං**, ආභිධෙය්‍ය මෙන් ම අධිප්පාය අර්ථයාගේ විනිශ්චය; **සීලසම්පන්නා**, පිරිපුන් ශීලයෙන් යුක්ත වූවාහු; **සික්ඛාකාමා**, අධිශීල, අධිචිත්ත, අධිප්‍රඥ සංඛ්‍යාත ත්‍රිවිධ ශික්ෂාවන් කැමති වන්නාහු; **භික්ඛවො**, මහණෙනි, **මෙ සුණන්තු**, මාගේ සමීපයේ අසත්වා; **ඉති**, යනුවෙනි.

**8. වි:** මෙසේ පස් ආකාර වූ ද සතර ආකාර වූ ද උද්දේස පරිච්ඡේදයන්ගෙන් නියම කරන ලද්ද වූ භික්ෂු-භික්ෂුණී උභය ප්‍රාතිමෝක්ෂයාගේ අර්ථ වර්ණනාව මෙතැන් පටන් සිදුවේ. ඒ උභය ප්‍රාතිමෝක්ෂය අතරින් භික්ෂු ප්‍රාතිමෝක්ෂය පළමු කොට වන්නේ ද එහෙයින් පළමුව ඒ භික්ෂු ප්‍රාතිමෝක්ෂයාගේ අර්ථ වර්ණනාව කරනු පිණිස "සුණාතු මෙති ආදීනං -පෙ- සුණන්තු මෙ" යන ගාථාව කියන ලදී. එහි ලා එම ගාථාවගේ භාවාර්ථය නම්:

"**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අජ්ජුපොසථො ....**" යනාදි භික්ෂු ප්‍රාතිමෝක්ෂයේ පැමිණියා වූ සූත්‍ර පදයන්හි ආභිධෙය්‍ය (කිය යුතු) මෙන් ම අධිප්පාය (අදහස) අර්ථයාගේ විනිශ්චය, පරිපුන් සිල් ඇත්තා වූ, අධිශීල, අධිචිත්ත, අධිප්‍රඥා සංඛ්‍යාත ත්‍රිවිධ ශික්ෂාව කැමති වන්නා වූ භික්ෂූහු මාගේ සමීපයේ අසත්වා" යනුවෙනි.

මෙකී ගාථාවෙන්, මෙම අර්ථ වර්ණනාව සකස්කොට ශ්‍රවණය කිරීමෙහි යොදවනු ලැබේ. සියලු ම ශාසන සම්පත්තීහු සකස්කොට ඇසීමට ප්‍රතිබද්ධ කොට ඇත්තාහු වෙත්. මෙහි ලා ද පරිපුන් සිල් ඇත්තා වූ, ශික්ෂාකාමී භික්ෂූන්ගේ ම ගැනීම වනුයේ අන් භික්ෂූන් හට මෙම අර්ථ වර්ණනාවේ පිහිටීමක් නොමැති බැවිනි. ශික්ෂාකාමී නොවූ ඔවුහු විනය නොම ඇසිය යුතු ද නොම පිළිපැදිය යුතු ද වෙත් යැයි හඟිත්. මෙසේ මෙම අර්ථ වර්ණනාවට පිවිසුමක් තබා, අසන්නවුන් සකස්කොට ඇසීමෙහි යොදවා, මෙතැන් පටන් භික්ෂු ප්‍රාතිමෝක්ෂ වර්ණනාව ගෙනහැර දක්වීමට '**එත්ථ**' යැයි ඇරඹූහ.

**සෑ: එත්ථ**, මේ "සුණාතු මෙති ...." යනාදි ගාථා පදයෙහි; **සුණාතු ඉති ඉදං**, 'සුණාතු' යන මෙය; **සවනාණත්තිවචනං**, ඇසීමෙහි අණකිරීම් වචනය යි (*සවණෙ ආණත්තිවචනං සවනාණත්තිවචනං* - **කඞ්ඛා.ටී**, පි.10). **මෙ ඉති**, 'මෙ' යනු; **යො සාවෙති**, යමෙක් අස්සවයි ද (ඇස්සවීම කරයි ද); **තස්ස**, ඔහුට; **අත්තනිද්දෙසවචනං**, තමා දන්වන්නා වූ වචනය යි. **භන්තෙ ඉති**, 'භන්තෙ' යනු; **සගාරවසප්පතිස්සවචනං**, සංඝයා කෙරෙහි ගෞරවයෙන්, බුහුමනින් යුතු වචනය යි. **සඞ්ඝො ඉති**, 'සංඝො' යනු; **පුග්ගලසමූහවචනං**, පුද්ගල සමූහ වාචක ශබ්දය යි. **එතං සබ්බං එව ච**, මේ සියල්ල ම ද; **පාතිමොක්ඛුද්දෙසකෙන**, පාමොක් උදෙසන භික්ෂුව විසින්; **පඨමං**, පළමු කොට; **වත්තබ්බවචනං**, කිව යුතු වචන වේ. **පාතිමොක්ඛුද්දෙසං**, පාමොක් උදෙසීම; **අනුජානන්තෙන භගවතා හි**, අනුදන්නා භාග්‍යවතුන් වහන්සේ විසින් වනාහි; **රාජගහෙ**, රජගහ නුවර දී; **වුත්තං**, වදාළ සේක. **තස්මා**, එහෙයින්; **යො**, යම් භික්ෂුවක්; **පාතිමොක්ඛං උද්දිසති**, පාමොක් උදෙසයි ද; **තෙන**, ඒ උදෙසන භික්ෂුව විසින්; **සචෙ**, ඉදින්; **සඞ්ඝත්ථෙරො හොති**, සංඝ ස්ථවිරයන් වහන්සේ (උදෙසන භික්ෂුව) වෙයි ද; '**ආවුසො' ඉති**, 'ආවුසො' යැයි; **වත්තබ්බං**, කිය යුතු ය. **සචෙ**, ඉදින්; **නවකතරො හොති**, නවකතරයෙක් වෙයි ද, **පාළියං**, පෙළෙහි; **ආගතනයෙන එව**, පැමිණි ක්‍රමයෙන් ම; '**භන්තෙ**'

**ඉති**, 'භන්තෙ' යැයි; **වත්තබ්බං**, කිය යුතු ය. '**ථෙරාධෙය්‍යං**[1] **පාතිමොක්ඛං**' (මහාව.1, පි.278) **ඉති වචනතො**, 'ථෙරාධෙය්‍යං පාතිමොක්ඛං' (**පාතිමොක්ඛං**, ප්‍රාතිමෝක්‍ෂය; **ථෙරාධෙය්‍යං**, ස්ථවිරයන් වහන්සේට අයත් දෙයකි) යනුවෙන් වදරන ලද වචනයාගේ වශයෙන්; **සඞ්ඝත්ථෙරො වා හි**, සංඝ ස්ථවිරයන් වහන්සේ හෝ; **පාතිමොක්ඛං උද්දිසෙය්‍ය**, පාමොක් උදෙසන්නේය. **වා**, එසේත් නැත්තම්; '**අනුජානාමි, භික්ඛවෙ, යො තත්ථ භික්ඛු බ්‍යත්තො පටිබලො, තස්සාධෙය්‍යං පාතිමොක්ඛං**' (මහාව.1, පි.280) **ඉති වචනතො**, 'අනුජානාමි භික්ඛවෙ -පෙ- පාතිමොක්ඛං' (**භික්ඛවෙ**, මහණෙනි; **තත්ථ**, ඒ සංඝ මධ්‍යයෙහි; **යො**, යම්; **බ්‍යත්තො**, ව්‍යක්ත වූ; **පටිබලො**, පාමොක් උදෙසීමෙහි ප්‍රතිබල වූ; **භික්ඛු**, භික්‍ෂුවක් වෙයි ද; **පාතිමොක්ඛං**, ප්‍රාතිමෝක්‍ෂය; **තස්සාධෙය්‍යං**, ඔහුට අයත් දෙයක් ලෙස; **අනුජානාමි**, අනුදනිමි) යනුවෙන් වදරන ලද වචනයාගේ වශයෙන්; **නවකතරො**, නවකතර භික්‍ෂුව (පාමොක් උදෙසන්නේය).

**9. වි:** මෙසේ "**සුණාතු මෙති ආදීනං ....**" යනාදි ලෙස ගෙනහැර දක්වන ලද ගාථා පදයෙහි '**සුණාතු**' යන මේ පදය ඇසීමට අණකරන වචනයකි. පාමොක් උදෙසන භික්‍ෂුව විසින් මෙසේ කිව යුතු යැයි සර්වඥයන් වහන්සේ විසින් වදාළ බැවින් මෙය භාග්‍යවතුන් වහන්සේගේ අණකි. '**මෙ**' යනු පාමොක් උදෙසන භික්‍ෂුව දක්වන්නා වූ වචනය යි. '**භන්තෙ**' යනු සංඝයා කෙරෙහි ගෞරවයෙන් බුහුමනින් යුතු වචනය යි. සංඝරත්නය වනාහි සුපටිපන්නතාදි ගුණ විශේෂයන්ගෙන් යුත් බැවින් උතුම් ය. ගෞරවණීය ය. කීකරු බවට ස්ථානයකි. '**සඞ්ඝො**' යනු පුද්ගල සමූහවාචක ශබ්දයකි. මේ සියල්ලම *(සුණාතු මෙ භන්තෙ සංඝො .... යනාදිය)* පාමොක් උදෙසන භික්‍ෂුව විසින් පළමුකොට කිව යුතු වචන වේ.

> "**අනුජානාමි භික්ඛවෙ පාතිමොක්ඛං උද්දිසිතුං එවඤ්ච පන භික්ඛවෙ උද්දිසිතබ්බං, බ්‍යත්තෙන භික්ඛුනා පටිබලෙන සංඝො ඤාපෙතබ්බො 'සුණාතු මෙ භන්තෙ ...**" (මහාව.1, පි.250)

යනාදි ලෙස පාමොක් උදෙසීම අනුදන්නා ලද භාග්‍යවතුන් වහන්සේ විසින් රජගහ නුවර දී මේ සියල්ල වදාළ සේක. එබැවින් පාමොක් උදෙසන භික්‍ෂුව සංඝ ස්ථවිරයන් වහන්සේ කෙනෙක් වෙත් නම්, ඒ සංඝ ස්ථවිරයන් වහන්සේ විසින් "**සුණාතු මෙ ආවුසො**

[1] **ථෙරාධිකං**, මජසං; බෞසංම, මහාව.1

**සංඝො ....**" යැයි '**ආවුසො**' යන වචනය යොදා කිව යුතු ය. පාමොක් උදෙසන භික්ෂුව නවකතර භික්ෂුවක් වේ නම්, පෙළෙහි ආ ක්‍රමයෙන් ම '**භන්තෙ**' යැයි කිව යුතු ය.

තව ද භාග්‍යවතුන් වහන්සේ විසින් "**ථෙරාධෙය්‍යං පාතිමොක්ඛං**" යනුවෙන් ප්‍රාතිමෝක්ෂය සංඝ ස්ථවිරයන් වහන්සේට අයත් දෙයක් කොට වදාළ බැවින් සංඝ ස්ථවිරයන් වහන්සේ පාමොක් උදෙසීම කරන්නේය. එසේ නැති නම් "**අනුජානාමි භික්ඛවෙ යො තත්‍ථ -පෙ- පාතිමොක්ඛං**" *(මහණෙනි, ඒ සඟමැද යම් ප්‍රතිබල භික්ෂුවක් පාමොක් උදෙසීමට ව්‍යක්ත වේ නම්, ප්‍රාතිමෝක්ෂය ඔහුට අයත් දෙයකැයි අනුදනිමි)* යනුවෙන් වදාළ වචනයට අනුව නවකතර භික්ෂුවක් වුව ද පාමොක් උදෙසන්නේය. ඊට අනුරූපව ව්‍යක්ත තරුණ භික්ෂුවට ද ප්‍රාතිමෝක්ෂය උදෙසීම අනුදන්නා ලදී. එසේ වුව ද එහි අදහස වන්නේ 'සංඝ ස්ථවිර භික්ෂූන් වහන්සේ හට පාමොක් උදෙසීම් පස ම හෝ සතරක් හෝ තුනක් හෝ කටපාඩමින් නො පැමිණෙන්නේ ද උදෙසීම් දෙකක් අඛණ්ඩව, සුවිශදව කටපාඩමින් පවතී ද ප්‍රාතිමෝක්ෂය ස්ථවිරයන් වහන්සේ සතු වූවකි. යම්හෙයකින් එපමණකුදු ප්‍රකට නො වේ ද පාමොක් උදෙසීම ව්‍යක්ත භික්ෂුවට ම අයත් වන්නේය' යන්න යි. මෙසේ 'සඞ්ඝ' පදය අවිශේෂයෙන් දක්වා ඉන් අනතුරුව මේ පාමොක් උදෙසීමෙහි අදහස් කරන ලද අර්ථය ගෙනහැර දක්වනු වස් නැවතත් "**සංඝොති ඉමිනා පදෙන ....**" යැයි දක්වන ලදී.

**සඃ** '**සඞ්ඝො**' **ඉති ඉමිනා පන පදෙන**, සංඝො යන මේ පදයෙන්; **කිඤ්චාපි**, එක්තරා විදිහකට; **අවිසෙසතො**, අවිශේෂයෙන්; **පුග්ගලසමූහො වුත්තො**, පුද්ගල සමූහයා කියන ලදී. **අථ ඛො**, තව ද; **සො**, ඒ සංඝ තෙමේ; **දක්ඛිණෙය්‍යසඞ්ඝො**, දක්ඛිණෙය්‍ය සංඝයා ය; **සම්මුතිසඞ්ඝො ච ඉති**, සම්මුති සංඝයා ද යැයි; **දුවිධො හොති**, දෙවැදෑරුම් වේ. **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් සංඝයා අතරින්; **දක්ඛිණෙය්‍යසඞ්ඝො ඉති**, දක්ඛිණෙය්‍ය සංඝ යනු; **අට්ඨඅරියපුග්ගලසමූහො**, අෂ්ටාර්ය පුද්ගල සමූහයා; **වුච්චති**, කියනු ලැබේ. **සම්මුතිසඞ්ඝො ඉති**, සම්මුති සංඝයා යනු; **අවිසෙසෙන**, ආර්ය යැයි හෝ පෘථග්ජන යැයි හෝ විශේෂයක් නොදක්වා අවිශේෂයෙන්; **භික්ඛුසමූහො**, භික්ෂු සමූහයා වේ. **ඉධ**, මේ උපෝසථ ඤත්තියෙහි; **සො**, ඒ සම්මුති සංඝ තෙමේ; **අධිප්පෙතො**, අදහස් කරන ලදී. **සො පනෙස**, ඒ සම්මුති සංඝ තෙමේ වනාහි; **කම්මවසෙන**, විනය

කර්ම වශයෙන්; **චතුවග්ගො**, චතුර්වාර්ගික සංඝයා ය; **පඤ්චවග්ගො**, පඤ්චවාර්ගික සංඝයා ය; **දසවග්ගො**, දශවාර්ගික සංඝයා ය; **වීසතිවග්ගො**, විංශද්වාර්ගික සංඝයා ය; **අතිරෙකවීසතිවග්ගො ඉති**, අතිරේක විංශද්වාර්ගික සංඝයා ය යැයි; **පඤ්චවිධො හොති**, පස්වැදැරුම් වේ. '**චතුන්නං වග්ගො සමුහොති චතුවග්ගො, චතුපරිමාණයුත්තො වා වග්ගො චතුවග්ගො** (කඞ්ඛා.ටී, පි.12)' යන ක්‍රමයෙන් විග්‍රහය දත යුතු.

-3-

**තත්ථ**, ඒ පස්වැදැරුම් සංඝයා අතරින්; **චතුවග්ගෙන**, චතුර්වාර්ගික සංඝයා සමඟ (විසින්); **උපසම්පදපවාරණඅබ්භානානි**, උපසම්පදා විනය කර්ම, පවාරණ විනය කර්ම, අබ්භාන කර්ම යන විනය කර්මයන්; **ඨපෙත්වා**, හැර; **සබ්බං සඞ්ඝකම්මං**, සියලු සංඝ විනය කර්ම; **කාතුං වට්ටති**, කිරීමට සුදුසු ය. **පඤ්චවග්ගෙන**, පඤ්චවාර්ගික සංඝයා සමග (විසින්); **මජ්ඣිමෙසු ජනපදෙසු**, මධ්‍යම ජනපදයන්හි; **උපසම්පදඤ්ච**, උපසම්පදාව ද; **අබ්භානඤ්ච**[1], අබ්භාන විනය කර්මය ද; **ඨපෙත්වා**, හැර; **සබ්බං සඞ්ඝකම්මං**, සියලු සංඝ විනය කර්ම; **කාතුං වට්ටති**, කිරීමට සුදුසු ය. **දසවග්ගෙන**, දශවාර්ගික සංඝයා විසින්; **අබ්භානකම්මමත්තං**, අබ්භාන කර්මය පමණක්; **ඨපෙත්වා**, හැර; **සබ්බං සඞ්ඝකම්මං**, සියලු සංඝ විනය කර්ම; **කාතුං වට්ටති**, කිරීමට සුදුසු ය. **වීසතිවග්ගෙන**, විංශද්වාර්ගික භික්ෂු සංඝයා විසින්; **කිඤ්චි සඞ්ඝකම්මං**, කිසිදු සංඝ විනය කර්මයක්; **කාතුං** කිරීමට; **න වට්ටති න**, නුසුදුසු නො වේ ය. **අතිරෙකවීසතිවග්ගෙන**, අතිරේක විංශද්වාර්ගික සංඝයා විසින්; **තථා**, එසේ ම ය. *(කිසිදු විනය කර්මයක් කිරීමට නුසුදුසු නො වේ ය).* **සො පන**, ඒ අතිරේක විංශද්වාර්ගික සංඝ තෙමේ වනාහි; **චතුවග්ගාදිනා සඞ්ඝෙන**, චතුර්වාර්ගික ආදි භික්ෂු සංඝයා විසින්; **කත්තබ්බං කම්මං**, කළ යුතු විනය කර්ම; **ඌනකතරෙන**, ඒ චතුර්වාර්ගික ආදි සංඝයාට අඩු සංඝයා සහිතව; **කාතුං න වට්ටති**, කිරීමට නුසුදුසු ය. **අතිරෙකෙන පන**, ඒ චතුර්වාර්ගික ආදි සංඝයාට වැඩි සංඝයා විසින් වනාහි; **වට්ටති ඉති**, වටනේ යැයි; **දස්සනත්ථං**, දැක්වීම පිණිස; **වුත්තො**, කියන ලදී. **ඉමස්මිං පන අත්ථෙ**, මෙම අර්ථයෙහි වනාහි (උපෝසථයෙහි); **චතුවග්ගං උපාදය**, චතුර්වාර්ගික සංඝයා පටන්; **සබ්බොපි**

[1] අබ්භානකම්මඤ්ච, මජසං

**සම්මුතිසඞ්ඝො,** සියලු ම සම්මුති සංඝයා; **අධිප්පෙතො,** අදහස් කරන ලදී.

**10. වි:** මෙසේ අවිශේෂයෙන් පුද්ගල සමූහය අර්ථවත් කරන ලද 'සඞ්ඝ' පදය 'දක්ඛිණෙය්‍ය' සංඝ හා සම්මුති සංඝ යැයි දෙවැදෑරුම් වේ. මෙහි දක්ඛිණෙය්‍ය සඞ්ඝ යන්නෙන් අෂ්ටාර්ය පුද්ගල සමූහය අදහස් වේ. සම්මුති සඞ්ඝ යන්නෙන් ආර්ය හෝ පෘථග්ජන හෝ විශේෂයක් නොදක්වා අවිශේෂයෙන් භික්ෂු සමූහයා අදහස් වේ. මෙම උපෝසථ ඤත්තියෙහි ලා අදහස් කරන ලද්දේ එකී සම්මුති සංඝයා වේ. එම සම්මුති සංඝ තෙමේ විනය කර්ම වශයෙන් චතුර්වාර්ගික සංඝ, පඤ්චවාර්ගික සංඝ, දශවාර්ගික සංඝ, විංශද්වාර්ගික සංඝ, අතිරේක විංශද්වාර්ගික සංඝ යනුවෙන් පස්වැදෑරුම් වේ.

මෙහි ලා අතිරේක විංශද්වාර්ගික සංඝයා විසින් ද සියලු විනය කර්මයන් කළ හැකි බැවින් කවර අර්ථයකින් අතිරේක විංශද්වාර්ගික සංඝයා වෙනම දේශනා කරන ලද්දේ දැයි දක්වීමට '**සො පන ....**' යැයි කීහ. එනම් චතුර්වාර්ගික ආදි සංඝයා විසින් කළ යුතු විනය කර්ම ඊට අඩු සඟපිරිසක් සමඟ සිදුකළ නොහැකි බවත් අතිරේක සඟපිරිසක් සමඟ කළ හැකි බවත් දක්වීම පිණිස වේ. ඒ අනුව චතුර්වාර්ගික සංඝයා විසින් කළ යුතු විනය කර්ම පඤ්චවාර්ගික ආදි සංඝයා විසින් ද කළ හැකි වේ. එහෙත් පඤ්චවාර්ගික සංඝයා විසින් කළ යුතු විනය කර්මය චතුර්වාර්ගික සංඝයා විසින් කළ නොහැක්කේ ම ය. සෙසු සංඝයා කෙරෙහි ද මේ ක්‍රමයට ම ගත යුතු ය. මෙසේ 'සඞ්ඝ' පදය අර්ථ විවරණය කර ඉක්බිති උපෝසථය පිළිබඳ විවරණ ගෙනහැර දක්වනු වස් "**අජ්ජුපොසථො'ති ....**" යනාදිය කීහ.

**සං: අජ්ජුපොසථො ඉති,** 'අජ්ජුපොසථො' යනු; **අජ්ජ,** අද දින; **උපොසථදිවසො,** උපෝසථ දිනය යි. **එතෙන,** ඒ 'අජ්ජුපොසථො' යන්න කරණකොටගෙන; **අනුපොසථදිවසං,** උපෝසථ නොවන දිනය; **පටික්ඛිපති,** ප්‍රතික්ෂේප කරයි. **පණ්ණරසො ඉති ඉමිනා,** 'පණ්ණරසො' යන මෙයින් (මේ ශබ්දය කරණකොටගෙන); **අඤ්ඤං,** අන්‍ය වූ; **උපොසථදිවසං,** උපෝසථ දිනය; **පටික්ඛිපති,** ප්‍රතික්ෂේප කරයි. **දිවසවසෙන හි,** දවස වශයෙන් වනාහි; **චාතුද්දසිකො,** චාතුද්දසිකය (තුදුස්වක්) ය; **පණ්ණරසිකො,** පණ්ණරසිකය (පුණුරැසි) ය; **සාමග්ගිඋපොසථො ඉති,** සාමග්ගි උපෝසථය යැයි; **තයො උපොසථා,**

උපෝසථයෝ තුන්දෙනෙක් වෙත්. **එවං**, මෙසේ; **තයො උපොසථා**, උපෝසථයෝ තුන්දෙනෙක්; **වුත්තා**, වදරන ලද්දාහු වෙත්. **තත්‍ථ**, ඒ ත්‍රිවිධ උපෝසථයන් අතරින්; **හෙමන්තගිම්හවස්සානානං**, හේමන්තය, ගිම්හානය, වස්සානය යන; **තිණ්ණං උතූනං**, තුන් ඍතුන්ගේ; **තතියසත්තමපක්ඛෙසු**, තුන්වන සහ සත්වන පක්ෂයන්හි; **ද්වෙ ද්වෙ කත්‍වා**, දෙකක් දෙකක් කොට; **ඡ චාතුද්දසිකා**, චාතුද්දසික උපෝසථයෝ සදෙනෙක් වෙති. **අවසෙසා**, අවශේෂ උපෝසථයෝ; **අට්ඨාරස**, අටළොස; **පණ්ණරසිකා ඉති**, පණ්ණරසික උපෝසථයෝ යැයි; **එවං**, මෙසේ; **එකසංවච්ඡරෙ**, එක් වසරෙක්හි; **චතුවීසති උපොසථා**, උපෝසථයෝ විසිහතර දෙනෙක් වෙත්. **තාව**, පළමුකොට; **ඉදං**, මෙම පොහොය කිරීම; **පකතිචාරිත්තං**, ප්‍රකෘති වශයෙන් කරනු ලබන චාරිත්‍රය යි. '**අනුජානාමි, භික්ඛවෙ, සකිං පක්ඛස්ස චාතුද්දසෙ වා පණ්ණරසෙ වා පාතිමොක්ඛං උද්දිසිතුං**' **(මහාව.1, පි.254) ඉති වචනතො පන**, 'අනුජානාමි භික්ඛවෙ -පෙ- උද්දිසිතුං' (**භික්ඛවෙ**, මහණෙනි; **පක්ඛස්ස සකිං**, පක්ෂයකට වරක්; **චාතුද්දසෙ වා**, තුදුස්වක් දිනයෙහි හෝ; **පණ්ණරසෙ වා**, පුණුරුසි දිනයෙහි හෙවත් පසළොස්වක දින හෝ; **පාතිමොක්ඛං උද්දිසිතුං**, පාමොක් උදෙසීමට; **අනුජානාමි**, අනුදනිමි) යැයි වදාළ වචනයාගේ වශයෙන්; **ච**, එසේ ම; '**ආගන්තුකෙහි ආවාසිකානං අනුවත්තිතබ්බං**' **(මහාව.1, පි.330) ඉති ආදි වචනතො**, 'ආගන්තුකෙහි ආවාසිකානං අනුවත්තිතබ්බං' (**ආගන්තුකෙහි**, ආගන්තුක භික්ෂූන් විසින්; **ආවාසිකානං**, ආවාසික භික්ෂූන්ට; **අනුවත්තිතබ්බං**, අනුවර්තනය විය යුතු ය) යනාදි වචනයාගේ වශයෙන්; **තථාරූපපච්චයෙ සති**, එබඳු වූ කරුණක් ඇති කල්හි; **අඤ්ඤස්මිං**, අන්‍ය වූ; **චාතුද්දසෙ අපි**, තුදුස්වක් දිනයෙහි ද; **උපොසථං කාතුං**, උපෝසථය කිරීමට; **වට්ටති**, සුදුසු ය.

**11. වි:** "**අජ්ජුපොසථො**" යනු 'අදි දින උපෝසථ දවස' යන්න යි. මෙම 'අජ්ජුපොසථො' යන වචනය යෙදීමෙන් උපෝසථ නොවන දිනයන්හි පොහොය කිරීම වළකනු ලබයි. '**උපවසන්ති එත්‍ථා'ති උපොසථො**' යනු නිරුක්ති වේ. මෙම උපෝසථ ශබ්දය ප්‍රාතිමෝක්ෂ උද්දේස, ශීල, උපවාස, ප්‍රඥප්ති, දවස් යන අර්ථයන්හි වැටේ.

දවස වශයෙන් උපෝසථය ත්‍රිවිධාකාර වේ. එනම් චාතුද්දසිකය, පණ්ණරසිකය, සාමග්ගි උපෝසථය යනුවෙනි. ඒ ත්‍රිවිධ උපෝසථයන් අතරින් හේමන්ත, ගිම්හාන, වස්සාන යන ඍතුන්ගේ තුන්වන සහ

සත්වන පක්‍ෂයන්හි දෙක බැගින් චාතුද්දසික උපෝසථයන් සය (6) කි. අවශේෂ උපෝසථ අටළොස (18) පණ්ණරසික උපෝසථයෝ යැයි මෙසේ එක් වසරකට උපෝස්ථ දින විසිහතර (24) කි.

මෙහි ලා ඉල් මස අවපක්‍ෂයේ පටන් හෙවත් ඉල් පසළොස්වක පොහෝ දිනට පසු දිනය වන අවපෑළවිය පටන්, මැදින් පුර පසළොස්වක පොහෝ දින දක්වා හේමන්ත ඍතුව වේ. මෙම ඍතුවේ පොහෝ දින අටකි. එබැවින් කීවාහුඃ

**"කත්තිකස්ස ච කාලම්හා, යාව ඵග්ගුනපුණ්ණමා**
**හෙමන්තකාලො'ති විඤ්ඤෙය්‍යො, අට්ඨ හොන්ති උපොසථා"**

මැදින් මස අවපෑළවිය පටන් ඇසළ මස පුරපසළොස්වක දක්වා ගිම්හාන ඍතුව වන අතර, එහි ද උපෝසථයෝ අටක් වෙත්. එබැවින් කීවාහුඃ

**"ඵග්ගුනස්ස ච කාලම්හා, යාව ආසාළ්හපුණ්ණමා**
**ගිම්හකාලො'ති විඤ්ඤෙය්‍යො, අට්ඨ හොන්ති උපොසථා."**

ඇසළ මස අවපෑළවිය පටන් ඉල් මස පුර පසළොස්වක දින දක්වා වස්සාන ඍතුව වේ. එම ඍතුවේ ද උපෝසථයෝ අටක් වෙත්. එබැවින් කීවාහුඃ

**"ආසාළ්හස්ස ච කාලම්හා, යාව කත්තිකපුණ්ණමා**
**වස්සකාලො'ති විඤ්ඤෙය්‍යො, අට්ඨ හොන්ති උපොසථා."**

මෙම තුන් ඍතුන්ගේ ම තුන්වන සහ සත්වන පක්‍ෂයන්හි උපෝසථයෝ චාතුද්දසික උපෝසථ ලෙස උදෙසිය යුත්තාහ. මේ බැව් කීවාහුඃ

**"උතූනං පන තිණ්ණානං, පක්ඛෙ තතියසත්තම**
**චාතුද්දසො'ති පාතිමොක්ඛං, උද්දිසන්ති නයඤ්ඤුනො"**

(කඞ්ඛා.ටී, පි.13)

මේ කියන ලද පොහොය කිරීම ප්‍රකෘති චාරිත්‍ර වශයෙන් කියන ලදී. එනම් ප්‍රකෘතියෙන්, විශේෂ හේතුවක් නොමැති කල කරනු ලබන උපෝසථය යි. **"අනුජානාමි භික්ඛවෙ -පෙ- උද්දිසිතුං"** යැයි වදාළ වචනයට අනුව පක්‍ෂයකට වරක් තුදුස්වක් දිනයෙහි හෝ පුණුරුසි දිනයෙහි හෝ පාමොක් උදෙසිය යුතු වේ.

යම් ආවාසයකට උපෝසථ දිනයේ ආගන්තුක භික්ෂූහු පැමිණෙත් නම්, ඒ ආගන්තුක භික්ෂූන්ගේ උපෝසථ දිනය ආවාසික භික්ෂූන්ගේ උපෝසථ දිනයෙන් වෙනස් වේ නම් දෙපිරිසේ බහුතරය අනුව අනෙක් පිරිස අනුවර්තනය විය යුතු ය[1]. උදහරණයක් ලෙස ආගන්තුක භික්ෂූන්ට පුණුරුසි දිනය වන විට ආවාසික භික්ෂූන්ට තුදුස්වක් දිනය වේ නම් සහ ආවාසික භික්ෂු පිරිස බහුතරය වේ නම් ආගන්තුක භික්ෂූන් ආවාසික භික්ෂූන්ට අනුවර්තනය විය යුතු බව '**ආගන්තුකෙහි අවාසිකානං අනුවත්තිතබ්බං** (මහාව.1, පි.330)' යැයි වදාළ සේක. දෙපිරිස ම සම වන විට ද ආවාසික භික්ෂූන්ට මුල්තැන ලැබෙන බැවින් ආගන්තුක භික්ෂූන් ආවාසිකයන්ට අනුවර්තනය විය යුතු වේ. එහෙත් ආගන්තුක භික්ෂු පිරිස බහුතර වේ නම් ආවාසික භික්ෂූන් ආගන්තුක භික්ෂූන්ට අනුවර්තනය විය යුතු වේ (අවාසිකෙහි ආගන්තුකානං අනුවත්තිතබ්බං - මහාව.1, පි.330). මෙවැනි අවස්ථාවක පුණුරුසි පොහොය කළ යුතු පක්ෂයක වුව ද තුදුස්වක් පොහොය කිරීමට සිදුවිය හැකිය. ඒ අනුව මෙබඳු විශේෂ අවස්ථාවක දී ඍතුවේ තුන්වන සහ සත්වන උපෝසථවලට අන්‍ය වූ (තුදුස්වක් පොහොය නොකළ යුතු පක්ෂයේ) තුදුස්වක් දිනයෙහි ද උපෝසථය කිරීමට සුදුසු බව කියන ලදී.

එහි දී ආවාසික භික්ෂූන්ට අනුවර්තනය විය යුතු යන්නෙන් අදහස් වන්නේ, ආවාසික භික්ෂූන් විසින් තමන්ට තුදුස්වක් පොහොය ඇති බැවින් උපෝසථ ඤත්තිය තැබීමේ දී 'අජ්ජුපොසථො චාතුද්දසො' යැයි පූර්වකෘත්‍යය කරනු ලබන කල්හි එයට අනුවර්තනය විය යුතු බවත්, පටික්කෝසනය නොකළ යුතු බවත් වේ. එහි 'ආදි' ශබ්දයෙන් '**අවාසිකෙහි ආගන්තුකානං අනුවත්නිතබ්බං** (මහාව.1, පි.330)' යන්න ද, '**අනුජානාමි, භික්ඛවෙ, තෙහි භික්ඛූහි ද්වෙ තයො උපොසථෙ චාතුද්දසිකෙ කාතුං කථං මයං තෙහි භික්ඛූහි පඨමතරං පවාරෙය්‍යාම** (මහාව.1, පි.464)' යන්න ද යන මේ මහාවග්ගපාළි උද්ධෘතයෝ ද සංග්‍රහ වෙත්.

---

[1] ආගන්තුක භික්ෂූන් විදේශයක සිට පැමිණියේ නම් හෝ කිසියම් අනුදැන වදාළ හේතුවක් මත පොහොය දෙකතුනක් චාතුද්දසික ලෙස කර ඇත්නම් ආවාසික භික්ෂූන්ගේ පොහොය කරන දිනය සමඟ වෙනස් විය හැකිය. මෙසේ ආවාසික භික්ෂූන්ට චාතුද්දසිය වන විට ආගන්තුක භික්ෂූන්ට පණ්ණරසිය හෝ ආවාසික භික්ෂූන්ට පණ්ණරසිය වන විට ආගන්තුක භික්ෂූන්ට චාතුද්දසිය විය හැකිය.

කිසියම් සමගි සම්පන්න භික්‍ෂු පිරිසක් එක්තරා ආවාසයක වස් එළඹුණු කල්හි අනෙක් කලහකාරී භික්‍ෂු පිරිසක් ඒ සමගි සම්පන්න භික්‍ෂූන්ගේ පවාරණය ඨපනය කිරීමේ අදහසින් ම ආසන්න විහාරස්ථානයක වස් එළඹෙයි නම්, තමන්ගේ පවාරණය අන් අයගේ පවාරණයට පෙරාතුව සිදුකරගැනීමේ අදහසින් පොහොය දෙක තුනක් තුදුස්වක් පොහොය ලෙස කිරීම '**අනුජානාමි, භික්ඛවෙ, තෙහි භික්ඛූහි ද්වෙ තයො උපොසථෙ චාතුද්දසිකෙ කාතුං කථං මයං තෙහි භික්ඛූහි පඨමතරං පවාරෙය්‍යාම**' යැයි අනුදන්නා ලද සේක. එවන් අවස්ථාවක දී ද පුණුරැසි පොහොය කළ යුතු පක්‍ෂයේ තුදුස්වක් පොහොය කිරීම හැකි වේ.

**සඃ පුරිමවස්සං වුත්ථානං**[1] පන, පෙරවස් විසූ භික්‍ෂූන්ට වනාහි; **පුබ්බකත්තිකපුණ්ණමා වා**, වප් මස පුරපසළොස්වක පොහෝ දින හෝ; **සචෙ**, ඉදින්; **තෙසංයෙව**, ඒ පෙරවස් විසූවන්ගේ ම; **භණ්ඩනකාරකෙහි**, ඩබර කරන භික්‍ෂූන් විසින්; **උපද්දුතා**, උවදුරු කරන ලද්දේ; **පවාරණං**, පවාරණය; **පච්චුක්කඩ්ඪන්ති**, ඉදිරියට අදිත් ද; **අථ**, එකල්හි; **පුබ්බකත්තිකමාසස්ස**, වප් මස; **කාළපක්ඛ චාතුද්දසො**[2] **වා**, අවපක්‍ෂයෙහි තුදුස්වක් දින හෝ; **පච්ඡිමකත්තිකපුණ්ණමා වා**, ඉල් මස පුරපසළොස්වක දින හෝ; **ච**, එසේ ම; **පච්ඡිමවස්සං වුත්ථානං**[3], පසුවස් විසූ භික්‍ෂූන්ට; **පච්ඡිමකත්තිකපුණ්ණමා එව**, ඉල් මස පුරපසළොස්වක දිනයේ ම; **ඉති ඉමෙ තයො**, යන මේ ත්‍රිවිධ වූ; **පවාරණදිවසා අපි**, වස් පවාරණය කරනු ලබන දවස්හු ද; **හොන්ති**, වෙත්. **ඉදං අපි**, මෙය ද; **පකතිචාරිත්තං එව**, ප්‍රකෘති චාරිත්‍රය ම වේ. **තථාරූපපච්චයෙ පන සති**, එබඳු ස්වභාව ඇත්තා වූ කරුණක් ඇති කල්හි වනාහි; **ද්වින්නං කත්තිකපුණ්ණමානං**, වප් මස සහ ඉල් මස යන පසළොස්වක පොහොය දෙදෙනාගේ; **පුරිමෙසු චාතුද්දසෙසු අපි**, පූර්ව වූ තුදුස්වක් දවස්හිදු; **පවාරණං කාතුං**, පවාරණය කිරීමට; **වට්ටති**, සුදුසු ය. **යදා පන**, යම් කලෙක වනාහි; **කොසම්බක්ඛන්ධකෙ**, කොසම්බක්ඛන්ධකයෙහි; **ආගතනයෙන**, ආවා වූ ක්‍රමයෙන්; **භික්ඛුසඞ්ඝෙ භින්නෙ**, භික්‍ෂු සංඝයා බිඳුණු කල්හි; **තස්මිං භික්ඛුස්මිං ඔසාරිතෙ**, ඒ උක්ඛිත්තක භික්‍ෂුව නැවත සංඝයාට ඇතුළත් කළ කල්හි; **සඞ්ඝො**, සංඝ තෙමේ; **තස්ස වත්ථුස්ස**,

[1] වුට්ඨානං, මජසං
[2] **කාළපක්ඛචාතුද්දසො**, මජසං
[3] **පච්ඡිමවස්සංවුටඨානං**, මජසං

ඒ අධිකරණයාගේ; **වූපසමාය**, සංසිඳවීම පිණිස; **සඞ්ඝසාමග්ගිං**[1] **කරොති**, සංඝ සාමග්‍රිය ඇති කරයි ද; **තදා** එකල්හි; '**තාවදෙව උපොසථො කාතබ්බො, පාතිමොක්ඛං උද්දිසිතබ්බං** (මහාව.2, පි.888)' **ඉති වචනතො**, 'තාවදෙව -පෙ- උද්දිසිතබ්බං' (**තාවදෙව**, එදවස ම; **උපොසථො කාතබ්බො**, පොහොය කළ යුතු ය. **පාතිමොක්ඛං උද්දිසිතබ්බං**, පාමොක් උදෙසිය යුතු ය) යැයි වදාළ මහාවග්ගපාළි වචනයෙන්; **චාතුද්දසපණ්ණරසෙ ඨපෙත්වා**, චාතුද්දසී පණ්ණරසී උපෝසථ දිනයන් හැර; **අඤ්ඤෙ අපි**, අන්‍ය වූ ද; **යො කොචි දිවසො**, යම්කිසි දවසක්; **සාමග්ගිඋපොසථදිවසො**[2] **නාම හොති**, සාමග්ගි උපෝසථ දවස නම් වේ. **වස්සං වුත්ථානං**[3] **පන**, පෙරවස් විසූ භික්ෂූන්ට වනාහි; **කත්තිකමාසබ්භන්තරෙ**, වප් මස අවපක්ෂය හා ඉල් මස පුරපක්ෂය ඇතුළත; **අයං එව**, මෙය ම (මේ විසිනව දවස තුළින් එක් දවසක් ම); **සාමග්ගිපවාරණාදිවසො නාම හොති**, සාමග්ගි පවාරණා දවස නම් වේ. **ඉති**, මෙසේ; **ඉමෙසු තීසු දිවසෙසු**, මේ තුන් උපෝසථ දිනයන් අතුරෙන්; '**පණ්ණරසො' ඉති ඉමිනා**, 'පණ්ණරසො' යන මේ වචනය කරණකොටගෙන; **අඤ්ඤං උපොසථදිවසං**, අන්‍ය වූ උපෝසථ දවසක්; **පටික්ඛිපති**, ප්‍රතික්ෂේප කරයි. **තස්මා**, එබැවින්; '**අජ්ජුපොසථො' ඉති වචනෙන**, 'අජ්ජුපොසථො' යන වචනයෙන්; **යො අයං**, යම් මේ; **අනුපොසථදිවසො**, උපෝසථ නොවන දවස; **පටික්ඛිත්තො**, ප්‍රතික්ෂේප කරන ලදී. **තස්මිං**, ඒ උපෝසථ නොවන දවස්හි; **උපොසථො**, පොහොය; **න කාතබ්බො එව**, නොකළ යුත්තේ ම ය. **යො පන අයං**, යම් මේ වනාහි; **අඤ්ඤො උපොසථදිවසො නාම**, අන්‍ය වූ උපෝසථ දවසක් නම්; **හොති**[4], වෙයි ද; **තස්මිං**, එදවස්හි; **උපොසථො කාතබ්බො**, පොහොය කළ යුතු.

-4-

**කරොන්තෙන පන**, පොහොය කරන භික්ෂූන් විසින් වනාහි; **සචෙ**, ඉදින්; **චාතුද්දසිකො හොති**, තුදුස්වක් දිනයක් වේ ද; '**අජ්ජුපොසථො චාතුද්දසො' ඉති**, 'අජ්ජුපොසථො චාතුද්දසො' යැයි; **වත්තබ්බං**, කිව යුතු ය. **සචෙ පණ්ණරසිකො හොති**, පුණුරැසියක් වෙයි ද; '**අජ්ජුපොසථො පණ්ණරසො' ඉති**, 'අජ්ජුපොසථො පණ්ණරසො'

---

[1] **සඞ්ඝස්ස සාමග්ගිං**, මජසං
[2] **උපොසථදිවසො**, හෙමු
[3] **පුරිමවස්සං වුට්ඨානං**, මජසං
[4] '**හොතී**'ති පදං මජසං පොත්ථකෙ නත්ථි.

යැයි; **වත්තබ්බං**, කිව යුතු ය. **සචෙ**, ඉදින්; **සාමග්ගිඋපොසථො හොති**, සාමග්ගි උපෝසථයක් වෙයි ද; '**අජ්ජුපොසථො සාමග්ගි**' **ඉති**, 'අජ්ජුපොසථො සාමග්ගි' යැයි; **වත්තබ්බං**, කිව යුතු ය.

**12. වි:** පළමුව උපෝසථය පිළිබඳව කරුණු විවරණය කොට තදනන්තරව පවාරණය සම්බන්ධව ඇති අදාළත්වය දක්වීම පිණිස "**පුරිමවස්සං වුත්ථානං**" යනාදිය කීහ. එහි ලා මෙසේ අර්ථය දත යුතු ය.

පෙරවස් විසූ භික්ෂූන්ගේ වස් පවාරණය වප් මස පුරපසළොස්වක පොහෝ දිනය වේ. පෙරවස් සමාදන්ව පවාරණය කළ හැකි අන්‍ය වූ කලහ කරන්නා වූ, ඩබර කරන්නා වූ යම් භික්ෂු පිරිසක් කල් තබා නොදන්වා ඒ පවාරණ දිනයේ ආවාසයට පැමිණියාහු නම්, ඔවුන් සමඟ පවාරණය කිරීමෙන් කලහයක්, ඩබරයක්, සංඝ අධිකරණයක් ඇති විය හැකි බැවින් පළමුව ඔවුන්ට ආගන්තුක වත්පිළිවෙත් දැක්විය යුතු ය. අනතුරුව හැකි නම් ඒ ආගන්තුක භික්ෂූන් මුළා කොට සීමාවෙන් බැහැර ගොස් පවාරණය කළ යුතු ය. එසේ කලහකාරී ආගන්තුක භික්ෂූන් මුළා කිරීම නොකළ හැකි විටෙක පවාරණය ඉදිරියට ඇදීම සිදුකළ හැකිය. ඒ සඳහා ආවාසික භික්ෂූන් අතරින් ව්‍යක්ත ප්‍රතිබල යම් භික්ෂුවක් විසින්

> "**සුණන්තු මෙ ආයස්මන්තා ආවාසිකා, යදායස්මන්තානං පත්තකල්ලං, ඉදානි උපොසථං කරෙය්‍යාම, පාතිමොක්ඛං උද්දිසෙය්‍යාම. ආගමෙ කාලෙ පවාරෙය්‍යාම.**"
>
> (මහාව.1, පි.466)

යනුවෙන් ඤත්තියක් තබා ආවාසික භික්ෂූහු දැන්විය යුත්තාහ. ඒ අනුව වප් මස පුන් පොහෝ දින පවාරණය නොකොට පාමොක් උදෙසීම සිදුකොට වප් මස අවපක්ෂයෙහි තුදුස්වක් දින හෝ ඉල් මස පුරපසළොස්වක දින හෝ පවාරණය සිදුකළ හැකිය. මෙය 'පවාරණ පච්චුක්කඩ්ඪනය' නම් වේ. මෙසේ පවාරණ පච්චුක්කඩ්ඪනය සිදුකළ විට එළඹෙන කළුවර පොහොය දින අකමැත්තෙන් නමුදු පවාරණය කළ යුතු වේ. කෙසේ වෙතත් පසුවස් විසූ භික්ෂූන්ගේ පවාරණය ඉල් මස පුරපසළොස්වක පොහෝ දින ම වේ. එය ඉක්මවිය නොහැකි අතර ඉක්මවන්නේ නම් දුකුළා ඇවතකට පත් වේ. මෙසේ පවාරණය සිදුකළ හැකි දවස් තුනක් (වප් පුරපසළොස්වක දින, වප් අවපක්ෂයේ

තුදුස්වක් දින සහ ඉල් පුරපසළොස්වක දින වශයෙන්) වන අතර මෙය ද ප්‍රකෘති චාරිත්‍ර වශයෙන් ම වේ.

මෙම ප්‍රකෘති චාරිත්‍රයට අමතරව, කෝසම්බක්ඛන්ධකයේ කියූ ක්‍රමයෙන් භික්ෂු සංඝයා බිඳුණු කලෙක, උක්ඛිත්තක භික්ෂුවක් නැවත භික්ෂු සංඝයාට ඇතුළත් කරනු ලබන කල්හි හෙවත් ඒ උක්ඛිත්තක භික්ෂුව රැගෙන සීමාවකට ගොස් ඇවැත් දේශනා කරවා කර්ම වාක්‍යයකින් කර්මය සංසිඳවීම් වශයෙන් ප්‍රකෘති භික්ෂුවක් ලෙස සංඝයා වෙත ඇතුළත් කරවා ගනු ලබන කල්හි, සංඝයා ඒ අධිකරණය සංසිඳුවීම පිණිස සංඝ සාමග්‍රිය ඇති කරන්නේ නම් එදවස ම පාමොක් උදෙසීමෙන් පොහොය කටයුතු ය. එම පොහොය කිරීම චාතුද්දසී, පණ්ණරසී යන උපෝසථ දින දෙක හැර අන්‍ය වූ යම්කිසි උපෝසථ දිනයක් නම්, එය **සාමග්‍රී උපෝසථය** යි. එසේ ම පෙරවස් විසූ භික්ෂූන්ට ද සංඝයා බිඳුණු කල්හි උපෝසථ කථාවේ කී පරිද්දෙන් ම වප් මස අවපක්ෂය හා ඉල් මස පුරපක්ෂය ඇතුළත එනම් ඒ දින විසිනවය (29) අතරින් එක් දිනයක සාමග්‍රී පවාරණය කළ හැකිය. ඉන් පෙර හෝ පසු නුසුදුසු ය.

කෙසේ නමුත් යම් විහාරයක පාත්‍ර සිවුරු ආදි අල්පමාත්‍ර වූ කරුණක් පිණිස විවාද කරන්නාහු උපෝසථය තබත් ද (ඨපනය කරත් ද) එහි ලා ඒ අධිකරණය විසඳූ කල්හි සාමග්‍රිය ඇති වූයේ යැයි අතරතුර සාමග්‍රී උපෝසථය කිරීමට නො ලබයි. එසේ කිරීමෙන් පොහෝ නොවන දිනයක (අනුපොසථයෙහි) පොහොය කරන ලද්දේ වෙයි. එසේ පොහෝ නොවන දිනයක පොහොය කිරීමෙන් දුකුළා ඇවැතකට ද පත් වෙයි. පවාරණයෙහිදු මෙසේ ම අල්පමාත්‍ර වූ කරුණක් කරණකොටගෙන පවාරණය තබත් ද (ඨපනය කරත් ද), සමගි වූ කල්හි පවාරණය නියමිත දිනයෙහි ම කළ යුතු ය. සමගි වූ දිනයෙහි නොකළ යුතු ය. සමගි වූ දිනයෙහි ම පවාරණය කිරීමෙන් නොකළ යුතු දිනයක පවාරණය කරන ලද්දේ වෙයි. එසේ නොකළ යුතු යැයි නියම කොට ඇති බැවින් දුකුළා ඇවතකට පැමිණේ.

පොහොය කරන භික්ෂූන් විසින් ඉදින් තුදුස්වක් පොහොයක් නම්, 'අජ්ජුපොසථො චාතුද්දසො' යැයි ද, පුණුරැසි පොහොයක් නම් 'අජ්ජුපොසථො පණ්ණරසො' යැයි ද, සාමග්‍රී උපෝසථයක් නම් 'අජ්ජුපොසථො සාමග්ගී' යැයි ද ඤත්තිය තැබිය යුතු. මෙසේ උපෝසථ ඤත්තියෙහි එන 'අජ්ජුපොසථො පණ්ණරසො' යන

වචනාර්ථයන් වර්ණනා කිරීමෙන් අනතුරුව සංඝයාගේ ප්‍රාප්තකාලය ගෙනහැර දක්වනු වස් **'යදි සඞ්ඝස්ස පත්තකල්ලං'** යන පදාර්ථ වර්ණනාව අරඹන ලදහ.

**සඃ යදි සඞ්ඝස්ස පත්තකල්ලං ඉති එත්ථ**, 'යදි සඞ්ඝස්ස පත්තකල්ලං' යන මෙහි; **ඉමස්ස කම්මස්ස**, මේ උපෝසථ විනය කර්මයට; **පත්තො කාලො ඉති**, පැමිණි (ප්‍රාප්ත) කාලය නු යි; **පත්තකාලං**, පත්තකාලය නම් වේ. **පත්තකාලං එව**, පැමිණි කාලය ම (පත්තකාලය ම); **පත්තකල්ලං**, 'පත්තකල්ල' නම් වේ. (ස්වාර්ථයෙහි භාව ප්‍රත්‍යය) **තං එතං**, ඒ මේ ප්‍රාප්තකාලය; **ඉධ**, මෙහි; **චතූහි අඞ්ගෙහි**, අංග සතරකින්; **සඞ්ගහිතං**, සංගෘහිත ය. **අට්ඨකථාචරියා**, අටුවා ඇදුරෝ; **යථා ආහු**, යම් සේ කීවාහු ද (එසේ);

**උපොසථො යාවතිකා ච භික්ඛූ**
**කම්මප්පත්තා සභාගාපත්තියො ච**
**න විජ්ජන්ති වජ්ජනීයා ච පුග්ගලා**
**තස්මිං න හොන්ති පත්තකල්ලන්ති වුච්චති.**

(කඞ්ඛා, පි.04)

**උපොසථො**, පොහෝ දවසක් වේ ද; **යාවතිකා**, යම් පමණ වූ; **කම්මප්පත්තා**, උපෝසථ කර්මයට සුදුසු වූ (ප්‍රකෘති වූ); **භික්ඛූ ච**, භික්ෂූහු වෙත් ද; **සභාගාපත්තියො**, වස්තු සභාග ඇවැත් ඇති භික්ෂූහු; **න විජ්ජන්ති ච**, විද්‍යමාන නො වෙත් ද; **වජ්ජනීයා පුග්ගලා**, එක්විසි වජ්ජනීය පුද්ගලයෝ; **තස්මිං න හොන්ති ච**, ඒ සංඝ සන්නිපාතයෙහි නො වෙත් ද (මේ සතර කාරණයෙන්); **පත්තකල්ලං ඉති**, ප්‍රාප්ත කාලය යැයි; **වුච්චති**, කියනු ලැබේ.

**තත්ථ**, ඒ ගාථාවෙහි; **උපොසථො ඉති**, 'උපොසථො' යනු; **තීසු උපොසථදිවසෙසු**, ත්‍රිවිධ උපෝසථ දිනයන් අතරින්; **අඤ්ඤතරඋපොසථදිවසො**, එක්තරා උපෝසථ (පොහොය) දවසකි. **තස්මිං හි සති**, ඒ පොහොය දිනය ඇති කල්හි; **සඞ්ඝස්ස**, සංඝයාගේ; **ඉදං උපොසථකම්මං**, මේ පොහොය කර්මය; **පත්තකල්ලං නාම හොති**, ප්‍රාප්තකාලය (යෝග්‍ය කාලය) ඇත්තේ නම් වෙයි. **න අසති**, පොහොය දිනය නැති කල්හි ප්‍රාප්තකාලය නො වේ. **යථා ආහ**, වදළේ මැ යි; **"න ච, භික්ඛවෙ, අනුපොසථෙ උපොසථො කාතබ්බො, යො කරෙය්‍ය,**

**ආපත්ති දුක්කටස්ස**[1]" **ඉති** (ච, තව ද; **භික්ඛවෙ**, මහණෙනි; **අනුපොසථෙ**, පොහොය නොවන දිනයෙක; **උපොසථො**, පොහොය විනය කර්මය; **න කාතබ්බො**, නොකළ යුතු ය. **යො**, යම් භික්‍ෂුවක්, **කරෙය්‍ය**, පොහොය නොවන දවස්හි පොහොය කළේ වී නම්; **දුක්කටස්ස**, දුකුළා ඇවතකට; **ආපත්ති**, පැමිණියේ වෙයි), යනුවෙනි.

**යාවතිකා ච භික්ඛූ කම්මප්පත්තා ඉති**, යනු; **යත්තකා භික්ඛූ**, යම් පමණ භික්‍ෂූහු; **තස්ස උපොසථකම්මස්ස**, ඒ උපෝසථ කර්මයට; **පත්තා**, පැමිණියාහු; **යුත්තා**, යුතු වූවාහු; **අනුරූපා**, සුදුසු වූවාහු; **සබ්බන්තිමෙන පරිච්ඡේදෙන**, සියල්ලට යටත් පිරිසෙයින් පිරිසිඳීම් වශයෙන්; **චත්තාරො භික්ඛූ**; භික්‍ෂූහු සතර දෙනෙක්; **පකතත්තා**, ප්‍රකෘති වූවාහු; **සඞ්ඝෙන**; සංඝයා විසින්; **අනුක්ඛිත්තා**, උක්ෂේපණය නොකරන ලද්දහු වෙත් ද *(**පකතත්තා** යනු සංඝයා විසින් උක්ෂේපණය නොකරන ලද, පාරාජිකා ඇවතට නොපැමිණි ප්‍රකෘති භික්‍ෂූහු වෙත්)*. **තෙ ච ඛො**, ඒ ප්‍රකෘති භික්‍ෂූහු ද; **හත්ථපාසං අවිජහිත්වා**, අත්පස (රියන් 2 1/2) නොඅත්හැර; **එකසීමායං**, එක් සීමාවක; **ඨිතා**, සිටියාහු වෙත්.

**13. වි:** "යදි සඞ්ඝස්ස පත්තකල්ලං" යන මේ වාක්‍යයෙහි '**පත්තො කාලො ඉමස්ස කම්මස්සා'ති පත්තකාලං**' යැයි ද, '**පත්තකාලමෙව පත්තකල්ලං**' යැයි ද විග්‍රහය යි. මේ උපෝසථ විනය කර්මයට පැමිණි කාලය යන්න පත්තකාලය නම් වේ. ඒ පත්තකාල යන්නෙහි ම ස්වාර්ථයෙහි භාව ප්‍රත්‍ය යෙදීමෙන් 'පත්තකල්ල' යනු සිද්ධ ය. මේ ප්‍රාප්තකාලය මෙහි ලා අංග සතරකින් සංග්‍රහ කරන ලදී. ඒ බැව් අටුවා ඇදුරෝ කී අයුරු දැක්වීමට "**උපොසථො යාවතිකා ච භික්ඛූ ....**" යන මේ ගාථාව ගෙනහැර දක්වූහ. එම ගාථා පදයාගේ අර්ථය නම්,

(1) පොහොය දිනයක් වෙයි ද

(2) උපෝසථ කර්මයට සුදුසු (ප්‍රකෘති) භික්‍ෂූහු යම් පමණ වෙත් ද

(3) වස්තු සභාග ඇවැත් ඇති භික්‍ෂූහු විද්‍යමාන නො වෙත් ද

(4) එක්විසි වජ්ජනීය පුද්ගලයෝ ඒ සඟ මැද නො වෙත් ද

---

[1] "න ච, භික්ඛවෙ, අනුපොසථෙ උපොසථො කාතබ්බො, අඤ්ඤත්‍ර සඞ්ඝසාමග්ගියා." මහාව.1, පි.340

යන මේ සතර අංගයෝ උපෝසථ කර්මයට ප්‍රාප්තකාලය යැයි කියනු ලැබේ.

මෙසේ ප්‍රාප්තකාලය දක්වෙන ගාථාව දක්වා ඉන් අනතුරුව ඒ ගාථාවේ එකිනෙක පද වශයෙන් අර්ථ විවරණය කරනු වස් '**තත්‍ථ උපොසථොති ....**' යැයි කීහ. ඒ ගාථාවෙහි 'උපොසථො' යනු චාතුද්දසී (තුදුස්වක්), පණ්ණරසී (පුණුරුසි), සාමග්ගී (සාමග්‍රී) යන ත්‍රිවිධ උපෝසථ (පොහොය) දිනයන් අතුරෙන් එක්තරා පොහොය දිනයකි. ඒ පොහෝ දිනය ඇති කල්හි සංඝයාගේ පොහොය විනය කර්මයට ප්‍රාප්තකාලය ඇත්තේ වෙයි. පොහෝ දිනයක් නැති කල්හි ප්‍රාප්තකාලය නො වේ. මේ බැව් තිලෝගුරු බුදුරජාණන් වහන්සේ "**න ච, භික්ඛවෙ, අනුපොසථෙ උපොසථො කාතබ්බො, අඤ්ඤත්‍ර සඞ්ඝසාමග්ගියා** (මහාව.1, පි.340)" යනුවෙන් වදාළ සේක. එනම් 'සංඝ සාමග්‍රියක දී හැර පොහෝ නොවන දිනක පොහොය කර්මය නොකළ යුතු බව යි.' එසේ පොහෝ නොවන දවසක පොහොය කර්මය කරන භික්‍ෂුවට දුකුළා ඇවත් වේ.

ප්‍රාප්තකාලය දනවන දෙවන අංගය විවරණය කරනු වස් '**යාවතිකා ච භික්ඛූ...**' යැයි දක්වූහ. එහි '**යාවතිකා ච භික්ඛූ කම්මප්පත්තා**' යන්නෙන් දක්වෙනුයේ යම් පමණ භික්‍ෂූහු ඒ උපෝසථ කර්මයට පැමිණියාහු, යුතු වූවාහු, සුදුසු වූවාහු ද එනම්, සියල්ලට යටත් පිරිසෙයින් ගණන පිරිසිඳීම් වශයෙන් සංඝයා විසින් උක්‍ෂේපණීය කර්මය නොකළ, පාරාජිකාපත්තියට පත් නොවූ, ප්‍රකෘති භික්‍ෂූහු සතර දෙනෙක්, අත්පස නොහැර, හෙවත් රියන් දෙකහමාරක දුර නොඅත්හැර එක් සීමාවක සිටින බව යි. මෙහි ලා සියල්ලට යටත් පිරිසෙයින් භික්‍ෂූහු සතරදෙනෙක් සිටිය යුතු යන්නෙන් අදහස් වන්නේ ඊට අඩු පිරිසක් ඇති විට පාමොක් උදෙසීමක් කළ නොහැකි බව යි. සතර දෙනෙකුට අඩු පිරිසක් ඇති විට ඡන්දපාරිශුද්ධිය ලබාදීමක් ද සිදුවිය නොහැක. ඊට වැඩි පිරිස දහසක් වුව ද සියල්ල සමාන සංවාසක භික්‍ෂූහු වෙත් නම්, සියලු දෙනා ඡන්දය දීමට සුදුස්සෝ වෙති. ඔවුහු ස්වකීය ඡන්දපාරිශුද්ධිය ලබාදී උපෝසථයට පැමිණිය ද නො පැමිණිය ද විනය කර්මය කෝප්‍ය නො කරත්.

මෙහි ලා 'එක් සීමාවක අත්පස නොහැර සිටිය යුතු ය' යන්නෙන් දක්වන ලද 'සීමාව' යන්න විවරණය කරණු වස් මීළඟට '**සීමාති ච ....**' යැයි වර්ණනා කළහ.

**සඃ ච**, එසේ ම; **එසා සීමා නාම**, මේ සීමාව නම්; **බද්ධසීමා**, බද්ධ සීමාව ය. **අබද්ධසීමා ඉති**, අබද්ධ සීමාව ය යනුවෙන්; **දුවිධා හොති**, දෙවැදෑරුම් වෙයි. **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් සීමා අතරින්; **එකාදස විපත්තිසීමායො**, එකොළොස් විපත්ති සීමාහු; **අතික්කමිත්‍වා**, ඉක්මවා; **තිවිධසම්පත්තියුත්තා**, ත්‍රිවිධ සම්පත්තීන්ගෙන් යුක්තව; **නිමිත්තෙන**, නිමිත්ත සමඟ; **නිමිත්තං සම්බන්‍ධිත්‍වා**, නිමිත්ත සම්බන්‍ධ කොට; **සම්මතා සීමා**, සම්මත කරන ලද සීමා තොමෝ; **බද්ධසීමා නාම**, බද්ධ සීමා නම් වන්නීය. "**අතිඛුද්දිකා, අතිමහතී, ඛණ්ඩනිමිත්තා, ඡායානිමිත්තා, අනිමිත්තා, බහිසීමෙ ඨිතසම්මතා**[1], **නදියා සම්මතා, සමුද්දෙ සම්මතා, ජාතස්සරෙ සම්මතා, සීමාය සීමං සම්භින්දන්තෙන සම්මතා, සීමාය සීමං අජ්ඣොත්‍ථරන්තෙන සම්මතා'ති ඉමෙහි**[2] **එකාදසහි ආකාරෙහි සීමතො කම්මානි විපජ්ජන්ති**[3]**" ඉති** වචනතො, 'අතිඛුද්දිකා -පෙ- විපජ්ජන්ති' (**අතිඛුද්දිකා**, ඉතා කුඩා සීමාව ය; **අතිමහතී**, ඉතා මහත් වූ සීමාව ය; **ඛණ්ඩනිමිත්තා**, කඩ වූ නිමිති ඇති සීමාව ය; **ඡායානිමිත්තා**, පර්වත, වෘක්ෂ ආදීන්ගේ සෙවනැල්ල නිමිත්ත ලෙස ගෙන සම්මත කළ සීමාව ය; **අනිමිත්තා**, නිමිති රහිත සීමාව ය; **බහිසීමෙ ඨිතසම්මතා**, සීමාවෙන් බැහැර සිට සම්මත කළ සීමාව ය; **නදියා සම්මතා**, ගංගාවෙක සම්මත කරන ලද සීමාව ය; **සමුද්දෙ සම්මතා**, සමුද්‍රයෙහි සම්මත කළ සීමාව ය; **ජාතස්සරෙ සම්මතා**, ස්වාභාවික විලෙහි (ජාතස්සරයෙහි) සම්මත කළ සීමාව ය; **සීමාය සීමං සම්භින්දන්තෙන සම්මතා**, සීමාවකින් තවත් සීමාවක් සම්බන්‍ධ කිරීමෙන් සම්මත කළ සීමාව ය; **සීමාය සීමං අජ්ඣොත්‍ථරන්තෙන සම්මතා**, සීමාවකින් තවත් සීමාවක් යට කරමින් (ඇතුළත් කරමින්)

---

[1] **ඨිතා සම්මතා.** මජසං

[2] **ඉමා හි.** මජසං

[3] "එකාදසහි ආකාරෙහි සීමතො කම්මානි විපජ්ජන්තිඃ අතිඛුද්දකං සීමං සම්මන්නති, අතිමහතිං සීමං සම්මන්නති, ඛණ්ඩනිමිත්තං සීමං සම්මන්නති, ඡායානිමිත්තං සීමං සම්මන්නති, අනිමිත්තං සීමං සම්මන්නති, බහි සීමෙ ඨිතො සීමං සම්මන්නති, නදියා සීමං සම්මන්නති, සමුද්දෙ සීමං සම්මන්නති, ජාතස්සරෙ සීමං සම්මන්නති, සීමාය සීමං සම්භින්දති, සීමාය සීමං අජ්ඣොත්ථරති. ඉමෙහි එකාදසහි ආකාරෙහි සීමතො කම්මානි විපජ්ජන්ති." **(පරිවා.2, පි.302)**

සම්මත කළ සීමාව ය; **ඉති ඉමෙහි එකාදසහි ආකාරෙහි**, යන මේ එකොළොස් හේතූන් කරණකොටගෙන; **සීමතො**, සීමාව වශයෙන්; **කම්මානි**, විනය කර්මයෝ; **විපජ්ජන්ති**, වෙසෙසින් සාවද්‍ය වෙත්) යනුවෙන් පරිවාරයෙහි වදළ බැවින්; **එතා විපත්තිසීමායො නාම**[1], මෝ තුමූ විපත්ති සීමාවෝ නම් වෙත්. **තත්‍ර**, ඒ ඒකාදශ විපත්ති සීමාවන් අතරින්; **අතිඛුද්දිකා නාම**, අතිඛුද්දිකා සීමාව නම්; **යත්‍ර**, යම් සීමාවක; **එකවීසති භික්ඛූ**, භික්ෂූහු විසිඑක් නමක්; **නිසීදිතුං න සක්කොන්ති**, හිඳීමට නොහැකි වෙත් ද (එබඳු කුඩා සීමාවකි). **අතිමහතී නාම**, ඉතා මහත් සීමාව නම්; **යා**, යම් සීමාවක්; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **කෙසග්ගමත්තෙන අපි**, කෙස'ගක මාත්‍රයෙනුදු; **තියොජනං අතික්කමිත්‍වා**, යොදුන් තුනක් ඉක්මවා; **සම්මතා**, සම්මත කරන ලද (සීමාවකි). **ඛණ්ඩනිමිත්තා නාම**, කඩ වූ නිමිති ඇති සීමාව නම්; **අඝටිතනිමිත්තා**, සම්බන්‍ධ නොකරන ලද (නොගටන ලද) නිමිති ඇති සීමාව; **වුච්චති**, කියනු ලැබේ. **පුරත්‍ථිමාය දිසාය**, නැගෙනහිර දිශාවෙහි; **නිමිත්තං කිත්තෙත්‍වා**, නිමිත්ත කීර්තනය කොට (අස්සවා); **අනුක්කමෙන එව**, අනුක්‍රමයෙන් ම; **දක්ඛිණාය පච්ඡිමාය උත්තරාය දිසාය**, දකුණු, බටහිර, උතුරු දිශාවෙහි; **කිත්තෙත්‍වා**, කීර්තනය කොට; **පුන පුරත්‍ථිමාය දිසාය**, නැවත නැගෙනහිර දිශාවෙහි; **පුබ්බකිත්තිතං**, පළමුව කීර්තනය කරන ලද නිමිත්ත; **පටිකිත්තෙත්‍වා**, නැවත වරක් කීර්තනය කොට; **ඨපෙතුං වට්ටති**, තබන්නට වටනේ ය. **එවං**, මෙසේ; **අඛණ්ඩනිමිත්තා හොති**, නොකඩ වූ නිමිති ඇති සීමාව නම් වෙයි. **සචෙ පන**, ඉදින් වනාහි; **අනුක්කමෙන**, අනුක්‍රමයෙන්; **ආහරිත්‍වා**, නිමිති කීර්තනය කරගෙන විත්; **උත්තරාය දිසාය**, උතුරු දිශාවෙහි; **නිමිත්තං කිත්තෙත්‍වා**, නිමිත්ත කීර්තනය කොට; **තත්‍ර එව**, ඒ උතුරු දිශාවෙහි ම; **ඨපෙති**, තබයි ද; **ඛණ්ඩනිමිත්තා නාම හොති**, කඩ වූ නිමිති ඇති සීමාවක් නම් වෙයි. **අපරාපි**, අන්‍ය වූ ද; **ඛණ්ඩනිමිත්තා නාම**, කඩ වූ නිමිති ඇති සීමාව නම්; **යා**, යම් සීමාවක්; **අනිමිත්තුපගං**[2], නිමිත්තට සුදුසු නොවූ; **තචසාරරුක්ඛං වා**, තල්, පොල් ආදි සුඹුල් අරටු ඇති ගසක් හෝ; **ඛාණුකං වා**, කණුවක් හෝ; **පංසුපුඤ්ජවාලුකපුඤ්ජානං වා අඤ්ඤතරං**, පස්ගොඩ, වැලිගොඩ යන මේවා අතරින් එක්තරා නිමිත්තට සුදුසු

---

[1] **එකාදස විපත්තිසීමායො නාම.** මජසං

[2] **අනිමිත්තුපගං.** (මෙම පදයේ 'තු' කාරය සියලු තැන හ්‍රස්වය) මජසං

නොවූවක්; **අන්තරා එකං නිමිත්තං කත්වා**, අතුරෙහි එක්තරා නිමිත්තක් කොට; **සම්මතා**, සම්මත කරන ලද සීමාවකි.

-5-

**ඡායා නිමිත්තා නාම**, ඡායා නිමිත්ත සහිත සීමාව නම්; **පබ්බතච්ඡායාදීනං**, පර්වත ඡායා ආදීන් අතරින්; **යං කිඤ්චි ඡායං**, යම්කිසි ඡායාවක්; **නිමිත්තං කත්වා**, නිමිත්ත කොට; **සම්මතා**, සම්මත කරන ලද සීමාව යි. **අනිමිත්තා නාම**, අනිමිත්ත සීමාව නම්; **සබ්බෙන සබ්බං**, සර්ව ප්‍රකාරයෙන්; **නිමිත්තානි අකිත්තෙත්වා**, නිමිති කීර්තනය නොකොට; **සම්මතා**, සම්මත කරන ලද සීමාව යි. **බහිසීමෙ ඨිතසම්මතා නාම**, සීමාවෙන් බැහැර සිට සම්මත කළ සීමාව නම්; **නිමිත්තානි කිත්තෙත්වා**, නිමිති කීර්තනය කොට; **නිමිත්තානං බහි ඨිතෙන**, නිමිත්තයන්ගේ පිටත සිටියහු විසින්; **සම්මතා**, සම්මත කරන ලද සීමාව යි. **නදියා සමුද්දෙ ජාතස්සරෙ සම්මතා නාම**, ගංගාවෙහි, සමුදුරෙහි, ස්වාභාවික විලෙහි සම්මත කරන ලද සීමාව නම්; **එතෙසු නදිආදීසු**, ඒ නදී ආදීන්හි; **සම්මතා**, සම්මත කරන ලද්ද යි. **සා හි**, ඒ නදී ආදියෙහි සම්මත කළ සීමාව වනාහි; **එවං සම්මතා අපි**, මෙසේ නිමිති කිර්තනය කොට කර්ම වාක්‍යයෙන් සම්මත කරන ලදුයේ නමුදු; **"සබ්බා භික්ඛවෙ, නදී අසීමා, සබ්බො සමුද්දෙ අසීමො, සබ්බො ජාතස්සරො අසීමො (මහාව.1, පි.268) ඉති වචනතො"**, 'සබ්බා භික්ඛවෙ -පෙ- ජාතස්සරො අසීමො' (**භික්ඛවෙ**, මහණෙනි, **සබ්බා නදී**, සියලු නදී ලක්ෂණ ඇති ගංගාවෝ; **අසීමා**, අසීමාවෝ වෙත්. එනම් නිමිති කීර්තනය කොට බද්ධ සීමාවක් බඳින්නෙමු යැයි කර්ම වාක්‍යයෙන් සම්මත කළ නමුදු බද්ධ සීමාව නො පිහිටයි යන අර්ථ යි. **සබ්බො සමුද්දෙ**, සියලු සමුදුර; **අසීමො**, අසීමා වෙයි; **සබ්බො ජාතස්සරො**, සියලු ස්වාභාවික විල; **අසීමො**, අසීමා වෙයි) යැයි මහාවග්ගපාළි වචනය බැවින්; **අසම්මතා එව හොති**, සම්මත නොකරන ලද්දේ ම වෙයි; **සීමාය සීමං සම්භින්දන්තෙන සම්මතා නාම**, 'සීමාය සීමං සම්භින්දන්තෙන සම්මතා' (**සීමාවකින් තවත් සීමාවක් සම්බන්ධ කර** සම්මත කරන ලද සීමාව) නම්; **අත්තනො සීමාය**, තමාගේ සීමාවෙන්; **පරෙසං සීමං**, මෙරමාගේ (වෙනත් අයගේ) සීමාවක්; **සම්භින්දන්තෙන**, සම්බන්ධ කරමින්; **සම්මතා**, සම්මත කරන ලද්ද වූ සීමාව යි. **සචෙ අපි**[1],

---

[1] **සචෙ හි.** මජසං

ඉදිනුදු; **පොරාණකස්ස විහාරස්ස**, පැරණි විහාරයක; **පුරත්ථිමාය දිසාය**, නැගෙනහිර දිශාවෙහි; **අම්බො චෙව**, අඹ ගසක් මෙන් ම; **ජම්බූ ච ඉති**, දඹ ගසක් ද යැයි; **ද්වෙ රුක්ඛා**, වෘක්ෂයෝ දෙකක්; **අඤ්ඤමඤ්ඤං**, එකිනෙක; **සංසට්ඨවිටපා හොන්ති**, පැටලී, වෙළී ඇත්තාහු වෙත් ද; **තෙසු**, ඒ ගස් දෙක අතරින්; **අම්බස්ස පච්ඡිමදිසාභාගෙ**, අඹ ගසට බටහිර දිශා භාගයෙහි; **ජම්බූ**, දඹ ගස වෙයි ද; **විහාරසීමා ච**, විහාර සීමාව ද; **ජම්බුං අන්තො කත්වා**, දඹ ගස ඇතුළත කොට; **අම්බං කිත්තෙත්වා**, අඹ ගස කීර්තනය කොට; **බද්ධා හොති**, බඳින ලද්දේ වෙයි. **අථ**, ඉක්බිති; **පච්ඡා**, පසු කලෙක; **තස්ස විහාරස්ස**, ඒ විහාරයාගේ; **පුරත්ථිමාය දිසාය**, නැගෙනහිර දිශාවේ; **විහාරෙ කතෙ**, විහාරයක් කළ කල්හි; **සීමං බන්ධන්තා භික්ඛූ**, සීමාවක් බඳින්නා වූ භික්ෂූහු; **තං අම්බං**, ඒ අඹ ගස; **අන්තො කත්වා**, ඇතුළත කොට; **ජම්බුං කිත්තෙත්වා**, දඹ ගස කීර්තනය කොට; **බන්ධන්ති**, සීමාව බඳිත් ද; **සීමාය**, (එක්) සීමාවක් සමග; **සීමං**, (අනෙක්) සීමාව; **සම්භින්නා හොති**, සම්බන්ධ කරන ලද්දේ වෙයි. **සීමාය සීමං අජ්ඣොත්ථරන්තෙන සම්මතා නාම**, සීමාය සීමං අජ්ඣොත්ථරන්තෙන සම්මතා (සීමාවකින් සීමාවක් ඇතුළත් කරමින් සම්මත කරන ලද සීමාව) නම්; **අත්තනො සීමාය**, තමාගේ සීමාවෙන්; **පරෙසං සීමං**, මෙරමාගේ සීමාව; **අජ්ඣොත්ථරන්තෙන**, යට කරමින් (ඇතුළත් කරමින්); **සම්මතා**, සම්මත කරන ලද සීමාව යි. **සචෙ හි**, ඉදින් වනාහි; **පරෙසං බද්ධසීමං**, මෙරමාගේ බද්ධ සීමාව; **සකලං වා**, සම්පූර්ණයෙන් හෝ; **තස්සා පදෙසං වා**, ඒ සීමාවේ එක් කොටසක් හෝ; **අන්තො කත්වා**, ඇතුළත කොට; **අත්තනො සීමං**, තමාගේ සීමාව; **සම්මන්නති**, සම්මත කරයි ද; **සීමාය**, (එක්) සීමාවකින්; **සීමං**, (වෙනත්) සීමාවක්; **අජ්ඣොත්ථරිතා නාම හොති**, යට කරන ලද්දේ නම් වෙයි; **ඉති ඉමා**, යන මේ; **එකාදස විපත්තිසීමායො**, එකොළොස් සීමා විපත්ති; **අතික්කමිත්වා**, ඉක්මවා; **සම්මතා**, සම්මත කරන ලද සීමාව (**බද්ධසීමා නාම** යන්න හා සම්බන්ධ වේ) බද්ධ සීමාව නම් වේ.

## බද්ධ සීමා සහ අබද්ධ සීමා

**14. වි:** ඉහත දක්වූ පරිදි යම් පමණ භික්ෂූහු උපෝසථ කර්මයට පැමිණියාහු ද, සුදුසු වූවාහු ද, යටත් පිරිසෙයින් ප්‍රකෘති භික්ෂූන් සතර නමක් වත් එක් සීමාවක අත්පස නොහැර සිටිය යුතු යැයි දක්වූ බැවින් 'සීමාව' යන්න විවරණය කරනු වස් '**සීමාති ච නාමෙසා**' යනාදි

වශයෙන් කියන ලදී. ඒ අනුව සීමාව යන්න බද්ධ සීමාව ය, අබද්ධ සීමාව ය යනුවෙන් දෙයාකාර වේ.

බද්ධ සීමාව යනු එකොළොස් වැදෑරුම් විපත් ඇති සීමාවන් අතහැර, ත්‍රිවිධ සම්පත්තීන්ගෙන් යුක්තව (නිමිත්ත සම්පත්ති, පරිස සම්පත්ති, කම්මවාචා සම්පත්තිය යන), නිමිත්ත සමඟ නිමිත්ත සම්බන්ධ කොට සම්මත කරන ලද සීමාව යි.

එකොළොස් වැදෑරුම් විපත්ති සීමාවෝ කවරහු ද? යත්, (1) අතිඛුද්දිකා නම් වූ ඉතා කුඩා සීමාව ය (2) අතිමහතී නම් වූ ඉතා මහත් වූ සීමාව ය (3) ඛණ්ඩනිමිත්තා නම් වූ කඩ වූ නිමිති ඇති සීමාව ය (4) ඡායා නිමිත්තා නම් වූ පර්වත ආදීන්ගේ සෙවනැල්ල නිමිත්ත ලෙස ගෙන සම්මත කළ සීමාව ය (5) අනිමිත්තා නම් වූ නිමිති රහිත සීමාව ය (6) සීමාවෙන් බැහැර සිට සම්මත කළ සීමාව ය (7) ගංගාවක සම්මත කළ සීමාව ය (8) සමුදුරෙහි සම්මත කළ සීමාව ය (9) ස්වාභාවික විලෙහි සම්මත කළ සීමාව ය (10) 'සීමාය සීමං සම්භින්දන්තෙන සම්මතා' නම් වූ සීමාවකින් තවත් සීමාවක් සම්බන්ධ කළ සීමාව ය (11) 'සීමාය සීමං අජ්ඣොත්ථරන්තෙන සම්මතා' නම් වූ සීමාවකින් තවත් සීමාවක් යට කරමින් සම්මත කළ සීමාව යන එකොළොස් වැදෑරුම් සීමාවෝ වෙති.

(1) **අතිඛුද්දිකා**: අතිඛුද්දිකා හෙවත් ඉතා කුඩා සීමාව නම්, යම් සීමාවක යටත් පිරිසෙයින් භික්ෂූන් විසිඑක් (21) නමකට පරිමණ්ඩලාකාරව හිඳගැනීමට ප්‍රමාණවත් ඉඩක් නොමැති සීමාව යි. එසේ ඉතා කුඩා සීමාවක් සම්මත කරන ලද්දේ වුව ද එය සීමාවක් වශයෙන් නොපිහිටා ගම්කෙත ම භජනය කරන අතර එහි සිදුකරන විනය කර්ම කෝප්‍ය වේ (නො සිදුවේ). සෙසු තැන්හි ද මෙසේ ම යි.

(2) **අතිමහතී**: අතිමහතී හෙවත් ඉතා විශාල සීමාව නම් යොදුන් තුන ඉක්ම වූ සීමාව යි. සීමාව මැද සිට සිව් දිශාවලට යොදුන් එකහමාර බැගින් පිහිටීමෙහි වරද නැති. සතරැස් හෝ ත්‍රිකෝණාකාර සීමාවෙහි කොණෙන් කොණ යොදුන් තුනට වඩා කෙස'ගක් මාත්‍රයකුදු ඉක්මවීමෙන් විපත්ති සහිත සීමාවක් වේ.

(3) **ඛණ්ඩනිමිත්තා**: ඛණ්ඩනිමිත්තා හෙවත් කඩ වූ නිමිති ඇති සීමාව නම්, එකට සම්බන්ධ නොකරන ලද නිමිති ඇති සීමාව යි. සීමා

සම්මත කිරීමේ දී නිමිති කීර්තනය ඇරඹූ තැන සිට පිළිවෙළින් කීර්තනය කරමින් අවසානයේ නැවතත් පළමු නිමිත්ත කීර්තනය කළ යුතු වේ. උදහරණයක් ලෙස නැගෙනහිර දිශාවෙහි නිමිත්ත කීර්තනය කොට අනුක්‍රමයෙන් දකුණ, බටහිර, උතුර යන දිශාවල නිමිති කීර්තනයෙන් පසු නැවතත් නැගෙනහිර දිශාවේ පළමුව කීර්තනය කළ නිමිත්ත කීර්තනය කිරීමෙන් ම අවසන් කළ යුතු වේ. එවිට කඩ නොවූ නිමිති ඇති සීමාව සංවෘත්තව පිහිටයි. යම්හෙයකින් අනුක්‍රමයෙන් විත් උතුරුදිග සීමාව කීර්තනයෙන් අවසන් කළේ වී නම්, සීමාව සංවෘත්ත නොවන බැවින් 'ඛණ්ඩනිමිත්තා' නැමැති විපත් සහිත සීමාවක් බවට පත් වේ. මේ හැර ඛණ්ඩ නිමිත්ත ගණනයට අයත් වන තවත් විපත්ති සහිත සීමාවක් වේ. එනම් කීර්තනය කරන ලද නිමිති අතරට නිමිත්ත ලෙස ගැනීමට නුසුදුසු යැයි දක්වන ලද තල්, පොල් ආදි සුඹුල් අරටු ඇති ගසක් හෝ කණුවක් හෝ පස් ගොඩක් හෝ එවැන්නක් නිමිත්ත ලෙස කීර්තනය කර ඇත්තේ නම් එම සීමාව ද කඩ වූ නිමිති ඇති විපත්ති සහිත සීමාවක් බවට පත්වේ. එහෙත් එසේ කීර්තනය කළ නිමිත්ත හැරුණු කොට තවත් නිමිති අවම වශයෙන් තුනක්වත් කීර්තනය කොට ඇති විටක සීමාව ඛණ්ඩනිමිත්තා නොවිය හැකිය.

(4) **ඡායානිමිත්තා**: ඡායා නිමිති සහිත සීමාව යනු පර්වත, වෘක්ෂ ආදි යමක සෙවනැල්ලක් නිමිත්ත ලෙස කීර්තනය කොට සම්මත කරන ලද සීමාව යි.

(5) **අනිමිත්තා**: සර්ව ප්‍රකාරයෙන් නිමිති කීර්තනය නොකොට සම්මත කරන ලද සීමාව යි.

(6) **බහිසීමෙ ඨිතසම්මතා**: සීමාවෙන් එනම් නිමිතිවලින් බැහැරව සිට කර්ම වාක්‍ය කියා සම්මත කරන ලද සීමාව යි. කෙසේ වෙතත් නිමිති කීර්තනය නිමිතිවලින් ඇතුළත සිට හෝ පිටත සිට සිදුකළ හැකි වේ.

(7) **නදියා සම්මතා**, (8) **සමුද්දෙ සම්මතා**, (9) **ජාතස්සරෙ සම්මතා**: ගංගාවෙහි, සමුදුරෙහි, ස්වාභාවික විලෙහි සම්මත කළ සීමාව නම් එකී ගංගා ආදියෙහි නමිති කීර්තනය කර බද්ධ සීමාවක් බඳින්නෙමු යැයි සම්මත කරන ලද්දකි. එසේ සම්මත කළ ද "**සබ්බා භික්ඛවෙ, නදී අසීමා, සබ්බො සමුද්දො අසීමො, සබ්බො ජාතස්සරො අසීමො (මහාව.1, පි.268)**" යැයි වදාළ බැවින් බද්ධ සීමාවක් බවට පත්

නොවන බව යි. ගංගා ආදිය ස්වකීය ස්වභාවයෙන් ම බද්ධ සීමාවක් හා සමාන වන අතර සියලු තැන්හි සංඝ කර්ම කිරීමට සුදුසු වේ.

(10) **සීමාය සීමං සම්භින්දන්තෙන සම්මතා:** තමාගේ සීමාව සමඟ අන් අයගේ සීමාවක් සම්බන්ධ වන පරිදි සම්මත කරන ලද සීමාව යි. එහි අර්ථය පැහැදිලි කිරීමට මෙසේ නිදසුනක් ගෙනහැර දැක්වේ. පුරාණ විහාරයක නැගෙනහිර දිශාවේ අඹ ගසක් හා දඹ ගසක් එකට වෙළී පැටලී ඇති අතර, අඹ ගසට බටහිර දිශාවෙන් දඹ ගස පිහිටයි. විහාරයේ සීමාව සම්මත කිරීමේ දී දඹ ගස ඇතුළත් කොට අඹ ගස කීර්තනය කර සම්මත කරන ලද්දේ වෙයි. පසුව ඒ විහාරයට නැගෙනහිරින් ඊට යාබදව අළුත් විහාරයක් කරවා එහි සීමා සම්මත කිරීමේ දී ඒ භික්ෂූහු අඹ ගස ඇතුළත් කොට දඹ ගස කීර්තනය කරමින් සීමා සම්මත කළේ වී නම්, සීමා දෙක එකිනෙක සම්බන්ධ වී දෝෂ සහිත වේ.

(11) **සීමාය සීමං අජ්ඣොත්ථරන්තෙන සම්මතා:** එනම් තමාගේ සීමාවෙන් අන් සීමාවක් මුළුමනින් ම හෝ කොටසක් හෝ ඇතුළත් කරමින් (යට කරමින්) සීමා සම්මත කිරීම යි. මෙහි ලා අළුතෙන් සම්මත කරන සීමාවට ඇතුළත් වන පැරණි සීමාවේ කොටස යටත් පිරිසෙයින් භික්ෂූන් සතර නමකට විනය කර්මයක් සිදුකිරීමට ප්‍රමාණවත් ඉඩකඩක් නම්, එහි දී නව සීමාවෙන් පැරණි සීමාව අජ්ඣොත්ථරණය කරන ලද්දේ වෙයි. එසේ ඇතුළත් වන පැරණි සීමාවේ කොටස භික්ෂූන් සතර නමකට නොපොහෝනා වේ නම් සම්භින්දන වූයේ වෙයි. සම්භින්දන, අජ්ඣොත්ථරණ දෙකෙහි වෙනස මෙසේ දත යුතු අතර ඒ කවර ආකාරයකින් නමුදු අළුත් සීමාව සම්මත නො වේ. අසීමා වේ.

මෙසේ දක්වන ලද එකොළොස් විපත්ති සහිත සීමාවන් අතහැර සම්මත කරන සීමාවක් බද්ධ සීමාව නම් වේ. එකී විපත්ති සහිත සීමා පිළිබඳ අරුත් විවරණ ගෙනහැර දක්වා ඉනික්බිතිව ත්‍රිවිධ සම්පත්ති පිළිබඳව විවරණය කරනු වස් **"තිවිධසම්පත්තියුත්තා'ති"** යැයි අරඹන ලදී.

**සඃ තිවිධසම්පත්තියුත්තා ඉති**, 'තිවිධසම්පත්තියුත්තා' යනු; **නිමිත්තසම්පත්තියා**, නිමිත්ත සම්පත්තියෙන් ද; **පරිසසම්පත්තියා**[1], පරිස සම්පත්තියෙන් ද; **කම්මවාචාසම්පත්තියා ච**, කම්මවාචා සම්පත්තියෙන් ද; **යුත්තා**, යුක්ත වූ සීමාව යි. **තත්‍ථ**, ඒ ත්‍රිවිධ සම්පත්ති අතරින්; **නිමිත්තසම්පත්ති යුත්තා නාම**[2], නිමිත්ත සම්පත්තිය යුක්ත වීම නම්, **පබ්බතනිමිත්තං**, පර්වත නිමිත්ත ය; **පාසාණනිමිත්තං**, පාෂාණ නිමිත්ත ය; **වනනිමිත්තං**, වන නිමිත්ත ය; **රුක්ඛනිමිත්තං**, වෘක්ෂ නිමිත්ත ය; **මග්ගනිමිත්තං**, මග්ග නිමිත්ත ය, **වම්මිකනිමිත්තං**, වම්මික (තුඹස) නිමිත්ත ය; **නදීනිමිත්තං**, නදී නිමිත්ත ය; **උදකනිමිත්තං ඉති**, උදක (ජල) නිමිත්ත යැයි; **එවං**, මෙසේ; **වුත්තෙසු අට්ඨසු නිමිත්තෙසු**, කියන ලද නිමිති අට අතුරෙන්; **තස්මිං තස්මිං දිසාභාගෙ**, ඒ ඒ දිශා භාගයෙහි; **යථා ලද්ධානි**, යම් සේ ලැබුණා වූ; **නිමිත්තුපගානි**, නිමිත්තයන්ට සුදුසු වූ; **නිමිත්තානි**, නිමිති, '**පුරත්‍ථිමාය දිසාය කිං නිමිත්තං? පබ්බතො, භන්තෙ, එසො පබ්බතො නිමිත්තං' ඉති ආදිනා නයෙන**, 'පුරත්‍ථිමායදිසාය -පෙ- නිමිත්තං' (**පුරත්‍ථිමාය දිසාය**, පෙරදිග දිශාවෙහි; **නිමිත්තං කිං**? නිමිත්ත කුමක් ද?; **භන්තෙ**, වහන්ස; **පබ්බතො**, පර්වතයකි; **එසො පබ්බතො**, මේ පර්වතය; **නිමිත්තං**, නිමිත්ත ය) යන ආදි වූ ක්‍රමයෙන්; **සම්මා කිත්තෙත්‍වා**, මැනවින් කීර්තනය කොට; **සම්මතා**, සම්මත කරන ලද සීමාව යි. **තත්‍ර**, එහි ලා (ඒ අටවැදෑරුම් නිමිත්තයන්හි); **එවං**, මෙසේ; **සඞ්ඛෙපතො**, සංක්ෂේප වශයෙන්; **නිමිත්තුපගතා**, නිමිත්තට යෝග්‍ය බව; **වෙදිතබ්බා**, දත යුතු ය. **සුද්ධපංසු**, හුදු පස් ය; **සුද්ධපාසාණ**, හුදු ගල් ය; **උභයමිස්සකවසෙන හි**, පස් හා ගල් මිශ්‍රකය වශයෙන් වනාහි; **තිවිධො අපි**, ත්‍රිවිධ වූ ම; **පබ්බතො**, පර්වතය; **හත්‍ථිප්පමාණතො පට්ඨාය**, හස්තියකුගේ ප්‍රමාණයේ පටන්; **උද්ධං**, මත්තට; **නිමිත්තුපගො**, නිමිත්ත ලෙස ගැනීමට සුදුසු ය. **තතො ඔමකතරො**, එයින් කුඩා වූ පර්වතය; **න වට්ටති**, නිමිත්ත ලෙස ගැනීමට නුසුදුසු ය. **පාසාණනිමිත්තෙ**, පාෂාණ නිමිත්තෙහි; **අයගුළං අපි**[3], යගුල (යකඩ ගුලිය) ද; **පාසාණසඞ්ඛං එව ගච්ඡති**, පාෂාණ සංඛ්‍යාවට ම යයි. **තස්මා**, එබැවින්; **යො කොචි පාසාණො**, යම්කිසි පාෂාණයක්; **උක්කංසවසෙන**,

[1] **පරිසාසම්පත්තියා**, මජසං
[2] **නිමිත්තසම්පත්තියා යුත්තා නාම**. මජසං
[3] **අයොගුළම්පි**. මජසං

උත්කෘෂ්ට වශයෙන්; **හත්ථිප්පමාණතො**, ඇතෙකුගේ ප්‍රමාණයෙන්; **ඔමකතරං ආදිං කත්වා**, කුඩා වූ පාෂාණයේ පටන්; **හෙට්ඨිමපරිච්ඡෙදෙන**, යටත් පිරිසෙයින්; **ද්වත්තිංසපලගුළපිණ්ඩ-පරිමාණො**, හකුරුපලම් පිඬු දෙතිසක් ප්‍රමාණ වූ පාෂාණය; **නිමිත්තූපගො**, නිමිත්තට සුදුසු වේ. **තතො ඛුද්දකතරො**, ඊට කුඩා පාෂාණය; **න**, නුසුදුසු වේ. **පිට්ඨිපාසාණො පන**, ගල් තලාව වනාහි; **අතිමහන්තොපි වට්ටති**, ඉතා විශාල වුව ද සුදුසු ය (පාෂාණ සංඛ්‍යාවට ම යයි). **වනනිමිත්තෙ**, වන නිමිත්තෙහි; **අන්තොසාරෙහි වා**, ඇතළත හරය ඇති (ඇතුළත අරටු සහිත) ගස්වලින් හෝ; **අන්තොසාරමිස්සකෙහි වා**, ඇතුළත හරය ඇති ගස්වලින් මිශ්‍ර වූ හෝ; **රුක්ඛෙහි**, වෘක්ෂයන්ගෙන්; **චතුපඤ්චරුක්ඛමත්තං අපි**, වෘක්ෂ සතරක් පහක් පමණ වුව ද (අවම 04) ඇති; **වනං**, වනය; **නිමිත්තූපගං**, නිමිත්තට සුදුසු වේ. **තතො ඌනකතරං**, ඊට අඩුවෙන් ගස් ඇති වනය; **න වට්ටති**, නිමිත්තට නුසුදුසු ය. **අන්තොසාරො රුක්ඛො**, ඇතුළත හර ඇත්තා වූ වෘක්ෂ තෙමේ; **භූමියං පතිට්ඨිතො**, භූමියෙහි පිහිටියේ; **ජීවන්තො එව**, ජීවත් වන්නේ ම; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **උබ්බෙධතො**, උසින්; **අට්ඨඞ්ගුලො**, අටඟුලක් වූ;

-6-

**පරිණාහතො**, මහතින් (අවටින්); **සූචිදණ්ඩප්පමාණො අපි**[1], සිංහල පන්හිඳක ප්‍රමාණය වුව ද (සිංහල පන්හිඳක ප්‍රමාණ ඇති වෘක්ෂය ද); **නිමිත්තූපගො**, නිමිත්තට සුදුසු වේ. **තතො ඔමකතරො**, එයින් කුඩා වූ වෘක්ෂය; **න වට්ටති**, නුසුදුසු ය. **මග්ගො**, මාර්ගය; **ජඞ්ඝමග්ගො වා හොතු**, අඩිපාරක් හෝ වේවා; **සකටමග්ගො වා**, ගැල් පාරක් හෝ වේවා; **යො**, යම් මාර්ගයක්; **ද්වෙ තීණි ගාමඛෙත්තානි**, ගම්කෙත් දෙක තුනක්; **විනිවිජ්ඣිත්වා ගච්ඡති**, විනිවිද යයි ද; **තාදිසො**, එබඳු මාර්ගය; **ජඞ්ඝසත්ථසකටසත්ථෙහි**, කත්වෙළඳසාත්තු, ගැල්සාත්තු විසින්; **වලඤ්ජියමානො එව**, පරිභෝග කරනු ලබන්නා වූ (මාර්ගය) ම; **නිමිත්තූපගො**, නිමිත්තට සුදුසු වේ. **අවලඤ්ජො**[2], පරිභෝග නොකරන්නා වූ (මාර්ගය); **න වට්ටති**, නුසුදුසු ය. **වම්මිකෙ**[3] **පන**, තුඹසෙහි වනාහි; **හෙට්ඨිමපරිච්ඡෙදෙන**, යටත් පිරිසෙයින්;

---

[1] **සූචිදණ්ඩකප්පමාණොපි**. මජසං
[2] **අවලඤ්ජිතො**, මජසං
[3] **වම්මිකො**, මජසං

**තංදිවසජාතො**[1], එදවස හටගත්; **අට්ඨඞ්ගුලුබ්බෙධො**, අටඟුලක් උස් වූ; **ගොවිසාණමත්තො අපි**, ගව අඟක් පමණ වූ ද; **වම්මිකො**, තුඹස; **නිමිත්තුපගො**, නිමිත්තට සුදුසු වේ. **තතො ඔමකතරො**, එයින් කුඩා වූවක්; **න වට්ටති**, නුසුදුසු ය. **අබද්ධසීමාලක්ඛණෙ**, අබද්ධසීමා ලක්ෂණයෙහි; **යං නදිං වක්ඛාම**[2], යම් නදියක් (ඉදිරියේ) කියන්නෙමු ද; **සා**, ඒ නදිය; **නිමිත්තුපගා**, නිමිත්තට සුදුසු වේ. **අඤ්ඤා න වට්ටති**, අන්‍ය වූ නදිය නුසුදුසු ය. **ආවාටපොක්ඛරණීතළාකජාතස්සරලොණිසමුද්දාදීසු**, වළවල්, පොකුණු, තටාක, ස්වාභාවික විල්, කලපු, සමුද්‍ර ආදීන්හි; **ඨිතං**, පිහිටියා වූ; **යං අසන්දමානං උදකං**, යම් නොගලන්නා වූ ජලයක් වේ ද; **තං ආදිං කත්වා**, ඒ ජලය ආදිකොට; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **තඞ්ඛණං එව**[3], එකෙණෙහි ම; **පඨවියං**[4], බිම; **ඛණිතෙ ආවාටකෙ**, සෑරූ වළෙහි; **ඝටෙහි ආහරිත්වා**, කළ ගෙඩිවලින් ගෙනවුත්; **පූරිතම්පි**, පුරවන ලද ජලය ද; **යාව කම්මවාචාපරියොසානා**, කර්ම වාක්‍ය අවසන් වන තෙක්; **සණ්ඨහනකං**[5], නො සිඳෙන්නේ; **නිමිත්තුපගං**, නිමිත්තට සුදුසු වේ. **ඉතරං**, අන්‍ය වූ; **සන්දමානං වා**, ගලාබස්නා ජලයක් හෝ; **වුත්තපරිච්ඡෙදකාලං අතික්කන්තං වා**, කියන ලද කාල පරිච්ඡේදය නොසිටින (නොපවතින) ජලයක් හෝ; **භාජනගතං වා**, භාජනගත ජලයක් හෝ; **න වට්ටති**, නුසුදුසු ය. **ඉති**, මෙසේ නිමිත්තට සුදුසු වූ පර්වතාදිය දත යුතු ය.

**15. වි:** බද්ධ සීමා පිළිබඳ කරනු ලබන අර්ථ විවරණයේ පළමු කොට ම එකොළොස් විපත්ති සහිත සීමා ගෙනහැර දක්වා ඉන් අනතුරුව ත්‍රිවිධ සම්පත්ති පිළිබඳ අර්ථ විවරණය කරනු වස් බුදුගොස් ඇදුරුපාණෝ "**තිවිධසම්පත්තියුත්තා ....**" යැයි ආරම්භ කළහ. එහි විස්තරාර්ථ මෙසේ දත යුතු.

'තිවිධසම්පත්තියුත්තා' යනු (බද්ධ සීමාව හැඳින්වීමේ දක්වන ලද) නිමිත්ත සම්පත්ති ය, පරිස සම්පත්ති ය, කම්මවාචා සම්පත්තිය යන ත්‍රිවිධ සම්පත්තීන්ගෙන් ම යුතු සීමාව යි.

---

[1] **තංදිවසංජාතො**, මජසං
[2] **යං පන අබද්ධසීමාලක්ඛණෙ නදිං වක්ඛාම**. මජසං
[3] **තඞ්ඛණෙයෙව**. මජසං
[4] **පඨවියං**, මජසං
[5] **සණ්ඨමානකං**. මජසං

## සීමා නිමිති

ඒ ත්‍රිවිධ සම්පත්ති අතරින් **නිමිත්තසම්පත්තියුත්තා** (නිමිත්ත සම්පත්තියෙන් යුතු සීමාව) යනු පර්වත නිමිත්තය, පාෂාණ නිමිත්තය, වන නිමිත්තය, වෘක්ෂ නිමිත්තය, මග්ග නිමිත්තය, වම්මික (තුඹස) නිමිත්තය, නදී නිමිත්තය, උදක (ජල) නිමිත්තය යන නිමිති අට අතරින් ඒ ඒ දිශාවන්හි ලැබෙන පරිද්දෙන් නිමිත්තට සුදුසු නිමිති නිවැරැදි ලෙස කීර්තනය කොට සම්මත කරන ලද සීමාව යි. "**පබ්බතාදීනං නිමිත්තානං සම්පදා නිමිත්තසම්පත්ති**" යනු විග්‍රහය යි. මෙසේ දක්වන ලද නිමිති අට අතරින් යම් නිමිත්තක් අමිශ්‍රව හෝ මිශ්‍රව හෝ ගෙන සීමාවක් සම්මත කළ හැකි වේ. ඒ ඒ දිශාවන්හි ලැබෙන පරිදි නිමිති තෝරා ගැනීමේ දී අවම වශයෙන් නිමිති තුනක්වත් තෝරාගත යුතු වේ. උපරිම සීමාවක් නො දක්වේ. එසේ තෝරා ගන්නා නිමිති කීර්තනය කිරීමේ දී විනයධරයා විසින් "**පුරත්ථිමාය දිසාය කිං නිමිත්තං?**" යැයි පිළිවිසිය යුතු අතර අනෙක් භික්ෂුව (හෝ ගිහි උපාසකයෙක් වුව වරද නැති) විසින් "**පබ්බතො භන්තෙ**" යනාදි ලෙස පිළිතුරු දුන් කල්හි, නැවත විනයධරයා විසින් "**එසො පබ්බතො නිමිත්තං**" යැයි මෙසේ කීර්තනය කළ යුතු ය. "**එතං පබ්බතං නිමිත්තං කරොම, නිමිත්තං කරිස්සාම, නිමිත්තං කතො, නිමිත්තං හොතු, නිමිත්තං භවිස්සති**" වැනි කීර්තනය ස්ථිර නොවන වාක්‍ය ඛණ්ඩයන්ගෙන් කීර්තනය නොකළ යුතු ය. එකී අට වැදෑරුම් නිමිත්තයන්ගේ නිමිත්තට සුදුසු බව මෙසේ සංක්ෂේප වශයෙන් දත යුතු.

(1) **පබ්බත නිමිත්තඃ** හුදු පස් පර්වතය (ස්වාභාවිකව සකස් වූ), හුදු ගල් පර්වතය, පස් හා ගල් මිශ්‍ර පර්වතය යැයි පර්වත ත්‍රිවිධාකාර වේ. එම පර්වතය ඇතෙකුගේ ප්‍රමාණයේ පටන් මත්තට විශාල වන්නේ නම් නිමිත්තට සුදුසු වේ. ඉන් කුඩා පර්වතය සුදුසු නො වේ.

(2) **පාසාණනිමිත්තඃ** යකඩ ගුලිය ද පාෂාණ සංඛ්‍යාවට ම යයි. යම්කිසි පාෂාණයක් (ගලක්) උත්කෘෂ්ට වශයෙන් ඇතෙකුගේ ප්‍රමාණය පටන් ඊට කුඩා, යටත් පිරිසෙයින් හකුරු පලමේ පිඬු දෙතිසක ප්‍රමාණ ඇති (**බත්තිංසපලගුළපිණ්ඩපරිමාණො, සම.පා,** පි.774) පාෂාණය ද නිමිත්තට සුදුසු වේ. ඉන් කුඩා වුවහොත් නුසුදුසු ය. මෙහි දී මෙම ප්‍රමාණය මැනගැනීම පිළිබඳ විමතිවිනෝදනී ටීකාවේ '**ද්වත්තිංසපලගුළපිණ්ඩප්පමාණතා සණ්ඨානතො ගහෙතබ්බා, න**

**තුලගණනාවසෙන (විමති, පි.397)**' යැයි සඳහන් වන බැවින් මෙම ප්‍රමාණය සටහන වශයෙන් මිස බර වශයෙන් නොගත යුතු. එබැවින් හකුරු පිඬු දෙතිසක් එකට ගොඩ ගැසූ විට ලැබෙන ප්‍රමාණය වශයෙන් සුදුසු පාෂාණයක් තෝරාගත යුතු බව ප්‍රකට වේ. එක් හකුරු පිඬක් පුරාණයේ මිණුම් ඒකකයක් ලෙස පැවති පලමේ ප්‍රමාණයේ පිඬුවක් විය යුතු බව '**භාරතො පලපරිමාණඤ්ච මගධතුලාය ගහෙතබ්බං. සා ච ලොකියතුලාය ද්විගුණාති වදන්ති (විමති, පි.397)**' යන විමතිවිනෝදනී පාඨයෙන් ගම්‍ය වේ. කෙසේ නමුත් ඉතා කුඩා පාෂාණයක් සුදුසු නොවන බව වැටහේ. පොළොන්නරුවේ ආළාහණ පිරිවෙණේ ඇති සීමා පාෂාණය සාමාන්‍ය පුද්ගලයෙකු තරමට උස ශිලාස්ථම්භයක් බව ද දැකගත හැකි වේ. කෙසේ නමුදු මේ පිළිබඳ තවදුරටත් විමසිය යුතු ය. මෙම පාෂාණයේ ප්‍රමාණය පිළිබඳ අතීතයේ ඇදුරුවරුන් වෙත ද කාංක්‍ෂා පැවතීමෙන් ඔවුහු පාෂාණ නිමිත්ත වෙනුවට උදකනිමිත්ත ම තෝරාගත් බවට ද අසන්නට ලැබේ. ගල් තලාව වනාහි ඉතා විශාල වුව ද පාෂාණ සංඛ්‍යාවට ම යයි.

(3) **වනනිමිත්තං**: ඇතුළත හරය ඇති (අරටු ඇති) ගස්වලින් හෝ අරටු සහිත හා සුඹුල් අරටු සහිත ගස් මිශ්‍රව ඇති වනය කීර්තනය කිරීම නිමිත්තට සුදුසු වේ. අවම වශයෙන් අරටු සහිත ගස් හතරක් පහක් පමණ හෝ තිබිය යුතු අතර උපරිම වශයෙන් යොදුන් සියයක් පමණ වන වනයකුදු සුදුසු ය. වජිරබුද්ධි ටීකාවෙහි,

> **"එත්ථ තයො වෙ සාරරුක්ඛා හොන්ති, ද්වෙ අසාරරුක්ඛා, සාරරුක්ඛානං බහුත්තං ඉච්ඡිතබ්බං. සුසානම්පි ඉධ වනමෙවාති සඞ්ඛ්‍යං ගච්ඡති සයංජාතත්තා'ති වුත්තං. කෙචි පන චතුසු ද්වෙ අන්තොසාරා වෙ, වට්ටති. අන්තොසාරා අධිකා, සමා වා වට්ටති. තස්මා බහුසු'පි ද්වෙ වෙ අන්තොසාරා අත්ථි, වට්ටතීති වදන්ති"**
>
> (වජිර.)

යනුවෙන් දැක්වෙන බැවින් බහුතරයක් අරටු සහිත ගස් ඇති වනය නිමිත්තට සුදුසු වේ. ඒ අනුව ගස් පහක් පමණක් ඇත්තේ නම් තුනක් ඇතුළත අරටු ඇති ගස් මෙන් ම දෙකක් සුඹුල් අරටු ඇති ගස් වීම සුදුසු වේ.

(4) **රුක්ඛනිමිත්තං**: වෘක්ෂ නිමිත්තයෙහි ලා භූමියෙහි පිහිටි ඇතුළත හරය ඇති (අරටු සහිත) ජීවත් වන ගසක් ම නිමිත්තට සුදුසු වේ. එය

යටත් පිරිසෙයින් උසින් අටඟුල් වූ ද මහතින් සිංහල පන්හිඳක මහත වූ ද (සුළැඟිල්ලේ ප්‍රමාණයේ සුදුසු ය) වෘක්ෂය නිමිත්තට සුදුසු වේ. ඉන් කුඩා වූ වෘක්ෂය නුසුදුසු ය. පෝච්චි ආදියකින් ඉවත්කොට එකෙණෙහි ම බිම රෝපණය කොට දිය වත්කොට වුව ද නිමිත්ත ලෙස කීර්තනය කළ හැකි වේ. අළුත් මුල් ඇදීම අවශ්‍ය නොවන නමුදු අත්තක් කඩා බිම සිටුවා කීර්තනය කළ නොහැකි වේ.

(5) **මග්ගනිමිත්තං:** අඩිපාරක් හෝ ගැල් පාරක් හෝ ගම් දෙකතුනක් විනිවිද යන මිනිසුන් විසින් පරිහරණය කරන්නා වූ මාර්ගය නිමිත්තට සුදුසු වේ. පරිහරණය නොකරන මාර්ගය නිමිත්තට නුසුදුසු ය.

(6) **වම්මිකනිමිත්තං:** වම්මික (තුඹස) නිමිත්තයෙහි, යටත් පිරිසෙයින් එදවස හටගත්, අටඟුලක් උස් වූ, ගවයකුගේ අඟක් පමණ වූ, තුඹස නිමිත්තට සුදුසු වේ. ඊට කුඩා වූ තුඹස නුසුදුසු ය.

(7) **නදීනිමිත්තං:** නදී නිමිත්තයෙහි, නිමිත්තට සුදුසු වන්නේ මත්තෙහි, අබද්ධ සීමා යටතේ උදකුක්ඛේප සීමාවෙහි විස්තර කෙරෙන නදිය යි. එයින් අන්‍ය වූ නදිය නිමිත්ත ලෙස ගැනීමට සුදුසු නො වේ.

(8) **උදකනිමිත්තං:** උදක (ජල) නිමිත්තයෙහි, වළවල්, පොකුණු, තටාක, ස්වාභාවික විල්, කලපු, මුහුද ආදියෙහි ඇති ගලා නොබසින ජලය ම නිමිත්තට සුදුසු වේ. යටත් පිරිසෙයින් එකෙණෙහි ම සෑරූ වළක පුරවන ලද ජලය වුව ද කර්ම වාක්‍ය අවසන් වන තෙක් නොසිඳී පවතී නම්, නිමිත්තට සුදුසු වේ. එසේ කර්ම වාක්‍ය අවසන් වන තෙක් නොපවතින ජලය හෝ ගලාබසින ජලය හෝ භාජනගත ජලය හෝ උදක නිමිත්තට සුදුසු නො වේ.

මෙසේ නිමිත්ත සම්පත්ති යුත්තක බව දක්වා දැන් පරිස සම්පත්තිය පිළිබඳ විවරණය ගෙනහැර දක්වනු වස් "**පරිසසම්පත්තියුත්තා ....**" යැයි අරඹන ලදහ.

**සඃ පරිසසම්පත්තියුත්තා**[1] **නාම**, 'පරිසසම්පත්තියුත්තා' නම්; **සබ්බන්තිමෙන පරිච්ඡෙදෙන,** සියල්ලට යටත් පිරිසෙයන්; **චතූහි භික්ඛූහි,** භික්ෂූන් වහන්සේලා සතර දෙනෙකු විසින්; **සන්නිපතිත්වා,**

[1] **පරිසාසම්පත්තියා යුත්තා.** මජසං

රැස්ව; **යාවතිකා**, යම්තාක්; **තස්මිං ගාමක්ඛෙත්තෙ**[1], ඒ ගම්කෙතෙහි; **බද්ධසීමං වා**, බද්ධ සීමාවකට හෝ; **නදිසමුද්දජාතස්සරෙ වා**, ගංගා, සමුද්‍ර, ස්වාභාවික විල්හි හෝ; **අනොක්කමිත්වා ඨිතා භික්ඛූ**, නොබැස සිටි භික්ෂූහු වෙත් ද; **තෙ සබ්බෙ**, ඒ සියලු භික්ෂූහු; **හත්ථපාසෙ කත්වා**, අත්පසට කොට; **වා**, නැතහොත්; **ඡන්දං වා ආහරිත්වා**, ඡන්දය ගෙනවුත් හෝ; **සම්මතා**, සම්මත කරන ලද්ද වූ සීමාව යි.

**කම්මවාචාසම්පත්තියුත්තා**[2] **නාම**, 'කම්මවාචාසම්පත්තියුත්තා' නම්; "**සුණාතු මෙ, භන්තෙ, සඞ්ඝො, යාවතා සමන්තා නිමිත්තා කිත්තිතා**" **ඉති ආදිනා නයෙන**, යනාදි වූ ක්‍රමයෙන්; **වුත්තාය**, කියන ලද; **පරිසුද්ධාය ඤත්තිදුතියකම්මවාචාය**, පිරිසිදු ඤත්තිදුතිය කර්ම වාක්‍යයෙන්; **සම්මතා**, සම්මත කරන ලද සීමාව යි. **එවං**, මෙසේ; **එකාදස විපත්තිසීමායො**, එකොළොස් විපත්ති සීමාවන්; **අතික්කමිත්වා**, ඉක්මවා; **තිවිධසම්පත්තියුත්තා**, නිමිත්ත සම්පත්ති, පරිස සම්පත්ති, කම්මවාචා සම්පත්ති යන ත්‍රිවිධ සම්පත්තීන්ගෙන් යුතුව; **නිමිත්තෙන**, නිමිත්ත සමඟ; **නිමිත්තං සම්බන්ධිත්වා**, නිමිත්ත සම්බන්ධ කොට; **සම්මතා සීමා**, සම්මත කළ සීමාව; '**බද්ධසීමා**' **ඉති**, බද්ධ සීමා තොමෝ යැයි; **වෙදිතබ්බා**, දත යුත්තීය. **ඛණ්ඩසීමා**, ඛණ්ඩ සීමාව ය; **සමානසංවාසසීමා**, සමානසංවාස සීමාව ය; **අවිප්පවාසසීමා ඉති**, අවිප්පවාස සීමාව ය යැයි; **තස්සා එව**, ඒ බද්ධ සීමාවේ ම; **පභෙදෙ**, ප්‍රභේදය වේ.

**16. වි:** "**පරිසසම්පත්තියුත්තා**" යනු යටත් පිරිසෙයින් භික්ෂූන් වහන්සේලා සතර නමක් හෝ රැස්ව, ඒ ග්‍රාම සීමාවේ යම්තාක් බද්ධ සීමා වෙත් නම් ඒවාට හෝ නදී, සමුද්‍ර, ස්වාභාවික විල් ආදී බද්ධ සීමාව නොපිහිටන තැනකට හෝ නොබැස සිටි භික්ෂූන් සියලු දෙනා අත්පසට රැස්කොට හෝ අත්පස නොමැති භික්ෂූන්ගේ ඡන්දය ගෙනවුත් සම්මත කළ සීමාව යි. මෙහි ලා මෙම සීමා සම්මත කිරීමේ විනය කර්මය චතුවග්ගකරණීය (භික්ෂූන් සතර නමක් විසින් කළ යුතු) බැවින් සතර නමක් සඳහන් කරන ලදී. ඉන් මත්තෙහි උපරිමයක් නැත.

"**කම්මවාචාසම්පත්තියුත්තා**" යනු 'සුණාතු මෙ භන්තෙ -පෙ- එවමෙතං ධාරයාමි' යන මහාවග්ගපාළි උපෝසථක්ඛන්ධකයෙහි එන

---

[1] **ගාමඛෙත්තෙ.** මජසං
[2] **කම්මවාචාසම්පත්තියා යුත්තා.** මජසං

සමානසංවාසසීමා සම්මත කිරීමේ ඤත්ති දුතිය කර්ම වාක්‍යය, ඤත්ති දෝෂ, අනුශ්‍රාවණ දෝෂයන්ගෙන් විරහිතව පිරිසිදුව කියා සම්මත කරන ලද සීමාව යි.

ඒ අනුව මෙසේ එකොළොස්වැදෑරුම් විපත්ති සහිත සීමාවන් අතහැර, නිමිත්ත සම්පත්ති, පරිස සම්පත්ති, කම්මවාචා සම්පත්ති යන ත්‍රිවිධ සම්පත්තීන්ගෙන් යුක්තව නිමිත්ත සමඟ නිමිත්ත ගටා (සම්බන්ධ කොට) සම්මත කරන ලද සීමාව 'බද්ධ සීමාව' යැයි දත යුතු. ඒ බද්ධ සීමාවෙහි ම ප්‍රභේදයෝ ඛණ්ඩ සීමාව, සමානසංවාස සීමාව, අවිප්පවාස සීමාව යනුවෙන් ත්‍රිවිධ වෙති. **ඛණ්ඩ සීමාව** යනු මහාවිහාරයක මහා සීමාව තුළ ඇති කුඩා සීමාවකි. සමාන සංවාසකත්වය පිණිස සම්මත කළ සීමාව **සමානසංවාස සීමාව** වන අතර තිචීවර අවිප්පවාසය පිණිස (තුන් සිවුරෙන් වෙන්ව විසීම පිණිස) සම්මත කරන ලද සීමාව **අවිප්පවාස සීමාව** නම් වේ. මෙසේ බද්ධ සීමාවේ ප්‍රභේද දක්වා අබද්ධ සීමාව පිළිබඳ විවරණය කරන්නා වූ ආචාර්යපාදයෝ **"අබද්ධසීමා පන"** යනාදිය කීහ.

**සඃ අබද්ධසීමා පන**, අබද්ධ සීමාව වනාහි; **ගාමසීමා**, ග්‍රාම සීමාව ය; **සත්තබ්භන්තරසීමා**, සත්තබ්භන්තර සීමාව ය; **උදකුක්ඛෙපසීමා**, උදකුක්ඛෙපසීමාව ය; **ඉති**, යනුවෙන්; **තිවිධා**, තෙවැදෑරුම් වේ. **තත්‍ථ**, ඒ තෙවැදෑරුම් සීමා අතරින්; **යාවතා එකං ගාමක්ඛෙත්තං**, යම්තාක් එක් ගම්කෙතක් වේ ද; **අයං ගාමසීමා නාම**, මෙය ගාමසීමාව නම් වේ. **අගාමකෙ අරඤ්ඤෙ**, අගාමක (ගම නොවන) ආරණ්‍යයෙහි; **සමන්තා**, හාත්පස; **සත්තබ්භන්තරා**, අබ්භන්තර සතක්; **සත්තබ්භන්තරසීමා නාම**, සත්තබ්භන්තර සීමාව නම් වේ. **තත්‍ථ**, එහි ලා; **අගාමකං අරඤ්ඤං නාම**, අගාමක ආරණ්‍යය නම්; **විඤ්ඣාටවි ආදීසු වා**, වින්ධ්‍යා වනය ආදීන්හි හෝ; **සමුද්දමජ්ඣෙ**, සමුදුර මධ්‍යයෙහි; **මච්ඡබන්ධානං අගමනපථෙ**[1], මසුන් මරන්නන් හට යා නොහැකි මාර්ගයෙහි ඇති; **දීපකෙසු**, දිවයින්හි හෝ; **ලබ්භති**, ලබයි. **සමන්තා සත්තබ්භන්තරා ඉති**, 'සමන්තා සත්තබ්භන්තරා' යනු; **මජ්ඣෙ ඨිතානං**, මැද සිටින්නවුන්ගේ; **සබ්බදිසාසු**, සියලු දිශාවන්හි; **සත්තබ්භන්තරා**, අබ්භන්තර සතක්; **විනිබ්බෙධෙන**, විනිවිද යාම් වශයෙන්; **චුද්දස හොන්ති**, අබ්භන්තර දහ හතරක් (14) වේ. **තත්‍ථ**, එහි; **එකං අබ්භන්තරං**, එක් අබ්භන්තරයක්;

[1] **අගමනපථෙසු**. මජසං

**අට්ඨවීසතිහත්ථප්පමාණං හොති**, රියන් විසිඅට (28) ක ප්‍රමාණය වෙයි. **ච**, එසේ ම; **අයං සීමා**, මේ සීමා තොමෝ; **පරිසවසෙන**[1], පිරිසගේ වශයෙන්; **වඩ්ඪති**, වැඩේ. **තස්මා**, එසේ පිරිස වශයෙන් වැඩෙන බැවින්; **සමන්තා**, හාත්පස; **පරිසපරියන්තතො**[2] **පට්ඨාය**, පිරිසේ කෙළවර පටන්; **අබ්භන්තරපරිච්ඡෙදෙ කාතබ්බො**, අබ්භන්තරයාගේ වෙන් කිරීම කළ යුතු ය. **සචෙ පන**, ඉදින් වනාහි; **ද්වෙ සඞ්ඝා**, සඟ පිරිස් දෙකක්; **විසුං උපොසථං කරොන්ති**, වෙන ම පොහොය කරත් ද; **ද්වින්නං සත්තබ්භන්තරානං**, සත්තබ්භන්තර දෙක; **අන්තරෙ**, අතරෙහි; **අඤ්ඤං**, අන්‍ය වූ; **එකං සත්තබ්භන්තරං**, එක් සත්තබ්භන්තරයක්; **උපචාරත්ථාය**, උපචාරය පිණිස; **ඨපෙතබ්බං**, තැබිය යුතු ය.

**17. වි:** අබද්ධ සීමාව වනාහි ග්‍රාම සීමාව ය, සත්තබ්භන්තර සීමාව ය, උදකුක්ඛෙප සීමාව ය යනුවෙන් තෙවැදෑරුම් වේ.

(1) **ග්‍රාම සීමාව**: එක් ග්‍රාම ක්ෂේත්‍රයක් යම්තාක් වේ ද එය ග්‍රාම සීමාව නම් වේ. නිගම, නගර යනාදිය ද මෙයට සංග්‍රහ වේ. සමන්තපාසාදිකා විනයට්ඨකථාවේ

> "**තත්ථ යත්තකෙ පදෙසෙ තස්ස ගාමස්ස භෝජකා බලිං ලභන්ති, සො පදෙසො අප්පො වා හොතු මහන්තො වා, ගාමසීමාත්වෙව සඞ්ඛං ගච්ඡති. නගරනිගමාදිසු එසෙව නයො.**"
>
> (සම.පා, පි.784)

යනුවෙන් සඳහන් වන බැවින් ග්‍රාමයක් ලෙස සලකනු ලබන්නේ ගමේ අයබදු අයකරන නිලධරයා හට අයබදු රැස්කළ හැකි සීමාව වේ. වර්තමානයේ ගමක අයබදු ලෙස සැලකිය හැකි අක්කර බදු ආදිය අය කරනු ලබන්නේ ග්‍රාම නිලධාරි වසම් අනුව බැවින් වර්තමාන ග්‍රාම නිලධාරි වසමක් එක් ගමක් ලෙස ගැනීම වඩාත් උචිත බව පෙනේ. ඒ අනුව එක් ග්‍රාම නිලධාරි වසමක් ග්‍රාම සීමාවක් වේ.

(2) **සත්තබ්භන්තර සීමාව**: ගම නොවන ආරණ්‍යයෙහි හාත්පස අබ්භන්තර සතක් (07) සත්තබ්භන්තර සීමාව නම් වේ. ගම නොවන ආරණ්‍යය (අගාමක ආරණ්‍යය) යන්න හඳුනාගැනීමේ ලක්ෂණ වශයෙන් ජම්බුද්වීපයෙහි පැවති වින්ධ්‍යා වනය උපමා කොට දක්වේ. එබඳු වනයක් අගාමක ආරණ්‍යයක් වන අතර තව ද සමුද්‍ර මධ්‍යයෙහි මසුන්

[1] **පරිසාවසෙන**, මජසං
[2] **පරිසාපරියන්තතො**, මජසං

මරන්නන් හට එදින ගොස් එදින ම ආපසු පැමිණිය නොහැකි තරම් දුර ඇති දිවයින් ද අගාමක ආරණ්‍ය සංඛ්‍යාවට ගත යුතු ය. මෙහි ලා අගාමක ආරණ්‍යය යන්න විමතිවිනෝදනී විනය ටීකාවේ

> **"යත්ථ අසුකගාමස්ස ඉදං ඛෙත්තන්ති ගාමවොහාරො නත්ථි, යත්ථ පන නෙව කසන්ති න වපන්ති, තාදිසෙ අරඤ්ඤෙ. මච්ඡබන්ධානං අගමනපථා නිම්මනුස්සාවාසා සමුද්දන්තර දීපකාපි එත්ථෙව සඞ්ගය්හන්ති. යං යං හි අගාමඛෙත්තභූතං නදීසමුද්දජාතස්සරවිරහිතං පදෙසං, තං සබ්බං අරඤ්ඤසීමාති වෙදිතබ්බං."**
>
> (විමති, පි.410)

යනුවෙන් දක්වේ. ඒ අනුව යම් තැනක මේ අසවල් ගම් ප්‍රදේශය යැයි ග්‍රාම ව්‍යවහාරයක් නැත්තේ ද යම් ප්‍රදේශයක සීසෑම්, වැපිරීම් ආදි කෘෂි වගා කටයුතු නො සිදුවේ ද වින්ධ්‍යා වනය වැනි එබඳු ආරණ්‍යය අගාමක ආරණ්‍යය වේ. මසුන් මරන්නන් එදින ගොස් ආපසු පැමිණිය නොහැකි දුර ඇති මිනිස් වාසයෙන් තොර වූ දිවයින් ද මෙම අගාමක ආරණ්‍ය ගණයෙහි ම සංග්‍රහ වේ. යම් නදී, සමුද්‍ර, ජාතස්සර විරහිත වූ ගම නොවන ප්‍රදේශයක් වේ ද ඒ සියල්ල ආරණ්‍ය සීමාව යැයි දත යුතු. ඒ අගාමක ආරණ්‍යය සත්තබ්භන්තර සීමාවක් සම්මත නොකර වුව ද සමාන සංවාස ඇති බද්ධ සීමාවක් බඳු වේ. නදී ආදි සීමාවන්හි මෙන් ආරණ්‍යය පුරා සෑම තැන්හි ම සංඝ කර්ම කිරීම සුදුසු වේ. වර්ග කර්ම දෝෂයෙන් මිදීම පිණිස සත්තබ්භන්තර සීමාවක් සම්මත කරගත හැකි වේ.

එහි දී 'හාත්පස අබ්භන්තර සතක්' යනු මැද සිටින භික්ෂූන්ගේ සිටි අවකාශයේ පටන් සියලු දිශාවන්හි අබ්භන්තර සතක් ගත යුතු බව යි. ඒ අනුව දෙපසට මුළු දුර අබ්භන්තර තුදුසක් (දහ හතරක්) වේ. ඒ සත්තබ්භන්තරයන්හි එක් අබ්භන්තරයක් රියන් විසිඅටක (28) ප්‍රමාණය වේ. තව ද මෙම සත්තබ්භන්තර සීමාව පිරිස වශයෙන් වැඩේ. එනම් විනය කර්මය සඳහා රැස්වන සඟ පිරිස වැඩිවීමත් සමඟ සීමාව ද විශාල වන බව යි. එසේ පිරිස වශයෙන් වැඩෙන බැවින් පිරිසෙහි කෙළවර පටන් අබ්භන්තරයේ පිරිසිදීම කළ යුතු වේ. යම්හෙයකින් සඟ පිරිස් දෙකක් වෙන වෙනම උපෝසථ හෝ වෙනත් විනය කර්ම

කරත් ද ඒ සත්තබ්භන්තර සීමා දෙක අතර තවත් එක් සත්තබ්භන්තරයක් උපචාරය පිණිස තැබිය යුතු වේ.

**සඃ** ‘සබ්බා භික්ඛවෙ නදී අසීමා’ **ඉති** ආදිනා **නයෙන**, (**භික්ඛවෙ**, මහණෙනි; **සබ්බා නදී**, සියලු නදිය; **අසීමා**, සීමා නො වේ හෙවත් අසීමා වේ) යන ආදි වූ ක්‍රමයෙන්; **නදීආදීනං**[1], ගංගා ආදීන්ගේ; **සීමාභාවං**[2], සීමා භාවය; **පටික්ඛිපිත්වා**, ප්‍රතික්ෂේප කොට; **පුන**, නැවත; "**නදියා වා, භික්ඛවෙ, සමුද්දෙ වා ජාතස්සරෙ වා යං මජ්ඣිමස්ස පුරිසස්ස සමන්තා උදකුක්ඛෙපා, අයං තත්‍ථ සමානසංවාසා එකූපොසථා**[3]" **(මහාව.1, පි.268) ඉති**, (**භික්ඛවෙ**, මහණෙනි; **නදියා වා**, ගංගාවෙහි හෝ; **සමුද්දෙ වා**, මුහුදේ හෝ; **ජාතස්සරෙ වා**, ස්වයංජාත විලෙහි හෝ; **යං**, යම් තැනක්; **මජ්ඣිමස්ස පුරිසස්ස**, ථාම මධ්‍යම පුරුෂයකුගේ හෙවත් බලමැදුම් පුරුෂයකුගේ; **සමන්තා**, හාත්පසින්; **උදකුක්ඛෙපා**, උදකුක්ෂේපයෙන් එනම් ජලය විසිකිරීමෙන් පිරිසිඳින ලද්දේ ද; **අයං**, පිරිසිඳන ලද මේ තැන; **තත්‍ථ**, ඒ නදී ආදි ස්ථානයන්හි; **සමානසංවාසා**, සමාන සංවාස ඇති; **එකූපොසථා**, එකට පාමොක් උදෙසීම් ඇති ය) යැයි මෙසේ; **යා පන එසා වුත්තා**, යම් මේ සීමාවක් වදරන ලද්දේ ද; **අයං**, ඒ සීමා තොමෝ, **උදකුක්ඛෙපසීමා නාම**, උදකුක්ඛේප සීමාව නම් වන්නීය. **තත්‍ථ**, ඒ වදාළ වචනයෙහි ලා (‘**සබ්බා භික්ඛවෙ නදී අසීමා**’ යන පාළියෙහි); **යස්සා**, යම් නදියෙක;

-7-

**ධම්මිකානං රාජූනං කාලෙ**, දැහැමි රජවරුන්ගේ කාලයෙහි; **අන්වද්ධමාසං**[4], අඩමසක් පාසා; *(පිළිවෙළින් අඩමසක් වස්සි, අඩමසක් නො වස්සි යි යූ සේ යි -* **කඞ්ඛා.පි, පි.05**); **අනුදසාහං**, දශ දිනක් පාසා (දින දහයකට වරක්); **අනුපඤ්චාහං**, පස් දිනක් පාසා (දින පසකට වරක්); **අනතික්කමිත්වා**, නොඉක්මවා; **දෙවෙ වස්සන්තෙ**, වැසි වස්නා කල්හි; **වලාහකෙසු විගතමත්තෙසු**, වැසි වලාකුළු පහව ගිය මාත්‍රයෙහි; **සොතං**, ජල ප්‍රවාහය (දිය දහරාව); **පච්ඡිජ්ජති**, සිඳී යේ ද; **අයං**, මේ නදිය; **නදීසඞ්ඛං**, මේ සීමා කථාවෙහි එන නදී සංඛ්‍යාවට; **න ගච්ඡති**, නො යයි. **යස්සා**, යම් නදියෙක වනාහි; **ඊදිසෙසු වුට්ඨිකාලෙසු**, මෙබඳු

---

[1] **නදිආදීනං**. මජසං
[2] **සීමභාවං**. මජසං
[3] **එකූපොසථො**. කඞ්ඛා.ටී.
[4] **අන්වඩ්ඪමාසං**, මජසං

වැසි වස්නා කාලයන්හි; **වස්සානස්ස චාතුමාසෙ**, වස්සාන ඍතුවගේ සාර මස තුළ; **සොතං න පච්ඡිජ්ජති**, දිය දහරාව නො සිඳෙයි ද; **යත්ථ**, යම් නදියෙක්හි; **තිත්ථෙන වා**, තොටුපළින් හෝ; **අතිත්ථෙන වා**, තොටුපළ නොවන තැනකින් හෝ; **සික්ඛාකරණීයෙ**, සේඛියා සිකපදයෙහි; **ආගතලක්ඛණෙන**, පැමිණි ලක්ෂණයෙන්; **තිමණ්ඩලං පටිච්ඡාදෙත්වා**, තෙමඬුළු වසා; **අන්තරවාසකං අනුක්ඛිපිත්වා**, අඳනය නොම ඔසවා; **උත්තරන්තියා භික්ඛුනියා**, එතෙර වන්නා වූ භික්ෂුණියගේ; **අන්තරවාසකො**, අඳනය; **එකද්වඞ්ගුලමත්තං අපි**, එක’ඟුල් දෑඟුල් පමණකුදු; **තෙමීයති**, තෙමෙයි ද; **අයං**, මේ නදී තොමෝ; **සමුද්දං වා පවිසතු**, මුහුදට හෝ පිවිසේවා (ගලා යේවා); **තළාකං වා**, වැවකට හෝ ගලා යේවා; **සා**, ඒ නදී තොමෝ; **පභවතො පට්ඨාය**, ආරම්භයේ පටන්; **නදී නාම**, නදිය නම් වේ.

**18. වි:** "**සබ්බා, භික්ඛවෙ, නදී අසීමා**" යනාදි වූ ක්‍රමයෙන් නදී සමුද්‍ර ජාතස්සරයන්හි බද්ධ සීමා බැඳීම ප්‍රතික්ෂේප කොට නැවත "**නදියා වා, භික්ඛවෙ -පෙ- එකූපොසථා**)" යනුවෙන් අබද්ධ සීමා පිරිසිඳීම දැක්වීමට වදාරන ලද සේක් ද ඒ සීමාව උදකුක්ඛෙප සීමාව නම් වේ. ඒ අනුව,

(3) **උදකුක්ඛෙප සීමාව**: කිසියම් නදියක, සමුද්‍රයක හෝ ජාතස්සරයක හෙවත් ස්වාභාවික විලක මධ්‍යම පුරුෂයෙකු විසින් හාත්පසින් ජලය විසිකිරීමෙන් පිරිසිඳින ලද සීමාව උදකුක්ඛෙප සීමාව නම් වේ.

මෙහි දී උදකුක්ඛෙපයට සුදුසු නදී ආදියෙහි ලක්ෂණය දක්වනු වස් '**තත්ථ යස්සා ධම්මිකානං රාජූනං කාලෙ ...**' යනාදි වශයෙන් කියන ලදී. ඒ අනුව දැහැමි රජවරුන්ගේ කාලයෙහි අඩමසක් පාසා හෝ දස දිනක් පාසා හෝ පස් දිනක් පාසා නොඉක්මවා වැසි වසින කාලයෙහි, වැහි වලාපටල පහව ගිය මාත්‍රයෙහි යම් ගංගාවක දිය දහරාව සිඳී යයි ද, එම ගංගාව මෙම සීමා කථාවෙහි එන නදී සංඛ්‍යාවට නො ගැණෙයි. යම් ගංගාවක වනාහි මෙබඳු වූ වැසි වස්නා කාලයන්හි වස්සාන ඍතුවේ සාර මස තුළ දිය දහරාව නො සිඳී ගලයි ද එබඳු යම් ගංගාවක තොටුපළින් හෝ තොටුපළ නොවන තැනකින් සේඛියා සිකපදයෙහි කියූ ආකාරයට තෙමඬුළු වසා හැඳ පෙරවා අඳනය නොම ඔසවා එතෙරවන්නා වූ භික්ෂුණියකගේ අඳනය අඟලක් දෙකක් පමණකුදු තෙමෙයි ද එම ගංගාව මුහුදට ගලන්නේ හෝ වේවා වැවකට ගලන්නේ හෝ වේවා ආරම්භයේ පටන් ම නදී සංඛ්‍යාවට ගැණෙයි. මෙහි ලා නදී

ලක්‍ෂණය දැක්වීමට භික්‍ෂුණිය ගෙන ඇත්තේ මෙම නදී ලක්‍ෂණය වනාහි පෙළෙහි භික්ඛුණී විභඞ්ගයෙහි පැමිණි බැවිනි. එබැවින් 'භික්‍ෂුණියකගේ අඳනය තෙමෙයි ද' යනුවෙන් සඳහන් වීම විනා එහි ලා විශේෂයක් නැත්තේ ම ය.

**සඃ** **සමුද්දෙ**, සමුද්‍රය තෙම; **පාකටො** **එව**, ප්‍රකට ම ය. **කෙනචි** **ඛණිත්වා**, සූකරාදි කිසිවකු විසින් කැන (සාරා); **අකතො**, නොකරන ලද; **සයඤ්ජාතො**, තෙමේ ම හටගත්තා වූ; **යො** **සොබ්භො** **පන**, යම් හෙබක් වනාහි; **සමන්තතො**, හාත්පසින්; **ආගතෙන** **උදකෙන**, ආවා වූ ජලයෙන්; **පූරිතො** **තිට්ඨති**, පිරී සිටී ද; **යත්‍ථ**, යම් ආවාටයෙක්හි; **නදියං** **වුත්තප්පකාරෙ** **වස්සකාලෙ**, නදියෙහි කියන ලද ආකාර ඇති වැසි කාලයෙහි; **උදකං** **සන්තිට්ඨති**, ජලය රැඳී සිටී ද; **අයං** මේ හෙබ (ආවාටය); **ජාතස්සරො** **නාම**, ජාතස්සරය නම් වේ. **නදිං** **වා**, නදිය හෝ; **සමුද්දං** **වා**, සමුද්‍රය හෝ; **භින්දිත්වා**, බිඳ; **නික්ඛන්තඋදකෙන**, නික්මුණා වූ ජලයෙන්; **ඛතො**, කනින ලද්දා වූ; **යො** **සොබ්භො**, යම් හෙබක් වේ ද; **එතං** **ලක්ඛණං** **පාපුණාති**, නදියෙහි උක්ත ප්‍රකාර ලක්‍ෂණයට පැමිණේ ද; **අයං** **අපි**, මේ හෙබ ද; **ජාතස්සරො** **එව**, ජාතස්සරය ම (ස්වාභාවික විල ම) වේ.

**19.** **විඃ** කිසිවකු විසින් යටත් පිරිසෙයින් තිරිසන්ගත සතකු විසින් හෝ කැන (සාරා) නොකරන ලද, ස්වාභාවිකව ම හටගත් යම් හෙබක් (ආවාටයක්/ජලය රැඳෙන තැනක්) වෙයි ද, එය හාත්පසින් පැමිණි ජලයෙන් පිරී සිටියි ද, යම් නදියක යට කියූ ආකාර වැසි සමයෙක ජලය රැඳෙයි ද එබඳු හෙබක් ජාතස්සරයක් හෙවත් ස්වාභාවික විලක් නම් වේ. එසේ ම ගං ඉවුර හෝ මුහුදු වෙරළ හෝ බිඳගෙන නික්මුණා වූ ජලයෙන් කනින ලද්දා වූ (සාරන ලද) යම් හෙබක් වෙයි ද, එම හෙබ ද යට කියූ අයුරින් වැසි සමයෙහි ජලය රැඳෙන ලක්‍ෂණයට පැමිණෙයි ද, එකී හෙබ ද ජාතස්සරයක් ම (ස්වාභාවික විලක් ම) වෙයි. කලපුව ද ජාතස්සර සංඛ්‍යාවට ම යයි. ස්වාභාවිකව හටගත් යම්කිසි විලෙක්හි ද කියන ලද ආකාර ඇති වර්ෂා කාලයෙහි වර්ෂාව නතර වූ මාත්‍රයෙන් පානය කිරීමට හෝ අත්පා සේදීමට හෝ ජලයක් ඉතිරි නොවී වියළී යයි ද එම ජාතස්සරය ග්‍රාම ක්‍ෂේත්‍ර සංඛ්‍යාවට ම යයි. උදකුක්ෂේප සීමාවකට පොහෝනා නො වෙයි.

මෙසේ නදී, සමුද්‍ර, ජාතස්සර හඳුනාගැනීමේ අයුරු දක්වා නැවත උදකුක්ඛෙපය දැක්වීමට "**යං මජ්ඣිමස්ස පුරිසස්ස ....**" යනාදිය ගෙන හැර දක්වන ලදී.

**සඃ** "**යං මජ්ඣිමස්ස පුරිසස්ස සමන්තා උදකුක්ඛෙපා**"ති, යනු; **යං ඨානං**, යම් තැනක්; **ථාමමජ්ඣිමස්ස පුරිසස්ස**, බලමැදුම් පුරුෂයකුගේ (මධ්‍යම ශක්තිය ඇති පුරුෂයකුගේ); **සමන්තතො**, හාත්පසින්; **උදකුක්ඛෙපෙන**, ජලය විසිකිරීමෙන්; **පරිච්ඡින්නං**, පිරිසිඳින ලද ද යන අර්ථ යි *(උදකුක්ඛෙපා'ති කරණත්ථෙ නිස්සක්කවචනන්ති ආහ උදකුක්ඛෙපෙනා'ති.* - **කඞ්ඛා.ටී, පි.24**). **තත්ථ**, ඒ උදකුක්ෂේපයෙහි; **යථා**, යම් සේ; **අක්ඛධුත්තා**, අක්‍ෂ ධූර්තයෝ (*දුවරුවෝ, දරුවෝ* - **කඞ්ඛා.පි., පි.06**); **දරුගුළං**, දඬු කැටය (*පස ඇට* - **කඞ්ඛා.පි, පි.06**); **ඛිපන්ති**, දමා ගසත් ද; **එවං**, එපරිද්දෙන්; **උදකං** වා, ජලය හෝ; **වාලිකං**[1] වා, වැලි හෝ; **හත්ථෙන ගහෙත්වා**, අතින් ගෙන; **මජ්ඣිමෙන පුරිසෙන**, බලමැදුම් පුරුෂයකු විසින්; **සබ්බත්ථාමෙන**[2], සියලු වැර යොදා; **ඛිපිතබ්බං**, විසිකළ යුතු ය. **එවං ඛිත්තං**, මෙසේ විසිකළ; **උදකං** වා, ජලය හෝ; **වාලිකා**[3] වා, වැලි හෝ; **යත්ථ**[4] **පතති**, යම් තැනක වැටෙයි ද; **අයං උදකුක්ඛෙපො නාම**, මේ උදකුක්ෂේපය නම් වේ (උදකුක්ෂේපයෙන් පිරිසිඳි සීමාව නම් වේ).

**20. විඃ** "**යං මජ්ඣිමස්ස පුරිසස්ස සමන්තා උදකුක්ඛෙපා**" යන්නෙන් බලැති මධ්‍යම පුරුෂයෙක් හාත්පසින් ජලය විසිකිරීමෙන් පිරිසිඳන ලද තැන අදහස් වේ. එහි "උදකුක්ඛෙපා" යනු කරණ අර්ථයෙහි පඤ්චමී විභක්ති වචනය යි. "උදකුක්ඛෙපෙන" යැයි අර්ථ ගත යුතු. එකී ජලය විසිකිරීම කෙසේ කළ යුතු ද යන්න දැක්වීමට 'තත්ථ' යනාදිය දක්වන ලදී. එනම් අක්‍ෂධූර්තයෝ (පන්දු ක්‍රීඩකයෝ/දුවරුවෝ) යම් සේ දුව පන්දුව (දඬු කැටය) විසිකරත් ද ඒ අයුරින් මධ්‍යම පුරුෂයකු විසින් ජලය හෝ වැලි හෝ අතින් ගෙන සියලු වැර යොදා විසිකළ යුතු ය. එසේ විසිකළ ජලය හෝ වැලි යම් තැනෙක්හි වැටෙයි ද එම තැන උදකුක්ෂේපයෙන් පිරිසිඳින ලද සීමාව නම් වේ. මෙම උදකුක්ඛෙප

---

[1] **වාලුකං.** මජසං
[2] **සබ්බථාමෙන.** මජසං
[3] **වාලුකා.** මජසං
[4] **තත්ථ යත්ථ.** මජසං

සීමාව ද පිරිස වැඩිවීමත් සමඟ වැඩෙයි. එබැවින් පිරිසෙහි කෙළවර පටන් උදකුක්ෂේපය කළ යුතු ය.

> **"එත්ථ ච සචෙ නදී නාතිදීඝා හොති, පභවතො පට්ඨාය යාව මුඛද්වාරා සබ්බත්ථ සඞ්ඝො නිසීදති, උදකුක්ඛෙපසීමාකම්මං නත්ථි. සකලාපි නදී එතෙසංයෙව භික්ඛූනං පහොති."**
>
> (සම.පා, පි.785)

යනුවෙන් මහවග අටුවාවෙහි එන බැවින්, නදිය බොහෝ දිග නො වේ නම් ආරම්භයේ පටන් මුවදෙර දක්වා ම සියලු තැන්හි සංඝයා හිඳියි නම් එහි ලා උදකුක්ෂේප කෘත්‍යයක් හෙවත් ජලය විසිකිරීමෙන් උදකුක්ෂේප සීමා පරිච්ඡේද නියම කිරීමක් නැත්තේය. සියලු නදිය ඒ භික්ෂූන්ට ම ප්‍රමාණවත් වේ.

**සඃ** "අයං තත්ථ සමානසංවාසා එකූපොසථා" ඉති, යනු; **තෙසු නදීආදීසු**[1], ඒ ගංගා ආදීන්හි; **උදකුක්ඛෙපපරිච්ඡින්නා,** ජලය විසිකිරීමෙන් පිරිසිඳින ලද; **අයං සීමා,** මේ සීමා තොමෝ; **සමානසංවාසා චෙව,** සමාන සංවාස ඇත්තී ද වන්නීය. **එකූපොසථා ච,** එකට පාමොක් උදෙසීම් ඇත්තී ද වන්නීය. **අයං පන** මේ උදකුක්ඛෙප සීමාව වනාහි; **එතෙසං නදීආදීනං**[2], මේ නදී ආදීන්ගේ; **අන්තොයෙව ලබ්භති,** ඇතුළත ම ලබයි. **බහි න,** නදී ආදීන්ගේ පිටත නො ලබයි. **තස්මා,** එබැවින්; **නදියා වා,** නදියෙහි හෝ; **ජාතස්සරෙ වා,** ස්වාභාවික විලෙහි හෝ; **යත්තකං පදෙසං,** යම් පමණ ප්‍රදේශයක්; **පකතිවස්සකාලෙ,** ප්‍රකෘතියෙන් වැසි වස්නා කාලයෙහි; **චතුසු**[3] **මාසෙසු,** වස්සාන සාර මාසයන්හි; **උදකං ඔත්ථරති,** ජලය මඩී ද; **සමුද්දෙ,** මුහුදෙහි; **යස්මිං පදෙසෙ,** යම් ප්‍රදේශයක්හි; **පකතිවීචියො,** ප්‍රකෘති රළ; **ඔසරිත්වා**[4] **සණ්ඨහන්ති,** බැස පිහිටා සිටිත් ද; **තතො පට්ඨාය,** එතැන් පටන්; **කප්පියභූමි,** කැප භූමිය නම් වේ. එනම් නදී, ජාතස්සර, සමුද්‍ර සංඛ්‍යාවට යන බව යි. **තත්ථ ඨත්වා,** ඒ කැප බිමෙහි සිට; **උපොසථාදිකම්මං,** පොහොය කිරීම් ආදි විනය කර්ම; **කාතුං වට්ටති,**

---

[1] **නදිආදීසු.** මජසං
[2] **නදිආදීනං.** මජසං
[3] **චතූසු.** මජසං
[4] **ඔත්ථරිත්වා,** මජසං

කිරීමට සුදුසු ය. **දුබ්බුට්ඨිකාලෙ**[1] **වා**, වැසි නොවස්නා කල්හි හෝ (වස්සාන, හේමන්ත කාලයන්හි වැසි නොවස්නා කාලයේ); **ගිම්හෙ වා**, ගිම්හාන ඍතුවේ හෝ; **නදීජාතස්සරෙසු සුක්ඛෙසු අපි**, ගංගා, ස්වාභාවික විල් සිඳී වියළී ගිය කල්හිදු; **සා එව**, ඒ වැසි සාර මස දිය සිටිනා භූමිය ම; **කප්පියභූමි**, කැප වෙයි. **සචෙ පන**, ඉදින් වනාහි; **සුක්ඛ ජාතස්සරෙ**, දිය සිඳුණු ස්වාභාවික විලෙහි; **වාපිං**[2] **වා ඛණන්ති**, වැවක් හෝ සාරත් ද; **වප්පං වා කරොන්ති**, ලබු, පුහුල් ආදි වගාවක් හෝ කරත් ද; **තං ඨානං**, එම ස්ථානය; **ගාමක්ඛෙත්තං හොති**, ග්‍රාම ක්ෂේත්‍රය වෙයි. **යා පන එසා**, යම් ඒ භූමියක්; **'කප්පියභූමි' ඉති වුත්තා**, කැප බිම යැයි කියන ලද්දේ ද; **තතො බහි**, ඒ කැප භූමියෙන් පිටත; **උදකුක්ඛෙපසීමා න ගච්ඡති**, උදකුක්ෂේප සීමාව නො යයි. **අන්තොයෙව ගච්ඡති**, ඇතුළත ම යයි. **තස්මා**, (යම්හෙයකින් ඇතුළත යයි ද පිටත නො යයි ද) එසේ හෙයින්; **තෙසං අන්තො පරිසපරියන්තතො පට්ඨාය**, ඒ කැප බිම ඇතුළත පිරිස කෙළවර පටන්; **සමන්තා**, හාත්පසින්; **උදකුක්ඛෙපපරිච්ඡෙදො කාතබ්බො**, උදකුක්ෂේප පිරිසිඳීම කළ යුතු ය. **සචෙ පන**, ඉදින් වනාහි; **ද්වෙ සඞ්ඝා**, සඟ පිරිස් දෙකක්; **විසුං**[3], වෙනම; **උපොසථාදිකම්මං කරොන්ති**, පොහොය කිරීම් ආදි විනය කර්ම කරත් ද; **ද්වින්නං උදකුක්ඛෙපානං අන්තරෙ**, උදකුක්ෂේප දෙක අතරෙහි; **අඤ්ඤො එකො උදකුක්ඛෙපො**[4], අන්‍ය වූ එක් උදකුක්ෂේපයක්; **උපචාරත්ථාය ඨපෙතබ්බො**, සීමා උපචාරය පිණිස තැබිය යුතු ය. **හි**, යම්හෙයකින්; **අයං සත්තබ්භන්තරසීමා ච**, මේ සත්තබ්භන්තර සීමාව ද; **උදකුක්ඛෙපසීමා ච**, උදකුක්ඛෙප සීමාව ද; **භික්ඛූනං ඨිතොකාසතො පට්ඨාය**, භික්ෂූන්ගේ සිටි අවකාශයෙහි පටන්; **ලබ්භති**, ලබයි ද; **පරිච්ඡෙදබ්භන්තරෙ**, පිරිසිඳින ලද සීමාව ඇතුළත; **හත්ථපාසං විජහිත්වා ඨිතො අපි**, අත්පස අතහැර සිටි භික්ෂු තෙමේ ද; **පරිච්ඡෙදතො බහි**, පිරිසිඳි සීමාවට පිටතින්; **අඤ්ඤං තත්තකං එව පරිච්ඡෙදං**, අන්‍ය වූ එපමණක් ම පිරිසිඳීමක්; **අනතික්කමිත්වා ඨිතො අපි**, නොඉක්මවා සිටියා වූ භික්ෂුව ද; **කම්මං කොපෙති**, විනය කර්මය කෝප්‍ය කරයි (දෝෂ

---

[1] **දූබ්බුට්ඨිකාලෙ.** හෙමු
[2] **වාසිං.** බෞසංම
[3] **විසුං විසුං.** මජසං
[4] **උදකුක්ඛෙපො ච.** කඞ්ඛා.පි.

සහිත කරයි). **ඉදං**, මේ විනිශ්චය (කර්මය කෝප්‍ය කරයි යන්න) **සබ්බඅට්ඨකථාසු**, මහාඅට්ඨකථාව ආදි සියලු අර්ථකථාවන්හි, **සන්නිට්ඨානං**, නිගමනය යි (අවසාන විනිශ්චය යි). **එවං**, මෙසේ; **අබද්ධසීමා වෙදිතබ්බා**, අබද්ධසීමා තොමෝ දත යුත්තී ය.

**21. වි: "අයං තත්‍ථ සමානසංවාසා එකූපොසථා"** යන්නෙන් දක්වෙනුයේ ඒ නදී, සමුද්‍ර, ජාතස්සරයන්හි ජලය විසිකරීමෙන් පිරිසිඳින ලද සීමාව සමාන සංවාස ඇත්තේ ද වෙයි. එකට පාමොක් උදෙසීම් ඇත්තේ ද වෙයි. මෙම උදකුක්ෂේප සීමාව වනාහි එකී නදී ආදීන්හි ඇතුළත ම ලබන අතර පිටත නො ලබයි. එබැවින් නදියෙහි හෝ ස්වාභාවික විලෙහි ප්‍රකෘතියෙන් වැසිවසින කාලයෙහි වස්සාන සාර මාසය තුළ ජලයෙන් මැඩ සිටින ප්‍රදේශයේ පටන් ද මුහුදෙහි ප්‍රකෘති රළින් මැඩ සිටින යම් පමණ ප්‍රදේශයක් වේ ද එතැන් පටන් කැප භූමිය නම් වේ. එනම් බැසසිටි ජලයේ කෙළවර පටන් ඇතුළත නදී, ජාතස්සර, සමුද්‍ර සංඛ්‍යාවට යන බව යි. බොහෝ වැසි ඇති කාලයන්හි ගංවතුරෙන් යට වන ප්‍රදේශ ග්‍රාම ක්ෂේත්‍රය ම වේ. එබැවින් මෙහි එන නදී ආදියට නොගත යුතු ය. නදී ආදියෙහි පිහිටි ගල්තලා දිවයින් ආදිය ද ප්‍රකෘති ජලයෙන් යට නො වේ නම් ගම්කෙත ම භජනය කරයි. සමුද්‍රයෙහි ද වඩදිය ඇති කාලයට රළපහර බැස ගන්නා ප්‍රදේශය හෝ ප්‍රකෘති රළ වේගයෙන් විත් යට වන ප්‍රදේශ නොගත යුතු ය. මෙසේ ඒ කැප භූමියෙහි සිට පොහොය කිරීම් ආදි සියලු විනය කර්ම කිරීමට සුදුසු වේ. වස්සාන හා හේමන්ත ඍතුන්හි වැසි නොවස්නා කල්හි හෝ ගිම්හාන ඍතුවෙහි හෝ නදී ජාතස්සරයන්හි දිය සිඳී වියළී ගිය කල්හිදු, ඒ ප්‍රකෘති වර්ෂාව ඇති කළ ජලයෙන් යට වූ ප්‍රදේශය ම කැප බිම වේ. යම්හෙයකින් දිය සිඳුණු ජාතස්සරයක වැවක් සාරයි ද නැත්නම් ලබු, පුහුල් ආදි පුබ්බන්න අපරන්න භෝග වගාවක් කරයි ද එසේ සෑරූ හෝ වගා කළ ස්ථානය ග්‍රාම ක්ෂේත්‍රය වෙයි. අනෙක් ප්‍රදේශ කැප බිම ම වෙයි. මෙසේ යම් ඒ කැප භූමියක් කියන ලද්දේ ද ඉන් පිටත උදකුක්ෂේප සීමාව නොපිහිටන අතර ඇතුළත ම පිහිටනු ලබයි. එසේ උදකුක්ෂේප සීමාව ඇතුළත ම පිහිටනු ලබන බැවින් ඒ කැපබිම ඇතුළත පිරිස කෙළවර පටන් හාත්පසින් උදකුක්ෂේප පිරිසිඳීම කළ යුතු වේ.

## සීමාන්තරික විධානය

එක ම නදී, සමුද්‍ර, ජාතස්සරයන්හි සඟ පිරිස් දෙකක් වෙනම පොහොය කිරීම් ආදි විනය කර්ම කරත් ද ඔවුන්ගේ උදකුක්ෂේප දෙක අතරෙහි සීමා උපචාරය පිණිස අන්‍ය වූ තවත් එක් උදකුක්ෂේපයක් තැබිය යුතු වේ. සත්තබ්භන්තර සීමාව ද උදකුක්ෂේප සීමාව ද යන දෙක ම භික්ෂූන් සිටි අවකාශයෙහි පටන් ලබන බැවින් පිරිසිඳින ලද සීමාව ඇතුළත අත්පස හැර සිටි භික්ෂුව මෙන් ම පිරිසිඳි සීමාවට පිටින් එපමණක් ම පිරිසිඳීමක් නොඉක්මවා සිටියා වූ භික්ෂුව ද විනය කර්මය කෝප්‍ය කරයි. එබැවින් සත්තබ්භන්තර සීමාවට හෝ උදකුක්ෂේප සීමාවට පිටතින් හෝ එක් භික්ෂුවක් හෝ සිටිය ද තවත් එක් සත්තබ්භන්තරයක් හෝ උදකුක්ෂේපයක් ඉක්මවා බොහෝ දුරින් ම සිටිය යුතු වේ. එසේ නොවුවහොත් කර්ම කෝප්‍ය භාවය ඇති කෙරෙයි. එහෙයින් මහවග අටුවාවෙහි "**අඤ්ඤො උදකුක්ඛෙපො සීමන්තරිකත්ථාය ඨපෙතබ්බො. තතො අධිකං වට්ටතියෙව. ඌනකං පන න වට්ටති (සම.පා, පි.786)**" යැයි කියන ලදී.

එබැවින් උදකුක්ෂේප දෙකක් අතර තවත් එක් උදකුක්ෂේපයක් ම උපචාරය පිණිස තැබිය යුතු වේ. එසේ නොවුවහොත් විනය කර්මය කෝප්‍ය වන බව මහාඅට්ඨකථාව ආදි සියලු අර්ථකථාවන්හි අවසාන විනිශ්චය යි. උදකුක්ෂේපයේ පිරිසිඳීම මෙපමණකින් යැයි නිවැරවදි නිශ්චය කරගැනීම දුෂ්කර වේ. එබැවින් උදකුක්ෂේප දෙකක් අතර තවත් එවැනි ම උදකුක්ෂේපයකට අඩු සීමාන්තරිකයක් තැබීම කර්ම කෝප්‍ය ශංකාවක් ඇති කරයි. කර්ම කෝප්‍ය බව පිළිබඳ ශංකාවක් ඇති තැන දුරින් ම දුරුකිරීමට අර්ථකථාචාර්යයන් වහන්සේලා එය කර්ම කෝප්‍ය ස්ථානයක් ලෙස ම සැලකූ බව "**කම්මකොපසඞ්කාට්ඨානම්පි ආචරියා දූරතො පරිහාරත්ථං කම්මකොපට්ඨානන්ති වත්වාව ඨපෙසුන්ති ගහෙතබ්බං. (විමති, පි.415)**" යන ප්‍රකාශනයෙන් පැහැදිලි වේ. උදකුක්ෂේපයට පිටතින් උපචාරය පිණිස තැබිය යුතු උදකුක්ෂේපය තුළ ද එක් භික්ෂුවක් හෝ නොසිටිය යුතු අතර ඒ සීමාන්තරික උදකුක්ෂේපයට පිටතින් ම සිටිය යුතු වේ.

මෙසේ අබද්ධ සීමා විනිශ්චය ගෙනහැර දක්වා ඉහත ප්‍රාප්තකාලය දක්වන ගාථාවේ "**යාවතිකා භික්ඛූ කම්මප්පත්තා**" යන්න විවරණය

කිරීමේ දී දක්වන ලද්ද වූ සීමා කථාවට සම්බන්ධ කරලනු වස් යළි "**ඉති ඉමං ....**" යනුවෙන් දැක්වූහ.

**සඃ ඉති**, මෙසේ; **බද්ධසීමා අබද්ධසීමා වසෙන**, බද්ධ සීමා අබද්ධ සීමා වශයෙන්; **දුවිධං**, දෙවැදෑරුම් වූ; **ඉමං සීමං සන්ධාය**, මේ සීමාව සඳහා; "**තෙ ච ඛො හත්ථපාසං අවිජහිත්වා එකසීමායං ඨිතා**" **ඉති එතං**, යන මේ වචනය; **වුත්තං**, කියන ලදී. **එකසීමායං**, එක් සීමාවෙක්හි; **හත්ථපාසං අවිජහිත්වා**, අත්පස නොඅතහැර; **තෙසු චතුසු**[1] **භික්ඛූසු**[2] **ඨිතෙසු එව**, ඒ භික්ෂූහු සතර නමක් සිටි කල්හි ම; **සඞ්ඝස්ස**, සංඝයාගේ; **එතං උපොසථකම්මං**, මේ උපොසථ කර්මය; **පත්තකල්ලං නාම හොති**, ප්‍රාප්තකාලය ඇත්තේ නම් වෙයි. **ඉතරථා**, අත්පස හැර අන් පරිද්දකින් සිටි කල්හි; **න**, ප්‍රාප්තකාලය ඇත්තේ නො වෙයි. **යථාහ**, භාග්‍යවතුන් වහන්සේ විසින් මෙය කෙසේ වදාළ සේක් ද යත්; "**අනුජානාමි, භික්ඛවෙ, චතුන්නං පාතිමොක්ඛං උද්දිසිතුං**" (මහාව.1, පි.298) (**භික්ඛවෙ**, මහණෙනි; **චතුන්නං**, භික්ෂූන් සතර නමකට; **පාතිමොක්ඛං උද්දිසිතුං**, පාමොක් උදෙසීමට; **අනුජානාමි**, අනුදනිමි) **ඉති**, යනුවෙනි.

**22. විඃ** මෙසේ බද්ධ සීමා අබද්ධ සීමා වශයෙන් දෙවැදෑරුම් වූ සීමාව සඳහා "**තෙ ච ඛො හත්ථපාසං අවිජහිත්වා එකසීමායං ඨිතා**" යනුවෙන් කියන ලදී. එනම් භික්ෂූහු සතර නමක් එක් සීමාවක අත්පස නොඅතහැර සිටි කල්හි ම සංඝයාගේ මෙම පොහොය විනය කර්මය පැමිණි කල් ඇත්තේ (ප්‍රාප්තකාලය ඇත්තේ) වෙයි. අත්පස හැර අන් අයුරකින් සිටි කල්හි ප්‍රාප්තකාලය ඇත්තේ නො වෙයි. ඒ බැවි භාග්‍යවතුන් වහන්සේ "**අනුජානාමි, භික්ඛවෙ, චතුන්නං පාතිමොක්ඛං උද්දිසිතුං**" යනුවෙන් වදාළ සේක.

"**යාවතිකා ච භික්ඛූ කම්මප්පත්තා**" යන වචනාර්ථ විවරණය කළ බුදුගොස් ඇදුරුපාණෝ නැවත "**සභාගාපත්තියො ච න විජ්ජන්ති**" යන පාඨය විවරණය කළහ.

-8-

**සඃ සභාගාපත්තියො ච න විජ්ජන්ති ඉති එත්ථ**, 'සභාගාපත්තියො ච න විජ්ජන්ති' යන මෙහි; **සබ්බො සඞ්ඝො**, සියළු සංඝ තෙමේ;

---

[1] **තෙසු හි චතුසු**. මජසං
[2] **භික්ඛූසු**. බෞසංම

**විකාලභොජනාදිනා සභාගවත්‍ථුනා**, විකාල භෝජන ආදි වූ සභාග (සාදෘශ්‍ය) වස්තු සහිත වූ; **යං ලහුකාපත්තිං**, යම් ලහු ඇවතකට; **ආපජ්ජති**, පැමිණෙයි ද; **එවරූපා වත්‍ථුසභාගා**, එබඳු වස්තු සභාග (වස්තු සාදෘශ්‍ය) ඇවතක්; **'සභාගා' ඉති වුච්චති**, සභාගාපත්තිය යැයි කියනු ලැබේ. **විකාලභොජනප්පච්චයා**[1] **ආපන්නං පන**, විකාල භෝජනය හේතුවෙන් පැමිණියා වූ; **ආපත්තිසභාගං**, ආපත්තිසභාග ඇවැත වනාහි; **අනතිරිත්තභොජනප්පච්චයා**[2], අතිරික්ත නොකළ බොජුන් වැළඳීම හේතුවෙන්; **ආපන්නස්ස සන්තිකෙ**, ඇවැතට පත් වූ භික්ෂුව සමීපයේ; **දෙසෙතුං වට්ටති**, දෙසීමට සුදුසු ය.

**23. වි:** **"සභාගාපත්තියො ච න විජ්ජන්ති"** යන්නෙන් වස්තු සාදෘශ්‍ය ඇවැත් නොමැති බව ම කියනු ලැබේ. සභාගාපත්ති (සාදෘශ්‍ය ආපත්ති) දෙයාකාර වේ.

(1) **වස්තු සභාගඃ** ඇවතට පැමිණි වස්තුව වශයෙන් සාදෘශ්‍ය වීම යි. එවිට ඇවැත ද සාදෘශ්‍ය වේ. උදහරණයක් ලෙස විකාල භෝජනය හේතුවෙන් පාචිත්තියාපත්තියකට පැමිණි භික්ෂුව තවත් විකාල භෝජනය හේතුවෙන් ම ඇවැතට පැමිණි භික්ෂුවක් සමඟ වස්තු සභාග වේ.

(2) **ආපත්ති සභාගඃ** ඇවත සාදෘශ්‍ය වුව ද වස්තුව සාදෘශ්‍ය නො වේ නම් එය ආපත්ති සභාග නම් වේ. උදහරණයක් ලෙස විකාල භෝජනය හේතුවෙන් පාචිත්තියාපත්තියකට පත් වූ භික්ෂුව අනෙක් පාචිත්තියාපත්තියකට පත් වූ භික්ෂුවක් සමග (උදඃ පවාරිතව අතිරික්ත නොකළ බොජුන් වැළඳීමෙන් පාචිත්තියාපත්තියකට පත්වන භික්ෂුව සමඟ) වස්තුවෙන් සාදෘශ්‍ය නො වේ. ඇවැතින් පමණක් සාදෘශ්‍ය වේ.

මෙහි 'සභාගාපත්තියො' යන්නෙන් අදහස් කරන ලද්දේ එබඳු වස්තු සාදෘශ්‍ය ආපත්ති පමණක් වන අතර 'සියලු සංඝයා යම් ලහුකාපත්තියකින් වස්තු සාදෘශ්‍ය නො වේ ය' යන්න **සභාගාපත්තියො ච න විජ්ජන්ති** යන්නෙන් අදහස් වේ.

මෙසේ වස්තු සාදෘශ්‍ය ආපත්ති ඇති කල්හි පොහොය කර්මයට ප්‍රාප්තකාලය නො වෙන්නේ කෙසේ ද? යත් **"න භික්ඛවෙ සභාගා ආපත්ති දෙසෙතබ්බා, යො දෙසෙය්‍ය, ආපත්ති දුක්කටස්ස**

[1] විකාලභොජනපච්චයා. මජසං
[2] අනතිරිත්තභොජනපච්චයා. මජසං

(මහාව.1, පි.302)" යනුවෙන් උපෝසථක්ඛන්ධකයේ සාදෘශ්‍ය ආපත්ති දේශනා කිරීමේ වාරණයෙනි. සියලු ම සංඝයා වස්තු සාදෘශ්‍ය ආපත්ති සහිත නො වේ නම් ඇවැතට පත් භික්ෂූන් සෙසු භික්ෂූන් හමුවේ ඇවැත් දෙසීමෙන් පිරිසිදුව පොහොය කළ හැකි වේ. එසේ ම ඇවැත් පමණක් සභාග වන විටක දී ද එකිනෙකා ඇවැත් දේශනා කොට පිරිසිදුව පොහොය කළ හැකි වේ. මෙහි ලා 'ලහුකාපත්ති' යැයි දැක්වූයේ ලහු විනය කර්මයකින් පිරිසිදු බවට පත් වන ථුල්ලැසි, පචිති, පාටිදේසනීය, දුකුළා, දුබ්භාසිත සංඛ්‍යාත පස්වැදෑරුම් ඇවැත් වුව ද වස්තු සභාග සංඝාදිසේස ඇවැත් ඇති කල්හිදු පොහොය කර්මයට ප්‍රාප්තකාලය නො වේ ම ය. වස්තුසභාග සංඝාදිසේස ඇවැත් ආවිකරණය නොකළ යුතු ය.

> **"සභාගසඞ්ඝාදිසෙසං ආපන්නස්ස සන්තිකෙ ආවිකාතුං න වට්ටති. සචෙ ආවිකරොති, ආපත්ති ආවීකතා හොති. දුක්කටා පන න මුච්චති."**
>
> (**සම.පා**, පි.871)

යැයි කියූ බැවිනි. සංඝාදිසේසය අදේසනාගාමිනී (දේශනා කිරීමෙන් පිරිසිදු නොවන) ඇවැතක් බැවින් එය අතහැර 'ලහුකාපත්ති' යැයි කියන ලදී. මෙසේ විහාරයේ සියලු සංඝයා වස්තු සභාග ඇවැත් සහිත වන විට ඔවුනොවුන්ට ඇවැත් දේශනා කිරීමකුදු කළ නොහැකි බැවින් එබඳු විටක කෙසේ පිළිපැදිය යුතු ද යන්න දැක්වීමට "**සභාගාපත්තියා පන සති ....**" යනාදිය කියන ලදී.

**සඃ සභාගාපත්තියා පන සති**, විහාරයේ සියලු සංඝයා වස්තු සාදෘශ්‍ය ආපත්ති සහිත වූ කල්හි; **තෙහි භික්ඛූහි**, ඒ භික්ෂූන් අතරින්; **එකො භික්ඛු**, එක් භික්ෂුවක්; **සාමන්තා**, සමීපයෙහි; **ආවාසා**[1], විහාරයකට *(සාමන්තා ආවාසා'ති සාමන්තා ආවාසං. සමීප විහාරන්ති අත්‍ථො.* - **කඞ්ඛා.ටී**, පි.27); **ආවුසො**, ඇවැත්නි; **ගච්ඡ**, යනු මැනවි; **තං ආපත්තිං**, ඒ ඇවත; **පටිකරිත්වා**, පිළියම් කරවාගෙන (දෙසා); **ආගච්ඡ**[2], එනු මැනවි. **මයං**, අපි; **තෙ සන්තිකෙ**, නුඹගේ සමීපයේ; **ආපත්තිං පටිකරිස්සාම**, ඇවතට පිළියම් කරන්නෙමු; **ඉති**, යැයි කියා; **සජ්ජුකං**

[1] **සාමන්තා ආවාසා**. මහාව.1, පි.302; **ආවාසං**, බෞසංම; **කඞ්ඛා.පි**, පි.06
[2] **ආගච්ඡා**. බෞසංම

**පාහෙතබ්බො,** එදින ම ආපසු පැමිණීම පිණිස යැවිය යුතු ය. **චෙ,** ඉදින්; **එවං,** මෙසේ; **එතං,** මෙය; **ලභෙථ,** ලැබුණේ වී නම්; **ඉති එතං කුසලං,** මෙසේ මෙය මැනවි. **චෙ,** ඉදින්; **නො ලභෙථ,** නො ලැබේ ද *(සභික්ඛුකවිහාරය දුරු හෙයින් හෝ මග උපද්‍රව ඇති හෙයින් හෝ සම්භව නොවී නම් -* **කඞ්ඛා.**පි, පි.06); **බ්‍යත්තෙන පටිබලෙන භික්ඛුනා,** ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවක් විසින්; **සඞ්ඝො ඤාපෙතබ්බො,** සංඝ තෙමේ දැන්විය යුත්තේය (ඤත්තියක් තැබිය යුත්තේය). **භන්තෙ,** වහන්ස; **සඞ්ඝො,** සංඝ තෙමේ; **මෙ,** මා කියන්නක්; **සුණාතු,** අසාවා. **අයං සබ්බො සඞ්ඝො,** මේ සියලු සංඝ තෙමේ; **සභාගං ආපත්තිං ආපන්නො,** වස්තු සාදෘශ්‍ය ආපත්තියකට පැමිණියේ; **යදා,** යම් කෙලෙක; **අඤ්ඤං,** අන්‍ය වූ; **සුද්ධං අනාපත්තිකං භික්ඛුං,** පිරිසිදු අනාපත්තික භික්ෂුවක්; **පස්සිස්සති,** දකින්නේ ද; **තදා,** එකල්හි; **තස්ස සන්තිකෙ,** ඒ භික්ෂුව සමීපයේ; **තං ආපත්තිං,** ඒ ඇවැතට; **පටිකරිස්සති,** පිළියම් කරන්නේය; **ඉති වත්‍වා,** යනුවෙන් කියා; **උපොසථො කාතබ්බො,** පොහොය කළ යුතු ය. **සචෙ පන,** ඉදින් වනාහි; **වෙමතිකො හොති,** වස්තු සභාග ඇවැත් සහිත යැයි විමති ඇත්තේ වෙයි ද; **භන්තෙ,** වහන්ස; **සඞ්ඝො,** සංඝ තෙමේ; **මෙ,** මා කියන්නක්; **සුණාතු,** අසාවා. **අයං සබ්බො සඞ්ඝො,** මේ සියලු සංඝ තෙමේ; **සභාගාය ආපත්තියා,** වස්තු සාදෘශ්‍ය ඇවැතකින්; **වෙමතිකො,** විමති ඇත්තේය. **යදා නිබ්බෙමතිකො භවිස්සති,** යම් කලෙක විමති නැත්තේ වෙයි ද; **තදා,** එකල්හි; **තං ආපත්තිං,** ඒ ඇවතට; **පටිකරිස්සති,** පිළියම් කරන්නේය; **ඉති වත්‍වා,** යැයි මෙසේ කියා; **උපොසථො කාතබ්බො,** පොහොය කළ යුතු ය.

**24. වි:** මෙසේ විහාරයේ සියලු සංඝයා වස්තු සාදෘශ්‍ය ආපත්තියකට පත්ව ඇති විටක, එකිනෙක භික්ෂූන්ට වස්තු සාදෘශ්‍ය ආපත්ති දේශනා කළ නොහැකි බැවින්, ඒ භික්ෂූන් අතරින් එක් භික්ෂුවක් ඇවැත් දේශනා කොට එදින ම ආපසු පැමිණීම පිණිස සමීප විහාරයකට යැවිය යුතු වේ. එසේ ගොස් ඇවැත් දේශනා කොට පැමිණෙන භික්ෂුව හමුවේ සෙසු භික්ෂූන් විසින් ඇවැත් දෙසා පිරිසිදුව පොහොය කර්මය කළ යුතු වේ. ඉදින් විහාරය බොහෝ දුර වීම නිසා හෝ එවැනි වෙනත් යම් අන්තරායකර තත්ත්වයක් හේතුවෙන් පිරිසිදු විය නොහැකි විටක ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවක් විසින් පහත පරිදි ඤත්ති විනය කර්මයක් ලෙස සියලු සංඝයා වස්තු සභාග ඇවැත් සහිත බව සංඝයා දන්වා පොහොය කළ යුතු වේ.

**"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං සබ්බො සඞ්ඝො සභාගං ආපත්තිං ආපන්නො, යදා අඤ්ඤං භික්ඛුං සුද්ධං අනාපත්තිකං පස්සිස්සති, තදා තස්ස සන්තිකෙ තං ආපත්තිං පටිකරිස්සති."**

(මහාව.1, පි.304)

සියලු භික්ෂූන් වස්තු සාදෘශ්‍ය ආපත්ති සහිත ද යන්න පිළිබඳ විමති ඇති විටක,

**"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං සබ්බො සඞ්ඝො සභාගාය ආපත්තියා වෙමතිකො, යදා නිබ්බේමතිකො භවිස්සති, තදා තං ආපත්තිං පටිකරිස්සති."** (මහාව.1, පි.304)

යනුවෙන් ඤත්තියක් තබා පොහොය කළ යුතු වේ.

මෙසේ වස්තු සාදෘශ්‍ය ආපත්ති සහිත අවස්ථාවක යම් භික්ෂුවක් සභාග ඇවැත් දේශනා නොකළ යුතු ය යන පැනවීම නොදන්නා නිසා හෝ සභාග ඇවැත් දේශනා කිරීම සුදුසු යැයි සිතා දේශනා කරන ලද්දේ නම් එහි දී එම ඇවත දේශනා වන බව **"සචෙ පනෙත්ථ කොචි ...."** යනාදී ලෙස කියන ලදී.

**සඃ සචෙ** පන, ඉදින් වනාහි; **එත්ථ**, මෙහි; **කොචි**, යම් කිසි භික්ෂුවක්; **තං සභාගං ආපත්තිං**, ඒ සභාග (වස්තු සාදෘශ්‍ය) ඇවැත; **දෙසෙතුං වට්ටති ඉති**, දේශනා කිරීම සුදුසු යැයි; **මඤ්ඤමානො**, හඟිනුයේ; **එකස්ස සන්තිකෙ**, එබඳු වස්තු සාදෘශ්‍ය ආපත්ති සහිත එක් භික්ෂුවක් සමීපයේ; **දෙසෙති**, දේශනා කරයි ද; **දෙසිතා**, දේශනා කරන ලද්ද; **සුදෙසිතාව**, මැනවින් දෙසන ලද්දේ ම වෙයි. **දෙසකො**, දේශක භික්ෂුව; **දෙසනාපච්චයා ච**, දේශනා කිරීම හේතුවෙන් ද; **පටිග්ගාහකො**, ඇවැත් පිළිගන්නා භික්ෂුව; **පටිග්ගහණපච්චයා ච**, පිළිගැනීම හේතුවෙන් ද; **ඉති**, යනුවෙන්; **උභො අපි**, දෙදෙනා ම; **අඤ්ඤං පන දුක්කටං**, අන් දුකුළා ඇවතකට; **ආපජ්ජන්ති**, පැමිණෙත්. **තං**, ඒ දුකුළා ඇවත; **නානාවත්ථුකං හොති**, නානා වස්තුක වෙයි. **තස්මා**, එබැවින්; **අඤ්ඤමඤ්ඤං දෙසෙතබ්බං**, එකිනෙකාට දෙසිය හැකි වේ. **එත්තාවතා**[1], මෙපමණකින්; **තෙ**[2], ඔවුහු; **නිරාපත්තිකා හොන්ති**, ඇවැත් රහිත වූවාහු වෙත්. **තෙසං සන්තිකෙ**, ඔවුන්ගේ සමීපයේ; **සෙසෙහි**, සෙස්සන්

---

[1] **එත්ත වතා.** මජසං

[2] **තෙ ද්වෙ**, මජසං

විසින්; **සභාගාපත්තියො**, සභාගාපත්තීහු; **දෙසෙතබ්බා** වා, දෙසිය යුත්තෝ හෝ වෙති. **ආරොචෙතබ්බා** වා, ආරෝචනය කළ යුත්තෝ හෝ වෙති. **සචෙ**, ඉදින්; **තෙ**, ඔවුහු; **එවං අකත්‍වා**, මෙසේ නොකොට (ඇවැත් නොම දෙසා); **උපොසථං කරොන්ති**, පොහොය කරත් ද; **'පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ' ඉති ආදිනා නයෙන**, 'පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ' යනාදි නයින්; **සාපත්තිකස්ස**, ඇවැත් සහිත වූවහුට; **උපොසථකරණෙ**, පොහොය කිරීමෙහි; **පඤ්ඤත්තං දුක්කටං**, පනවන ලද දුකුළා ඇවැතට; **ආපජ්ජන්ති**, පත් වෙත්. **සචෙ**, ඉදින්; **සබ්බො සඞ්ඝො**, සියලු සංඝ තෙමේ; **සභාගාපත්තියා සති**, වස්තු සාදෘශ්‍ය ආපත්ති ඇති කල්හි; **වුත්තවිධිං අකත්‍වා**, කියන ලද විධිය නොකොට (ඇවැතින් පිරිසිදු නොවී හෝ ඤත්ති තැබීමක් නොකොට); **උපොසථං කරොති**, පොහොය කරයි ද; **වුත්තනයෙන එව**, කියන ලද ක්‍රමයට ම; **සබ්බො සඞ්ඝො**, සියලු සංඝ තෙමේ; **ආපත්තිං ආපජ්ජති**, ඇවැතට පැමිණේ. **තස්මා**, එබැවින්; **සභාගාපත්තියා සති**, වස්තු සාදෘශ්‍ය ආපත්ති ඇති කල්හි; **සඞ්ඝස්ස**, සංඝයාට; **පත්තකල්ලං නාම න හොති**, ප්‍රාප්තකාලය නම් නො වෙයි. **තෙන**, එහෙයින්; **'සභාගාපත්තියො ච න විජ්ජන්ති' ඉති**, 'සභාගාපත්තියො ච න විජ්ජන්ති (සභාග ඇවැත්හු විද්‍යමාන නො වෙත්)' යැයි; **වුත්තං**, කියන ලදී. **එතාසු හි සභාගාපත්තීසු අවිජ්ජමානාසු**[1], එකී සභාග ඇවැත් විද්‍යමාන නොවන කල්හි ද; **විසභාගාසු**[2] **විජ්ජමානාසුපි**, විසභාග ඇවැත් විද්‍යමාන වන කල්හිදු; **පත්තකල්ලං හොති එව**, ප්‍රාප්තකාලය වේ ම ය.

**25. වි:** යම් භික්ෂුවක් සභාග ඇවැත් දේශනා නොකළ යුතු යැයි වන පැනවීම නොදන්නා නිසා හෝ සභාග ඇවැත් දේශනා කිරීම සුදුසු යැයි සිතා එබඳු සභාග ඇවැත් සහිත භික්ෂුවක් හමුවේ දේශනා කළේ නම් ඇවත දේශනා වෙයි. එහෙත් දේශක භික්ෂුව දේශනා කිරීම හේතුවෙන් **"න භික්ඛවෙ සභාගා ආපත්ති දෙසෙතබ්බා"** යන ප්‍රඥප්තිය අනුව දුකුළා ඇවතකට පැමිණේ. එසේ ම ඇවැත් පිළිගන්නා භික්ෂුව **"න භික්ඛවෙ සභාගා ආපත්ති පටිග්ගහෙතබ්බා"** යන පැනවීම අනුව දුකුළා ඇවතකට පැමිණේ. එසේ එකිනෙකා වස්තු සභාග නොවන අන් දුකුළා ඇවැත් දෙකකට පැමිණේ. ඒ ඇවැත් දෙක එකිනෙක වස්තු

[1] **අවිජ්ජමානාසුපි.** බෞසංම

[2] **විසභාගාපත්තීසු.** බෞසංම; මජසං

සභාග නොවන බැවින් ඔවුනොවුන්ට ම යළි ඇවැත් දේශනා කළ හැකි බව සඳහන් වන බැවින් ඔවුනොවුන් යළි ඇවැත් දේශනා කරන ලද්දේ නම් එකී ඇවතින් ද පිරිසිදු වේ. එහෙත් කිසිදු ලෙසකින් දූන දූන ම වස්තු සභාග ඇවැත් දේශනා කොට අභිනව දුකුළා ඇවතකට පත් වීමට ද යළි ඒ අභිනව දුකුළා ඇවත දේශනා කරගෙන පිරිසිදු වීමට ද කරන මඟ පෙන්වීමක් මෙම අර්ථකථා පාඨය තුළ ගම්‍ය නො වේ ම ය. ඒ කවර හෙයින් ද යත්, භාග්‍යවතුන් වහන්සේ වස්තු සභාග ඇවැත් දේශනා නොකළ යුතු යැයි පැනවීමෙන් එසේ කරන්නේ නම් එය ආඥා ව්‍යතික්‍රමණයක් ම වන බැවිනි.

මේ අනුව විහාරයේ සියලු සංඝයා වස්තු සභාග ඇවැත් සහිත වන විටක එක් භික්ෂුවක් සමීප විහාරයකට යවා පිරිසිදු වීමෙන් හෝ එසේ නොකළ හැකි විටක සංඝ ඤත්තියක් තැබීමෙන් හෝ පසුව පොහොය කළ යුතු වේ. එසේ නොකළහොත් සියලු සංඝයා ඇවැතට පත්වන බැවින් පොහොය කිරීම සඳහා සංඝයාට ප්‍රාප්තකාලය නො වේ. එසේ සභාගාපත්ති සහිත නො වේ නම් විසභාග ඇවැත් සහිත වුව ද පොහොය කිරීම සඳහා සංඝයාට ප්‍රාප්තකාලය ඇත්තේ වෙයි. එසේ විසභාග ඇවැත් ඇති කල්හි ඇවැත් දේශනා නොකොට පොහොය කරන එකිනෙක භික්ෂුව හට ම සාපත්තිකව පොහොය කිරීමේ ඇවත වේ. සංඝයා හට ඇවතක් නොවන බැවින් සංඝයාට ප්‍රාප්තකාලය වේ. මෙසේ සංඝයාට ප්‍රාප්තකාලය දක්වන ගාථාවෙහි '**සභාගාපත්තියො ච න විජ්ජන්ති**' යන්න විවරණය කළ ඇදුරුපාණෝ අනතුරුව "**වජ්ජනීයා ච පුග්ගලා තස්මිං න හොන්ති ඉති**" යනුවෙන් ඇරඹූහ.

**සඃ** "වජ්ජනීයා ච පුග්ගලා තස්මිං න හොන්ති" **ඉති**, 'වජ්ජනීයා ච පුග්ගලා තස්මිං න හොන්ති' යනු; "**න, භික්ඛවෙ, සගහට්ඨාය පරිසාය පාතිමොක්ඛං උද්දිසිතබ්බං, යො උද්දිසෙය්‍ය ආපත්ති දුක්කටස්ස" (මහාව.1, පි.278) ඉති** වචනතො, (**භික්ඛවෙ**, මහණෙනි; **සගහට්ඨාය පරිසාය**, ගිහියකු සහිත පිරිසෙහි; **පාතිමොක්ඛං න උද්දිසිතබ්බං**, පාමොක් නොම උදෙසිය යුතු ය) යන වචනයෙන්; **ගහට්ඨො**, ගෘහස්ථයා ද; "**න, භික්ඛවෙ, භික්ඛුණියා**[1] **නිසින්නපරිසාය පාතිමොක්ඛං උද්දිසිතබ්බං**" **(මහාව.1, පි.340) ඉති** ආදිනා **නයෙන**, (**භික්ඛවෙ**,

[1] **භික්ඛුනියා.** හේමු; මජසං; බෞසංම

මහණෙනි; **භික්ඛුණියා නිසින්නපරිසාය**, භික්ෂුණියක් හුන් පිරිසෙහි; **පාතිමොක්ඛං න උද්දිසිතබ්බං**, පාමොක් නොම උදෙසිය යුතු ය) යන ආදි වූ නයින්; **වුත්තා**, කියන ලද්දු වූ; **භික්ඛුනී**, භික්ෂුණිය ය; **සික්ඛමානා**, සික්ඛමානාව ය; **සාමණෙරො**, හෙරණ ය; **සාමණෙරී**, හෙරණිය ය; **සික්ඛං පච්චක්ඛාතකො**[1], ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය කරන ලද්දෙක් ය; **අන්තිමවත්ථජ්ඣාපන්නකො**[2], පරිජි වූ භික්ෂුවක් ය; **ආපත්තියා අදස්සනෙ උක්ඛිත්තකො**, ඇවැත් නොදැක්මෙහි සංඝයා විසින් උත්ක්ෂේපණීය කර්මය කරනු ලැබූ භික්ෂුව ය; **ආපත්තියා අප්පටිකම්මෙ උක්ඛිත්තකො**, ඇවැතට පිළියම් නොකිරීමෙහි සංඝයා විසින් උත්ක්ෂේපණීය කර්මය කරනු ලැබූ භික්ෂුව ය; **පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ උක්ඛිත්තකො**, පවිටු දෘෂ්ටි නොඅත්හැරීමෙහි සංඝයා විසින් උත්ක්ෂේපණීය කර්මය කරනු ලැබූ භික්ෂුව ය; **පණ්ඩකො**, පණ්ඩකයෙක් ය; **ථෙය්‍යසංවාසකො**, ථෙය්‍යසංවාසකයෙක් ය; **තිත්ථියපක්කන්තකො**, තීර්ථක ලබ්ධි ගෙන තීර්ථකයන් වෙත ගිය භික්ෂුව ය; **තිරච්ඡානගතො**, තිරිසන්ගත සත්ත්වයෙක් ය; **මාතුඝාතකො**, මාතෘඝාතක කර්මය කළ අයෙක් ය; **පිතුඝාතකො**, පිතෘඝාතක කර්මය කළ අයෙක් ය; **අරහන්තඝාතකො**, රහතුන් ඝාතනය කළ අයෙක් ය; **භික්ඛුනීදූසකො**[3], භික්ෂුණිය දූෂණය කළ අයෙක් ය; **සඞ්ඝභෙදකො**, සංඝභේදක කර්මය කළ භික්ෂුවක් ය; **ලොහිතුප්පාදකො**, ලොහිතුප්පාදක කර්මය කළ අයෙක් ය; **උභතොබ්‍යඤ්ජනකො ඉති**, උභතොබ්‍යඤ්ජනකයෙක් ය යන; **ඉමෙ වීසති ච ඉති**, මේ විසිදෙනෙක් ද යි; **එකවීසති පුග්ගලා**, එක්විසි පුද්ගලයෝ; **වජ්ජනීයා නාම**, වජ්ජනීය පුද්ගලයෝ (සීමාවෙන් බැහැර කළ යුතු පුද්ගලයෝ) නම් වෙති.

-9-

තෙ, ඔවුහු; **හත්ථපාසතො**, අත්පසින්; **බහිකරණවසෙන**, බැහැර කිරීම් වශයෙන්; **වජ්ජෙතබ්බා**, දුරුකළ යුත්තාහ. **එතෙසු හි**, මොවුන් අතරින්; **තිවිධෙ උක්ඛිත්තකෙ සති**, ත්‍රිවිධ උක්ඛිත්තක (උත්ක්ෂේපණීය කර්මය කරනු ලැබූ) භික්ෂුවක් ඇති කල්හි; **උපොසථං කරොන්තො**, පොහොය

---

[1] **සික්ඛාපච්චක්ඛාතකො.** මජසං

[2] **අන්තිමවත්ථුඅජ්ඣාපන්නකො.** මජසං; **අන්තිමවත්ථුං අජ්ඣාපන්නකො.** බෞසංම

[3] **භික්ඛුනිදූසකො.** මජසං

කරන්නා වූ සංඝ තෙමේ; **පාචිත්තියං ආපජ්ජති**, පාචිත්තියාපත්තියකට පැමිණේ. **සෙසෙසු**, සෙසු අටළොස් පුද්ගලයන් ඇති කල්හි; **දුක්කටං**, දුකුළා ඇවතකට පැමිණේ; **එත්ථ ච**, මෙහි ලා ද; **තිරච්ඡානගතො ඉති**, තිරිසන්ගත අයෙක් යනු; **යස්ස**, යමෙකුට; **උපසම්පදා**, උපසම්පදාව; **පටික්ඛිත්තා**, ප්‍රතික්ෂිප්ත ද (ඔහු ය). **මක්ඛිකාදයො පන**, මැසි මදුරු ආදීහු වනාහි; **අබ්බොහාරිකා**[1], අව්‍යවහාරිකයෝ ය. **තිත්ථියා**, තීර්ථකයෝ; **ගහට්ඨෙනෙව**, ගෘහස්ථ ශබ්දයෙන් ම; **සඞ්ගහිතා**, සංගෘහිතයහ. **එතෙපි හි**, මොවුහු ද; **වජ්ජනීයා**[2], දුරුකළ යුත්තෝ ය. **එවං**, මෙසේ; **පත්තකල්ලං**, පොහොය කිරීමට ප්‍රාප්තකාලය; **ඉමෙහි චතූහි අඞ්ගෙහි**, මේ සතර අංගයන්ගෙන්; **සඞ්ගහීතං**[3] **ඉති**, සංගෘහීත යැයි; **වෙදිතබ්බං**, දත යුතු ය.

**26. වි:** "**වජ්ජනීයා ච පුග්ගලා තස්මිං න හොන්ති**" යන පදයෙන් පොහොය කිරීමේ දී අත්පස නොසිටිය යුතු යැයි වදාරන ලද එක්විසි වජ්ජනීය පුද්ගලයෝ අත්පස නොමැති බව අදහස් වේ. ඒ අනුව එවැනි පුද්ගලයන් අත්පසින් බැහැර කිරීම් වශයෙන් දුරුකළ යුතු වේ.

**එක්විසි වජ්ජනීය පුද්ගලයෝ**

(1) ගෘහස්ථයා (2) භික්ෂුණිය

(3) සික්ඛමානාව (4) සාමණේරයා

(5) සාමණේරිය (6) ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය කළ භික්ෂුව

(7) සතර පරාජිකා අතරින් එක්තරා පරිජි ඇවැතකට පත් භික්ෂුව

(8) ඇවැත් නොදැකීම හේතුවෙන් සංඝයා විසින් උක්ෂේපණීය කර්මය කරනු ලැබූ භික්ෂුව

(9) ඇවැතට පිළියම් නොකිරීම හේතුවෙන් උක්ෂේපණීය කරනු ලැබූ භික්ෂුව

(10) පවිටු දෘෂ්ටි නොඅතහැරීම හේතුවෙන් උක්ෂේපණීය කරනු ලැබූ භික්ෂුව

(11) පණ්ඩකයා

(12) ථෙය්‍යසංවාසකයා

---

[1] '**මක්ඛිකාදයො පන අබ්බොහාරිකා**' යන්න මජසං පිටපතේ දක්නට නොලැබේ.

[2] **වජ්ජනීයා නාම.** මජසං

[3] **සඞ්ගහිතන්ති.** මජසං

(13) තීර්ථක ලබ්ධි ගෙන තීර්ථකයන් වෙත ගිය භික්‍ෂුව

(14) තිරිසන් ගත සත්ත්‍වයා. - මෙහි දී සක්දෙව් රජුගේ පටන් යම්කිසි නාගමානවක ආදි වූ බුදුසසුනේ උපසපන් බව ලැබිය නොහැකි යැයි ප්‍රතික්‍ෂිප්ත ඕනෑ ම අමනුෂ්‍ය ජාතිකයකු අදහස් වේ. ඇත්, අස් ආදී තිරිසන් සත්ත්ව කොටස් නො වේ. එබැවින් "**එසො ච තිරච්ඡානගතො ඉති ...**" යනාදි වශයෙන් කියන ලදී. එසේ ම මැසි මදුරු ආදීන් අව්‍යවහාරික බැවින් අයත් නො වේ.

(15) මාතෘඝාතක කර්මය කළ අයෙක්

(16) පිතෘඝාතක කර්මය කළ අයෙක්

(17) රහතුන් ඝාතනය කළ අයෙක්

(18) භික්‍ෂුණිය දූෂණය කළ අයෙක්

(19) සංඝභේදක කර්මය කළ භික්‍ෂුවක්

(20) ලොහිතුප්පාදක කර්මය කළ අයෙක්

(21) උභතොබ්‍යඤ්ජනකයෙක්

මොවුන් අතරින් ත්‍රිවිධ උකඛිත්තකයෙකු අත්පස ඇති කල්හි පොහොය කරන සංඝ තෙමේ පචිති ඇවතකට පත් වන අතර සෙසු අය ඇති කල්හි දුකුළා ඇවතකට පත් වේ. තීර්ථකයන් ද ගෘහස්ථ ශබ්දයෙන් ම සංගෘහිත බැවින් දුරුකළ යුතු වන්නේ ම ය. මෙසේ දුරුකළ යුතු වජ්ජනීය පුද්ගලයන් දුරුකිරීමෙන් සංඝයා හට පොහොය කිරීමට ප්‍රාප්තකාලය ඇත්තේ වේ.

මෙසේ පොහොය කිරීමේ ප්‍රාප්තකාලය වන අංග සතරක් දක්වීමෙන් අනතුරුව "**සඞ්ඝො උපොසථං කරෙය්‍ය, පාතිමොක්ඛං උද්දිසෙය්‍ය**" යනාදි වශයෙන් සඳහන් කරන ලද 'උපෝසථය' පිළිබඳ විවරණය අරඹන ලදී.

**සඃ සඞ්ඝො උපොසථං කරෙය්‍ය ඉති ඉමිනා**, 'සඞ්ඝො උපොසථං කරෙය්‍ය' යන මේ පාඨයෙන්; **යෙ තෙ**, යම් ඒ; **සඞ්ඝෙ උපොසථො**, සංඝයා විසින් කටයුතු උපෝසථය ය; **ගණෙ උපොසථො**, ගණයා විසින් කටයුතු උපෝසථය ය; **පුග්ගලෙ උපොසථො ඉති**, පුද්ගලයා විසින් කටයුතු උපෝසථය ය යැයි; **අපරෙ අපි**, අන්‍ය වූ ද; **තයො උපොසථා**, උපෝසථයෝ තිදෙනෙක්, (**වුත්තා**, වදරන ලද්දාහු ද) **එවං**, මෙසේ;

**කාරකවසෙන,** (පොහොය කරන) කාරක පුද්ගලයන්ගේ වශයෙන්; **තයො උපොසථා,** උපෝසථයෝ තිදෙනෙක්, **වුත්තා,** වදරන ලද්දහුය. **තෙසු,** ඒ උපෝසථයන් අතරින්; **ඉතරෙ ද්වෙ,** අනෙක් උපෝසථයන් දෙදෙන; **පටික්ඛිපිත්වා,** ප්‍රතික්ෂේප කොට; **සඞ්ඝෙ උපොසථං එව,** සංඝයා විසින් කටයුතු උපෝසථය ම; **දීපෙති,** ප්‍රකාශ කෙරේ. **පාතිමොක්ඛං උද්දිසෙය්‍ය ඉති ඉමිනා,** 'පාතිමොක්ඛං උද්දිසෙය්‍ය' යන මේ පාඨයෙන්; **අපරෙපි,** අන්‍ය වූ ද; **යෙ තෙ,** යම් ඒ; **සුත්තුද්දෙසො,** සුත්තුද්දෙස උපෝසථය ය; **පාරිසුද්ධි උපොසථො,** පාරිශුද්ධි උපෝසථය ය; **අධිට්ඨාන උපොසථො ඉති,** අධිෂ්ඨාන උපෝසථය යන; **තයො උපොසථා,** උපෝසථයෝ තිදෙනෙක් (**වුත්තා,** වදරන ලද්දහු ද); **එවං,** මෙසේ; **කත්තබ්බාකාරවසෙන,** කළ යුතු ආකාර වශයෙන්; **තයො උපොසථා වුත්තා,** උපෝසථයෝ තිදෙනෙක් වදරන ලද්දහුය. **තෙසු,** ඒ තුන් උපෝසථයන් අතරින්; **ඉතරෙ ද්වෙ පටික්ඛිපිත්වා,** අනෙක් උපෝසථයන් දෙදෙන ප්‍රතික්ෂේප කොට; **සුත්තුද්දෙසං එව දීපෙති,** සුත්තුද්දේස උපෝසථය ම ප්‍රකාශ කෙරේ.

## උපෝසථ විධි

**27. වි:** පොහොය කරන කාරක පුද්ගලයන්ගේ වශයෙන් යැයි ද, පොහොය කටයුතු ආකාර වශයෙන් යැයි ද උපෝසථයෙහි ආකාර සයක් දක්වේ. එහි ලා "**සඞ්ඝො උපොසථං කරෙය්‍ය**" යන පාඨයෙන් පැවසෙන්නේ පොහොය කරන කාරක පුද්ගලයන්ගේ වශයෙන් සංඝ උපෝසථය, ගණ උපෝසථය, පුග්ගල උපෝසථය ලෙස තෙවැදෑරුම් වන උපෝසථයන් අතරින් සංඝ උපෝසථය යි. එසේ ම "**පාතිමොක්ඛං උද්දිසෙය්‍ය**" යන පාඨයෙන් පොහොය කටයුතු ආකාර වශයෙන් සුත්තුද්දේසය, පාරිශුද්ධි උපෝසථය, අධිෂ්ඨාන උපෝසථය යන තෙවැදෑරුම් උපෝසථයන් අතරින් සුත්තුද්දේස උපෝසථය ම පැවසේ. මෙසේ සවැදෑරුම් උපෝසථයන් ගෙනහැර දක්වා තදනන්තරව සුත්තුද්දේස උපෝසථය පිළිබඳ '**සුත්තුද්දෙසො නාම**' යැයි අරඹන ලදී.

**සඃ සුත්තුද්දෙසො නාම,** සුත්තුද්දේසය නම්; **පාතිමොක්ඛුද්දෙසො වුච්චති,** පාමොක් උදෙසීම කියනු ලැබේ. **සො,** ඒ පාමොක් උදෙසීම; **ඔවාදපාතිමොක්ඛුද්දෙසො ච,** ඔවාද ප්‍රාතිමෝක්ෂ උද්දේසය ද; **ආණාපාතිමොක්ඛුද්දෙසො ච ඉති,** ආණා ප්‍රාතිමෝක්ෂ උද්දේසය ද යැයි; **දුවිධො,** දෙවැදෑරුම් (**හොති,** වෙයි). **තත්ථ,** ඒ දෙවැදෑරුම් පාමොක්

උදෙසීම් අතරින්; "**ඛන්තී පරමං තපො තිතික්ඛා -පෙ- සබ්බපාපස්ස අකරණං -පෙ- අනූපවාදෙ අනූපඝාතො" ඉති ආදිනා නයෙන**, යන ආදි ක්‍රමයෙන්; **වුත්තා**, වදාරන ලද්ද වූ; **තිස්සො ගාථා**[1], ගාථාත්‍රය; **ඔවාදපාතිමොක්ඛං නාම**, ඕවාද ප්‍රාතිමෝක්‍ෂය නම් වේ. **තං**, ඒ ඕවාද ප්‍රාතිමෝක්‍ෂය; **බුද්ධා එව**, බුදුරාජාණන් වහන්සේලා ම; **උද්දිසන්ති**, ප්‍රකාශ කරත්. **සාවකා න**, ශ්‍රාවකයෝ නොම උදෙසත්. "**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො" ඉති ආදිනා නයෙන**, යන ආදී ක්‍රමයෙන්; **වුත්තං**, වදාරන ලද්ද; **ආණාපාතිමොක්ඛං නාම**, ආණා ප්‍රාතිමෝක්‍ෂය නම් වේ. **තං**, ඒ ආණා ප්‍රාතිමෝක්‍ෂය; **සාවකා එව**, ශ්‍රාවකයෝ ම; **උද්දිසන්ති**, උදෙසත්. **බුද්ධා**, බුදුවරයන් වහන්සේලා; **න**, නොම උදෙසත්. **ඉදං එව**[2], මේ ආණා ප්‍රාතිමෝක්‍ෂය ම; **ඉමස්මිං අත්‍ථෙ**, 'පාතිමොක්ඛං උද්දිසෙය්‍ය' යන මේ අර්ථයෙහි; **පාතිමොක්ඛං ඉති**, ප්‍රාතිමෝක්‍ෂය යැයි ; **අධිප්පෙතං**, අදහස් කරන ලදී.

**28. වි:** "ඔවාදෙව පාතිමොක්ඛං, තස්ස උද්දෙසො සරූපෙන කථනං ඔවාදපාතිමොක්ඛුද්දෙසො" (කඞ්ඛා.ටී, පි.28) යනු ටීකාව හෙයින් අවවාදය ම ප්‍රාතිමෝක්‍ෂය වේ. සියලු බුදුවරයන් වහන්සේලාගේ පාමොක් උදෙසීම වනාහි,

**ඛන්තී පරමං තපො තිතික්ඛා**
**නිබ්බාණං පරමං වදන්ති බුද්ධා**
**න හි පබ්බජිතො පරූපඝාතී**
**සමණො හොති පරං විහෙඨයන්තො**

**සබ්බපාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා**
**සචිත්තපරියොදපනං - එතං බුද්ධානසාසනං**

**අනූපවාදෙ අනූපඝාතො - පාතිමොක්ඛෙ ච සංවරො**
**මත්තඤ්ඤුතා ච භත්තස්මිං - පන්තඤ්ච සයනාසනං**
**අධිචිත්තෙ ච ආයොගො - එතං බුද්ධානසාසනං**

යන ගාථා තුන වේ. එය බුදුවරයන් වහන්සේලා පමණක් ම උදෙසන අතර ශ්‍රාවකයෝ නොම උදෙසත්.

ශ්‍රාවකයෝ උදෙසන ප්‍රාතිමෝක්‍ෂය ආණා ප්‍රාතිමෝක්‍ෂය යි. "**ඉමස්මිං වීතික්කමෙ අයං නාම ආපත්තී'ති එවං ආපත්තිවසෙන**

[1] ගාථායො. මජසං
[2] ඉදමෙව ච. මජසං

**ආණාපනං පඤ්ඤාපනං ආණා**" (**කඞ්ඛා.ටී, පි.**28) යි කියූ බැවින් අසවල් ව්‍යතික්‍රමණයේ අසවල් ඇවැත වේ යැයි මෙසේ ඇවැත් වශයෙන් කරන ඇණවීම, පැනවීම 'ආණා' නම් වේ. ඒ ආණාව උදෙසීම් ස්වරූපයෙන් කීම ආණා ප්‍රාතිමෝක්ෂය නමි. එය ශ්‍රාවකයන් වහන්සේලා ම උදෙසන අතර බුදුවරු නොම උදෙසත්. බුදුවරයන් වහන්සේලා සංඝ කර්ම නොකරන අතර එහි ඇතුළත් ද නොවෙති.

**සඃ ඉ**තරෙ, සුත්තුද්දේසයෙන් අන්‍ය වූ; **යෙ පන ද්වෙ උපොසථා**, යම් පාරිශුද්ධි උපෝසථය, අධිෂ්ඨාන උපෝසථය යන උපෝසථයෝ දෙදෙනෙක් වෙත් ද; **තෙසු**, ඒවා අතරින්; **තාව**, පළමු කොට; **පාරිසුද්ධිඋපොසථො**, පාරිශුද්ධි උපෝසථය; **අඤ්ඤෙසං ච සන්තිකෙ**, සෙස්සන්ගේ සමීපයේ ද; **අඤ්ඤමඤ්ඤං ච**, ඔවුනොවුන් ද; **ආරොචන වසෙන**, ආරෝචනය කිරීම් වශයෙන්; **දුවිධො**, දෙවැදෑරුම් (**හොති**, වෙයි). **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් ආරෝචනයන් අතරින්; **අඤ්ඤෙසං සන්තිකෙ**, සෙස්සන්ගේ සමීපයේ; **යො අයං**[1], යම් මේ උපෝසථයක්; **කරීයති**, කරනු ලැබේ ද; **සො අපි**, එම උපෝසථය ද; **පවාරිතානං ච**, පවාරණය කරන ලද්දවුන්ගේ ද; **අප්පවාරිතානං ච**, පවාරණය නොකරන ලද්දවුන්ගේ ද; **සන්තිකෙ**, සමීපයෙහි; **කරණවසෙන**, කිරීම් වශයෙන්; **දුවිධො**, දෙවැදෑරුම් වෙයි. **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් උපෝසථයන් අතුරෙන්; **මහාපවාරණාය**, වප් පුරපසළොස්වක් දින කරනු ලබන මහා පවාරණයෙන්; **පවාරිතානං සන්තිකෙ**, පවරන ලද භික්ෂූන්ගේ සමීපයේ; **පච්ඡිමිකාය උපගතෙන වා**, පසුවස් එළඹි භික්ෂුවක් විසින් හෝ; **අනුපගතෙන වා**, වස් නොඑළඹි භික්ෂුවක් විසින් හෝ *(අනුපගතො නාම තත්‍ථෙව උපසම්පන්නො, අසතියා පුරිමිකාය අනුපගතො වා* ***(කඞ්ඛා.ටී, පි.30)*** *යි කියූ බැවින් වස් කාලය තුළ උපසපන් වීම නිසා හෝ අසතියෙන් පෙරවස් නොඑළඹීම නිසා);* **ඡින්නවස්සෙන වා**, වස් සිඳුණු භික්ෂුවක් විසින් හෝ; **චාතුමාසිනියං පන**, ඉල් මස පුරපසළොස්වක පොහෝ දින (පසුවස් පවාරණයෙන්); **පවාරිතානං සන්තිකෙ**, පවරන ලද භික්ෂූන්ගේ සමීපයේ; **පුරිමිකාය උපගතෙන වා**, පෙරවස් එළඹි භික්ෂුවක් විසින් හෝ; **අනුපගතෙන වා**, වස් නොඑළඹි භික්ෂුවක් විසින් හෝ; **ඡින්නවස්සෙන වා**, වස් සිඳුණු

[1] **ස්වායං**. බෞසංම

භික්ෂුවක් විසින් හෝ; **කායසාමග්ගිං දත්වා**, කාය සාමග්‍රිය දී; "**පරිසුද්ධො අහම්භන්තෙ පරිසුද්ධො'ති මං ධාරෙථ**" **ඉති**, (**භන්තෙ**, වහන්ස; **අහං**, මම; **පරිසුද්ධො**, පිරිසිදු වෙමි. **මං**, මාව; **පරිසුද්ධො ඉති**, පිරිසිදු යැයි; **ධාරෙථ**, දරන සේක්වා) යැයි; **තික්ඛත්තුං වත්වා**, තෙවරක් කියා; **පාරිසුද්ධිඋපොසථො**[1], පාරිශුද්ධි උපෝසථය; **කාතබ්බො**, කළ යුතු ය.

**ඨපෙත්වා පන පවාරණා දිවසං**, පවාරණය කරන දවස තබා; **අඤ්ඤස්මිං කාලෙ**, සෙසු කල්හි; **ආවාසිකෙහි**, ආවාසික භික්ෂූන් විසින්; **උද්දිට්ඨමත්තෙ පාතිමොක්ඛෙ**, පාමොක් උදෙසූ මාත්‍රයෙහි; **අවුට්ඨිතාය පරිසාය වා**, පිරිස නොනැගිටි කල්හි හෝ; **එකච්චාය වුට්ඨිතාය වා**, ඇතැම් භික්ෂු පිරිසක් නැගිට ගිය කල්හි හෝ; **සබ්බාය වුට්ඨිතාය පරිසාය**, සියලු භික්ෂු පිරිස නැගිට ගිය කල්හි හෝ; **අඤ්ඤෙ**, අන්‍ය වූ; **සමසමා වා**, සම සම වූ හෝ; **ථොකතරා වා**, සුළුතර වූ හෝ; **යෙ ආගච්ඡන්ති**, යම් භික්ෂූහු පැමිණෙත් ද; **තෙහි**, ඒ පසුව ආ භික්ෂූන් විසින්; **තෙසං සන්තිකෙ**, ඒ ආවාසික භික්ෂූන්ගේ සමීපයෙහි; **වුත්තනයෙන එව**, යථොක්ත ක්‍රමයෙන් ම; **පාරිසුද්ධි ආරොචෙතබ්බා**, පාරිශුද්ධිය ආරෝචනය කළ යුතු වේ.

**29. වි:** පාරිසුද්ධි උපෝසථය ආකාර 02 කි.

(1) සෙස්සන්ගේ සමීපයේ කරනු ලබන පාරිශුද්ධි උපෝසථය

(2) ඔවුනොවුන් ආරෝචනය කිරීම් වශයෙන් කරනු ලබන පාරිශුද්ධි උපෝසථය යනුවෙනි.

මෙම දෙවැදෑරුම් පාරිශුද්ධි උපෝසථයන් අතරින් සෙසු භික්ෂූන් සමීපයේ කරනු ලබන පාරිශුද්ධි උපෝසථය යළි දෙවැදෑරුම් වේ.

(1) පවාරණය කරන ලද භික්ෂූන් සමීපයේ කිරීම.

(2) පවාරණය නොකරන ලද භික්ෂූන් සමීපයේ කිරීම වශයෙනි.

මෙහි දී වප් මස පුරපසළොස්වක දින මහා පවාරණයෙන් පවාරණය කරන ලද භික්ෂූන්ගේ සමීපයේ, පසුවස් එළඹි භික්ෂුවක් විසින් හෝ වස් නොඑළඹි භික්ෂුවක් විසින් හෝ වස් සිඳුණු භික්ෂුවක් විසින් හෝ කාය සාමග්‍රිය දී පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ.

[1] '**පාරිසුද්ධිඋපොසථො**' යන පාඨය මජසං පිටපතේ නැත.

**'අනුපගතො නාම තත්‍රෙව උපසම්පන්නො, අසතියා පුරිමිකාය අනුපගතො වා (කඞ්ඛා.ටී, පි.30)'** යනුවෙන් සඳහන් වන බැවින් වස් නොඑළඹි භික්ෂුවක් යන්නෙන් අදහස් වන්නේ වස්සාන කාලය තුළ උපසපන් වීම නිසා හෝ අසතියෙන් පෙරවස් නොඑළඹි භික්ෂුවක් වේ. එසේ ම ඉල් මස පුරපසළොස්වක දින පසුවස් පවාරණයෙන් පවාරණය කරන ලද භික්ෂූන්ගේ සමීපයේ පෙරවස් එළඹි භික්ෂුවක් විසින් හෝ වස් නොඑළඹි භික්ෂුවක් විසින් හෝ කාය සාමග්‍රිය දී පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ. මෙහි දී **"පරිසුද්ධො අහම්භන්තෙ පරිසුද්ධො'ති මං ධාරෙථ"** යනුවෙන් තෙවරක් කියා පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ.

**එහි ලා මේ විනිශ්චය යි:** වප් මස පුර පසළොස්වක දින මහා පවාරණයෙන් පවාරණය කරන භික්ෂූන්ගේ ගණන සංඝ පවාරණය සඳහා ප්‍රමාණවත් වේ නම් ඔවුන්ගේ සමීපයේ පාරිශුද්ධි උපෝසථය කිරීම සඳහා සිටින පෙරවස් නොඑළඹි හෝ වස් නොඑළඹි හෝ සිඳුණු වස් ඇති භික්ෂූන්ගේ ගණන පවාරණය කරන භික්ෂූන් ගණනට සම සම වෙයි නම් හෝ ඌණ වෙයි නම් පළමුව පවාරණය කරන භික්ෂූන් විසින් සංඝ ඥත්තිය තබා සංඝ පවාරණය කොට තදනන්තරව පාරිශුද්ධිය උදෙසන භික්ෂූහු ඒ පවාරණය කළ භික්ෂූන්ගේ සමීපයේ පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ. එක් පොහොය ගෙයක් තුළ ඥත්ති දෙකක් නොතැබිය යුතු වේ. පෙරවස් එළඹි භික්ෂූන්ගේ ගණන සංඝ පවාරණයකට ප්‍රමාණවත් නොවන විටක පසුවස් එළඹි භික්ෂූන්ගෙන් ගණපූරණය කොට සංඝ පවාරණයෙන් පැවරීම නුසුදුසු වේ. ගණඥත්තිය සඳහා ගණපූරක වේ නම් ගණ වශයෙන් ඥත්තිය තබා පෙරවස් විසූවන් විසින් පැවරිය යුතු වේ. සෙසු භික්ෂූන් විසින් ඔවුන්ගේ සමීපයේ පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ. පෙරවස් එළඹි භික්ෂූන් එක් අයෙක් සහ පසුවස් එළඹි භික්ෂූන් එක් අයකු ඇති විටක පෙරවස් එළඹි භික්ෂුව විසින් අනෙක් භික්ෂුව සමීපයේ පවරා පසුවස් එළඹි භික්ෂුව අනෙක් භික්ෂුව සමීපයේ පාරිශුද්ධි උපෝසථය කළ යුතු. මහා පවාරණයෙන් පැවරිය හැකි පෙරවස් එළඹි භික්ෂූන්ගේ ගණනට වඩා එදින පවාරණය කළ නොහැකි භික්ෂූන් එක් අයෙකු හෝ වැඩි වූයේ නම් පළමුව පාමොක් උදෙසා පසුව සෙසු භික්ෂූන් විසින් ඔවුන් සමීපයේ පැවරිය යුතු වේ.

ඉල් මස පුරපසළොස්වක දින පසුවස් පවාරණය කරන භික්ෂූන්ගේ ගණන එදින පවාරණය නොකරන පෙරවස් පවාරණය කළ හෝ වස්

නොඑළඹී හෝ සිඳුණු වස් ඇති භික්ෂූන්ගේ ගණනට වඩා වැඩි වන විට පළමුව පවාරණා ඤත්තිය තබා පවරා අනතුරුව සෙසු භික්ෂූන් විසින් පැවරූ භික්ෂූන්ගේ සමීපයේ පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ. මෙහි දී ද මහා පවාරණයෙන් පැවරූ භික්ෂූන්ගේ ගණන එක් භික්ෂුවකගෙන් හෝ අධිකතර වේ නම් පළමුව පාමොක් උදෙසා පසුව ඔවුන්ගේ සමීපයේ පැවරිය යුතු වේ.

පවාරණා දිනය හැරපියා අන් දිනක ආවාසික භික්ෂූන් විසින් පාමොක් උදෙසන ලද කල්හි සෙසු ආගන්තුක භික්ෂු පිරිසක් පැමිණෙත් නම් ඒ ආගන්තුක පිරිස ආවාසික පිරිසට වඩා සුළුතර හෝ සමසම පිරිසක් වේ නම් ආගන්තුක භික්ෂූන් විසින් ආවාසික භික්ෂූන්ගේ සමීපයේ පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ. යම්හෙයකින් ආගන්තුක භික්ෂු පිරිස එක් භික්ෂුවක් හෝ බහුතර වේ නම්, නැවත පාමොක් උදෙසිය යුතු වේ.

**සඃ යො පන අයං**, යම් මේ පාරිශුද්ධි උපෝසථයක්; **අඤ්ඤමඤ්ඤං**, එකිනෙකා; **ආරොචනවසෙන**, ආරෝචනය කිරීම් වශයෙන්; **කරීයති**[1], කරනු ලැබේ ද; **සො**, ඒ පාරිශුද්ධි උපෝසථ තෙමේ; **ඤත්තිං ඨපෙත්වා ච**, ඤත්තිය තබා ද; **අට්ඨපෙත්වා ච**, නොතබා ද; **කරණවසෙන**, කිරීම් වශයෙන්; **දුවිධො**, දෙවැදෑරුම් වේ. **තත්ථ**, ඒ ද්විප්‍රකාර උපෝසථයන් අතරින්; **යස්මිං ආවාසෙ**, යම් ආවාසයෙක්හි; **තයො භික්ඛූ විහරන්ති**, භික්ෂූන් තිදෙනෙක් වාසය කරත් ද; **උපොසථදිවසෙ**, පොහෝ දිනයෙහි; **තෙසු සන්නිපතිතෙසු**, ඒ භික්ෂූන් රැස්වූ කල්හි; **එකෙන භික්ඛුනා**, එක් භික්ෂුවක් විසින්; **"සුණන්තු මෙ ආයස්මන්තා අජ්ජුපොසථො චාතුද්දසො" ඉති වා**, (**ආයස්මන්තා**, ආයුෂ්මත්වරුනි; **මෙ**, මාගේ වචනය; **සුණන්තු**, අසත්වා; **අජ්ජුපොසථො**, අද පොහොය දිනය; **චාතුද්දසො**, තුදුස්වක් පොහොය යි) යැයි හෝ; **පණ්ණරසො ඉති වා**, පණ්ණරසො (පුණුරැසි පොහොය) යැයි හෝ; **වත්වා**, කියා;

-10-

**"යදායස්මන්තානං පත්තකල්ලං මයං අඤ්ඤමඤ්ඤං පාරිසුද්ධි උපොසථං කරෙය්‍යාම"** (මහාව.1, පි.298) **ඉති**, (**යදි**, ඉදින්; **ආයස්මන්තානං**, ආයුෂ්මතුන් වහන්සේලාට; **පත්තකල්ලං**, ප්‍රාප්තකාලය වී නම්; **මයං**,

---

[1] **කරීයති.** මජසං; **කරියාති.** බෞසංම

අපි; **අඤ්ඤමඤ්ඤං**, එකිනෙකා; **පාරිසුද්ධි උපොසථං**, පාරිශුද්ධි උපෝසථය; **කරෙය්‍යාම**, කරම්හ) යැයි; **ඤත්තියා ඨපිතාය**, ඤත්තිය තැබූ කල්හි; **ථෙරෙන භික්ඛුනා**, ස්ථවිර භික්‍ෂුව විසින්; **උත්තරාසංගං එකංසං කරිත්‍වා**, උතුරුසඟල සිවුර එකස්කොට; **උක්කුටිකං නිසීදිත්‍වා**, උත්කුටිකයෙන් හිඳ; **අඤ්ජලිම්පග්ගහෙත්‍වා**, ඇඳිලි බැඳ; **"පරිසුද්ධො අහං ආවුසො පරිසුද්ධො'ති මං ධාරෙථ" (මහාව.1, පි.298) ඉති** (**ආවුසො**, ඇවැත්නි; **අහං**, මම; **පරිසුද්ධො**, පිරිසිදු වෙමි. **මං**, මාව; **පරිසුද්ධො ඉති**, පිරිසිදු යැයි; **ධාරෙථ**, දරන සේක්වා) යැයි; **තික්ඛත්තුං වත්තබ්බං**, තුන් යළක් කිව යුතු.

**ඉතරෙහි**, සෙසු නවක භික්‍ෂූන් විසින්; **'භන්තෙ' ඉති වත්‍වා**, 'භන්තෙ' යැයි කියා; **එවමෙව වත්තබ්බං**, ('පරිසුධො අහං භන්තෙ පරිසුධො'ති මං ධාරෙථ' යැයි) මෙසේ ම තුන් යළක් කිව යුතු. **එවං**, මෙසේ; **ඤත්තිං ඨපෙත්‍වා**, ඤත්තිය තබා; **කාතබ්බො**, පොහොය කළ යුතු ය. **යත්‍ථ පන**, යම් විහාරයක; **වෙ භික්ඛූ විහරන්ති**, භික්‍ෂූහු දෙදෙනෙක් වසත් ද; **තත්‍ර**, එහි ලා; **ඤත්තිං අට්ඨපෙත්‍වා**, ඤත්තිය නොතබා; **වුත්තනයෙන එව**, යථොක්ත ක්‍රමයෙන් ම; **පාරිසුද්ධි ආරොචෙතබ්බා**, පාරිශුද්ධිය ඇස්සවිය යුතු ය. **ඉති**, මෙසේ; **අයං පාරිසුද්ධි උපොසථො**, මේ පාරිශුද්ධි උපෝසථය යි.

**30. වි:** එකිනෙකා ආරෝචනය කිරීම් වශයෙන් කරනු ලබන පාරිශුද්ධි උපෝසථය තෙවැදෑරුම් වේ.

(1) **ඤත්තිය තබා කරනු ලබන පාරිශුද්ධි උපෝසථය:** යම් විහාරයක භික්‍ෂූන් තුන් නමක් සිටින විට මෙසේ ගණ ඤත්තියක් තබා උපෝසථය පාරිශුද්ධි ආරෝචනය කිරීම් වශයෙන් කරනු ලැබේ.
(2) **ඤත්තිය නොතබා කරනු ලබන පාරිශුද්ධි උපෝසථය:** යම් විහාරයක භික්‍ෂූන් දෙනමක් පමණක් වන විට ඤත්ති තැබීමකින් තොරව ම එකිනෙකා පාරිශුද්ධි උපෝසථය කළ යුතු වේ.

**ස: සචෙ පන**, ඉදින් වනාහි; **එකො එව භික්ඛු හොති**, එක් භික්‍ෂුවක් පමණක් සිටියි ද; **සබ්බං පුබ්බකරණියං**[1] **කත්‍වා**, හැමදීම් ආදි සියලු පූර්වකෘත්‍යයන් කොට; **අඤ්ඤෙසං අනාගමනං ඤත්‍වා**, අන් භික්‍ෂූන්ගේ නොපැමිණීම දැන; **"අජ්ජ මෙ උපොසථො චාතුද්දසො"**

[1] **පුබ්බකරණීයං**. මජසං; බෞසංම

**ඉති වා,** 'අජ්ජ මෙ උපොසථො චාතුද්දසො' යැයි හෝ; **"පණ්ණරසො" ඉති වා,** 'පණ්ණරසො' යැයි හෝ; **අධිට්ඨාමි ඉති,** අදිටන් කරමි යැයි; **වත්තබ්බං,** කිව යුතු ය. **අයං,** මෙය; **අධිට්ඨානුපොසථො,** අධිෂ්ඨාන උපෝසථය යි. **එවං,** මෙසේ; **කත්තබ්බාකාරවසෙන,** කළ යුතු ආකාර වශයෙන්; **තයො උපොසථා වෙදිතබ්බා,** ත්‍රිවිධ උපෝසථයෝ දත යුත්තාහු ය.

**31. වි:** යම් විහාරස්ථානයක එක් භික්ෂුවක් පමණක් සිටින විට ඒ භික්ෂුව විසිනුදු පොහොය ගෙය හැමදීම්, පහන් දැල්වීම්, පානීය පරිභෝජනීය පැන් එළවා තැබීම්, අසුන් පැනවීම් යන සංඝයා රැස්වීමට මත්තෙන් කළ යුතු පූර්වකෘත්‍යයන් ඉටුකොට සෙසු භික්ෂූන් පැමිණේ ද යි මඳ වේලාවක් බලාපොරොත්තුවෙන් සිටිය යුතු ය. ඉක්බිති අන් භික්ෂුවක් නො පැමිණෙයි නම් තමන් තනිව "**අජ්ජ මෙ උපොසථො චාතුද්දසො**" යැයි හෝ '**පණ්ණරසො**' යැයි හෝ අදිටන් කරමි යැයි කියා අධිෂ්ඨාන උපෝසථය කළ යුතු වේ.

මෙසේ උපෝසථය කළ යුතු ආකාර වශයෙන් ද (1) සුත්තුද්දේසය (2) පාරිශුද්ධි උපෝසථය (3) අධිෂ්ඨාන උපෝසථය යනුවෙන් තෙවැදෑරුම් වේ.

**සඃ එත්තාවතා,** මෙපමණකින්; **නව උපොසථා,** උපෝසථයෝ නවදෙනෙක්; **දීපිතා හොන්ති,** දක්වන ලද්දහු වෙත්. **තෙසු,** ඔවුන් අතරින්; **දිවසවසෙන,** දවස වශයෙන්; **පණ්ණරසිකො,** පුණුරැසි පොහොය ය; **කාරකවසෙන,** පොහොය කරන පුද්ගලයන්ගේ වශයෙන්; **සඞ්ඝුපොසථො,** සංඝ උපෝසථය ය; **කත්තබ්බාකාරවසෙන,** කළ යුතු ආකාර වශයෙන්; **සුත්තුද්දෙසො ඉති,** සුත්තුද්දේසය යැයි; **එවං,** මෙසේ; **තිලක්ඛණසම්පන්නො උපොසථො,** ත්‍රිලක්ෂණ සම්පන්න උපෝසථය; **ඉධ,** මේ ප්‍රාතිමෝක්ෂයෙහි; **නිද්දිට්ඨොති වෙදිතබ්බො,** දක්වන ලදැ යි දත යුතු. **තස්මිං පවත්තමානෙ,** ඒ උපෝසථය පවතිනු ලබන කල්හි (නොහොත් පොහොය කරන දිනය පැමිණි කල්හි); **උපොසථං අකත්වා,** පොහොය නොකොට; **තදහුපොසථෙ,** ඒ උපෝසථ දවස්හි; **අඤ්ඤං,** අනෙක්; **අභික්ඛුකං,** භික්ෂූන් රහිත වූ *(පාමොක් උදෙසන පමණ භික්ෂූන් නැති හෙයින් හෝ ඇතිව ද පාමොක් නොපවත්නා හෙයින් හෝ*

*අභික්ඛුක වූ* - **කඞ්ඛා.පි, පි.08)**; **ආවාසං**[1], ආවාසයකට (*ලැගුම්ගේ ඇති වාසයකට* - **කඞ්ඛා.පි, පි.08)** හෝ; **අනාවාසං වා**, නවකර්ම ශාලාදි වූ අනාවාසයකට (*ලැගුම්ගේ නැති වාසයකට* - **කඞ්ඛා.පි, පි.08)** හෝ; **නානාසංවාසකෙහි වා සභික්ඛුකං**, ලබ්ධි නානාසංවාසක භික්ෂූන් සහිත; **ආවාසං අනාවාසං වා**[2], ආවාසයකට හෝ අනාවාසයකට හෝ; **වාසත්ථාය**, වාසය පිණිස; **අඤ්ඤත්‍ර සඞ්ඝෙන**, සංඝයා හැරපියා; **අඤ්ඤත්‍ර අන්තරායා**, අනතුරක් නොමැතිව; **ගච්ඡන්තස්ස**, යන්නා වූ භික්ෂුවට; **දුක්කටං හොති**, දුකුළා ඇවැත් වේ.

**32. වි:** මෙපමණකින් පොහොය කරන දවස වශයෙන් ද පුද්ගලයන්ගේ වශයෙන් ද කළ යුතු ආකාර වශයෙන් ද පොහොය කිරීම් නවයක් දක්වන ලද අතර ඒ අතරින් මෙම ප්‍රාතිමෝක්ෂයෙහි දවස වශයෙන් පුණුරුසි පොහොය ද පුද්ගල වශයෙන් සංඝ උපෝසථය ද කළ යුතු ආකාර වශයෙන් සුත්තුද්දේසය වශයෙන් ද යන ලක්ෂණත්‍රයෙන් සමන්වාගත උපෝසථය දක්වන ලදී. එකී උපෝසථය කරනු ලබන දිනය පැමිණි කල්හි යම් භික්ෂුවක් දශවිධ අන්තරායයන් අතරින් එක අන්තරායකුදු නොමැතිව උපෝසථය නොකොට භික්ෂූන් රහිත අන් ආවාසයකට හෝ නවකර්ම ශාලාදි අනාවාසයකට හෝ ලබ්ධිනානාසංවාසක (එනම් උක්ඛිත්තානුවර්තක) භික්ෂූන් සහිත ආවාසයකට හෝ අනාවාසයකට හෝ වාසය පිණිස සංඝයා හැරපියා යන්නේ නම් දුකුළා ඇවැත් වේ.

**සඃ කිං සඞ්ඝස්ස පුබ්බකිච්චං ඉති**, 'කිං සඞ්ඝස්ස පුබ්බකිච්චං' යනු; "**සඞ්ඝො උපොසථං කරෙය්‍ය" ඉති එවං**, 'සංඝො උපොසථං කරෙය්‍ය' යැයි මෙසේ; **උපොසථකරණසම්බන්‍ධෙන**, උපෝසථ කිරීම සම්බන්ධයෙන්; **වුත්තස්ස සඞ්ඝස්ස**, කියන ලද්ද වූ සංඝයාගේ; **උපොසථෙ**, උපෝසථයෙහි; **කත්තබ්බෙ**, කළ යුතු වූ; **යං තං**, යම් ඒ; **"අනුජානාමි භික්ඛවෙ උපොසථාගාරං සම්මජ්ජිතුං" ඉති ආදිනා නයෙන** "අනුජානාමි භික්ඛවෙ උපොසථාගාරං සම්මජ්ජිතුං" යන ආදි ක්‍රමයෙන්; **පාළියං ආගතං**, පෙළෙහි එන ලද්ද යි. **අට්ඨකථාසු ච**, අර්ථකථාවන්හි ද,

---

[1] ආවාසං වා. මජසං; **කඞ්ඛා.පි.**
[2] ආවාසං අනාවාසං වා. මජසං

**"සම්මජ්ජනී පදීපො ච උදකං ආසනෙන ච**
**උපොසථස්ස එතානි පුබ්බකරණන්ති වුච්චති.**

**ඡන්දපාරිශුද්ධි උතුක්ඛානං භික්ඛුගණනා ච ඔවාදෙ**
**උපොසථස්ස එතානි පුබ්බකිච්චන්ති වුච්චති" ඉති,**

(කඞ්ඛා, පි.10)

(**සම්මජ්ජනී**, පොහොය ගෙයි හැමදීම ය; **පදීපො ච**, පහන් දැල්වීම ය; **ආසනෙන උදකං ච**, අසුන් පැනවීම සමඟ නහන, බොන පැන් පරහා තැබීම ද යන; **එතානි**, මොහු සතර දෙන, **පුබ්බකරණං ඉති වුච්චති**, සංඝයා රැස් නොවන තෙක් කටයුතු හෙයින් පූර්වකරණයහ යි කියනු ලැබේ. **ඡන්දපාරිශුද්ධි**, ඡන්දය ද පාරිශුද්ධිය ද රැගෙන ඒම; **උතුක්ඛානං**, ඍතුයෙහි ඉකුත් වූ සහ ඉතිරිව ඇති කාලය කීම ද; **භික්ඛුගණනා ච**, රැස් වූ මහණුන් ගිණීම ද; **ඔවාදෙ**, භික්ෂුණීන් විසින් ඉල්වන ලද අවවාද හා පොහොය ආදිය කීම; **එතානි**, මොහු පස්දෙන, **පුබ්බකිච්චං ඉති වුච්චති**, සංඝයා රැස් වූ කල කටයුතු හෙයින් පූර්වකෘත්‍යයහ යි කියනු ලැබේ).

**ඉති**, යැයි; **එවං**, මෙසේ; **ද්වීහි නාමෙහි**, නම් දෙකකින්; **නවවිධං පුබ්බකිච්චං**, නවවැදෑරුම් පූර්වකෘත්‍යය; **දස්සිතං**, දක්වන ලද්දේ ද; **කිං?**, කිම; **තං**, ඒ පූර්වකෘත්‍යය; **කතං ඉති**, කරන ලද්දේ ද? යැයි; **පුච්ඡති**, විචාරයි.

**හි**, යම්හෙයකින්; **තං**, ඒ නවවිධ පූර්වකෘත්‍යය; **අකත්වා**, නොකොට; **උපොසථං කාතුං**, පොහොය කිරීමට; **න වට්ටති**, නුසුදුසු ය. **තස්මා**, එබැවින්; **ථෙරෙන ආණත්තෙන**, තෙරුන් වහන්සේ විසින් අණකරන ලද; **අගිලානෙන භික්ඛුනා**, නොගිලන් භික්ෂුවක් විසින්; **උපොසථාගාරං**, පොහොය ගෙය; **සම්මජ්ජිතබ්බං**, හැමදිය යුතු ය. **පානීයං**, වළඳන පැන්; **පරිභෝජනීයං**, පරිභෝග පැන්; **උපට්ඨපෙතබ්බං**, එළවිය යුතු ය. **ආසනං**, ධර්මාසනය; **පඤ්ඤපෙතබ්බං**, පැනවිය යුතු ය. **පදීපො කාතබ්බො**, පහන් දැල්විය යුතු ය. **අකරොන්තො**, හැමදීම් ආදි මේ කටයුතු නොකරනුයේ; **දුක්කටං ආපජ්ජති**, දුකුළාවකට පැමිණේ. **ථෙරෙන අපි**, තෙරුන් වහන්සේ විසිනුදු; **පතිරූපං ඤත්වා**, සුදුසු භික්ෂුවක් දැන; **ආණාපෙතබ්බං**, ඇණවිය යුතු ය.

**ඡන්දපාරිසුද්ධි ඉති එත්ථ**, 'ඡන්දපාරිසුද්ධි' යන මෙහි; **උපොසථකරණත්ථං**, පොහොය කිරීම පිණිස; **සන්නිපතිතෙ සඞ්ඝෙ**, සංඝයා රැස්වූ කල්හි; **බහි**, බැහැර දී (සීමාවෙන් පිටත දී); **උපොසථං**

**කත්වා,** පොහොය කොට; **ආගතෙන,** පැමිණි භික්ෂුවක් විසින්; **සන්නිපතිතට්ඨානං ගන්ත්වා,** පොහොය කිරීමට භික්ෂූන් රැස්වූ තැනට ගොස්; **කායසාමග්ගිං අදෙන්තෙන,** කාය සාමග්‍රිය නොදෙන්නහු විසින්; **ඡන්දෙ දාතබ්බො,** ඡන්දය දිය යුතු ය. **යො අපි,** ඇතුළු සීමාවෙහි හුන් යමෙක් වනාහි; **ගිලානො වා හොති,** ගිලන් වූයේ හෝ වෙයි ද; **කිච්චපසුතො**[1] **වා,** ගිලන් උවටැන් කිරීම් ආදි කෘත්‍යයන්හි යෙදුණේ හෝ වෙයි ද; **පාරිසුද්ධිං දෙන්තෙන තෙන අපි,** පාරිශුද්ධිය දෙන්නා වූ ඔහු විසිනුදු; **ඡන්දො අපි දාතබ්බො,** ඡන්දය ද දිය යුතු ය.

## පුබ්බකරණ පුබ්බකිච්ච

**33. වි: "කිං සඞ්ඝස්ස පුබ්බකිච්චං"** යනුවෙන් නවවැදෑරුම් පූර්වකෘත්‍යය කරන ලද්දේ ද යි විචාරනු ලබයි. එම නවවැදෑරුම් පූර්වකෘත්‍යය (1) සංඝයා රැස්වීමට පූර්වයෙහි කළ යුතු කටයුතු වන බැවින් පූර්වකරණ සහ (2) සංඝයා රැස්වූ පසු පාමොක් උදෙසීමට මත්තෙන් කළ යුතු බැවින් පූර්වකෘත්‍යය (පුබ්බකිච්ච) යනුවෙන් දෙයාකාර වෙති.

**සංඝයා රැස්වීමට පූර්වයෙහි කළ යුතු පූර්වකරණ (පුබ්බකරණ)**

1. පොහොය ගෙය හැමදීම (සම්මජ්ජනී)
2. පහන් දැල්වීම (පදීපො)
3. පානීය, පරිභෝජනීය පැන් එළවීම (උදකං)
4. අසුන් පැනවීම (ආසනෙන)

**සංඝයා රැස්වූ පසු පාමොක් උදෙසීමට මත්තෙන් කළ යුතු පූර්වකෘත්‍ය (පුබ්බකිච්ච)**

5. ඡන්දයට සුදුසු භික්ෂූන්ගේ ඡන්දය ගෙනඒම (ඡන්ද)
6. පාරිශුද්ධිය ගෙන ඒම (පාරිසුද්ධි)
7. ඍතුව ඇස්සවීම (උතුක්ඛානං)
8. පොහොය ගෙයි රැස්ව සිටින භික්ෂූන් ගණන් කිරීම (භික්ඛු ගණනා)
9. භික්ෂුණීන් විසින් අවවාද ඉල්ලා සිටින බව සැලකිරීම (ඔවාදෙ)

---

[1] **කිච්චප්පසුතො.** මඡසං

මෙම නවවිධ පූර්වකෘත්‍යය නොසිදුකොට පොහොය කිරීම නොකළ යුතු අතර සංඝ ස්ථවිරයන් වහන්සේ විසින් සුදුසු භික්ෂුවක් වෙත මෙම කටයුතු පැවරිය යුතු වේ. එසේ පවරනු ලබන නොගිලන් භික්ෂුව විසින් මෙම කටයුතු නොඉටුකොට පැහැර හරින්නේ නම් දුකුළා ඇවැතකට පැමිණේ. එසේ හැමදීමාදිය නොසිදුකොට පොහොය කිරීම සුදුසු නොවන බැවින් ඒ පිළිබඳව "**කිං සඞ්ඝස්ස පුබ්බකිච්චං**" යැයි විමසනු ලැබේ.

පොහොය කිරීම සඳහා භික්ෂූන් රැස්වූ කල්හි පොහොය කිරීමට සහභාගි නොවන භික්ෂුව විසින් සිය පාරිශුද්ධියත් ඡන්දයත් දිය යුතු වේ. එහි දී සිය උපෝසථය නොකිරීමෙන් වන ඇවැතින් මිදීම පාරිශුද්ධි දානයෙන් සිදුවන අතර විනය කර්මය වර්ග නොවීම පිණිස ඡන්දදානය සිදුකළ යුතු ය. යම් ලෙසකින් ගිලන් භික්ෂුව ඡන්ද පාරිශුද්ධි දානය කළ නොහැකි වන සේ ගිලන් වේ නම් ඔහු ඇඳ හෝ පුටුව සමග හෝ ඔසවාගෙන සඟ මැදට ගෙනවුත් පොහොය කළ යුතු වේ. යම් හෙයකින් ගිලන් භික්ෂුව සිටි තැනින් අන් තැනකට රැගෙන යාම කළ නොහැකි වේ නම් එසේ ගෙන යාමෙන් ගිලන් බව වැඩි වේ නම් හෝ කලුරිය කිරීමට ඉඩ ඇත් නම් ගිලන් භික්ෂුව සඟමැදට නොගෙනවුත් සංඝයා විසින් එහි ගොස් පොහොය කළ යුතු ය. කිසිදු ලෙසකින් වර්ගව පොහොය කටයුතු නො වේ. යම්හෙයකින් ගිලන් භික්ෂුවගේ ඡන්දය රැගෙන ඒමෙන් තොරව වර්ගව පොහොය කළේ නම් ඔවුන්ට දුකුළා ඇවැත් වේ. ඒ ඡන්දය දෙන්නහු විසින් දිය යුතු ආකාරය පැවසීමට '**කථං දාතබ්බො?**' යැයි පවසන ලදී.

**සඃ කථං**, කෙසේ; **දාතබ්බො?** ඡන්දය දිය යුතු ද? යත්; **එකස්ස භික්ඛුනො සන්තිකෙ**, එක් භික්ෂුවක් සමීපයේ; "**ඡන්දං දම්මි ඡන්දං මෙ හර ඡන්දං මෙ ආරොචෙහි" ඉති**, (**ඡන්දං දම්මි**, ඡන්දය දෙමි; **මෙ ඡන්දං**, මාගේ ඡන්දය; **හර**, රැගෙන යනු මැනවි; **මෙ ඡන්දං**, මාගේ ඡන්දය; **ආරොචෙහි**, සැලකරනු මැනවි) යන; **අයං අත්ථො**, මේ ත්‍රිවිධ වචනාර්ථය; **කායෙන වා**, කයින් හෝ *(අර්ථ සලකා කායචලන කිරීමෙන් කයින් වේව යි* - **කඞ්ඛා.පි. පි.08**); **වාචාය වා**, වචනයෙන් (*එසේ ම යම් තෙප්ලෙකින් වේව යි* - **කඞ්ඛා.පි, පිටු.8-9**) හෝ; **උභයෙන වා**, කය වචනය දෙකින් ම හෝ; **විඤ්ඤාපෙතබ්බො**, දැන්විය යුතු ය. **එවං**, මෙසේ; **ඡන්දො**, ඡන්දය; **දින්නො හොති**, දෙන ලද්දේ වෙයි.

**34. වි:** සීමාවේ සිටින නමුදු උපෝසථයට සහභාගී නොවන භික්‍ෂුව විසින් ඡන්‍දදානය සිදුකළ යුතු ආකාරය '**ඡන්‍දං දම්මි ඡන්‍දං මෙ හර ඡන්‍දං මෙ ආරොචෙහි**' යනුවෙන් දක්වේ. එහි '**ඡන්‍දං දම්මි**' යන්නෙන් මහාවග්ගපාළි උපෝසථක්ඛන්‍ධකයෙහි 'පාරිශුද්ධිය දෙන්නහු විසින් ඡන්දය ද දිය යුතු' බවට භාග්‍යවතුන් වහන්සේ විසින් පනවා වදාළ අණ ඉටුකිරීම කියන ලදී. එසේ ම '**ඡන්‍දං මෙ හර**' යන්නෙන් යම්හෙයකින් ඡන්‍දය ගෙනයන භික්‍ෂුව උපෝසථයට සහභාගි නොවී අන් තැනක යයි ද, වෙනකෙකුට ඡන්‍දය දිය යුතු යැයි වදාළ "**ඡන්‍දහාරකො චෙ භික්ඛවෙ, දින්නෙ ඡන්දෙ තත්‍ථෙව පක්කමති, අඤ්ඤස්ස දාතබ්බො ඡන්‍දො (මහාව.1, පි.292)**" යන පැනවීම නිසාවෙන් තම ඡන්‍දය සංඝයා වෙත ලැබෙන බව පිළිබඳ සැක දුරුකර ගැන්මට කියන ලදී. තව ද " **ඡන්‍දහාරකො චෙ භික්ඛවෙ, දින්නෙ ඡන්‍දෙ සඤ්චිච්ච න ආරොචෙති, ආහටො හොති ඡන්‍දො, ඡන්‍දහාරකස්ස ආපත්ති දුක්කටස්ස (මහාව.1, පි.292)**" යැයි යම් ඡන්‍දහාරක භික්‍ෂුවක් සඟමැදට පැමිණ තමන් රැගෙන ආ ඡන්‍දය දැන දැන ම නො සැලකරයි ද ඡන්‍දහාරක භික්‍ෂුවට දුකුළා ඇවැත් වන බව වදාළ බැවින් ඔහු ඒ දුකුළාවෙන් මිදවීමට '**ඡන්‍දං මෙ ආරොචෙහි**' යැයි ද කියන ලදී.

**සඃ අකතුපොසථෙන ගිලානෙන පන**, පොහොය නොකරන ලද ගිලන් භික්‍ෂුව විසින්; **වා**, නොහොත්; **කිච්චපසුතෙන**[1] **වා**, ගිලානෝපස්ථානාදි කෘත්‍යයක නියැලි භික්‍ෂුවක් විසින් හෝ; **පාරිසුද්ධි දාතබ්බා**, පාරිශුද්ධිය දිය යුතු ය.

-11-

**කථං දාතබ්බා?** කෙසේ දිය යුත්තේ ද? යත්; **එකස්ස භික්ඛුනො සන්තිකෙ**, එක් භික්‍ෂුවක් සමීපයේ; "**පාරිසුද්ධිං දම්මි පාරිසුද්ධිං මෙ හර පාරිසුද්ධිං මෙ ආරොචෙහි" ඉති**, (**පාරිසුද්ධිං දම්මි**, පාරිශුද්ධිය දෙමි; **මෙ පාරිසුද්ධිං**, මාගේ පාරිශුද්ධිය; **හර**, රැගෙන යනු මැනවි; **මෙ පාරිසුද්ධිං**, මාගේ පාරිශුද්ධිය; **ආරොචෙහි**, සැලකරනු මැනවි) යන; **අයං අත්‍ථො**, මේ අර්ථය; **කායෙන වා**, කයින් හෝ; **වාචාය වා**, වචනයෙන් හෝ; **උභයෙන වා**, කය වචනය දෙකින් ම හෝ;

[1] **කිච්චප්පසුතෙන.** මඡසං

**විඤ්ඤාපෙතබ්බො**, දැන්විය යුතු ය. **එවං**, මෙසේ; **පාරිසුද්ධි**, පාරිශුද්ධිය; **දින්නා හොති**, දෙන ලද්දේ වෙයි.

**35. වි:** මෙසේ ඡන්දය හා පාරිශුද්ධිය දීමේ දී කාය ප්‍රයෝගයකින් හෝ වචී ප්‍රයෝගයකින් හෝ කාය-වාග් උභය ප්‍රයෝගයකින් හෝ දැන්විය යුතු වේ. එසේ ම '**අයං අත්ථො**' යැයි මේ අර්ථය දැන්විය යුතු බව සඳහන් බැවින් කවර හෝ භාෂාවකින් මෙම අර්ථය පැවසීමෙන් ඡන්ද හා පාරිශුද්ධි දානය සිදුවන බව දත යුතු. පාරිශුද්ධිය දෙන භික්ෂුව විසින් තමාගේ ඇවැත් තිබේ නම්, පළමුව ඇවැත් දේශනා කොට අනතුරුව පාරිශුද්ධි දානය කළ යුතු ය. ඇවැත් සහිතව පාරිශුද්ධි දානය නොසිදුකළ යුතු ය.

**සඃ තං පන**, ඒ පාරිශුද්ධිය වනාහි; **දෙන්තෙන**, දෙන භික්ෂුව විසින්; **ඡන්දෙපි**, ඡන්දය ද; **දාතබ්බො**, දිය යුතු ය. **භගවතා**, භාග්‍යවතුන් වහන්සේ විසින්; **එතං**, මෙය; **වුත්තං හි**, වදළේ මැයි; "**අනුජානාමි, භික්ඛවෙ, තදහුපොසථෙ පාරිසුද්ධිං දෙන්තෙන ඡන්දම්පි දාතුං සන්ති සඞ්ඝස්ස කරණීයං**" (**මහාව.1, පි.292**) **ඉති**, (**භික්ඛවෙ**, මහණෙනි; **තදහුපොසථෙ**, එදවස උපෝසථයෙහි; **පාරිසුද්ධිං දෙන්තෙන**, පාරිශුද්ධිය දෙන්නහු විසින්; **සන්ති සඞ්ඝස්ස කරණීයං**, (**සඞ්ඝස්ස කරණීයානි සන්ති**), සංඝයාගේ සෙසු සංඝ කර්ම ඇත් නම්; **ඡන්දම්පි දාතුං**, ඡන්දය ද දීමට; **අනුජානාමි**, අනුදනිමි) යනුවෙනි. **තත්ථ**, එහි ලා; **පාරිසුද්ධිදානං**, පාරිශුද්ධි දානය; **සඞ්ඝස්ස අපි**, සංඝයාගේ ද; **අත්තනො අපි**, තමාගේ ද; **උපොසථකරණං**, පොහොය කිරීම; **සම්පාදෙති**, සම්පූර්ණ කරයි. **අවසෙසං සඞ්ඝකිච්චං**, සෙසු සංඝ කෘත්‍යය; **න**, සම්පූර්ණ නො කරයි. **ඡන්දදානං**, ඡන්දය දීම; **සඞ්ඝස්ස එව**, සංඝයාගේ ම; **උපොසථකරණං ච**, පොහොය කිරීම ද; **සෙසකිච්චං ච**, සෙසු සංඝ කෘත්‍යය ද; **සම්පාදෙති**, සම්පූර්ණ කරයි; **අත්තනො පනස්ස**[1], ඔහු තමාගේ වනාහි; **උපොසථො**, උපෝසථය; **අකතොයෙව හොති**, නොකරන ලද්දේ ම වෙයි. **තස්මා**, එබැවින්; **පාරිසුද්ධිං දෙන්තෙන**, පාරිශුද්ධිය දෙන්නා වූ භික්ෂුව විසින්; **ඡන්දෙපි දාතබ්බො**, ඡන්දය ද දිය යුතු ය.

[1] **අත්තනො පන**. මඡසං; **අත්තනා පන**. බෞසංම

**පුබ්බේ වුත්තං පන**, පෙර කියන ලද; **සුද්ධිකඡන්දං**[1] **වා**, පාරිශුද්ධි අමිශ්‍ර ශුද්ධික ඡන්දය හෝ; **ඉමං ඡන්දපාරිසුද්ධිං වා**, මේ ඡන්දපාරිශුද්ධිය හෝ; **එකෙන**, එක් භික්ෂුවක් විසින්; **බහුන්නං අපි**, බොහෝ භික්ෂූන්ගේ ද; **ආහරිතුං වට්ටති**, ගෙනඒමට සුදුසු ය. **සචෙ පන**, ඉදින් වනාහි; **සො**, හෙතෙමේ (ඒ ඡන්දහාරක භික්ෂුව); **අන්තරාමග්ගෙ**, අතරමග දී; **අඤ්ඤං භික්ඛුං පස්සිත්වා**, අන් භික්ෂුවක් දැක; **තෙන**, ඒ ඡන්දහාරක භික්ෂුව විසින්; **යෙසං**, යම් භික්ෂූන්ගේ; **ඡන්දො වා**, ඡන්දය හෝ; **පාරිසුද්ධි වා**, පාරිශුද්ධිය හෝ; **ගහිතා**, ගන්නා ලද්දේ ද; **තෙසං ච**, ඔවුන්ගේ ද; **අත්තනො ච**, තමාගේ ද; **ඡන්දපාරිසුද්ධිං**, ඡන්දපාරිශුද්ධිය; **දෙති**, (ඒ අතරමග මුණගැසුණු භික්ෂුවට) දෙයි ද; **තස්ස එව**[2], ඒ පළමු ඡන්දහාරක භික්ෂුවගේ ඡන්දපාරිශුද්ධිය ම; **ආගච්ඡති**, සංඝයා වෙත පැමිණේ. **ඉතරා පන**, අන් භික්ෂූන්ගේ ඡන්දපාරිශුද්ධිය; **බිලාළසඞ්ඛලිකඡන්දපාරිසුද්ධි නාම හොති**, 'බිලාළසඞ්ඛලිකඡන්දපාරිශුද්ධිය' (බළල් දමක් වැනි ඡන්දපාරිශුද්ධිය) නම් වේ. **සා**, ඒ බිලාළසඞ්ඛලිකඡන්දපාරිශුද්ධිය; **න ආගච්ඡති**, සංඝයා වෙත නො පැමිණේ. **තස්මා**, එබැවින්; **සයමෙව**, ඡන්දහාරක භික්ෂුව තෙමේ ම; **සන්නිපතිතට්ඨානං ගන්ත්වා**, සංඝයා රැස්වුණු තැනට ගොස්; **ආරොචෙතබ්බා**[3], සැලකළ යුතු ය. **සචෙ පන**, ඉදින් වනාහි; **සඤ්චිච්ච**, දැන දැන ම; **ඡන්දං න ආරොචෙති**[4], ඡන්දය නො සැලකරයි ද; **දුක්කටං ආපජ්ජති**, දුකුළා ඇවතකට පැමිණේ. **ඡන්දපාරිසුද්ධි පන**, ඡන්දපාරිශුද්ධිය වනාහි; **හත්ථපාසං**, අත්පසට; **තස්මිං උපගතමත්තෙ එව**, ඒ ඡන්දහාරක භික්ෂුව එළඹි මාත්‍රයේ ම; **ආගතා හොති**, පැමිණියේ වෙයි.

**36. වි:** යම් භික්ෂුවක් තවත් එක් භික්ෂුවකගේ හෝ බොහෝ භික්ෂූන්ගේ ඡන්දපාරිශුද්ධිය රැගෙන පොහොය කිරීම සඳහා සංඝයා රැස් වූ තැනට පැමිණෙයි ද ඔහු විසින් ම ඒ ඡන්දපාරිශුද්ධිය රැගෙන ආ යුතු ය. වෙනත් භික්ෂුවක් වෙත නොම දිය යුතු ය. එසේ එක් භික්ෂුවකගේ ඡන්ද පාරිශුද්ධිය වෙනත් භික්ෂුවකට දුන්නේ ද එය සංඝයා වෙත නොපැමිණෙන අතර එය **බිලාළසඞ්ඛලික ඡන්දපාරිසුද්ධිය** ලෙස හැඳින්වේ. බිලාළසඞ්ඛලිකයක් යනු දම්වැල් පුරුක්වලට නමකි.

---

[1] **සුද්ධිකච්ඡන්දං.** මජසං
[2] **තස්සෙව සා.** මජසං
[3] **ආරොචෙතබ්බං.** මජසං
[4] **සඤ්චිච්ච නාරොචෙති.** මජසං

දම්වැලක එක් පුරුකක් දෙවන පුරුකට ම සම්බන්ධ වේ. තෙවන පුරුකට සම්බන්ධ නො වේ. එසේ ම භික්ෂුවක් විසින් ස්වකීය ඡන්දපාරිශුද්ධිය යම් භික්ෂුවකට දෙන ලද්දේ ද ඔහු වෙතින් අන් භික්ෂුවක් වෙත නො යයි. එබැවින් දම්වැල් පුරුක් බඳු වූ බැවින් **බිලාළසඞ්ඛලික** යැයි උපලක්ෂණ මාත්‍රයෙන් කියන ලදී.

තව ද ඡන්දපාරිශුද්ධිය දෙන භික්ෂුව විසින් ප්‍රකෘති භික්ෂුවක් වෙත ම ස්වකීය ඡන්දපාරිශුද්ධිය දිය යුතු වේ.

> **"ඡන්දහාරකො චෙ භික්ඛවෙ දින්නෙ ඡන්දෙ තත්ථෙව පක්කමති ... තත්ථෙව විබ්භමති, කාලං කරොති, සාමණේරො පටිජානාති, සික්ඛං පච්චක්ඛාතකො පටිජානාති ... උභතොබ්‍යඤ්ජනකො පටිජානාති, අඤ්ඤස්ස දාතබ්බො ඡන්දෙ."**
>
> (මහාව.1, පි.292)

යනාදී ලෙස සඳහන් වන බැවින් සාමණේර හිමි නමකට හෝ ගිහි පුද්ගලයකුට හෝ ඒ බව දැන දැන දෙන ලද ඡන්දපාරිශුද්ධි දානය නො සිදුවේ. එහෙත්,

> **"ඡන්දහාරකො චෙ භික්ඛවෙ දින්නෙ ඡන්දෙ සඞ්ඝප්පත්තො පක්කමති ... සඞ්ඝප්පත්තො විබ්භමති, කාලං කරොති, සාමණේරො පටිජානාති, සික්ඛං පච්චක්ඛාතකො පටිජානාති ... උභතොබ්‍යඤ්ජනකො පටිජානාති, ආහටො හොති ඡන්දෙ."**
>
> (මහාව.1, පි.292)

යනුවෙන් සඳහන් වන දේශනා පාළියට අනුව ඡන්දහාරක භික්ෂුව අනුපසම්පන්නයෙකු බව නොදැන ඡන්දය දුන් විට හෙතෙමේ ඒ ඡන්දය රැගෙන විත් සංඝයා වෙත ආරෝචනය කිරීමෙන් අනතුරුව තමා අනුපසම්පන්න බව හෙළි කළ ද, ඡන්දය සංඝයා වෙත ලැබේ.

එසේ ම ඡන්දපාරිශුද්ධිය රැගෙන එන භික්ෂුව පොහොය කිරීම සඳහා රැස් වූ සංඝයාගේ අත්පසට එළඹි මාත්‍රයෙන් ම ඡන්දපාරිශුද්ධිය ලැබේ. එසේ වුව ද එය සංඝයාට ආරෝචනය ද කළ යුතු වේ. දැන දැන ම තමා විසින් රැගෙන ආ ඡන්දය සංඝයා වෙත ආරෝචනය නො කරන්නේ නම්, ඡන්දය ලැබෙන නමුදු ඡන්දහාරක භික්ෂුවට දුකුළා ඇවැත් වේ.

**සඃ උතුක්ඛානං ඉති**, 'උතුක්ඛානං' යනු; **හෙමන්තාදීනං**, හේමන්ත ආදි වූ; **තිණ්ණං**[1] **උතූනං**, තුන් ඍතුන්ගේ; **එත්තකං**, මෙපමණක්; **අතික්කන්තං**, ඉක්මුණේ වේ; **එත්තකං**, මෙපමණක්; **අවසිට්ඨං**, ඉතිරි ය; **ඉති එවං**, යැයි මෙසේ; **උතුආචික්ඛනං**, ඍතුව ඇස්සවීම යි.

**37. විඃ** 'උතුක්ඛානං' යනු පොහොය කරන දිනයට අදාළ ඍතුවෙහි ඒ දක්වා ඉක්මගොස් ඇති පොහොය ගණන සහ තවදුරටත් ඉතිරිව ඇති පොහොය ගණන ඇස්සවීම යි. ඒ අනුව පොහොය කරනු ලබන්නේ පොහොය 08 ක් ඇති හේමන්ත ඍතුවේ නම් එළඹ ඇත්තේ පස්වෙනි පොහොය වේ නම් පොහොය 04 ක් ඉක්මගොස් තවත් පොහොය 03 ක් ඉතිරිව ඇති බව සඳහන් කිරීම මෙහි දී සිදුවේ.

**සඃ භික්ඛුගණනා ඉති**, 'භික්ඛුගණනා' යනු; **උපොසථග්ගෙ**, පොහොය ගෙයි; **එත්තකා භික්ඛූ**, මෙපමණ භික්ෂූහු; **සන්නිපතිතා ඉති**, රැස් වූවාහු යැයි; **භික්ඛූනං ගණනා**, භික්ෂූන්ගේ ගණන් කිරීම යි. **ඉදම්පි හි උභයං**, මේ උභය කෘත්‍යයෝ වනාහි; **කත්වාව**, සිදුකොට ම; **උපොසථො කාතබ්බො**, උපෝසථය කළ යුතු ය (***ඉදම්පි හි උභයං*** *යනු කුමක් පිණිස කියන ලද්දේ ද? යත් 'සෙසු සම්මජ්ජනාදීහු තෙරුන් විසින් අණවන ලද්දහු විසින් කටයුත්තාහ' යි ද, 'උතු ආචික්ඛන භික්ඛුගණනාවෝ වනාහි, මහතෙරුන් විසින් වේව යි පාමොක් උදෙසන්නහු විසින් වේවයි කටයුත්තාහ' යි ද, 'සම්මජ්ජනාදීහු එවනු ප්‍රයෝජනයන් සපයති. උතු ආචික්ඛනාදි දෙදෙන වනාහි උපොසථයෙහි කිසි ප්‍රයෝජනයක් නො සපයති. එබැවින් කිරුමෙන් ප්‍රයෝජන කිමෙක් දැ? යි නොකියා අවශ්‍යයෙන් ම කටයුත්තාහ'යි දක්වනු පිණිස 'ඉදම්පි හි උභයං'යි කීහු.* - **කඞ්ඛා.පි**, පි.09).

**ඔවාදෙ ඉති**, ඔවාදෝ යනු; **භික්ඛුනොවාදෙ**, භික්ඛුනෝවාදය යි. එනම් භික්ෂුණීන් හට අෂ්ට ගරුධර්මයෙන් අවවාද දීම යි. **භික්ඛුනීහි**, භික්ෂුණීන් විසින්; **යාචිතං ඔවාදං**, යදින ලද අවවාදය; **අනාරොචෙත්වා**, නොසැලකොට; **උපොසථං කාතුං**, පොහොය කිරීමට; **න වට්ටති**, නුසුදුසු ය. **භික්ඛුනියො හි**, භික්ෂුණීහු වනාහි; **ස්වෙ උපොසථො ඉති**, හෙට දින උපෝසථය යැයි; **ආගන්ත්වා**, අවුත්; **අයං උපොසථො**, මේ උපෝසථය; **චාතුද්දසො**, චාතුද්දසියක් ද; **පණ්ණරසො ඉති**,

[1] '**තින්නං**' යන වචනය මජසං පිටපතේ දක්නට නොලැබේ. **තින්නං**. හෙමු; බෞසංම

පණ්ණරසියක් දැයි; **පුච්ඡිත්වා**, විචාරා; **පුන**, යළි; **උපොසථ දිවසෙ**, උපෝසථ දිනයෙහි; **ආගන්ත්වා**, අවුත්; **අය්‍ය**, ආර්යයන් වහන්ස (ස්වාමීනි); **භික්ඛුණිසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සංඝයාගේ; **පාදෙ වන්දති**, පා වඳියි. **ඔවාදූපසඞ්කමනඤ්ච**, අවවාද සඳහා එළඹීම ද; **යාචති**, යදියි. **අය්‍ය**, ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභතු කිර**, ලබාවා; **ඉති එවං**, යැයි මෙසේ; **ඔවාදං යාචන්ති**, අවවාද යදිත්. **තං**, ඒ අවවාද යාචන වචනය; **බාලගිලානගමියෙ**, සැලකරන විධිය නොදන්නා බාල භික්ෂුව ය, පොහොය ගෙට ගොස් කිව නොහැකි ගිලන් භික්ෂුව ය, තුදුස්වක් පසළොස්වක් පොහොය දිනයන්හි හෝ පෑළවිය දිනයෙහි හෝ ගමන් යාමේ අදහස ඇති ගමිය භික්ෂුව ය යන අය; **ඨපෙත්වා**, හැරපියා; **අඤ්ඤෙ**, අන් භික්ෂුවක්; **සචෙ**, ඉදින්; **ආරඤ්ඤකො අපි හොති**, ආරණ්‍යක භික්ෂුවක් වෙයි නමුදු; **අපටිග්ගහෙතුං**, නොපිළිගැනීමට; **න ලභති**, නො ලබයි. **තස්මා**, එබැවින්; **යෙන**, යම් භික්ෂුවක් විසින්; **සො**[1] **පටිග්ගහිතො**, ඒ වචනය පිළිගන්නා ලද්දේ ද; **තෙන භික්ඛුනා**, ඒ භික්ෂුව විසින්; **උපොසථග්ගෙ**, උපෝසථාග්‍රයෙහි; **පාතිමොක්ඛුද්දෙසකො භික්ඛු**, පාමොක් උදෙසන භික්ෂු තෙමේ; **එවං වත්තබ්බො**, මෙසේ කිව යුතු. **භන්තෙ**, වහන්ස; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සංඝයාගේ; **පාදෙ වන්දති**, පා වඳියි. **ඔවාදූපසඞ්කමනඤ්ච**, අවවාද සඳහා එළඹීම ද; **යාචති**, යදියි. **භන්තෙ**, වහන්ස; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභතු කිර**, ලබන සේක්වා. **ඉති**, යනුවෙනි. **පාතිමොක්ඛුද්දෙසකෙන**, පාමොක් උදෙසන භික්ෂුව විසින්; **කොචි**, කිසියම්; **භික්ඛුනොවාදකො**, භික්ඛුනෝවාදක (භික්ෂුණීන්ට අවවාද දෙන); **සම්මතො භික්ඛු**, සම්මත භික්ෂුවක් (භික්ෂුණීන්ට අවවාද දීමට හැකි සම්මත වූ භික්ෂුවක්); **අත්ථි**, ඇත්තේ ද?; **ඉති වත්තබ්බං**, යැයි ඇසිය යුතු ය. **සචෙ**, ඉදින්; **කොචි**, කිසියම්; **භික්ඛුනොවාදකො**, භික්ඛුනෝවාදක; **සම්මතො භික්ඛු**, සම්මත වූ භික්ෂුවක්; **හොති**, වෙයි ද; **තතො**, ඉක්බිති; **තෙන**, ඒ පාමොක් උදෙසන භික්ෂුව විසින්; **සො**, ඒ භික්ඛුනෝවාදක යාචනය ඉවසූ භික්ෂුව; **ඉත්ථන්නාමො**, මෙනම් ඇති භික්ෂුව; **භික්ඛුනොවාදකො**, භික්ඛුනෝවාදක; **සම්මතො භික්ඛු**, සම්මත භික්ෂුවකි. **භික්ඛුනීසඞ්ඝො**,

[1] **යො.** බෞසංම

භික්ෂුණී සංඝ තොමෝ; **තං**, ඔහු වෙත; **උපසඞ්කමතු**, එළඹේවා; **ඉති වත්තබ්බො**, යැයි කිව යුතු ය. **සචෙ**, ඉදින්; **නත්‍ථි**, භික්ඛුනෝවාදක සම්මුතිය ලද භික්ෂුවක් නැත්තේ නම්; **තතො**, ඉක්බිති; **තෙන**, ඒ පාමොක් උදෙසන භික්ෂුව විසින්; **කො ආයස්මා**, කවර ආයුෂ්මතුන් වහන්සේ නමක්; **භික්ඛුනියො ඔවදිතුං**, භික්ෂුණීන්ට අවවාද දීමට; **උස්සහති**, සමත් වේ ද?; **ඉති පුච්ඡිතබ්බං**, යැයි විමසිය යුතු ය. **සචෙ**, ඉදින්; **කොචි**, කිසියම් භික්ෂුවක්; **උස්සහති**, පොහොසත් වෙයි ද; **ච**, එසේ ම; **සොපි**, හෙතෙමේ ද; **අට්ඨහි අඞ්ගෙහි**, භික්ඛුනෝවාදක සම්මුතිය ලැබීමට තිබිය යුතු අංග අටකින්; **සමන්නාගතො**, සමන්වාගත වූයේ ද;

- 12 -

**තං**, ඔහු; **තත්‍ථෙව**, ඒ පොහොය ගෙයි ම; **සම්මන්නිත්‍වා**, සම්මත කොට; **ඔවාදපටිග්ගාහකො**, අවවාද යාචනය පිළිගත් භික්ෂුව; **ඉත්‍ථන්නාමො භික්ඛු**, මෙනම් ඇති භික්ෂුව; **භික්ඛුනොවාදකො සම්මතො**, සම්මත වූ භික්ඛුනෝවාදක භික්ෂුවකි. **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **තං උපසඞ්කමතු ඉති**, ඔහු වෙත එළඹේවා යැයි; **වත්තබ්බො**, කිව යුතු.

**38. වි:** භික්ෂුණීන් විසින් ඒ ඒ පොහොය දිනට පෙරදින භික්ෂු සංඝයා වෙත එළඹ උපෝසථය පිළිබඳ විචාරීම කළ යුතු වේ. මහාපච්චරිය අට්ඨකථාවෙහි කියූ ක්‍රමයට පක්ෂයෙහි තෙළෙස්වන දින අවුත් උපෝසථය චාතුද්දසියක් ද පඤ්චදසියක් ද යන්න විමසිය යුතු වේ. එසේ විමසා බලා යළි පොහෝ දින අවුත් අවවාද සඳහා එළඹීම යාචනය කළ යුතු වේ. එම යාචනය බාල භික්ෂුව හෙවත් සංඝයාට සැලකිරීමේ විධාන නොදන්නා භික්ෂුව ය, ගිලන් භික්ෂුව ය, ගමිය භික්ෂුව යන තිදෙනා හැර සෙසු කිසිදු භික්ෂුවක් විසින් නොපිළිගත යුතු නො වේ. **"න භික්ඛවෙ ඔවාදෙ න ගහෙතබ්බො. යො න ගණ්හෙය්‍ය ආපත්ති දුක්කටස්ස (චුල්ල.2, පි.496)"** යැයි වදළ බැවින් නොපිළිගන්නා භික්ෂුව දුකුළා ඇවැතට පත් වේ. මෙසේ ඕවාදපටිග්ගාහක භික්ෂුව විසින් පොහොය කිරීමට භික්ෂූන් රැස් වූ කල්හි භික්ෂුණීන් පැමිණි බවත් අවවාද යාචනය කළ බවත් පාමොක් උදෙසන භික්ෂුවට සැලකළ යුතු ය. පාමොක් උදෙසන භික්ෂුව විසින් භික්ඛුනෝවාදක සම්මුතිය ලත් භික්ෂුවක් සිටී දැයි විමසිය යුතු ය. එසේ සිටී නම් ඒ භික්ෂුව වෙත ද නො සිටී නම්, ඒ සඳහා සුදුසුකම් ඇති අෂ්ටාංග සමන්වාගත භික්ෂුවකට එම සඟ මැද දී ම භික්ඛුනෝවාදක සම්මුතිය දී උන්වහන්සේ වෙත ද එළඹෙන ලෙස භික්ෂුණීන්ට දැන්වීමට ඕවාදපටිග්ගාහක භික්ෂුව දැනුවත් කළ යුතු ය.

**භික්ඛුනෝවාදක සම්මුතිය ලැබීමට තිබිය යුතු අංග අට (8)**

1. **සීලවා හොති, පාතිමොක්ඛසංවරසවුතො විහරති ආචාරගොචර සම්පන්නො අනුමත්තෙසු වජ්ජෙසු භයදස්සාවි සමාදය සික්ඛති සික්ඛාපදෙසු.**
(සිල්වත් වූයේ වෙයි, ප්‍රාතිමෝක්ෂ සංවරයෙන් සංවෘත වූයේ, ආචාරගෝචර සම්පන්න වූයේ අනුමාත්‍ර වූ වරදෙහි ද බිය දකිනසුලුව වෙසෙයි. ඒ ඒ සිකපදයන්හි සමාදන්ව හික්මෙයි.)

2. **බහුස්සුතො හොති සුතධරො සුතසන්නිචයො, යෙ තෙ ධම්මා ආදි කල්‍යාණා, මජ්ඣෙකල්‍යාණා, පරියොසානකල්‍යාණා සාත්ථං සබ්‍යඤ්ජනං කේවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං අභිවදන්ති, තථාරූපාස්ස ධම්මා බහුස්සුතා හොන්ති, ධතා, වචසා පරිචිතා, මනසානුපෙකඛිතා, දිට්ඨියා සුප්පටිවිද්ධා.**
(පෙළ දහම දරන, පෙළ දහම රැස්කොට තබාගන්නා බහුශ්‍රැතයෙක් වෙයි. යම් ඒ ධර්මයක් මුල යහපත් වේ ද මැද යහපත් වේ ද අග යහපත් වේ ද අර්ථසහිත, ව්‍යඤ්ජන සම්පත්තියෙන් යුතු, සියල්ල පිරිපුන්, පිරිසිදු වූ ශාසන බ්‍රහ්මචර්යාව මොනවට පවසත් ද එබඳු ධර්මයෝ බොහෝ කොට අසන ලද්දාහු වෙති. දරන ලද්දාහු වෙති. වචනයෙන් පුහුණු කරන ලද්දාහු, සිතින් සිතන ලද්දාහු, නුවණින් මොනවට ප්‍රතිවේධ කරන ලද්දාහු වෙති.)

3. **උභයානි ඛො පනස්ස පාතිමොක්ඛානි විත්ථාරෙන ස්වාගතානි හොන්ති සුවිභත්තානි සුප්පවත්තීනි සුවිනිච්ඡිතානි සුත්තසො අනුබ්‍යඤ්ජනසො.**
(උන්වහන්සේට උභය ප්‍රාතිමෝක්ෂයෝ උභතො විභඞ්ගය සමඟ විස්තර වශයෙන්, මැනවින් බෙදන ලදුව, මැනවින් වාචෝද්ගතව ප්‍රගුණව, ඛන්ධක පරිවාර සූත්‍ර වශයෙන්, අර්ථකථා විනිශ්චය වශයෙන් මැනවින් විනිශ්චය කරන ලදුව මැනවින් දන්නා ලද්දාහු වෙති.)

4. **කල්‍යාණවාචො හොති කල්‍යාණවාක්කරණො.**
(පිරිපුන් පද ව්‍යඤ්ජන සහිත කලණ බස් ඇත්තේ, මිහිරි කටහඬ ඇත්තේ වෙයි.)

5. **යෙභුය්‍යෙන භික්ඛුනීනං පියො හොති මනාපො.**
(බොහෝ සෙයින් භික්ෂුණීන්ට ප්‍රිය වූ මන වඩන්නෙක් වෙයි.)

6. **පටිබලො හොති භික්ඛුනියො ඔවදිතුං.**
(භික්ෂුණීන්ට අවවාද දෙන්නට ප්‍රතිබල ඇත්තේ වෙයි.)

7. **න ඛො පනෙතං භගවන්තං උද්දිස්ස පබ්බජිතාය කාසායවත්ථවසනාය ගරු ධම්මං අජ්ඣාපන්නපුබ්බො.**
(භාග්‍යවතුන් වහන්සේ උදෙසා පැවිදි වූ කසාවත් දරන්නියක කෙරෙහි ගරු ධර්මයකට පෙර නොපැමිණිවිරූයෙක් වෙයි.)

8. **වීසති වස්සො වා හොති අතිරේකවීසති වස්සො වා.**
(විසිවස් ඇතියෙක් හෝ අතිරේක විසිවස් ඇතියෙක් හෝ වෙයි.)

මෙම අෂ්ටාංග සමන්වාගත භික්ෂුවක් භික්ඛුනෝවාදක ලෙස සම්මත කළ යුතු අතර එබඳු භික්ෂුවක් නොමැති කල්හි කළ යුතු කටයුතු කෙසේ ද යන්න **සචෙ පන කොචි න උස්සහති** යනාදි ලෙස දක්වේ.

**සඃ සචෙ පන**, ඉදින් වනාහි; **කොචි**, කිසියම් භික්ෂුවක්; **න උස්සහති**, නොපොහොසත් වේ ද; **පාතිමොක්ඛුද්දේසකෙන**, පාමොක් උදෙසන භික්ෂුව විසින්; **කොචි**, කිසියම්; **සම්මතො**, සම්මත වූ; **භික්ඛුනොවාදකො භික්ඛු**, භික්ඛුනෝවාදක භික්ෂුවක්; **නත්ථි**, නැත්තේය. **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **පාසාදිකෙන**, පැහැදීම් එළවන නිදෙස් කාය, වාක්, මනෝ කර්මයෙන්; **සම්පාදෙතු**, අධිශීල, අධිචිත්ත, අධිප්‍රඥ සංඛ්‍යාත වූ ත්‍රිවිධ ශික්ෂාව සම්පාදනය කරාවා; **ඉති වත්තබ්බං**, යැයි කිව යුතු ය. **එත්තාවතා හි**, මෙපමණකින් වනාහි; **සික්ඛාත්තය සඞ්ගහිතං**[1], අධිශීලාදි ශික්ෂාත්‍රයෙහි සංගෘහිත වූ; **සකලසාසනං**, සියලු ප්‍රවචනය ම; **ආරොචිතං හොති**, සැලකරන ලද්දේ වෙයි. **තෙන භික්ඛුනා**, ඒ භික්ෂුව විසින්; **සාධූති සම්පටිච්ඡිත්වා**, 'මැනව' යැයි පිළිගෙන; **පාටිපදදිවසෙ**, පැළවිය දිනයෙහි; **භික්ඛුනීනං**, භික්ෂුණීන් හට; **ආරොචෙතබ්බං**, සැලකළ යුතු ය.

**39. විඃ** යම් කලෙක භික්ෂුණීන් විසින් පාමොක් උදෙසන භික්ෂුව ම දැක අවවාද යදින ලද්දේ නම් එකල්හි පොහොය කිරීමට භික්ෂූන් රැස් වූ පසු පූර්වකෘත්‍යය වශයෙන් අවවාද යදින්නා වූ භික්ෂුණීන් ඇත්දැයි විමසීමේ දී තමන් වහන්සේ විසින් කිව යුතු වචනය අන් භික්ෂුවක් ලවා ප්‍රකාශ කරවිය යුතු ය. '**අත්ථි කොචි භික්ඛු භික්ඛුනොවාදකො සම්මතො**' යනාදිය තමන් ම අසා යළි තමන් ම

---

[1] **සඞ්ගහීතං.** හෙමු

ගොස් භික්‍ෂුණීන්ට ද සැලකළ යුතු ය. නැතහොත් එදින අන් භික්‍ෂුවක් ලවා පාමොක් උදෙසවිය යුතු ය.

**සඃ භික්ඛුනීසඞ්ඝෙන අපි**[1], භික්‍ෂුණී සංඝයා විසිනුදු; **තා භික්ඛුනියො**, ඒ භික්‍ෂුණීහු; **අයා්‍යා**, ආර්යාවෙනි; **ගච්ඡථ**, යනු මැනවි; **කිං**, කිම; **අය්‍යා**[2], ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්‍ෂුණී සංඝ තොමෝ; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභති**, ලබයි ද යි; **පුච්ඡථ**, විචාරනු මැනවි; **ඉති**, යැයි; **පෙසෙතබ්බා**, යැවිය යුත්තී ය. **තාහි**, ඇලා විසින්; **සාධු අය්‍යො ඉති**, ආර්යාවෙනි මැනවි යැයි; **සම්පටිච්ඡිත්වා**, පිළිගෙන; **තං භික්ඛුං උපසඞ්කමිත්වා**, ඒ භික්‍ෂුව වෙත එළඹ; **කිං**, කිම; **අය්‍ය**[3], ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්‍ෂුණී සංඝ තොමෝ; **ඔවාදූපසඞ්කමනං ලභති**, අවවාද සඳහා එළඹීම ලබයි ද; **ඉති එවං වත්තබ්බං**, යැයි මෙසේ ඇසිය යුතු ය. **තෙන**, ඒ භික්‍ෂුව විසින්; **කොචි**, කිසියම්; **සම්මතො**, සම්මත වූ; **භික්ඛුනොවාදකො භික්ඛු**, භික්ඛුනෝවාදක භික්‍ෂුවක්; **නත්ථි**, නැත. **භික්ඛුනීසඞ්ඝො**, භික්‍ෂුණී සංඝ තොමෝ; **පාසාදිකෙන**, පැහැදීම් එළවන නිදෙස් කාය, වාක්, මනෝ කර්මයෙන්; **සම්පාදෙතු**, අධිශීල, අධිචිත්ත, අධිප්‍රඥා සංඛ්‍යාත වූ ත්‍රිවිධ ශික්‍ෂාව සම්පාදනය කරාවා; **ඉති වත්තබ්බං**, යැයි කිව යුතු ය. **තාහි**, ඇලා විසින්; **සාධු අයා්‍යා ඉති**, ආර්යයන් වහන්ස 'මැනව' යැයි; **සම්පටිච්ඡිතබ්බං**, පිළිගත යුතු ය. **ඉදඤ්ච**, මෙම 'තාහි' යන බහුවචන පදය ද; **එකතො ආගතානං**, එක්ව පැමිණියා වූ; **ද්වින්නං තිණ්ණං**[4] **වා වසෙන**, දෙතුන් දෙනාගේ හෝ වශයෙන්; **වුත්තං**, කියන ලදී. **තාසු පන**, ඇලා අතරින්; **එකාය භික්ඛුනියා**, එක් භික්‍ෂුණියක් විසින්; **වත්තබ්බං චෙව**, කිව යුතු මෙන් ම; **සම්පටිච්ඡිතබ්බඤ්ච**, පිළිගත යුතු ද වෙයි. **ඉතරා**, අනෙක් භික්‍ෂුණීහු; **තස්සා සහායිකා**, ඇගේ සහායක භික්‍ෂුණීහු ය. **සචෙ පන**, ඉදින් වනාහි; **භික්ඛුසඞ්ඝො වා**, භික්‍ෂු සංඝයා හෝ; **භික්ඛුනීසඞ්ඝො වා**, භික්‍ෂුණී සංඝයා හෝ; **න පූරති**, නො පිරෙයි ද; **උභතො අපි වා**, දෙපිරිසෙන් ම හෝ; **ගණමත්තං එව**, ගණ මාත්‍රය ම හෝ; **පුග්ගලමත්තං වා**, පුද්ගල මාත්‍රය හෝ; **හොති**, වෙයි ද; **තත්‍ර**, එහි ලා; **අයං වචනක්කමො**, මේ වචන ක්‍රමය යි.

---

[1] **භික්ඛුනීසඞ්ඝෙනපි.** හෙමු; බෞසංම; කඞ්ඛා.පි; **භික්ඛුනිසඞ්ඝෙනාපි.** මජසං
[2] **අයා්‍යා**, හෙමු; **අය්‍ය**, කඞ්ඛා.පි; මජසං; බෞසංම
[3] **අයා්‍යා**, හෙමු; **අය්‍ය**, කඞ්ඛා.පි; මජසං; බෞසංම
[4] **තින්නං.** හෙමු; බෞසංම

අයය, ස්වාමීනි; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සංඝයාගේ; **පාදෙ වන්දන්ති**, පා වඳිත්. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචන්ති**, අවවාද සඳහා එළඹීම ද යදිත්. **අයය**, ස්වාමීනි; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභන්තු කිර**, ලබත්වා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

අයය, ස්වාමීනි; **අහං**, මම; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සංඝයාගේ; **පාදෙ වන්දමි**, පා වඳිමි. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචාමි**, අවවාද සඳහා එළඹීම ද යදිමි. **අයය**, ස්වාමීනි; **අහං**, මම; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභාමි**, ලබම්වා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

**අයයා**, ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **අයයානං**, ස්වාමීන් වහන්සේලාගේ; **පාදෙ වන්දති**, පා වඳියි. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචති**, අවවාද සඳහා එළඹීම ද යදියි. **අයයා**, ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභතු කිර**, ලබාවා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

අයයා, ස්වාමීනි; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **අයයානං**, ස්වාමීන් වහන්සේලාගේ; **පාදෙ වන්දන්ති**, පා වඳිත්. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචන්ති**, අවවාද සඳහා එළඹීම ද යදිත්. **අයයා**, ස්වාමීනි; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභන්තු කිර**, ලබත්වා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

**අයයා**, ස්වාමීනි; **අහං**, මම; **අයයානං**, ස්වාමීන් වහන්සේලාගේ; **පාදෙ වන්දමි**, පා වඳිමි. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචාමි**, අවවාද සඳහා එළඹීම ද යදිමි. **අයයා**, ස්වාමීනි; **අහං**, මම; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභාමි**, ලබම්වා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

අයය, ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **අයයස්ස**, ස්වාමීන් වහන්සේගේ; **පාදෙ වන්දති**, පා වඳියි. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචති**, අවවාද සඳහා එළඹීම ද යදියි. **අයය**, ස්වාමීනි; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභතු කිර**, ලබාවා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

අයය, ස්වාමීනි; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **අයයස්ස**, ස්වාමීන් වහන්සේගේ; **පාදෙ වන්දන්ති**, පා වඳිත්. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචන්ති**, අවවාද සඳහා එළඹීම ද යදිත්. **අයය**, ස්වාමීනි; **භික්ඛුනියො**,

භික්ෂුණීහු; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභන්තු කිර**, ලබත්වා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

**අය්‍ය**, ස්වාමීනි; **අහං**, මම; **අය්‍යස්ස**, ස්වාමීන් වහන්සේගේ; **පාදෙ වන්දමි**, පා වදිමි. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචාමි**, අවවාද සඳහා එළඹීම ද යදිමි. **අය්‍ය**, ස්වාමීනි; **අහං**, මම; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභාමි**, ලබම්වා; **ඉති**, යනුවෙනි.

**40. වි:** භික්ෂු සංඝයා හෝ භික්ෂුණී සංඝයා සඳහා ගණ පූරණය නොවන විටක එනම් භික්ෂූන් සතර (04) නමකට අඩු පිරිසක් සිටින විට හෝ භික්ෂුණීන් සතර (04) නමකට අඩු පිරිසක් සිටින විට අවවාද සඳහා එළඹීමේ යාචනය වෙනස් විය යුතු ආකාරය දක්වන ලදී. එහි දී භික්ෂුණීහු තිදෙනෙක් හෝ දෙනමක් සිටින විට **භික්ඛුනියො** යැයි ද එක් භික්ෂුණියක් පමණක් වන විට **අහං** යැයි උත්තම පුරුෂයෙන් ද දැක්වේ. භික්ෂූහු සංඝයාට පොහෝනා වන විට **භික්ඛුසඞ්ඝස්ස** යැයි ද දෙතුන් නමක් සිටින විට **අය්‍යා** යනුවෙන් බහුවචනයෙන් ද එක් නමක් පමණක් සිටින විට **අය්‍ය** යැයි ඒකවචනයෙන් ද දැක්වේ.

**සඃ තෙන භික්ඛුනා අපි**, ඒ භික්ෂුව විසිනුදු; **උපොසථකාලෙ**, පොහොය කරන අවස්ථාවේ; **එවං වත්තබ්බං**, මෙසේ කිව යුතු ය. "**භන්තෙ**, වහන්ස; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සංඝයාගේ; **පාදෙ වන්දන්ති**, පා වඳිත්. **ඔවාදූපසඞ්කමනඤ්ච**, අවවාද සඳහා එළඹීම ද; **යාචන්ති**, යදිත්. **භන්තෙ**, වහන්ස; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභන්තු කිර**, ලබත්වා; **ඉති**, යනුවෙනි. (නැතහොත්)

- 13 -

**භන්තෙ**, වහන්ස; **භික්ඛුනී**, භික්ෂුණියක්; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සංඝයාගේ; **පාදෙ වන්දති**, පා වඳියි. **ඔවාදූපසඞ්කමනඤ්ච යාචති**, අවවාද සඳහා එළඹීම ද යදියි. **භන්තෙ**, වහන්ස; **භික්ඛුනී**, භික්ෂුණිය; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභතු කිර**, ලබාවා; **ඉති**, යනුවෙනි. (නැතහොත්) **භන්තෙ**, වහන්ස; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; -පෙ- **භන්තෙ**, වහන්ස; **භික්ඛුනියො**, භික්ෂුණීහු; -පෙ- **භන්තෙ**, වහන්ස; **භික්ඛුනී**, භික්ෂුණිය -පෙ- **ආයස්මන්තානං**, ආයුෂ්මතුන් වහන්සේලාගේ; **පාදෙ වන්දති**, පා වඳියි. -පෙ- **වන්දන්ති**, වඳිත්. -පෙ- **වන්දති**, වඳියි. -පෙ- **ඔවාදූපසඞ්කමනඤ්ච යාචති**, අවවාද සඳහා

එළඹීම ද යදියි. -පෙ- **යාචන්ති**, යදිත්. -පෙ- **යාචති**, යදියි. **භන්තෙ**, වහන්ස; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; **ලභතු කිර**, ලබාවා. -පෙ- **භන්තෙ**, වහන්ස; **භික්ඛුනියො**, භික්ෂුණීහු; **ලභන්තු කිර**, ලබත්වා. **භන්තෙ**, වහන්ස; **භික්ඛුනී**, භික්ෂුණිය; **ඔවාදූපසඞ්කමනං**, අවවාද සඳහා එළඹීම; **ලභතු කිර**, ලබාවා; **ඉති**, යනුවෙනි.

**උපොසථග්ගෙපි**, උපෝසථාග්‍රයෙහි ද; **පාතිමොක්ඛුද්දෙසකෙන වා**, පාමොක් උදෙසන භික්ෂුව විසින් හෝ; **ඤත්තිඨපකෙන**[1] **වා**, ගණ උපෝසථයෙහි ඤත්තිය තබන භික්ෂුව විසින් හෝ; **ඉතරෙන භික්ඛුනා වා**, දෙදෙනා කරන පොහොයේ එක් භික්ෂුවක් විසින් හෝ; **සචෙ**, ඉදින්; **සම්මතො භික්ඛු අත්‍ථි**, සම්මත වූ භික්ෂුවක් ඇත්තේ ද; **පුරිමනයෙන එව**, පෙර කියූ ක්‍රමයෙන් ම; **තං**, ඒ භික්ෂුව වෙත; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝ තොමෝ; -පෙ- **තං**, ඒ භික්ෂුව වෙත; **භික්ඛුනියො**, භික්ෂුණීහු; -පෙ- **තං**, ඒ භික්ෂුව වෙත; **භික්ඛුනී**, භික්ෂුණිය; **උපසඞ්කමතු**, එළඹේවා. -පෙ- **උපසඞ්කමන්තු**, එළඹෙත්වා. -පෙ- **උපසඞ්කමතු**, එළඹේවා. **ඉති වත්තබ්බං**, යැයි කිව යුතු ය. **සචෙ නත්‍ථි**, ඉදින් සම්මත වූ හෝ සම්මතයට සුදුසු භික්ෂුවක් නැත්තේ ද; **භික්ඛුනීසඞ්ඝො**, භික්ෂුණී සංඝයා තොමෝ; **පාසාදිකෙන**, පැහැදීම එළවන නිදෙස් කාය, වාක්, මනෝ කර්මයන්ගෙන් යුතුව; **පෙ- භික්ඛුනියො**, භික්ෂුණීහු; -පෙ- **භික්ඛුනී**, භික්ෂුණිය; **සම්පාදෙතු**, ත්‍රිශික්ෂාව පූරණය කරාවා. -පෙ- **සම්පාදෙන්තු**, ත්‍රිශික්ෂාව පූරණය කරත්වා. -පෙ- **සම්පාදෙතු**, ත්‍රිශික්ෂාව පූරණය කරාවා. **ඉති වත්තබ්බං**, යැයි කිව යුතු ය.

**ඔවාදපටිග්ගාහකෙන**[2], අවවාද යාචනය පිළිගත් භික්ෂුව විසින්; **පාටිපදෙ**, පෑළවිය දිනයෙහි; **තං**, ඒ අවවාදය; **පච්චාහරිත්‍වා**, පෙරළා ගෙනගොස්; **තථෙව**, එසේ ම; **වත්තබ්බං**, කිව යුතු ය. **අයමෙත්‍ථ**, මේ මෙහි; **සඞ්ඛෙපවිනිච්ඡයො**, සංක්ෂේප විනිශ්චයකි. **එවං**, මෙසේ; **භික්ඛුනීහි**, භික්ෂුණීන් විසින්; **යාචිතං ඔවාදං**, ඉල්ලන ලද අවවාදය; **ආරොචෙත්‍වාව**, අස්සවා ම; **උපොසථො කාතබ්බො**, පොහොය කටයුතු. **තෙන**, එහෙයින්,

**ඡන්දපාරිසුද්ධි උතුක්ඛානං භික්ඛුගණනා ච ඔවාදෙ**
**උපොසථස්ස එතානි පුබ්බකිච්චන්ති වුච්චති ඉති,**

---

[1] **ඤත්තිඨපනකෙන**. කඞ්ඛා.ටී, කඞ්ඛා.පි; **ඤත්තිට්ඨපකෙන**. මජසං
[2] **ඔවාදප්පටිග්ගාහකෙන**. මජසං

'ඡන්දපාරිසුද්ධි උතුක්ඛානං -පෙ- පුබ්බකිච්චන්ති වුච්චති' යැයි; **වුත්තං**, පැරණි ඇදුරන් විසින් පවසන ලදී.

**41. වි:** නිදානය උදෙසීමෙහි "**කිං සඞ්ඝස්ස පුබ්බකිච්චං**" යැයි පූර්වකෘත්‍යය පිළිබඳව කරනු ලබන විචාරණය නවවිධ පූර්වකෘත්‍යයන් පිළිබඳව වේ. එහි ලා පොහොය කිරීම සඳහා සංඝයා රැස්වීමට පූර්වයෙන් කළ යුතු වත්පිළිවෙත් සතරක් (4) පූර්වකරණ ලෙස ද, සංඝයා රැස් වූ පසු පාමොක් උදෙසීමට පෙර කළ යුතු පස්වැදෑරුම් (5) පූර්වකෘත්‍යයන් ද විස්තර වශයෙන් දක්වා බුදුගොස් ඇදුරුපාණෝ යළි නිදාන උදෙසීමෙහි සෙසු පද පැහැදිලි කිරීම සඳහා "**පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ**" යනාදි ලෙස ඇරඹූහ.

**සඃ පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ ඉති**, 'පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ' යනු; **අත්තනො**, තමාගේ; **පරිසුද්ධභාවං**, පිරිසිදු බව; **ආරොචෙථ**, සැලකරනු මැනව යන්න යි. **පාතිමොක්ඛං උද්දිසිස්සාමි ඉති ඉදං**, 'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' යන මෙය; **පාරිසුද්ධි ආරොචනස්ස කාරණවචනං**, තම තමන්ගේ පිරිසිදු බව කීමට කාරණ වචනය යි. හේතුව දක්වන්නා වූ වචනය යි. *("පාමොක් උදෙසමි. තොප තොපගේ පිරිසිදු බව කියව. නොඑසේ වැ පාමොක් ඇසුව සම්පජානමුසාවාදයෙන් දෙස් වෙයි. එසේ හෙයින් පිරිසිදු බව කියව"යි පිරිසිදු කිරීමට කාරණවචනයෙකැ යි සේ යි.* - **කඞ්ඛා.පි**, පි.11). "**න භික්ඛවෙ සාපත්තිකෙන පාතිමොක්ඛං සොතබ්බං, යො සුණෙය්‍ය ආපත්ති දුක්කටස්ස**" (චුල්ල.2, පි.434) **ඉති** වචනතො, (**භික්ඛවෙ**, මහණෙනි; **සාපත්තිකෙන**, ඇවැත් සහිත භික්ෂුව විසින්; **පාතිමොක්ඛං**, පාමොක්; **න සොතබ්බං**, නොම ඇසිය යුතු ය. **යො**, යම් භික්ෂුවක්; **සුණෙය්‍ය**, අසන්නේ නම්; **දුක්කටස්ස ආපත්ති**, දුකුළා ඇවතකට පැමිණේ) යන වචනයෙන්; **අපරිසුද්ධෙහි**, අපිරිසිදු (ඇවැත් සහිත) භික්ෂූන් විසින්; **පාතිමොක්ඛං**, පාමොක්; **සොතුං**, අසන්නට; **න වට්ටති**, නුසුදුසු ය. **තෙන**, එහෙයින්; "**පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ, පාතිමොක්ඛං උද්දිසිස්සාමි" ඉති**, යැයි; **වුත්තං**, කියන ලදී.

**42. වි: පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ** යනුවෙන් තමාගේ පාරිශුද්ධිය සැලකරන මෙන් දන්වා ඊට හේතුව ලෙස **පාතිමොක්ඛං උද්දිසිස්සාමි** යැයි සඳහන් කෙරේ. භාග්‍යවතුන් වහන්සේ විසින් ඇවැත් සහිත භික්ෂුවක් විසින් පාමොක් ශ්‍රවණය නොකළ යුතු බව වදාරා ඇති

බැවින් පාමොක් උදෙසීමට පෙර ඇවැත් දෙසා පිරිසිදු විය යුත්තේ ය. එය සිහි ගන්වමින් පාමොක් උදෙසීමට පාරිශුද්ධිය සැලකරන මෙන් දැනුම්දීම පළමුව සිදුවේ.

මෙහි ලා "**පාතිමොක්ඛං උද්දිසිස්සාමි**" යන වචනය පෙර සඳහන් කරන ලද "**සඞ්ඝො උපොසථං කරෙය්‍ය පාතිමොක්ඛං උද්දිසෙය්‍ය**" යන වචනය සමඟ පූර්වාපර නොගැළපෙන බවට විය හැකි අන්තර්ලීන චෝදනාවට පරිහාරය පිණිස **එත්ථ සියා** යනුවෙන් සඳහන් කෙරේ.

**සඃ එත්ථ**, 'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' යන මේ පදයෙහි; **(චොදනා) සියා**, මෙම අනුයෝගය (චෝදනාව) වන්නේය. "**සඞ්ඝො උපොසථං කරෙය්‍ය පාතිමොක්ඛං උද්දිසෙය්‍ය" ඉති වුත්තත්තා**, යැයි කියන ලද බැවින්; **ඉධ අපි**, මෙහි දී *(ඉධාති පාතිමොක්ඛං උද්දිසිස්සාමි යනුයෙහි* - **කඞ්ඛා.පි, පි.11**) ද; **'පාතිමොක්ඛං උද්දිසිස්සති' ඉති**, 'පාතිමොක්ඛං උද්දිසිස්සති' යැයි; **වත්තබ්බං**, කිව යුතු. **එවං හි සති**, මෙසේ ඇති කල්හි; **පුබ්බෙන**, 'සඞ්ඝො උපොසථං කරෙය්‍ය පාතිමොක්ඛං උද්දිසෙය්‍ය' යන පූර්ව පදය සමඟ; **අපරං**, 'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' යන අපර වචනය; **සන්ධියති ඉති**, ගැළපේය යනුවෙන් (**චොදනා සියා**; චෝදනාවක් වන්නේය). **වුච්චතෙ**, (ඊට) පරිහාරය කියනු ලැබේ. **එතං**, මේ 'පාතිමොක්ඛං උද්දිසිසසාමි' යන වචනය; **වචනමත්තං එව**, වචන මාත්‍රයක් ම ය. **න සන්ධියති**, නොම ගළපනු ලැබේ. **ලක්ඛණතො පන**, ලක්‍ෂණ වශයෙන් වනාහි; **සමෙති**, "සඞ්ඝො -පෙ- උද්දිසෙය්‍ය" යන්න හා සම වෙයි. **සඞ්ඝස්ස**, සංඝයාගේ; **සාමග්ගියා**, සාමග්‍රිය හේතුවෙන්; **ගණස්ස**, උද්දෙසක භික්‍ෂුව හැර චතුර්වාර්ගික සංඝයා අතරින් සෙසු භික්‍ෂූන්ගේ; **සාමග්ගියා**, සාමග්‍රිය හේතුවෙන්; **පුග්ගලස්ස උද්දෙසා**, පුද්ගලයාගේ උදෙසීම වෙතින්; **සඞ්ඝස්ස**, *(සඞ්ඝෙන උද්දිට්ඨං හොති, කරණත්ථෙ චෙතං සාමිවචනං* - **කවිටී, පි.35**) සංඝයා විසින්; **පාතිමොක්ඛං උද්දිට්ඨං හොති**, පාමොක් උදෙසන ලද්දේ වෙයි; **ඉති**, යනුවෙන් එහි පරිහාරය යි. **එත්ථ**, මේ ප්‍රාතිමෝක්‍ෂයෙහි; **හි**, යම්හෙයකින්; **ඉදං**, මේ සියල්ල; **ලක්ඛණං**, ලක්‍ෂණ වේ ද; **තස්මා**, එබැවින්; **'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' ඉති ඉදං එව**, 'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' යන මෙය ම; **එත්ථ වත්තබ්බං**, මෙහි ලා කිව යුතු ය.

**43. විඃ** පළමුව '**සඞ්ඝො උපොසථං කරෙය්‍ය පාතිමොක්ඛං උද්දිසෙය්‍ය**' යනුවෙන් ප්‍රථම පුරුෂයෙන් 'පොහොය කරන බව,

පාමොක් උදෙසන බව' දන්වන ලද බැවින් අනතුරුව '**පාතිමොක්ඛං උද්දිසිස්සාමි**' යැයි උත්තම පුරුෂයෙන් කීම එකිනෙකට නොගැළපේ යැයි යමෙක් චෝදනා කරයි නම් ඊට පරිහාරය ලෙස ආචාරීහු මෙසේ විස්තර කළහ.

මේ '**පාතිමොක්ඛං උද්දිසිස්සාමි**' යන වචනය පෙර කියන ලද '**සඞ්ඝො උපොසථං කරෙය්‍ය පාතිමොක්ඛං උද්දිසෙය්‍ය**' යන්න සමඟ ගළපනු නො ලැබේ. එතකුදු වුවත් ලක්‍ෂණ වශයෙන් සම වේ. සංඝයාගේ සාමග්‍රිය හේතුවෙන් ද චතුර්වාර්ගික සංඝයාගේ උදෙසන භික්‍ෂුව හැර සෙසු භික්‍ෂූන්ගේ සාමග්‍රියෙන් ද පුද්ගලයාගේ උදෙසීමෙන් ද සංඝයා විසින් පාමොක් උදෙසන ලද්දේ වෙයි. එහෙයින් මෙහි '**පාතිමොක්ඛං උද්දිසිස්සාමි**' යැයි කියන උද්දේසික භික්‍ෂුවගේ උදෙසීම සංඝයා වෙනුවෙන් බැවින් උත්තම පුරුෂ ආඛ්‍යාතය විසින් කියනු ලැබේ.

**සඃ තං සබ්බේව සන්තා සාධුකං සුණොම මනසිකරොම ඉති**, 'තං සබ්බේව සන්තා සාධුකං සුණොම මනසිකරොම' යන්නෙහි; '**තං**' **ඉති**, 'තං' යනු; **පාතිමොක්ඛං**, ප්‍රාතිමෝක්‍ෂය යි. "**සබ්බේව සන්තා**" **ඉති**, 'සබ්බේව සන්තා' යනු; **තස්සා පරිසාය**, ඒ පිරිසෙහි; **යාවතිකා**, යම්තාක්; **ථෙරා ච**, ස්ථවිර භික්‍ෂූන් වහන්සේලා ද; **නවා ච**, නවක භික්‍ෂූන් වහන්සේලා ද; **මජ්ඣිමා ච**, මධ්‍යම භික්‍ෂූන් වහන්සේලා වෙත් ද; (ඒ සියල්ලෝ ම යන්න යි). '**සාධුකං සුණොම**' **ඉති**, 'සාධුකං සුණොම' යනු; **අට්ඨිකත්වා**[1], තමාට ඒ ප්‍රාතිමෝක්‍ෂයෙන් අර්ථය ඇත්තක් කොට; **මනසිකරිත්වා**, මනසිකාර කොට (සිතේ තබාගෙන); **සොතද්වාරවසෙන**, සෝතද්වාර ජවන විඥ්ඥාණ වශයෙන්; **සබ්බචෙතසා සමන්නාහරාම**, සිත මඳකුදු පිටත යා නොදී සියලු සිතින් ආවර්ජනය කරමු, සලකමු යන අර්ථ යි. '**මනසිකරොම**' **ඉති**, 'මනසිකරොම' යනු; **එකග්ගචිත්තා හුත්වා**, එකඟ සිතැත්තෝ වී; **චිත්තෙ ඨපයාම**[2], සිතේ තබා ගනිමු යන්න යි. **එත්ථ ච**, මෙහි ලා ද; **කිඤ්චාපි**, එක්තරා විදිහකට; '**පාතිමොක්ඛං උද්දිසිස්සාමි**' **ඉති වුත්තත්තා**, 'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' යැයි කියන ලද බැවින්; **සුණොථ මනසිකරොථ ඉති**, 'සුණොථ මනසිකරොථ' යැයි; **වත්තුං යුත්තං විය දිස්සති**, කීමට යුතු

[1] **අට්ඨිංකත්වා.** මජසං; **අට්ඨිකත්වා**, කඞ්ඛා.පි.
[2] **ඨපෙය්‍යාම.** මජසං; කවිස

මෙන් පෙනේ. **'සඞ්ඝො උපොසථං කරෙය්‍ය' ඉති ඉමිනා පන**, 'සඞ්ඝො උපොසථං කරෙය්‍ය' යන මෙය සමඟ; **න සමෙති**, සම නො වේ. **එතං උපොසථකරණං**, මේ උපෝසථකරණය; **සමග්ගස්ස හි සඞ්ඝස්ස**, සමගි සංඝයාගේ ය. **පාතිමොක්ඛුද්දේසකො ච**, පාමොක් උදෙසන භික්‍ෂුව ද; **සඞ්ඝපරියාපන්නො එව**, සංඝ පර්යාපන්න වූවෙක් ම ය. **ඉති**, මෙසේ; **අස්ස**, ඒ පාමොක් උදෙසන භික්‍ෂුවගේ; **සඞ්ඝපරියාපන්නත්තා**, සංඝ පර්යාපන්න භාවය හේතුවෙන්; **සුණොම මනසිකරොම ඉති**, 'සුණොම මනසිකරොම' යැයි; **වත්තුං යුත්තං**[1], කීමට යුතු ය. **ඉදනි**, දැන්; **"පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ" ඉති**, 'පාරිසුද්ධිං ආයස්මන්තො ආරොචෙථ' යැයි; **යං වුත්තං**, යමක් කියන ලද්දේ ද; **තත්‍ථ**, එහි; **යථා පාරිසුද්ධිආරොචනං හොති**, යම් සේ පාරිශුද්ධි ආරෝචනයක් වෙයි ද; **තං දස්සෙතුං**, එය දැක්වීමට; **'යස්ස සියා ආපත්ති සො ආවිකරෙය්‍ය**[2]**' ඉති ආහ**, 'යස්ස සියා ආපත්ති සො ආවිකරෙය්‍ය' යැයි වදාළහ.

- 14 -

**තත්‍ථ**, එහි; **යස්ස සියා ඉති**, 'යස්ස සියා' යනු; **යස්ස**, යම් භික්‍ෂුවකට; **ඡන්නං ආකාරානං**, ඇවැතට පත්වන සය ආකාරයන් අතරින්; **අඤ්ඤතරෙන ආකාරෙන**, එක්තරා ආකාරයකින්; **ආපන්නා**, පැමිණෙන ලද; **ආපත්ති භවෙය්‍ය**, ඇවැතක් වන්නේ නම් යන්න යි. **ආපත්තිං හි ආපජ්ජන්තො**, ඇවැතට පැමිණෙනුයේ; **අලජ්ජිතා**, අලජ්ජී බැවින් ය; **අඤ්ඤණතා**, අඥාන බැවින් ය; **කුක්කුච්චපකතතා**[3], කුකුසින් මඩනා ලද බැවින් ය; **අකප්පියෙ කප්පියසඤ්ඤිතා**, අකැප දෙයෙහි කැප සංඥාව ඇති බැවින් ය; **කප්පියෙ අකප්පියසඤ්ඤිතා**, කැප දෙයෙහි අකැප සංඥාව ඇති බැවින් ය; **සතිසම්මොසා**; ස්මෘති විප්‍රවාසය (සිහි මුළා වීම) නිසාවෙන් ද; **ඉති ඉමෙහි ඡහි ආකාරෙහි**, යන මේ සයාකාර හේතුවෙන්; **ආපජ්ජති**, පැමිණේ.

**අලජ්ජිතාය**, අලජ්ජී බව හේතුවෙන්; **කථං**, කෙසේ; **ආපජ්ජති?** ඇවැතට පත් වේ ද? යත්; **අකප්පියභාවං ජානන්තො එව**, අකැප බව දන්නේ ම; **මද්දිත්‍වා**, මැඩ; **වීතික්කමං කරොති**, ව්‍යතික්‍රමණය කරයි. **වුත්තං අපි ච එතං**, මෙම කරුණ වදාළේ මැ යි;

---

[1] **ඉදමෙව වත්තුං යුත්තං**. මඡසං
[2] **ආවීකරෙය්‍ය**. මහාව.1; හෙමු
[3] **කුක්කුච්චප්පකතතා**. මඡසං

**‘සඤ්චිච්ච ආපත්තිං ආපජ්ජති, ආපත්තිං පරිගූහති,**
**අගතිගමනඤ්ච ගච්ඡති, එදිසො වුච්චති අලජ්ජිපුග්ගලො’ ඉති,**

**(කඞ්ඛා, පි.14)**

(**සඤ්චිච්ච**, අකැප බව දැනගෙන ම ව්‍යතික්‍රමණ චිත්තය ඇතිව; **ආපත්තිං ආපජ්ජති**, ඇවැතට පැමිණේ. **ආපත්තිං පරිගූහති**, ඇවැත සඟවයි, දේශනා නො කරයි. **අගතිගමනඤ්ච ගච්ඡති**, ඡන්දය, ද්වේෂය, මෝහය, භය යන සතරාකාරයෙන් අගතියට ද යයි. **එදිසො**, එබඳු පුද්ගල තෙමේ; **අලජ්ජිපුග්ගලො වුච්චති**, අලජ්ජී පුද්ගලයෙක් යැයි කියනු ලැබේ) යනුවෙනි;

**අඤ්ඤාණතාය**, අඥාන බැවින්; **කථං**, කෙසේ; **ආපජ්ජති?**, ඇවතට පැමිණේ ද? යත්; **අඤ්ඤාණපුග්ගලො හි**, අඥාන පුද්ගල තෙමේ වනාහි; **මන්දො**, මන්ද ප්‍රඥා ඇත්තේ; **මොමූහො**, අතිශයින් මුළා වූයේ; **කත්තබ්බාකත්තබ්බං**, කළ යුත්ත නොකළ යුත්ත; **අජානන්තො**, නොදන්නේ; **අකත්තබ්බං කරොති**, නොකළ යුත්ත කරයි. **කත්තබ්බං විරාධෙති**[1], කළ යුත්ත වරදවා කරයි. **එවං**, මෙසේ; **අඤ්ඤාණතාය**, අඥාන බැවින්; **ආපජ්ජති**, ඇවැතට පැමිණේ.

**කුක්කුච්චපකතතාය**[2], කුකුසින් මඬනා ලද බැවින්; **කථං**, කෙසේ; **ආපජ්ජති?**, ඇවතට පැමිණේ ද? යත්; **කප්පියාකප්පියං නිස්සාය**, කැප අකැප දේ නිසාවෙන්; **කුක්කුච්චෙ උප්පන්නෙ**, කුකුස් උපන් කල්හි; **විනයධරං පුච්ඡිත්වා**, විනයධරයෙක් විචාරා; **චෙ**, ඉදින්; **කප්පියං**, කැප වෙයි ද; **කත්තබ්බං**[3], කළ යුතු වෙයි. **චෙ**, ඉදින්; **අකප්පියං**, අකැප වෙයි ද; **න කත්තබ්බං**, නොකළ යුතු වෙයි. **අයං පන**, මෙය සිදුකිරීම වනාහි; **වට්ටති ඉති**, සුදුසු යැයි; **මද්දිත්වා**, මැඩ; **වීතික්කමති එව**, ව්‍යතික්‍රමණය කරයි ම ද; **එවං**, මෙසේ; **කුක්කුච්චපකතතාය**[4], කුකුසින් මඬනා ලද බැවින්; **ආපජ්ජති**, ඇවැතට පැමිණේ.

**අකප්පියෙ**, අකැප දෙයෙහි; **කප්පියසඤ්ඤිතාය**, කැප සංඥා ඇති බැවින්; **කථං**, කෙසේ; **ආපජ්ජති?**, ඇවැතට පැමිණේ ද? යත්;

---

[1] **විරොධෙති**. කඞ්ඛාපි; කවිස
[2] **කුක්කුච්චප්පකතතාය**. මඡසං
[3] **කත්තබ්බං සියා**. මඡසං
[4] **කුක්කුච්චප්පකතතාය**. මඡසං; **කුක්කුච්චාපකතතාය**. බෞසංම

**අච්ඡමංසං**, වලස් මස; **සූකරමංසං ඉති**, හූරු මස යැයි (සිතා); **ඛාදති**, වළඳයි ද; **විකාලෙ**, විකාලයෙහි; **කාලසඤ්ඤය**, කාලය යන සංඥාවෙන්; **භුඤ්ජති**, වළඳයි ද; **එවං**, මෙසේ; **අකප්පියෙ කප්පියසඤ්ඤිතාය**, අකැප දෙයෙහි කැප සංඥා ඇති බැවින්; **ආපජ්ජති**, ඇවැතට පැමිණේ.

**කප්පියෙ**, කැප දෙයෙහි; **අකප්පියසඤ්ඤිතාය**, අකැපය යන සංඥා ඇති බැවින්; **කථං**, කෙසේ; **ආපජ්ජති**, ඇවැතට පැමිණේ ද? යත්; **සූකරමංසං**, හූරු මස; **අච්ඡමංසං ඉති**, වලස් මස යැයි (සිතා); **ඛාදති**, වළඳයි ද; **කාලෙ**, කාලයෙහි; **විකාලසඤ්ඤය**, නොකල් සංඥාවෙන්; **භුඤ්ජති**, වළඳයි ද; **එවං**, මෙසේ; **කප්පියෙ අකප්පියසඤ්ඤිතාය**, කැප දෙයෙහි අකැප යන සංඥාවෙන්; **ආපජ්ජති**, ඇවැතට පැමිණේ.

**සති සම්මොසා**, ස්මෘති විප්‍රවාසය නිසාවෙන්; **කථං**, කෙසේ; **ආපජ්ජති?**, ඇවැතට පැමිණේ ද? යත්; **සහසෙය්‍යචීවරවිප්පවාසාදීනි**, සහසෙය්‍ය, චීවර විප්‍රවාස ආදි ඇවැත්වලට; **සති සම්මොසා ආපජ්ජති**, ස්මෘති විප්‍රවාසය නිසාවෙන් ඇවැතට පැමිණේ. **ඉති**, මෙසේ; **ඉමේසං ඡන්නං ආකාරානං**, මේ සය ආකාරයන් අතරින්; **අඤ්ඤතරෙන ආකාරෙන**, එක්තරා ආකාරයකින්; **ආපන්නා**, පැමිණියා වූ; **සත්තන්නං ආපත්තික්ඛන්ධානං**, සප්ත ආපත්තිස්කන්ධයන් අතරින්; **අඤ්ඤතරා ආපත්ති**, එක්තරා ඇවැතක්; **ථෙරස්ස වා**, තෙරුන් වහන්සේ නමකට හෝ; **මජ්ඣිමස්ස වා**, මධ්‍යමයෙකුට හෝ; **නවකස්ස**[1] **වා**, නවක භික්ෂුවකට හෝ වේ ය (යන්න); '**යස්ස සියා**' **ඉති අත්‍ථො**, 'යස්ස සියා' යන අර්ථය යි.

**44. වි: යස්ස සියා ආපත්ති සො ආවිකරෙය්‍ය** යන පාඨයෙහි **යස්ස සියා** යන්නෙන් යම් භික්ෂුවක් ඇවැතට පත්වන ආකාර සයෙන් (6) එක් ආකාරයකින් සත් ආපත්ති ස්කන්ධයන් අතරින් එක්තරා ඇවැතකට පැමිණියේය යන අර්ථය ගෙන දේ. ඒ අනුව ඇවැතට පත්වන ආකාර 06 නම්

1. අලජ්ජිතා (අලජ්ජී බව)
2. අඤ්ඤාණතා (අඥාන බව)
3. කුක්කුච්චපකතතා (කුකුසින් මඬනා ලද බව)

---

[1] ථෙරස්ස වා නවස්ස වා මජ්ඣිමස්ස වාති. මජසං

4. අකප්පියෙ කප්පියසඤ්ඤිතා (අකැප දෙයෙහි කැප යන සංඥාව ඇති බව)
5. කප්පියෙ අකප්පියසඤ්ඤිතා (කැප දෙයෙහි අකැපය යන සංඥාව ඇති බව)
6. සති සම්මොසා (සිහි මුළා බව)

මෙහි අලජ්ජී පුද්ගලයාගේ ලක්‍ෂණ තුන (3) කි. එනම්,

1. **දැන දැන ම ඇවතට පැමිණීම**ඃ එනම් අකැප බව දැනගෙන ම ව්‍යතික්‍රමණ සිත මෙහෙයවා දැන දැන ම ව්‍යතික්‍රමණය කිරීම යි.
2. **පැමිණි ඇවත අනාදරියෙන් වැසීම**ඃ යම් භික්‍ෂුවක් ඇවැතට පැමිණ එය හෙළි කිරීමට ලජ්ජාවෙන් වසයි ද එය අලජ්ජී බවට ලක්‍ෂණයක් නො වේ. අනාදරියෙන් වසයි නම් අලජ්ජී වේ.
3. **ඡන්‍දාදි සතර අගතියට යාම**ඃ භාණ්ඩ භාජනීය ස්ථාන ආදියෙහි දී ඡන්දයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් හා භයෙන් සතර අගතියට යාම යි.

**සඃ සො ආවිකරෙය්‍ය ඉති**, 'සො ආවිකරෙය්‍ය' යනු; **සො**, ඒ ඇවැතට පැමිණි භික්‍ෂුව; **තං ආපත්තිං**, ඒ ඇවත; **දෙසෙතු වා**, දේශනා හෝ කරාවා; **වා**, නැතහොත්; **පකාසෙතු**, ආරෝචනය කරාවා (පාරාජිකාපත්ති සඳහා කියන ලදී); **ඉති වුත්තං හොති**, යැයි කියන ලද්දේ වෙයි. **අසන්තියා ආපත්තියා ඉති**, 'අසන්තියා ආපත්තියා' යනු; **යස්ස පන**, යම් භික්‍ෂුවකට වනාහි; **එවං**, මෙසේ; **ආපත්තිං අනාපන්නා වා**, ඇවැතකට නොපැමිණියේ හෝ; **ආපජ්ජිත්වා ච**, ඇවැතට පැමිණ ද; **පුන**, යළි; **වුට්ඨිතා වා**, නැගී සිටියා වූ හෝ; **දෙසිතා වා**, දේශනා කරන ලද්ද වූ හෝ; **ආරොචිතා වා**, ඇවැත සැලකරන ලද්ද වූ හෝ; **ආපත්ති**, ඇවැතක් වේ ද; **තස්ස**, ඒ භික්‍ෂුවට; **සා ආපත්ති**, ඒ ඇවැත තොමෝ; **අසන්තී නාම හොති**, අවිද්‍යමාන වන්නී නම් වෙයි. **එවං**, මෙසේ; **අසන්තියා ආපත්තියා**, ඇවැතක් අවිද්‍යමාන වන කල්හි; **තුණ්හීභවිතබ්බං**, තුෂ්ණීම්භූත (මුවින් නොබැණ) විය යුතු ය. **"තුණ්හීභාවෙන ඛො පනායස්මන්තෙ පරිසුද්ධාති වෙදිස්සාමි" ඉති**, 'තුණ්හීභාවෙන ඛො පනායස්මන්තෙ පරිසුද්ධාති වෙදිස්සාමි' යනු; **තුණ්හීභාවෙන අපි හි කාරණෙන**, නිහඬ බව නම් හේතුවෙනුදු; **අහං**, මම; **ආයස්මන්තෙ**, ආයුෂ්මතුන් වහන්සේලා;

**පරිසුද්ධා ඉති** එව, පිරිසිදුයහ යැයි ම; **ජානිස්සාමි**, දන්නෙමි. "**යථා බො පන පච්චෙකපුට්ඨස්ස වෙය්‍යාකරණං හොති" ඉති**, 'යථා බො පන පච්චෙකපුට්ඨස්ස වෙය්‍යාකරණං හොති' යනු; **එකෙන පුට්ඨො**, එක් අයකු විසින් විචාරන ලදුව; **එකො**, අනෙක් අයෙක්; **යථා බ්‍යාකරෙය්‍ය**[1], යම් සේ විවරණය කරන්නේ ද (*ප්‍රතිවචන දේ ද* - **කඞ්ඛා.පි, පි.**12); **එකෙන**, එක් අයකු විසින්; **එකො**, එක් අයෙක්; **පච්චෙකපුට්ඨො**, වෙන වෙනම විචාරන ලදුයේ; **එස**, මොහු; **මං පුච්ඡති ඉති**, මා විචාරයි යැයි; **ඤත්වා**, දැන; **යථා බ්‍යාකරෙය්‍ය**, යම් සේ විවරණය කරන්නේ ද; **ඉති වුත්තං හොති**, යැයි කියන ලද්දේ වෙයි.

**එවමෙවං එවරූපාය පරිසාය යාව තතියං අනුසාවිතං හොති ඉති** එත්ථ, 'එවමෙවං -පෙ- අනුසාවිතං හොති' යන මෙහි; **තාව**, පළමු කොට; **එකච්චෙ ආචරියා**, ඇතැම් ඇදුරෝ; **එවං වදන්ති**, මෙසේ කියත්. **එවමෙවං**, මෙසේ; **ඉමිස්සාය භික්ඛුපරිසාය**, මේ භික්‍ෂු පිරිසෙහි; **යං එතං**, යම් මේ; "**යස්ස සියා ආපත්ති, සො ආවිකරෙය්‍ය, අසන්තියා ආපත්තියා තුණ්හීභවිතබ්බං, තුණ්හීභාවෙන බො පනායස්මන්තෙ පරිසුද්ධා'ති වෙදිස්සාමී" ඉති**, (**යස්ස**, යම් භික්‍ෂුවකට; **ආපත්ති සියා**, ඇවැතක් වන්නේ නම්; **සො**, හෙතෙමේ; **ආවිකරෙය්‍ය**, හෙළි කරන්නේය. **අසන්තියා ආපත්තියා**, ඇවැතක් නොමැති කල්හි; **තුණ්හීභවිතබ්බං**, නිහඬ විය යුතු ය. **තුණ්හීභාවෙන බො පන**, නිහඬ බවින් වනාහි; **ආයස්මන්තෙ**; ආයුෂ්මතුන් වහන්සේලා; **පරිසුද්ධා'ති වෙදිස්සාමි**, පිරිසිදු යැයි දැනගන්නෙමි) යැයි; **තික්ඛත්තුං අනුසාවිතං**, තෙවරක් අනුශ්‍රාවණය කරන ලද්දේ ද; **තං**, එය; **එකමෙකෙන**, එක් එක් අයකු විසින්; **එස**, මොහු; **මං පුච්ඡති ඉති**, මා විචාරයි යැයි; **එවං ජානිතබ්බං හොති**, මෙසේ දැනගත යුතු වෙයි; **ඉති අත්ථො**, යන අර්ථය යි. **ඉති**, යනුවෙන් (ඇතැම් ඇදුරුවරු කියත්). **තං**, එම කියමන; **න යුජ්ජති**, නොම යෙදේ. **කස්මා?**, කවර හෙයින් ද? යත්; **අත්ථබ්‍යඤ්ජනභෙදතො**, අර්ථ, බ්‍යඤ්ජන භේද බැවිනි. **හි**, කාරණය කියනු ලැබේ;

-15-

'**දුතියම්පි එතමත්ථං වදමී'ති ආදීසු විය**, 'දුතියම්පි එතමත්ථං වදමි' යනාදියෙහි මෙන්; **අනුස්සාවනං නාම**, අනුශ්‍රාවණය නම්; **අත්ථතො ච**, අර්ථ වශයෙන් ද; **බ්‍යඤ්ජනතො ච**, ව්‍යඤ්ජන වශයෙන් ද; **අභින්නං**

[1] ව්‍යාකරෙය්‍ය. කඞ්ඛා.පි

**හොති**, නොබිඳුණේ වෙයි. **'යස්ස සියා' ඉති ආදි වචනත්තයං පන**, 'යස්ස සියා' යන ආදි වචනත්‍රය වනාහි *('යස්ස සියා ආපත්ති සො ආවිකරෙය්‍ය' යන්නත්, 'අසන්තියා ආපත්තියා තුණ්හීභවිතබ්බං' යන්නත්, 'තුණ්හීභාවෙන ඛො පනායස්මන්තෙ පරිසුද්ධා'ති වෙදිස්සාමි' යන්නත් යන වචනත්‍රය)*; **අත්ථතො අපි**, අර්ථ වශයෙන් ද; **බ්‍යඤ්ජනතො අපි**, බ්‍යඤ්ජන වශයෙන් ද; **භින්නං**, බිඳුණේ වෙයි. **තෙන**, එසේ බිඳුණු බැවින්; **අස්ස**, ඒ 'යස්ස සියා' යනාදි වචනත්‍රයාගේ; **අනුස්සාවනත්තයං**, අනුශ්‍රාවණත්‍රය; **න යුජ්ජති**, නො යෙදේ. **ච**, තව ද; **යදි**, ඉදින්; **එතං යාවතතියානුස්සාවනං සියා**, මේ තුන්යළ දක්වා ඇස්සවීම වන්නේ නම්; **නිදානුද්දෙසෙ අනිට්ඨිතෙ අපි**, නිදානුද්දේසය නොනිමි කල්හි ද; **ආපත්ති සියා**, ඇවැත් වන්නේය. **අනාපත්තිඛෙත්තෙ**, අනාපත්ති ක්ෂේත්‍රයේ; **ආපත්තිං ආපජ්ජිතුං**, ඇවැතට පත්වීම; **න ච යුත්තං**, යුතු නො වේ ද වේ.

**අපරෙ**, අනෙක් ඇදුරු කෙනෙක් *(අත්ථදර්ශීස්ථවිරප්‍රමුඛයෝ* - **කඞ්ඛා.පි**, පි.12); **'අනුසාවිතං' ඉති පදස්ස අත්ථං**, අනුසාවිතං යන පදයාගේ අතීතාර්ථය; **අනුසාවෙතබ්බං ඉති විකප්පෙත්වා**, අනුසාවෙතබ්බං (ඇස්සවීම කළ යුතු) යැයි අනාගතාර්ථය කල්පනා කොට; **'යාවතතියං' ඉති ඉදං**, 'යාවතතියං' යන මෙය; **උපරි උද්දෙසාවසානෙ**, මත්තෙහි උදෙසීම අවසානයේ; **'කච්චිත්ථ පරිසුද්ධා තතියම්පි පුච්ඡාමි' ඉති**, 'කච්චිත්ථ පරිසුද්ධා තතියම්පි පුචඡාමි' යන; **එතං සන්ධාය**, මෙය සඳහා; **වුත්තන්ති ආහු**, වදරන ලද්දේ යැයි කීවාහුය. **තම්පි**, ඒ ප්‍රකාශය ද; **න යුජ්ජති**, නො යෙදේ; **කස්මා?** කවර හෙයකින් ද? යත්; **අත්ථයුත්තීනං අභාවතො**, අර්ථ යුක්තීන්ගේ අභාවයෙනි (*අනාගතත්ථස්ස ච කාරණස්ස ච අභාවතො* - **කඞ්ඛා.ටී**, පි.38). **හි**, ඊට පරිහාරය නම්; **ඉදං පදං**, මේ පදය; **කෙචි**, ඇතැමෙක් (*ඛන්ධකභාණකා* - **කඞ්ඛා.පි**, පි.12); **'අනුසාවිතං[1]' ඉති**, අනුසාවිතං යැයි (අතීත අර්ථයෙන්); **සජ්ඣායන්ති**, සජ්ඣායනය කරත්. **කෙචි**, ඇතැමෙක්; **'අනුසාවෙතං' ඉති**, 'අනුසාවෙතං' යනුවෙනි. **තං**, එය; **උභයථා අපි[2]**, දෙයාකාරයෙන් ම; **අතීතකාලමෙව දීපෙති**, අතීත කාලය ම දක්වේ. **න අනාගතං**, අනාගත කාලය නො වේ. **ච**, තව ද; **යදි**, ඉදින්; **අස්ස**, ඒ 'අනුසාවිතං' යන පදයාගේ; **අයං**

---

[1] **අනුසාවෙතන්ති.** මජසං
[2] **උභයං වාපි.** මජසං

**අත්ථො සියා**, මේ අනාගත අර්ථය වන්නේ නම් (*අයන්ති අනාගතකාලො* - කඞ්ඛා.ටී, පි.38); **'අනුසාවිතං හෙස්සති' ඉති වදෙය්‍ය**, 'අනුසාවිතං හෙස්සති' යැයි (අනාගත කාල වචනයෙන්) කියන්නේය. **එවං**, මෙසේ; **තාව**, පළමු කොට; **අත්ථ අභාවතො**, අර්ථයාගේ අභාව බැවින්; **න යුජ්ජති**, නො යෙදේ. **ච**, තව ද **යදි**, ඉදින්; **එතං**, මේ 'යස්ස සියා' යන්න; **උද්දෙසාවසානෙ**, උදෙසීම් අවසානයේ; **වචනං සන්ධාය**, වචනය සඳහා; **වුත්තං සියා**, කියන ලද්දේ වන්නේ නම්; **'න ආවිකරිස්සාමි' ඉති**, හෙළි නො කරන්නෙමි යැයි; **චිත්තං උප්පාදෙන්තස්ස**, සිතක් උපදවන්නහුට; **නිදානෙ සමත්තෙ අපි**, නිදානය උදෙසීම සම්පූර්ණ වූ කල්හි ද; **වුත්තමුසාවාදෙ න සියා**, වදාරන ලද මුසාවාද දුකුළාව නො වන්නේය. **කස්මා?**, කවර හෙයකින් ද? යත්; **'යාවතතියං අනුසාවියමානෙ[1]' ඉති වචනතො**, 'යාවතතියං අනුසාවියමානෙ' යන වර්තමාන කාල වචනයෙන්; **යාවතතියං ඉති ඉදං වචනමෙව**, 'යාවතතියං' යන මේ වචනය ම; **නිරත්ථකං සියා**, නිරර්ථක වන්නේය. **කස්මා?**, කවර හෙයකින් ද? යත්; **නිදානුද්දෙසෙ**, නිදානුද්දේසයෙහි; **යාවතතියානුසාවනස්ස[2]**, තුන්යළ දක්වා අනුශ්‍රාවණය කිරීමෙහි; **අභාවතො ඉති**, අභාව බැවින් යැයි; **එවං**, මෙසේ; **යුත්ති අභාවතො**, යුක්තිය අභාව හෙයින්; **තම්පි න යුජ්ජති**, එය ද නො යෙදේ.

**45. වි: "එවමෙවං එවරූපාය පරිසාය යාවතතියං අනුසාවිතං හොති"** යන මේ ප්‍රකාශනය පිළිබඳ ඇදුරු මත දෙකක් මෙහි ලා ඉදිරිපත් කෙරෙන අතර ඒ එකිනෙකෙහි යෙදෙන නොයෙදෙන බවට යුක්තිය පැවසේ. ඒ අනුව ඇතැම් ඇදුරුවරයෙක් පවසනුයේ මෙහි **"යාවතතියං අනුසාවිතං"** යන්න **"යස්ස සියා ආපත්ති සො ආවිකරෙය්‍ය, අසන්තියා ආපත්තියා තුණ්හීභවිතබ්බං, තුණ්හීභාවෙන ඛො පනායස්මන්තෙ පරිසුද්ධා'ති වෙදිස්සාමි"** යන තුන් ප්‍රකාශනයන්ගේ ඇස්සවීම සැලකිල්ලට ගෙන වදාරා ඇති බව යි. එහෙත් අනුශ්‍රාවණය වනාහි අර්ථ වශයෙන් ද ව්‍යඤ්ජන වශයෙන් ද නොබිඳෙන ලද්දක් විය යුතු ය. මෙම ඇදුරු මතය සලකා බැලීමේ දී එය අර්ථ වශයෙන් ද ව්‍යඤ්ජන වශයෙන් ද බිඳුණු අර්ථ ඇති අනුශ්‍රාවණ තුනකි. එබැවින් එය නො යෙදේ. තවත් ආකාරයට සලකා බැලීමේ දී

---

[1] **අනුස්සාවියමානෙ.** මජසං
[2] **යාවතතියානුස්සාවනස්ස.** මජසං

මෙම ඇදුරු මතය පිළිගන්නේ නම් නිදානුද්දේසය නොනිමි කල්හි ම ඇවැත් වන්නේය. එහෙත් එය අනාපත්ති ක්ෂේත්‍රයක් බැවින් එය ද නො යෙදේ.

තවත් ඇදුරු මතයක් වන්නේ, '**අනුසාවිතං**' යන මේ පදය අතීතාර්ථයක් දීපනය නොකරන බවත් අනාගතාර්ථයක් දීපනය කරන බවත් ය. එනම් '**යාවතතියං**' යන මේ වචනය වනාහි මත්තෙහි පාරාජිකුද්දේස අවසානයේ එන "**කච්චිත්ථ පරිසුද්ධා තතියම්පි පුච්ඡාමි**" යන මේ ප්‍රකාශය සඳහා වදරන ලද්දේ යැයි කීහ. අනාගත අර්ථයාගේ හේතුවක් නොමැති බැවින් එම මතය ද නො යෙදේ. මෙම '**අනුසාවිතං**' යන්න ඇතැමෙක් '**අනුසාවෙතං**' කියා සජ්ඣායනා කරන අතර ඒ දෙයාකාරයෙන් ම අතීතාර්ථයක් ම දීපනය වේ. අනාගතාර්ථයක් නො වේ. යම්හෙයකින් මෙහි අනාගතාර්ථයක් වන්නේ නම් බුදුරජාණන් වහන්සේ මෙහි ලා '**අනුසාවිතං හෙස්සති**' යැයි අනාගත වචනයෙන් වදරන සේක. මෙසේ අනාගතාර්ථයක් නොමැති බැවින් මෙය ද නො යෙදේ. තව ද යම්හෙයකින් මෙම '**අනුසාවිතං**' යන්න උදෙසීම අවසානයේ වන වචනයක් අපේක්ෂාවෙන් වදරන ලද්දේ නම් 'ඇවැත හෙළි නො කරන්නෙමි' යැයි සිතක් උපදවන භික්ෂුවට නිදානුද්දේසය සම්පූර්ණ වූ කල්හි ද මුසාවාද දුකුළා ඇවැත නො සිදුවේ. කවර හෙයකින් ද? යත් '**යාවතතියං අනුසාවියමානෙ**' යනුවෙන් යළි වදරනු ලබන වර්තමාන කාල වචනයෙන් '**යාවතතියං**' යන වචනය නිරර්ථක වෙයි. මන්ද? '**අනුසාවියමානෙ**' යන්නෙහි 'මාන' ප්‍රත්‍යයෙන් වර්තමාන කාලය හැඟවෙන අතර එබඳු තුන්යළ දක්වා අනුශ්‍රාවණයක් නිදානුද්දේසයේ නොමැත. එබැවින් ඒ ඇදුරු මතය ද නොම යෙදේ.

මෙසේ ථෙරවාදී මහාවිහාරීය ඇදුරු පරපුරට බැහැර ඇදුරුවරුන් වෙත පැවති මතවාද දෙකක් ගෙනහැර දක්වමින්, ඒවා ප්‍රතිබාහනය කිරීමට ප්‍රමාණවත් කරුණු ඉදිරිපත් කළ භදන්ත බුද්ධඝෝෂ මහාස්වාමිපාදයෝ තදනන්තරව මහාවිහාරීය සංඝයා වෙත සිය ඇදුරු පරපුරෙන් ගෙනෙන ලද විනිශ්චය ඉදිරිපත් කරනු වස් "**යාවතතියං අනුසාවිතං හොතී'ති**" යනාදි ලෙස ඇරඹූහ.

**සඃ "යාවතතියං අනුසාවිතං හොති" ඉති ඉදං පන**, 'යාවතතියං අනුසාවිතං හොති' යන මේ වචනය වනාහි; **ලක්ඛණවචනමත්තං,** යාවතතියානුසාවනය හඳුන්වන වචන මාත්‍රයකි. **තෙන,** එයින්; **ඉමං**

**අත්ථං දස්සෙති**, මේ අර්ථය දක්වෙයි. (කිමෙක් ද? යත්) **ඉදං පාතිමොක්ඛං නාම**, මේ ප්‍රාතිමෝක්ෂය වනාහි; **යාවතතියං අනුසාවියති**[1], තුන්යළ දක්වා අනුශ්‍රාවණය කරනු ලැබේ. **තස්මිං යාවතතියං අනුසාවියමානෙ**[2], එය තුන්යළ දක්වා අනුශ්‍රාවණය කරනු ලබන කල්හි; **යො**, යම් භික්ෂුවක්; **සන්තිං ආපත්තිං සරමානො**, විද්‍යමාන වන ඇවැතක් සිහි කරනුයේ; **නාවිකරොති**[3], හෙළි නො කරයි ද; **තස්ස**, උන්වහන්සේට; **යාවතතියානුසාවනාවසානෙ**[4], තුන්යළ දක්වා අනුශ්‍රාවණය කිරීම් අවසානයේ; **සම්පජානමුසාවාදො හොති**, සම්පජාන මුසාවාදය වෙයි; **ඉති**, යනුවෙනි. **තදෙතං (තං එතං යාවතතියානුසාවනං)**, ඒ මේ යාවතතියානුසාවනය; **යථා අනුසාවිතං**, යම් සේ අස්සවන ලද්දේ ද; **යාවතතියං අනුසාවිතං නාම හොති**, තුන්යළ දක්වා අනුශ්‍රාවණය කරන ලද්දේ නම් වෙයි. **තං දස්සෙතුං**, එය දක්වීමට; **තත්ථායස්මන්තෙ පුච්ඡාමි ඉති ආදි වුත්තං**, 'තත්ථායස්මන්තෙ පුච්ඡාමි' යන ආදිය වදරන ලදී. **තං පනෙතං**, ඒ මේ 'තත්ථායසමන්තෙ පුච්ඡාමි' යනාදි වූ තුන්යළ දක්වා අනුශ්‍රාවණය; **පාරාජිකාදීනං අවසානෙ**, පාරාජික ආදීන්ගේ අවසානයෙහි; **දිස්සති**, දක්නා ලැබේ; **න නිදානාවසානෙ**, නිදානය අවසානයේ නොදක්නා ලැබේ. **කිඤ්චාපි**, එක්තරා විදිහකට; **න දිස්සති**, නොදක්නා ලැබේ ද; **අථ ඛො**, එතකුදු වුවත්; **උද්දෙසකාලෙ**, උදෙසන වේලෙහි; **'ආවිකතා හිස්ස ඵාසු හොති' ඉති වත්වා** 'ආවිකතා හිස්ස ඵාසු හොති' යැයි කියා; **'උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං, තත්ථායස්මන්තෙ පුච්ඡාමි" ඉති ආදිනා නයෙන**, යනාදි ක්‍රමයෙන්; **වත්තබ්බමෙව**, කිව යුත්තේ ම ය. **එවං හි**, මෙසේ; **නිදානං**, නිදානය; **සුඋද්දිට්ඨං හොති**, මැනවින් උදෙසන ලද්දේ වෙයි. **අඤ්ඤථා**, අන් අයුරකින්; **දුඋද්දිට්ඨං**, නොමනාව උදෙසන ලද්දේ වෙයි. **ඉමමෙවත්ථං**[5] **සන්ධාය**, මේ යාවතතියානුසාවනාර්ථය පිණිස ම; **උපොසථක්ඛන්ධකෙ**, උපෝසථස්කන්ධකයෙහි; **"යාවතතියං අනුසාවිතං හොතීති සකිම්පි අනුසාවිතං හොති, දුතියම්පි අනුසාවිතං හොති, තතියම්පි අනුසාවිතං හොති" ඉති**, "යාවතතියං -පෙ- හොති" යැයි; **වුත්තං**, වදරන ලදී. **එත්ථ**, 'යාවතතියං අනුසාවිතං' යන පදයෙහි; **අයං**,

---

[1] **අනුස්සාවියති.** මජසං; **අනුසාවීයාත.** බෞසංම
[2] **අනුස්සාවියමානෙ.** මජසං
[3] **නාවීකරොති.** හෙමු
[4] **යාවතතියානුසාවණාවසෙන.** හෙමු; **යාවතතියානුස්සාවනාවසානෙ.** මජසං
[5] **ඉමමෙව ච අත්ථං.** මජසං

මේ; **ආචරියපරම්පරාභතො**, මහාවිහාරීය ඇදුරු පරපුරෙන් රැගෙන එන ලද; **විනිච්ඡයො**, විනිශ්චය යි.

**46. වි:** "**යාවතතියං අනුසාවිතං හොති**" යන මේ වචනය වනාහි ලක්ෂණ වචන මාත්‍රයක් හෙවත් හැඳිනීමට හේතු වූ ශබ්ද මාත්‍රයකි. එයින් මෙම ප්‍රාතිමෝක්ෂය තුන්යළ දක්වා අනුශ්‍රාවණය කරනු ලැබෙන බවත් එසේ ඇති කල්හි යම් භික්ෂුවක් විද්‍යාමාන වන ඇවැතක් සිහි කළේ වුව ද හෙළි නො කරයි ද උන්වහන්සේට තුන්යළ දක්වා අනුශ්‍රාවණය කිරීම් වශයෙන් සම්පජාන මුසාවාද ඇවැත වන බවත් දක්වේ. මෙය දක්වීමට එකිනෙක පාරාජිකාදී උද්දේසයන්ගේ අවසානයේ "**තත්‍ථායස්මන්තෙ පුච්ඡාමි**" යනාදිය වදාළ සේක. එසේ වදාරන ලද්ද, නිදානය අවසානයේ දක්නා නොලැබෙන අතර එසේ නොදක්නේ වුව ද උදෙසීමේ දී "**ආවිකතා හිස්ස ඵාසු හොති**" යැයි කියා අනතුරුව "**උද්දිට්ඨං ඛො ආයස්මන්තො නිදානං, තත්‍ථායස්මන්තෙ පුච්ඡාමි**" යනාදි ක්‍රමයෙන් කිව යුත්තේ ම ය. එසේ කී කල්හි නිදානය මැනවින් උදෙසන ලද්දේ වෙයි. එසේ නොවුවහොත් නොමනාව උදෙසන ලද්දේ වෙයි. මෙසේ මේ කියන ලද අර්ථය දක්වනු වස් මහාවග්ගපාළි උපෝසථක්ඛන්ධකයේ "**යාවතතියං අනුසාවිතං හොති -පෙ- හොති**" යැයි වදාරන ලදී.

**සඃ යො පන භික්ඛු -පෙ- සම්පජානමුසාවාදස්ස හොති ඉති**, යනු; **අස්ස**, ඒ භික්ෂුවට; **සම්පජානමුසාවාදෙ**, සම්පජාන මුසාවාදය වෙයි. **තෙන**, ඒ සම්පජාන මුසාවාදය හේතුවෙන්; **අස්ස**, උන්වහන්සේට; **දුක්කටාපත්ති හොති**, දුකුළා ඇවැත් වෙයි. **සා ච ඛො පන**, ඒ දුකුළා ඇවත ද වනාහි; **න මුසාවාදලක්ඛණෙන**, මුසාවාද ලක්ෂණයෙන් නො වේ ය. "**සම්පජානමුසාවාදෙ කිං හොති, දුක්කටං හොති**" **(මහාව.1, පි.254) ඉති ඉමිනා** පන, (**සම්පජානමුසාවාදෙ**, සම්පජාන මුසාවාදයෙහි; **කිං හොති**, කවර ඇවැතක් වේ ද?; **දුක්කටං හොති**, දුකුළා ඇවැතක් වේ) යන මේ; **භගවතො වචනෙන**, භාග්‍යවතුන් වහන්සේගේ වචනයෙන්; **වචීද්වාරෙ**, වාග් ද්වාරයෙහි; **අකිරියසමුට්ඨානාපත්ති හොති**, අකිරිය සමුට්ඨාන ඇවැතක් වෙයි; **ඉති වෙදිතබ්බා**, යැයි දත යුතු ය. **වුත්තම්පි චෙතං**, වදාළේ මැ යි;

"අනාලපන්තො මනුජෙන කෙනචි
වාචාගිරං නො ච පරෙ භණෙය්‍ය;
ආපජ්ජෙය්‍ය වාචසිකං, න කායිකං
පඤ්හාමෙසා[1] කුසලෙහි චින්තිතා"ති (පරිවා.2, පි.292)

**කෙනචි මනුජෙන**, කිසියම් මිනිසෙක් විසින් (යම් භික්ෂුවක්); **වාචාය අනාලපන්තො**, වචනයෙන් නො කියන්නේ (වාචාය යන තැන 'ය' කාරය ලෝපය යි); **පරෙ (සන්ධාය)**, පර පුද්ගලයන් සඳහා; **ගිරං**, වචනයක් නමුදු; **නො ච භණෙය්‍ය**, නො කියන්නේය. **වාචසිකං**, වචනයෙන් හටගන්නා වූ; **න කායිකං**, කයින් නොහටගන්නා වූ ඇවැතකට; **ආපජ්ජෙය්‍ය**, පැමිණෙන්නේය. **පඤ්හාමෙසා (එසො පඤ්හො)** මේ ප්‍රශ්නය; *(පඤ්හාමෙසාති එත්ථ ම කාරො පදසන්ධිකාරො. එසාති ච ලිඞ්ගවිපල්ලාසවසෙන වුත්තං, පඤ්හො එසොති අත්ථො* - **විමති**, **පි**.508); **කුසලෙහි**, විනයෙහි දක්ෂවූවන් විසින්; **චින්තිතා (චින්තිතො)**, සිතන ලද්දේය.

-16-

**අන්තරායිකො'ති**, 'අන්තරායිකො' යනු; **විප්පටිසාරවත්ථුතාය**, විපිළිසර බවට කරුණක් වන බැවින්; **පාමොජ්ජාදිසම්භවං**, ප්‍රීති ප්‍රමෝද්‍ය ආදීන්ගේ ප්‍රතිලාභය; **නිවාරෙත්වා**, වළක්වා; **පඨමජ්ඣානාදීනං**, ප්‍රථම ධ්‍යාන ආදීන්ගේ; **අධිගමාය**, ප්‍රතිවේධය පිණිස; **අන්තරායං කරොති**, අනතුරක් කරයි. **තස්මා ඉති**, 'තස්මා' යනු; **යස්මා**, යම්හෙයකින්; **අයං**, මේ; **අනාවිකරණසඞ්ඛාතො**, ප්‍රකාශ නොකිරීම් සංඛ්‍යාත වූ; **සම්පජානමුසාවාදෙ**, සම්පජාන මුසාවාදය (දැන දැන බොරු කීමේ ඇවත); **අන්තරායිකො හොති**, අන්තරායික වේ ද; **තස්මා**, එබැවිනි. **සරමානෙන ඉති**, 'සරමානෙන' යනු; **අත්තනි**, තමා කෙරෙහි; **සන්තිං ආපත්තිං**, ඇත්තා වූ ඇවැත; **ජානන්තෙන**, දන්නහු විසින් ය යන්න යි. **විසුද්ධාපෙක්ඛෙන ඉති**, 'විසුද්ධාපෙක්ඛෙන' යනු; **වුට්ඨාතුකාමෙන**, සංඝාදිසේසාපත්තීන් නැගී සිටිනු කැමැත්ත ඇත්තහු විසින්; **විසුජ්ඣිතුකාමෙන**, දේසනාගාමිනී ආපත්තීන් පිරිසිදු වීම කැමැත්ත ඇති මහණහු විසින් යන්න යි. **සන්තී ආපත්ති ඉති**, 'සන්තී ආපත්ති' යනු; **ආපජ්ජිත්වා**, ඇවතට පැමිණ; **අවුට්ඨිතා ආපත්ති**, නොනැගිටින ලද ඇවැත් වේ. **ආවීකාතබ්බාති**[2], 'ආවීකාතබ්බා' යනු;

[1] **පඤ්හාවෙසා**. කඞ්ඛාපි, පි.13
[2] **ආවිකාතබ්බාති**. මජසං

**සඞ්ඝමජ්ඣෙ වා**, සඟ මැද හෝ; **ගණමජ්ඣෙ වා**, ගණ මධ්‍යයෙහි හෝ; **එකපුග්ගලෙ වා**, එක් පුද්ගලයෙක් වෙත හෝ; **පකාසෙතබ්බා**, ප්‍රකාශ කළ යුතු ය. **අන්තමසො**, යටත් පිරිසෙයින්; **අනන්තරස්ස භික්ඛුනො අපි**, අනතුරුව සිටින්නා වූ භික්‍ෂුවකට වුව ද; **ආවුසො**, ඇවැත්නි; **අහං**, මම; **ඉත්ථන්නාමං ආපත්තිං**, මෙනම් ඇත්තා වූ ඇවැතකට; **ආපන්නො**, පැමිණියේ; **ඉතො වුට්ඨහිත්වා**, මෙම උපෝසථාග්‍රයෙන් නැගී සිට; **තං ආපත්තිං**, ඒ ඇවැතට; **පටිකරිස්සාමි ඉති**, පිළියම් කරන්නෙමි යැයි; **වත්තබ්බං**, කිව යුතු ය. **සචෙ අපි**, ඉදිනුදු; **වෙමතිකො හොති**, විමති ඇත්තේ වේ ද; **ආවුසො**, ඇවැත්නි; **අහං**, මම; **ඉත්ථන්නාමාය ආපත්තියා** මෙනම් ඇති ඇවැතින්; **වෙමතිකො**, විමති ඇත්තෙමි. **යදා**, යම් කලෙක; **නිබ්බෙමතිකො භවිස්සාමි**, නිර්වෛමතික (විමති රහිත) වන්නෙම් නම්; **තදා**, එකල්හි; **තං ආපත්තිං**, ඒ ඇවැතට; **පටිකරිස්සාමි ඉති**, පිළියම් කරන්නෙමි යැයි; **වත්තබ්බං**, කිව යුතු ය.

**ආවීකතා හිස්ස**[1] **ඵාසු හොති ඉති එත්ථ**, 'ආවීකතා හිස්ස ඵාසු හොති' යන මෙහි; **ආවීකතා**[2] **ඉති**, 'ආවීකතා' යනු; **ආවිකතාය**, හෙළිකිරීම කරණකොටගෙන; **පකාසිතාය**, ප්‍රකාශ කිරීම කරණකොටගෙන; **ඉති අත්ථො**, යන අර්ථය යි. **අලජ්ජිතා ඉති ආදීසු විය**, 'අලජ්ජිතා' යන ආදීන්හි මෙන්; **ඉදං අපි හි**, මෙය ද; **කරණත්ථෙ**, කරණාර්ථයෙහි (තතියා අර්ථයෙහි); **පච්චත්තවචනං**, ප්‍රථමා විභක්ති වචනය යි. **හි ඉති**, 'හි' යනු; **නිපාතමත්තං**, නිපාත මාත්‍රයකි. **අස්ස ඉති**, 'අස්ස' යනු; **එතස්ස භික්ඛුනො**, ඒ භික්‍ෂුව හට යන්න යි. **ඵාසු හොති ඉති**, 'ඵාසු හොති' යනු; **පඨමජ්ඣානාදීනං අධිගමාය**, ප්‍රථම ධ්‍යානාදීන්ගේ අධිගමය පිණිස; **ඵාසු හොති**, පහසුවක් වෙයි. **අවිප්පටිසාරමූලකානං**, සිත විපිළිසර නොවීම මුල්කොට ඇත්තා වූ; **පාමොජ්ජාදීනං වසෙන**, තරුණ ප්‍රීති ප්‍රමෝද්‍ය ආදීන්ගේ වශයෙන්; **සුඛාපටිපදා**[3], සුඛ ප්‍රතිපදාව; **සම්පජ්ජති ඉති අත්ථො**, සමෘද්ධිමත් වේ ය යන අර්ථය යි. **ඉති**, මෙසේ;

**කඞ්ඛාවිතරණියා පාතිමොක්ඛවණ්ණනාය**, කඞ්ඛාවිතරණී ප්‍රාතිමෝක්‍ෂ වර්ණනාවෙහි; **නිදානවණ්ණනා**, නිදාන වර්ණනා තොමෝ; **නිට්ඨිතා**, නිමියාය.

---

[1] **ආවීකතාහිස්ස**. මඡසං
[2] **ආවීකතා**. මඡසං
[3] **සුඛප්පටිපදා**. මඡසං

**47. වි: "යො පන භික්ඛු -පෙ- සම්පජානමුසාවාදස්ස හොති"** යනුවෙන් සම්පජාන මුසාවාද (දැන දැන බොරුකීම් වශයෙන්) ඇවැත් වන බව දැක්වේ. එය ද මුසාවාද ලක්ෂණයෙන් වන පාචිත්තිය ඇවැතක් නොව භාග්‍යවතුන් වහන්සේගේ වචනය කරණකොටගෙන වචීද්වාරයේ අකිරිය සමුට්ඨාන වශයෙන් වන ඇවැතකි. ඒ බව පරිවාර පාළියෙහි එන සේදමෝචන ගාථාවන්හි **"අනාලපන්තො මනුජේන කෙනචි"** යනාදී වශයෙන් වදාරන ලදී.

මෙසේ හටගන්නා වූ දුකුළා ඇවැත නමුදු චිත්ත විපිළිසර බව පිණිස හේතුවන බැවින් ප්‍රථම ධ්‍යාන ආදීන්ගේ අධිගමය පිණිස අන්තරායකර වේ. එබැවින් පොහොය කිරීමට රැස්ව සිටින භික්ෂූන් අතරින් යම් භික්ෂුවක් තමන් වහන්සේ වෙත විද්‍යමාන යම් හෝ ඇවැතක් සිහි කරන්නේ නම් එය සඟ මැද හෝ ගණයා මැද හෝ යටත් පිරිසෙයින් තමා අසල සිටින භික්ෂුවකට හෝ හෙළි කළ යුතු වේ. යම්හෙයකින් ඇවැතක් පිළිබඳ විමතියක් ඇත්තේ නම් ඒ බව ද හෙළි කළ යුතු වේ. **අන්ධකට්ඨකථාවෙහි** දැක්වෙන පරිදි උපෝසථාග්‍රයෙහි තමා අසල සිටින විසභාග භික්ෂුවක් වේ නම්, ඇවත හෙළි කිරීමෙන් භණ්ඩනයක්, කලහයක්, සංඝභේදදියක් හෝ සිදුවේ යැයි සිතන්නේ නම් මෙම උපෝසථාග්‍රයෙන් නැගී ගොස් ඇවැතට පිළියම් කරගන්නෙමි යන ආභෝගයෙන් පොහොය කළ යුතු වේ.

මෙසේ තමන් වෙත ඇති ඇවැත හෙළි කරන්නේ නම්, එයින් සිතේ විපිළිසර බව පහව ගොස් තරුණ ප්‍රීති ප්‍රමෝද්‍යාදිය ඇති වීම් වශයෙන් සුඛ ප්‍රතිපදාවෙන් ප්‍රථම ධ්‍යාන ආදිය අධිගමය පිණිස හේතු වන බැවින් **"ආවිකතාහිස්ස ඵාසු හොති"** යැයි කියන ලදී.

**භදන්තාචරිය අනුබුද්ධ බුද්ධඝෝෂ මහස්ථවිරයන් විසින් විරචිත**
**කඞ්ඛාවිතරණී නම් මාතිකට්ඨකථාවට**
**ලියන ලද**
**විනයත්ථදීපනී නම් සවිස්තර ව්‍යාඛ්‍යානයේ**
**නිදානුද්දේස වර්ණනාව නිමි.**



## සසුනට දිරි දීමට සමත් භික්ෂුව;

**සගාරවො වුඩ්ඪතරේසු භික්ඛූසු**
**ආචෙරකම්හි ච සකෙ විසාරදෙ,**
**අලං පමේතුං පගුණො කථෙතවෙ**
**පච්චත්‍ථිකානඤ්ච විසඬ්ඪිකොවිදෙ,**

වැඩිමහලු භික්ෂූන් කෙරෙහි ගෞරව සහිත වූයේ වාසය කරයි. ස්වකීය ආචාර්යවාදයෙහි විශාරද වේ. ඒ ඒ කරුණු නුවණින් විමසා තුලනය කරන්නට සමර්ථ වේ. කිය යුත්තෙහි කළ පරිචය ඇත්තේ වේ. පසමිතුරන් වැරද වූ තැන් දැක්මෙහි දක්ෂ වේ.

(උපාලි මහරහතන් වහන්සේ)

# පාරාජිකුද්දේස වර්ණනාව

**සන්නය: ඉදානි**, දැන්; **නිදානානන්තරං**, නිදානයට අනතුරුව; '**තත්‍රිමෙ චත්තාරො'ති ආදි**, 'තත්‍රිමෙ චත්තාරො' යන ආදි වූ; **යං එතං**, යම් මේ; **පාරාජිකකණ්ඩං**, පාරාජික කාණ්ඩය (දක්වන ලද්දේ ද) (*තස්ස අත්ථවණ්ණනාක්කමො ඉදානි අනුප්පත්තොති යොජනා-* **කඞ්ඛා.පි**, පි.14) **තස්ස**, ඒ පාරාජික කාණ්ඩයාගේ; **අත්ථවණ්ණනාක්කමො**, අර්ථ වර්ණනා ක්‍රමය; **අනුප්පත්තො**, පැමිණියේ ය. **තත්ථ**, එහි; **තත්‍ර ඉති**, 'තත්‍ර' යනු; '**පාතිමොක්ඛං උද්දිසිස්සාමි' ඉති එවං වුත්තෙ**, 'පාතිමොක්ඛං උද්දිසිස්සාමි' යනුවෙන් මෙසේ කියන ලද්දා වූ; **තස්මිං පාතිමොක්ඛෙ**, ඒ භික්ෂු ප්‍රාතිමෝක්ෂයෙහි ය. **ඉමෙ ඉති**, 'ඉමෙ' යනු; **ඉදානි**, දැන්; **වත්තබ්බානං අභිමුඛීකරණං**, කිව යුතු වූවන්ගේ අභිමුඛකරණය යි. **චත්තාරො ඉති**, 'චත්තාරො' යනු; **ගණනපරිච්ඡෙදො**, ගණන පිරිසිඳීම යි. **පාරාජිකා ඉති**, 'පාරාජිකා' යනු; **එවංනාමකා**, මෙසේ නම් ඇත්තාහු ය. **ධම්මා ඉති**, 'ධම්මා' යනු; **ආපත්තියො**, ඇවැත්හු ය. **උද්දෙසං ආගච්ඡන්ති ඉති**, 'උද්දෙසං ආගච්ඡන්ති' යනු; **සරූපෙන**, ස්වකීය රූපයෙන් (තම තමන්ගේ නමින්) **උද්දිසිතබ්බතං**, උදෙසිය යුතු බවට; **ආගච්ඡන්ති**, පැමිණෙත්. **නිදානෙ විය**, නිදානයෙහි මෙන්; '**යස්ස සියා ආපත්ති' ඉති**, 'යස්ස සියා ආපත්ති' යන; **සාධාරණවචනමත්තෙන න**, සාධාරණ වචනමාත්‍රයෙන් නො වේ ය.

# පඨම පාරාජිකය

**යො පන ඉති**, 'යො පන' යන්නෙන්; **රස්සදීඝාදිනා**, මිටි උස් ආදි වූ; **ලිඞ්ගාදිභෙදෙන**[1], ලිඞ්ගාදි භේදයෙන්; **යො කොචි**, යම්කිසි භික්ෂුවක් අදහස් වේ (*ලිඞ්ග නම් සංස්ථාන යි. වර්‍ණ නම් කාලසාමාදි යි. කාල නම් සගකල් මාලුකල් ආදි යි. අපදේශ නම් තිස්ස ඵුස්සාදි නාම යි* - **කඞ්ඛා.පි**, පි.14). **පන ඉති**, 'පන' යනු; **නිපාතො**, නිපාතය යි.

**භික්ඛු ඉති**, 'භික්ඛු' යනු; **එහි භික්ඛු උපසම්පදා**, එහි භික්ඛු උපසම්පදාව ය; **සරණාගමන**[2] **උපසම්පදා**, සරණාගමන උපසම්පදාව ය; **ඔවාදපටිග්ගහණ**[3] **උපසම්පදා**, ඔවාදපටිග්ගහණ උපසම්පදාව ය; **පඤ්හබ්‍යාකරණ**[4] **උපසම්පදා**, පඤ්හබ්‍යාකරණ උපසම්පදාව ය; **ගරුධම්මපටිග්ගහණ උපසම්පදා**[5], ගරුධම්මපටිග්ගහණ උපසම්පදාව ය, **දූතෙන උපසම්පදා**, දූතෙන උපසම්පදාව ය; **අට්ඨවාචික උපසම්පදා**, අට්ඨවාචික උපසම්පදාව ය; **ඤත්තිචතුත්ථකම්ම උපසම්පදා**[6] **ඉති** ඤත්තිචතුත්ථකම්ම උපසම්පදාව ය යන; **ඉමාසු අට්ඨසු උපසම්පදාසු**, මේ අටවැදෑරුම් උපසම්පදාවන් අතරින්; **අකුප්පෙන**, අකෝප්‍ය වූ ද, ප්‍රතික්‍රෝෂණය නොකරන ලද්දා වූ ද; **ඨානාරහෙන**, ශාස්තෘ ශාසනයට සුදුසු වූ; **ඤත්තිචතුත්ථෙන උපසම්පදාකම්මෙන**, ඤත්තිචතුත්ථ උපසම්පදා කර්මයෙන්; **උපසම්පන්නො**, උපසපන් වූ භික්ෂුව යි.

**48. විස්තර:** නිදානුද්දේසයට අනතුරුව පාරාජිකුද්දේසය දේශනා කරනු කැමතිව '**තත්‍රිමෙ ... උද්දෙසං ආගච්ඡන්ති**' යැයි ආරම්භ කරන ලදී. එහි '**පාරාජිකා**' යනු ඒ උදෙසීමට පැමිණෙන ආපත්ති නිකායේ නාමය වන අතර ඒ ධර්මයන්ගේ ගණන පිරිසිඳීම '**චත්තාරො**' යැයි වදාළ සේක.

---

[1] **ලිඞ්ගාදිභෙදෙ**. හෙමු

[2] **සරණගමන**. මජසං; **සරණාගමණ**. හෙමු

[3] **ඔවාදප්පටිග්ගහණ**. මජසං

[4] **පඤ්හාබ්‍යාකරණ**. මජසං; **පඤ්හව්‍යාකරණ**. කඞ්ඛා.පි.

[5] **අට්ඨගරුධම්මප්පටිග්ගහණූපසම්පදා**, මජසං; **අට්ඨගරුධම්මප්පටිග්ගහණ උපසම්පදා**. බෞසංම

[6] **ඤත්තිචතුත්ථඋපසම්පදා**. කඞ්ඛා.පි.

'පාරාජික' පදයෙන් අදහස් වන්නේ පරාජිත වූ බව යි. 'පරාජිත' පදයෙහි 'ප' උපසර්ගය වෘද්ධි කොට 'ත' කාරය හට 'ක' කාර කොට පාරාජික යැයි නිර්දිෂ්ට ය. යම් භික්ෂුවක් මෙම සිකපදය ඉක්මවයි ද හෙතෙමේ පැරදුණේ වෙයි. එහෙයින් පරිවාරපාළියෙහි කියන ලදී:

**"පාරාජිකන්ති යං වුත්තං - තං සුණොහි යථා කථං**
**චුතො පරද්ධො භට්ඨො ච - සද්ධම්මාහි නිරඞ්කතො**
**සංවාසො ච තහිං නත්ථි - තෙනෙතං ඉති වුච්චති."**

**(පරිවා, පි.102)**

(පාරාජික යැයි යමක් කියන ලද ද එය අසව. කෙසේ ද? යත්, සසුනෙන් චුත වූයේ ද පැරදුණේ ද ගිලිහුණේ ද දුරුකරන ලද්දේ ද ඔහු කෙරෙහි (උපෝසථ පවාරණාදි වශයෙන්) සංවාසයක් ද නැත. එහෙයින් මෙය පරිජි යැයි කියනු ලැබේ.)

පාරාජික ඇවැතට පත් වූ භික්ෂුව ශ්‍රමණභාවයෙන් චුත වූයේ වෙයි. ශ්‍රමණභාවයෙන් පරාජයට පත්වූයේ වෙයි. ඒ ඇවැතින් නැඟී සිටීමක් ද නොමැති බැවින් බුදුරජාණන් වහන්සේගේ ශාසනයෙහි තවදුරටත් උපසපන් භික්ෂුවක් ලෙස නො සැලකේ. මෙසේ පාරාජිකාපත්තියේ ඇති ආපසු නිවැරදි කළ නොහැකි ස්වභාවය දැක්වීමට උපමා හතරක් දේශනා කොට තිබේ.

1. **හිස සුන් පුරුෂයෙක් (සීසච්ඡින්න පුරිසො)**

   හිස සුන් පුරුෂයක් ඒ හිස නැවත ශරීරයට සම්බන්ධ කොට ජීවත් වීමට නොලබන්නා සේ පරිජි වූ භික්ෂුව ද අශ්‍රමණයෙක්, අශාක්‍යපුත්‍රයෙක් බවට පත් වේ. යළි සසුනේ උපසපන් බවක් ලැබිය නොහැකි වේ.

2. **නටුවෙන් ගිලිහුණු පත්‍රයක් (පණ්ඩුපලාසො බන්ධනාපවුත්තො)**

   නටුවෙන් ගිලිහුණු පත්‍රයක් නැවත නිල්පැහැ වීමට අභව්‍ය වන්නා සේ පරිජි ඇවැතට පත් වූ භික්ෂුව ද අශ්‍රමණයෙක්, අශාක්‍යපුත්‍රයෙක් බවට පත් වේ.

3. **දෙබෑ වූ මහ ගලක් (පුථුසිලා ද්වෙධා භින්නා)**

   දෙකට බිඳුණු මහ ගලක් යළි එකට සන්ධි කළ නොහැකි වන්නා සේ පරිජි ඇවැතට පත් වූ භික්ෂුව ද අශ්‍රමණයෙක්, අශාක්‍යපුත්‍රයෙක් බවට පත් වේ.

4. **මුදුන සුන් තල්ගසක් (තාලො මත්ථකච්ඡින්නො)**

මුදුන සුන් තල්ගසක් නැවත වැඩීමට සුදුසු නොවන්නා සේ පරිජි ඇවැතට පත් වූ භික්ෂුව ද අශ්‍රමණයෙක්, අශාක්‍යපුත්‍රයෙක් බවට පත් වේ. නැවත සසුනේ උපසපන් භික්ෂුවක් බවට පත්විය නොහැකි වේ.

මෙසේ පාරාජිකාපත්තිය විසින් උපසපන් භික්ෂුව සසුනෙන් මුලිනුපුටා දමන බැවින් මෙම පාරාජිකා ඇවැත් '**ඡෙජ්ජගාමිනී**' ඇවැත් ලෙස ද හැඳින්වේ.

'**යො පන භික්ඛු භික්ඛූනං ....**' යනාදි සිකපද මාතිකාවෙහි '**යො පන**' යන්නෙන් අනියම වශයෙන් පුද්ගලයා දක්වන ලදී. එහි දී යම් භික්ෂුවක් ලිඞ්ග, යුත්ත, ජාති, නාම, ගොත්ත, සීල, විහාර, ගෝචර, වයස යනාදිය අතරින් එක් ආකාරයකට ප්‍රකට වේ ද උන්වහන්සේ දක්වේ. එය දනවීම සඳහා '**රස්ස දීඝාදිනා**' යැයි කියන ලදී. එනම් ලිඞ්ග හෙවත් උස්, මිටි, කළු පැහැති, එළලු පැහැති ආදි පෙනුම වශයෙන් හෝ ඒ ඒ කටයුත්තෙහි යෙදීම් වශයෙන් යනාදි කිසියම් ආකාරයකට ප්‍රකට වේ ද ඒ භික්ෂුව අදහස් වේ.

'**භික්ඛු**' යන පදය පදභාජනියේ නිරුක්ති වශයෙන්, අභිලාපන වශයෙන්, ගුණ වශයෙන් සහ උපසම්පදාව වශයෙන් දේශනා කරන ලදී. ඒ අනුව නිරුක්ති වශයෙන් '**භික්ඛකො'ති භික්ඛු, භික්ඛාචරියං අජ්ඣුපගතො'ති භික්ඛු, භින්නපටධරො'ති භික්ඛු**' යනුවෙන් වදාළ සේක. '**සමඤ්ඤාය භික්ඛු, පටිඤ්ඤාය භික්ඛු**' යනුවෙන් අභිලාපන වශයෙනි. '**භද්‍රො භික්ඛු, සාරො භික්ඛු, සෙක්ඛො භික්ඛු, අසෙක්ඛො භික්ඛු**' යනාදිය ගුණ වශයෙනි. '**එහි භික්ඛූ'ති භික්ඛු, තීහිසරණගමනෙහි උපසම්පන්නො භික්ඛු**' යනාදිය උපසම්පදාව වශයෙනි. (පාරා, පි.56)

මෙසේ නොයෙක් ආකාරයෙන් භික්ෂුව යන්නෙහි අර්ථ දක්වා අනතුරුව මෙම සිකපදයේ 'භික්ඛු' යන්නෙන් අදහස් වන්නේ, 'එහි භික්ඛු උපසම්පදාව ආදි අටවැදෑරුම් උපසම්පදා අතරින් **ඤත්තිචතුත්ථකම්ම උපසම්පදාවෙන්** උපසපන් වූ භික්ෂුව' යැයි කියන ලදී.

## අෂ්ටවිධ උපසම්පදාව

1. **එහි භික්ඛු උපසම්පදාව:** යනු භාග්‍යවතුන් වහන්සේගේ "එහි භික්ඛු" (මහණ මෙහි එව) යන වචන මාත්‍රයෙන් භික්ෂුභාවයට පත්වීම යි. භාග්‍යවතුන් වහන්සේ, එහි භික්ඛුභාවයට උපනිශ්‍රය සම්පත්ති ඇති යම් පුද්ගලයෙකු දැක දක්ෂිණ ශ්‍රී හස්තය දිගුකොට "**එහි භික්ඛු, චර බ්‍රහ්මචරියං සම්මා දුක්ඛස්ස අන්තකිරියාය**" (මහණ මෙහි එව, මනාව දුක් කෙළවර කිරීම පිණිස බඹසර හැසිරෙව) යනුවෙන් වදාරන සේක. භාග්‍යවතුන් වහනේසේගේ වචනයත් සමග ම ඒ පුද්ගලයාගේ ගිහි වෙස් අතුරුදන් වී පැවිද්ද ද උපසම්පදාව ද රූහනය වේ. හිස මුඬු වී කසාවත් දරන්නෙක් වේ. එක් සිවුරක් හැඳ, එක් සිවුරක් පොරවා, එක් සිවුරක් උරයේ තබා, වම් උරයේ එල්වාගත් නිලුපුල් පැහැ මැටි පාත්‍රය ඇතිව, අටපිරිකර සිරුරෙහි බහාගෙන ම, සියවස් පිරුණු තෙරුන් වහන්සේ නමක් මෙන් ඉරියාපථ සම්පන්නව, බුදුරජාණන් වහන්සේ ඇදුරුවරයාව, උන්වහන්සේ ම උපාධ්‍යායව, සම්මා සම්බුදුරජාණන් වහන්සේට වන්දනා කරමින් ම සිටියි. මෙසේ පිරිනැමෙන උපසම්පදාව 'එහි භික්ඛු' උපසම්පදාව නම් වේ.

2. **සරණාගමන උපසම්පදාව:** යනු "**බුද්ධං සරණං ගච්ඡාමි**" යනාදි ක්‍රමයෙන් තෙවරක් වාග් භේද කොට කියන ලද තිසරණගමනයෙන් උපසපන් වීම යි. භාග්‍යවතුන් වහන්සේ පළමුව භික්ෂූන් උදෙසා සරණගමන උපසම්පදාව අනුදැන වදරා ඉක්බිති "රාධ" තෙරුන් වහන්සේගේ උපසම්පදාව අරබයා එම සරණාගමන උපසම්පදාව ප්‍රතික්ෂේප කොට ඤත්තිචතුත්ථකම්ම උපසම්පදාව අනුදැන වදාළ සේක.

3. **ඔවාදපටිග්ගහණ උපසම්පදාව:** යනු මහාකාශ්‍යප මහරහතන් වහන්සේ උදෙසා "**තස්මාතිහ තෙ කස්සප එවං සික්ඛිතබ්බං....**" යනාදි ලෙස පිරිනමන ලද අවවාද පිළිගැනීම් වශයෙන් ඒ මහාකාශ්‍යප මහරහතන් වහන්සේට ම අනුදන්නා ලද උපසම්පදාව යි.

4. **පඤ්හාබ්‍යාකරණ උපසම්පදාව:** යනු සෝපාක තෙරුන් වහන්සේ උදෙසා අනුදන්නා ලද උපසම්පදාව යි. භාග්‍යවතුන් වහන්සේ පූර්වාරාමයේ සක්මන් කරමින් සිටින විට ඒ අනුව සක්මන් කරන සෝපාක සාමණේරයන් වහන්සේගෙන් "**උද්ධුමාතක සඤ්ඤාති වා සොපාක රූපසඤ්ඤාති වා...**" යනාදි ලෙස විචාළ සේක. එය

භාග්‍යවතුන් වහන්සේ අදහස් කළ ආකාරයට ම විසඳූ බැවින් බුදුරජාණන් වහන්සේ සතුටු සිතැතිව උන්වහන්සේගේ උපසම්පදාව අනුදූන වදාළ සේක.

5. **ගරුධම්මපටිග්ගහණ උපසම්පදාව:** යනු මහාප්‍රජාපතී ගෝතමිය විසින් භික්ෂුණීන් උදෙසා අනුදන්නා ලද අෂ්ට ගරුධර්ම පිළිගැනීම් වශයෙන් අනුදන්නා ලද උපසම්පදාව යි. එය ද මහාප්‍රජාපතී ගෝතමිය සඳහා පමණක් ම වේ.

6. **දූතෙන උපසම්පදාව:** යනු අඩ්ඪකාසි ගණිකාව වෙනුවෙන් අනුදන්නා ලද උපසම්පදාව යි.

7. **අට්ඨවාචික උපසම්පදාව:** යනු භික්ෂුණියක් විසින් භික්ෂුණී සංඝයා වෙතින් ඤත්තිචතුත්ථ කර්මයෙන් ද භික්ෂු සංඝයා වෙතින් ඤත්තිචතුත්ථ කර්මයෙන් ද යන මේ කර්මද්වයෙන් ලබන ලද උපසම්පදාව යි. භික්ෂුණීන් උදෙසා අනුදන්නා ලද උපසම්පදාව නම් මෙය යි.

8. **ඤත්තිචතුත්ථකම්ම උපසම්පදාව:** යනු වර්තමානයේ භික්ෂූන්ගේ උපසම්පදාව යි. එනම් එක් ඤත්තියකින් ද, අනුශ්‍රාවණ තුනකින් ද සමන්වාගත වන උපසම්පදා කර්මය වේ.

මෙහි ලා අකෝප්‍ය වූ, ශාස්තෘ ශාසනයට සුදුසු වූ ඤත්තිචතුත්ථ කර්මයෙන් උපසපන් වූ භික්ෂුව ම අදාළ කරගනුයේ සියලු සිකපද ව්‍යතික්‍රමණයන්ට පැමිණිය හැකි වූ ද සාර්වකාලික වූ ද භික්ෂූන්ගේ බහුල වශයෙනි. එහෙයින් විමතිවිනෝදනී විනය ටීකාවෙහි;

> **"ඤත්තිචතුත්ථෙන කම්මෙන උපසම්පන්නොති ඉදං පන සබ්බසික්ඛාපදවීතික්කමාරහෙ සබ්බකාලිකෙ ච භික්ඛූ ගහෙත්වා යෙභුය්‍යවසෙන වුත්තං."**
>
> (විමති, පි.110)

යැයි කියන ලදී. 'එහි භික්ඛු' උපසම්පදා ආදියෙන් උපසපන් වූ ශුද්ධ සත්ත්වයන් ද ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපදයන්ගෙන් හෝ සුරාපානාදි ලහුක ලෝකවද්‍ය ශික්ෂාපදයන්ගෙන් හෝ මාර්ගඵල ප්‍රතිලාභයට පූර්වයෙන් අසඤ්චිච්චාදි ක්‍රමයන්ගෙන් ඇවතට පත්විය හැකි වේ. එහෙයින් පරිවාරපාළියෙහි;

"**ද්වෙ පුග්ගලා අභබ්බා ආපත්තිං ආපජ්ජිතුං බුද්ධා වා පච්චෙකබුද්ධා වා. ද්වෙ පුග්ගලා භබ්බා ආපත්තිං ආපජ්ජිතුං භික්ඛූ ච භික්ඛුනියො ච**"

(පරිවා.1, පි.16)

යැයි කියන ලදී. එහෙයින් මෙහි දී ඤත්තිචතුත්ථ කර්ම උපසම්පදව ම ගැනීම බාහුල්‍ය යෙදීම් වශයෙන් බව සැලකිය යුතු. ගරුධම්ම පටිග්ගහණ උපසම්පදව මහාප්‍රජාපතී ගෝතමියට පමණක් බැවින් ද, දූතෙන උපසම්පදව අඩ්ඪකාසි ගණිකාවට පමණක් බැවින් ද, අට්ඨවාචික උපසම්පදව භික්ෂුණීන් උදෙසා බැවින් ද මෙහි සැලකිල්ලට නොගැනේ. සෙසු 'එහි භික්ඛු' ආදි උපසම්පදවන් ද වර්තමානයේ නොපැවැත්වෙන බැවින් සාර්වකාලික නො වේ. ඤත්තිචතුත්ථකම්ම උපසම්පදව ම සාර්වකාලික බැවින් මෙහි සලකන ලදී.

ඒ ඤත්තිචතුත්ථකම්ම උපසම්පද කර්මයාගේ අකෝප්‍ය භාවය ඨානාරහ භාවයත් විස්තර කරනු පිණිස ඇදුරුපාණෝ '**තස්ස පන**' යනාදිය කීහ. ඒ අනුව අකෝප්‍ය භාවය, වත්ථු ආදිය වශයෙන් සැලකිය යුතු ය.

**සඃ** තස්ස පන **කම්මස්ස,** ඒ උපසම්පද කර්මයාගේ; **වත්ථුඤත්තිඅනුසාවණසීමාපරිසසම්පත්තිවසෙන**[1], වත්ථු, ඤත්ති, අනුසාවණ, සීමා, පරිස සම්පත්ති වශයෙන්; **අකුප්පතා වෙදිතබ්බා,** අකෝප්‍ය බව දත යුතු. **තත්ථ,** එහි ලා (ඒ පස අතරින්); **වත්ථු ඉති,** 'වත්ථු' යනු; **උපසම්පදපෙක්ඛො පුග්ගලො,** උපසම්පදපේක්ෂක පුද්ගලයා වේ. **සො,** හෙතෙම; **ඌනවීසතිවස්සං පුග්ගලං**[2], උනුවිසිවස් ඇති පුද්ගලයා ය; **අන්තිමවත්ථුං අජ්ඣාපන්නපුබ්බං,** සතර පරාජිකා ඇවැතකට පෙර පැමිණිවිරූ පුද්ගලයා ය; **පණ්ඩකාදයො,** පණ්ඩක ආදි වූ; **එකාදස අභබ්බපුග්ගලෙ ච,** ඒකාදශ අභව්‍ය පුද්ගලයන් ද, **ඨපෙත්වා,** තබා (අතහැර); **වෙදිතබ්බො,** දත යුතු ය. **තත්ථ,** ඒ උපසම්පදවට අවස්තුක පුද්ගලයන් අතුරෙන්; **ඌනවීසතිවස්සො නාම,** උනුවිසිවස් ඇති තැනැත්තා නම්; **පටිසන්ධිගහණතො**[3] **පට්ඨාය,** ප්‍රතිසන්ධි ග්‍රහණයේ

---

[1] **වත්ථුඤත්තිඅනුසාවන සීමා පරිසාසම්පත්තිවසෙන.** මජසං

[2] **ඌනවීසතිවස්සං** (පුග්ගලං යන පදය දක්නට නොලැබේ). මජසං

[3] **පටිසන්ධිග්ගහණතො.** මජසං

පටන්; **අපරිපුණ්ණවීසතිවස්සො,** නො පිරිපුන් විසිවස් ඇති තැනැත්තා වේ.

- 17 -

**අන්තිමවත්‍ථුං අජ්ඣාපන්නපුබ්බො**[1] **නාම,** 'අන්තිමවත්‍ථුං අජ්ඣාපන්නපුබ්බො' නම්; **චතුන්නං පාරාජිකානං,** සතර පාරාජිකා ඇවැත් අතරින්; **අඤ්ඤතරං,** එක්තරා ඇවතකට; **අජ්ඣාපන්නපුබ්බො,** පෙර පැමිණිවිරූ පුද්ගලයා වේ. **පණ්ඩකාදයො,** පණ්ඩක ආදීහු; **වජ්ජනීයපුග්ගලකථායං වුත්තා,** වජ්ජනීය පුග්ගල කථාවෙහි කියන ලද්දාහු ය. **තෙසු,** ඔවුන් අතරින්; **ආසිත්තපණ්ඩකඤ්ච,** ආසිත්ත පණ්ඩකයා ද; **උසූයපණ්ඩකඤ්ච,** උසූයපණ්ඩකයා ද; **ඨපෙත්‍වා,** හැරපියා; **ඔපක්කමිකපණ්ඩකො,** ඔපක්කමික පණ්ඩකයා ය; **නපුංසකපණ්ඩකො,** ප්‍රතිසන්‍ධියේ පටන් ම අභව්‍යව උපන් නපුංසක පණ්ඩකයා ද; **පණ්ඩකභාවපක්ඛෙ ඨිතො,** පක්ඛපණ්ඩක තෙමේ අකුශල විපාකයෙන් මාසයේ කාළ පක්‍ෂයේ පමණක් පණ්ඩක වන බැවින් ඒ පණ්ඩක බවට පත්වන කාළ පක්‍ෂයෙහි සිටි; **පක්ඛපණ්ඩකො ච,** පක්ඛපණ්ඩකයා ද; **ඉධ අධිප්පෙතො,** මෙහි අදහස් කරන ලද පණ්ඩකයා වේ.

**ථෙය්‍යසංවාසකො පන,** ථෙය්‍යසංවාසක තෙමේ වනාහි; **ලිඞ්ගත්ථෙනකො,** ලිඞ්ගත්‍ථෙනකයා ය; **සංවාසත්ථෙනකො,** සංවාසත්ථෙනකයා ය; **උභයත්ථෙනකො ඉති,** උභයත්ථෙනකයා ය යනුවෙන්; **තිවිධො,** ත්‍රිවිධ වේ. **තත්‍ථ,** ඒ ථෙය්‍යසංවාසකයන් අතරෙහි; **යො,** යමෙක්; **සයං පබ්බජිත්‍වා,** තෙමේ ම පැවිදිව; **න භික්ඛුවස්සානි ගණෙති,** උපසපන් වූයේ මෙතෙක් කල් යැයි වස් නොගණී ද; **යථාවුඩ්ඪං**[2], වැඩිහිටි පිළිවෙළට; **භික්ඛූනං වා,** භික්‍ෂූන්ගේ හෝ; **සාමණෙරානං වා,** සාමණේරයන්ගේ හෝ; **වන්දනං න සාදියති,** වැඳීම් නොම ඉවසයි ද; **ආසනෙන න පටිබාහති,** භික්‍ෂූන් හුනස්නෙන් මේ අසුන මට පැමිණෙයි යැයි ප්‍රතිබාහනය නො කරයි ද; **උපොසථාදීසු,** පොහොය කිරීම් පවාරණ ආදි සංඝ කර්මයන්හි; **න සන්දිස්සති,** නො දක්නා ලැබේ ද *(ගණපූරක වශයෙන් නො පැමිණේ ද);* **අයං,** මේ තෙමේ; **අසුද්ධචිත්තතාය,** අපිරිසිදු සිත් ඇති බැවින්, වඤ්චා

[1] **අන්තිමවත්ථුඅජ්ඣාපන්නපුබ්බො.** මජසං
[2] **යථා වුඩ්ඪං.** බෞසංම

චිත්තයෙන් ද, නුසුදුසු බව දැනගෙන ම; **ලිඞ්ගමත්තස්සෙව ථෙනිතත්තා,** ලිඞ්ගමාත්‍රය ම සොරකම් කරන ලද බැවින්; **ලිඞ්ගත්ථෙනකො නාම,** ලිඞ්ගත්ථෙනක නම් වේ. **යො පන,** යමෙක් වනාහි; **භික්ඛූහි පබ්බජිතො**[1], භික්ෂූන් විසින් පැවිදි කරන ලදුයේ; **සාමණෙරො සමානො,** සාමණේර හිමි නමක් වූයේ; **කාසායානි අපනෙත්වා,** කසාවත් ඉවත් කොට; **තෙසු,** ඒ කසාවත් කෙරෙහි; **සඋස්සාහොව,** උත්සාහ සහිතව ම *(සොත්සාහ වැ මැ. සාලය වැ මැ යයි සේ* - **කඞ්ඛා.පි,** පි.15); **මෙථුනං ධම්මං පටිසෙවිත්වා,** මෙවුන්දම් සේවනය කොට; **පුන නිවාසෙත්වා,** නැවත කසාවත් හැඳ; **සාමණෙරභාවං පටිජානාති,** සාමණේර බව පිළින කරයි ද; **අයං,** මේ තෙමේ; **භික්ඛූහි,** භික්ෂූන් විසින්; **දින්නලිඞ්ගස්ස අපරිච්චත්තත්තා**[2], දෙන ලද ලිඞ්ගය අත් නොහළ බැවින්; **ලිඞ්ගත්ථෙනකො න,** ලිඞ්ගත්ථෙනක නො වේ. **ලිඞ්ගානුරූපස්ස සංවාසස්ස,** ලිඞ්ගයට අනුරූප වූ සංවාසය; **සාදිතත්තා,** ඉවසන ලද බැවින්; **නාපි සංවාසත්ථෙනකො,** සංවාසත්ථෙනකයා ද නො වේ ය. **අන්තිමවත්ථුං අජ්ඣාපන්නකෙපි,** පරිජි ඇවතට පත් භික්ෂුව කෙරෙහි ද; **එසෙව නයො;** මෙම ක්‍රමය ම වේ. **ච,** එසේ ම; **යො බො,** යමෙක් වනාහි; **සාමණෙරො සමානො,** සාමණේරයෙක් වූයේ; **විදෙසං ගන්ත්වා,** විදේශයකට ගොස් *(මෙය වංචා කිරීමට හැකි ස්ථානයක් දැක්වීමට කියන ලදී. ස්වදේශයේ වුව ද මෙසේ ම ය)*; **භික්ඛුවස්සානි ගණෙති,** භික්ෂු වස් ගිණී ද; **යථාවුඩ්ඪං,** වැඩිහිටි පිළිවෙළට; **වන්දනං සාදියති,** වන්දනා කිරීම් ඉවසයි ද; **ආසනෙන පටිබාහති,** භික්ෂූන් හුනස්නෙන් මේ අසුන මට පැමිණෙයි යැයි ප්‍රතිබාහනය කරයි ද (නෙරපයි ද); **උපොසථාදීසු,** පොහොය කිරීම් ආදි සංඝ කර්මයන්හි; **සන්දිස්සති,** ගණපූරක වශයෙන් පැමිණේ ද; **අයං,** මේ තෙමේ; **සංවාසමත්තස්ස එව ථෙනිතත්තා,** සංවාස මාත්‍රය ම සොරකම් කරන ලද බැවින්; **සංවාසත්ථෙනකො නාම,** සංවාසත්ථෙනක නම් වේ. **භික්ඛුවස්සගණනාදිකො හි,** භික්ෂුවස් ගිණීම් ආදි කොට ඇති; **සබ්බොපි කිරියභෙදො,** සියලු ක්‍රියා භේදය; **ඉමස්මිං අත්ථෙ,** මේ අර්ථයෙහි (මේ ථෙය්‍යසංවාස කථාවෙහි); **"සංවාසො" ඉති වෙදිතබ්බො,** සංවාසය යැයි දත යුතු ය. **සික්ඛං පච්චක්ඛාය,** සිකපද (උපසම්පදාව) ප්‍රතික්ෂේප කොට; **"න මං කොචි ජානාති" ඉති** කිසිවෙක් මාව නොදනී යැයි; **පුන,** යළි;

[1] **පබ්බාජිතො.** හෙමු
[2] **අපරිච්චත්තත්ති.** බෞසංම

**එවං පටිපජ්ජන්තෙපි**, මෙසේ (වස් ගිණීම් ආදි විධි) පිළිපදිනුයේ ද; **එසෙව නයො**, මේ ක්‍රමය ම ය. **යො පන**, යමෙක් වනාහි; **සයං පබ්බජිත්වා**, තෙමේ ම පැවිදිව; **විහාරං ගන්ත්වා**, විහාරයට ගොස්; **යථාවුඩ්ඪං**, වැඩිහිටි පිළිවෙළට; **වන්දනං සාදියති**, වැඳීම් ඉවසයි ද; **ආසනෙන පටිබාහති**, භික්ෂූන් හුනස්නෙන් මේ අසුන මට පැමිණෙයි යැයි නෙරපයි ද; **භික්ඛුවස්සානි ගණෙති**, භික්ෂුවස් ගිණයි ද; **උපොසථාදීසු සන්දිස්සති**, පොහොය කිරීම් ආදි සංඝ කර්මයන්හි ගණපූරක වශයෙන් පැමිණේ ද; **අයං**, මේ තෙමේ; **ලිඞ්ගස්ස චෙව**, ලිඞ්ගය මෙන් ම; **සංවාසස්ස ච**, සංවාසය ද; **ථෙනිතත්තා**, සොරකම් කළ බැවින්; **උභයත්ථෙනකො නාම**, උභයත්ථේනක නම් වේ. **ධුරනික්ඛෙපවසෙන**, ධුරනික්ෂේප වශයෙන්; **කාසායානි අපනෙත්වා**, කසාවත් හැරදමා; **අන්තිමවත්ථුං අජ්ඣාපජ්ජිත්වා**, පරිජි ඇවැතට පත්ව; **පුන**, නැවත; **තානි අච්ඡාදෙත්වා**, ඒවා හැඳ පෙරවා; **එවං පටිපජ්ජන්තෙ අපි**, මෙසේ වස් ගිණීම ආදි විධීන් පිළිපදිනුයේ ද; **එසෙව නයො**, මේ ක්‍රමය ම වේ. අයං, මේ; **තිවිධො අපි ථෙය්‍යසංවාසකො**, ත්‍රිවිධ වූ ම ථෙය්‍යසංවාසක තෙමේ; **ඉධ අධිප්පෙතො**, මෙහි අදහස් කරන ලදී. **ඉමං තිවිධං**, මේ ත්‍රිවිධ ථෙය්‍යසංවාසකයන්; **ඨපෙත්වා පන**, තබා (හැරපියා) වනාහි;

**"රාජදුබ්භික්ඛකන්තාර-රොගවෙරිභයෙන වා,**
**චීවරාහරණත්ථං වා, ලිඞ්ගං ආදියතීධ යො.**
**සංවාසං නාධිවාසෙති, යාව සො සුද්ධමානසො,**
**ථෙය්‍යසංවාසකො නාම, තාව එස න වුච්චති" ඉති,**

**(කඞ්ඛා, පි.17)**

(**ඉධ**, මේ ශාසනයෙහි; **යො**, යමෙක්; **රාජ-දුබ්භික්ඛ-කන්තාර-රොග-වෙරි භයෙන**, රාජභය, දුර්භික්ෂභය, කාන්තාරයකින් එතෙරවීම පිළිබඳ භය, රෝගභය, වෛරී පුද්ගලයන් පිළිබඳ භය යන භයෙන්; **වා**, නොහොත්; **චීවරාහරණත්ථං වා**, අත්හරින ලද කසාවත් විහාරයට රැගෙන යාම පිණිස හෝ; **ලිඞ්ගං ආදියති**, පැවිදි වෙස් ගනී ද; **සො**, හෙතෙම; **සුද්ධමානසො (හුත්වා)**, පිරිසිදු සිතැත්තේ වී; **යාව සංවාසං නාධිවාසෙති**, යම්තාක් වස් ගිණීම් ආදි සංවාසය නො ඉවසයි ද; **තාව**, ඒතාක්; **එසො**,

මොහු; **ථෙය්‍යසංවාසකො නාම න වුච්චති**, ථෙය්‍යසංවාසකයෙක් යැයි නො කියනු ලැබේ.) යනුවෙනි.

**යො පන**, යමෙක් වනාහි; **උපසම්පන්නො**, උපසපන් වූයේ; **තිත්ථියභාවං පත්ථයමානො**, තීර්ථක බව පතනුයේ; **සයං වා**, තෙමේ ම හෝ; **කුසචීරාදිකං**[1] **තිත්ථියලිඞ්ගං ආදියති**, කුස වැහැරි ආදි වූ තීර්ථක වෙස් ගන්නේ ද; **වා**, නොහොත්; **තෙසං සන්තිකෙ පබ්බජති**, ඔවුන් සමීපයේ පැවිදි වෙයි ද; **වා**, නොහොත්; **නග්ගො හුත්වා**, නග්නව; **ආජීවකානං සන්තිකං ගන්ත්වා**, ආජීවකයන් සමීපයට ගොස්; **තෙසං**, ඔවුන්ගේ; **වතානි ආදියති**, උත්කුටිකයෙන් හිඳීම් ආදි ව්‍රතයන් ගනියි ද; **අයං**, මේ තෙමේ; **තිත්ථියපක්කන්තකො නාම**, තිත්ථියපක්කන්තක නම් වේ. **ඨපෙත්වා පන මනුස්සජාතිකං**, මනුෂ්‍ය ජාතිකයා හැරපියා; **අවසෙසො සබ්බො අපි**, සෙසු සියල්ලෝ ම; **තිරච්ඡානගතො නාම**, තිරච්ඡානගත නම් වේ. **යෙන**, යමෙකු විසින්; **මනුස්සජාතිකා ජනෙත්තී**[2], මනුෂ්‍ය ජාතික වූ වැදූ මව; **සයම්පි මනුස්සභූතෙනෙව**, තෙමේ ද මනුෂ්‍ය වූයේ ම; **සඤ්චිච්ච**, දැන දැන ම; **ජීවිතා වොරොපිතා**, දිවියෙන් තොර කරන ලද්දේ ද; **අයං මාතුඝාතකො නාම**, මේ තෙමේ මාතෘඝාතකයා නම් වේ. **පිතුඝාතකෙ අපි**, පිතෘඝාතකයා කෙරෙහි ද; **එසෙව නයො**, මේ ක්‍රමය ම ය. **යෙන**, යමෙකු විසින්; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **ගිහිලිඞ්ගෙ ඨිතො අපි**, ගිහි ලිඞ්ගයේ (ගිහි වෙසින්) සිටියා වූ ද; **මනුස්සජාතිකො ඛීණාසවො**, මනුෂ්‍ය ජාතික ක්ෂීණාශ්‍රව රහතන් වහන්සේ නමක්; **සඤ්චිච්ච ජීවිතා වොරොපිතො**, දැන දැන දිවියෙන් තොර කරන ලද්දේ ද;

- 18 -

**අයං අරහන්තඝාතකො නාම**, මේ තෙමේ අරහන්තඝාතක නම් වේ. **යො පන**, යමෙක් වනාහි; **පකතත්තං භික්ඛුනිං**, ප්‍රකෘති (සිල්වත්) භික්ෂුණියක්; **තිණ්ණං මග්ගානං**, මෙවුන්දමට පොහෝනා තුන් මාර්ගයන් අතරින්; **අඤ්ඤතරස්මිං මග්ගෙ**, එක්තරා මාර්ගයෙක්හි; **දූසෙති**, දූෂණය කරයි ද; **අයං භික්ඛුනීදූසකො නාම**, මේ තෙමේ භික්ෂුණී දූෂක නම් වේ. **යො**, යමෙක්; **දෙවදත්තො විය**, දෙව්දත් තෙරුන් මෙන්; **සාසනං**, ප්‍රවචනය; **උද්ධම්මං උබ්බිනයං කත්වා**, ධර්මය විනය පෙරළා;

---

[1] **කුසචීවරාදිකං.** බෞසංම

[2] **ජනෙත්තී.** බෞසංම; කඞ්ඛා.ටී.; **ජනෙත්ති.** මජසං; හෙමු

**චතුන්නං කම්මානං**, අපලෝකන ආදි සිව් විනය කර්මයන් අතරින්; **අඤ්ඤතරවසෙන**, එක්තරා විනය කර්මයක් වශයෙන්; **සඞ්ඝං භින්දති**, සංඝයා බිඳුවයි ද; **අයං සඞ්ඝභෙදකො නාම**, මේ තෙමේ සංඝභේදක නම් වෙයි. **යො**, යමෙක්; **දෙවදත්තො විය**, දෙව්දත් තෙරුන් මෙන්; **දුට්ඨචිත්තෙන**, දුෂ්ට සිතින්; **වධකචිත්තෙන**, වධක සිතින්; **තථාගතස්ස ජීවමානකසරීරෙ**, තථාගතයන් වහන්සේගේ දිවමන් සිරුරෙහි; **ඛුද්දකමක්ඛිකාය පිවනමත්තම්පි**, කුඩා මැස්සකුට පියහැකි මාත්‍රයේ නමුදු; **ලොහිතං උප්පාදෙති**, ලේ උපදවයි ද; **අයං ලොහිතුප්පාදකො නාම**, මේ තෙමේ ලෝහිතුප්පාදක නම් වේ. **යස්ස**, යමෙකුට; **ඉත්ථිනිමිත්තුප්පාදනකම්මතො ච**, ස්ත්‍රී නිමිත්ත උත්පාදනය වන කර්මයෙන් ද; **පුරිසනිමිත්තුප්පාදනකම්මතො ච**, පුරුෂ නිමිත්ත උත්පාදනය වන කර්මයෙන් ද (යන); **උභයතො**[1], දෙපක්‍ෂයෙන්; **දුවිධං අපි බ්‍යඤ්ජනං අත්ථි**, ද්විප්‍රකාර වූ ම නිමිත්ත ඇත්තේ ද; **අයං උභතොබ්‍යඤ්ජනකො නාම**, මේ තෙමේ උභතෝබ්‍යඤ්ජනක නම් වේ. **ඉති**, මෙසේ; **ඉමෙ තෙරස පුග්ගලා**, මේ තෙළෙස් පුද්ගලයෝ; **උපසම්පදාය අවත්ථුකා**[2], උපසම්පදාවට අවස්තුකයහ. **ඉමෙ පන ඨපෙත්වා**, මොවුන් හැරපියා; **අඤ්ඤස්මිං උපසම්පදාපෙක්ඛෙ සති**, අන් උපසම්පදා අපේක්‍ෂකයෙක් ඇති කල්හි; **උපසම්පදාකම්මං**, උපසම්පදා කර්මය; **වත්ථුසම්පත්තිවසෙන**, වස්තු සම්පත්ති වශයෙන්; **අකුප්පං හොති**, අකෝප්‍ය වෙයි.

## පඤ්චවිධ සම්පත්ති

**49. වි:** උපසම්පදා විනය කර්මයෙහි අකෝප්‍ය භාවය පඤ්චවිධ සම්පත්ති වශයෙන් දත යුතු ය. එනම්,

1. **වස්තු සම්පත්ති**
2. **ඤත්ති සම්පත්ති**
3. **අනුශ්‍රාවණ සම්පත්ති**
4. **සීමා සම්පත්ති**
5. **පරිස සම්පත්ති**

---

[1] **උභතො.** මජසං; **උභයතො.** කඞ්ඛා.පි.

[2] **අවත්ථූ.** මජසං

## 1. වස්තු සම්පත්තිය

උපසම්පදපේක්ෂකයා වත්ථු නම් වේ. එනම් උනුවිසිවස් ඇති පුද්ගලයා ය, පරිජි ඇවැතකට පත් භික්ෂුව ය, එකොළොස් අභව්‍ය පුද්ගලයන් ය යන උපසම්පදවට අභව්‍ය පුද්ගලයන් දහතුන් (13) දෙනෙක් හැරපියා සෙසු උපසම්පදපේක්ෂකයකු සහිත වීම වස්තු සම්පත්ති වශයෙන් අකෝප්‍ය වීම නම් වේ.

**උනුවිසිවස් ඇති පුද්ගලයා** : යනු ප්‍රතිසන්ධි ගැනීමේ පටන් නොපිරුණු විසිවස් ඇති පුද්ගලයා වේ. මෙහි ප්‍රතිසන්ධි ගැනීම "**යං භික්ඛවෙ මාතුකුච්ඡිස්මිං පඨමං චිත්තං උප්පන්නං, පඨමං විඤ්ඤාණං පාතුභූතං, තදුපාදය සාවස්ස ජාති** (සම.පා, පි.642)" යනුවෙන් වදාළ බැවින් මව්කුස පිළිසිඳගත් දින වේ. එතැන් පටන් උපසපන් කිරීම දක්වා විසිවස් නොපිරුණේ වේ ද, ඒ සාමණේරයන් වහන්සේ උපසම්පද නොකළ යුතු වේ.

**අන්තිමවත්ථුං අජ්ඣාපන්නපුබ්බො** : යනු සතර පරිජි ඇවැත් අතරින් යම් ඇවැතකට පත් භික්ෂුව වේ. යම් භික්ෂුවක් පාරාජික ඇවැතකට පත් වූයේ නම් යළි උපසම්පදව ලැබීමට අභව්‍ය පුද්ගලයෙක් වේ.

මොවුන්ට අමතරව එකොළොස් පුද්ගල කෙනෙක් පැවිදි උපසම්පදව ලැබීමට අභව්‍ය වන අතර ඔවුහු ඒකාදශ අභව්‍ය පුද්ගලයෝ ලෙස හඳුන්වති.

**ඒකාදශ අභව්‍ය පුද්ගලයෝ**

(1) පණ්ඩකො
(2) ථෙය්‍යසංවාසකො
(3) තිත්ථියපක්කන්තකො
(4) තිරච්ඡානගතො
(5) මාතුඝාතකො
(6) පිතුඝාතකො
(7) අරහන්තඝාතකො
(8) භික්ඛුණීදූසකො
(9) සංඝභේදකො
(10) ලොහිතුප්පාදකො
(11) උභතොබ්‍යඤ්ජනකො

(1) **පණ්ඩකයා**: යනු ආසිත්තපණ්ඩක, උසූයපණ්ඩක, ඔපක්කමිකපණ්ඩක, පක්ඛපණ්ඩක, නපුංසක පණ්ඩක යන පස් වැදෑරුම් පණ්ඩකයෝ ය.

1. **ආසිත්තපණ්ඩක** : මොහු අනිකකුගේ අඞ්ගජාතය මුවින් ගෙන අශුචි වැගිරෙන කල සිය පරිළාහය සන්සිඳවා ගනී.

2. **උසූයපණ්ඩක** : අන් අයගේ අධ්‍යාචාරයන් දැක ඒ පිළිබඳ ඊර්ෂ්‍යාව උපන් කල්හි සිය පරිළාහය සන්සිඳවා ගනී.

3. **ඔපක්කමිකපණ්ඩක**: උපක්‍රමයෙන් බීජ ඉවත් කරන ලද පුද්ගලයා ය.
4. **පක්ඛපණ්ඩක** : ඇතැමෙක් අකුශල විපාකානුභාවයෙන් මාසයේ කාළ පක්ෂයේ පණ්ඩක වෙයි. යළි ශුක්ල පක්ෂයේ පරිළාහය සංසිඳේ. මේ තෙමේ පක්ඛපණ්ඩකයා නම් වේ.

5. **නපුංසකපණ්ඩක** : යමෙක් ප්‍රතිසන්ධියෙන් ම අභව්‍යව උපන්නේ ද හෙතෙමේ නපුංසකපණ්ඩක නම් වේ.

මෙම පස්වැදෑරුම් පණ්ඩකයන් අතරින් ආසිත්තපණ්ඩක හා උසූයපණ්ඩක යන දෙදෙනාගේ පැවිදි උපසම්පදව නොවළක්වන ලදී. ඉතිරි තිදෙනාගේ වළක්වන ලදී. ඒ අතරින් ද පක්ඛපණ්ඩකයා යම් පක්ෂයක පණ්ඩක බවට පත්වෙයි ද එම පක්ෂයේ පමණක් පැවිද්ද වාරිත වන අතර ප්‍රකෘති පක්ෂයේ පැවිදි උපසම්පදව රූහනය වේ.

(2) **ථෙය්‍යසංවාසකයා**: ලිඞ්ගත්ථේනක, සංවාසත්ථේනක, උභයත්ථේනක යනුවෙන් ථෙය්‍යසංවාසකයෝ තිදෙනෙකි.

1. **ලිඞ්ගත්ථේනක** : එනම් පැවිදි ලිඞ්ගය පමණක් සොරකම් කරන ලද තැනැත්තා වේ. යමෙක් වෙනත් භික්ෂුවක් වෙතින් සිවුරු පිරිකර පිළිගන්වා ගැනීමෙන් තොරව තෙමේ ම පැවිදිව භික්ෂු වස් ගිණීම්, වැඩිහිටි පිළිවෙළට වන්දනාදිය ඉවසීම්, තමාට අසුන පැමිණියේ යැයි අනිකකු අසුනින් නෙරපීම්, උපෝසථ, පවාරණාදි විනය කර්මයන්ට සහභාගිවීම් ආදිය නො කරයි ද හෙතෙම ලිඞ්ගය පමණක් සොරකම් කළ බැවින් ලිඞ්ගත්ථේනක නම් වේ.
2. **සංවාසත්ථේනක** : යම් සාමණේර හිමි නමක් භික්ෂුවක මෙන් වස් ගිණියි ද, වන්දනාදිය ඉවසයි ද, අසුනින් නෙරපීම් කරයි ද, උපෝසථ, පවාරණාදියෙහි සහභාගි වේ ද මේ තෙමේ ලිඞ්ගය සොරකම් නොකළ අතර සංවාස මාත්‍රය ම සොරකම් කළ බැවින් සංවාසත්ථේනක නම් වේ.

3. **උභයත්ථෙනක** : යමෙක් පැවිදි ලිඞ්ගය මෙන් ම සංවාසය ද සොරකම් කරයි ද හෙතෙමේ උභයත්ථෙනක නම් වේ. එනම් භික්ෂුවක් වෙතින් සිවුරු පිරිකර පිළිගන්වා ගැනීමෙන් තොරව තෙමේ ම පැවිදිව වස් ගිණීම් ආදිය ද සිදුකරමින් සිටීම ය.

මෙම ත්‍රිවිධ වූ ම ථෙය්‍යසංවාසක තෙමේ පැවිදි උපසම්පදාවට අභව්‍ය වේ. මෙසේ ත්‍රිවිධ ථෙය්‍යසංවාසකයන් පිළිබඳ ලක්ෂණ වශයෙන් දක්වන ලද අතර ඇතැමෙක් පැවිදි වෙස්ගත් පමණින් ථෙය්‍යසංවාසක නො වේ. ඒ බව දැක්වීමට "**රාජදුබ්භික්ඛ කන්තාර...**" යන ගාථාව තබන ලදී.

යමෙක් රාජභය හේතුවෙන් තෙමේ ම සිවුරු හැඳ පෙරවගෙන භික්ෂුවක් ලෙස පෙනී සිටී ද සංවාසය නො ඉවසයි ද රජ තෙමේ මොහු භික්ෂුවක් යැයි සිතා අභය දුන් කල පසුව පැවිදි වේ නම් පැවිදි කළ යුතු වේ. එසේ ම දුර්භික්ෂභයාදිය හේතුවෙන් ද යමෙක් තෙමේ ම පැවිදි වෙස් ගත්ත ද සංවාසය නො ඉවසයි නම් ථෙය්‍යසංවාසක නො වේ. පසුව පැවිද්ද ඉල්ලයි නම් පැවිදි කළ යුතු වේ. තව ද පැවිදිව හිඳ සිය නෑදෑ නිවසකට ගොස් සිකපද ප්‍රතික්ෂේප කොට උපැවිදිව, තමා පෙරවා සිටි සිවුරු පිරිකර ආපසු විහාරයට රැගෙන යාමට සිතන පුද්ගලයෙක් අතරමග දී සොරු ආදීන්ගෙන් විය හැකි උපද්‍රවයන් වළකාලීමට ඒ සිවුරු පිරිකර දරා පැවිදි වෙස්ගෙන ගියේ ද, විහාරයේ දී වස් ගිණීම් ආදි සංවාසය නො ඉවසන්නේ නම් ථෙය්‍යසංවාසක භාවයට නො පැමිණේ.

මේ සැම තැනක දී ම සංවාසය නොම ඉවසන පිරිසිදු චේතනා සහිත පුද්ගලයා පමණක් ම ථෙය්‍යසංවාසක භාවයෙන් මිදේ. යමෙක් අපිරිසිදු සිතින් වස් ගිණීම් ආදි සංවාසය ඉවසයි නම් හෙතෙමේ ථෙය්‍යසංවාසක බවට පත් වේ.

(3) **තිත්ථියපක්කන්තකः** යම් උපසපන් භික්ෂුවක් තීර්ථක බව පතනුයේ තෙමේ ම කුස වැහැරි හැඳීම් ආදි වූ තීර්ථක වෙස් ගනී ද නැතහොත් ඔවුන් සමීපයේ පැවිදි වෙයි ද එසේත් නැතහොත් නග්නව ආජීවකයන් සමීපයට ගොස් ඔවුන්ගේ ව්‍රත සමාදන් වෙයි ද හෙතෙම තිත්ථියපක්කන්තක නම් වේ. හුදෙක් ඔවුන් වෙත ගිය පමණින් තිත්ථියපක්කන්තක නොවන අතර ඔවුන්ගේ ලබ්ධි ගැනීමෙන් ම තිත්ථියපක්කන්තක වේ. සාමණේර හිමි නමක් මෙසේ තීර්ථක ලබ්ධි

ගැනීම මීට අයත් නොවන අතර යළි පැමිණියහොත් පැවිදි කළ හැකි වේ. යමෙක් මෙය මට හොබනේ ද යැයි බැලීම පිණිස තීර්ථකයන්ගේ කුස වැහැරි ආදිය හඳියි ද ඔවුන්ගේ ලබ්ධි නොගනී නම් රැකේ. ලබ්ධිය පිළිගත් මාත්‍රයෙන් තිත්ථියපක්කන්තක වේ.

(4) **තිරච්ඡානගත**: මිනිස් ජාතික වූවෙක් හැරපියා සෙසු නාග, සුපර්ණ, යක්ඛ, ගන්ධබ්බ ආදි වූ සියල්ලෝ ම තිරිසන්ගත ලෙස හැඳින්වේ.

(5) **මාතුඝාතක** : යමෙක් මනුෂ්‍ය වූ සිය මව ඝාතනය කරන්නේ ද මාතුඝාතක නම් වේ. අමනුෂ්‍ය මව ඝාතනය කිරීම ආනන්තර්ය පාප කර්මයක් නොවන බැවින් එබඳු අයෙකු හට පැවිද්ද වාරිත නො වේ.

(6) **පිතුඝාතකො** : යමෙක් මනුෂ්‍ය වූ සිය පියා ඝාතනය කරන්නේ ද හෙතෙමේ පිතුඝාතක නම් වේ. මව මැරීම මෙන් ම වේ.

(7) **අරහන්තඝාතකො** : යමෙක් යටත් පිරිසෙයින් ගිහි වෙසින් වුව සිටින්නා වූ මනුෂ්‍ය ක්ෂීණාශ්‍රව රහතන් වහන්සේ නමක් ඝාතනය කරන්නේ නම් හෙතෙම අරහන්තඝාතක නම් වේ.

(8) **භික්ඛුනීදූසකො** : යමෙක් ප්‍රකෘතියෙන් සිල්වත් භික්ෂුණියක මෙවුන්දමට පොහෝනා තුන් මාර්ගයන් අතරින් එක්තරා මාර්ගයක වශයෙන් දූෂණය කරයි ද ඒ භික්ෂුණී දූෂකයා පැවිද්දට අභව්‍ය වේ.

(9) **සඞ්ඝභෙදකො** : යමෙක් අටළොස් භේදකර වස්තූන්ගෙන් යම් වස්තුවක් ගෙන එමඟින් සංඝයාගේ පක්ෂයක් ලැබ අපලෝකනකම්ම, ඤත්තිකම්ම, ඤත්තිදුතියකම්ම, ඤත්තිචතුත්ථකම්ම යන සිව් විනය කර්මයන් අතරින් එකක් එක් සීමාවක සිට වෙනම ම සිදුකිරීම් වශයෙන් සංඝභේදය කරන්නේය. එයින් ආනන්තර්ය අකුශල කර්මය වන අතර පැවිද්දට අභව්‍ය වේ.

(10) **ලෝහිතුප්පාදකො** : යමෙක් ද්වේෂයෙන් දූෂිත වූ වධක චේතනාවෙන් ම ජීවමාන තථාගතයන් වහන්සේගේ ශරීරයේ කුඩා මැස්සෙකුට පිය හැකි ප්‍රමාණයේ නමුදු ලෙහෙ උපදවයි ද, හෙතෙමේ ලෝහිතුප්පාදක නම් වේ.

(11) **උභතොබ්‍යඤ්ජනකො** : පුරුෂ නිමිත්ත සහ ස්ත්‍රී නිමිත්ත යන ද්විප්‍රකාර වූ ම නිමිති ඇති පුද්ගලයා උභතොබ්‍යඤ්ජනක නම් වේ.

මෙම තෙළෙස් (13) පුද්ගලයෝ උපසම්පදාවට අවස්තුක වන අතර මෙම පුද්ගලයන් හැරපියා අන් උපසම්පදාපේක්ෂකයෙක් ඇති කල්හි උපසම්පද කර්මය **වස්තු සම්පත්ති** වශයෙන් අකෝප්‍ය වේ.

මෙසේ වස්තු සම්පත්ති වශයෙන් හෙවත් උපසම්පදාපේක්ෂක පුද්ගලයාගේ වශයෙන් උපසම්පද විනය කර්මයේ අකෝප්‍ය බව දක්වා අනතුරුව **ඤත්තිසම්පත්ති** වශයෙන් අකෝප්‍ය බව දක්වනු වස් '**කථං ඤත්තිසම්පත්තිවසෙන**' යනාදිය කියන ලදී.

**සඃ ඤත්තිසම්පත්තිවසෙන**, ඤත්තිසම්පත්ති වශයෙන්; **කථං**, කෙසේ නම්; **අකුප්පං හොති?**, අකෝප්‍ය වේ ද? යත්; **තාව**, පළමුකොට; **වත්ථුසඞ්ඝපුග්ගලඤත්තීනං අපරාමසනානි**, වස්තු, සංඝ, පුද්ගල, ඤත්ති යන මේවායේ පරමාර්ශනය නොකිරීම් ය (නොකීම් ය); **පච්ඡා ඤත්තිට්ඨපනඤ්ච ඉති**, පච්ඡාඤත්තිඨපනය හෙවත් කර්ම වාක්‍ය පළමුව නිමවා පසුව ඤත්තිය තැබීම ද යන; **ඉමෙ පඤ්ච**, මේ පස; **ඤත්තිදොසා**, ඤත්ති දෝෂයෝ ය. **තත්ථ**, ඒ ඤත්ති දෙෂයන් අතරින්; '**අයං ඉත්ථන්නාමො' ඉති**, මේ තෙමේ මෙනම් ඇත්තා යැයි; **උපසම්පදාපෙක්ඛස්ස අකිත්තනං**, උපසම්පදාපේක්ෂකයාගේ (නම) නො ඇස්සවීම; **වත්ථුඅපරාමසනං නාම**, වත්ථු අපරාමසනය නම් වේ. '**සුණාතු මෙ, භන්තෙ, සඞ්ඝො' ඉති එත්ථ**, 'සුණාතු මෙ, භන්තෙ, සඞ්ඝො' යන මෙහි; '**සුණාතු මෙ, භන්තෙ' ඉති වත්වා**, 'සුණාතු මෙ භන්තෙ' යැයි කියා; '**සඞ්ඝො' ඉති අගහණං**[1], 'සඞ්ඝො' යන්න නොගැනීම (නොකීම); **සඞ්ඝඅපරාමසනං නාම**, සංඝ අපරාමසනය නම් වේ. '**ඉත්ථන්නාමස්ස උපසම්පදාපෙක්ඛො' ඉති**, 'මෙනම් ඇත්තාහුගේ උපසම්පද අපේක්ෂකයා' යැයි; **උපජ්ඣායස්ස අකිත්තනං**, උපාධ්‍යයන් වහන්සේගේ (නම) නො ඇස්සවීම; **පුග්ගලඅපරාමසනං නාම**, පුග්ගල අපරාමසනය නම් වේ. **සබ්බෙන සබ්බං**, සියල්ලෙන් සියල්ල; **ඤත්තියා අනුච්චාරණං**, ඤත්තිය උච්චාරණය නොකිරීම; **ඤත්තිඅපරාමසනං නාම**, ඤත්ති අපරාමසනය නම් වේ. **පඨමං කම්මවාචං නිට්ඨාපෙත්වා**, පළමුව කර්ම වාක්‍යය නිමවා; '**එසා ඤත්ති' ඉති වත්වා**, 'එසා ඤත්ති' යැයි කියා; '**ඛමති සඞ්ඝස්ස' ඉති එවං**, 'ඛමති සඞ්ඝස්ස' යැයි මෙසේ; **ඤත්තිකිත්තනං**, ඤත්ති කීර්තනය; **පච්ඡාඤත්තිට්ඨපනං නාම**, පච්ඡාඤත්තිඨපනය නම් වේ. **ඉති**, මෙසේ; **ඉමෙහි දොසෙහි**, මේ

[1] **අභණනං**, මජසං

දෝෂයන්ගෙන්; **විමුත්තාය ඤත්තියා සම්පන්නං,** මිදුණා වූ ඤත්තියෙන් යුතු වූයේ; **ඤත්තිසම්පත්තිවසෙන,** ඤත්තිසම්පත්ති වශයෙන්; **අකුප්පං හොති,** අකෝප්‍ය වෙයි.

## 2. ඤත්ති සම්පත්තිය

**50. වි:** ඤත්තිසම්පත්ති වශයෙන් උපසම්පද කර්මයේ අකෝප්‍ය භාවය නම් ඤත්තිදෝෂ පස (05) කින් විනිර්මුක්ත වීම යි.

ඤත්ති දෝෂ 05

1. **වත්ථුඅපරාමසන** - එනම් උපසම්පදපෙක්‍ෂකයාගේ නම ඤත්තියෙහි නොකීම යි. '**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො, අයං ධම්මරක්ඛිතො ආයස්මතො බුද්ධරක්ඛිතස්ස උපසම්පදපෙක්ඛො**' යැයි කිව යුතු තැන **ධම්මරක්ඛිතො** යන නම නොකියා හැරීම යි.
2. **සඞ්ඝඅපරාමසන** - 'සඞ්ඝො' යන්න නොකියා හැරීම යි. එනම් '**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො**' යැයි කිව යුතු තැන 'සඞ්ඝ' පදය නොකියා '**සුණාතු මෙ භන්තෙ, අයං ධම්මරක්ඛිතො....**' යනාදි ලෙස කීම ය.
3. **පුග්ගලඅපරාමසන** - උපාධ්‍යායන් වහන්සේගේ නම නොකියා හැරීම යි. '**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො, අයං ධම්මරක්ඛිතො ආයස්මතො බුද්ධරක්ඛිතස්ස උපසම්පදපෙක්ඛො**' යනුවෙන් කිවයුතු තැන '**ආයස්මතො බුද්ධරක්ඛිතස්ස**' යන්න නොකීම යි.
4. **ඤත්තිඅපරාමසන** - සියල්ලෙන් සියල්ල ඤත්තිය නොකියා හැරීම යි. එනම් කර්ම වාක්‍යය පමණක් ම සතර වරක් කීම යි.
5. **පච්ඡාඤත්තිඨපන** - එනම් පළමුව කර්ම වාක්‍යය කියා ඉක්බිති එසා ඤත්ති යැයි ඤත්තිය තැබීම යි. විනය කර්මයේ ඤත්තිය පළමුව තබා අනතුරුව අනුශ්‍රාවණ වශයෙන් කර්ම වාක්‍ය කිව යුතු අතර මෙම පිළිවෙළ වරදවා කීම මින් අදහස් වේ.

මෙම පඤ්චවිධ දෝෂයන්ගෙන් මිදුණු ඤත්තියකින් යුතු බව ඤත්තිසම්පන්න බව නම් වේ. මෙසේ ඤත්ති සම්පන්නභාවය දක්වා තදනන්තරව අනුශ්‍රාවණ වශයෙන් විනය කර්මයේ අකෝප්‍ය භාවය දක්වනු පිණිස '**අනුසාවණවසෙන**' යනාදිය කියන ලදී.

**සඃ අනුසාවණවසෙන අකුප්පතාය අපි**, අනුශ්‍රාවණ වශයෙන් *(කර්‍ම වාක්‍ය වශයෙන්* - **කඞ්ඛා.පි,** පි.16) අකෝප්‍ය බවෙහි ද; **වත්‍ථුසඞ්ඝපුග්ගලානං අපරාමසනානි**, වස්තු, සංඝ, පුද්ගල යන මේවායේ පරාමර්ශනය නොකිරීම් ය; **සාවණාය හාපනං**, සාවණ හාපනය ය; **අකාලෙ සාවණං ඉති**, අකාලසාවණය යන; **ඉමෙ පඤ්ච අනුස්සාවනදෙසා**, මේ පඤ්ච ප්‍රකාර අනුශ්‍රාවණ දෝෂයෝ ය. **තත්‍ථ**, ඒ පඤ්චවිධ අනුශ්‍රාවණ දෝෂයන් අතරින්; **වත්‍ථාදීනං**, වස්තු ආදීන්ගේ; **අපරාමසනානි**, පරාමර්ශනය නොකිරීම්; **ඤත්තියං වුත්තසදිසානි එව**, ඤත්තියෙහි කියන ලද්ද හා සමාන ම ය. **තීසු පන අනුස්සාවණාසු**, තුන් අනුශ්‍රාවණයන්හි; **යත්‍ථ කත්‍ථචි**, යම්කිසි තැනෙක; **එතෙසං**, මේ වාක්‍යාදීන්ගේ; **අපරාමසනං**, පරාමර්ශනය නොකිරීමක් වේ ද; **අපරාමසනං එව** අපරාමර්ශනයක් ම වේ. **සබ්බෙන සබ්බං පන**, සියල්ලෙන් සියල්ල; **කම්මවාචං අවත්‍වා**, කර්ම වාක්‍යය නොකියා; **චතුක්ඛත්තුං**, සතර වරක්; **ඤත්තිකිත්තනමෙව**, ඤත්ති කීර්තනය ම; **අථ වා පන**, නැතහොත්; **කම්මවාචාබ්භන්තරෙ**, කර්ම වාක්‍ය අභ්‍යන්තරයේ; **අක්ඛරස්ස වා**, අක්‍ෂරයකගේ හෝ; **පදස්ස වා**, පදයකගේ හෝ; **අනුච්චාරණං වා**, උච්චාරණය නොකිරීම හෝ; **දුරුච්චාරණං වා**, නොමනා ලෙස උච්චාරණය කිරීම හෝ; **සාවණාය**[1] **හාපනං නාම**, සාවණ හාපනය නම් වේ. **සාවණාය අනොකාසෙ**, ශ්‍රාවණයට නුසුදුසු අවකාශයේ (හෙවත් වැරදි අවස්ථාවේ); **පඨමං ඤත්තිං අට්ඨපෙත්‍වා**, පළමුව ඤත්තිය නොතබා; **අනුසාවණකරණං**[2], අනුශ්‍රාවණය කිරීම; **අකාලෙ සාවණං නාම**, නොකල්හි ශ්‍රාවණය (අකාල සාවණය) නම් වේ. **ඉති**, මෙසේ; **ඉමෙහි දෙසෙහි**, මේ දෝෂයන්ගෙන්; **විමුත්තාය අනුසාවණාය**[3], විනිර්මුක්ත වූ අනුශ්‍රාවණයාගෙන්; **සම්පන්නං**, යුක්ත විනය කර්මය; **අනුසාවණසම්පත්තිවසෙන**[4], අනුශ්‍රාවණ සම්පත්ති වශයෙන්; **අකුප්පං හොති**, අකෝප්‍ය වෙයි. **පුබ්බෙ වුත්තං**, පෙර කියන ලද; **විපත්තිසීමාලක්ඛණං**, විපත්ති සීමා ලක්‍ෂණය; **සමතික්කන්තාය පන සීමාය**, සමතික්‍රමණය කරන ලද සීමාවක (විපත් සීමා ලක්‍ෂණ විනිර්මුක්ත වූ සීමාවක); **කතං**, කරන ලද විනය කර්මය;

---

[1] **සාවනාය.** මජසං

[2] **අනුස්සාවනකරණං.** මජසං

[3] **අනුස්සාවනාය.** මජසං

[4] **අනුස්සාවනසම්පත්තිවසෙන.** මජසං

**සීමාසම්පත්තිවසෙන අකුප්පං හොති,** සීමා සම්පත්ති වශයෙන් අකෝප්‍ය වෙයි.

## 3. අනුශ්‍රාවණ සම්පත්තිය

**51. වි:** උපසම්පද විනය කර්මයෙහි අකෝප්‍ය භාවය අනුශ්‍රාවණ සම්පත්ති වශයෙන් ද විය යුතු. එනම් පඤ්චවිධ අනුශ්‍රාවණ දෝෂයන්ගෙන් විනිර්මුක්ත වීම යි.

1. **වත්ථු අපරාමසන**
2. **සඞ්ඝ අපරාමසන**
3. **පුග්ගල අපරාමසන**

   මේ තුන ඉහත ඤත්ති දෝෂයන්හි කියූ පරිද්දෙන් ම වේ. එහි දී තුන් අනුශ්‍රාවණයන්හි ම යම් තැනක මේ කිසිවක් පරාමර්ශනය නො වේ නම් එය අපරාමර්ශනයක් ම වේ.

4. **සාවණහාපන** - එනම් සියල්ලෙන් සියල්ල කර්ම වාක්‍ය නොකියා සිව්වරක් ඤත්ති තැබීම හෝ කර්ම වාක්‍ය අභ්‍යන්තරයේ අක්ෂරයක හෝ පදයක හෝ උච්චාරණය නොකිරීමක් හෝ වැරදි ලෙස උච්චාරණය කිරීමක් වේ.
5. **අකාලසාවණ** - එනම් අනුශ්‍රාවණය සඳහා නුසුදුසු අවස්ථාවේ අනුශ්‍රාවණය කිරීම යි. හෙවත් පළමුව තැබිය යුතු ඤත්තිය නොතබා අනුශ්‍රාවණය කිරීම අකාලසාවණ නම් වේ.

මෙම දෝෂ පසෙන් විනිර්මුක්ත වූ අනුශ්‍රාවණයකින් යුතු විනය කර්මය අනුශ්‍රාවණ සම්පත්ති වශයෙන් අකෝප්‍ය වූයේ නම් වේ. මෙසේ අනුශ්‍රාවණ සම්පත්ති වශයෙන් ද උපසම්පද විනය කර්මයාගේ අකෝප්‍ය බව දක්වා අනතුරුව සීමා සම්පත්ති, පරිස සම්පත්ති යනාදිය දක්වනු පිණිස '**පුබ්බෙ වුත්තං**' යැයි කියන ලදී.

## 4. සීමා සම්පත්තිය

ඉහත සඳහන් කරන ලද ආකාරයට විපත්ති සීමා ලක්ෂණවලින් විනිර්මුක්ත වූ සීමාවක විනය කර්මය කිරීම යි. එවිට සීමා සම්පත්තියෙන් අකෝප්‍ය වූයේ නම් වේ.

**සඃ යාවතිකා භික්ඛූ**, යම් පමණ භික්ෂූහු; **කම්මප්පත්තා**, ඒක කර්ම ප්‍රාප්ත ද; **තෙසං අනාගමනං**, ඔවුන්ගේ නොපැමිණීම ය; **ඡන්දරහානං ඡන්දස්ස අනාහරණං**, ඡන්දරහ භික්ෂූන්ගේ ඡන්දය රැගෙන නොඒම ය; **සම්මුඛීභූතානං**, සම්මුඛීභූත භික්ෂූන්ගේ; **පටික්කොසනං ඉති**, ප්‍රතික්‍රෝෂණය (වැළැක්වීම) යන; **ඉමෙ පන තයො**, මේ තුන්දෙන; **පරිසා දෙසා**, පරිස දෝෂයෝ ය. **තෙහි විමුත්තාය**, ඒ පරිස දෝෂයන්ගෙන් මිදුණා වූ; **පරිසාය**, පිරිසෙක්හි; **කතං**, කරන ලද විනය කර්මය; **පරිසසම්පත්තිවසෙන**[1], පරිස සම්පත්ති වශයෙන්; **අකුප්පං හොති**, අකෝප්‍ය වෙයි.

- 19 -

**කාරණාරහත්තා පන**, කාරණයට (භාග්‍යවතුන් වහන්සේගේ වචනයට) සුදුසු බැවින්; **සත්ථු සාසනාරහත්තා**, ශාස්තෘ ශාසනයට සුදුසු බැවින්; **ඨානාරහං නාම හොති**, ස්ථානාර්හ (ඨානාරහං) නම් වෙයි. **ඉති**, මෙසේ; **යො**, යමෙක්; **ඉමිනා**, මේ; **එවං අකුප්පෙන ඨානාරහෙන**, මෙසේ අකෝප්‍ය වූ ස්ථානාර්හ (ඨානාරහං) වූ; **ඤත්තිචතුත්ථෙන උපසම්පදකම්මෙන**, ඤත්තිචතුත්ථ උපසම්පද කර්මයෙන්; **උපසම්පන්නො**, උපසපන් වූයේ ද; **අයං**, මේ තෙමේ; **ඉධ**, මේ සිකපදයෙහි ලා; **භික්ඛු ඉති අධිප්පෙතො**, භික්ඛු යන්නෙන් අදහස් වේ. **පණ්ණත්තිවජ්ජෙසු පන**, ප්‍රඥප්තිවද්‍ය ශික්ෂාපදයන්හි වනාහි; **අඤ්ඤෙපි**, අන් 'එහි භික්ඛු උපසම්පද' ආදියෙන් උපසපන් භික්ෂූහු ද; **සඞ්ගහං ගච්ඡන්ති**, සංග්‍රහයට යත්.

## 5. පරිස සම්පත්තිය

**52. විඃ** ත්‍රිවිධ පරිස දෝෂයන්ගෙන් තොර වීම පරිස සම්පත්ති වශයෙන් විනය කර්මය අකෝප්‍ය වීම නම් වේ. එනම්,

1. යම්තාක් භික්ෂූහු ඒ උපෝසථ කර්මයට කර්මප්‍රාප්ත ද එපමණක් භික්ෂූහු එක් සීමාවක අත්පස නොහැර සිටිය යුතු ය.
2. එක් සීමාවෙක්හි සිටින සෙසු සමාන සංවාසක භික්ෂූහු සියලු දෙනා ඡන්දයට සුදුසු බැවින් ඒ අයගේ ඡන්දය රැගෙන පැමිණිය යුතු ය.

---

[1] **පරිසාසම්පත්තිවසෙන**. මඡසං

3. අත්පසට පැමිණි සම්මුඛීභූත භික්ෂූන්ගේ ප්‍රතික්‍රෝෂණය හෙවත් විනය කර්මය වැළැක්වීමක් නොසිදුවිය යුතු ය.

**'ඨානාරහෙන' (ස්ථානාර්හ භාවය)**: ඤත්තිචතුත්ථ කර්ම වාක්‍ය සංඛ්‍යාත භාග්‍යවතුන් වහන්සේගේ වචනය උපසම්පද කර්මයට හේතුව/නිමිත්ත හෙවත් කාරණය බැවින් ඨානං (ස්ථානය) නම් වේ. එකී ඨානයට සුදුසු බැවින් වත්ථු දෝෂාදියෙන් විනිර්මුක්ත වූ කර්ම වාක්‍යය ඨානාරහ (ස්ථානාර්හ) නම් වේ. නැතහොත් ශික්ෂාත්‍රය සංගෘහිත ශාසනය නිර්වාණාධිගමය පිණිස හේතු වන බැවින් ඨානං නම් වේ. ඊට සුදුසු වූ කර්මය ඨානාරහ නම් වේ. එහෙයින් **'කාරණාරහත්තා පන සත්ථු සාසනාරහත්තා ඨානාරහං නාම හොති'** යැයි කියන ලදී.

මෙසේ අකෝප්‍ය වූ, ස්ථානාර්හ වූ ඤත්තිචතුත්ථ කර්මයෙන් උපසපන් භික්ෂුව මෙම පාරාජික සිකපදයෙහි ලා **"භික්ඛු"** යැයි අදහස් වේ. වැලිදු ප්‍රඥප්තිවද්‍ය සිකපදයන්හි ලා 'එහි භික්ඛු උපසම්පදව' ආදියෙන් උපසපන් භික්ෂූහු ද සංගෘහිතයහ.

මෙසේ පළමු පරිජි සිකපදයේ එන **භික්ඛු** ශබ්දය විග්‍රහ කරන බුදුගොස් ඇදුරුපාණෝ ඉක්බිති සෙසු පද වර්ණනා කරමින් '**භික්ඛූනං සික්ඛාසාජීවසමාපන්නො**' යනාදිය ඇරඹූහ.

**සඃ භික්ඛූනං සික්ඛාසාජීවසමාපන්නො ඉති**, යනු; **භික්ඛූනං**, භික්ෂූන්ගේ; **අධිසීලසඞ්ඛාතා යා සික්ඛා**, අධිශීල සංඛ්‍යාත වූ යම් ශික්ෂාවක් වෙයි ද; **තඤ්ච**, ඒ ශික්ෂාව ද; **ච**, එසේ ම; **යත්ථ**, යම් සාජීවයෙක්හි; **එතෙ**, ඒ භික්ෂූහු; **සහ ජීවන්ති**, එක්ව දිවිගෙවත් ද; **එකාජීවිකා**[1], එක ම දිවිපැවැත්මක් ඇත්තාහු; **සභාගවුත්තිනො හොන්ති**, සමාන පැවතුම් ඇත්තාහු වෙත් ද; **භගවතා**, භාග්‍යවතුන් වහන්සේ විසින්; **පඤ්ඤත්තසික්ඛාපදසඞ්ඛාතං**, පනවන ලද ශික්ෂාපද සංඛ්‍යාත; **තං සාජීවඤ්ච**, ඒ සාජීවය ද; **තත්ථ (තෙසු)**, ඒ අධිශීල ශික්ෂාව සහ සාජීවය යන දෙකෙහි; **සික්ඛනභාවෙන**, හික්මීමෙන්; **සමාපන්නොති**, මොනවට පැමිණියේ නු යි; **භික්ඛූනං සික්ඛාසාජීවසමාපන්නො**, 'භික්ඛූනං සික්ඛාසාජීවසමාපන්නො' නම් වේ. **සික්ඛං පරිපූරෙන්තො**, ශික්ෂාව පරිපූරණය කරනුයේ *(නොකළ යුත්ත දුරුකිරීම්, කළ යුත්ත කිරීම්*

---

[1] **එකජීවිකා.** මජසං

*වශයෙන් චාරිත්‍ර-වාරිත්‍ර සංඛ්‍යාත දෙවැදෑරුම් ශීලය පරිපූරණය කරනුයේ යන අර්ථය යි. අකත්තබ්බපරිවජ්ජනකත්තබ්බකරණවසෙන චාරිත්තවාරිත්තසඞ්ඛාතං දුවිධං සීලං පරිපූරෙන්තොති අත්ථො, චාරිත්තසීලවසෙන විරතිසම්පයුත්තචෙතනං, චාරිත්තසීලවසෙන විරතිවිප්පයුත්තචෙතනඤ්ච අත්තනි වත්තෙන්තොති වුත්තං හොති. -* **කඞ්ඛා.ටී,** පිටු.51-52); **සාජීවඤ්ච අවීතික්කමන්තො හුත්වා,** සාජීවය ද නො ඉක්මවන්නේ වී; **තදුභයං උපගතො ඉති අත්ථො,** ඒ දෙකට පැමිණියේය යන අර්ථය යි *(ශික්ෂාපදයන් ද නොමඩින්නේ ශීල සංවරය ද, සාජීවය නොඉක්මවීම ද යන මේ දෙදෙනා ම මෙහි සමාපජ්ජනය නම් වේ යනු අභිප්‍රාය යි. මෙහි සාජීවය නොඉක්මවීම ශික්ෂාපද පරිපූරණය පිණිස ප්‍රත්‍යය වේ. එය නොඉක්මවීම මාර්ගක්ෂණයේ ශික්ෂා පරිපූරණය දක්වා වේ. තව ද මෙහි 'සික්ඛං පරිපූරෙන්තො' යන්නෙන් විශේෂයෙන් විරති චේතනා සංඛ්‍යාත ශීල සංවරය සන්තානයේ පවත්නා කාලය ම ගන්නා ලදී. 'අවීතික්කමන්තො' යන්නෙන් නොපවත්නා කාලය ද ගන්නා ලදී. ශික්ෂාව පරිපූරණය කිරීම් වශයෙන් තමා කෙරෙහි පවත්වනුයේ ද නිද්‍රාදි වශයෙන් නොපවත්වනුයේ ද ව්‍යතික්‍රමණ අභාවයෙන් ශික්ෂණ වශයෙන් සමාපන්නො යැයි කියනු ලැබේ. සික්ඛාපදඤ්ච අමද්දන්තො, සීලසංවරණං, සාජීවානතික්කමනඤ්චාති ඉදමෙව ද්වයං ඉධ සමාපජ්ජනං නාමාති අධිප්පායො. තත්ථ සාජීවානතික්කමො සික්ඛාපාරිපූරියා පච්චයො. තස්සානතික්කමනතො හි යාව මග්ගා සික්ඛා පරිපූරති. අපි චෙත්ථ 'සික්ඛං පරිපූරෙන්තො'ති ඉමිනා විරතිචෙතනාසඞ්ඛාතස්ස සීලසංවරස්ස විසෙසතො සන්තානෙ පවත්තනකාලොව ගහිතො, 'අවීතික්කමන්තො'ති ඉමිනා පන අප්පවත්තනකාලොපි. සික්ඛං හි පරිපූරණවසෙන අත්තනි පවත්තෙන්තොපි නිද්දදිවසෙන අප්පවත්තෙන්තොපි වීතික්කමාභාවා සික්ඛනවසෙන සමාපන්නොති වුච්චති. -* **කඞ්ඛා.ටී,** පි.52).

**සික්ඛං අපච්චක්ඛාය දුබ්බල්‍යං අනාවීකත්වා**[1] **ඉති,** යනු; **යං සික්ඛං සමාපන්නො,** යම් ශික්ෂාවකට මොනවට පැමිණියේ ද; **තං අපටික්ඛිපිත්වා,** ඒ ශික්ෂාව ප්‍රතික්ෂේප නොකොට; **ච,** එසේ ම; **යං සාජීවං සමාපන්නො,** යම් සාජීවයකට මොනවට පැමිණියේ ද; **තස්මිං,** ඒ

---

[1] **අනාවිකත්වා.** මජසං

සාජීවයෙහි; **දුබ්බලභාවං අප්පකාසෙත්වා,** දුර්වල බව ප්‍රකාශ නොකොට (යන්න යි). **තත්ථ,** ඒ ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානයෙහි ලා; **චිත්තඛෙත්තකාලප්පයොගපුග්ගලවිජානනවසෙන,** චිත්ත, ඛෙත්ත, කාල, ප්‍රයෝග, පුද්ගල, විජානන වශයෙන්; **සික්ඛාය,** ශික්ෂාවෙහි; **පච්චක්ඛානං ඤත්වා,** ප්‍රත්‍යාඛ්‍යානය දැන; **තදභාවෙන,** එය අභාවයෙන්; **අපච්චක්ඛානං වෙදිතබ්බං,** ප්‍රත්‍යාඛ්‍යානය නොකිරීම දත යුතු. **කථං?** කෙසේ ද යත්; **උපසම්පන්නභාවතො,** උපසපන් බවින්; **චවිතුකාමතාචිත්තෙන එව හි,** චුතවනු කැමති සිතෙන් ම; **සික්ඛාපච්චක්ඛානං හොති,** ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය වේ. **දවා භණන්තස්ස වා,** වහා කියන්නහුට හෝ *(දවාති සහසා* - **කඞ්ඛා.ටී, පි.52**); **රවා භණන්තස්ස වා,** වරදවා කියන්නහුට හෝ; **න,** ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය නො වේ. **එවං,** මෙසේ; **චිත්තවසෙන,** චිත්ත වශයෙන්; **සික්ඛාපච්චක්ඛානං හොති,** ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **න තදභාවෙන,** ඒ අභාවයෙන් නො වේ.

**තථා,** එසේ ම; **බුද්ධං පච්චක්ඛාමි,** බුදුන් වහන්සේ ප්‍රතික්ෂේප කරමි; **ධම්මං පච්චක්ඛාමි,** ධර්මරත්නය ප්‍රතික්ෂේප කරමි; **සඞ්ඝං පච්චක්ඛාමි,** සංඝරත්නය ප්‍රතික්ෂේප කරමි; **සික්ඛං,** ශික්ෂාව; **විනයං,** විනය; **පාතිමොක්ඛං,** ප්‍රාතිමෝක්ෂය; **උද්දෙසං,** උද්දේසය; **උපජ්ඣායං,** උපාධ්‍යයන් වහන්සේ; **ආචරියං,** ආචාර්යයන් වහන්සේ; **සද්ධිවිහාරිකං,** සද්ධිවිහාරිකයන් වහන්සේ; **අන්තෙවාසිකං,** අන්තේවාසිකයන් වහන්සේ; **සමානුපජ්ඣායකං,** සමානුපාධ්‍යායකයන් වහන්සේ; **සමානාචරියකං,** සමානාචාර්යයන් වහන්සේ; **සබ්‍රහ්මචාරිං,** සබ්‍රහ්මචාරීන් වහන්සේ; **පච්චක්ඛාමි ඉති,** ප්‍රතික්ෂේප කරමි යැයි; **එවං වුත්තානං,** මෙසේ කියන ලද; **බුද්ධාදීනං චතුද්දසන්නං**[1], බුද්ධාදි තුදුස් දෙනා අතරින්; **ගිහීති මං ධාරෙහි,** මා ගිහියෙකු යැයි දරව; **උපාසකො,** උපාසකයෙක්; **ආරාමිකො,** ආරාමිකයෙක්; **සාමණෙරො,** ශ්‍රාමණේරයෙක්; **තිත්ථියො,** තීර්ථකයෙක්; **තිත්ථියසාවකො,** තිර්ථක ශ්‍රාවකයෙක්; **අස්සමණො,** අශ්‍රමණයෙක්; **අසක්‍යපුත්තියො ඉති,** අශාක්‍යපුත්‍රයෙක් යැයි; **මං ධාරෙහි ඉති,** මාව දරව යැයි; **එවං වුත්තානං ගිහි ආදීනං,** මෙසේ කියන ලද ගිහි ආදි; **අට්ඨන්නඤ්ච ඉති,** අටදෙනා අතරින් ද යන; **ඉමෙසං ද්වාවීසතියා ඛෙත්තපදානං,** මේ දෙවිසි ක්ෂේත්‍රපද අතරින්; **යස්ස**

---

[1] **චුද්දසන්නං,** මජසං

**කස්සචි**, යම්කිසි; **සවෙවචනස්ස වසෙන**, වේවචන හෙවත් පර්යාය වචන සහිත පදයකගේ වශයෙන්; **තෙසු**, ඒවා අතරින්; **යං කිඤ්චි වත්තුකාමස්ස**, යම් කිසිවක් කියනු කැමැත්ත ඇතිව; **යං කිඤ්චි වදතො**, යම් කිසිවක් කියන්නහුට; **සික්ඛාපච්චක්ඛානං හොති**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය වේ. **රුක්ඛාදීනං**, වෘක්ෂ ආදීන් අතරින්; **අඤ්ඤතරස්ස නාමං ගහෙත්වා**, එක්තරා දෙයක නම ගෙන; **පච්චාචික්ඛන්තස්ස**, ප්‍රත්‍යාඛ්‍යානය කරන්නා හට; **න (සික්ඛාපච්චක්ඛානං න හොති)**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය නො වේ. **එවං**, මෙසේ; **ඛෙත්තවසෙන**, ඛෙත්ත (ක්ෂේත්‍රය) වශයෙන්; **පච්චක්ඛානං හොති**, ප්‍රත්‍යාඛ්‍යානය වේ. **තදභාවෙන න**, ඒ ක්ෂේත්‍රයාගේ අභාවයෙන් ප්‍රත්‍යාඛ්‍යානය නො වේ.

**තත්‍ථ**, ඒ ප්‍රත්‍යාඛ්‍යානයෙහි ලා; **යං එතං**, යම් ඒ; **"පච්චක්ඛාමි" ඉති ච**, "ප්‍රත්‍යාඛ්‍යානය කරමි" යැයි ද; **"මං ධාරෙහි" ඉති ච**, මා දරව යැයි ද; **වුත්තං වත්තමානකාලවචනං**, කියන ලද වර්තමාන කාල වචනය; **අලං මෙ බුද්ධෙන**, මට බුදුරජාණන් වහන්සේගෙන් කම් නැත; **කිං නු මෙ බුද්ධෙන**, මට බුදුරජාණන් වහන්සේගෙන් කවර වැඩක් ද; **න මමත්‍ථො බුද්ධෙන**, මට බුදුරජාණන් වහන්සේගෙන් අර්ථයක් (ප්‍රයෝජනයක්) නැත; **සුමුත්තොහං**[1] **බුද්ධෙන**, මම බුදුරජාණන් වහන්සේගෙන් මනාව මිදුණෙමි; **ඉති ආදිනා නයෙන**, යනාදි ක්‍රමයෙන්; **ආඛ්‍යාතවසෙන**, ආඛ්‍යාත වශයෙන්; **කාලං අනාමසිත්වා**, කාලය ආමර්ශනය නොකොට; **පුරිමෙහි චුද්දසහි පදෙහි සද්ධිං**, පෙර කියන ලද තුදුස් පදයන් සමඟ; **යොජෙත්වා**, යොද; **වුත්තානි**, කියන ලද; **'අලං මෙ' ඉති ආදිනි**, 'අලං මෙ' යන ආදි; **යානි චත්තාරි පදනි**, යම් සතර පදයෝ ද; **තෙසං එව**, ඒ පදයන්ගේ ම; **සවෙවචනානං වසෙන ච**, වේවචන (පර්යාය වචන) සහිත පදයන්ගේ වශයෙන් ද; **පච්චක්ඛානං හොති**, ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **"පච්චක්ඛාසිං" ඉති වා**, 'පච්චක්ඛාසිං' යැයි හෝ; **"පච්චක්ඛිස්සං" ඉති වා**, 'පච්චක්ඛිස්සං' යැයි හෝ; **"මං ධාරෙසි" ඉති වා**, මා දරුවේ යැයි හෝ; **"ධාරෙස්සති**[2]**" ඉති වා**, දරන්නේ යැයි හෝ; **"යන්නූනාහං**[3] **පච්චක්ඛෙය්‍යං" ඉති වා**, "ප්‍රත්‍යාඛ්‍යානය කරන්නෙම් නම් යෙහෙකි" යැයි හෝ; **ඉති ආදිනි අතීතානාගතපරිකප්පවචනානි**, මේ ආදි අතීත, අනාගත, පරිකල්පන

---

[1] **සුමුත්තාහං.** මජසං; කඞ්ඛා.ටී.

[2] **මං ධාරෙස්සති.** මජසං

[3] **යංනූනාහං.** මජසං

වචනයන්; **භණන්තස්ස න**, කියන්නහුට ප්‍රත්‍යාඛ්‍යානය නො වේ. **එවං**, මෙසේ; **වත්තමාන කාලවසෙන චෙව**, වර්තමානකාල වශයෙන් මෙන් ම; **අනාමට්ඨකාලවසෙන ච**, ආමර්ශනය නොකරන ලද කාල වශයෙන් ද; **පච්චක්ඛානං හොති**, ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **තදභාවෙන න**, එබඳු වර්තමාන කාල වශයෙන් හෝ අනාමර්ශන කාල වශයෙන් හෝ නො වන්නේ නම් ප්‍රත්‍යාඛ්‍යානය නො වේ.

**පයොගො පන**, ප්‍රයෝගය වනාහි; **කායිකො ච**, කායික ප්‍රයෝගය ද; **වාචසිකො ච**, වාචසික ප්‍රයෝගය ද (යනුවෙන්); **දුවිධො**, ද්විවිධ වේ. **තත්‍ථ**, එහි ලා; **"බුද්ධං පච්චක්ඛාමි" ඉති ආදිනා නයෙන**, "බුද්ධං පච්චක්ඛාමි" යන ආදි ක්‍රමයෙන්; **යාය කායචි භාසාය**, යම්කිසි භාෂාවකින්; **වචීභෙදං කත්‍වා**, වාග් භින්දනය කොට; **වාචසිකපයොගෙන එව**[1], වාචසික ප්‍රයෝගයෙන් ම; **පච්චක්ඛානං හොති**, ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **අක්ඛරලිඛනං වා**, අකුරු ලිවීම හෝ; **හත්‍ථමුද්දාදිනිදස්සනං**[2] **වා**, හස්ත මුද්‍රාදි නිදර්ශනයක් හෝ; **කායප්පයොගං**[3] **කරොන්තස්ස**, කාය ප්‍රයෝගයක් කරන්නහුට; **න**, ප්‍රත්‍යාඛ්‍යානය නො වේ. **එවං**, මෙසේ; **වාචසිකපයොගෙන එව**[4], වාචසික ප්‍රයෝගයෙන් ම; **පච්චක්ඛානං හොති**, ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **තදභාවෙන න**, එබඳු වාග් ප්‍රයෝගයකගේ අභාවයෙන් ප්‍රත්‍යාඛ්‍යානය නො වේ.

**පුග්ගලො පන**, පුද්ගල තෙමේ වනාහි; **යො ච පච්චක්ඛාති**, යමෙක් ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද; **යස්ස ච පච්චක්ඛාති**, යමෙකුට ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද (යනුවෙන්); **දුවිධො**, දෙවැදෑරුම් වේ. **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් පුද්ගලයන් අතරින්; **යො පච්චක්ඛාති**, යමෙක් ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද, **සො**, හෙතෙමේ; **සචෙ**, ඉදින්; **උම්මත්තඛිත්තචිත්තවෙදනට්ටානං**[5], උමතු, වික්ෂිප්ත සිතැති, වේදනාවෙන් පෙළුණු අය අතරින්; **අඤ්ඤතරො න හොති**, එක්තරා අයෙක් නො වෙයි ද; (එසේ ම) **යස්ස පන පච්චක්ඛාති**, යමෙකුට ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද; **සො**, හෙතෙමේ;

---

[1] **වාචසිකප්පයොගෙනෙව**. මජසං

[2] **හත්ථමුද්දාදි නිදස්සනං**. බෞසංම; **හත්ථමුද්දාදිදස්සනං**. මජසං

[3] **කායපයොගං**. බෞසංම

[4] **වාචසිකප්පයොගෙනෙව**. මජසං

[5] **උම්මත්තකඛිත්තචිත්තවෙදනාට්ටානං**. මජසං

**සචෙ**, ඉදින්; **මනුස්සජාතිකො හොති**, මනුෂ්‍ය ජාතිකයෙක් වෙයි ද; **ච**, එසේ ම; **උම්මත්තකාදීනං**[1], උමතු අය ආදීන් අතරින්; **අඤ්ඤතරො න**, එක්තරා අයෙක් නො වෙයි ද; **ච**, එසේ ම; **සම්මුඛීභූතො**, සම්මුඛීභූත වෙයි ද (හමු වූයේ වෙයි ද); **සික්ඛාපච්චක්ඛානං හොති**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **අසම්මුඛීභූතස්ස**, සම්මුඛ නොවූවකුට; **දූතෙන**[2] **වා**, දූතයකු ලවා හෝ; **පණ්ණෙන වා**, හසුනකින් (ලිපියකින්) හෝ, **ආරොචනං න හි රුහති**[3], ආරෝචනය රුහනය නො වේ. **එවං**, මෙසේ; **යථාවුත්තපුග්ගලවසෙන**, කියන ලද ආකාරයේ පුද්ගලයන්ගේ වශයෙන්; **පච්චක්ඛානං හොති**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **තදභාවෙන න**, එබඳු පුද්ගලයකුගේ අභාවයෙන් ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය නො වේ. **විජානනං අපි**, විජානනය ද; **නියමිත අනියමිතවසෙන**, නියමිත අනියමිත වශයෙන්; **දුවිධං**, දෙවැදෑරුම් වේ. **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් විජානනයන් අතරින්; **යස්ස වා**, යමෙකුට හෝ; **යෙසං වා**, යම් කෙනෙකුන්ට හෝ; **නියමෙත්‍වා**, නියම කොට; **ඉමස්ස වා**, මොහුට හෝ; **ඉමෙසං වා**, මොවුන්ට හෝ; **ආරොචෙමි ඉති**, සැලකරමි යැයි; **වදති**, කියයි ද; **සචෙ**, ඉදින්; **තෙ**, ඔවුහු; **යථා**, යම් සේ; **පකතියා**, ප්‍රකෘතියෙන්; **ලොකෙ මනුස්සා**, ලෝකයේ මිනිස්සු; **වචනං සුත්‍වා**, වචනය අසා; **ආවජ්ජනසමයෙ**, ආවර්ජනය කරන වේලේ; **ජානන්ති**, දැනගනිත් ද; **එවං**, මෙසේ; **තස්ස වචනානන්තරං එව**, ඔහුගේ වචනයට අනතුරුව ම; **තස්ස**, ඔහුට; **අයං**, මේ තෙමේ; **උක්කණ්ඨිතො ඉති වා**, සසුනෙන් නො ඇළුණේ යැයි හෝ; **ගිහීභාවං**[4] **පත්‍ථයති ඉති වා**, ගිහි බව ප්‍රාර්ථනා කරයි යැයි හෝ; **යෙන කෙනචි ආකාරෙන**, යම්කිසි ආකාරයකින්; **සික්ඛාපච්චක්ඛානභාවං**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යාන භාවය; **ජානන්ති**, දනිත් ද; **සික්ඛා**, ශික්ෂාව (උපසපම්දාව); **පච්චක්ඛාතාව හොති**, ප්‍රත්‍යාඛ්‍යානය කරන ලද්දේ ම වෙයි. **අථ**, තව ද; **අපරභාගෙ**, පසුව; **ඉමිනා**, මේ (ශ්‍රවණය කරන්නා) විසින්; **කිං වුත්තං ඉති**, කුමක් කියන ලද්දේ දැයි; **චින්තෙත්‍වා**, සිතා; **ජානන්ති**, දැනගනිත් ද; **අඤ්ඤෙ වා**, අන් අය හෝ; **ජානන්ති**, දැනගනිත් ද; **සික්ඛා**, ශික්ෂාව; **අපච්චක්ඛාතා එව**

---

[1] **උම්මත්තාදීනං**. කඩ්ඛා.පි.

[2] **දූතෙන**. බෞසංම

[3] **රුහති**. මජසං; බෞසංම

[4] **ගිහීභවං**. හෙමු

**හොති**, ප්‍රත්‍යාඛ්‍යානය නොකරන ලද්දේ ම වෙයි. **අනියමෙත්වා**, නියම නොකොට; **ආරොචෙන්තස්ස පන**, ආරෝචනය කරන්නහුට වනාහි; **සචෙ** ඉදින්; **වුත්තනයෙන**, යථෝක්ත ක්‍රමයට ම ('තස්ස වචනානන්තරමෙව' යනාදි ලෙස කිවූ ක්‍රමයට ම); **යො කොචි මනුස්සජාතිකො**, යම්කිසි මනුෂ්‍ය ජාතික පුද්ගලයෙක්; **වචනත්ථං ජානාති**, වචනාර්ථය දනී ද; **සික්ඛා**, ශික්ෂාව; **පච්චක්ඛාතා එව හොති**, ප්‍රත්‍යාඛ්‍යානය කරන ලද්දේ ම වෙයි. **එවං**, මෙසේ; **විජානනවසෙන**, විජානන වශයෙන්; **පච්චක්ඛානං හොති**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය වෙයි. **තදභාවෙන**, එසේ කියූ ආකාරයෙන් විජානනය අභාවයෙන්; **න (හොති)**, ප්‍රත්‍යාඛ්‍යානය නො වේ. **යො පන** යම් භික්ෂුවක් වනාහි; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **දවාය'පි පචච්ක්ඛාති**, අනෙකක් කියනු කැමැත්තේ වහා 'බුද්ධං පච්චක්ඛාමි' යැයි ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද *(දවායාති සහසා අඤ්ඤං භණිතුකාමො සහසා බුද්ධං පච්චක්ඛාමීති භණති* - **සම.පා, පි.182)**; **තෙන**, එය කරණකොටගෙන; **සික්ඛා**, ශික්ෂාව; **අපච්චක්ඛාතා එව හොති**, ප්‍රත්‍යාඛ්‍යානය නොකරන ලද්දේ ම වෙයි. **ඉති**, මෙසේ; **ඉමෙසං**[1] **වුත්තප්පකාරානං චිත්තාදීනං වා**[2] **වසෙන**, මේ කියන ලද චිත්ත ආදි ආකාරයන්ගේ වශයෙන්; **වා**, නොහොත්; **සබ්බසො අපච්චක්ඛානෙන පන**, සියලු ආකාරයන්ගෙන් ප්‍රත්‍යාඛ්‍යානය නොකිරීමෙන් වනාහි; **සික්ඛං අපච්චක්ඛාය**, ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය නොකොට; **සික්ඛාය පච්චක්ඛානස්ස එව**[3], ශික්ෂාව ප්‍රත්‍යාඛ්‍යානය කිරීමගේ ම; **අත්ථභූතං**, අර්ථය වන; **එකච්චං දුබ්බල්‍යං**, ඇතැම් දුබල බැව්; **අනාවීකත්වා**[4], හෙළි නොකොට (යන අර්ථය යි).

**53. වි:** 'භික්ඛූනං සික්ඛාසාජීවසමාපන්නො' යන්නෙහි භික්ෂූන්ගේ අධිශීල සංඛ්‍යාත ප්‍රාතිමෝක්ෂ සංවර ශීලය '**සික්ඛා**' නම්. සියලු භික්ෂූහු සමාන ලෙස එක ම දිවිපෙවෙතක් ගතකරන්නා වූ මාතිකා ආදි භේද ඇති ප්‍රඥප්ති '**සාජීවය**' නම්. ඒ ශික්ෂාවෙහිත්, සාජීවයෙහිත් යන දෙකෙහි ම මොනවට පැමිණියේ '**සික්ඛාසාජීවසමාපන්නො**' නම් වේ.

---

[1] **ඉමෙයං.** බෞසංම

[2] **චිත්තාදීනංව.** හෙමු

[3] **සික්ඛං පච්චක්ඛානස්සෙව.** බෞසංම; **සික්ඛාපච්චක්ඛානස්සෙව ච.** මජසං

[4] **අනාවිකත්වා.** මජසං

## ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය

'**සික්ඛං අපච්චක්ඛාය දුබ්බල්‍යං අනාවිකත්‍වා**' යන්නෙන් 'අධිශීල සංඛ්‍යාත ශික්‍ෂාව හෙවත් උපසපන් බව ප්‍රතික්‍ෂේප නොකොට, සාජීවයෙහි හෙවත් පනවන ලද සිකපදයන්හි හික්මීමෙහි දුබල බව ප්‍රකාශ නොකොට' යන අදහස වේ. මෙහි ලා පළමු කොට සිකපද ප්‍රතික්‍ෂේපයෙහි චිත්ත, ඛෙත්ත, කාල, ප්‍රයෝග, පුද්ගල, විජානන වශයෙන් විනිශ්චය දත යුතු වේ.

(1) **චිත්තවසෙන** : උපසපන් බවින් චුතවනු කැමැති සිතින් ම සිකපද ප්‍රතික්‍ෂේපය සිදුවිය යුතු වේ. දවා භණනයෙන් (වහා කීම) හෙවත් අනෙකක් කියනු කැමතිව වහා "බුධං පච්චක්ඛාමි" යැයි කීමෙන් හෝ රවා භණනයෙන් (වරදවා කීමෙන්) හෙවත් නුවණ මඳ බැවින් මුළා බැවින් පැකිළෙමින් කියන්නහුගේ අනෙකක් කියමි'යි සිතා වරදවා "බුධං පච්චක්ඛාමි" යැයි කීමෙන් හෝ ශික්‍ෂාපද ප්‍රත්‍යාඛ්‍යානය නො වේ.

(2) **ඛෙත්තවසෙන** : ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය ක්‍ෂේත්‍ර වන පදයන්ගේ වශයෙන් ම ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය සිදුවිය යුතු වේ. 'බුද්ධං පච්චක්ඛාමි' (බුදුරජාණන් වහන්සේ ප්‍රතික්‍ෂේප කරමි) යනාදි ප්‍රතික්‍ෂේප කිරීමේ ආකාරයෙන් ඇති පද තුදුසක් ද, 'ගිහීති මං ධාරෙහි' (මාව ගිහියෙක් යැයි දරාගනුව) යනාදි ලෙස පවත්නා තත්ත්වයේ වෙනසක් අපේක්‍ෂා කරන පද අටක් ද යි ක්‍ෂේත්‍ර පද දෙවිස්සක් (22) අතරින් කවර හෝ පදයකින් ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය සිදුවේ.

**ප්‍රතික්‍ෂේප කිරීමේ ආකාරයෙන් ඇති බුද්ධාදි තුදුස් (14) පද**

1. බුද්ධං පච්චක්ඛාමි - බුදුරජාණන් වහන්සේ ප්‍රතික්‍ෂේප කරමි.
2. ධම්මං පච්චක්ඛාමි - ධර්මරත්නය ප්‍රතික්‍ෂේප කරමි.
3. සඞ්ඝං පච්චක්ඛාමි - සංඝරත්නය ප්‍රතික්‍ෂේප කරමි.
4. සික්ඛං පච්චක්ඛාමි - ශික්‍ෂාව ප්‍රතික්‍ෂේප කරමි.
5. විනයං පච්චක්ඛාමි - විනය ප්‍රතික්‍ෂේප කරමි.
6. පාතිමොක්ඛං පච්චක්ඛාමි - ප්‍රාතිමෝක්‍ෂය ප්‍රතික්‍ෂේප කරමි.
7. උද්දෙසං පච්චක්ඛාමි - උද්දේසය ප්‍රතික්‍ෂේප කරමි.
8. උපජ්ඣායං පච්චක්ඛාමි - උපාධ්‍යායන් වහන්සේ ප්‍රතික්‍ෂේප කරමි.

9. ආචරියං පච්චක්ඛාමි - ආචාර්යයන් වහන්සේ ප්‍රතික්ෂේප කරමි.
10. සද්ධිවිහාරිකං පච්චක්ඛාමි - සද්ධිවිහාරිකයා ප්‍රතික්ෂේප කරමි.
11. අන්තෙවාසිකං පච්චක්ඛාමි - අතවැසියා ප්‍රතික්ෂේප කරමි.
12. සමානුපජ්ඣායකං පච්චක්ඛාමි - සමානුපාධ්‍යායකයා ප්‍රතික්ෂේප කරමි.
13. සමානාචරියකං පච්චක්ඛාමි - සමානාචරියකයා ප්‍රතික්ෂේප කරමි.
14. සබ්‍රහ්මචාරිං පච්චක්ඛාමි - සබ්‍රහ්මචාරීන් වහන්සේ ප්‍රතික්ෂේප කරමි.

**'ගිහී'ති මං ධාරෙහි' ආදි පද අට**

1. ගිහී'ති මං ධාරෙහි - මාව ගිහියෙක් ලෙස දරාගනීවා.
2. උපාසකො'ති මං ධාරෙහි - උපාසකයෙක් ලෙස දරාගනීවා.
3. ආරාමිකො'ති මං ධාරෙහි - ආරාමිකයෙක් ලෙස දරාගනීවා.
4. සාමණෙරො'ති මං ධාරෙහි - සාමණේරයෙක් ලෙස දරාගනීවා.
5. තිත්ථියො'ති මං ධාරෙහි - තීර්ථකයෙක් ලෙස දරාගනීවා.
6. තිත්ථියසාවකො'ති මං ධාරෙහි - තීර්ථක ශ්‍රාවකයෙක් ලෙස දරාගනීවා.
7. අස්සමණො'ති මං ධාරෙහි - අශ්‍රමණයෙක් ලෙස දරාගනීවා.
8. අසක්‍යපුත්තියො'ති මං ධාරෙහි - අශාක්‍යපුත්‍රයෙක් ලෙස දරාගනීවා.

මෙම දෙවිසි පදයන් අතරින් කිසියම් පදයකින් හෝ ඊට පර්යාය වචනයකින් ප්‍රකාශ කිරීමෙන් ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය සිදුවේ.

(3) **කාලවසෙන :** කාල වශයෙන් වනාහි වර්තමාන කාලයෙන් හෝ කාලයක් නොම පහසා හෝ පැවසීමෙන් ම ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය වේ. ඒ අනුව 'බුද්ධං පච්චක්ඛාමි' යැයි වර්තමාන කාල වශයෙන් හෝ 'අලම්මෙ බුද්ධෙන' යනාදි ලෙස කාලයක් නොම පහසා කරනු ලැබීමෙහි ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය සිදුවේ. 'පච්චක්ඛාසිං', 'පච්චක්ඛිස්සං' යනාදි අතීත හෝ අනාගතකාල ආඛ්‍යාතයකින් කරනු ලබන ප්‍රත්‍යාඛ්‍යානය නො සිදුවේ.

(4) **පයොගවසෙන**: කායික, වාචසික ප්‍රයෝගයන් අතරින් ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය වාචසිකව ම සිදුවේ. අකුරු ලිවීමක් හෝ හස්ත මුද්‍රාදි කායික ප්‍රයෝගයකින් හෝ ප්‍රත්‍යාඛ්‍යානය නො වේ.

(5) **පුග්ගලවසෙන**: පුද්ගලයා දෙයාකාර වේ. එනම් යමෙක් ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද හෙතෙමේ (ප්‍රත්‍යාඛ්‍යානය කරන්නා) සහ යමෙකුට ප්‍රත්‍යාඛ්‍යානය කරයි ද හෙතෙමේ (ප්‍රත්‍යාඛ්‍යානය පිළිගන්නා) වශයෙනි. එහි දී ප්‍රත්‍යාඛ්‍යානය කරන භික්‍ෂුව උම්මත්තක, ඛිත්තචිත්ත, වෙදනට්ඨ යන අය අතරින් අයෙක් නොවිය යුතු ය. එසේ ම ප්‍රත්‍යාඛ්‍යානය පිළිගන්නා භික්‍ෂුව ද එසේ ම උමතු ආදි නොවූ මනුෂ්‍ය ජාතික වූ, සම්මුඛයේ සිටි අයෙක් විය යුතු ය. මනුෂ්‍යයකු හැර දිව්‍ය, යක්‍ෂ ආදි අන් කිසිවකුට ප්‍රත්‍යාඛ්‍යානය කිරීම නො සිදුවේ. එසේ ම සම්මුඛයේ සිටින්නකුට ම ප්‍රත්‍යාඛ්‍යානය කළ යුතු අතර අසම්මුඛයේ සිටින්නකුට දූතයෙකු ලවා හෝ ලිපි ආදිය මගින් හෝ කරනු ලබන ප්‍රත්‍යාඛ්‍යානය නො සිදුවේ.

(6) **විජානනවසෙන**: විජානනය ද නියමිත අනියමිත වශයෙන් දෙපරිදි වේ. යම් පුද්ගලයකුට හෝ පිරිසකට හෝ නියම කොට කියයි ද ඒ පුද්ගලයා ඇසූ වචනය ආවර්ජනය කරන සමයෙහි 'මෙම භික්‍ෂුව සසුනෙහි කළකිරී පැවිද්දෙන් චුතව ගිහි වීමට කැමැත්තේය' යැයි දැනගනී ද ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය කරන ලද්දේ වේ. එසේ නො දැනගෙන පසුව කල්පනා කොට දැනගැනීමෙන් ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය නො සිදුවේ. එසේ ම යම් පුද්ගලයකුට නියම නොකොට (අනියමිතව) කවරෙකු හෝ මනුෂ්‍ය ජාතිකයෙක් දැනගනීවා යැයි ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය කළ කල්හි කවර හෝ මනුෂ්‍ය ජාතිකයෙක් ඒ වචනාර්ථය දනී ද ශික්‍ෂා ප්‍රත්‍යාඛ්‍යානය සිදුවේ.

**සෘ: මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය ඉති එත්ථ**, 'මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය' යන මෙහි; **මෙථුනධම්මං**[1] **ඉති**, 'මෙථුනධම්මං' යනු; **රාගපරියුට්ඨානෙන**, රාගයාගේ මැඬීමෙන්; **සදිසානං උභින්නං**, සාදෘශ්‍ය වූ දෙදෙනෙකුගේ (ස්ත්‍රී පුරුෂ දෙදෙනෙකුගේ); **ධම්මං**, අධ්‍යාචාරය (හැසිරීම) යි. **පතිසෙවෙය්‍ය ඉති**, 'පතිසෙවෙය්‍ය' යනු; **සෙවෙය්‍ය**, සේවනය කරන්නේය; **අජ්ඣාපජ්ජෙය්‍ය**, අභිබවා හැසිරෙන්නේය. **අන්තමසො ඉති**, 'අන්තමසො' යනු; **සබ්බන්තිමෙන**

---

[1] **මෙථුනං ධම්මං.** මජසං

**පරිච්ඡෙදෙන**, සියල්ලට යටත් පිරිසෙයින් යන්න යි. **තිරච්ඡානගතාය'පි ඉති**, 'තිරච්ඡානගතායපි' යනු; **පටිසන්ධිවසෙන**, ප්‍රතිසන්ධි වශයෙන්; **තිරච්ඡානෙසු**, තිරිසනුන් කෙරෙහි; **ගතාය අපි**, උපන්නා වූ මාගමක් සමඟ ද (යන්න යි). **එත්ථ**, මෙහි ලා; **අයං**, මේ; **අනුපඤ්ඤත්ති**[1], අනුප්‍රඥප්තිය යි. **පාරාජිකො හොති ඉති**, 'පාරාජිකො හොති' යනු; **පරාජිතො හොති**, පැරදුණේ වෙයි. **පරාජයමාපන්නො**, පැරදීමට පැමිණියේ වෙයි.

**අසංවාසො ඉති**, 'අසංවාසො' යනු; **පකතත්තා භික්ඛූ**, ප්‍රකෘති භික්ෂූහු; **සහවසන්ති එත්ථ ඉති**, මෙහි එකට වසත් නු යි (එසේ හෙයින්); **එකකම්මාදිකො**[2], එකං කම්මං, එකුද්දෙසො, සමසික්ඛතා යන; **තිවිධො**[3], ත්‍රිවිධ වූ; **සංවාසො**, සංවාසය යි. **සො**, ඒ සංවාසය; **තෙන සද්ධිං**, ඔහු සමඟ; **නත්ථි ඉති**, නැත්තේ නු යි; **අසංවාසො**, අසංවාස නම් වේ. **සඞ්ඝකම්මෙසු හි**, සංඝ කර්මයන්හි වනාහි; **එස**, මේ පරිජි වූ භික්ෂු තෙමේ; **ගණපූරකො අපි න හොති**, ගණපූරකයෙක් ද නො වෙයි. **තාව**, පළමු කොට; **අයං**, මේ; **පදවණ්ණනා**, පද වර්ණනාව යි.

**54. වි:** 'මෙථුනං ධම්මං': රාගය නැඟී සිටීමෙන් හෙවත් රාගයෙන් මැඬගැනීම හේතුවෙන් සමානාධ්‍යාශ ඇති ස්ත්‍රී පුරුෂ දෙදෙනෙකුගේ අධ්‍යාචාරය හෙවත් ලාමක හැසිරීම **මෛථුන ධර්මය** නම් වේ. පදභාජනියෙහි;

> **"යො සො අසද්ධම්මො ගාමධම්මො වසලධම්මො දුට්ඨුල්ලං ඔදකන්තිකං රහස්සං ද්වයංද්වයසමාපත්ති, එසො මෙථුනධම්මො නාම."** (පාරා, පි.66)
>
> (යම් ඒ අසද්ධර්මයක් වේ ද, ග්‍රාම්‍ය හෙවත් ගම්වැසියන්ගේ ධර්මයක් වේ ද වසලයන්ගේ ස්වභාවයක් වේ ද කෙලෙසුන්ගෙන් දූෂිත බවක් වේ ද දිය කිසෙන් අවසන් කළ යුත්තක් වේ ද රහසින් කටයුත්තක් වේ ද දෙදෙනෙකු විසින් සමවැදිය යුතු කටයුත්තක් වේ ද මේ මෛථුන ධර්මය නම් වේ.)

යැයි එහි ස්වභාව වශයෙන් වදාළ සේක.

---

[1] **අනුප්පඤ්ඤත්ති**. හෙමු; බෞසංම; අනුපඤ්ඤත්ති. මඡසං

[2] **එකකම්මාදිකොව**. මඡසං

[3] **තිවිධොපි විධි සංවාසො**. මඡසං

**'පතිසෙවෙය්‍ය': 'පතිසෙවෙය්‍යා'ති සෙවෙය්‍ය අජ්ඣාපජ්ජෙය්‍ය'** යැයි කියූ බැවින් උක්ත රහස්‍ය කර්මය හෙවත් අධ්‍යාචාරය සේවනය කිරීම, අභිබවා හැසිරීම 'පතිසේවනය' නම් වේ. යථා ස්වභාව වශයෙන් ගත් කල 'පුරුෂ නිමිත්තෙන් ස්ත්‍රී නිමිත්ත ද ස්ත්‍රී නිමිත්තෙන් පුරුෂ නිමිත්ත ද යටත් පිරිසෙයින් එක් තලැටක් පමණකුදු ප්‍රකෘති වාතයෙන් ස්පර්ශ නොකළ තෙත් ප්‍රදේශයෙහි පිවිසුවයි' නම් එය පතිසේවනය නම් වේ. එහෙයින් මෙසේ කියන ලදී. පදභාජනියෙහි;

> **"පතිසෙවති නාම යො නිමිත්තෙන නිමිත්තං අඞ්ගජාතෙන අඞ්ගජාතං අන්තමසො තිලඵලමත්තම්පි පවෙසෙති, එසො පතිසෙවති නාම."** (පාරා, පි.66)

**'අන්තමසො තිරච්ඡානගතායපි'** යනුවෙන් මෙම මෛථුන්දම් පරිජිය මිනිස් මාගමක් සමග පමණක් නොව යටත් පිරිසෙයින් තිරිසන්ගත මාගමක් සමඟ වුව ද පැමිණෙන බව පනවා වදාළ සේක. මෙය මෙම සිකපදයේ අනුප්‍රඥප්ති යි. එසේ තිරිසන්ගත ස්ත්‍රිය සැලකීමේ දී සියලු තිරිසන්ගත ස්ත්‍රීන් පාරාජිකාවට වස්තු නොවන අතර එහි පිරිසිඳීම සමන්තපාසාදිකා විනයට්ඨකථාවේ මෙසේ සඳහන් වේ.

> **"අපදානං අහිමච්ඡා - ද්විපදානඤ්ච කුක්කුටී**
> **චතුප්පදානං මජ්ජාරී - වත්ථු පාරාජිකස්සිමා'ති."** **(සම.පා, පි.185)**

ඒ අනුව තිරිසන්ගත වූවන් අතරින් අපා (පා නැති) සත්ත්ව පිරිසිඳීම සර්ප සහ මත්ස්‍යයින්ගෙන් වේ. එබැවින් දීර්ඝ ජාතික සත්ත්වයන් අතරින් මුඛ මාර්ගය, වර්චස් මාර්ගය, පස්සාව (මූත්‍ර) මාර්ගය යන තුන් මාර්ග අතරින් යමක පුරුෂ අඞ්ගජාතය තලඇට මාත්‍රයකුදු පිවිසිය හැකි වේ ද එම සත්ත්වයා පාරාජිකාවට වස්තු වේ. සෙසු ඊට කුඩා සත්ත්වයන් දුකුළා වස්තු යැයි දත යුතු. මත්ස්‍ය ග්‍රහණයෙන් සියලු දියෙහි වසන සත්ත්වයන් සංග්‍රහ වන අතර එහි දී ද පාරාජික වස්තු, දුකුළා වස්තු කියූ ක්‍රමයෙන් ම දත යුතු ය. එහි දී බරඞ්බමුඛ නම් මැඩියෙක් වන අතර ඌගේ මුව සටහන මහත් වුවත් මුව සිදුර කුඩා වේ. පිවිසුමට නොහැකි වේ. එබැවින් මුව සටහන ව්‍රණ සංක්ෂේපයෙන් ථුල්ලැසි වස්තුවක් වේ. දෙපා සත්ත්වයන් අතරින් කිකිළිය පරිජියට වස්තු වන බව පැවසෙන අතර එයින් කපුටු පරෙවි ආදි භේද ඇති සියලු පක්ෂීන් සංගෘහිත වේ. එහි ද යට කියූ ක්‍රමයෙන් ම පුරුෂ අඞ්ගජාතය තලඇට මාත්‍රයකුදු පිවිසුවීමට ප්‍රමාණවත් වන සත්ත්වයන්

පාරාජිකාවට වස්තු වේ. සෙසු ඊට කුඩා සත්ත්වයෝ දුකුළා වස්තු වෙති. සිවුපා සතුන්ගේ පිරිසිඳීම බැළලියගෙන් වන අතර එහි ලා ද සියලු ගස්බලු (වානර), මුගටි, ගොයි ආදි භේද ඇති සිවුපා සතුන් සංගෘහිත බව සැලකිය යුතු. එහි ලා කියූ ආකාරයෙන් ම පාරාජික වස්තු හා දුකුළා වස්තු දත යුතු වේ.

'**පාරාජිකො හොති**' යන්නෙන් පරාජිත වූයේ යන්න අදහස් වේ. යට දැක්වූ ආකාරයට 'පරාජිත' පදයෙහි 'ප' උපසර්ගය වෘද්ධි කොට 'ත' කාරය හට 'ක' කාර කොට 'පාරාජික' පදයෙහි නිෂ්පත්තිය දත යුතු.

මෙම පාරාජික ශබ්දය ශික්ෂාපද, ආපත්ති, පුද්ගල යන අර්ථයන්හි වැටේ. '**අට්ඨානමෙතං ආනන්ද අනවකාසො ... පාරාජිකං සික්ඛාපදං පඤ්ඤත්තං සමූහනෙය්‍ය**' යන තැන ශික්ෂාපදය අදහස් කරන ලදී. '**ආපත්තිං ත්වං භික්ඛු ආපන්නො පාරාජිකං**' යන තැන ආපත්තිය අදහස් කරන ලදී. '**න මයං පාරාජිකා, යො අවහටො සො පාරාජිකො**' යැයි කීමේ දී පුද්ගලයා අදහස් වේ. එහි ලා පාරාජික යැයි යම් සිකපදයක් අදහස් කරන ලද්දේ ද එය ඉක්මවන භික්ෂුව පරාජයට පැමිණේ. එහෙයින් ඒ සිකපදය පාරාජික යැයි කියනු ලැබේ. පාරාජිකා යන්නෙන් කිසියම් ඇවැතක් අදහස් වේ ද එයට පැමිණි භික්ෂුව පරාජයට පත් වේ. එහෙයින් ඒ ඇවැත පාරාජිකා යැයි කියනු ලැබේ. පුද්ගලයා, පැරදුණු බැවින් ද පරාජයට පැමිණි බැවින් ද පාරාජිකො යැයි කියනු ලැබේ.

'**අසංවාසො**' යන්නෙන් ඒ පාරාජික ඇවැතට පත් භික්ෂුව සමග ප්‍රකෘති භික්ෂූන් හට සංවාසයක් නොමැති බව දැක්වේ. සංවාසය ත්‍රිවිධ වේ.

1. **එකං කම්මං:** පිරිසිඳින සීමාවෙක්හි සිටියා වූ ප්‍රකෘති භික්ෂූන් සමග ඤත්ති කර්මාදි සිවුවැදෑරුම් සංඝ කර්මයන් ම එකට කළ යුතු බැවින් එකං කම්මං නම් වේ.

2. **එකුද්දෙසො:** පඤ්චවිධ ප්‍රාතිමෝක්ෂ උද්දේසය ම එකට උදෙසිය යුතු බැවින් එකුද්දෙස නම් වේ.

3. **සමසික්ඛතා:** පනවන ලද සිකපදයන්හි සියලු ලජ්ජී භික්ෂූන් විසින් සමව හික්මිය යුතු බැවින් සමසික්ඛතා නම් වේ.

මෙම ත්‍රිවිධ වූ ම සංවාසය පරිජි ඇවතට පත් භික්ෂුවක් සමග නැත්තේ නු යි ඒ පරිජි වූ භික්ෂුව 'අසංවාසො' නම් වේ.

මෙසේ උදෙසනු ලබන සිකපද මාතිකාවෙහි පද පිළිවෙළින් වර්ණනා කොට හුදෙක් ස්ත්‍රී නිමිත්තක් පමණක් ම පාරාජික වස්තු නොවන බැවින් සහ මිනිස් ස්ත්‍රී පමණක් ම වස්තු නොවන බැවින් ද මෙවුන්දම් පාරාජිකයට වස්තු වන සත්ත්වයින් හා ප්‍රයෝගය පිළිබඳ විනිශ්චය සංක්ෂිප්තව දක්වනු පිණිස '**අයං පනෙත්ථ**' යනාදිය කීහ.

**සං: එත්ථ**, මේ ප්‍රථම පාරාජික ශික්ෂාපදයෙහි ලා; **අයං පන විනිච්ඡයො**, මේ වනාහි විනිශ්චය යි. **මනුස්සාමනුස්සතිරච්ඡානගතවසෙන හි**, මනුෂ්‍ය, අමනුෂ්‍ය, තිරිසන්ගත වශයෙන්; **තිස්සො ඉත්ථියො**, ස්ත්‍රීහු තිදෙනෙකි. **තාසං**, ඒ ස්ත්‍රීන්ගේ; **වච්චමග්ග පස්සාවමග්ග මුඛමග්ගවසෙන**, වර්චස් මාර්ගය, පස්සාව (මූත්‍රා) මාර්ගය, මුඛ මාර්ගය වශයෙන්; **තයො තයො කත්වා**, තුනක් තුනක් බැගින් කොට; **නව මග්ගා**, මාර්ගයෝ නව දෙනෙකි. **උභතොබ්‍යඤ්ජනකානං**, උභතොබ්‍යඤ්ජනකයින්ගේ; **තථා**, එපරිදි ම ය. **පුරිසානං පන**, පුරුෂයන්ගේ වනාහි; **වච්චමග්ගමුඛමග්ගවසෙන**, වර්චස් මාර්ගය, මුඛ මාර්ගය වශයෙන්; **ද්වෙ ද්වෙ කත්වා**, මාර්ග දෙකක් දෙකක් බැගින් කොට; **ඡ**[1], මාර්ග සයකි. **පණ්ඩකානං**, පණ්ඩකයන්ගේ; **තථා**, එපරිදි ම ය. **ඉති**, යනුවෙන්; **එවං**, මෙසේ; **තිංස මග්ගා**, සමතිස් මාර්ගයෝ ය. **තෙසු**, ඒ සමතිස් මාර්ගයන් අතරින්; **අත්තනො වා**, තමන්ගේ හෝ; **පරෙසං වා**, අනිකකුගේ හෝ; **යස්ස කස්සචි**, යම් කිසිවකුගේ; **සන්ථතස්ස වා**, ආවරණය කරන ලද හෝ; **අසන්ථතස්ස වා**, ආවරණය නොකරන ලද හෝ; **මග්ගස්ස**, මාර්ගයට (තව ද); **පරෙසං පන මතානං අපි**, අනික් මියගිය වූවන්ගේ ද; **අක්ඛයිතස්ස**[2] වා, ක්ෂය නොවූ නිමිත්තට හෝ; **යෙභුය්‍යෙන අක්ඛයිතස්ස**[3] වා, බොහෝ සෙයින් ක්ෂය නොවූ නිමිත්තට හෝ; **පකති වාතෙන**, ප්‍රකෘති වාතයෙන්; **අසම්ඵුට්ඨෙ**, නොපැහැසුණා වූ; **අල්ලොකාසෙ**, තෙත් අවකාශයෙහි; **යො භික්ඛු**, යම් භික්ෂුවක්; **සන්ථතං වා**, ආවරණය කරන ලද හෝ;

---

[1] **ඡ මග්ගා.** මජසං

[2] **අක්ඛායිතස්ස.** මජසං

[3] **අක්ඛායිතස්ස.** මජසං

**අසන්ථතං වා**, ආවරණය නොකරන ලද හෝ; **අත්තනො අඞ්ගජාතං**, තමාගේ පුරුෂ ව්‍යඤ්ජනය;

- 21 -

**සෙවනචිත්තෙන**, මෙවුන්දම් සේවන සිතින් යුතුව; **එකතිලබීජමත්තං අපි**, එක් තිලබීජ මාත්‍රයකුදු; **පවෙසෙති**, පිවිසුවයි ද; **වා**, නොහොත්; **පරෙන**, අනිකකු විසින්; **පවෙසියමානෙ**, පිවිසවනු ලබන කල්හි; **පවෙසනපවිට්ඨට්ඨිතිඋද්ධරණෙසු**[1], ප්‍රවේශන, ප්‍රවිෂ්ට, ස්ථිති, උද්ධරණයන් අතරින්; **යං කිඤ්චි**, යම් කිසිවක්; **සාදියති**, ඉවසයි ද; **අයං**, මෙ තෙමේ; **පාරාජිකාපත්තිං**, පරිජි ඇවතට; **ආපන්නො නාම හොති**, පැමිණියේ නම් වේ. **තාව**, පළමු කොට; **එත්ථ**, මෙහි ලා; **අයං**, මේ; **අසාධාරණ විනිච්ඡයො**, සියලු සිකපදයන් සමඟ අසාධාරණ වූ (මෙම සිකපදයට ම පමණක් ආවේණික වූ) විනිශ්චය යි.

**55. වි:** පාරාජික වස්තු වන නිමිතිවලට නිශ්‍රය වූ සත්ත්වයෝ දෙළොස් දෙනෙක් වෙති. එනම් මනුෂ්‍ය, අමනුෂ්‍ය, තිරිසන්ගත වශයෙන් ස්ත්‍රීහු තිදෙනෙකි. උභතොබ්‍යඤ්ජනක, පුරුෂ, පණ්ඩක යන අය ද මනුෂ්‍ය, අමනුෂ්‍ය, තිරිසන්ගත වශයෙන් තුන්දෙනා බැගින් වෙති.

මෙම සියලු පුද්ගලයින් වෙත පාරාජිකාවට වස්තු වන මාර්ගයෝ සමතිසක් (30) වෙති. එනම් මනුෂ්‍ය, අමනුෂ්‍ය, තිරිසන්ගත ස්ත්‍රියගේ වර්චස් මාර්ගය, පස්සාව මාර්ගය, මුඛ මාර්ගය යන මාර්ග තුනක් වේ. එසේ ම උභතොබ්‍යඤ්ජනකයාගේ ද මාර්ග තුනක් වේ. පුරුෂ-පණ්ඩකයන් වෙත වර්චස් මාර්ගය හා මුඛ මාර්ගය යැයි මාර්ගද්වයකි. ඒ අනුව සමතිස් මාර්ගයන් පහත වගුවෙන් නිරූපණය වේ (වගුව 1).

යම්කිසි උපසපන් භික්ෂුවක් සේවනය කිරීමේ සිත ඇතිව, මෙම සමතිස් මාර්ගයන් අතරින් යම්කිසි මාර්ගයක, ප්‍රකෘති වාතයෙන් ස්පර්ශ නොවන තෙත් අවකාශයෙහි ස්වකීය පුරුෂ නිමිත්ත තිල බීජ මාත්‍රයක් නමුත් පිවිසුවයි නම් පරිජි ඇවතට පත් වේ.

---

[1] **පවෙසනපවිට්ඨට්ඨිතඋද්ධරණෙසු**. මජසං

*වගුව 1: සමතිස් මාර්ග*

| | මනුෂ්‍ය | අමනුෂ්‍ය | තිරිසන්ගත | |
|---|---|---|---|---|
| **ස්ත්‍රිය - මාර්ග** | 3 | 3 | 3 | 9 |
| **උභතොබ්‍යඤ්ජනක - මාර්ග** | 3 | 3 | 3 | 9 |
| **පණ්ඩක - මාර්ග** | 2 | 2 | 2 | 6 |
| **පුරුෂ - මාර්ග** | 2 | 2 | 2 | 6 |
| | 10 | 10 | 10 | 30 |

**මළ සිරුරක උපක්‍රම කිරීම:** ඉහත දෙළොස් වැදෑරුම් පුද්ගලයන් අතරින් යම්කිසි මළ සිරුරක නමුදු උපක්‍රම කරන්නේ නම් නිමිත්ත සම්පූර්ණයෙන් ම හෝ අඩකට වැඩියෙන් හෝ ක්‍ෂය නොවී ඉතිරිව ඇති විට පරිජි ඇවැත් වේ. අඩක් හෝ ඊට වැඩියෙන් ක්‍ෂය වී ඇති විට ථුල්ලැසි ඇවැත් වේ.

**සන්ථත-අසන්ථත බව:** උපක්‍රම කරන ඉහත සමතිස් මාර්ග අතරින් කවර හෝ මාර්ගයක්, යම්කිසි වස්ත්‍ර ආදියකින් ආවරණය කර තිබුණේ වුව ද ආවරණය කර නොතිබුණේ වුව ද භික්‍ෂුවගේ පුරුෂ නිමිත්ත යම් කිසිවකින් ආවරණය කර තිබුණේ වුව ද නොතිබුණේ වුව ද කියන ලද ආකාරයට තිල බීජ මාත්‍රයක් නමුදු ඇතුළු කරන භික්‍ෂුව පරිජි වේ.

**අනිකකු විසින් උපක්‍රම කරවීම:** වෛරී පුද්ගලයන් විසින් භික්‍ෂුවගේ ශීල භේදය කරවනු පිණිස ඉහත සමතිස් මාර්ග අතරින් එකක බලහත්කාරයෙන් නමුදු ප්‍රවේශ කරවන විටක ප්‍රවේශය, ප්‍රවිෂ්ටය, ස්ථිතිය, උද්ධරණය යන සතර අවස්ථාවන්ගෙන් එක අවස්ථාවක හෝ සේවන චිත්තයක් එළඹ සිටී නම් ඒ භික්‍ෂුව පරිජි වේ. ප්‍රවේශය යනු අනෙකකු විසින් හෝ ස්වකීය පුරුෂ නිමිත්ත කිසියම් මාර්ගයකට පිවිසුවන අවස්ථාව යි. පිවිසුවා අවසන් වීම ප්‍රවිෂ්ටය නම් වේ. පිවිසුවා අවසන්ව ආපසු ඉදිරිම දක්වා පවත්නා, ශුක්‍රධාතු විසර්ජනය වන අවස්ථාව ස්ථිතිය නම් වේ. අනතුරුව ආපසු උදුරන අවස්ථාව උද්ධරණය නම් වේ.

මෙසේ පළමු පාරාජික ඇවැතට පමණක් අදාළ වන අසාධාරණ විනිශ්චය දක්වා ඉක්බිති සියලු සිකපදයන්ට සාධාරණ විනිශ්චය

දැක්වීමට මාතෘකා තබමින් '**සබ්බසික්ඛාපදානං පන සාධාරණ විනිච්ඡයත්ථං**' යනාදිය කීහ.

**සඃ සබ්බසික්ඛාපදානං පන**, සියලු සිකපදයන්ට වනාහි; **සාධාරණ විනිච්ඡයත්ථං**, සාධාරණ විනිශ්චය දක්වනු පිණිස; **අයං මාතිකා**, මේ මාතෘකාව වේ.

**නිදානං පුග්ගලං වත්ථුං පඤ්ඤත්තිවිධිමෙව ච**
**ආණත්තාපත්තිනාපත්ති විපත්තිං අඞ්ගමෙව ච**
**සමුට්ඨානවිධිං කිරියා සඤ්ඤාචිත්තෙහි නානතං**[1]
**වජ්ජකම්මප්පභෙදඤ්ච තිකද්වයවිධිං තථා**
**ලක්ඛණං සත්තදසධා**[2] **ඨිතං සාධාරණං ඉදං**
**ඤත්වා යොජෙය්‍ය මෙධාවී තත්ථ තත්ථ යථාරහං**[3].

**(කඞ්ඛා, පි.21)**

(**නිදානං**, නිදානය ය; **පුග්ගලං**, පුද්ගලයා ය; **වත්ථුං**, වස්තුව ය; **පඤ්ඤත්තිවිධිං එව ච**, ප්‍රඥප්ති ප්‍රභේදය ද; **ආණත්ති**, ආණත්තික බව ය; **ආපත්ති**, ආපත්ති භේදය ය; **අනාපත්ති**, අනාපත්ති භේදය ය; **විපත්තිං**, සීලාදි විපත්ති භේදය ය; **අඞ්ගං එව ච**, අංග යන මොහු ද; **සමුට්ඨානවිධිං**, සමුට්ඨාන විධිය ය; **කිරියා**, කිරිය-අකිරිය භේදය ය; **සඤ්ඤා**, සඤ්ඤා භේදය ය; **චිත්තෙහි**, චිත්ත භේදයන් කරණකොටගෙන; **නානතං ච**, වෙනස් බව ද; **වජ්ජ**, වජ්ජ වශයෙන් භේදය ද; **කම්මප්පභෙදඤ්ච**, කාය කර්මාදි වශයෙන් වන භේදය ද; **තථා**, එසේ ම; **තිකද්වයවිධිං**, කුශල ත්‍රික වේදනා ත්‍රික යන දෙවැදෑරුම් ත්‍රික භේදය ද (**ඉති**, යැයි මෙසේ); **සත්තදසධා ඨිතං**, සතළොස් ආකාරයෙන් පිහිටියා වූ; **ඉදං සාධාරණං ලක්ඛණං**, මේ සියලු සිකපදයන්ට සාධාරණ ලක්‍ෂණය; **ඤත්වා**, දැන; **මෙධාවී**, නුවණැති තෙමේ; **තත්ථ තත්ථ**, ඒ ඒ තැන; **යථාරහං යොජෙය්‍ය**, සුදුසු පරිද්දෙන් යොදන්නේය.)

---

[1] **නානත්තං**. මඡසං
[2] **සත්තරසද**. මඡසං
[3] **යථාරහන්ති**. මඡසං

**තත්‍ථ**, එහි; **නිදානං නාම**, නිදානය නම්; **වෙසාලිරාජගහසාවත්‍ථි ආලවිකොසම්බිසක්කභග්ගානං**[1] **වසෙන**, වෙසාලි, රාජගහ, සාවත්‍ථි, ආලවිය, කෝසම්බි, සක්ක, භග්ග යන මේවායේ වශයෙන්; **සත්තවිධං**, සත්වැදෑරුම්; **පඤ්ඤත්තිට්ඨානං**, සිකපද පනවන ලද ස්ථානය යි. **ඉදං හි**, මේ වනාහි; **සබ්බසික්ඛාපදානං**, සියලු සිකපදයන්ට; **නිදානං**, නිදානය යි.

**පුග්ගලො නාම**, පුද්ගල තෙමේ නම්; **යං යං ආරබ්භ**, යම් යම් කෙනෙක් අරබයා; **තං තං සික්ඛාපදං**, ඒ ඒ සිකපදය; **පඤ්ඤත්තං**, පනවන ලද්දේ ද; (**සො සො පුග්ගලො**, ඒ ඒ පුද්ගල තෙමේ ය.) **වත්‍ථු නාම**, වස්තුව නම්; **තස්ස තස්ස පුග්ගලස්ස**, ඒ ඒ පුද්ගලයාගේ; **අජ්ඣාචාරො වුච්චති**, අධ්‍යාචාරය කියනු ලැබේ.

**පඤ්ඤත්තිවිධිං ඉති**, 'පඤ්ඤත්තිවිධිං' යනු; **පඤ්ඤත්ති**, මූල ප්‍රඥප්ති ය; **අනුපඤ්ඤත්ති**, අනුප්‍රඥප්ති ය; **අනුප්පන්න පඤ්ඤත්ති**, නූපන් දෝෂයෙහි තබන ලද ප්‍රඥප්ති ය; **සබ්බත්‍ථ පඤ්ඤත්ති**, මධ්‍යම දේශ, ප්‍රත්‍යන්ත ජනපද යන සියලු ප්‍රදේශයන්හි බලපවත්වන ප්‍රඥප්ති ය; **පදෙසපඤ්ඤත්ති**, මධ්‍යම දේශයෙහි පමණක් බලපවත්නා ප්‍රදේශ ප්‍රඥප්ති ය; **සාධාරණපඤ්ඤත්ති**, භික්‍ෂු-භික්‍ෂුණී උභය පාර්ශ්වයන්ට සාධාරණ ප්‍රඥප්ති ය; **අසාධාරණපඤ්ඤත්ති**, හුදු භික්‍ෂූන්ට පමණක් හෝ හුදු භික්‍ෂුණීන්ට පමණක් බලපාන ප්‍රඥප්ති ය; **එකතොපඤ්ඤත්ති**, හුදු භික්‍ෂූන්ට පමණක් හෝ හුදු භික්‍ෂුණීන්ට පමණක් වන එකතො ප්‍රඥප්ති ය; **උභතොපඤ්ඤත්ති**, භික්‍ෂු-භික්‍ෂුණී උභය පාර්ශ්වයට ම වන උභතො ප්‍රඥප්ති ය; **වසෙන**, වශයෙන්; **නවවිධා පඤ්ඤත්ති**, නවවිධ ප්‍රඥප්තිය යි. **තත්‍ථ**, එහි ලා (ඒ නවවිධ ප්‍රඥප්ති අතරින්); **අනුප්පන්නපඤ්ඤත්ති නාම**, අනුප්පන්න ප්‍රඥප්තිය තොමෝ නම්; **අනුප්පන්නෙ දොසෙ පඤ්ඤත්තා**, නූපන් දෝෂයෙහි පනවන ලද්දී ය. **සා**, ඒ අනුප්පන්න ප්‍රඥප්ති තොමෝ; **අට්ඨගරුධම්මපටිග්ගහණ-වසෙන**[2], අෂ්ට ගරුධර්ම පිළිගැනීම් වශයෙන්; **භික්ඛුනීනං යෙව**, භික්‍ෂුණීන්ට ම; **ආගතා**, පැමිණෙන ලද්දීය. **අඤ්ඤත්‍ර නත්‍ථි**, අන් තැනෙක නැත්තීය. **විනයධරපඤ්චමෙන ගණෙන උපසම්පදා**, විනයධරයා පස්වෙනි කොට ඇති භික්‍ෂු ගණයා විසින්

---

[1] සග්ග-භග්ගානං. මජසං

[2] අට්ඨගරුධම්මප්පටිග්ගහණවසෙන. මජසං

උපසම්පද කිරීම ය; **ගණඞ්ගණූපාහනා**[1], පටල ගණන් ඇති වහන් පාවිච්චිය ය; **ධුවනහානං**[2], නිතර නෑම ය; **චම්මත්ථරණං ඉති**, සම් ඇතිරිල්ල ය යන; **එතෙසං වසෙන**, මේවායේ වශයෙන්; **චතුබ්බිධා**, සිවුවැදෑරුම් වූ පැනවීම්; **පදෙස පඤ්ඤත්ති නාම**, ප්‍රදේශ ප්‍රඥප්ති නම් වේ. **මජ්ඣිමදෙසෙයෙව හි**, මධ්‍යම දේශයේ ම; **එතෙහි**, මෙම පැනවීම්වලින්; **ආපත්ති හොති**, ඇවැත් වේ. **තෙසු'පි**, ඒවා අතරිනුදු; **ධුවනහානපටික්ඛෙපමත්තං එව**[3], නිති නෑම ප්‍රතික්ෂේප කිරීම් සිකපදය පමණක් ම; **පාතිමොක්ඛෙ ආගතං**, ප්‍රාතිමෝක්ෂයෙහි එන ලදී. **තතො**, එයින්; **අඤ්ඤා**, අන්‍ය වූ; **පදෙස පඤ්ඤත්ති නාම නත්ථි**, ප්‍රදේශ ප්‍රඥප්තියක් නම් නැත්තීය. **සබ්බානි**, සියලු ප්‍රඥප්තීහු; **සබ්බත්ථ පඤ්ඤත්තියෙව**, සබ්බත්ථ ප්‍රඥප්තීහු ම; **හොන්ති**, වෙත්. **සාධාරණ පඤ්ඤත්ති දුකඤ්ච**, සාධාරණ-ආසාධාරණ ප්‍රඥප්ති දුකය ද; **එකතො පඤ්ඤත්ති දුකඤ්ච**, එකතො-උභතො ප්‍රඥප්ති දුකය ද; **අත්ථතො**, අර්ථ වශයෙන්; **එකං**, එකකි. **තස්මා**, එබැවින්; **අනුප්පන්නපඤ්ඤත්තිඤ්ච**, අනුප්පන්න ප්‍රඥප්තිය ද; **සබ්බත්ථපඤ්ඤත්ති දුකඤ්ච**, සබ්බත්ථ ප්‍රඥප්ති දුකය ද; **එකතො පඤ්ඤත්ති දුකඤ්ච**, එකතො ප්‍රඥප්ති දුකය ද; **ඨපෙත්වා**, තබා; **සෙසානං චතස්සන්නං**[4] **පඤ්ඤත්තීනං වසෙන**, සෙසු සිවු ප්‍රඥප්තීන්ගේ වශයෙන්; **සබ්බත්ථ**, සියලු සිකපදයන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු ය.

**ආණත්තාපත්තිනාපත්තිවිපත්තිං**[5] **ඉති එත්ථ**, 'ආණත්තාපත්තිනා-පත්තිවිපත්තිං' යන මෙහි; **ආණත්ති ඉති**, 'ආණත්තිය' යනු; **ආණාපනං වුච්චති**, අණකිරීම කියනු ලැබේ. **ආපත්ති ඉති**, 'ආපත්ති' යනු; **පුබ්බපයොගාදිවසෙන**, පූර්ව ප්‍රයෝග ආදි වශයෙන්; **ආපත්තිභෙදෙ**, ආපත්ති භේදය යි. **අනාපත්ති ඉති**, 'අනාපත්ති' යනු; **අජානන ආදි වසෙන**, අජානන ආදි වශයෙන්; **අනාපත්ති**, අනාපත්ති බව යි. **විපත්ති ඉති**, 'විපත්ති' යනු; **සීලආචාරදිට්ඨිආජීවවිපත්තීනං**, සීල, ආචාර, දිට්ඨි, ආජීව විපත්තීන් අතරින්; **අඤ්ඤතරා**, එක්තරා විපතකි. **ඉති**, මෙසේ; **ඉමාසං ආණත්තාදීනං වසෙන අපි**, මේ ආණත්තාදීන්ගේ වශයෙන් ද;

---

[1] **ගණඞ්ගණූපාහණා**. බෞසංම; කඞ්ඛා.ටී.

[2] **ධුවන්හානං**. මජසං

[3] **ධුවන්හානං පටික්ඛෙපමත්තමෙව**. මජසං

[4] **චතුන්නං**. මජසං

[5] **ආණත්තාපත්තනාපත්තිවිපත්තින්ති**. මජසං

**සබ්බත්‍ථ**, සියලු සිකපදයන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු ය.

**අඞ්ගං ඉති**, 'අඞ්ග' යනු; **සබ්බසික්ඛාපදෙසු**, සියලු සිකපදයන්හි; **ආපත්තීනං**, ඇවැත්වල; **අඞ්ගං**, අඞ්ගය; **වෙදිතබ්බං**, දත යුතු ය. **සමුට්ඨානවිධිං ඉති**, 'සමුට්ඨානවිධිං' යනු; **සබ්බාපත්තීනං**, සියලු ආපත්තීන් හට; **කායො** කය ය; **වාචා**, වචනය ය; **කායවාචා**, කය වචනය ය; **කායචිත්තං**, කය සහ සිත ය; **වාචාචිත්තං**, වචනය සහ සිත ය; **කාය වාචා චිත්තං ඉති**, කය, වචනය සහ සිතය යන; **ඉමානි එකඞ්ගිකද්වඞ්ගිකතිවඞ්ගිකානි**, මේ එකංගික-ද්විඅංගික-තිඅංගික වූ (සමුට්ඨාන විධීහු ය). **යානි ඡ සමුට්ඨානානි**, යම් සමුට්ඨාන සයක් වෙත් ද; (**තානි**, ඒවා); **සික්ඛාපදසමුට්ඨානානි ඉති අපි**, සික්ඛාපද සමුට්ඨානානි යැයි ද; **වුච්චන්ති**, කියනු ලැබේ. *(මේ සමුට්ඨානයෝ එක්තරා විදිහකට ඇවැත් පිළිබඳ සමුට්ඨාන වෙති. ශික්‍ෂාපදයාගේ නො වෙති. එහෙත් ව්‍යවහාර පහසුව පිණිස ශික්‍ෂාපද සමුට්ඨාන යැයි කියනු ලැබේ. එතානි හි කිඤ්චාපි ආපත්තියා සමුට්ඨානානි, න සික්ඛාපදස්ස, වොහාරසුඛත්‍ථං පනෙවං වුච්චන්ති.* **කඞ්ඛා.ටී**, පි.60). **තත්‍ථ**, ඒ සිකපද සමුට්ඨාන සය අතරින්; **පුරිමානි තීණි**[1], පූර්වයෙහි වන්නා වූ සමුට්ඨාන තුන; **අචිත්තකානි**, අචිත්තක සමුට්ඨාන වේ. **පච්ඡිමානි**, පශ්චිම සමුට්ඨාන තුන; **සචිත්තකානි**, සචිත්තක සමුට්ඨාන වේ. **තෙසු**, ඒ සචිත්තක අචිත්තක සමුට්ඨාන අතරින්; **එකෙන වා**, එක් සමුට්ඨානයකින් හෝ; **ද්වීහි වා**, සමුට්ඨාන දෙකකින් හෝ; **තීහි වා**, සමුට්ඨාන තුනකින් හෝ; **චතූහි වා**, සමුට්ඨාන සතරකින් හෝ; **ඡහි සමුට්ඨානෙහි වා**, සමුට්ඨාන සයකින් හෝ; **ආපත්තියො සමුට්ඨහන්ති**, ඇවැත්හු හටගනිත්. **පඤ්ච සමුට්ඨානා නාම**, පඤ්ච සමුට්ඨානයක් නම්; **නත්‍ථි**, නැත්තේය. **තත්‍ථ**, ඒ සමුට්ඨානයන්හි; **එකසමුට්ඨානා නාම**, ඒක සමුට්ඨාන නම්; **චතුත්ථෙන (සමුට්ඨානෙන) ච**, සතරවැනි සමුට්ඨානයෙන් ද; **පඤ්චමෙන (සමුට්ඨානෙන) ච**, පස්වැනි සමුට්ඨානයෙන් ද; **ඡට්ඨෙන සමුට්ඨානෙන ච**, සයවැනි සමුට්ඨානයෙන් ද; **සමුට්ඨාති**, හටගනී. **අඤ්ඤෙන න**, අන් සමුට්ඨානයකින් හට නොගනී. **ද්විසමුට්ඨානා නාම**, ද්වි සමුට්ඨාන නම්;

---

[1] **තීනි**. බෞසංම

- 22 -

**පඨමචතුත්ථෙහි (සමුට්ඨානෙහි) ච**, පළමුවැනි-සතරවැනි සමුට්ඨානයන්ගෙන් ද; **දුතිය පඤ්චමෙහි (සමුට්ඨානෙහි) ච**, දෙවැනි-පස්වැනි සමුට්ඨානයන්ගෙන් ද; **තතිය ඡට්ඨෙහි (සමුට්ඨානෙහි) ච**, තෙවැනි-සයවැනි සමුට්ඨානයන්ගෙන් ද; **චතුත්ථ ඡට්ඨෙහි (සමුට්ඨානෙහි) ච**, සතරවැනි-සයවැනි සමුට්ඨානයන්ගෙන් ද; **පඤ්චම ඡට්ඨෙහි සමුට්ඨානෙහි ච**, පස්වැනි-සයවැනි සමුට්ඨානයන්ගෙන් ද; **සමුට්ඨාති** හටගනී. **අඤ්ඤෙහි න**, අන් සමුට්ඨානයන්ගෙන් හට නො ගනියි. **තිසමුට්ඨානා නාම**, තිසමුට්ඨාන නම්; **පඨමෙහි තීහි (සමුට්ඨානෙහි) ච**, පළමු තුන් සමුට්ඨානයන්ගෙන් ද; **පච්ඡිමෙහි තීහි සමුට්ඨානෙහි ච**, පශ්චිම තුන් සමුට්ඨානයන්ගෙන් ද; **සමුට්ඨාති**, හටගනී. **අඤ්ඤෙහි න**, අන් සමුට්ඨානයන්ගෙන් හට නො ගනියි. **චතුසමුට්ඨානා නාම**, චතු සමුට්ඨාන නම්; **පඨමතතියචතුත්ථඡට්ඨෙහි (සමුට්ඨානෙහි) ච**, පළමු-තෙවන-සතරවන-සයවන සමුට්ඨානයන්ගෙන් ද; **දුතියතතියපඤ්චමඡට්ඨෙහි සමුට්ඨානෙහි ච**, දෙවන-තෙවන-පස්වන-සයවන සමුට්ඨානයන්ගෙන් ද; **සමුට්ඨාති**, හටගනී. **අඤ්ඤෙහි න**, අන් සමුට්ඨානයන්ගෙන් නො වේ. **ඡ සමුට්ඨානා නාම**, ඡ සමුට්ඨාන නම්; **ඡහි අපි**, ෂට් සමුට්ඨානයන්ගෙන් ම; **සමුට්ඨාති**, හටගනී. **එවං**, මෙසේ;

**තිධා එකසමුට්ඨානා පඤ්චධා ද්විසමුට්ඨිතා**
**ද්විධා තිචතුරුට්ඨානා**[1] **එකධා ඡ සමුට්ඨිතා'ති.**

**(කඞ්ඛා, පි.22)**

(**එක සමුට්ඨානා**, එක් සමුට්ඨානයක් ඇත්තා වූ ආපත්ති තොමෝ; **තිධා**, තුන් ආකාරයකින් (හටගනී). **ද්විසමුට්ඨිතා**, සමුට්ඨාන දෙකකින් හටගන්නා වූ ආපත්ති තොමෝ; **පඤ්චධා**, පස් ආකාරයකින් (හටගනී). **තිචතුරුට්ඨානා**, ති සමුට්ඨානික චතු සමුට්ඨානික ආපත්ති තුමූ; **ද්විධා**, දෙයාකාරයකින් (හටගනිති). **ඡ සමුට්ඨිතා**, ඡ සමුට්ඨානික හෙවත් සමුට්ඨාන සයකින් හටගන්නා ආපත්ති තොමෝ; **එකධා ඉති**, එක් ආකාරයකින් (හටගන්නීය) යනුවෙනි.)

---

[1] **තිචතුරො ඨානා.** මඡසං

**සමුට්ඨානවසෙන**, සමුට්ඨාන ශීර්ෂ වශයෙන්; **සබ්බා එව**, සියලු ම ආපත්තීහු; **තෙරස ආපත්තියො හොන්ති**, තෙළෙස් ඇවැත්හු වෙත්. **තා**, ඒ ආපත්ති තුමූ; **පඨමපඤ්ඤත්තිසික්ඛාපදවසෙන**, පළමුව පනවන ලද සිකපදයන් වශයෙන්; **සමුට්ඨානතො**, හටගැනීම් වශයෙන්; **තෙරස නාමානි ලභන්ති**, තෙළෙස් නම් ලබත්. **පඨමපාරාජිකසමුට්ඨානා**, පඨම පාරාජික සමුට්ඨානය; **අදින්නාදන**, අදින්නාදන සමුට්ඨානය; **සඤ්චරිත්ත**, සඤ්චරිත්ත සමුට්ඨානය; **සමනුභාසන**, සමනුභාෂණ සමුට්ඨානය; **කඨින**[1], කඨින සමුට්ඨානය; **එළකලොම**, එළකලොම සමුට්ඨානය; **පදසොධම්ම**, පදසොධම්ම සමුට්ඨානය; **අද්ධාන**, අද්ධාන සමුට්ඨානය; **ථෙය්‍යසත්‍ථ**, ථෙය්‍යසත්ථ සමුට්ඨානය; **ධම්මදෙසනා**, ධම්මදෙසනා සමුට්ඨානය; **භූතාරොචන**, භූතාරොචන සමුට්ඨානය; **චොරිවුට්ඨාපන**, චොරිවුට්ඨාපන සමුට්ඨානය; **අනනුඤ්ඤාතසමුට්ඨාන ඉති**, අනනුඤ්ඤාත සමුට්ඨානය යනුවෙනි. **තත්‍ථ**, ඒ සමුට්ඨාන ශීර්ෂ තෙළෙස අතරින්; **යා**, යම් ඇවතක් තොමෝ; **කායචිත්තතො**, කාය-චිත්ත වශයෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **පඨමපාරාජිකසමුට්ඨානා නාම**, පඨමපාරාජිකසමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවතක් තොමෝ; **සචිත්තකෙහි තීහි සමුට්ඨානෙහි**, සචිත්තක පක්ෂයෙහි සමුට්ඨාන තුනෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං** මේ ඇවැත; **අදින්නාදනසමුට්ඨානා නාම**, අදින්නාදනසමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **ඡහි'පි**, සමුට්ඨාන සයෙන් ම; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **සංචරිත්තසමුට්ඨානා නාම**, සඤ්චරිත්තසමුට්ඨාන (සහිත ඇවත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **ඡට්ඨෙනෙව**, සවැනි සමුට්ඨානයෙන් ම; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **සමනුභාසනසමුට්ඨානා නාම**, සමනුභාෂණසමුට්ඨාන (සහිත ඇවත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **තතියඡට්ඨෙහි**, තෙවැනි සහ සයවැනි සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති** හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **කඨිනසමුට්ඨානා**[2] **නාම**, කඨිනසමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **පඨම චතුත්ථෙහි**, පළමු සතරවන

[1] **කඨින.** මඡසං

[2] **කඨිනසමුට්ඨානා.** මඡසං

සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවත; **එළකලොමසමුට්ඨානා නාම**, එළකලොමසමුට්ඨාන (සහිත ඇවත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **දුතිය පඤ්චමෙහි**, දෙවන හා පස්වන සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවත; **පදසොධම්මසමුට්ඨානා නාම**, පදසොධම්මසමුට්ඨාන (සහිත ඇවත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **පඨමතතියචතුත්ථඡට්ඨෙහි**, පළමු, තෙවන, සතරවන සහ සවන සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **අද්ධානසමුට්ඨානා නාම**, අද්ධානසමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **චතුත්ථඡට්ඨෙහි**, සතරවන, සවන සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **ථෙය්‍යසත්ථසමුට්ඨානා නාම**, ථෙය්‍යසත්ථසමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **පඤ්චමෙන එව**, පස්වැනි සමුට්ඨානයෙන් ම; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවත; **ධම්මදෙසනසමුට්ඨානා**[1] **නාම**, ධම්මදෙසන සමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **තීහි අචිත්තකෙහි**[2], තුන් අචිත්තක සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද **අයං**, මේ ඇවැත; **භූතාරොචනසමුට්ඨානා නාම**, භූතාරෝචන සමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **පඤ්චම ඡට්ඨෙහි**, පස්වැනි සවැනි සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **චොරිවුට්ඨාපනසමුට්ඨානා නාම**, චොරිවුට්ඨාපන සමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **දුතිය තතිය පඤ්චම ඡට්ඨෙහි**, දෙවැනි, තෙවැනි, පස්වැනි, සවැනි සමුට්ඨානයන්ගෙන්; **සමුට්ඨාති**, හටගන්නී ද; **අයං**, මේ ඇවැත; **අනනුඤ්ඤාතසමුට්ඨානා නාම ඉති**, අනනුඤ්ඤාත සමුට්ඨාන (සහිත ඇවැත) නම් වේ යනුවෙනි. **ඉති**, මෙසේ; **ඉමස්ස සමුට්ඨානවිධිනො වසෙන අපි**, මේ සමුට්ඨාන විධියාගේ වශයෙන් ද; **සබ්බත්ථ**, සියලු සිකපදයන්හි; **විනිච්ඡයො**, විනිශ්චය; **වෙදිතබ්බො**, දත යුතු.

---

[1] **ධම්මදෙසනාසමුට්ඨානා.** මඡසං

[2] **අචිත්තකෙහි සමුට්ඨානෙහි.** මඡසං

## සප්තදශාකාරය පැහැදිලි කිරීම

**56. වි:** සියලු සිකපදයන්ට සාධාරණ විනිශ්චයන් දක්වනු පිණිස සතළොස් ආකාර විනිශ්චය (සප්තදශාකාරය) වෙනුවෙන් **'නිදානං පුග්ගලං වත්‍ථුං'** යනාදි මාතෘකා තබන ලදී. ඒ අනුව,

### 1. නිදානය

සිකපද පනවන ලද ස්ථාන නිදානය නම් වේ. එය විශාලා මහනුවර, රජගහ නුවර, සැවැත් නුවර, අලව් නුවර, කොසඹෑ නුවර, ශාක්‍ය ජනපදය සහ භග්‍ග ජනපදය වශයෙන් සප්තවිධ වේ. ඒ බැව් පරිවාරපාළියෙහි මෙසේ කියන ලදී.

**"වෙසාලියං රාජගහෙ සාවත්‍ථියං ච ආලවියං**
**කොසම්බියං ච සක්කෙසු භග්ගෙසු චෙව පඤ්ඤත්තා."**
**(පරිවා.2, පි.92)**

ඒ අතරින් විශාලා මහනුවර සිකපද දහයක් (10) ද රජගහ නුවර සිකපද විසිඑකක් (21) ද සැවැත් නුවර සිකපද දෙසිය අනූහතරක් (294) ද අලව් නුවර සිකපද සයක් (6) ද කොසඹෑ නුවර සිකපද අටක් (8) ද ශාක්‍ය ජනපදයන්හි සිකපද අටක් (8) ද භග්‍ග ජනපදයන්හි සිකපද තුනක් (3) ද පනවන ලදී.

### 2. පුද්ගලයා

යම් යම් පුද්ගලයෙක් අරබයා සිකපද පනවන ලද්දේ ද, ඒ ඒ පුද්ගල තෙමේ මින් අදහස් වේ. එනම් ආදිකාර්මිකයා වේ.

**"සුදින්නො ධනියො සම්බහුලා වග්ගුමුදන්තිකා**
**සෙය්‍යසකො උදායී චා-ළවකා ඡන්නමෙත්තියා**
**දෙවදත්තස්සජිපුනබ්බස්සු - ඡබ්බග්ගියොපනන්දඤ්ඤතරොපි ච**
**හත්‍ථකො චානුරුද්ධො ච - සත්තරසවූළපන්‍ථකා**
**බෙල්ලට්ඨසීසො චානන්දො - සාගතොරිට්ඨනාමකො**
**නන්දත්‍ථෙරෙන තෙවීස - භික්ඛූනං ආදිකම්මිකො**
**සුන්දරිනන්ද ථුල්ලනන්ද - ඡබ්බග්ගියඤ්ඤතරාපි ච**
**චණ්ඩකාළී සම්බහුලා - ද්වෙ ච භික්ඛුනියො පරා**
**භික්ඛුනීනං තු සත්තෙව - හොන්ති තා ආදිකම්මිකා"ති**
**(කඞ්ඛා.ටී, පි.59)**

යන මේ ගාථාවලින් භික්ෂු-භික්ෂුණී උභය ප්‍රාතිමෝක්ෂ ශික්ෂාපදයන්හි ආදිකාර්මිකයන් දත හැකි වේ.

## 3. වස්තුව

වස්තුව නම් ඒ ඒ පුද්ගලයාගේ අධ්‍යාචාරය යි. යම් අධ්‍යාචාරයක් කරණකොටගෙන භාග්‍යවතුන් වහන්සේ විසින් සිකපද පනවන ලද්දේ නම් එය යි.

## 4. ප්‍රඥප්තිය

නවවිධ ප්‍රඥප්තීහු 'පඤ්ඤත්තිවිධිං' ලෙස හැඳින්වේ. එනම්,

1. **පඤ්ඤත්ති** : ශික්ෂාපදයක පළමු පැනවීම **මූලපඤ්ඤත්ති** නම් වේ.

2. **අනුපඤ්ඤත්ති** : මුල් ප්‍රඥප්තියට පසුව ශික්ෂාපදයේ දැඩි කිරීම පිණිස හෝ ලිහිල් කිරීම පිණිස හෝ පසුව කරන ලද පැනවීම් **අනුපඤ්ඤත්ති** නම් වේ.

   අනුප්‍රඥප්තිය වනාහි ආපත්තිකර, අනාපත්තිකර, ආපත්ති උපස්ථම්භකර වශයෙන් ත්‍රිවිධාකාර වේ.

   (අ). **ආපත්තිකර අනුප්‍රඥප්ති** : මුල් පැනවීමෙන් වෙන්ව හුදු අනුප්‍රඥප්තියෙන් පමණක් ද ඇවැත් වීම යි.

   උදා: අඤ්ඤවාදක සිකපදයෙහි අනුප්‍රඥප්තිය වන 'විහෙසකෙ' යන්නෙන් ද වෙනම ම පචිති ඇවැත් වේ.

   (ආ). **අනාපත්තිකර අනුප්‍රඥප්ති** : අනුප්‍රඥප්තියෙන් ඇවැත් නොවන අවස්ථා දැක්වීම යි.

   උදා: සුක්කවිසට්ඨි සිකපදයේ 'අඤ්ඤත්‍ර සුපිනන්තා' යන අනුප්‍රඥප්තියෙන් ඇවැත් නොවන පරිහාරය දැක්වේ.

   (ඇ). **ආපත්ති උපස්තම්භකර** : මුල් පැනවීමෙහි වන ඇවතට රුකුල් දෙන අනුප්‍රඥප්තිය වේ.

   උදා: අදින්නාදන පරිජියේ 'අරඤ්ඤා වා' යනු අනුප්‍රඥප්ති වන අතර එය වනාහි 'මෙය ගම නො වේ ය. ආරණ්‍යය ය. එබැවින් ඇවැත් නො වේ ය' යනාදි ලෙස ලේශ මාත්‍රය ගෙන ව්‍යතික්‍රමණය කරන්නවුන්ගේ ඒ ලේශය වසනු පිණිස පනවන ලද බැවින් මුල් ප්‍රඥප්තියේ ඇවැතට රුකුල් දෙයි.

3. **අනුප්පන්නපඤ්ඤත්ති** : නූපන් දෝෂයෙහි පනවන ලද ප්‍රඥප්තිය යි. භාග්‍යවතුන් වහන්සේ විසින් භික්ෂුණී පැවිද්ද අනුදන්නා ලද අවස්ථාවේ භික්ෂුණීන් උදෙසා අෂ්ට ගරුධර්ම පනවන ලදී. එය වනාහි දෝෂයක් ඉපදීමට පෙර භාග්‍යවතුන් වහන්සේ විසින් කරන ලද එක ම පැනවීම යි. එහෙයින් එය **අනුප්පන්නපඤ්ඤත්ති** නම් වේ.

4. **සබ්බත්‍රපඤ්ඤත්ති** : මධ්‍යම දේශයේ සහ ප්‍රත්‍යන්ත ජනපදයන්හි යන සියලු තැන්හි එක සේ බලපවත්වන ලෙස පනවන ලද පැනවීම් **සබ්බත්‍රපඤ්ඤත්ති** නම් වේ.

5. **පදෙසපඤ්ඤත්ති** : මධ්‍යම දේශයට පමණක් බලපවත්වන ප්‍රඥප්ති වේ. ඒවායින් ප්‍රත්‍යන්ත ජනපදයන්හි ඇවැත් නො වේ. එවැනි ප්‍රඥප්ති සතරකි.

(අ) **විනයධරපඤ්චමෙන ගණෙන උපසම්පදං** : ප්‍රත්‍යන්ත ජනපදයන්හි විනයධරයා පස්වැනි කොට ඇති සංඝයා විසින් උපසම්පදං විනයකර්මය කිරීමට අනුදන වදාළ සේක. එය ප්‍රත්‍යන්ත ජනපදයන්ට පමණක් අදාළ වන අතර මධ්‍යම දේශයෙහි දශවාර්ගික සංඝයා විසින් ම උපසම්පදං කළ යුතු වේ.

(ආ) **ගණඞ්ගණූපාහනා** : පට සතරක් හෝ ඊට වැඩියෙන් ඇතිව කරන ලද වහන් ප්‍රත්‍යන්ත ජනපදයන්හි කැප ය. මෙය ද ප්‍රත්‍යන්ත ජනපදයන්හි පමණක් කැප වන අතර මධ්‍යම දේශයෙහි අකැප වේ.

(ඉ) **ධුවනහානං** : ප්‍රත්‍යන්ත ජනපදයන්හි නහාන සිකපදය අදාළ නොවන බැවින් නිතර ස්නානය කිරීමෙන් ඇවැත් නැති. එහෙත් නහාන සිකපදය අනුව මධ්‍ය දේශයෙහි අඩ මසකට අඩු කාලයක් තුළ ස්නානය කිරීමෙන් පචිති ඇවැත් වේ. එය මධ්‍යම දේශයට පමණක් අදාළ වන අතර ප්‍රත්‍යන්ත ජනපදයන්හි අදාළ නො වේ.

(ඊ) **චම්මත්‍ථරණං** : මධ්‍ය දේශයෙහි සියලු සම් ඇතිරිලි අකැප වේ. එහෙත් සර්වාකාරයෙන් අකැප යැයි වදාළ සම් හැර සෙසු සම් ඇතිරිලි භාවිතය ප්‍රත්‍යන්ත ජනපදයන්හි කැප වේ. මෙය ද ප්‍රත්‍යන්ත ජනපදයන්ට පමණක් ඇති කැප බවකි.

මෙසේ මධ්‍යම දේශයට පමණක් බලපවත්වන පරිදිත් ප්‍රත්‍යන්ත ජනපදයන්හි වෙනස් ලෙසකට බලපැවැත්වෙන පරිදිත් පනවන ලද ප්‍රඥප්තීහු **පදෙසපඤ්ඤත්ති** නම් වෙති.

6. **සාධාරණපඤ්ඤත්ති** : භික්ෂු-භික්ෂුණී උභය සංඝයාට ම එක ලෙස බලපැවැත්වෙන පැනවීම් **සාධාරණපඤ්ඤත්ති** නම් වේ.

7. **අසාධාරණපඤ්ඤත්ති** : හුදු භික්ෂූන්ට පමණක් හෝ භික්ෂුණීන්ට පමණක් හෝ බලපාන ප්‍රඥප්තීහු වෙති.

8. **එකතොපඤ්ඤත්ති** : අර්ථ වශයෙන් අසාධාරණ ප්‍රඥප්ති ම **එකතොපඤ්ඤත්ති** නම් වේ.

9. **උභතොපඤ්ඤත්ති** : අර්ථ වශයෙන් සාධාරණ ප්‍රඥප්ති ම **උභතොපඤ්ඤත්ති** නම් වේ.

අනුප්පන්න ප්‍රඥප්තිය භික්ෂුණීන්ගේ අෂ්ට ගරුධර්ම පැනවීම සඳහා පමණක් අදාළ වේ. පදෙසපඤ්ඤත්තිය අදාළ වන්නේ එක් ප්‍රාතිමෝක්ෂ සිකපදයකට පමණකි. සබ්බත්‍ථපඤ්ඤත්ති දුකය සහ එකතො පඤ්ඤත්ති දුකය අර්ථ වශයෙන් සාධාරණපඤ්ඤත්ති දුකයට සමාන වේ. එබැවින් එකී ප්‍රඥප්තීන් අතහැර සෙසු ප්‍රඥප්තීන්ගේ වශයෙන් පමණක් සියලු සිකපද පිළිබඳ සාධාරණ විනිශ්චය දක්වේ.

## 5. ආණත්තිය

ආණත්තිය යනු අණකිරීම යි. අණකිරීමෙන් අණ ලද්දහු විසින් සිදුකරන ව්‍යතික්‍රමණයක දී අණකළ භික්ෂුව ඇවැතට පත්වන්නේ ද නො වන්නේ ද යන්න යි.

## 6. ආපත්ති

පූර්ව ප්‍රයෝගාදි වශයෙන් ආපත්ති භේදය යි. එනම් පූර්ව ප්‍රයෝගයෙන් කවර ඇවැතකට පත් වේ ද? ව්‍යතික්‍රමණයෙන් කවර ඇවැතකට පත් වේ ද? යනාදි වශයෙනි.

## 7. අනාපත්ති

සිකපදයෙන් ඇවැත් නොවන ආකාරයන් දක්වීම යි.

## 8. විපත්ති

ශීල විපත්තිය, ආචාර විපත්තිය, දිට්ඨි විපත්තිය, ආජීව විපත්තිය වශයෙන් සතරාකාර වූ විපත්තීන් අතරින් එකිනෙක සිකපද ව්‍යතික්‍රමණයෙන් කවර විපත්තියකට පත්වේ ද යන්න විපත්ති නම් වේ.

## 9. අඞ්ග

එකිනෙක සිකපදයන්හි ඇවැතට පත්වීම සඳහා සම්පූර්ණ විය යුතු අඞ්ග මොනවාද යන්න යි.

## 10. සමුට්ඨාන

ඇවැත් හටගන්නා ආකාරයන් සමුට්ඨාන විධි ලෙස හැඳින්වේ. ප්‍රධාන වශයෙන් සමුට්ඨාන විධි සයාකාරයකි (6).

**අචිත්තක සමුට්ඨාන 03** : 1. කාය
2. වාචා
3. කාය වාචා

**සචිත්තක සමුට්ඨාන 03** : 4. කාය චිත්ත
5. වාචා චිත්ත
6. කාය වාචා චිත්ත

මේ අචිත්තක-සචිත්තක සමුට්ඨාන අතරින් එකකින් හෝ දෙකකින් හෝ තුනකින් හෝ සතරකින් හෝ සමුට්ඨාන සය ම වශයෙන් හෝ ඇවැතට පත්විය හැකි වේ. සමුට්ඨාන පසකින් වන ඇවැතක් නැති. එසේ එකකින් දෙකකින් යනාදි වශයෙන් පවත්නා වූ සමුට්ඨාන ශීර්ෂයෝ තෙළෙසක් (13) වන අතර ඒවා නම් කර ඇත්තේ පළමුව පනවන ලද ශික්‍ෂාපදයට අනුව ය.

එක සමුට්ඨාන 03

1. **කාය-චිත්ත** : පඨමපාරාජික සමුට්ඨානය.
2. **වාචා-චිත්ත** : ධම්මදේසන සමුට්ඨානය.
3. **කාය-වාචා-චිත්ත** : සමනුභාෂණ/ධුරනික්ඛෙප සමුට්ඨානය.

ද්වි සමුට්ඨාන 05

4. **කාය/කාය-චිත්ත** : එළකලොම සමුට්ඨානය.
5. **වාචා/වාචා-චිත්ත** : පදසොධම්ම සමුට්ඨානය.

6. **කාය-වාචා/කාය-වාචා-චිත්ත** : කඨින සමුට්ඨානය.
7. **කාය-චිත්ත/කාය-වාචා-චිත්ත** : ඵෙය්‍යසත්ථ සමුට්ඨානය.
8. **වාචා-චිත්ත/කාය-වාචා-චිත්ත** : ධොරිවුට්ඨාපන සමුට්ඨානය.

ති සමුට්ඨාන 02

9. **කාය/වාචා/කාය-වාචා** : භූතාරොචන සමුට්ඨානය
10. **කාය-චිත්ත/වාචා-චිත්ත/කාය-වාචා-චිත්ත** : අදින්නාදාන සමුට්ඨානය

චතු සමුට්ඨාන 02

11. **කාය/කාය-වාචා/කාය-චිත්ත/කාය-වාචා-චිත්ත** : අද්ධාන සමුට්ඨානය
12. **වාචා/කාය-වාචා/වාචා-චිත්ත/කාය-වාචා-චිත්ත** : අනනුඤ්ඤාත සමුට්ඨානය

ඡ සමුට්ඨාන 01

13. **කාය/වාචා/කාය-වාචා/කාය-චිත්ත/වාචා-චිත්ත/කාය-වාචා-චිත්ත** : සඤ්චරිත්ත සමුට්ඨානය

සියලු සිකපදයන්ට සාධාරණ විනිශ්චය දක්වීම් වශයෙන් සප්තදශාකාර විනිශ්චයේ සමුට්ඨාන පිළිබඳ දක්වා තදනන්තරව කිරියා ආදි සෙසු විනිශ්චයන් දක්වනු පිණිස **'කිරියා සඤ්ඤා චිත්තෙහි'** යනාදිය කීහ.

**සඃ කිරියාසඤ්ඤාචිත්තෙහි නානත්තං**[1] **ඉති**, 'කිරියාසඤ්ඤා චිත්තෙහි නානත්තං' යනු; **එතෙහි කිරියාදීහි**, ඒ කිරියා ආදීන් කරණකොටගෙන; **සබ්බාපත්තීනං**, සියලු ආපත්තීන්ගේ; **නානාභාවං ඤත්වා**, නානාභාවය දැන; **සබ්බත්ථ**, සියලු සිකපදයන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු. **සබ්බාපත්තියො හි**, සියලු ඇවැත්හු; **කිරියාකිරියවසෙන**[2], කිරිය අකිරිය වශයෙන්; **පඤ්චවිධා හොන්ති**, පස්වැදෑරුම් වෙත්. **සෙය්‍යථීදං**, ඒ කෙසේ ද? යත්; **අත්ථි ආපත්ති කිරියතො සමුට්ඨාති**, කිරීම් වශයෙන් හටගන්නා ඇවැතක් ඇත. **අත්ථි අකිරියතො**, නොකිරීම් වශයෙන් හටගන්නා ඇවැතක් ඇත. **අත්ථි කිරියාකිරියතො**, කිරීම්-

---

[1] **නානත්තං.** මජසං

[2] **කිරියාවසෙන.** මජසං

නොකිරීම් වශයෙන් හටගන්නා ඇවැතක් ඇත. **අත්ථි සියා කිරියතො සියා අකිරියතො**, කිසි කලෙක කිරීම් වශයෙන් වන්නා වූ ද, කිසි කලෙක නොකිරීම් වශයෙන් වන්නා වූ ද ඇවැතක් ඇත. (*සියාති 'සියා ඛො පන තෙ බ්‍රාහ්මණ එවමස්සා'ති ආදීසු විය 'කදචී'ති ඉමිනා සමානත්ථො නිපාතො.* **කඞ්ඛා.ටී**, **පි**.61); *සියා යනු කදචි යන්නෙහි අර්ථ යි. එහෙයින් 'කිසිකලෙක්හි ක්‍රියායෙන්, කිසිකලෙක්හි අක්‍රියායෙන්' යි අර්ථ යි* - **කඞ්ඛා.පි**, පි.20) **අත්ථි සියා කිරියතො සියා කිරියාකිරියතො**[1], කිසි කලෙක කිරීම් වශයෙන් වන්නා වූ ද, කිසි කලෙක කිරීම්-නොකිරීම් වශයෙන් වන්නා වූ ද ඇවැතක් ඇත. **තත්ථ**, එහි ලා; **යා**, යම් ඇවැතක් තොමෝ; **කායෙන වා**, කයින් හෝ; **වාචාය වා**, වචනයෙන් හෝ; **පඨවිඛණනාදීසු**[2] **විය**, පඨවිඛණනාපත්ති ආදීන්හි මෙන්; **වීතික්කමං කරොන්තස්ස**, ව්‍යතික්‍රමණය කරන්නහුට; **හොති**, වන්නී ද; **අයං**, මේ ඇවැත; **කිරියතො සමුට්ඨාති නාම**, කිරීම් වශයෙන් හටගනී නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **කායවාචාහි**, කය වචනයන්ගෙන්; **කත්තබ්බං**, කළ යුත්තක්; **අකරොන්තස්ස හොති**, නොකරන්නහුට වන්නී ද; **පඨමකඨිනාපත්ති**[3] **විය**, පඨමකඨින ආපත්තිය මෙන්; **අයං** මේ ඇවැත; **අකිරියතො සමුට්ඨාති නාම**, නොකිරීම් වශයෙන් හටගනී නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **කරොන්තස්ස ච**, කරන්නහුට ද; **අකරොන්තස්ස ච**, නොකරන්නහුට ද; **හොති**, වන්නී ද; **අඤ්ඤාතිකාය භික්ඛුනියා**, නොනෑ භික්ෂුණියකගේ; **හත්ථතො**, අතින්; **චීවරපටිග්ගහණාපත්ති**[4] **විය**, චීවර පටිග්ගහණ ආපත්තිය මෙන්; **අයං**, මේ ඇවැත; **කිරියාකිරියතො සමුට්ඨාති නාම**, කිරීම් - නොකිරීම් වශයෙන් (කළ යුත්ත නොකරීම් හා නොකළ යුත්ත කිරීම් වශයෙන්) හටගනී නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **රූපියපටිග්ගහණාපත්ති**[5] **විය**, රූපිය පටිග්ගහණාපත්තිය මෙන්; **සියා කරොන්තස්ස ච**, කිසි කලෙක කරන්නහුට ද; **සියා අකරොන්තස්ස ච**, කිසි කලෙක නොකරන්නහුට ද; **හොති**, වෙයි ද; **අයං**, මේ ඇවැත;

[1] **කිරියාකිරියතොති**. මජසං
[2] **පථවිඛණනාදීසු**. මජසං; **පඨවිඛණනාදීසු**. බෞසංම
[3] **පඨමකඨිනාපත්ති**. මජසං
[4] **චීවරප්පටිග්ගහණාපත්ති**. මජසං
[5] **රූපියප්පටිග්ගහණාපත්ති**. මජසං

- 23 -

**සියා කිරියතො සියා අකිරියතො**, කිසි කලෙක කිරීම් වශයෙන් ද කිසි කලෙක නොකිරීම් වශයෙන් ද; **සමුට්ඨාති නාම**, හටගනී නම් වේ. **යා**, යම් ඇවැතක් තොමෝ; **කුටිකාරාපත්ති විය**, කුටිකාර ආපත්තිය මෙන්; **සියා කරොන්තස්ස ච**, කිසි කලෙක ව්‍යතික්‍රමණය කරන්නහුට ද; **සියා කරොන්තස්ස අකරොන්තස්ස**[1] **ච**, කිසි කලෙක කරන්නහුට-නොකරන්නහුට ද; **හොති**, වෙයි ද; **අයං**, මේ ඇවැත; **සියා කිරියතො සියා කිරියාකිරියතො**, කිසි කලෙක කිරීම් වශයෙන් ද කිසි කලෙක නොකර කිරීම් වශයෙන් ද; **සමුට්ඨාති නාම**, හටගනී නම් වේ.

**57. වි:** සප්තදශාකාර විනිශ්චය අතරින් කිරියභේදය දක්වනු පිණිස '**කිරියාසඞ්ඛෙපවිත්තෙහි**' යනාදි ලෙස ආරම්භ කර '**සබ්බාපත්තියො හි කිරියාකිරියවසෙන**' යනාදිය කීහ.

## II. කිරියා

'කිරිය' යනු යමක් කිරීම හේතුවෙන් ඇවැතට පත්වන බව යි. 'අකිරිය' යනු අනුදැන වදාළ යමක් නොකිරීමෙන් ඇවැත් වන බව යි. සියලු ආපත්තීහු කිරිය, අකිරිය යනාදි වශයෙන් පඤ්චවිධ වෙත්. කිරියාකිරිය භේද වශයෙන් සියලු ආපත්තීහු පස්වැදෑරුම් වෙත්.

1. **කිරියතො සමුට්ඨාති** : ව්‍යතික්‍රමණය කිරීම් වශයෙන් ඇවැතට පත් වේ. උදා: පඨවිඛණන ඇවත.
2. **අකිරියතො සමුට්ඨාති** : නොකිරීම් වශයෙන් ඇවැතට පත් වේ. උදා: පඨමකඨිනාපත්තිය සිවුරු අධිෂ්ඨාන හෝ විකප්පනය නොකිරීම වශයෙනි.
3. **කිරියාකිරියතො සමුට්ඨාති** : යමක් කළ යුතු යැයි පනවන ලද කාය-වාක් ක්‍රියාවක් නොකර, නොකළ යුතු යැයි පනවන ලද ක්‍රියාවක් කිරීම් වශයෙන් ඇවැතට පත් වේ. එනම්, එක ම අවස්ථාවේ ප්‍රතික්ෂිප්ත ක්‍රියාව කරමින් අනුදන්නා ලද ක්‍රියාව නොකරන භික්ෂුව ඇවැතට පත් වේ.

[1] **කරොන්තාකරොන්තස්ස.** මඡසං

උදා: නොනෑ භික්ෂුණියකගෙන් සිවුරක් පිළිගෙන ඊට හුවමාරුවක් නොදෙන භික්ෂුව ඇවැතට පත් වේ. හුවමාරුවක් නොදීම අකිරිය යි. සිවුර පිළිගැනීම කිරිය යි.

4. **සියා කිරියතො සියා අකිරියතො** : ඇතැම් විටෙක කිසියම් ප්‍රතික්ෂිප්ත කාය-වාක් ක්‍රියාවක් කිරීමෙන් ඇවැතට පත් වන අතර තවත් විටෙක කළ යුතු යැයි අනුදත් දේ නොකරන්නහු ද ඇවැතට පත් වේ.

   උදා: මිලමුදල් (රුපිය) පිළිගැනීම ප්‍රතික්ෂිප්ත ක්‍රියාවක් බැවින් රුපිය පිළිගන්නා භික්ෂුව කිරියා වශයෙන් ඇවැතට පත් වේ. එසේ ම තමා වෙනුවෙන් ඉදිරියේ එළවා තබන ලද (උපනික්ඛිත්තය) රුපිය ප්‍රතික්ෂේප කළ යුතු යැයි අනුදත් බැවින් එසේ නොකරන භික්ෂුව අකිරිය (නොකිරීම්) වශයෙන් ද ඇවැතට පත් වේ.

5. **සියා කිරියතො සියා කිරියාකිරියතො** : ඇතැම් විටෙක කාය-වාක් ක්‍රියාවක් කිරීම් වශයෙන් ඇවැතට පත් වන අතර තවත් විටෙක නොකර කිරීම් වශයෙන් ද ඇවැතට පත් වේ.

   උදා: කුටිකාර සිකපදයෙහි කුටි වස්තුව දේශනා කොට ප්‍රමාණය ඉක්මවා සඤ්ඤාචිත කුටියක් කරන භික්ෂුව කිරිය වශයෙන් ඇවැතට පත් වන්නේය. එසේ ම ප්‍රමාණය ඉක්මවා හෝ යුතු ප්‍රමාණයට ඇති කුටියට කුටි වස්තුව දේශනා නොකර කුටියක් කරන භික්ෂුව කිරියාකිරිය වශයෙන් ඇවැතට පත් වේ.

මෙසේ කිරියාකිරිය වශයෙන් ඇවැත් භේදය දක්වා දැන් සඤ්ඤා ආදි වශයෙන් සියලු ආපත්තීන්ට සාධාරණ විනිශ්චය දැක්වීමට **'සබ්බාපත්තියො ච'** යනාදිය කියන ලදී.

**සඃ** **ච**, තව ද; **සබ්බාපත්තියො**, සියලු ඇවැත්හු; **සඤ්ඤා වසෙන**, සඤ්ඤා වශයෙන්; **සඤ්ඤාවිමොක්ඛා**, සඤ්ඤාවිමෝක්ෂ ඇවැත ය; **නොසඤ්ඤාවිමොක්ඛා**, නොසඤ්ඤාවිමෝක්ෂ ඇවැත ය; **ඉති**, යනුවෙන්; **දුවිධා හොන්ති**, දෙවැදෑරුම් වෙති. **තත්‍ථ**, ඒ දෙවැදෑරුම් ඇවැත් අතරින්; **යා**[1], යම් ඇවැතක්; **වීතික්කමසඤ්ඤාය අභාවෙන**, ව්‍යතික්‍රමණ සංඥාවගේ අභාවයෙන්; **මුච්චති**, ඇවැතින් මිදෙයි ද; **අයං**, මේ ඇවැත;

[1] **යතො.** මජසං

**සඤ්ඤාවිමොක්ඛා**, සඤ්ඤාවිමෝක්ෂාපත්තිය යි. **ඉතරා**, අනෙක් (ව්‍යතික්‍රමණ සංඥාව අභාවයෙන් ඇවැතින් නොමිදෙන) ආපත්තිය; **නොසඤ්ඤාවිමොක්ඛා ඉති**, නොසඤ්ඤාවිමෝක්ෂාපත්තිය යනුවෙනි.

**පුන**[1], යළිත්; **සබ්බා අපි**, සියලු ම ඇවැත්හු; **චිත්තවසෙන**, චිත්ත වශයෙන්; **සචිත්තකා**, සචිත්තක ආපත්තිය; **අචිත්තකා**, අචිත්තක ආපත්තිය; **ඉති**[2], යනුවෙන්; **දුවිධා හොන්ති**, දෙවැදෑරුම් වෙති. **තත්‍ථ**, ඒ සචිත්තක-අචිත්තක ඇවැත් අතරින්; **යා**, යම් ඇවැතක්; **සචිත්තක සමුට්ඨානවසෙන එව**, සචිත්තක සමුට්ඨාන වශයෙන් ම; **සමුට්ඨාති**, හටගනී ද; **අයං**, මේ ඇවැත; **සචිත්තකා**, සචිත්තකාපත්තිය වන්නීය. **යා**, යම් ඇවැතක් තොමෝ; **අචිත්තකෙන වා**, අචිත්තක සමුට්ඨානයකින් හෝ; **සචිත්තකමිස්සකෙන වා**, සචිත්තක මිශ්‍ර සමුට්ඨානයකින් හෝ; **සමුට්ඨාති**, හටගනී ද; **අයං අචිත්තකා**, මේ ඇවැත අචිත්තකාපත්තිය නම් වේ.

**වජ්ජකම්මප්පභෙදං ඉති එත්‍ථ**, 'වජ්ජකම්මප්පභෙදං' යන මෙහි; **සබ්බාපත්තියො**, සියලු ඇවැත්හු; **වජ්ජවසෙන**, වජ්ජ වශයෙන්; **ලොකවජ්ජා**, ලෝකවද්‍ය ආපත්තීහු ය. **පණ්ණත්තිවජ්ජා**, ප්‍රඥප්තිවද්‍ය ආපත්තීහු ය; **ඉති**[3] **දුවිධා හොන්ති**, යැයි දෙවැදෑරුම් වෙත්. **තත්‍ථ**, ඒ ලෝකවද්‍ය-ප්‍රඥප්තිවද්‍ය දෙවැදෑරුම් ඇවැත් අතරින්; **යස්සා**, යම් ඇවැතකගේ; **චිත්තං**, සිත; **සචිත්තකපක්ඛෙ**, සචිත්තක පක්ෂයෙහි; **අකුසලං එව හොති**, අකුශල ම වෙයි ද; **අයං**, මේ ඇවැත; **ලොකවජ්ජා**, ලෝකවද්‍ය නම් වේ. **සෙසා**, සෙසු ඇවැත්හු; **පණ්ණත්තිවජ්ජා**, ප්‍රඥප්තිවද්‍ය නම් වෙත්.

**සබ්බා එව**[4], සියලු ම ඇවැත්හු; **කායකම්මවචීකම්ම-තදුභයවසෙන**, කායකර්ම, වචීකර්ම හා කාය-වාක් උභය කර්ම වශයෙන්; **තිවිධා හොන්ති**, ත්‍රිවිධ වෙත්. **තත්‍ථ**, ඒ ත්‍රිවිධ ඇවැත් අතරින්; **කායද්වාරෙ**, කායද්වාරයෙහි; **ආපජ්ජිතබ්බා**, පැමිණිය යුතු වූ ඇවැත; **කායකම්මං ඉති වුච්චති**, කායකර්ම යැයි කියනු ලැබේ. **වචීද්වාරෙ ආපජ්ජිතබ්බා**, වාග්ද්වාරයෙහි පැමිණිය යුතු ඇවැත; **වචීකම්මං ඉති වුච්චති**, වාක්

---

[1] **පුන ච.** මජසං

[2] **චාති (ච ඉති).** මජසං

[3] **චාති (ච ඉති).** මජසං; බෞසංම

[4] **සබ්බා ච.** මජසං

කර්ම යැයි කියනු ලැබේ. **උභයත්‍ථ**, කාය-වාක් උභය තැන්හි; **ආපජ්ජිතබ්බා**, පැමිණිය යුතු වූ ඇවැත; **කායකම්මං වචීකම්මඤ්ච ඉති**, කායකර්ම-වචීකර්ම යනුවෙනි. **මනොද්වාරෙ**, මනෝද්වාරයෙහි; **ආපත්ති නාම නත්‍ථි**, ඇවැතක් නම් නැත. **ඉති**, මෙසේ; **ඉමිනා වජ්ජකම්මප්පභෙදෙන අපි**, මේ වජ්ජ-කම්ම ප්‍රභේදයෙන්; **සබ්බත්‍ථ**, සියලු තැන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු ය.

**තිකද්වයවිධිං ඉති**, 'තිකද්වයවිධිං' යනු; **කුසලත්තිකවෙදනත්තික විධිං**, කුශලත්‍රික වෙදනත්‍රික විධිය යි. **ආපත්තිං ආපජ්ජමානො හි**, ඇවැතට පත් වනුයේ; **අකුසලචිත්තො වා**, අකුශල සිතක් ඇතිව හෝ; **ආපජ්ජති**, පැමිණේ. **කුසලව්‍යාකතචිත්තො**[1] **වා**, කුශල-අව්‍යාකෘත සිතක් ඇතිව හෝ; (**ආපජ්ජති**, පැමිණේ.)

**තථා**, එසේ ම; **දුක්ඛවෙදනාසමඞ්ගී වා**, දුක්ඛ වේදනා යුක්තව හෝ; **ඉතරවෙදනාද්වය සමඞ්ගී වා**, සෙසු සුඛ-උපෙක්ඛා වේදනා යුක්තව හෝ; (**ආපජ්ජති**, ඇවතට පැමිණේ).

**එවං සන්තෙ'පි**, මෙසේ ඇති කල්හිදු; **සබ්බසික්ඛාපදෙසු**, සියලු සිකපදයන්හි; **අකුසලචිත්තවසෙන**, අකුශල සිත් වශයෙන්; **එකං චිත්තං**, එක් සිතකි. **කුසලව්‍යාකතචිත්තවසෙන**[2], කුශලාව්‍යාකෘත සිත් වශයෙන්; **ද්වෙ චිත්තානි**, සිත් දෙකකි. **සබ්බෙසං වසෙන**, සියල්ලන්ගේ වශයෙන්; **තීණි**[3] **චිත්තානි**, සිත් තුනකි. **දුක්ඛවෙදනා වසෙන**, දුක්ඛ වේදනා වශයෙන්; **එකා වෙදනා**, එක් වේදනාවකි. **සුඛ උපෙක්ඛාවසෙන**, සුඛ-උපෙක්ඛා වශයෙන්; **ද්වෙ**, වේදනා දෙකකි. **සබ්බාසං වසෙන**, සියලු වේදනාවන්ගේ වශයෙන්; **තිස්සො වෙදනා ඉති**, වේදනා ත්‍රය යැයි; **අයං පභෙදෙ එව ලබ්භති**, මේ ප්‍රභේදය ම ලැබේ. **අඤ්ඤො න**, අන්‍යයක් නො ලැබේ.

**ලක්ඛණං සත්තදසධා**[4], **ඨිතං සාධාරණං ඉදං, ඤත්වා ඉති**, 'ලක්ඛණං සත්තදසධා, ඨිතං සාධාරණං ඉදං, ඤත්වා' යනු; **ඉදං**, මේ; **නිදානාදි**, නිදානය මුල්කොට ඇති; **වෙදනත්තිකපරියොසානං**, වෙදන ත්‍රිකය කෙළවර කොට ඇත්තා වූ; **සත්තදසප්පකාරං**[5] **ලක්ඛණං**, සප්තදශ

[1] **කුශලාබ්‍යාකතචිත්තො.** මජසං
[2] **කුශලාබ්‍යාකතචිත්තවසෙන.** මජසං
[3] **තීනි.** මජසං
[4] **සත්තරසධා.** මජසං
[5] **සත්තරසප්පකාරං.** මජසං

ප්‍රකාර ලක්‍ෂණය; **ජානිත්වා**, දැන; **යොජෙය්‍ය මෙධාවී තත්‍ථ තත්‍ථ යථාරහං ඉති**, 'යොජෙය්‍ය මෙධාවී තත්‍ථ තත්‍ථ යථාරහං' යනු; **පණ්ඩිතො භික්‍ඛු**, නුවණැති භික්‍ෂුව; **තස්මිං තස්මිං සික්‍ඛාපදෙ**, ඒ ඒ සිකපදයෙහි; **ඉදං ලක්‍ඛණං**, මේ ලක්‍ෂණය; **යථානුරූපං**, සුදුසු පරිදි; **යොජෙය්‍ය ඉති අත්‍ථො**, යොදන්නේය යන අර්ථය යි. **තං පන**, ඒ ලක්‍ෂණය වනාහි; **අයොජිතං**, නොයොදන ලද්දේ; **දුබ්බිජානං හොති**, මනා ලෙස දැනගැනීම අපහසු වේ. **තස්මා**, එබැවින්; **තං**[1], ඒ සාධාරණ ලක්‍ෂණය; **සබ්බසික්‍ඛාපදානං**, සියලු සිකපදයන්ගේ; **අසාධාරණ-විනිච්ඡයපරියොසානෙ**, අසාධාරණ විනිශ්චය අවසානයේ; **ඉමං මාතිකං අනුද්ධරිත්‍වා එව**, මේ මාතෘකාව නොම උදුරා දක්වා ම; **යොජෙත්‍වා**, යොදා; **දස්සයිස්සාම**, දක්වන්නෙමු.

### 58. වි:

## 12. සංඥා

ව්‍යතික්‍රමණ සංඥාවගේ අභාවයෙන් ඇවැතින් මිදේ ද නොමිදේ ද යන්න සංඥා ලෙස හැඳින්වේ. සියලු ආපත්තීහු සංඥා වශයෙන් දෙයාකාර වේ.

1. **සඤ්ඤාවිමොක්‍ඛ**: ව්‍යතික්‍රමණ සංඥාවගේ අභාවයෙන් යම් ඇවැතකින් මිදෙනු ලැබේ ද එය සංඥාවිමෝක්‍ෂ නම් වේ. **'සඤ්ඤාය අභාවෙන විමොක්ඛො අස්සා'ති සඤ්ඤාවිමොක්ඛො'** යනු විග්‍රහය යි.
2. **නොසඤ්ඤාවිමොක්‍ඛ**: ව්‍යතික්‍රමණ සංඥාවගේ අභාවයෙන් යම් ඇවැතකින් මිදීමක් නො වෙයි ද එය නොසංඥාවිමෝක්‍ෂ නම් වේ.

## 13. චිත්ත

යම් ඇවැතකට පත්වීම සචිත්තකව ද අචිත්තකව ද යන්න 'චිත්ත' ලෙස හැඳින්වේ. ඒ අනුව සියලු ආපත්තීහු චිත්ත වශයෙන් ද දෙයාකාර වේ.

---

[1] **තං**. මඡසං; කඩබා.පි.

1. **සචිත්තකඃ** යම් ඇවැතක් සචිත්තක සමුට්ඨාන වශයෙන් ම එනම් චිත්ත අඞ්ගය සහිතව ම හටගනී ද එය සචිත්තක ඇවැතක් නම් වේ. මේ සචිත්තක සමුට්ඨානයෙහි ඇවැත් දනවන සිත් දෙතිසකි (32).

2. **අචිත්තකඃ** යම් ඇවැතක් සචිත්තක අචිත්තක මිශ්‍ර වශයෙන් හටගනී ද එය අචිත්තක ඇවැතක් නම් වේ. එනම් චිත්ත අඞ්ගය නොලැබීමෙන් වුව ද යම් ඇවැතකට පත් වීමේ හැකියාවක් ඇති බව යි.

## 14. වජ්ජ

යම් ශික්ෂාපදයක් වර්ජනීය භාවයට පත්වන්නේ ලෝකයා අකුශල යැයි සලකන අන්දමට ද නැතහොත් බුද්ධ ප්‍රඥප්තිය අනුව ද යන්න වජ්ජ භේදය ලෙස හැඳින්වේ. ඒ අනුව සියලු සිකපද ලෝකවද්‍ය, ප්‍රඥප්තිවද්‍ය වශයෙන් දෙයාකාර වේ.

1. **ලෝකවද්‍යඃ** යම් ඇවැතක් පිළිබඳ ව්‍යතික්‍රමණ චිත්තය සචිත්තක පක්ෂයෙහි අකුශල සිතක් ම වේ නම් එකී ඇවැත ලෝකවද්‍ය ඇවැතක් නම් වේ. මෙහි දී සචිත්තක පක්ෂයෙහි යනු වස්තු ව්‍යතික්‍රමණ විජානන සිතින් සචිත්තක පක්ෂයෙහි වේ. ප්‍රඥප්ති විජානන සිතින් නො වේ. යම් භික්ෂුවක් ප්‍රඥප්තිය දැන 'මෙය ප්‍රතික්ෂේප කරන ලද්දක්, අකැප දෙයක්' යැයි දැන දැන ම ව්‍යතික්‍රමණය කරන්නේ නම් ප්‍රඥප්තිවද්‍ය සිකපදයක වුව ද අනාදරිය වශයෙන් පටිඝ සිතක් ම උපදී. එවිට සියලු සිකපද ලෝකවද්‍ය ලෙස සැලකීමට සිදුවන බැවින් වස්තු ව්‍යතික්‍රමණය දැනගන්නා සිතින් සචිත්තක පක්ෂය සැලකිය යුතු වේ. එවිට යම් වස්තුවක් ව්‍යතික්‍රමණය කරන බව දනී නම්, එම ව්‍යතික්‍රමණය අකුශල සිතකින් ම කළ යුතු වේ නම්, මෛථුන්දම් සේවනය, ශුක්‍ර මිදීම, සත්ත්ව ඝාතනය ආදි එබඳු ව්‍යතික්‍රමණයන් ලෝකවද්‍ය වේ.

2. **ප්‍රඥප්තිවද්‍යඃ** ලෝකවද්‍ය නොවන සෙසු සිකපද සියල්ල ප්‍රඥප්තිවද්‍ය වේ.

## 15. කම්ම

ව්‍යතික්‍රමණය සිදුවන්නේ කායකර්ම වශයෙන් ද නැතහොත් වාක්කර්ම වශයෙන් ද යන්න කම්ම ලෙස හැඳින්වේ. ඒ අනුව කායකර්ම, වාක්කර්ම, කාය-වාක් කර්ම වශයෙන් සිකපද තෙවැදෑරුම් වේ. කායද්වාරික ඇවැත් කායකර්ම වන අතර වචීද්වාරයෙන් පැමිණෙන ඇවැත් වාක්කර්ම නම් වේ. උභය ද්වාරයෙන් ම ඇවැතට පත්වේ නම් කාය-වාක් කර්ම නම් වේ.

## 16. කුශලත්‍රිකය

ඇවැතට පත්වීමේ සිත පරමාර්ථ වශයෙන් අභිධර්ම මාතිකාවන්හි කුශල ත්‍රිකයට බහා දැක්වීම මෙහි දී සිදුවේ. කුශල, අකුශල, අව්‍යාකෘත වශයෙන් ඇවැතට පත්විය හැකි සිත් ත්‍රිවිධ වේ. සියලු ඇවැත් ඉපිදවීමට හැකි සිත් දෙතිසකි. එනම් කාමාවචර කුශල සිත් අට ය, අකුශල සිත් දෙළොස ය, දශ කාමාවචර ක්‍රියා සිත් ය, කුශල-ක්‍රියා අභිඥ සිත් දෙක ය යන දෙතිස් චිත්තයන්ගෙන් ඇවැත් හටගනී.

පාරාජිකාපත්ති, සුක්කවිසට්ඨි ආදි ඇතැම් ඇවැතක් අකුශල සිතින් පමණක් ම හටගන්නා අතර පදසොධම්ම, ධම්මදෙසන ආදි ඇතැම් සිකපද ව්‍යතික්‍රමණය කුශල සිතකින් හෝ අව්‍යාකෘත සිතකින් විය හැකිය. ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා මෙවැනි අව්‍යාකෘත සිතින් ඇවැතකට පත් විය හැකිය.

## 17. වෙදනාත්‍රිකය

ඇවැතට පත්වීමේ සිත වේදනාත්‍රිකයට බහා දැක්වීම මෙහි දී සිදුවේ. එනම් ඇවැතට පත්වීම සුඛ, දුක්ඛ, උපේක්‍ෂා යන ත්‍රිවිධ වේදනාවන් අතරින් කවර වේදනාවකින් ද යන්න නිගමනය කිරීම යි. එකී ත්‍රිවිධ වේදනාවන්ගෙන් ම යුක්ත වන ඇවැත් ඇති අතර ඇතැම් ඇවැත් ද්වි වේදනා, ඒක වේදනා වශයෙන් ද වේ.

යම් ඇවැතකට පත්වීම දුක්ඛ වේදනාවෙන් ම වේ ද එය ඒක වේදනා වන අතර සුඛ, උපෙක්ඛා යන වේදනා ද්වයෙන් ම යුතු ඇවැත ද්වි වේදනා නම් වේ.

මෙසේ සප්තදශාකාරය සැකෙවින් දක්වා තදනන්තරව මෙම පළමු පාරාජික සිකපදයෙහි ඒ සප්තදශාකාර විනිශ්චය දක්වනු වස් '**ඉධ පනස්ස**' යනාදිය අරඹන ලදී.

**සඃ ඉධ පන**, මෙම පළමු පාරාජික සිකපදයෙහි ලා; **අස්ස**, මේ සප්තදශාකාරයාගේ; **අයං**, මේ; **යොජනා**, යෙදීම යි. **වෙසාලියං**[1], විශාලා මහනුවර; **සුදින්නත්ථෙරං ආරබ්භ**, සුදින්න තෙරුන් අරබයා; **මෙථුනවීතික්කමවත්ථුස්මිං**, මෛථුන ව්‍යතික්‍රමණ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. '**මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය**[2]' **ඉති අයං**, 'මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය' යන මෙය; **එත්ථ**, මෙහි ලා; **පඤ්ඤත්ති**, ප්‍රඥප්තිය යි. '**සික්ඛං අපච්චක්ඛාය**' **ඉති ච**, 'සික්ඛං අපච්චක්ඛාය' යනු ද; '**අන්තමසො තිරච්ඡානගතාය'පි**' **ඉති ච**[3], 'අන්තමසො තිරච්ඡානගතාය'පි' යනු ද; **ද්වෙ අනුප්පඤ්ඤත්තියො**, අනුප්‍රඥප්ති දෙකකි. **අඤ්ඤවාදක සික්ඛාපදාදීසු විය**, අඤ්ඤවාදක සිකපද ආදීන්හි මෙන්; **එසා අනුප්පඤ්ඤත්ති ච නාම**, මේ අනුප්‍රඥප්ති ද; **ආපත්තිකරා ච හොති**, ආපත්තිකර ද වේ. '**අඤ්ඤත්‍ර සුපිනන්තා**' **ඉති ආදීසු විය**, 'අඤ්ඤත්‍ර සුපිනන්තා' යන ආදීන්හි මෙන්; **අනාපත්තිකරා ච**, අනාපත්තිකර ද වේ. **අදින්නාදානාදීසු විය**, අදින්නාදනාදීන්හි මෙන්; **ආපත්ති උපත්ථම්භකරා**[4] **ච**, ඇවැත් පිළිබඳ උපස්ථම්භක ද; (**හොති**, වේ). **ඉධ පන**, මෙම පඨම පාරාජික සිකපදයේ වනාහි; **උපත්ථම්භකරා ඉති වෙදිතබ්බා**, උපස්ථම්භකර යැයි දත යුත්තාහ. **ඉතො පරං පන**, මෙයින් මත්තෙහි වනාහි; **යත්ථ**, යම් සිකපදයක; **අනුපඤ්ඤත්ති අත්ථි**, අනුප්‍රඥප්තියක් ඇත්තේ ද; **තත්ථ**, ඒ තැන්හි; **අයං අනුපඤ්ඤත්ති ඉති**, 'මෙය අනුප්‍රඥප්තිය' යැයි; **එත්තකං එව**, මෙපමණක් ම; **දස්සයිස්සාම**, දක්වන්නෙමු. **අනුප්පඤ්ඤත්තිං පන ඨපෙත්වා**, අනුප්‍රඥප්තිය හැරපියා; **අවසෙසා**, සෙසු ප්‍රඥප්තීහු; **පඤ්ඤත්ති එව ඉති**, ප්‍රඥප්තිය ම යැයි; **සබ්බත්ථ**, සියලු තැන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු.

---

[1] **ඉදං වෙසාලියං**. මජසං
[2] **පටිසෙවෙය්‍ය**. මජසං
[3] **තිරච්ඡානගතායා'ති ච**. බෞසංම; කඞ්ඛා.ටී.
[4] **උපථම්භකරා**. හෙමු

- 24 -

**භික්ඛුං ආරබ්භ උප්පන්නා වත්ථුස්මිං එව**, භික්ෂුවක් අරබයා උපන් වස්තුවෙහි ම; **'යා පන භික්ඛුනී ඡන්දසො මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය' ඉති**, 'යා පන භික්ඛුනී ඡන්දසො මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය' යැයි; **එවං**, මෙසේ; **භික්ඛුනීනම්පි පඤ්ඤත්තතො**[1], භික්ෂුණීන්ට ද පනවන ලද බැවින්; **සාධාරණපඤ්ඤත්ති**, සාධාරණ ප්‍රඥප්ති නම් වේ. **ආණත්තියා**, අණකිරීමෙන්; **අනාපජ්ජිතබ්බතො**[2], ඇවැතට නො පැමිණීම වශයෙන්; **අනාණත්තිකං**, අනාණත්තික වේ. **භික්ඛුං පන**, භික්ෂුවක් වනාහි; **ආණාපෙන්තො**, අණ කරනුයේ; **අකප්පියසමාදනාපත්තිතො**, අකප්පිය සමාදන ඇවැතින්; **න මුච්චති**, නො මිදෙයි. **මෙථුනරාගෙන**, මෛථුන්දම් රාගයෙන්; **කායසංසග්ගෙ**, කාය සංසර්ගයෙහි; **දුක්කටං**, දුකුළා ඇවැත් වේ. **ජීවමානකසරීරස්ස**, ජීවමානක ශරීරයාගේ; **වුත්තප්පකාරෙ මග්ගෙ**, යට කියන ලද සමතිස් මාර්ගයෙහි; **සචෙ අපි**, ඉදිනුදු; **තචාදීනි අනවසෙසෙත්වා**, සම ආදිය ඉතිරි නොකොට; **සබ්බසො ඡින්නෙ**, සියල්ලෙන් සියල්ල සිඳින ලද කල්හි; **නිමිත්ත සණ්ඨානමත්තං පඤ්ඤායති**, නිමිත්ත සටහන පමණක් ප්‍රකට වේ ද; **තත්ථ**, එහි; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **අඞ්ගජාතෙ වුට්ඨිතං**, අංගජාතයෙහි නැගුණා වූ; **අනට්ඨකායප්පසාදං**, නොනැසුණු කාය ප්‍රසාද ඇති; **පිළකං**[3] වා, ගැටයක් (ඉන්නෙක්) හෝ; **චම්මඛීලං වා**, සම් දල්ලක් හෝ; **පවෙසෙන්තස්ස අපි**, පිවිසුවන භික්ෂුවට ද; **සෙවනචිත්තෙ සති**, සේවන සිත ඇති කල්හි; **පාරාජිකං**, පරිජි වේ. **නට්ඨකායප්පසාදං**, නැසුණු කාය ප්‍රසාදය ඇති; **සුක්ඛපිළකං**[4] වා, වියළි ගැටයක් (ඉන්නෙක්) හෝ; **මතචම්මං වා**, මැරුණු සමක් හෝ; **ලොමං වා**, ලොම් ගසක් හෝ; **පවෙසෙන්තස්ස**, පිවිසුවන භික්ෂුවට; **දුක්කටං**, දුකුළා ඇවැත් වේ. **සචෙ**, ඉදින්; **නිමිත්තසණ්ඨානමත්තං අපි**, නිමිති සටහන් මාත්‍රයකුදු; **අනවසෙසෙත්වා**, ඉතිරි නොකොට; **සබ්බසො**, සර්ව ප්‍රකාරයෙන්; **මග්ගො උප්පාටිතො**, මාර්ගය උපුටා දමන ලදුයේ; **තත්ථ**, එහි; **උපක්කමතො**, උපක්‍රම කරන්නහුට; **වණසඞ්ඛෙපවසෙන**, ව්‍රණ සංක්ෂේප වශයෙන්; **ථුල්ලච්චයං**, ථුලැස ඇවැත් වේ. **තථා**, එසේ ම; **මනුස්සානං**, මිනිසුන්ගේ; **අක්ඛිනාසාකණ්ණච්ඡිද්දවත්ථිකොසෙසු**, ඇස්,

---

[1] **පඤ්ඤත්තිතො**. මජසං

[2] **අනාපජ්ජනතො**. මජසං

[3] **පීළකං**. මජසං

[4] **සුක්ඛපීළකං**. මජසං

නාස්, කන් සිදුරු, වස්ති කෝශ (පුරුෂ අංගජාතයෙහි සම් කෝශය) යන මේ තැන්හි; **වා**, නොහොත්; **සත්ථකෙන කතවණෙ**, සැතකින් කරන ලද ව්‍රණයෙහි; **ච**, එසේ ම; **හත්ථි අස්සාදීනං තිරච්ඡානානං**, හස්ති, අශ්ව ආදි තිරිසන්ගත වූවන්ගේ; **වත්ථිකොසනාසාපුටෙසු**, වස්තිකෝශ, නාස් සිදුරුවල; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **තිරච්ඡානානං පන**, තිරිසන්ගත වූවන්ගේ; **අක්ඛිකණ්ණනාසාවණෙසු**[1], ඇස්, කන්, නාසා ව්‍රණයන්හි; **අහිමච්ඡාදීනං**, සර්ප මත්ස්‍ය ආදීන්ගේ; **පවෙසනප්පමාණවිරහිතෙ**, පිවිසුවීමට තරම් ප්‍රමාණවත් නොවූ; **අණුනිමිත්තෙ**, කුඩා නිමිත්තෙහි; **ච**, එසේ ම; **සබ්බෙසං උපකච්ඡාදිසු (ච)**, සියල්ලන්ගේ ම කිසිලි ආදියෙහි ද; **සෙසසරීරෙසු**, සෙසු ශරීරයන්හි ද; **දුක්කටං**, දුකුළා ඇවැත් වේ. **මතසරීරෙ**, මෘත ශරීරයෙහි; **නිමිත්තෙ**, නිමිත්තෙහි; **උපඩ්ඪක්ඛායිතතො පට්ඨාය**, අඩක් ක්‍ෂය වූ තැන් පටන්; **යාව න කුථිතං හොති**, යම්තාක් කුණු නොවූයේ වේ ද; **තාව**, ඒතාක්; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **කුථිතෙ**, කුණු වූ කල්හි; **දුක්කටං**, දුකුළා වේ. **විවත්තකතෙ**[2] **මුඛෙ**, විවර වූ මුඛයෙහි; **අච්ඡුපන්තං**, නොපහසමින්; **අඞ්ගජාතං පවෙසෙන්තස්ස**[3], අඞ්ගජාතය පිවිසුවන භික්‍ෂුවට; **තථා**, එසේ ම (**දුක්කටං**, දුකුළා) ය; **ඔට්ඨතො බහි**, තොල්වලින් පිටත; **නික්ඛන්තජිව්හාය වා**, නික්මුණු දිවෙහි හෝ; **දන්තෙසු වා**, දත්වල හෝ; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **නිමිත්තතො බහි**, නිමිත්තෙන් පිටත; **පතිතමංසපෙසියං**, වැටුණා වූ මාංසපේශියක (*කපාහළ මංසපේසියෙහි* - **කඞ්ඛා**.පි, පි.21); **දුක්කටං ඉති**, දුකුළා යැයි; **එත්ථ**, මෙහි; **අයං ආපත්තිභෙදො**, මේ ආපත්ති භේදය යි.

**අජානන්තස්ස**, නොදන්නහුට; **අසාදියන්තස්ස**, නොම ඉවසන්නහුට; **උම්මත්තඛිත්තචිත්තවෙදනට්ටආදිකම්මිකානං ච**[4], උමතු වූ, වික්ෂිප්ත සිතැති, වේදනාවෙන් පෙළුණු, ආදිකාර්මිකයා (යන මොවුන්ට) ද; **අනාපත්ති**, අනාපත්ති වේ. **එත්ථ පන**, මෙහි වනාහි; **යො**, යම් භික්‍ෂුවක්; **නිද්දං ඔක්කන්තත්තා**, නින්දට බැසගත් බැවින්; **පරෙන කතම්පි උපක්කමං**, මෙරමා විසින් කරන ලද්දා වූ ද උපක්‍රමය; **න ජානාති**, නොදනී නම්; **සො**, හෙතෙමේ; **අජානන්තො**, නොදන්නා භික්‍ෂුව නම් වේ. **යො**, යම් භික්‍ෂුවක්; **ජානිත්වා'පි**, දැනගෙන ද; **න**

---

[1] **අක්ඛිකණ්ණනාසවණෙසු**. හෙමු

[2] **වට්ටකතෙ**. මජසං; කඞ්ඛා.ටී.; **වත්තකතෙ**. කඞ්ඛා.පි.; බෞසංම

[3] **පවෙසෙන්තස්ස දුක්කටං**. මජසං

[4] **උම්මත්තකස්ස ඛිත්තචිත්තස්ස වෙදනට්ඨස්ස ආදිකම්මිකානඤ්ච**. මජසං

**සාදියති**, නොම ඉවසයි නම්; **සො**, හෙතෙමේ **අසාදියන්තො**, නොඉවසන්නා නම් වේ. **යො**, යම් භික්ෂුවක්; **පිත්තවසෙන**, පිත කිපීම් වශයෙන්; **අතෙකිච්ඡං උම්මාදං පත්තො**, පිළියම් රහිත උමතු භාවයට පැමිණියා වූ; **සො**, හෙතෙමේ; **උම්මත්තකො**, උමතු භික්ෂුව නම් වේ. **යක්ඛෙහි කත**, යකුන් විසින් කරන ලද; **චිත්තවික්ඛෙපො**, වික්ෂිප්ත සිත් ඇති භික්ෂුව; **ඛිත්තචිත්තො**, ඛිත්තචිත්ත නම් වේ. **එතෙසං ද්වින්නං අපි ච**, මේ දෙදෙනාට ම; **අග්ගිසුවණ්ණගූථචන්දනාදිසු**, ගිනි, රත්රන්, අසූචි, සඳුන් ආදීන්හි; **සමප්පවත්තිභාවෙන**, සමව පවතින බැවින්; **අජානනභාවො එව පමාණං**, නොදන්නා බව ම (ඇවැතින් මිදීමට) ප්‍රමාණවත් වේ. **යො**, යම් භික්ෂුවක්; **අධිමත්තවෙදනාය**, අධික මාත්‍ර වේදනාවකින්; **ආතුරත්තා**, ආතුර වූ බැවින්; **කිඤ්චි න ජානාති**, කිසිවක් නො දනී ද; **සො** හෙතෙමේ; **වෙදනට්ටො**[1], වේදනට්ට (වේදනාවෙන් පෙළෙන්නා) නම් වේ. **යො**, යමෙක්; **තස්මිං තස්මිං වත්ථුස්මිං**, ඒ ඒ වස්තුවෙහි; **ආදිභූතො**, ආදිපුරුෂයා වූයේ; **සො**, හෙතෙමේ; **ආදිකම්මිකො**, ආදිකාර්මිකයා ය. **අයං පන ආපත්ති**[2], මෙම ඇවැත වනාහි; **චතුසු**[3] **විපත්තීසු**, සිවු විපත් අතරින්; **සීලවිපත්ති**, ශීල විපත්ති ඇත්තේ ය. **තස්සා**, ඒ ඇවැතගේ; **සෙවනචිත්තඤ්ච**, සේවන සිත ද; **මග්ගෙන මග්ගපටිපාදනඤ්ච ඉති**, මාර්ගයෙන් මාර්ගය ප්‍රතිපාදනය ද යැයි; **ද්වෙ අඞ්ගානි**, අඞ්ග දෙකකි. **සමුට්ඨානාදිතො**, සමුට්ඨානාදිය වශයෙන්; **ඉදං සික්ඛාපදං**, මෙම සිකපදය; **පඨමපාරාජික සමුට්ඨානං**, පඨමපාරාජික සමුට්ඨාන වේ. **කිරියා**, කිරීම් වශයෙන් ඇවැතට පත් වේ. **සඤ්ඤාවිමොක්ඛං**, සංඥාවගේ අභාවයෙන් ඇවැතින් මිදේ. **සචිත්තකං**, සචිත්තක ය. **ලොකවජ්ජං**, ලෝකවද්‍ය ය. **කායකම්මං**, කායකර්ම වශයෙන් ඇවැතට පත් වේ. **අකුසල චිත්තං**, අකුශල සිතින් ඇවැතට පත් වේ. **ද්විවෙදනං ඉති**, ද්වි වේදනා යනුවෙනි. **ඉමානි ච සමුට්ඨානාදීනි නාම**, මෙම සමුට්ඨාන ආදිය නම්; **ආපත්තියා හොන්ති**, ඇවැතෙහි වේ. **සික්ඛාපදස්ස න**, සිකපදයාගේ නො වේ. **වොහාරසුඛත්ථං පන**, ව්‍යවහාර පහසුව පිණිස; **සබ්බට්ඨකථාසු**, සියලු අටුවාවන්හි; **සික්ඛාපදසීසෙන**, ශික්ෂාපද ශීර්ෂයෙන්; **දෙසනා**

---

[1] **වෙදනාට්ටො.** මජසං

[2] **අයං පන අනාපත්ති.** මජසං (මෙහි දී මුලින් කියන ලද ආදිකාර්මිකයාට ඇවැත් නොවීම අදහස් කර ඇති බව පෙනේ)

[3] **චතූසු.** මජසං

ආගතා, දේශනාව පැමිණියේ වේ. **තස්මා**, එබැවින්; **අඤ්ඤෙසු අපි** එවරූපෙසු **ඨානෙසු**, අන්‍ය වූ ද මෙබඳු තැන්හි; **බ්‍යඤ්ජනෙ ආදරං අකත්වා**, ව්‍යඤ්ජනයෙහි ආදර නොකොට; **අධිප්පෙතං එව ගහෙතබ්බං**, අදහස් කරන ලද අර්ථය ම ගත යුතු.

**අත්ථං හි නාථො සරණං අවොච**
**න බ්‍යඤ්ජනං ලොකහිතො මහෙසි**
**තස්මා අකත්වා රතිමක්ඛරෙසු**
**අත්ථෙ නිවෙසෙය්‍ය මතිං මුතීමා'ති.** (කඞ්ඛා, පි.24)

(**නාථො**, වෙනෙය්‍ය ජනයාට පිහිටක් වූ; **ලොකහිතො**, ලෝකයාගේ හිතාභිවෘද්ධිය කරන්නා වූ; **මහෙසි**, මහර්ෂී වූ තථාගතයන් වහන්සේ; **අත්ථං හි**, අර්ථය ම; **සරණං**, ප්‍රතිෂ්ඨාධාර වන්නේ යැයි; **අවොච**, වදාළ සේක. **බ්‍යඤ්ජනං**, බ්‍යඤ්ජනය; **න (අවොච)**, නොම වදාළ සේක. **තස්මා**, එබැවින්; **මුතිමා**, ස්මෘතිමත් වූ ඥානවන්ත තෙමේ; **අක්ඛරෙසු**, අක්‍ෂරයන්හි; **රතිං අකත්වා**, ඇල්ම නොකොට; **අත්ථෙ**, අර්ථයෙහි; **මතිං නිවෙසෙය්‍ය**, ප්‍රඥාව පිහටුවන්නේය.) **ඉති**, යැයි;

**පඨමපාරාජිකං**, ප්‍රථම පාරාජික ශික්‍ෂාපදය;
**සමත්තං**[1], සමාප්ත ය.

**59. වි:** සියලු සිකපදයන්ට සාධාරණ සප්තදශාකාරය සැකෙවින් දක්වා ඉක්බිති පඨමපාරාජික සිකපදයට අදාළ වන විනිශ්චය දක්වූ බැවින් එය මෙසේ දැක්වේ.

## සප්තදශාකාර විනිශ්චය

(1). **නිදානය:** විශාලා මහනුවර ය.

(2). **පුද්ගලයා:** සුදින්න තෙරුන් වහන්සේ ය.

(3). **වස්තුව:** මෛථුන ධර්ම ව්‍යතික්‍රමණ වස්තුවෙහි ය.

භාග්‍යවතුන් වහන්සේ විශාලා මහනුවර මහාවනයෙහි කූටාගාර ශාලාවෙහි වැඩවෙසෙන සමයේ විශාලා මහනුවර නුදුරෙහි කලන්ද නම් ගමක සිටි සුදින්න නම් සිටු පුත්‍රයෙක් බුදුරජාණන්

[1] **පඨමපාරාජිකවණ්ණනා නිට්ඨිතා.** මජසං

වහන්සේගෙන් ධර්ම ශ්‍රවණය කොට පැහැදී සසුනෙහි පැවිදි උපසම්පදව ලැබීය. තෙළස් ධුතාංගයන් සමාදන්ව අට වසක් පමණ ගුණධර්ම පූරණය කළ සුදින්න ස්ථවිරයන් වහන්සේ විශාලා මහනුවර දුර්භික්ෂයක් පැවති එක් සමයෙක ස්වකීය ග්‍රාමයට වැඩම කළහ. එහි දී සිය නිවසට වැඩමකළ සුදින්න ස්ථවිරයන් වහන්සේට යළිත් ගිහි බවට පැමිණ පින් දහම් කරගෙන සිටින ලෙස මව්පියන් නොයෙක් ලෙස ආයාචනා කළ ද උන්වහන්සේ ඒ සියල්ල ප්‍රතික්ෂේප කළහ. අවසානයේ ස්වකීය කුල පරම්පරාව ඉදිරියට පවත්වා ගැනීම පිණිස දරු බීජයක් ලබා දෙන ලෙස කළ මවගේ යෝජනාව පිළිගත් සුදින්න භික්ෂුව විශාලා මහනුවර මහාවනයේ දී ස්වකීය පුරාණ බිරිඳ සමඟ තෙවරක් මෛථුන්දම් සේවනය කළේය. ඒ තාක් නොකිළිටිව පැවති සම්බුද්ධ ශාසනය කිළිටි කළේ යැයි දෙවියන් උද්ඝෝෂණය කළ අතර එය බඹලොව දක්වා ම පැතිර ගියේය.

තමන් විසින් කරන්නට යෙදුණු නොමනා කටයුත්ත නිසාවෙන් චිත්ත පීඩාවට පත් සුදින්න ස්ථවිරයන් වහන්සේ රූක්ෂව, දුර්වර්ණව, සුදුමැලිව, ඉල්පුණු නහර ඇතිව සිටිනු දැක සෙසු භික්ෂූන් විසින් කරුණු විමසූ අවස්ථාවේ සිය පුවත සැලකළහ. එහි දී අල්පේච්ඡාදි ගුණැති භික්ෂූන් වහන්සේලා නුගුණ කියා බුදුරජාණන් වහන්සේට මේ කාරණය දන්වූ විට බුදුරජාණන් වහන්සේ ද සුදින්න ස්ථවිරයන් වහන්සේට නොයෙක් ආකාරයෙන් ගර්හා කොට 'සංඝ සුට්ඨුතාය, සංඝඵාසුතාය' යනාදි කරුණු 10 ක් සැලකිල්ලට ගෙන '**යො පන භික්ඛු මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය පාරාජිකො හොති අසංවාසො**' යන ප්‍රථම පාරාජික ශික්ෂාපදය පනවා වදාළ සේක.

මෙසේ ප්‍රථම පාරාජික ශික්ෂාපදය පිළිබඳ මූල ප්‍රඥප්තියෙන් අනතුරුව එක්තරා භික්ෂුවක් වැඳිරියක් සමඟ මෛථුන්දම් සේවනය කිරීමේ වස්තුවෙහි '**අන්තමසො තිරච්ඡානගතායපි**' යන අනුප්‍රඥප්තිය ද වජ්ජිපුත්‍රක භික්ෂූහු මෛථුන්දම් සේවනය කොට පාරාජිකාපත්තියට පත්ව යළිත් පැවිදි උපසම්පදව ඉල්ලීම නිසාවෙන් '**සික්ඛං අපච්චක්ඛාය දුබ්බල්‍යං අනාවිකත්වා**' යන ද්විතීය ප්‍රඥප්තිය වදාළ සේක.

(4). **ප්‍රඥප්තිය:**

1. **මූල ප්‍රඥප්ති**: 'මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය'
2. **අනුප්‍රඥප්ති**: 1. 'අන්තමසො තිරච්ඡානගතාය'පි'
   2. 'සික්ඛං අපච්චක්ඛාය'

   මෙම අනුප්‍රඥප්තීහු ආපත්ති උපස්ථම්භකර වෙත්.

3. **සාධාරණ ප්‍රඥප්ති**: භික්ෂුණීන් උදෙසා 'යා පන භික්ඛුනී ඡන්දසො මෙථුනං ධම්මං පතිසෙවෙය්‍ය' යනාදි ලෙස මෙම වස්තුවෙහි ම පනවන ලද බැවින් භික්ෂු-භික්ෂුණී උභතො සංඝයා හට සාධාරණ ඇවැතක් වේ.

(5). **ආණත්තිය**: අනාණත්තික ය. එනම් අණකිරීමෙන් පරිජි ඇවැත් නො වේ.
එහෙත් අණ කරන භික්ෂුවට අකප්පියසමාදන වශයෙන් දුකුළා ඇවැත් වේ.

(6). **ආපත්තිය**:

1. **පරිජි ඇවැත්**: ජීවමාන සිරුරක සමතිස් මාර්ගයන් අතරින් එක්තරා මාර්ගයක, සම ඉතිරි නොවන සේ සිඳින ලද නමුත් නිමිති සටහන ප්‍රකට වේ නම් එහි වුව ද යටත් පිරිසෙයින් නොනැසුණු කාය ප්‍රසාද ඇති අංගජාතයෙහි හටගත් සම් කැබැල්ලක් හෝ තිල බීජ මාත්‍රයක් ප්‍රවේශ කරන භික්ෂුව පරිජි වේ.
   ක්ෂය නොවූ හෝ බොහෝ සෙයින් ක්ෂය නොවූ මෘත ශරීරයෙහි ද සේවනය කිරීමෙන් පරිජි වේ.

2. **ථුලැසි ඇවැත්**: නිමිති සටහන් මාත්‍රයකුදු ඉතිරි නොකොට සර්ව ප්‍රකාරයෙන් මාර්ගය උපුටා දැමූ කල්හි එහි උපක්‍රම කිරීමෙන් ථුලැසි වේ.
   මිනිසුන්ගේ ඇස්, නාසා, කන් සිදුරු, වස්තිකෝශ, සැතකින් කළ ව්‍රණය යන මේවායෙහි උපක්‍රම කිරීමෙන් ථුලැසි වේ.
   හස්ති, අශ්ව ආදි විශාල තිරිසන් සතුන්ගේ වස්තිකෝශ, නාස්පුඩුවල ථුලැසි ඇවැත් වේ.
   මෘත ශරීරයෙහි නිමිත්ත අඩක් ක්ෂය වූ තැන් පටන් කුණු වීම දක්වා ද විවෘත වූ මුඛයෙහි නොපහසමින් පිවිසුවන්නහුට ද තොල්වලින් පිටත නික්මුණු දිව, දත්වල ද ථුලැසි වේ.

3. **දුකුළා ඇවැත්**: සමතිස් මාර්ගයන්හි, නැසුණු කාය ප්‍රසාද ඇති වියළි ගැටයක් (ඉන්නෙක්) වැනි දෙයක් පිවිසුවන්නහුට දුකුළා වේ. මෙහි දී '**නට්ඨකායප්පසාදන්ති වචනෙන උපාදින්නභාවෙ සති කෙනචි පච්චයෙන උපහතෙහි කායප්පසාදෙ උපහතින්ද්‍රියවත්‍ථුස්මිං විය පාරාජිකමෙවා'ති දස්සෙති. (විමති, පි.118)**' යැයි කියූ බැවින් උපාදින්න භාවය තිබී කිසියම් හේතුවකින් පහව ගිය කල්හි උපක්‍රම කරන්නහුට පරිජි ම වේ.

   තිරිසන්ගත සතුන්ගේ ඇස්, කන්, නාසා, ව්‍රණයන්හි ද, සර්ප, මත්ස්‍ය ආදින්ගේ පිවිසුවීමට ප්‍රමාණවත් නොවන ඉතා කුඩා නිමිත්තෙහි ද සියල්ලන්ගේ ම කිසිලි ආදියෙහි ද දුකුළා වේ.

   මෘත ශරීරය කුණු වී ඇති විට දුකුළා වේ.

   නිමිත්තෙන් බැහැර පතිත වූ (වැටුණු) මස් වැදැල්ලක දුකුළා වේ.

   මෙවුන්දම් රාගයෙන් කාය සංසර්ග කිරීමෙන් දුකුළා වේ.

(7). **අනාපත්තිඃ**

1. නොදන්නා භික්ෂුවට (ගැඹුරු නින්දක සිටීම් ආදියකින්).
2. නොම ඉවසන භික්ෂුවට.
3. පිත් උන්මත්තක භික්ෂුවට.
4. යක්ෂ උන්මත්තක භික්ෂුවට.
5. වේදනාවෙන් පෙළෙන භික්ෂුවට.
6. ආදිකාර්මික සුදින්න තෙරුන් වහන්සේට

(8). **විපත්තිඃ** ශීල විපත්ති ය.

(9). **අඞ්ග 02ඃ**

1. සේවන චිත්තය.
2. මාර්ගයෙන් මාර්ග ප්‍රතිපාදනය.

(10). **සමුට්ඨානඃ** පඨමපාරාජික සමුටඨාන ය (කාය-චිත්ත).

(11). **කිරියාඃ** ක්‍රියා වශයෙනි.

(12). **සංඥාවඃ** සංඥාවිමෝක්ෂ ය.

(13). **චිත්තඃ** සචිත්තක ය.

(14). **වජ්ජඃ** ලෝකවද්‍ය ය.

(15). **කම්මං** කායකර්ම ය.

(16). **කුසල ත්‍රිකය:** අකුශල චිත්ත ය.

(17). **වේදනා ත්‍රිකය:** ද්වි වේදනා ය. (සුඛ, උපෙක්ඛා)

යථොක්ත සමුට්ඨානාදීන්ගේ අදළත්වය ඇවැතට වන අතර ශික්ෂාපදය සඳහා නො වේ. එසේ වුව ද ව්‍යවහාර පහසුව පිණිස සියලු අර්ථකථාවන්හි ශික්ෂාපද ශීර්ෂයෙන් සමුට්ඨානාදිය දක්වන ලදී. එබැවින් මෙබඳු අන් තැන්හි ද ව්‍යඤ්ජන ගරු නොකොට අභිප්‍රේතාර්ථය ම සලකාගත යුතු බව ඇදුරු ඔවදන යි. ඒ බව ම '**අත්ථං හි නාථො..**' යනාදි ගාථාවෙන් පවසන ලදී.

**පඨම පාරාජික ශික්ෂාපදය නිමියේය.**

# දුතිය පාරාජිකය

- 25 -

**ස:** දුතියෙ, ද්විතීය පාරාජික ශික්ෂාපදයෙහි; **ගාමා වා අරඤ්ඤා වා ඉති එත්ථ**, 'ගාමා වා අරඤ්ඤා වා' යන මෙහි; **සබ්බො අපි**, සියලු ම; **එකකුටිකාදිභෙදෙ**, එක් ගෙයක් ඇති ගම් ආදි භේද ඇත්තා වූ; **පරික්ඛිත්තො වා**, පරික්ෂේප කරන ලද්දේ හෝ; **අපරික්ඛිත්තො වා**, පරික්ෂේප නොකරන ලද්දේ හෝ; **සමනුස්සො වා**, මිනිසුන් සහිත හෝ; **අමනුස්සො වා**, මිනිසුන්ගේ අභාවයෙන් යක්ෂයන් අල්ලාගත් හෝ (මිනිස්සු යම් කටයුත්තකට ආපසු එන අදහසින් බැහැර ගොස් ඇති); **අන්තමසො**, යටත් පිරිසෙයින්; **අතිරෙකචාතුමාසනිවිට්ඨො**, සිව් මසකට වැඩි කාලයක් වසන ලද; **යො කොචි සත්ථො අපි**, යම්කිසි ගැල්සාත්තුවක් වේ ද; **ගාමොති වෙදිතබ්බො**, ගම යැයි දත යුතු ය. **ගාමඤ්ච**, ගම ද; **ගාමූපචාරඤ්ච**, ග්‍රාමෝපචාරය ද; **ඨපෙත්වා**, හැර; **අවසෙසං**, සෙසු ප්‍රදේශය, **අරඤ්ඤං නාම**, වනය (ආරණ්‍යය) නම් වේ. **තත්ථ**, ඒ ග්‍රාම-ග්‍රාමෝපචාරයන්හි; **අසම්මොහත්ථං**, නුමුළාව පිණිස; **ඝරං**, ගෘහය ද, **ඝරූපචාරො**, ගෘහෝපචාරය ද; **ගාමො**, ග්‍රාමය ද; **ගාමූපචාරො ඉති**, ග්‍රාමෝපචාරය ද යන; **අයං විභාගො**, මේ බෙදීම; **වෙදිතබ්බො**, දත යුතු ය. **නිම්බකොසස්ස**[1] **හි**, පියසි කෙළවර (*අක් සෙයග* - **කඞ්ඛා.පි, පි.21**); **උදකපතනට්ඨානබ්භන්තරං**, වතුර වැටෙන තැනින් ඇතුළත; **ඝරං නාම**, ගෘහය නම් වේ. **යං පන**, යම් ස්ථානයක් වනාහි; **ද්වාරෙ ඨිතො මාතුගාමො**, දොරටුවෙහි (පියසි කෙළවර ජලය වැටෙන තැනින් ඇතුළත) සිටියා වූ මාගමක්; **භාජනධොවනඋදකං**, බඳුන් සේදූ දිය; **ඡඩ්ඩෙති**, විසිකරයි ද; **තස්ස පතනට්ඨානඤ්ච**, ඒ ජලය වැටෙන ස්ථානය ද; **අන්තොගෙහෙ ඨිතො**, ඇතුළු ගෘහයෙහි සිටියා වූ; **මාතුගාමෙන එව**, මාගමක් විසින් ම; **පකතියා**, ප්‍රකෘතියෙන්; **බහි ඛිත්තසස**, පිටත විසිකරන ලද; **සුප්පස්ස වා**, කුල්ලක් හෝ; **සම්මුඤ්ජනියා වා**, මුස්නක් හෝ; **පතනට්ඨානඤ්ච**, වැටෙන්නා වූ ස්ථානය ද, **ඝරස්ස පුරතො**, ගෙදර ඉදිරියේ; **ද්වීසු කණ්ණෙසු**[2] **සම්බන්ධිත්වා**, දෙකොන්වලින් බැඳ; **මජ්ඣෙ රුක්ඛසූචිද්වාරං ඨපෙත්වා**,

---

[1] **නිබ්බකොසස්ස.** මජසං

[2] **කොණෙසු.** මජසං

මැද හිඳි දෙර කඩුල්ලක් තබා; **ගෝරූපානං**, ගවයන්ගේ; **පවෙසන නිවාරණත්‍ථං**, පිවිසීම වැළැක්වීම පිණිස; **කත පරික්‍ඛෙපො ච**, කරන ලද පරික්‍ෂේපය ද (යන); **අයං පන සබ්බොපි**[1], මේ සියල්ල ම; **සරූපචරො නාම**, සරූපචාරය නම් වේ. **යං පන**, යම් ගෘහයක් වනාහි; **සබ්බන්තිමං සරං හොති**, සියල්ලට අවසන් ගෘහය වෙයි ද; **තස්ස සරස්ස**, ඒ ගෘහයාගේ; **තාදිසෙ සරූපචාරෙ**, එබඳු (ඉහත දක්වන ලද ආකාර) ගෘහෝපචාරයේ; **ඨිතස්ස**, සිටියා වූ; **ථාමමජ්ඣිමස්ස පුරිසස්ස**, බල මැදුම් පුරුෂයකුගේ; **තරුණමනුස්සා යථා**, යම් සේ තරුණ මිනිස්සු; **අත්තනො බලං දස්සෙන්තො**, ස්වකීය බලය දක්වමින්; **බාහුං පසාරෙත්‍වා**, බාහුව දිගහැර; **ලෙඩ්ඩුං ඛිපන්ති**, (ගල්) කැටයක් විසිකරත් ද; **එවං**, මෙසේ; **ඛිත්තස්ස ලෙඩ්ඩුස්ස**, විසිකරන ලද කැටයේ; **පතනට්ඨානබ්භන්තරං**, වැටෙන තැන ඇතුළත; **ගාමො නාම**, ගම නම් වේ. **තතො**, එයින්; **අඤ්ඤස්ස ලෙඩ්ඩුපාතස්ස**, අනික් කැටයක් වැටෙන තැන; **අබ්භන්තරං**, ඇතුළත; **ගාමූපචාරො නාම**, ග්‍රාමෝපචාරය නම් වේ. **පතිතස්ස පන ලෙඩ්ඩුනො**, වැටුණු කැටය; **පවට්ටිත්‍වා ගතට්ඨානං**, පෙරළී ගිය තැන, **න ගහෙතබ්බං**, නොගත යුතු ය. **පරික්ඛිත්තස්ස පන ගාමස්ස**, පරික්‍ෂේප කරන ලද (වැටකින් හෝ ප්‍රාකාරයකින් හෝ වට කළ) ගමක; **පරික්‍ඛෙපො එව**, පරික්‍ෂේපය ම; **ගාමපරිච්ඡේදෙ**[2], ගාම පරිච්ඡේදය යි. **සචෙ**, ඉදින්; **තස්ස**, ඒ ගමේ, **ද්වෙ ඉන්දඛීලා හොන්ති**, ඉන්ද්‍රඛීලයෝ දෙකක් වෙත් ද; **අබ්භන්තරිමෙ ඉන්දඛීලෙ**, ඇතුළත ඉන්ද්‍රඛීලයේ; **ඨිතස්ස**, සිටියා වූ (**පුරිසස්ස**, පුරුෂයකුගේ); **ලෙඩ්ඩුපාතබ්භන්තරං**, ලෙඩ්ඩුප්පාතය ඇතුළත; **ගාමූපචාරො නාම**, ග්‍රාමෝපචාරය නම් වේ. **පදභාජනියෙපි**[3] **හි**, පදභාජනියෙහි ද; **ඉමිනා නයෙන එව**, මේ ක්‍රමයෙන් ම; **අත්‍ථො වෙදිතබ්බො**, අර්ථය දත යුතු ය. **තත්‍ථ**, එහි ලා; **යො අයං**, යම් මේ; **අපරික්ඛිත්තස්ස ගාමස්ස**, පිරිකෙව් නොකළ ගමේ; **උපචාරො දස්සිතො**; උපචාරය දක්වන ලද්දේ ද; **තස්ස වසෙන**, ඒ ග්‍රාමෝපචාරයාගේ වශයෙන්; **විකාලෙ ගාමප්පවෙසනාදිසු**[4], විකාලෙ ගාමප්පවෙසන ආදීන්හි; **ආපත්ති පරිච්ඡින්දිතබ්බො**, ඇවැත් පිරිසිඳිය

---

[1] **අයං සබ්බොපි.** මජසං

[2] **ගාමස්ස පරිච්ඡේදෙ.** මජසං

[3] **පදභාජනෙපි.** මජසං

[4] **ගාමප්පවෙසනාදීසු.** මජසං; කඞ්ඛා.ටී.

යුතු වේ. **ඉති**, මෙසේ; **ඉමං ගාමඤ්ච ගාමූපචාරඤ්ච ඨපෙත්වා**, මේ ග්‍රාමය ද ග්‍රාමෝපචාරය ද තබා; **අවසේසං**, සෙසු ප්‍රදේශය; **ඉමස්මිං සික්ඛාපදෙ**, මෙම සිකපදයේ; **අරඤ්ඤං නාම**, ආරණ්‍යය නම් වේ. **ච**, තව ද; **එතං**, මේ; **ගාමා වා අරඤ්ඤා වා ඉති**, 'ගාමා වා අරඤ්ඤා වා' යනු; **දෙසනාමත්තං එව**, දේශනා මාත්‍රයක් මැ යි. **ඉමෙසං**, මේ ග්‍රාම-ආරණ්‍යයන්ගේ; **පරිච්ඡේදදස්සනත්ථං**, පිරිසිඳීම දැක්වීම පිණිස; **යෙ පන සර-සරූපචාර-ගාම-ගාමූපචාරා**[1], යම් ගෘහ-ගෘහෝපචාර, ග්‍රාම-ග්‍රාමෝපචාරයෝ; **වුත්තා**, කියන ලද්දහු ද; **තතො අපි**, එයිනුදු; **පාරාජිකවත්ථුං**, පරිජියට පොහෝනා පාදයක් වටිනා දෙයක්; **අවහරන්තස්ස**, පැහැරගන්නා වූ භික්ෂුවට; **පාරාජිකං හොති එව**, පාරාජිකා වේ ම ය.

**60. වි:** ද්විතීය පාරාජික ශික්ෂාපදයේ 'ගාමා වා අරඤ්ඤා වා' යනුවෙන් දැක්වෙන බැවින් පළමුව ගම සහ ආරණ්‍යය (වනය) පිළිබඳ විනිශ්චය දක්වනු පිණිස, **'දුතියෙ ගාමා වා අරඤ්ඤා වාති'** යනාදිය කියන ලදී.

**'ගාමා වා අරඤ්ඤා වා'** : එකකුටිකගාම (එක නිවසක් ඇති ගම), ද්විකුටිකගාම (නිවෙස් දෙකක් ඇති ගම) ආදි භේද ඇත්තා වූ, පරික්ෂේප කරන ලද හෝ නොකරන ලද, මිනිසුන් සහිත හෝ මිනිසුන් රහිත යක්‍ෂාදීන් විසින් අල්ලා ගත් හෝ යටත් පිරිසෙයින් සාර මසකට වැඩි කලක් යම්කිසි ගැල්සාත්තුවක් වැනි සමූහයක් නතරව සිටි තැන ද **'ග්‍රාමය'** යැයි කියනු ලැබේ.

ග්‍රාමයත් ග්‍රාමෝපචාරයත් හැරපියා සෙසු ප්‍රදේශය **ආරණ්‍ය** නොහොත් වනය ලෙස මෙම අදින්නාදන සිකපදයේ හැඳින්වේ. **අභිධර්මයෙහි** ආරණ්‍යය යනු ඉන්ද්‍රඛීලයෙන් එහා සියලු ප්‍රදේශය අදහස් වේ. එනම් ගමක සීමාව පිරිසිඳීම පිණිස තබන ලද ගල් හෝ දැව කණුව ඉන්ද්‍රඛීලය වන අතර එකී ඉන්ද්‍රඛීලයෙන් පිටත යම් ස්ථානයක් වේ ද එය ආරණ්‍යය යි. **ආරණ්‍යයක සිකපදයට** අනුව දුනු පන්සියයක් දුර පිහිටි සෙනසුන ආරණ්‍ය සේනාසනය නම්. මෙසේ **ගාමා වා අරඤ්ඤා වා** යන්නෙහි අර්ථ බෙද දක්වනු පිණිස **'සරං, සරූපචාරො, ගාමො, ගාමූපචාරො, අරඤ්ඤං'** යන භේදය වදාළහ. ඒ අනුව;

---

[1] **සරසරූපචාරගාමූපචාරා.** මජසං

**සරං (ගෘහය):** යනු නිවසක පියසි කෙළවර නොහොත් දිය වැටෙන ස්ථානයෙන් ඇතුළත ප්‍රදේශය වේ.

**සරූපචාරො (ගෘහෝපචාරය):** යනු යම් නිවසක දෙරටුවේ සිට මාගමක් බඳුන් සේදූ දිය විසිකරයි ද එය වැටෙන ස්ථානය ද, ගෙය තුළ සිටි (ආලින්දය ඇතුළෙහි) මාගමක් විසින් ම ප්‍රකෘතියෙන් පිටත කුල්ලක් හෝ මුස්නක් (අමදින කොස්සක්) විසිකරයි ද, එය වැටෙන තැන ද, නිවස ඉදිරිපිට ගවයන් ආදිය ඇතුළුවීම වැළැක්වීම පිණිස ඉදිකඩුල්ලක් තබා කරන ලද වැට ද (පරික්ෂේපය ද) යන මේ සියල්ල යි.

**ගාමො (ගම):** යනු ඉහත දක්වන ලද අවසන් ගෘහයේ උපචාරයෙහි සිටි බලමැදුම් පුරුෂයෙක් ස්වකීය බලය පෙන්වමින් බාහුව දිගහැර ගලක් හෝ එවැනි කැටයක් විසිකරයි ද එය වැටෙන තැනින් (ලෙඩ්ඩුපාතයෙන්) ඇතුළත ප්‍රදේශය යි.

**ගාමෝපචාරො (ග්‍රාමෝපචාරය):** යනු ඉහත දක්වන ලද පළමු ලෙඩ්ඩුප්පාතයේ සිට තවත් ලෙඩ්ඩුප්පාතයක් ඇතුළත ප්‍රදේශය යි.

මෙම බෙද දැක්වීම පරික්ෂේප නොකළ ගමක් සඳහා වේ. යම් ගමක් වැටකින් හෝ ප්‍රාකාරයකින් පරික්ෂේප කොට ඇති විට, ඒ පරික්ෂේපය ග්‍රාම පරිච්ඡේදය (ගම පිරිසිඳීම) වෙයි. එබඳු ගමක ඉන්ද්‍රඛීල දෙකක් තිබේ නම්, ඇතුළු ඉන්ද්‍රඛීලයේ සිටි පුරුෂයකුගේ ලෙඩ්ඩුප්පාතය ග්‍රාමෝපචාරය වේ. එබැවින් මෙම සිකපදයේ පදභාජනියෙහි;

> **"ගාමූපචාරො නාම පරික්ඛිත්තස්ස ගාමස්ස ඉන්දඛීලෙ ඨිතස්ස මජ්ඣිමස්ස පුරිසස්ස ලෙඩ්ඩුප්පාතො. අපරික්ඛිත්තස්ස ගාමස්ස සරූපචාරෙ ඨිතස්ස මජ්ඣිමසස පුරිසස්ස ලෙඩ්ඩුප්පාතො"**
>
> (පාරා, පි.104)

යැයි කියන ලදී. එහි ලා පරික්ෂේප නොකරන ලද ග්‍රාමයෙහි පිරිසිඳීම වශයෙන් '**සරූපචාරෙ ඨිතසස මජ්ඣිමස්ස පුරිසස්ස ලෙඩ්ඩුප්පාතො** = ගෘහෝපචාරයේ සිටි බලමැදුම් පුරුෂයකුගේ ලෙඩ්ඩුප්පාතය' යැයි සඳහන් කර ඇති අතර එතැන් පටන් තවත් ලෙඩ්ඩුප්පාතයකින් ග්‍රාමෝපචාරය දත යුතු වේ. එහෙයින් මේ මාතිකට්ඨකථාවෙහි '**පදභාජනයෙපි හි ඉමිනාව නයෙන අත්‍ථො වෙදිතබ්බො**' යැයි කියන ලදී.

විකාලෙ ගාමප්පවෙසන සිකපදයෙහි ද "**අපරික්ඛිත්තස්ස ගාමස්ස උපචාරො අදින්නාදනෙ වුත්තනයෙනෙව වෙදිතබ්බො** = පරික්ෂේප නොකරන ලද ගමේ උපචාරය අදින්නාදන සිකපදයේ කියූ ආකාරයෙන් ම දත යුතු වේ (**සම.පා.** පි.655)" යනුවෙන් දැක්වෙන බැවින් මෙහි කියූ ආකාරයට ම පරික්ෂේප කරන ලද ග්‍රාමයෙහි පරික්ෂේපය ඉක්මවන භික්ෂුවට ද, අපරික්ෂිප්ත ග්‍රාමයෙහි සරූපචාරයේ පටන් දෙවන ලෙඩ්ඩුප්පාත සංඛ්‍යාත ග්‍රාමෝපචාරයට ඇතුළු වන්නහුට ද **විකාලයේ ගාමප්පවේසන** ඇවැත වේ යැයි දත යුතු.

මෙම අදින්නාදන සිකපදයෙහි ලා යම් භික්ෂුවක් ගෘහයේ හෝ වේවා, ගෘහ උපචාරයේ හෝ වේවා, ගමේ හෝ වේවා, ග්‍රාමෝපචාරයේ හෝ වේවා, ආරණ්‍යයේ හෝ වේවා යම්කිසි තැනක පාදයක වටිනාකම පටන් සස්වාමික වූ යම් භාණ්ඩයක් සොර සිතින් ගන්නේ නම් පාරාජික ඇවැතට පත්වේ.

**සඃ අදින්නං ඉති**, 'අදින්නං' යනු; **අඤ්ඤස්ස මනුස්සජාතිකස්ස**, අන් මනුෂ්‍ය ජාතිකයකුගේ; **සන්තකං**, සතු වූවක් ය. **ථෙය්‍යසඞ්ඛාතං ඉති එත්ථ**, 'ථෙය්‍යසඞ්ඛාතං' යන මෙහි; **ථෙනො ඉති**, 'ථෙනො' යනු; **චොරො**, සොරෙක් වේ. **ථෙනස්ස භාවො**, සොකරම් කරන්නහුගේ ස්වභාවය; **ථෙය්‍යං**, ථෙය්‍ය නම් වේ. *(භාවාර්ථයෙහි තද්ධිතය යි. ථෙන + ණ්‍යය = ථෙය්‍ය).* **එතං**, මෙය; **අවහරණ චිත්තස්ස**, පැහැරගැනීමේ සිතට; **නාමං**, නමකි. **සඞ්ඛා සඞ්ඛාතං ඉති**[1], 'සඞ්ඛා', 'සඞ්ඛාතං' යන්න; **අත්ථතො**, අර්ථ වශයෙන්; **එකං**, එකකි[2]. **එතං**, මෙය; **කොට්ඨාසස්ස**, කොටසට; **නාමං**, නමකි. '**සඤ්ඤානිදානා හි පපඤ්චසඞ්ඛා**' **ඉති ආදිසු විය**[3], 'සඤ්ඤානිදානා හි පපඤ්චසඞ්ඛා' යන ආදීන්හි මෙනි. **ථෙය්‍යඤ්ච තං සඞ්ඛාතඤ්ච ඉති ථෙය්‍යසඞ්ඛාතං**, යනු සමාස විග්‍රහය යි. *(පැහැර ගැනීමේ සිත වූයේත් එය ම ය, කොට්ඨාසය වූයේත් එය ම නු යි*

---

[1] '**සඞ්ඛාතන්ති.** හෙමු; බෞසංම

[2] මෙහි '**සඞ්ඛාතන්ති අත්ථතො එකං**' යනුවෙන් මාතිකට්ඨාවෙහි එන පාඨය, සමන්තපාසාදිකාව සහ කඞ්ඛාවිතරණී පිටපොත අනුව '**සඞ්ඛා සඞ්ඛාතන්ති අත්ථතො එකං**' ලෙස වෙනස් විය යුතු බව පෙනේ. එවිට එහි අර්ථය - **සඞ්ඛා**, සඞ්ඛා ශබ්දය (සහ); **සඞ්ඛාතං**, සඞ්ඛාතං ශබ්දය; **ඉති**, යන (දෙක ම); **අත්ථතො**, අර්ථ වශයෙන්; **එකං**, එක ම ය. - යැයි ගත යුතු බව පෙනේ.

[3] '**සඤ්ඤානිදානා හි පපඤ්චසඤ්ඤාසඞ්ඛා'ති ආදිසු විය.** බෞසංම

*ථෙය්‍යසඞ්ඛාතං නම් වේ).* **ථෙය්‍යචිත්තසඞ්ඛාතො,** සොර සිත සංඛ්‍යාත වූ; **එකො චිත්තකොට්ඨාසො,** එක් චිත්ත කොට්ඨාසයක්; **ඉති අත්‍ථො,** යන අර්ථය යි. **එතං,** 'ථෙය්‍යසඞ්ඛාතං' යන මේ පදය; **කරණත්‍ථෙ,** කරණාර්ථයෙහි; **පච්චත්තවචනං,** ප්‍රථමා විභක්ති වචනය යි. **තස්මා,** එහෙයින්; **ථෙය්‍යසඞ්ඛාතෙන ඉති,** 'ථෙය්‍යසඞ්ඛාතෙන' යැයි; **අත්‍ථතො,** අර්ථ වශයෙන්; **දට්ඨබ්බං,** දත යුතු ය. **ච,** තව ද; **යො,** යමෙක්; **ථෙය්‍යසඞ්ඛාතෙන,** සොර සිත නැමැති චිත්ත කොට්ඨාසය කරණකොටගෙන; **ආදියති,** පැහැරගනී ද; **සො,** හෙතෙමේ; **යස්මා,** යම් හෙයකින්; **ථෙය්‍යචිත්තො හොති,** සොර සිතැත්තෙක් වෙයි ද; **තස්මා,** එබැවින්; **බ්‍යඤ්ජනං අනාදියිත්‍වා,** බ්‍යඤ්ජනාර්ථය නොම සලකාගෙන; **අත්‍ථමෙව දස්සෙතුං,** අර්ථය ම දක්වනු පිණිස (*අත්‍ථමෙවා'ති භාවත්‍ථමෙව* - **කඞ්ඛා.ටී,** පි.69); **'ථෙය්‍යචිත්තො අවහරණචිත්තො' ඉති එවං,** 'ථෙය්‍යචිත්තො අවහරණචිත්තො' යැයි මෙසේ; **අස්ස,** මේ සිකපදයාගේ; **පදභාජනං වුත්තං ඉති,** පදභාජනිය කියන ලද්දේ යැයි; **වෙදිතබ්බං,** දත යුතු ය.

**61. වි:** "අදින්නං" යනු අන් මනුෂ්‍ය ජාතික පුද්ගලයකු සතු වූ කයින් හෝ වචනයෙන් නොදුන් දෙය අදහස් කෙරේ. දන්තපොන සිකපදයේ දී 'අදින්නං' යන්නෙන් කයින්, කාය ප්‍රතිබද්ධයකින් හෝ නිස්සග්ගිය ආකාරයකින් නොපිළිගන්නා ලද වළඳන දෙය අදහස් වේ. මෙම අදින්නාදන සිකපදයේ දී අනිකකුගේ අයිතියට පත් සස්වාමික භාණ්ඩය අදහස් වේ. ඒ භාණ්ඩය ස්වාමීහු විසින් කයින් හෝ වචනයෙන් හෝ නොදුන්නේ නු යි **අදිනනං** නම් වේ. එය ද මනුෂ්‍ය ජාතික පුද්ගලයකු සතු වූවක් ම විය යුතු අතර යක්‍ෂ, ප්‍රේත, තිරිසන්ගත ආදි අනිකකු සතු වූවක් මෙම සිකපදයේ ආපත්තිකර නොවන බැවින් '**අඤ්ඤස්ස මනුස්සජාතිකස්ස සන්තකං**' යැයි කියන ලදී.

"**ථෙය්‍යසඞ්ඛාතං**" යන පදයෙහි '**ථෙය්‍යඤ්ච තං සඞ්ඛාතඤ්චාති = ථෙය්‍යසඞ්ඛාතං**' යනුවෙන් සමාස විග්‍රහය දත යුතු වේ. ඒ අනුව **ථෙය්‍ය** යනු පැහැරගැනීමේ සිතට නමකි. එහෙයින් 'ථෙනො' යන්නෙන් සොරෙක් අදහස් වන බවත්, සොරාගේ ස්වභාවය 'ථෙය්‍ය' යනුවෙන් අදහස් වන බවත් '**ථෙනස්ස භාවො = ථෙය්‍යං**' යන භාවාර්ථයේ තද්ධිත විග්‍රහයෙන් දැක්වේ. '**ණ්‍ය**' ප්‍රත්‍යය යි. '**සඞ්ඛාතං**' යන පදය පිළිබඳ විග්‍රහ කිරීමේ දී **සඞ්ඛා, සඞ්ඛාතං** යන ශබ්ද ද්වය ම අර්ථ වශයෙන් එකක් ම යැයි දැක්වේ. එහි අර්ථය නම් කොට්ඨාසය, රාශිය යන්න යි. ඒ අනුව

'සොරකම් කරනු කැමති සිත යැයි කියනු ලබන චිත්ත කොට්ඨාසය' **ථෙය්‍යසඞ්ඛාතං** යන්නෙන් අදහස් වේ. එය ද කරණාර්ථයෙහි ප්‍රථමා විභක්ති යි. එනම් 'සොර සිත නැමති චිත්ත කොට්ඨාසය කරණකොටගෙන' යනුවෙන් අර්ථ ගත යුතු. යමෙක් මෙසේ සොර සිතින් යම් දෙයක් පැහැර ගනී ද හෙතෙමේ සොර සිතැත්තා යන නම ලබයි. එහෙයින් ඛ්‍යඤ්ජනාර්ථය ගරු නොකොට සන්දර්භාර්ථය සලකා භාග්‍යවතුන් වහන්සේ **'ථෙය්‍යසඞ්ඛාතන්ති ථෙය්‍යචිත්තො අවහරණචිත්තො** (පාරා, පි.104)' යනුවෙන් පදභාජනිය තැබූ සේක.

මෙසේ **'අදින්නං ථෙය්‍යසඞ්ඛාතං'** යන පදයන්ගෙන් අප්‍රකට අරුත් විවරණය කොට යළි **'ආදියෙය්‍ය'** යන පදයේ අර්ථ වර්ණනා කරනු කැමති බුදුගොස් ඇදුරුපාණෝ **"ආදියෙය්‍යාති...."** යනාදිය කීහ.

**සඃ ආදියෙය්‍ය ඉති**, 'ආදියෙය්‍ය' යනු; **පඤ්චවීසතියා අවහාරානං**, පස්විසි අවහාරයන් අතරින්; **අඤ්ඤතරවසෙන**, එක්තරා අවහාරයක වශයෙන්; **හරෙය්‍ය**, පැහැරගන්නේය. **තෙ පන අවහාරා**, ඒ පස්විසි අවහාරයෝ; **පඤ්ච පඤ්චකානි සමොධානෙත්වා**, පඤ්චකයෝ පසක් එක් කොට; **සාධුකං**, මැනවින්; **සල්ලක්ඛෙතබ්බා**, සැලකිය යුත්තාහු ය.

\- 26 -

**පඤ්ච පඤ්චකානි නාම**, පඤ්චකයෝ පස්දෙන නම්; **නානාභණ්ඩපඤ්චකං**, නානාභණ්ඩ පඤ්චකය, **එකභණ්ඩපඤ්චකං**, එකභණ්ඩ පඤ්චකය; **සාහත්ථිකපඤ්චකං**, සාහත්ථික පඤ්චකය; **පුබ්බපයොගපඤ්චකං**, පුබ්බපයොග පඤ්චකය; **ථෙය්‍යාවහාරපඤ්චකං ඉති**, ථෙය්‍යාවහාර පඤ්චකය යනුවෙනි. **තත්‍ථ**, ඒ පඤ්චක පස්දෙනා අතරින්, **පුරිමානි ද්වෙ පඤ්චකානි**, පූර්වයේ ඇති පඤ්චක දෙදෙන; **එතස්සෙව පදස්ස**, 'ආදියෙය්‍ය' යන මේ පදයාගේ ම; **පදභාජනෙ**, පද භාජනියෙහි; **වුත්තානං**, කියන ලද්දා වූ; **'ආදියෙය්‍ය, හරෙය්‍ය, අවහරෙය්‍ය, ඉරියාපථං විකොපෙය්‍ය, ඨානාචාවෙය්‍ය' ඉති ඉමෙසං පදානං වසෙන**, 'ආදියෙය්‍ය -පෙ- ඨානාචාවෙය්‍ය' යන මේ පදයන්ගේ වශයෙන්; **ලබ්භන්ති**, ලබත්. **තත්‍ථ**, ඒ පඤ්චක දෙක අතරින්; **නානාභණ්ඩපඤ්චකං**, නානාභණ්ඩ පඤ්චකය; **සවිඤ්ඤාණක අවිඤ්ඤාණකවසෙන**, සවිඤ්ඤාණක, අවිඤ්ඤාණක වශයෙන්;

**දට්ඨබ්බං,** දත යුතු ය. **ඉතරං,** අනෙක (එකභණ්ඩ පඤ්චකය); **සවිඤ්ඤාණකවසෙන එව**[1], සවිඤ්ඤාණක වශයෙන් ම ය.

**කථං,** කෙසේ ද? යත්; **ආදියෙය්‍ය ඉති,** 'ආදියෙය්‍ය' යනු; **ආරාමං,** පුප්ඵාරාම ඵලාරාමාදියක් උදෙසා; **අභියුඤ්ජති,** පර සන්තක වූවක් තමා සතු යැයි මුසා බස් කියා චෝදනා (පැමිණිලි) කරයි ද; **දුක්කටස්ස ආපත්ති,** දුකුළා ඇවැතට පැමිණේ. **සාමිකස්ස,** ස්වාමියාට; **විමතිං උප්පාදෙති,** විමතියක් උපදවයි ද; **ථුල්ලච්චයස්ස ආපත්ති,** ථුලැසි ඇවැතකට පැමිණේ. **සාමිකො,** ස්වාමියා (අයිතිකරු); **මය්හං න භවිස්සති ඉති,** මගේ නොවන්නේ යැයි; **ධුරං නික්ඛිපති,** ධුරනික්ෂේපය (අදහස, උත්සාහය අතහැරීම) කරයි ද; **පාරාජිකස්ස ආපත්ති,** පරිජි ඇවැතට පැමිණේ. **හරෙය්‍ය ඉති,** 'හරෙය්‍ය' යනු; **අඤ්ඤස්ස භණ්ඩං හරන්තො,** වෙන කෙනෙකුගේ භාණ්ඩයක් රැගෙන යනුයේ; **සීසෙ භාරං,** හිසේ ඇති බර; **ථෙය්‍යචිත්තො,** සොර සිතැත්තේ; **ආමසති,** ආමර්ශනය කරයි ද; **දුක්කටං,** දුකුළා ඇවැත වේ. **ඵන්දාපෙති,** සොලවයි ද; **ථුල්ලච්චයං,** ථුලැසි ඇවැත් වේ. **ඛන්ධං ඔරොපෙති,** හිසෙන් කඳට බස්සවාගනී ද; **පාරාජිකං,** පරිජි ඇවැත වේ. **අවහරෙය්‍ය ඉති,** 'අවහරෙය්‍ය' යනු; **උපනික්ඛිත්තං භණ්ඩං,** (තාවකාලිකව ආරක්ෂාකර දීම සඳහා) තමා වෙත භාරකොට තබා ඇති භාණ්ඩයක්; **මෙ භණ්ඩං,** මගේ භාණ්ඩය; **දෙහි ඉති,** දෙව යැයි; **වුච්චමානො,** කියනු ලබන්නේ; **අහං,** මම; **න ගණ්හාමි ඉති,** නොගත්තෙමි යැයි *(අතීතාර්ථ වාචක වූ වර්තමාන වචනය යි. මම නොගත්තෙමි යන අර්ථය යි. 'අතීතත්ථෙ චෙතං වත්තමාන වචනං, නාහං ගහෙසින්ති අත්ථො' -* **කඞ්ඛා.ටී,** **පි.71***)* **භණති,** කියයි ද; **දුක්කටං,** දුකුළා වේ. **සාමිකස්ස,** ස්වාමියාට; **විමතිං උප්පාදෙති,** විමති උපදවයි ද; **ථුල්ලච්චයං,** ථුලැසි වේ. **සාමිකො,** අයිතිකරු තෙමේ; **මය්හං න භවිස්සති ඉති,** මගේ නොවන්නේ යැයි; **ධුරං නික්ඛිපති,** ධුරනික්ෂේප කරයි ද; **පාරාජිකං,** පරිජි වේ. **ඉරියාපථං විකොපෙය්‍ය ඉති,** 'ඉරියාපථං විකොපෙය්‍ය' යනු; **සහභණ්ඩහාරකං,** භාණ්ඩය ගෙන යන්නහු සමඟ; **නෙස්සාමි ඉති,** තමාට අභිමත ස්ථානයකට ගෙනයන්නෙමි යැයි; **පඨමං පාදං අතික්කාමෙති,** පළමු පාදය ඉක්මවයි ද, *(තර්ජනය කිරීම ආදියකින්*

[1] **පවිඤ්ඤාණක වසෙනෙව.** බෞසංම

*භාණ්ඩය රැගෙන යන්නාගේ ගමන පථය වෙනස්කොට තම අභිමත මාර්ගයෙහි පළමු පාදය ඉක්මවයි ද);* **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **දුතියං පාදං අතික්කාමෙති**, දෙවන පාදය ඉක්මවයි ද; **පාරාජිකං**, පරිජි වේ. **ඨානා චාවෙය්‍ය ඉති**, 'ඨානා චාවෙය්‍ය' යනු, **ථලට්ඨං භණ්ඩං**, භූමියෙහි හෝ පාෂාණ පර්වත ආදි තැනක හෝ යම් ථලයක තබන ලද භාණ්ඩය; **ථෙය්‍යචිත්තො**, සොර සිතින්; **ආමසති**, අල්ලයි ද; **දුක්කටං**, දුකුළා වේ. **ඵන්දපෙති**, සොලවයි ද; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **ඨානා චාවෙති**, තිබූ තැනින් පහකරයි ද; **පාරාජිකං**, පරිජි වේ. **එවං**, මෙසේ; **තාව**, පළමු කොට; **නානාභණ්ඩපඤ්චකං වෙදිතබ්බං**, නානාභණ්ඩ පඤ්චකය දත යුතු ය.

**සස්සාමිකස්ස පන**, හිමියකු (අයිතිකරුවකු) සහිත වූ; **දසස්ස වා**, දසයකුගේ හෝ; **තිරච්ඡානගතස්ස වා**, තිරිසන්ගත සත්ත්වයකුගේ හෝ; **යථාවුත්තෙන අභියොගාදිනා නයෙන**, යම් සේ කියන ලද පැමිණිලි කිරීම් ආදි ක්‍රමයෙන්; **ආදියන**, බොරු පැමිණිලි කර නඩු කියා ගැනීම; **හරණ**, අනෙකකුගේ භාණ්ඩයක් රැගෙන යන අතරතුර ගැනීම; **අවහරණ**, පරිස්සමට තැබූ දෙයක් නොදී අත්කර ගැනීම, **ඉරියාපථවිකෝපන**, භාණ්ඩය රැගෙනයන පුද්ගලයාගේ ඉරියව් වෙනස් කර අත්කර ගැනීම; **ඨානාචාවනවසෙන**, ථලයක තබන ලද භාණ්ඩ තිබූ තැනින් පහකිරීම වශයෙන්; **එකභණ්ඩපඤ්චකං**, එකභණ්ඩ පඤ්චකය; **වෙදිතබ්බං**, දත යුතු ය.

## පස්විසි අවහාරය

**62. වි:** සිකපද මාතිකාවෙහි එන '**ආදියෙය්‍ය**' යන පදයෙන් පස්විසි අවහාරයන් අතරින් එක්තරා අවහාරයක වශයෙන් පැහැරගැනීම අදහස් වේ. ඒ බව පළමුව දක්වා අනතුරුව ඒ එකිනෙක අවහාරය විස්තර කෙරේ. එකී පස්විසි අවහාරයන් පඤ්චක වශයෙන් පසක් වේ. එනම්, නානාභණ්ඩ පඤ්චකය, එකභණ්ඩ පඤ්චකය, සාහත්ථික පඤ්චකය, පුබ්බපයොග පඤ්චකය, ථෙය්‍යාවහාර පඤ්චකය යනුවෙනි. ඒ අතරින් පළමු පඤ්චකය වන නානාභණ්ඩ පඤ්චකය පළමුව විස්තර කෙරේ.

## නානාභණ්ඩ පඤ්චකය

මෙම පඤ්චකය සවිඤ්ඤාණක හා අවිඤ්ඤාණක යන දෙයාකාරයෙන් ම විය හැකි අතර '**ආදියෙය්‍ය, හරෙය්‍ය, අවහරෙය්‍ය, ඉරියාපථං විකොපෙය්‍ය, ඨානා චාවෙය්‍ය**' යනුවෙන් පඤ්චවිධ වේ.

(1). **ආදියෙය්‍ය** : අන් අය සතු සවිඤ්ඤාණක හෝ අවිඤ්ඤාණක වස්තූන් අත්පත් කරගැනීම පිණිස බොරු පැමිණිලි කිරීම්, නඩුකීම් වශයෙන් කියන ලදී. ඒ අනුව අන්සතු දෙයක් තමා සතු යැයි මුසා බස් කියා බොරු පැමිණිලි කිරීමෙන් දුකුළා ඇවැත් වේ. මෙහි දී සම්පජාන මුසාවාදයක් වුව ද අදින්නාදනයට පූර්ව ප්‍රයෝගයක් බැවින් දුකුළා ඇවැත් වේ. වස්තු හිමියාට විමතියක් උපදවීමෙන් ථුල්ලැසි ඇවැත් වේ. එනම් විනිශ්චය කෞශල්‍යයෙන් යුක්ත දක්ෂ පෙරකදෝරුවන් යොදගැනීම් ආදිය හේතුවෙන් හෝ අනිසි දේශපාලන බලය යොදගැනීම හේතුවෙන් වස්තු හිමියා හට 'මෙය මට අයත් නො වේ' යැයි සැකයක් ඉපදවීමෙන් ථුල්ලැසි ඇවැත් වේ. යම් කලෙක හිමියා 'මේ අය බොහෝම තද ය, කර්කශ ය, පරුෂ ය, මාගේ ජීවිතයට, බ්‍රහ්මචර්යාවට හෝ අනතුරක් කළ හැකි ය. මෙම වස්තුවෙන් මට කම් නැත' යනාදි ලෙස ධුරනික්ෂේප කරන්නේ ද, ඒ පිළිබඳ අදහස අතහරින්නේ ද, තමාට අත්පත්කරගැනීම පිළිබඳ උත්සාහය බහා තබන්නේ ද එයින් නඩු කී භික්ෂුව පරිජි වේ. හිමියා නඩුව පැරදුණේ වුව ද තම වස්තුව අත්පත්කරගැනීම සඳහා වන උත්සාහය අත් නොහළේ වේ නම් නඩු කී භික්ෂුව ඒ උත්සාහය අත්හරින තාක් පාරාජිකයට පත් නො වේ.

(2). **හරෙය්‍ය** : අනිකකු සතු භාණ්ඩයක් ගෙනයමින් සිටිය දී සොරකම් කිරීම සම්බන්ධව වේ. ඒ අනුව හිසේ තබාගෙන යන භාණ්ඩය සොර සිතින් අතගෑමේ දී දුකුළා ඇවැත් වේ. හිසේ තිබිය දී ම සෙලවීමේ දී ථුල්ලැසි ඇවැත් වේ. හිසෙන් කෙස් ගසක් පමණකුදු එසවීමෙන් හෝ හිසේ ඇති බර කරට ගැනීමෙන් පරිජි වේ. එසේ ම කරින් ගෙන යන බර අතට ගැනීම ආදි සෑම තැනක දී ද පරිජි වේ.

මෙය අදාළ වන්නේ භාණ්ඩ හිමියාගේ අණින් යම් තැනකට ගෙනයන අවස්ථාවක දී නොව 'මම නුඹගේ මෙම භාණ්ඩය රැගෙන ගොස් දෙමි' යැයි තමා ම ඉදිරිපත් වූ විටක ය. හිමියා විසින් අසවල් තැනට ගෙන යන ලෙස දෙන ලද භාණ්ඩය මේ අයුරින් එසවීම්

ආදියෙන් පරිජි නොවන අතර භාණ්ඩ හිමියා විසින් මෙය මට නො ලැබේවි යැයි ධුරනික්ෂේප කළ කල්හි පරිජි වේ. ඒ බව සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ;

> **"යො භික්ඛු 'ඉදං ගහෙත්වා එත්ථ යාහී'ති සාමිකෙහි අනාණත්තො සයමෙව 'මය්හං ඉදං නාම දෙථ, අහං වො භණ්ඩං වහාමී'ති තෙසං භණ්ඩං සීසෙන ආදාය ගච්ඡන්තො ...."**
>
> (සම.පා, පි.243)

යනාදි ලෙස සඳහන් වේ. එහි 'සාමිකෙහි අනාණත්තො' යන පද විවරණය කරන විමතිවිනෝදනී ටීකාව;

> **"යදි සාමිකෙහි 'ඉමං භාරං නෙත්වා අසුකට්ඨානෙ දෙහී'ති ආණත්තො භවෙය්‍ය, තදා තෙන ගහිතභණ්ඩං උපනික්ඛිත්තං සියා, තඤ්ච ථෙය්‍යචිත්තෙන සීසාදිතො ඔරොපෙන්තස්ස අවහාරො න සියා, සාමිකානං පන ධුරනික්ඛෙපෙ එව සියාති ...."**
>
> (විමති, පි.153)

යනුවෙන් ඒ බව සඳහන් කරන බැවින් භාණ්ඩ හිමියාගේ අණයකින් තොරව තමා ම ඉදිරිපත් වී භාණ්ඩය රැගෙන යාමේ දී පමණක් කියන ලද ආකාරයන්ගෙන් භාණ්ඩය එසවීම් ආදියෙන් අවහාරය වේ.

**(3). අවහරෙය්‍ය** : තාවකාලිකව පරෙස්සමට තමා වෙත තබන ලද භාණ්ඩයක් ඉල්ලූ කල නොදීම මෙහි දී සිදුවේ. එසේ තැබූ භාණ්ඩය ආපසු ඉල්ලූ කල 'මම එබන්දක් නො ගත්තෙමි' යැයි මුසා බස් කීමෙන් දුකුළා ඇවැත් වේ. මෙහි දී සම්පජාන මුසාවාදයක් වුව ද අදින්නාදනයට පූර්ව ප්‍රයෝග බැවින් දුකුළා ඇවැත් ම වේ. භාණ්ඩ හිමියාට තමාගේ භාණ්ඩය ලැබේ ද? නො ලැබේ ද? කියා විමති ඇති වේ නම් ථුලැසි ඇවැත් වේ. තමාගේ භාණ්ඩය ආපසු නො ලැබේ ය යන අදහසින් ධුරනික්ෂේප කිරීමෙන්, තම භාණ්ඩය ආපසු ලබාගැනීම පිළිබඳ උත්සාහය අතහැරීමෙන් ද පරිජි වේ. 'භාණ්ඩ හිමියාව පීඩාවට පත්කොට වෙහෙසවා පසුව දෙමි' යන අදහසින් තමා නොගත් බව කීමෙන් දීමේ උත්සාහය සහිත බැවින් පරිජි නො වේ. එබැවින් දෙපාර්ශ්වයේ ම උත්සාහය අත්හැරීමෙන් පරිජි වේ.

(4). **ඉරියාපථං විකොපෙය්‍ය** : භාණ්ඩයක් රැගෙන යන පුද්ගලයකුගේ ඉරියවු වෙනස් කරවා භාණ්ඩය අත්කර ගැනීම පිළිබඳව වේ. ඒ අනුව භාණ්ඩය රැගෙන යන්නාත් සමග තමාට අභිමත ස්ථානයකට රැගෙන ගොස් ගන්නෙමි යැයි තර්ජනය කිරීම් ආදියකින් රැගෙන යන්නාගේ ගමන් මාර්ගය වෙනස් කරයි ද, එසේ වෙනස් කොට තමාට අභිමත මාර්ගයෙහි තබනු ලබන පළමු පියවර ඉක්මවීමෙහි ථුල්ලැසි ඇවැත් වේ. දෙවන පියවර ඉක්මවීමෙහි පරිජි වේ.

(5). **ඨානා චාවෙය්‍ය** : යම්කිසි ථලයක එනම් පොළොවෙහි හෝ පාෂාණ පර්වත ආදිය මත හෝ මේසයක් වැනි ථලයක් මත හෝ තබන ලද භාණ්ඩයක් සොරකම් කිරීම සම්බන්ධව අදාළ වේ. එබඳු දෙයක් සොර සිතින් අතගෑමෙන් දුකුළා ඇවැත් වේ. සෙලවීමෙන් ථුල්ලැසි වේ. තිබූ තැනින් පහ කිරීමෙන් පරිජි වේ.

මේ අයුරින් නානාභණ්ඩ පඤ්චකය දත යුතු වේ. එය සවිඤ්ඤාණක-අවිඤ්ඤාණක යන උභයාකාරයෙන් ම සිදුවිය හැකි අතර ඒකභණ්ඩ පඤ්චකය සවිඤ්ඤාණක වස්තූන් පිළිබඳව පමණක් අදාළ වේ. මෙම නානාභණ්ඩ හා ඒකභණ්ඩ පඤ්චකයන් අතරෙහි මේ වෙනස යි. එහෙයින් ඒකභණ්ඩ පඤ්චකය පිළිබඳව සැකෙවින් දක්වනු වස් '**සස්සාමිකස්ස පන දාසස්ස වා**' යනාදිය කියන ලදී.

## ඒකභණ්ඩ පඤ්චකය

සවිඤ්ඤාණක වස්තුවක් හෙවත් හිමියකුට අයත් දාසයෙකු, තිරිසන්ගත සත්ත්වයකු වැනි යමක් පැහැරගැනීම ඉහත නානාභණ්ඩ පඤ්චකයෙහි කියූ ක්‍රමයෙන් ම බොරු පැමිණිලි නඩු කියා අත්පත් කරගැනීම් ආදි වශයෙන් දත යුතු ය. එහි දී ද ආදියෙය්‍ය, හරෙය්‍ය, අවහරෙය්‍ය, ඉරියාපථං විකොපෙය්‍ය, ඨානා චාවෙය්‍ය යන ක්‍රමවලින් ඇවැත් විනිශ්චය දත යුතු ය.

මෙසේ ඒකභණ්ඩ පඤ්චකය සැකෙවින් කියා අනතුරුව සාහත්ථික පඤ්චකය දක්වනු පිණිස '**කතමං සාහත්ථිකපඤ්චකං**' යනාදිය කියන ලදී.

**සඃ** **සාහත්ථික පඤ්චකං**, සාහත්ථික පඤ්චකය; **කතමං**, කවරක් ද? යත්; **සාහත්ථිකො**, සාහත්ථික ය; **ආණත්තිකො**, ආණත්තික ය;

**නිස්සග්ගියො**[1], නිස්සග්ගිය ය; **අත්‍ථසාධකො**, අත්‍ථසාධක ය; **ධුරනික්ඛෙපො**, ධුරනික්ඛෙප ය; **ඉති**, යන පදයන්ගේ වශයෙනි. **තත්‍ථ**, ඒ පඤ්ච පදයන් අතරින්; **සාහත්‍ථිකො නාම**, සාහත්‍ථිකය නම්; **පරස්ස භණ්ඩං**, මෙරමාගේ භාණ්ඩය; **සහත්‍ථා අවහරති**, සියතින් පැහැරගනී. **ආණත්තිකො නාම**, ආණත්තික නම්; **අසුකස්ස භණ්ඩං**, අසවලාගේ භාණ්ඩය; **අවහර ඉති**, පැහැරගනුව යැයි; **අඤ්ඤං ආණාපෙති**, අනිකකුට අණකරවයි. **නිස්සග්ගියො නාම**, නිස්සග්ගිය නම්; **සුඞ්කඝාතක**, බදු අයකරන තැන; **පරිකප්පිතොකාසානං**, පරිකල්පනය කරන ලද අවකාශයන්ගේ; **අන්තො ඨත්‍වා**, ඇතුළෙහි සිට; **බහිපාතනං**, පිටත හෙළීම යි. **අත්‍ථසාධකො නාම**, අත්‍ථසාධක නම්; **අසුකස්ස භණ්ඩං**, අසවලාගේ භාණ්ඩය; **යදා සක්කොසි**[2], යම් කලෙක හැකි වෙහි නම්; **තදා තං අවහර ඉති**, එකල්හි එය පැහැරගනුව යැයි; **අඤ්ඤං ආණාපෙති**, අනිකකුට අණකරවයි. **තත්‍ථ**, ඒ අත්‍ථසාධකයෙහි; **සචෙ**, ඉදින්; **පරො**, අනෙකා; **අනන්තරායිකො හුත්‍වා**, අනතුරක් නොමැත්තෙක් වී; **තං**, ඒ භාණ්ඩය; **අවහරති**, පැහැරගනී ද; **ආණාපකස්ස**, අණකළ භික්ෂුවට; **ආණත්තික්ඛණෙ යෙව**, අණකළ ක්ෂණයෙහි ම; **පාරාජිකං**, පරිජි වේ. වා, නොහොත්; **පරස්ස පන තෙලකුම්භියා**, මෙරමාගේ (අනිකකුගේ) තෙල් කළයක; **පාදග්ඝනකං තෙලං**, පාදයක් අගනා තෙල්; **අවස්සපිවනකානි උපාහනාදීනි**, ඒකාන්තයෙන් ම බොන්නා (උරාගන්නා) වූ පාවහන් ආදිය; **පක්ඛිපති**, බහාලයි ද; **හත්‍ථතො මුත්තමත්තෙ එව**, අතින් මිදුණු මාත්‍රයේ ම; **පාරාජිකං**, පරිජි වේ. *(කිරියාසිද්ධිතො පුරෙතරමෙව පාරාජිකාපත්ති සඞ්ඛාතං අත්‍ථං සාධෙතීති අත්‍ථසාධකො* (**විමති**, පි.147) *යැයි කී බැවින් ක්‍රියාව සිදුවීමට පූර්වයෙන් ම පාරාජිකාපත්ති සංඛ්‍යාත අර්ථය සාධනය වේ නු යි අත්‍ථසාධක නම් වේ)* **ධුරනික්ඛෙපො පන**, ධුරනික්ෂේපය වනාහි; **ආරාම අභියෝග**; ආරාමාදිය නඩුකියා අත්කර ගැනීමෙහි ද; **උපනික්ඛිත්තභණ්ඩවසෙන**, පරිස්සමට වෙත තැබූ භාණ්ඩ නොදී අත්කරගැනීම් වශයෙන් ද; **වෙදිතබ්බො**, දත යුතු ය. **තාවකාලිකභණ්ඩදෙය්‍යානි**, තාවකාලික වශයෙන් ඉල්ලාගත් භාණ්ඩයක්; **අදෙන්තස්ස අපි**, නොදෙන්නහුට ද; **එසෙව නයො ඉති**, මෙම ක්‍රමය ම වේ නු යි; **ඉදං සාහත්‍ථිකපඤ්චකං**, මෙය සාහත්‍ථික පඤ්චකය යි.

---

[1] **නිස්සග්ගියෙ**. හෙමු

[2] **සක්කොති**. මජසං

## සාහත්ථික පඤ්චකය

**63. වි:** 'සාහත්ථික, ආණත්තික, නිස්සග්ගිය, අත්ථසාධක, ධුරනික්ඛෙප' යන පඤ්ච අවහාරයන් සාහත්ථික පඤ්චකය නම් වේ.

(1). **සාහත්ථිකො:** අනුන්ගේ භාණ්ඩය තමා සියතින් සොරකම් කිරීම සාහත්ථික නම් වේ. පාදයක් හෝ ඊට වඩා වැඩි අගයක් සහිත භාණ්ඩයක් සියතින් සොරකම් කිරීමේ දී, සොර සිතින් අතගෑමෙන් දුකුළා ඇවැත් වේ. සෙලවීමෙන් ථුලැසි වේ. තිබූ තැනින් පහ කිරීමෙන් පරිජි වේ.

(2). **ආණත්තිකො:** 'අසවලාගේ භාණ්ඩය සොරකම් කරව' යැයි අනිකකුට අණකරයි ද, එය ආණත්තික නම් වේ. මෙහි දී අණ ලැබූ තැනැත්තා ඒකාන්තයෙන් ම සොරකම් කරයි නම්, අණකළ භික්ෂුව අණකළ ක්ෂණයෙහි ම පරිජි වේ.

(3). **නිස්සග්ගියො:** නිස්සග්ගිය නම්, බදු අයකරන තැන ආදි තැන්වල දී එක් ස්ථානයක සිට තවත් ස්ථානයකට භාණ්ඩය විසිකිරීම් වශයෙන් සිදුකරන අවහාරය යි. යම් භාණ්ඩයක් ඔබමොබ ගෙනයාමේ දී රජයට බදු අයකරන ස්ථානයේ ගෙවිය යුතු බද්ද නොගෙවීම සඳහා එහි සිටින නිලධාරීන්ගේ ප්‍රමාදය බලා බදු අයකරන සීමාව ඇතුළත සිටින භික්ෂුව සීමාවෙන් පිටත භාණ්ඩය විසිකරයි නම් පරිජි ඇවතට පත් වේ. එසේ ම අන්සතු භාණ්ඩයක් පිළිබඳ ලෝභයෙන් 'අසවල් ස්ථානය දක්වා රැගෙන ගොස් කිසිවෙක් දුටුවහොත් පරීක්ෂා කරන්නාක් මෙන් පෙන්වමි. නොදුටුවහොත් ගෙනයන්නෙමි' යන අදහසින් පරිකල්පිත ස්ථානය දක්වා රැගෙන ගොස් කිසිවකු විසින් නොදක්නා ලද්දේ එම ස්ථානයේ සිට පිටත විසිකිරීමෙන් පරිජි වේ. එය ද නිස්සග්ගිය අවහාරය ම වේ.

(4). **අත්ථසාධකො:** භාණ්ඩය සොරකම් කිරීමට කලින් ම පාරාජිකාපත්තියට පත්වීම නැමැති කාරණය සිදුවන්නා වූ අවහාරය අර්ථසාධකාවහාරය නම් වේ. "අසවලාගේ භාණ්ඩය හැකි වේලාවක සොරකම් කරන්න" යැයි අනෙකුට අණකරයි ද, ඒ අණලත් තැනැත්තා අනතුරක් නොමැතිව ඒකාන්තයෙන් ම ඒ භාණ්ඩය පැහැර ගනී ද අණකළ භික්ෂුව අණකළ කෙණෙහි ම පරිජි වේ. එසේ ම අනිකකු සතු තෙල් කලයකට පාදයක් අගනා තෙල් ඒකාන්තයෙන් ම උරාගන්නා

පාවහන්, රෙදි, සම්කඩ ආදි යමක් බහාලන්නේ නම් අතින් මිදුණු මාත්‍රයෙහි පරිජි වේ.

මෙම අත්ථසාධක අවහාරය සහ ආණත්තික අවහාරය අතර වෙනස කවරේ ද යත්, ආණත්තික ප්‍රයෝගය වනාහි එකෙණෙහි ම ගැනීමෙහි යෙදවීම යි. අත්ථසාධකය වනාහි කාලාන්තරයකින් පසු ගැනීම සඳහා කරන යෙදවීම යි. එහෙයින් විමතිවිනෝදනියෙහි;

> "**ඉමස්ස අත්ථසාධකස්ස ච ආණත්තියා ච කො විසෙසොති, තඛ්ඛණඤ්ඤෙව ගහණෙ නියුඤ්ජනං ආණත්තිකප්පයොගො, කාලන්තරෙන ගහණත්ථං නියොගො අත්ථසාධකොති අයං තෙසං විසෙසො, තෙනෙවාහ 'අසුකං භණ්ඩං යදා සක්කොසී'ති** ආදි (විමති, පි.147)" යැයි කියන ලදී.

(5). **ධුරනික්ඛෙපො** : ධුරනික්ෂේපය නම් යම් වස්තුවක් පිළිබඳ ඇති ආශාව නැමැති බර බහාතැබීම යි (**උපසම්පදා සීලය**, පි.46). එනම් තමා සතු වූවක් පිළිබඳ ඇති අදහස අත්හැරීම, එය අත්කර ගැනීම පිළිබඳ ඇති උත්සාහය අතහැරීම ධුරනික්ෂේපය නම් වේ. ඉහත නානාභණ්ඩ පඤ්චකයෙහි දක්වන ලද ආරාමාදිය නඩු කියා අත් කරගැනීමෙහි ද, පරිස්සමට තමා වෙත තබන ලද භාණ්ඩය ආපසු නොදී අත්කර ගැනීමෙහි ද, තාවකාලිකව ඉල්ලාගත් දෙයක්, ණය මුදලක් වැනි දෙයක් ආපසු නොදීමෙහි ද, අනුන්ගේ වස්තුවකට තමා කළ අලාභය නොගෙවීමෙහි ද යනාදි තන්හි වස්තු හිමියාගේ ධුරනික්ෂේපයෙන්, එනම් 'මගේ වස්තුව මට නො ලැබේ ය' යනාදි ලෙස භාණ්ඩය පිළිබඳ අදහස අතහැරීමෙන් භික්ෂුව පරිජි වේ.

මෙම පඤ්ච අවහාරයන් '**සාහත්ථික පඤ්චකය**' නම් වේ. ඒ සාහත්ථික පඤ්චකයට අනතුරුව පුබ්බපයොග පඤ්චකය දක්වනු වස් '**කතමං පුබ්බපයොගපඤ්චකං**' යනාදිය කියන ලදී.

**සඃ** **පුබ්බපයොග පඤ්චකං**, පුබ්බපයොග පඤ්චකය, **කතමං**, කවරෙක් ද? යත්; **පුබ්බපයොගො**, පුබ්බපයොග ය; **සහපයොගො**, සහපයොග ය; **සංවිදාවහාරො**, සංවිදාවහාර ය; **සඞ්කෙතකම්මං**, සංකේතකම්ම ය; **නිමිත්තකම්මං ඉති**, නිමිත්තකම්ම ය යනුවෙනි. **තත්ථ**, ඒ පස් අවහාරයන් අතරෙන්; **ආණත්තිවසෙන**, ආණත්ති වශයෙන්; **පුබ්බපයොගො වෙදිතබ්බො**, පුබ්බපයොගය දත යුතු ය. **ඨානා**

**චාවනවසෙන** **ච**, තිබූ තැනින් පහකිරීම් වශයෙන් ද; **බීලාදීනි**[1] **සංකාමෙත්වා**, හුල් ආදිය (කුඤ්ඤ ආදිය) සංක්‍රමණය කොට (වෙනස්කොට); **ඛෙත්තාදිගහණවසෙන**[2] **ච**, කෙත්වතු ආදිය ගැනීම වශයෙන් ද; **සහපයොගො**, සහපයෝගය; **වෙදිතබ්බො**, දත යුතු ය. *(ප්‍රයෝගයත් සමඟ ම පවත්නා වූ අවහාරය සහපයොග නම් වේ. 'පයොගෙන සහ වත්තමානා අවහාරො සහපයොගො'* - **විමති**, **පි**.147) **සංවිදවහාරො** **නාම**, සංවිදවහාරය නම්; **අසුකං** **නාම** **භණ්ඩං**, අසවල් භාණ්ඩය; **අවහරිස්සාම** **ඉති**, පැහැරගන්නෙමු යැයි; **සංවිදහිත්වා**, සංවිධානය වී; **සම්මන්තයිත්වා**, මන්ත්‍රණය කොට; **අවහරණං**, පැහැරගැනීම යි. **එවං**, මෙසේ; **සංවිදහිත්වා** **ගතෙසුපි**[3], සංවිධානය වී ගිය කල්හි ද; **එකෙන** **අපි**, එක් අයකු විසිනුදු; **තස්මිං** **භණ්ඩෙ** **ඨානා** **චාවිතෙ**, ඒ භාණ්ඩය ඨානා චාවනය (තිබූ තැනින් පහකිරීම) කළ කල්හි; **සබ්බෙසං**, සියල්ලන්ට ම; **අවහාරො** **හොති**[4], අවහාරය වෙයි. **සඞ්කෙතකම්මං** **නාම**, සංකේතකම්මය නම්, **සඤ්ජානනකම්මං**, පෙරවරු කාල ආදි කාල පරිච්ඡේද වශයෙන් දැනගැනීම පිණිස සලකුණු කිරීම යි.

\- 27 -

**සචෙ** **හි**, ඉදින් වනාහි; **පුරෙභත්තාදිසු**[5], පෙරබත් කාලය ආදි කාලයන් අතරින්; **යං** **කිඤ්චි** **කාලං** **පරිච්ඡින්දිත්වා**, යම්කිසි කාලයක් පිරිසිඳ; **අසුකස්මිං** **කාලෙ**, අසවල් වේලාවේ; **ඉත්ථන්නාමං** **භණ්ඩං**, මෙනම් ඇති භාණ්ඩය; **අවහර** **ඉති** **වුත්තො**, පැහැරගනුව යැයි කියන ලදුයේ; **සඞ්කෙතතො**, සලකුණු කරගත් කාලයෙන්; **අපච්ඡා**, නොපසුව; **අපුරෙ**, නොපෙර; **තං** **අවහරති**, ඒ භාණ්ඩය පැහැරගනී ද; **සඞ්කෙතකාරස්ස**[6], සලකුණු කළ භික්ෂුවට; **සඞ්කෙතකරණක්ඛණෙ** **එව**, සලකුණු කළ ක්ෂණයෙහි ම; **අවහාරො**, අවහාරය යි. **නිමිත්තකම්මං** **නාම**, නිමිත්තකම්මය නම්; **සඤ්ඤුප්පාදනත්ථං**, සංඥාවක් උපදවනු පිණිස;

[1] **බිලාදීනි**. මජසං
[2] **ඛෙත්තාදිග්ගහණවසෙන**. මජසං
[3] **ගතෙසු හි**. මජසං
[4] **අවහාරා හොන්ති**. මජසං
[5] **පුරෙභත්තාදීසු**. මජසං
[6] **සඞ්කෙතකාරකස්ස**. මජසං

**අක්ඛිනිඛණනාදි**[1], ඇස කැසීම ආදි *(ඇස් නෙරුම් බැම නැගීම් ආදීන් - කඞ්ඛා.පි, පි.21)*, **නිමිත්තකරණං**[2], නිමිති කිරීම යි. **සචෙ හි**, ඉදින් වනාහි; **එවං කතනිමිත්තතො**, මෙසේ කරන ලද නිමිත්ත කෙරෙන්; **අපච්ඡා අපුරෙ**, පෙරපසු නොවී, **යං අවහර ඉති**, යමක් පැහැරගනුව යැයි; **වුත්තො**, කියන ලදුයේ; **තං අවහරති**, එය පැහැරගනී ද; **නිමිත්තකාරකස්ස**, නිමිත්තකාරක භික්ෂුවට; **නිමිත්තකරණක්ඛණෙ එව**, නිමිති කරන කෙණෙහි ම; **අවහාරො ඉති**, අවහාරය වේ නු යි; **ඉදං පුබ්බපයොගපඤ්චකං**, මෙය පුබ්බපයොග පඤ්චකය වේ.

## පුබ්බපයොග පඤ්චකය

**64. වි:** 'පුබ්බපයොග, සහපයොග, සංවිදාවහාර, සංකේතකම්ම, නිමිත්තකම්ම' වශයෙන් පස්වැදෑරුම් අවහාරයෝ පුබ්බපයොග පඤ්චකය නම් වෙති.

(1). **පුබ්බපයොගො**: ප්‍රයෝගය නම් යමක් කිරීමේ උත්සාහය යි. මෙහි ලා භාණ්ඩය සොකරම් කිරීම ප්‍රයෝග නම් වේ. එකී භාණ්ඩය සොකරම් කිරීම් සංඛ්‍යාත ප්‍රයෝගයට පූර්ව අණකිරීමෙන් ඇවැතට පත්වීම පුබ්බපයොගාවහාරය නම් වේ. ඒ අනුව "අසවල් භාණ්ඩය සොරකම් කරව" යැයි අණකිරීමෙන් අණ ලද්දහු ඒකාන්තයෙන් ම සොරකම් කරයි ද, අණකළ භික්ෂුව ඒ අණකළ ක්‍ෂණයේ ම පරිජි වේ. සොරකම් කළේ භික්ෂුවක් නම් ඒ සොරකම් කරන අවස්ථාවේ පරිජි වේ. ආණත්තිකාවහාරයේත් මෙම පුබ්බපයෝගාවහාරයේත් නමින් මිස වෙනසක් නැත. අණකිරීම ප්‍රයෝගයට මුලින් ඇති බැවින් **පුබ්බපයොග** යන නම ලබයි.

(2). **සහපයොගො**: භාණ්ඩය සොරකම් කිරීමේ ප්‍රයෝගය හෙවත් උත්සාහය සමඟ ම සිදුවන අවහාරය සහපයෝගාවහාරය නම් වේ. පැහැරගන්නා වස්තුව ඨානා චාවනය කිරීම හෙවත් තිබූ තැනින් පහකිරීම සිදුවීමත් සමඟ ම පරිජි ඇවතට පත්වන බැවින් සහපයෝග වේ. එසේ ම ඉඩකඩම් අත්පත් කරගැනීම උදෙසා අනිකකු සතු ඉඩමෙන් පාදයක් අගනා කොටසක් එකතුකර මායිම් ලකුණු කිරීමට කූඤ්ඤ හෝ වැට කණු ගැසීමෙන් භික්ෂුව පරිජි වේ. මේ සඳහා

[1] **අක්ඛිනික්ඛණාදි**. මජසං; **අක්ඛිනිඛනනාදි**. කඞ්ඛා.පි.

[2] **අක්ඛිනිඛණනාදීතෙව නිමිත්තකරණං**. කඞ්ඛා.ටී.

ප්‍රයෝග කිහිපයක් කරන විට, උදාහරණයක් ලෙස කුඤ්ඤ කිහිපයක් ගසන විට අවසන් ප්‍රයෝගයට පූර්ව ප්‍රයෝග තදක අතරින් පළමු ප්‍රයෝගයෙන් දුකුළා වේ. දෙවන ප්‍රයෝගයෙන් ථුල්ලැසි වේ. අවසන් ප්‍රයෝගයෙන් පරිජි වේ.

(3). **සංවිදවහාරොඃ** දෙදෙනකු හෝ කිහිපදෙනෙකු එකතු වී 'අසවල් භාණ්ඩය සොරකම් කරමු' යැයි සංවිධානය වී කරන අවහාරය සංවිදවහාරය නම් වේ. මෙසේ සංවිධානව ගොස් එක අයකු විසිනුදු සොරකම් කිරීමෙන්, භාණ්ඩය ඨානා චාවනය කිරීමෙන් සියලු දෙනා පරිජි වේ.

(4). **සඞ්කෙතකම්මංඃ** පෙරවරු, පස්වරු ආදි වශයෙන් යම් වේලාවක් නියම කරගෙන කරනු ලබන අවහාරය යි. පෙරවරු ආදි යම්කිසි කාලයක් පිරිසිඳ, 'අසවල් වේලාවේ ගොස් භාණ්ඩය පැහැරගනුව' යැයි කියන ලදුයේ සලකුණු කරගත් කාලයෙන් පෙරපසු නොවී සොරකම් කරයි ද, වේලාව සලකුණු කළ භික්ෂුව ඒ සලකුණු කළ මොහොතේ ම පරිජි වේ. සොරකම් කළ භික්ෂුව සොරකම් කළ මොහොතේ පරිජි වේ. කාලය වරදවා කළහොත්, අණකළ භික්ෂුවට ඇවැත් නොවන අතර සොරකම් කළ භික්ෂුව පමණක් පරිජි වේ.

(5). **නිමිත්තකම්මංඃ** යම් සංඥාවක් කොට ඒ අනුව සොරකම් කිරීම නිමිත්තකම්ම අවහාරය යි. ඒ අනුව සංඥාවක් පිණිස ඇස කැසීම ආදිය කිරීම නිමිත්තකම්මය යි. එසේ කරන ලද නිමිති ඇතියේ, පෙරපසු නොවී පැහැරගනී ද, නිමිතිකාරක භික්ෂුව නිමිත්ත කළ ක්ෂණයේ ම පරිජි වේ. වරදවා සංඥාවට පෙර හෝ පසු වී පැහැරගන්නේ නම්, නිමිති කළ භික්ෂුවට ඇවැත් නොවන අතර සොරකම් කළ භික්ෂුව පමණක් පරිජි වේ.

මෙසේ පුබබපයොගාදි වශයෙන් වන පස් අවහාරයෝ පුබ්බපයොග පඤ්චකය ලෙස හැඳින්වෙති. එසේ පුබ්බපයොග පඤ්චකය දක්වා අනතුරුව ථෙය්‍යාවහාර පඤ්චකය දක්වනු පිණිස '**කතමං ථෙය්‍යාවහාර පඤ්චකං**' යනාදිය කීහ.

**සඃ ථෙය්‍යාවහාර පඤ්චකං**, ථෙය්‍යාවහාර පඤ්චකය, **කතමං**, කවරෙක් ද? යත්; **ථෙය්‍යාවහාරො**, ථෙය්‍යාවහාර ය; **පසය්හාවහාරො**, පසය්හාවහාර ය; **පරිකප්පාවහාරො**, පරිකප්පාවහාර ය;

**පටිච්ඡන්නාවහාරො**, පටිච්ඡන්නාවහාර ය; **කුසාවහාරො ඉති**, කුසාවහාර ය යනුවෙනි. **තත්‍ථ**, ඒ පඤ්ච ප්‍රකාර අවහාරයන් අතරින්; **යො**, යමෙක්; **සන්‍ධිච්ඡේදදීනි කත්‍වා**, ගෙවල් බිඳීම් ආදිය කොට; **අදිස්සමානො හරති**[1], අදෘශ්‍යමානව සොරකම් කරයි ද; **තුලාකූටමානකූටකූටකහාපණාදීහි**[2], තරාදියෙන් සොරට කිරුම්, සොරට මැනීම්, සොර මුදල් භාවිතය ආදියෙන්; **වඤ්චෙත්‍වා ගණ්හාති**, වංචා කොට ගනී ද; **එවං ගණ්හතො තස්ස**, මෙසේ ගන්නා වූ ඔහුගේ; **අවහාරො**, අවහාරය; **ථෙය්‍යාවහාරො ඉති වෙදිතබ්බො**, ථෙය්‍යාවහාරය යැයි දත යුතු. **යො පන**, යමෙක් වනාහි; **ගාමඝාතකාදයො විය**, ගම් පහරන්නන් ආදීහු මෙන්; **පසය්හ**, හිමියාට පීඩා කොට; **බලක්කාරෙන**, බලහත්කාරයෙන්; **පරෙසං සන්තකං ගණ්හාති**, මෙරමා සතු වූවක් ගනී ද; **රාජභටාදයො විය**, රාජභටයන් ආදීහු මෙන්; **අත්තනො**, තමාගේ; **පත්තබලිතො වා**, පැමිණියා වූ (නියමිත වූ) අයබදුවලින් හෝ; **අධිකං**, අධික අයබදු; **වුත්තනයෙන**, එම කියන ලද ආකාරයෙන් ම මෙරමාට හිංසා පීඩා කිරීමෙන්; **ගණ්හාති**, ගනියි ද; **එවං ගණ්හතො තස්ස**; මෙසේ ගන්නා වූ ඔහුගේ; **අවහාරො**, අවහාරය; **පසය්හාවහාරො ඉති වෙදිතබ්බො**, පසය්හාවහාරය යැයි දත යුතු ය. **පරිකප්පෙත්‍වා**, පරිකල්පනය කොට; **ගහණං පන**, ගැනීම වනාහි; **පරිකප්පාවහාරො නාම**, පරිකප්පාවහාරය නම් වේ. **සො**, ඒ පරිකප්පාවහාරය; **භණ්ඩඔකාසවසෙන**, භාණ්ඩ පරිකප්පාවහාරය, අවකාශ පරිකප්පාවහාරය වශයෙන්; **දුවිධො**, දෙවැදෑරුම් වේ. **තත්‍ර**, එහි ලා; **අයං**, මේ; **භණ්ඩපරිකප්පො**, භාණ්ඩ පරිකල්පනය යි. **සාටකත්‍ථිකො**, සළුවක් අවශ්‍ය අයෙක්; **අන්තොගබ්භං පවිසිත්‍වා**, ඇතුළු ගැබකට පිවිස; **සචෙ**, ඉදින්; **සාටකො භවිස්සති**, සළුවක් වන්නේ නම්; **ගණ්හිස්සාමි**, ගන්නෙමි; **සචෙ**, ඉදින්; **සුත්තං (භවිස්සති)**, නූල් වන්නේ නම්; **න ගණ්හිස්සාමි ඉති**, නොම ගන්නෙමි යැයි; **පරිකප්පෙත්‍වා**, පරිකල්පනය කොට; **අන්‍ධකාරෙ**, අඳුරේ; **පසිබ්බකං**, පසුම්බියක්; **ගණ්හාති**, ගනියි. **තත්‍ර**, එහි; **සචෙ**[3], ඉදින්; **සාටකො හොති**, සළුවක් වෙයි ද; **උද්ධාරෙ එව**, ඉදිරීමෙහි ම; **පාරාජිකං**, පරිජි වේ. **චෙ**, ඉදින්, **සුත්තං හොති**, නූල් වෙයි ද, **රක්‍ඛති**, රැකේ (පරිජි නො වේ). **බහි නීහරිත්‍වා**, බැහැරට ගෙන

---

[1] **අවහරති**. මජසං

[2] **කූටමානකූටකහාපණාදීහි**. මජසං; කඞ්ඛා.පි.; **මානකූටකූටකහාපණාදීහි**. කඞ්ඛා.ටී.

[3] **තත්‍ර චෙ**. මජසං

ගොස්; **මුඤ්චිත්වා**, මුදා; **සුත්තං ඉති ඤත්වා**, නූල් යැයි දැන; **පුන ආහරිත්වා**, නැවත ගෙනවුත්; **ඨපෙති**, තබයි ද; **රක්ඛතියෙව**, රැකේ ම ය. **සුත්තං ඉති ඤත්වා අපි**, නූල් යැයි දැනගෙන ද; **යං ලද්ධං**, යමක් ලබන ලද්දේ ද; **තං ගහෙතබ්බං ඉති**, එය ගත යුතු යැයි; **ගච්ඡති**, යයි ද; **පදවාරෙන**, පියවරින්; **කාරෙතබ්බො**, ඇවැත් කරවිය යුතු ය. **භූමියං ඨපෙත්වා**, බිම තබා; **ගණ්හාති**, ගනී ද; **උද්ධාරෙ**[1], ඉදිරීමෙහි; **පාරාජිකං**, පරිජි වේ. **චොරො චොරො ඉති**, සොරෙක් සොරෙක් යැයි, **අනුබද්ධො**[2], ලුහුබඳිනු ලැබූයේ, **ඡඩ්ඩෙත්වා**[3], අතහැර දමා; **පලායති**, පලා යයි ද; **රක්ඛති**, රැකේ. **සාමිකා**, ස්වාමීහු; **දිස්වා**, දැක; **ගණ්හන්ති**, ගනිත් ද; **රක්ඛති** එව, රැකේ ම ය. **අඤ්ඤෙ**, අන්‍ය වූ; **යො කොචි**[4], යම් කිසිවෙක්; **ගණ්හාති**, ගනී ද; **භණ්ඩදෙය්‍යං**, භණ්ඩදෙය්‍ය වේ (හිමියා ඉල්වන කල්හි ආපසු ගෙවිය යුතු වේ). **සාමිකෙසු නිවත්තෙසු**, හිමියන් නැවතුණු කල්හි; **සයං දිස්වා**[5], තෙමේ ඒ බව දැක; **එතං**, මෙය; **පගෙව**, පළමුව ම; **මයා ගහිතං**, මා විසින් ගන්නා ලදී; **ඉදානි**, දැන්; **මම සන්තකං ඉති**, මා සතු යැයි; **ගණ්හන්තස්ස අපි**, ගන්නහුට ද; **භණ්ඩදෙය්‍යං එව**, භණ්ඩදෙය්‍ය ම වේ. **තත්ථ**, එහි ලා; **සචෙ**, ඉදින්; **යො අයං**, යම් මේ; **සාටකො භවිස්සති ගණ්හිස්සාමි**, සළුවක් වන්නේ නම් ගන්නෙමි; **ඉති ආදිනා නයෙන**, යන ආදි ක්‍රමයෙන්; **පවත්තො පරිකප්පො**, පවත්නා වූ පරිකල්පනයක් වේ ද; **අයං**, මෙය; **භණ්ඩපරිකප්පො නාම**, භාණ්ඩ පරිකල්පනය නම් වේ.

**ඔකාසපරිකප්පො පන**, ඔකාස පරිකල්පනය වනාහි; **එවං**, මෙසේ; **වෙදිතබ්බො**, දත යුතු ය. **එකච්චො**[6], ඇතැමෙක්; **පරපරිවෙණාදීනි පවිට්ඨො**, අන් පිරිවෙන් ආදියකට පිවිසියේ; **කිඤ්චි ලොභනියං**[7] **භණ්ඩං දිස්වා**, කිසියම් ලෝභනිය (ලෝභ උපදවන) භාණ්ඩයක් දැක; **ගබ්භද්වාර**, කාමර දොරටුව; **පමුඛ**, ආලින්දය *(අග්දෙරිය* - **කඩ්ඛා.පි**, **පි.22***)*; **හෙට්ඨාපාසාද**, යට මහල; **ද්වාරකොට්ඨක**, දොරකොටුව,

---

[1] **උඞ්ඩාරෙ**. බෞසංම

[2] **අනුබන්ධො**. මජසං

[3] **ඡට්ටෙත්වා**. මජසං

[4] **අඤ්ඤෙ වෙ කොචි**. මජසං

[5] **සයං දිස්වා පංසුකූලසඤ්ඤාය** (මෙය අතිරේක පාඨයකි. වැරදි බව පෙනේ). මජසං

[6] **එකච්චො පන**. මජසං

[7] **ලොභනෙය්‍යං**. මජසං; **ලොභනීය්‍යං**. බෞසංම

**රුක්ඛමූලාදිවසෙන**, රුක්මුල් ආදි වශයෙන්, **පරිච්ඡේදං කත්‍වා**, පිරිසිඳීම් කොට; **සචෙ**, ඉදින්; **මං**, මාව; **එත්‍ථන්තරෙ**, මේ අතරෙහි; **පස්සිස්සන්ති**, දකින්නාහ නම්; **දට්ඨුකාමතාය**, බලනු කැමැත්තෙන්; **ගහෙත්‍වා විචරන්තො විය**, රැගෙන හැසිරෙන්නෙක් මෙන්; **දස්සාමි**, දක්වන්නෙමි. **චෙ**, ඉදින්; **නො පස්සිස්සන්ති**, නො දකින්නාහ නම්; **හරිස්සාමි**, රැගෙන යන්නෙමි; **ඉති පරිකප්පෙති**, යැයි පරිකල්පනය කරයි. **තස්ස**, ඔහුට; **තං ආදය**, ඒ භාණ්ඩය ගෙන; **පරිකප්පිත පරිච්ඡේදං**, පිරිසිඳන ලද පරිච්ඡේදය (අවකාශය); **අතික්කන්තමත්තෙ**, ඉක්ම වූ මාත්‍රයෙහි; **අවහාරො හොති**, අවහාරය වෙයි. **ඉති**, මෙසේ; **යො අයං**, යම් මේ; **වුත්තනයෙන**, කියූ ක්‍රමයෙන්; **පවත්තො පරිකප්පො**, පැවැතියා වූ පරිකල්පනයක් වේ ද; **අයං**, මෙය; **ඔකාසපරිකප්පො නාම**, ඔකාසපරිකප්පය නම් වේ. **එවං**, මෙසේ; **ඉමෙසං ද්වින්නං අපි**, මේ දෙයාකාරයන්ගේ ම, **පරිකප්පානං වසෙන**, පරිකල්පනයන්ගේ වශයෙන්; **පරිකප්පෙත්‍වා**, පරිකල්පනය කොට; **ගණ්හතො**, ගන්නහුගේ; **අවහාරො**, අවහාරය; **පරිකප්පාවහාරො ඉති**, පරිකප්පාවහාරය යැයි; **වෙදිතබ්බො**, දත යුතු.

**පටිච්ඡාදෙත්‍වා පන**, පටිච්ඡාදනය කොට *(තණකොළ ආදියෙන් වසා; තෘණපර්ණාදීන් ප්‍රච්ඡාදනය කොට* - **කඞ්ඛා.පි, පි.22**); **අවහරණං**, පැහැරගැනීම; **පටිච්ඡන්නාවහාරො**, පටිච්ඡන්නාවහාරය නම් වේ. **සො**, ඒ පටිච්ඡන්නාවහාරය; **එවං වෙදිතබ්බො**, මෙසේ දත යුතු ය. **යො භික්ඛු**, යම් භික්ෂුවක්, **උය්‍යානාදිසු**[1], උයන් ආදි තැන්හි; **පරෙසං**, මෙරමාගේ (අනිකකුගේ); **ඔමුඤ්චිත්‍වා ඨපිතං**, මුද තබන ලද; **අඞ්ගුලිමුද්දිකාදිං**[2], ඇඟිලි මුදු ආදිය; **දිස්වා**, දැක; **පච්ඡා**, පසුව; **ගණ්හිස්සාමි ඉති**, ගන්නෙමි යැයි; **පංසුනා වා**, පස්වලින් හෝ; **පණ්ණෙන වා**, කොළයකින් (පත්‍රයකින්) හෝ; **පටිච්ඡාදෙති**, වසයි ද; **තස්ස**, ඒ භික්ෂුවට; **එත්තාවතා**, මෙපමණකින්;

- 28 -

**උද්ධාරො නත්‍ථි ඉති**, ඉදිරීමක් නැත්තේ නු යි; **තාව**, තවමත් (ඉදිරීම වන තාක්); **අවහාරො න හොති**, අවහාරයක් නො වෙයි. **යද පන**, යම් කලෙක වනාහි; **සාමිකා**, ස්වාමීහු; **විචිනන්තා**, සොයන්නාහු;

---

[1] **උය්‍යානාදීසු**. මඡසං

[2] **අඞ්ගුලිමුද්දිකාදීනි**. මඡසං

**අපස්සිත්වා**, නොදැක; **ස්වෙ ජානිස්සාම ඉති**, හෙට දින දැනගන්නෙමු (බලන්නෙමු) යැයි; **සාලයාව**, ආලය සහිතව ම; **ගතා හොන්ති**, ගියාහු වෙත් ද, **අථ**, ඉක්බිති; **තං**, ඒ අඟිලි මුදු ආදිය; **උද්ධරතො අස්ස**, උදුරන්නා වූ ඔහුට; **උද්ධාරෙ**, ඉදිරීමෙහි; **අවහාරො**, අවහාරය යි. **පටිච්ඡන්නකාලෙ එව**, වැසුණු කාලයෙහි ම; **තං**[1], ඒ ඇඟිලි මුදු ආදිය; **මම සන්තකං ඉති**, මා සතු වූවක් යන; **සඞ්ඝය වා**[2], සංඥවෙන් හෝ; **ඉදනි**, දැන්; **තෙ**, ඔවුහු; **ගතා**[3], ගියාහුය. **ඉදං**, මෙය; **ඡඩ්ඩිතභණ්ඩං**[4] **ඉති**, අතහැර දමන ලද භාණ්ඩයක් යැයි; **පංසුකූලසඞ්ඝය වා**, පාංශුකූල සංඥවෙන් හෝ; **ගණ්හන්තස්ස පන**, ගන්නහුට වනාහි; **භණ්ඩදෙය්‍යං**, භණ්ඩදෙය්‍ය වේ. **දුතියදිවසෙ**[5], දෙවන දිනයෙහි; **ආගනත්වා**[6], අවුත්; **විචිනිත්වා**, සොයා බලා; **අදිස්වා**, නොදැක; **ධුරනික්ඛෙපං කත්වා**, ධුරනික්ෂේප කොට (අදහස අතහැර); **තෙසු ගතෙසු අපි**, ඔවුන් ගිය කල්හි ද, **ගහිතං**, ගන්නා ලද්ද; **භණ්ඩදෙය්‍යං එව**, භණ්ඩදෙය්‍ය ම වේ. **පච්ඡා ඤත්වා**, පසුව දැනගෙන; **චොදියමානස්ස**, චෝදනා කරනු ලබන්නා වූ; **අදදතො**, නොදෙන්නහුට; **සාමිකානං**, ස්වාමීන්ගේ; **ධුරනික්ඛෙපෙ**, ධුරනික්ෂේපයෙහි; **අවහාරො හොති**, අවහාරය වේ. **කස්මා**, කවර හෙයකින් ද? යත්; **යස්මා**, යම්හෙයකින්; **තස්ස**, ඒ භික්ෂුවගේ; **පයොගෙන**, ප්‍රයෝගයෙන්; **තෙහි න දිට්ඨං**, වස්තු හිමියන් විසින් නොදක්නා ලදී. **යො පන**, යම් භික්ෂුවක් වනාහි; **තථාරූපං භණ්ඩං**, එබඳු වූ (ඇඟිලි මුදු ආදි) භාණ්ඩයක්; **යථාට්ඨානෙ**[7] **ඨිතං එව**, තිබූ තැන තිබියදී ම; **අපටිච්ඡාදෙත්වා**[8], නොම වසා; **ථෙය්‍යචිත්තො**, සොර සිතැත්තේ; **පාදෙන අක්කමිත්වා**, පයින් පාගා; **කද්දමෙ වා**, මඩෙහි හෝ; **වාලිකාය වා**[9], වැල්ලෙහි හෝ; **පවෙසෙති**, පිවිසුවයි ද; **තස්ස පවෙසිතමත්තෙ එව**, එය මඩෙහි හෝ වැල්ලෙහි හෝ පිවිසි මාත්‍රයේ ම, **අවහාරො**, අවහාරය යි.

---

[1] **එතං**. මජසං

[2] **සකසඞ්ඝය වා**. මජසං

[3] **ගතා දනි තෙ**. මජසං; බෞසංම; කඩ්බා.පි.

[4] **ඡට්ටිතභණ්ඩං**. මජසං

[5] **දුතියතතියදිවසෙ**. මජසං

[6] **ආගනත්ව**. මජසං

[7] **යථාඨානෙ**. මජසං; බෞසංම; කඩ්බා.පි.

[8] **අප්පටිච්ඡාදෙත්වා**. මජසං

[9] **වාලුකාය වා**. මජසං

**කුසං සඞ්කාමෙත්වා පන**, කුසපත් මාරුකොට; **අවහරණං**, සොරාගැනීම; **කුසාවහාරො නාම**, කුසාවහාරය නම් වේ. **සොපි**, ඒ කුසාවහාරය ද; **එවං**, මෙසේ; **වෙදිතබ්බො**, දත යුතු ය. **යො භික්ඛු**, යම් භික්ෂුවක්; **කතසඤ්ඤාණං**, කරන ලද සලකුණු ඇති; **විලීවමයං**[1] **වා**, බට පතුරුවලින් කළ හෝ; **තාලපණ්ණමයං වා**, තල්පතින් කළ හෝ; **යං කිඤ්චි කුසං**, යම්කිසි කුසපතක්; **පාතෙත්වා**, හෙළා; **චීවරෙ භාජියමානෙ**, සිවුරු බෙදනු ලබන කල්හි; **අත්තනො කොට්ඨාසස්ස**, තමාගේ කොටසට; **සමීපෙ ඨිතං**, ළඟ තිබුණා වූ, **අප්පග්ඝතරං වා**, අගය අඩු වූවක් හෝ; **මහග්ඝතරං වා**, වැඩි අගය ඇත්තක් හෝ; **අග්ඝෙන සමසමං වා**, තමාගේ අගයට සමාන අගයක් ඇත්තක් හෝ; **පරස්ස කොට්ඨාසං හරිතුකාමො**, අනිකකුගේ කොටසක් පැහැරගනු කැමැත්තේ; **අත්තනො කොට්ඨාසෙ පතිතං කුසං**, තමාගේ කොටසෙහි පතිත කුසපත, **පරස්ස කොට්ඨාසෙ පාතෙතුකාමතාය**, අනුන්ගේ කොටසේ හෙළනු කැමැත්තෙන්, **උද්ධරති**, උදුරයි ද; **රක්ඛති තාව**, ඒතාක් රැකෙයි. **පරස්ස කොට්ඨාසෙ පතිතෙ**[2], අනෙකාගේ කොටසෙහි හෙළූ කල්හි ද; **රක්ඛති එව**, රැකේ ම ය. **යදා පන**, යම් කලෙක වනාහි; **තස්මිං පතිතෙ**, ඒ අනෙක් භික්ෂුවගේ කොටසෙහි තමාගේ කුසපත හෙළූ කල්හි; **පරස්ස කොට්ඨාසතො**, අනෙක් භික්ෂුවගේ කොටසින්; **පරස්ස කුසං**, ඒ අනෙක් භික්ෂුවගේ කුසපත; **උද්ධරති**, උදුරයි ද; **උද්ධටමත්තෙ**[3], උදුළ මාත්‍රයෙහි; **අවහාරො**, අවහාරය වේ. **සචෙ**, ඉදින්; **පඨමතරං**, පළමුව ම; **පරකොට්ඨාසතො**, අනෙක් කොටසෙන්; **කුසං උද්ධරති**, කුසපත උදුරයි ද; **අත්තනො කොට්ඨාසෙ**, තමාගේ කොටසේ; **පාතෙතුකාමතාය**, හෙළනු කැමැත්තෙන්; **උද්ධාරෙ රක්ඛති**, ඉදිරීමෙහි රකියි. **පාතනෙ**[4] **රක්ඛති**, හෙළීමෙහි රකියි. **අත්තනො කොට්ඨාසතො පන**, තමාගේ කොටසින් වනාහි; **අත්තනො කුසං**, තමාගේ කුසපත; **උද්ධරතො**, උදුරන්නහුට; **උද්ධාරෙ එව**, ඉදිරීමෙහි ම; **රක්ඛති**, රැකෙයි. **තං උද්ධරිත්වා**, එය උදුරා; **පරකොට්ඨාසෙ පාතෙන්තස්ස**, අනෙකාගේ කොටසෙහි හෙළන්නහුට; **හත්ථතො**, අතින්; **මුත්තමත්තෙ**, මිදුණු

---

[1] **විලිවමයං**. බෞසංම

[2] **පාතිතෙ**. මජසං; පාතතෙ. කඞ්ඛා.ටී.

[3] **උද්ධතමත්තෙ**. මජසං

[4] **පාතනෙපි**. මජසං

මාත්‍රයෙහි; **අවහාරො ඉති**[1], අවහාරය වේ යනුවෙන්; **අයං,** මෙය; **කුසාවහාරො,** කුසාවහාරය යි.

**ඉති;** මෙසේ; **"ආදියෙය්‍යාති පඤ්චවීසතියා අවහාරානං අඤ්ඤතරවසෙන හරෙය්‍ය" ඉති යං වුත්තං,** 'ආදියෙය්‍යාති පඤ්චවීසතියා අවහාරානං අඤ්ඤතරවසෙන හරෙය්‍ය' යැයි යමක් කියන ලද්දේ ද; **තස්ස අත්‍ථො,** එහි අර්ථය; **පකාසිතො හොති,** ප්‍රකාශ කරන ලද්දේ වෙයි.

## ථෙය්‍යාවහාර පඤ්චකය

**65. වි:** ථෙය්‍යාවහාර, පසය්හාවහාර, පරිකප්පාවහාර, පටිච්ඡන්නාවහාර, කුසාවහාර යන පස් අවහාරයෝ ථෙය්‍යාවහාර පඤ්චකය නම් වෙති.

(1). **ථෙය්‍යාවහාරොː** හිමියන්ට නොපෙනන, නොදැනෙන පරිදි හොර රහසේ හෝ වංචනික ක්‍රමයකට අන්සතු දෑ සොරකම් කිරීම ථෙය්‍යාවහාරය නම් වේ. ඒ අනුව ගෙවල්වල බිත්ති සිදුරුකොට ඇතුළට පිවිස හිමියන් නිදසිටි විට නොදැනෙන පරිදි සොරකම් කිරීම, හොරට කිරුම්, හොරට මැණීම්, හොර මුදල් භාවිත කිරීම් ආදි බොහෝ ක්‍රමයන්ගෙන් වංචා කොට කපටිකමින් අන් සතු වස්තුව පැහැරගැනීම ද **ථෙය්‍යාවහාරය** නම් වේ.

(2). **පසය්හාවහාරොː** හිමියාට පීඩාකොට බලහත්කාරයෙන් අන් සතු වස්තුව පැහැරගැනීම පසය්හාවහාරය නම් වේ. ගම් පහරන සොරුන් මෙන් හිමියන්ට පහරදී වස්තුව මංකොල්ලකෑම ද, රාජභටයන් තමාට නියමිතව ඇති අයබදුවලට වඩා වැඩි පුර අයබදු ගන්නාක් මෙන් තමාට ලැබීමට නියමිත ප්‍රමාණය ඉක්මවා තර්ජන, බියගැන්වීම් ආදියෙන් අන් සතු වස්තු අත්කරගැනීම ද යන මේ ආකාර අවහාරය **පසය්හාවහාරය** නම් වේ.

(3). **පරිකප්පාවහාරොː** පරිකල්පනය කොට පැහැර ගැනීම පරිකප්පාවහාරය යි. මෙය දෙයාකාර වේ.

---

[1] **ඉති පදං නත්‍ථි.** මජසං

**(අ). භණ්ඩපරිකප්පො:** 'තමාට වුවමනා භාණ්ඩයක් වේ නම් ගනිමි, නො වේ නම් නොගනිමි' යැයි පරිකල්පනය කොට අවිනිශ්චිතව ගැනීම භාණ්ඩපරිකල්පනය යි.

සළුවක් සොරකම් කරනු පිණිස ඇතුළු කාමරයකට පිවිස 'මෙහි සළුවක් තිබේ නම් ගනිමි, නූල් තිබේ නම් නො ගනිමි'යි පරිකල්පනය කොට, අඳුරේ යම් පසුම්බියක් සොරකම් කරයි ද, එහි නූල් පැවතියේ නම් අවහාරය නො වේ. බැහැරට ගෙන ගොස් ලිහා බලා, නූල් ඇති බව දැන, නැවත ගෙනවුත් තබයි ද, අවහාර නො වේ ම ය. බිම නොතබා ම විමසා නූල් ඇති බව දැනගෙන ද ලැබුණු දෙය ගත යුතු යැයි සිතා රැගෙන යයි ද, පියවර අනුව ඇවැත් කළ යුතු ය. එනම් පළමු පියවර තැබීමෙහි ථුල්ලැසි ඇවැත් වන අතර දෙවන පියවරේ දී පරිජි වේ. බිම තබා පරීක්ෂා කොට ලැබූ දෙය ගෙනයමි යැයි උදුරයි ද, ඉදිරීමෙහි පරිජි වේ. පරීක්ෂා කරන්නටත් මත්තෙන් හිමියන් දැක 'සොරෙක් සොරෙක්' යැයි ලුහුබඳිනු ලැබ, අතහැර දමා පලා යයි ද රැකෙයි. හිමියන් එය දැක ගනියි ද, රැකේ ම ය. පරිජි නො වේ. අන් කිසිවෙක් එය දැක ගනියි ද, භණ්ඩදෙය්‍ය වේ හෙවත් හිමියන්ට ආපසු ගෙවියයුතු වේ. හිමියන් ආපසු ගිය පසු තෙමේ ම ඒ පසුම්බිය දැක මෙය පළමුව මවිසින් ම ගන්නා ලද බැවින් දැන් මා සතු යැයි සිතා ගනියි ද, භණ්ඩදෙය්‍ය ම වේ. පාරාජිකා නො වේ. මේ අයුරින් තමාට වුවමනා භාණ්ඩය තිබුණොත් ගනිමි යනාදි ක්‍රමයෙන් පවතින පරිකල්පනයක් වේ ද, එය **භාණ්ඩ පරිකප්පාවහාරය** වේ.

**(ආ). ඔකාසපරිකප්පො:** යම් ස්ථානයක් දක්වා කිසිවකු නොදැක පිටවී යා හැකි වුවහොත් ගනිමි, නැතිනම් දමා යමි යැයි මෙසේ යම් ප්‍රදේශයක සීමා ලකුණු කරගෙන කරනු ලබන පරිකල්පනය ඔකාස පරිකල්පනය නම් වේ.

ඒ අනුව යම් භික්ෂුවක් අන් පිරිවෙන් ආදි තැනකට පිවිස යම් සිත් ගන්නා භාණ්ඩයක් දැක කාමරයේ දෙර, ආලින්දය, දෙරකොටුව යනාදි ලෙස යම් ස්ථානයක් පිරිසිඳ, 'ඉදින් මෙම ස්ථානය දක්වා කිසිවෙක් මා නො දකී ද රැගෙන යමි. දක්නා ලද්දේ නම් බැලීමට ගත් දෙයක් ලෙස හැසිරෙමි' කියා සිතා එම භාණ්ඩය රැගෙන නියම කරගත් සීමාව ඉක්මවයි ද, ඒ සමග ම පරිජි වේ. කිසිවකු

දැකීම නිසා හෝ තම සිත වෙනස්වීම නිසා භාණ්ඩය තබා ගියහොත් පරිජි නො වේ. මෙය **ඔකාස පරිකප්පාවහාරය** නම් වේ.

මෙසේ මේ දෙවැදෑරුම් පරිකල්පනයන්ගේ ම වශයෙන් පරිකල්පනය කොට කරනු ලබන අවහාරය **පරිකප්පාවහාරය** නම් වේ.

(4). **පටිච්ඡන්නාවහාරො**: සඟවා ගැනීම පටිච්ඡන්නාවහාරය යි. එනම් ළිං, පොකුණු, වැව්, උයන් ආදි යම්කිසි තැනක අයිතිකරු විසින් ගලවා තබන ලද ඇඟිලි මුදුවක් වැනි යමක් දැක, පසුව ගනිමි යැයි සිතා පස්වලින් හෝ කොළ, පත්‍ර ආදියකින් වසයි ද, එපමණකින් ඨානා චාවනයක් නොමැති බැවින් අවහාරයක් නො වේ. අයිතිකරු සොයන කල නොදැක හෙට දින සොයාගන්නෙමි යැයි ආලය සහිතව යයි ද, ඉක්බිති එය උදුරන්නා වූ භික්ෂුව පරිජි වේ. සඟවන ලද කාලයේ ම 'මෙය දැන් මා සතු ය' යන සංඥාවෙන් හෝ 'දැන් ඔවුන් ගොසින් ය. අතහරින ලද භාණ්ඩයකි' යැයි පාංශුකූල සංඥාවෙන් හෝ ගන්නා භික්ෂුවට භණ්ඩදෙය්‍ය වේ. පාරාජිකා නො වේ. අයිතිකරු දෙවන දිනයේ පැමිණ සොයාබලා නොදැක ධුරනික්ෂේප කොට ගියේ වුව ද ගත් දෙය භණ්ඩදෙය්‍ය ම වේ. පසුව දැනගෙන චෝදනා කරනු ලබන්නහු නො දෙන්නේ නම් අයිතිකරුගේ ධුරනික්ෂේපයෙන් පාරාජිකා වේ. කවර හෙයකින් පාරාජික වේ ද යත්, භික්ෂුවගේ ප්‍රයෝගයකින් ඔවුන් විසින් නොදුටු බැවිනි.

යම් භික්ෂුවක් එබඳු භාණ්ඩයක් තිබූ තැන තිබිය දී ම කිසිවකින් නොවසා, සොර සිතැත්තේ පයින් පාගා වැල්ලෙහි හෝ මඩෙහි හෝ පිවිසුවයි ද භාණ්ඩයේ යට පැත්තේ බිම ගෑවී තිබූ අවකාශය භාණ්ඩයේ උඩ පැත්තෙන් කෙසගක් පමණ හෝ ඉක්මෙන පරිදි වැල්ලෙහි හෝ මඩෙහි යටට බසී ද, එකෙණෙහි ම පාරාජිකා වේ. මේ **පටිච්ඡන්නාවහාරය** යි.

(5). **කුසාවහාරො** : කුසපත් ලා සිවුරු ආදි පිරිකර බෙදීමේ දී ඒවා වෙනස් කොට සොරකම් කිරීම කුසාවහාරය නම් වේ. සංඝයා වෙත ලැබී ඇති සිවුරු ආදි පිරිකර බෙදීමේ දී, ඒවා භික්ෂූන් ගණනට බෙදා ගොඩවල් ගසා, කුසපත් අදිනු ලැබේ. එවන් අවස්ථාවක තමාට ලැබුණු පිරිකර කොටසට වඩා වැඩි අගයක් ඇති හෝ අඩු අගයක් ඇති හෝ සම අගයක් ඇති අන් භික්ෂුවකට අයත් පිරිකර කොටසක් සොරකම් කරනු කැමතිව, ඒ සඳහා තමාගේ කුසපත තමන්ට අයත් පිරිකර කොටසින් ඉවත් කිරීමෙන් පරිජි

නො වේ. එය අන් පිරිකර කොටසකට දැමුව ද පරිජි නො වේ. අනතුරුව, අන් පිරිකර කොටසෙන් අන්සතු කුසපත තම කොටසට දැමීම පිණිස ඉදිරීමෙන් ම ද පරිජි වේ. එසේ නැතහොත් පළමුව ම අන් පිරිකර කොටසින් අන් සතු කුසපත උදුරන්නේ නම් එයින් පරිජි නො වේ. එය තමාගේ කොටසට දැමීමෙන් ද පරිජි නො වේ. තමාගේ කොටසින් තමාගේ කුසපත ඉවත් කරගැනීමෙන් ද පරිජි නො වේ. එය අන් භික්ෂුවගේ පිරිකර කොටසට හෙළීමේ දී සිය'තින් මුදවීමත් සමඟ ම පරිජි වේ. මෙය **කුසාවහාරය** නම් වේ.

මෙසේ ථෙය්‍යාවහාරය මුල් කොටගෙන ඇති අවහාර පස ථෙය්‍යාවහාර පඤ්චකය නම් වේ. එසේ අවහාර පස බැගින් එක්කොට පස්විසි අවහාරය දත යුතු වේ. ඒ පස්විසි අවහාරයන් අතරින් එක්තරා අවහාරයකින් අන් සතු භාණ්ඩයක් පැහැරගන්නේය යන්න '**ආදියෙය්‍ය**' යන පදයෙන් අදහස් වේ. මෙසේ '**ආදියෙය්‍ය**' පදයේ අර්ථ වර්ණනාව පිණිස පස්විසි අවහාරය සැකෙවින් දක්වා, අනතුරුව මාතිකාවෙහි සෙසු පදවල අර්ථ දක්වනු පිණිස '**යථාරූපෙති යාදිසෙ**' යනාදිය කීහ.

**සඃ යථාරූපෙ ඉති**, 'යථාරූපෙ' යනු; **යාදිසෙ**, යම්බඳු වූ යන්න යි. **අදින්නාදනෙ ඉති**, 'අදින්නාදනෙ' යනු; **අදින්නස්ස පරසන්තකස්ස**, හිමියා විසින් නොදුන්නා වූ අන්සතු වූවක්; **ගහණෙ**, ගැනීමෙහි ය.

**රාජානො ඉති ඉදං**, 'රාජානො' යන මෙය; **බිම්බිසාරං**[1] **එව සන්ධාය වුත්තං**, බිම්බිසාර රජු සඳහා ම කියන ලදී. **අඤ්ඤෙ පන**, අන් රජවරු වනාහි; **තථා කරෙය්‍යුං වා**, එසේ කරන්නාහු හෝ; **න කරෙය්‍යුං වා**[2], නො කරන්නාහු හෝ; **තෙ නප්පමාණා**, ඔවුහු ප්‍රමාණයෝ නො වෙති.

**හනෙය්‍යුං වා ඉති**, 'හනෙය්‍යුං වා' යනු; **හත්ථාදීහි වා**, අත් ආදියෙන් හෝ; **පොථෙය්‍යුං**, තළන්නාහුය. **සත්ථෙන වා**, සැතකින් හෝ; **ඡින්දෙය්‍යුං**, සිඳින්නාහුය. **බන්ධෙය්‍යුං වා ඉති**, 'බන්ධෙය්‍යුං වා' යනු; **රජ්ජුබන්ධනාදීහි**, රැහැන් බැඳුම් ආදියෙන්; **බන්ධෙය්‍යුං වා**, බඳින්නාහු හෝ යන්න යි. **පබ්බාජෙය්‍යුං වා ඉති**, 'පබ්බාජෙය්‍යුං වා' යනු, **නීහරෙය්‍යුං වා**, රටින් හෝ නෙරපන්නාහුය යන්න යි.

[1] **බිබ්බිසාරං**. බෞසංම

[2] **න කරෙය්‍යුං වා'ති**. මජසං

**චොරො'සි බාලො'සි මූළ්හො'සි ථෙනො'සි ඉති**, 'චොරො'සි බාලො'සි මූළ්හො'සි ථෙනො'සි' යනු; **ඉමෙහි වචනෙහි**, මේ වචනයන්ගෙන්; **පරිභාසෙය්‍යුං වා**[1], පරිභව හෝ කරන්නාහුය යන්න යි. **කීදිසස්ස පන අදින්නස්ස**, කෙබඳු වූ හිමියන් විසින් නොදුන් දෙයක්; **ආදානෙ**, සොරා ගැනීමෙහි; **රාජානො**, රජවරු; **එවං කරොන්ති**, මෙසේ කරත් ද යත්; **පාදස්ස වා පාදාරහස්ස වා**, පාදයක් හෝ පාදයක් වටිනා දෙයක් සොරා ගැනීමෙහි වේ.

**තථාරූපං භික්ඛු අදින්නං ආදියමානො ඉති**, 'තථාරූපං භික්ඛු අදින්නං ආදියමානො' යනු; **භික්ඛු**, භික්‍ෂුව; **තාදිසං**, එබඳු වූ; **පොරාණකස්ස කහාපණස්ස**, පුරාණ කහවණුවගේ; **පාදං වා**, පාදයක් (සතරෙන් පංගුවක්) හෝ; **පාදාරහං වා භණ්ඩං**, පාදයකට සුදුසු භාණ්ඩයක් හෝ; **අදින්නං**, හිමියන් විසින් නොදෙන ලද්දක්; **භූමිආදිසු**[2] **යත්ථ කත්ථචි**, භූමි ආදිය අතරින් යම්කිසි තැනෙක; **ඨිතං**, තබන ලද්දේ ද; **යං කිඤ්චි**, යම්කිසි; **සජීවනිජ්ජීවං**[3], සජීවී හෝ අජීවී දෙයක්; **වුත්තප්පකාරානං අවහාරානං**, කියන ලද ආකාරයේ අවහාරයන් අතරින්; **යෙන කෙනචි අවහාරෙන**, යම්කිසි අවහාරයකින්; **අවහරන්තො**, පැහැරගනුයේ; **පාරාජිකො හොති**, පරිජි වේ. **තතො**, ඒ පාදයක වටිනාකමින්; **අතිරෙකතරස්මිං**, අතිරේක වටිනාකමක් ඇති දෙයෙහි; **කො පන වාදො ඉති**, කවර කථාවක් ද (කියනුම කිම) යනුවෙනි.

**66. වි:** "යථාරූපෙ අදින්නාදානෙ" යන්නෙහි 'යථාරූපෙ' යනු යම්බඳු වූ යන්න යි. ඒ අනුව 'යම් බඳු වූ ස්වාමියා විසින් කයින් හෝ වචනයෙන් හෝ නොදෙන ලද්ද වූ අන්සතු වස්තුවක් ගැනීමෙහි' යනු '**යථාරූපෙ අදින්නාදානෙ**' යන්නෙහි අදහස යි. එය '**හනෙය්‍යුං**' ආදි ක්‍රියාවලට නිමිත්තාධාර වේ.

"**රාජානො**" යන මේ පදයෙන් පථබ්‍යාරාජා (පෘථිවීශ්වර රජු), පදෙස රාජා, මණ්ඩලිකා, අන්තරභොගිකා, අක්ඛදස්සා, මහාමත්තා ආදි රජවරු ද සංග්‍රහ වන නමුදු මේ සිකපදයේ **බිම්බිසාර රජු සඳහා ම** කියන ලදී. හෙතෙමේ ධාර්මික රජෙක් වූයේ ප්‍රවේණි වූ පරිද්දෙන් ම

---

[1] **'වා' කාරො න දිස්සතෙ**. මජසං

[2] **භූමිආදීසු**. මජසං

[3] **සජීවනිජ්ජීවං**. හෙමු; බෞසංම

කටයුතු කරයි. අන් අය වනාහි තුට්ටුවක් පමණ දෙයක් සොරා ගැනීමෙහි ද හිස සිඳුවත්. බොහෝවක් සොරගත් ඇතැම් අය පිළිබඳ කිසිත් නො කරත්. එහෙයින් '**අඤ්ඤෙ පන**' යනාදිය කියන ලදී.

"**හනෙය්‍යුං වා**" යනාදි පදයන්හි හනනය හෙවත් පෙළීම යන්න තැළීම හා සිඳීම යන ක්‍රියා ද්වයෙන් යුතු බව '**හත්ථාදීහි**' යැයි කියන ලදී. එහි 'ආදි' ශබ්දයෙන් කසයෙන් තැළීම, වේවැලෙන් තැළීම, අඩ දඬුවෙන් (බැටන් පොල්ලෙන්) තැළීම යනාදිය සංග්‍රහ වේ. එබඳු දෙයකින් තැළීම හෙවත් පහර දීමත් සැතකින් අත්පා ආදිය සිඳීමත් පෙළීම යන්නට අයත් වේ.

"**බන්ධෙය්‍යුං වා**" යන්නෙහි රැහැන් ආදියෙන් කරනු ලබන බැඳීමක් වන අතර එහි 'ආදි' ශබ්දයෙන් විලංගු ආදියෙන් කරන බැඳීම්, දම්වැල්වලින් බැඳීම්, නිවාස අඩස්සියේ තැබීම්, ගමක, නගරයක වැනි කිසියම් තැනක සිරකර තැබීම් ආදි සියල්ල අයත් වේ.

"**තථාරූපං භික්ඛු අදින්නං ආදියමානො**" මෙසේ සොරෙකු අල්ලාගත් දැහැමි රජවරු ඔහුට 'සොරෙකි' යනාදි ලෙස පරිභව කරමින් පෙළීම් බැඳීම් ආදිය සිදුකරනු ලබන්නේ කෙබඳු වටිනාකමක සොරකමක් සඳහා ද යන්න '**තථාරූපං භික්ඛු**' යන්නෙන් දැක්වේ. ඒ අනුව පුරාණ කහවණුවෙන් පාදයක් හෝ පාදයක වටිනාකමට සුදුසු භාණ්ඩයක් හෝ සොරා ගැනීමෙන් මෙසේ දැහැමි රජවරුන්ගේ පෙළීමට, බැඳීමට ලක්වන බවත් එබඳු වටිනාකමක දෙයක් සොරකම් කිරීමෙන් භික්ෂුව පරිජි ඇවැතට පත්වන බවත් දැක්වේ. එහෙයින් සිකපද පදභාජනියෙහි '**යථාරූපං නාම පාදං වා පාදරහං වා අතිරෙකපාදං වා**' යැයි දැක්වේ. එහි දී 'පාදං' යන්නෙන් මුදලක් අදහස් වන අතර 'පාදරහං' යන්නෙන් ඒ මුදලේ වටිනාකම ඇති භාණ්ඩයක් දැක්වේ. මේ අනුව පාදයක් යනු කවර වටිනාකමක් ද යන්න නිගමනය කරගත යුතු වේ.

"**තෙන ඛො පන සමයෙන රාජගහෙ පඤ්චමාසකො පාදො හොති (පාරා, පි.102)**" යනුවෙන් බුදුරජාණන් වහන්සේ වැඩසිටි සමයෙහි රජගහ නුවර පාදයක් යනු මසු පහක (05) වටිනාකමක් යැයි දැක්වෙන බැවින් පාදය යනු මසු පහක් වටිනාකමින් යුක්ත වූවක් ලෙස සැලකිය යුතු වේ. එහි අගය නිගමනය කරගැනීම උදෙසා පළමු කොට ම 'කහවණුවක් යනු මසු විස්සක්' බව සමන්තපාසාදිකා, විනයාර්ථකථාවේ

දක්වෙන බැවින් පාදයක් යනු කහවණුවෙන් හතරෙන් පංගුවක් ලෙස ගත යුතු වේ.

> **"පඤ්චමාසකො පාදොති තදා රාජගහෙ වීසතිමාසකො කහාපණො හොති. තස්මා පඤ්චමාසකො පාදො එතෙන ලක්ඛණෙන සබ්බජනපදෙසු කහාපණස්ස චතුත්ථොභාගො පාදොති වෙදිතබ්බො''** (සම.පා, පි.213)

> ('පඤ්චමාසකො පාදො' යනු එදවස රජගහ නුවර මසු විස්සක් (20) වූ කහවණුව වෙයි. එබැවින් මසු පසක් (05) පාදය යි. මේ ලක්ෂණය කරණකොටගෙන සියලු දනව්වල කහවණුවෙන් සතරෙන් පංගුවක් (1/4) පාදය යැයි දත යුතු වේ.)

එසේ ම මෙහි දී සලකා බලනු ලබන කහවණුව පැරණි නීලකහවණුව ම බව "**සො ච ඛො පොරාණස්ස නීලකහාපණස්ස වසෙන, න ඉතරෙසං රුද්‍රදාමකාදීනං** (සම.පා, පි.213)" යනුවෙන් සමන්තපාසාදිකාව ම කියයි. එබැවින් වර්තමානයේ දී පාරාජිකා ඇවැතට පොහෝනා වටිනාකම ගණනය කළ යුත්තේ පැරැණිනන්ගේ නීල කහවණුවෙන් සතරෙන් පංගුවක් වශයෙන් වේ.

නීලකහාපණය යන්න කවරක්දැයි දක්වන විමතිවිනෝදනී විනය ටීකාව

> **"පොරාණසත්ථානුරූපං උප්පාදිතො වීසතිමාසප්පමාණඋත්තම සුවණ්ණග්ඝනකො ලක්ඛණසම්පන්නො නීලකහාපණොති වෙදිතබ්බො.''** (විමති. පි.143)

> (පැරණි ශාස්ත්‍රානුකූලව නිදෙස් ලෙස සැකසූ පිරිසිදු රත්රන් මසු විස්සක (20) බර ප්‍රමාණයක වටිනාකම ඇති රාජ්‍ය මුද්‍රා ආදි ලක්ෂණයන්ගෙන් යුක්ත වූ නීලකර්ෂාපණය යැයි දත යුතු.)

ලෙස දක්වයි. ඒ අනුව පිරිසිදු රත්රන් මසු 20 ක් ඇත්තා වූ රාජ්‍ය මුද්‍රා ආදියෙන් යුත් කහවණුව නීලකහාපණ නම් වේ. තව ද සමන්තපාසාදිකාවෙහි '**න ඉතරෙසං රුද්‍රදාමකාදීනං**' යනුවෙන් රුද්‍රදාමක ආදි කහවණු ප්‍රතික්ෂේප කෙරෙයි. විමතිවිනෝදනී ටීකාවෙහි '**රුද්‍රදාමෙන නාම කෙනචි උප්පාදිතො රුද්‍රදාමකො. සො කිර නීලකහාපණස්ස තිභාගං අග්ඝති** (විමති. පි.143)' යනුවෙන් සඳහන් වන

බැවින් නීලකහවණුවෙන් සතරෙන් තුනක් පමණ වටිනා රන් නොවන අන් දෙයකින් කරන ලද කහවණුව රුද්‍රදමකය යැයි ගත යුතු ය.

මේ අනුව පාදයේ අගය ගණනය කළ යුත්තේ නීලකහවණුවේ වටිනාකමින් සතරෙන් කොටසක් ලෙස වුව ද වර්තමානයේ නීලකහවණු නොමැති බැවින් කුමන වටිනාකමක් සලකාගත යුතු ද යන ගැටළුවට පිළිතුරු ලෙස විමතිවිනෝදනී ටීකාවේ;

> **"යසමිං පන දෙසෙ නීලකහාපණා න සන්ති, තත්ථාපි කාලකවිරහිතස්ස නිද්ධන්තසුවණ්ණස්ස පඤ්චමාසග්ඝනකෙන භණ්ඩෙන පාදපරිච්ඡේදෙ කාතබ්බො.''** (විමති. පි.144)
>
> (යම් රටක නීල කර්ෂාපණයෝ නොවෙත් ද එහි ලා ද කලුලප විරහිත රත්කොට පිරිසිදු කළ රත්රනින් පස් මසු අගය ඇති භාණ්ඩයෙන් පාදය පිරිසිදීම කළ යුතු.)

යැයි දැක්වේ. මෙහි 'කලුලප විරහිත' යන්නෙන් පිරිසිදු රත්රනින් කහවණුව ගත යුතු බව කියවේ. ඒ අනුව වර්තමානයේ ද සුපිරිසිදු කැරට් 24 රත්රන්වලින් මසු පහක (05) වටිනාකම මැන බලා පාදයේ අගය තීරණය කළ හැකි වේ. මේ පිළිබඳව විවරණය කරන විනය විනිශ්චය ටීකාව විනයෙහි ගරු තැන පිහිටා කටයුතු කළ යුතු යැයි කියන බැවින් මිශ්‍ර කහාපණය නීලකහාපණය වශයෙන් ගත යුතු බව නිර්ණය කළ ද පාරාජික විනිශ්චයක් වන මෙහි දී වඩාත් සාධාරණ විනිශ්චයක පිහිටා කටයුතු කළ යුතු වේ. එබැවින් ගරුක ස්ථානයේ පිහිටමින් පාරාජිකා නොවූ අයෙක් පාරාජිකා යැයි නිර්ණය කිරීම යුතු නොවේ. එබැවින් විමතිවිනෝදනී ටීකාවේ දැක්වෙන ආකාරයෙන් පිරිසිදු රත්රන් කහවණුව ගැනීම යෝග්‍ය බව අපගේ මතය යි.

මාසකයක් යනු කොපමණ ප්‍රමාණයක් ද යන්න දක්වන විනයත්ථමඤ්ජුසා නම් කඞ්ඛාවිතරණී අභිනව ටීකාව "**මාසකො නාම පොරාණකස්ස කහාපණස්ස වීසතිමො භාගො. යා ලොකෙ මඤ්ජෙට්ඨීතිපි වුච්චති (කඞ්ඛා.ටී, පි.77)**" යැයි සඳහන් කරන බැවින් ලෝක ව්‍යවහාරයේ රන් මදටිය, නැතිනම් රන් මංචාඩිය ලෙස ව්‍යවහාර කරනුයේ මෙම මාසකය ලෙස දක්වා ඇති ප්‍රමාණය ම විය යුතු ය. ඒ අනුව වර්තමානයේ ඇති පිරිසිදු කැරට් 24 රත්රන් මඤ්චාඩි පසක (05) වටිනාකම පාදයේ අගය ලෙස විනිශ්චය කිරීම යුතු වේ. වත්මන්හි ලක්දිව රන් පවුමේ වටිනාකම ව්‍යවහාර වන බැවින් ද, රන් පවුමකට

මඤ්චාඩි 28ක් ඇති බැවින් ද රන් පවුමේ වටිනාකමින් 28 න් පංගුවක් මස්සක් ලෙස ගෙන, එබඳු මසු 05 ක් පාදය ලෙස ගණනය කර පාදයේ වටිනාකම සලකා ගැනීම ප්‍රශස්ත වේ[1]. මෙය ආසන්න වශයෙන් රත්රන් මිලිග්‍රෑම් 1400 ක් පමණ වේ. එබැවින් ඒ ඒ කාලයේ රත්රන් වටිනාකම අනුව රත්රන් මිලිග්‍රෑම් 1400 ක මූල්‍යමය වටිනාකම පාදයේ වටිනාකම ලෙස ගැනීම සුප්‍රශස්ත බැව් අපගේ අදහස යි.

එබඳු පාදයක් වටිනා මුදලක් හෝ පාදයක් වටිනා භාණ්ඩයක් හෝ හිමියන් විසින් නුදුන් දෙයක් යට සඳහන් කරන ලද අවහාරයන් අතරින් එක්තරා අවහාරයකින් පැහැරගන්නා භික්ෂුව පරිජි ඇවැතට පත්වන අතර ප්‍රකෘති භික්ෂූන් සමඟ සංවාසයට නුසුදුසු වේ. ඊට වඩා වැඩි වටිනාකමක දෙයක් සොරා ගැනීම පිළිබඳ කිවයුත්තක් නැත්තේ ම ය.

මෙසේ අදින්නාදාන පාරාජිකා සිකපදයට ම පමණක් අදාළ අසාධාරණ විනිශ්චය දක්වා අනතුරුව සාධාරණ සප්තදශාකාර විනිශ්චය දක්වනු පිණිස **'රාජගහෙ'** යනාදිය කියන ලදී.

- 29 -

**සඃ රාජගහෙ**, රජගහ නුවර; **ධනියත්ථෙරං ආරබ්භ**, ධනිය ස්ථවිරයන් වහන්සේ අරබයා; **රඤ්ඤො**, බිම්බිසාර රජුගේ; **දරුනි**, දූව; **අදින්නං**, නොදෙන ලද්ද; **ආදියනවත්ථුස්මිං**, පැහැරගන්නා ලද වස්තුවෙහි; **පඤ්ඤත්තං**[2], පනවන ලදී. **ගාමා වා අරඤ්ඤා වා ඉති අයං**, 'ගාමා වා අරඤ්ඤා වා' යන මෙය; **එත්ථ**, මෙහි ලා; **අනුපඤ්ඤත්ති**[3], අනුප්‍රඥප්තිය යි. **සාධාරණපඤ්ඤත්ති**, භික්ෂු-භික්ෂුණී දෙපිරිසට ම සාධාරණ පැනවීම යි. **සාණත්තිකං**, අණ කිරීමෙන් ඇවැත් සහිත වේ. **හරණත්ථාය**, පැහැරගනු පිණිස; **ගමනාදිකෙ පුබ්බපයොගෙ**[4], ගමනාදි වූ පූර්ව ප්‍රයෝගයෙහි; **දුක්කටං**, දුකුළා වේ. **ආමසනෙ**, ස්පර්ශ කිරීමෙහි;

---

[1] මුලුසික වර්ණනාවේ සඳහන් අන්දමට 1935 වර්ෂයේ රන් කාසිය මසු 28 ක් විය (ගුණාලංකාර තිස්ස හිමි, සීනාවත්තේ, මුලුසික වර්ණනාව, 1935, පි. 18). වර්තමානයේ මිලි ග්‍රෑම් 280 ක් මඤ්චාඩි 1 ක් ලෙස සලකන බැවින් ද පවුමක් ග්‍රෑම් 8 ක් ලෙස සලකන බැවින් ද රන් පවුමට මඤ්චාඩි 28.5 ක් පමණ ලැබේ. මෙය ආසන්න වශයෙන් ගෙන රන් පවුමට මඤ්චාඩි 28 ක් ලෙස ගෙන තිබේ.

[2] **රඤ්ඤො දරුනි ආදියනවත්ථුස්මිං පඤ්ඤත්තං.** කඞ්ඛා.පි, පි.23

[3] **අනුප්පඤ්ඤත්ති.** බෞසංම

[4] **පුබ්බප්පයොගෙ.** මජසං

**දුක්කටං**, දුකුළා වේ. **පාරාජිකවත්ථුනො**, පරිජි වස්තුවකගේ; **එන්දපනෙ**, සෙලවීමෙහි; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **ආදියන්තස්ස**, පැහැරගන්නා භික්‍ෂුවට; **මාසකෙ වා**, මස්සක් වටිනා දෙයක් පැහැර ගැනීමෙහි හෝ; **ඌනමාසකෙ වා**, මස්සට වඩා අඩු දෙයක් පැහැර ගැනීමෙහි හෝ; **දුක්කටං**, දුකුළා වේ. **අතිරෙකමාසකෙ වා ඌන පඤ්චමාසකෙ වා**, මස්සට වඩා වැඩි වටිනාකමක් ඇති එහෙත් මසු පහට වඩා අඩු අගයක් ඇති දෙයක් පැහැර ගැනීමෙහි; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **පඤ්චමාසකෙ වා**, මසු පහක් ඇති දෙයෙහි හෝ; **අතිරෙකපඤ්චමාසකෙ වා**, මසු පහට වැඩි අගයක් ඇති දෙයක් පැහැර ගැනීමෙහි හෝ; **පාරාජිකං**, පරිජි වේ. **සබ්බත්ථ**, ඌනමාසක-අතිරෙකමාසක-පඤ්චමාසක යන සියලු තැන්හි; **ගහණකාලවසෙන ච**, ගන්නා වූ කාලයේ වශයෙන් ද; **ගහණදෙසවසෙන**[1] **ච**, ගන්නා වූ දේශය වශයෙන් ද; **පරිභොගභාජනපරිවත්තනාදීහි**, පරිභෝග කිරීම්, බෙදීම්, පරිවර්තනය කිරීම් ආදිය හේතුවෙන්; **පරිහීන අපරිහීනවසෙන ච**, අගයේ අඩු වැඩි වීම් වශයෙන් ද; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු. **සකසඤ්ඤිස්ස**, ස්වකීය සංඥාවෙන් ගන්නහුට; **විස්සාසගාහෙ**[2], විශ්වාසයෙන් ගැනීමෙහි; **තාවකාලිකෙ**, තාවකාලිකව ගැනීමෙහි; **පෙතපරිග්ගහෙ**, ප්‍රේතයන් අයත් දේ ගැනීමෙහි; **තිරච්ඡානගතපරිග්ගහෙ**, තිරිසන්ගත වූවන් අයත් දේ ගැනීමෙහි; **පංසුකූලසඤ්ඤිස්ස**, පාංශුකූල සංඥාවෙන් ගන්නහුට; **උම්මත්තකාදීනඤ්ච**, උමතු ආදිකාර්මික ආදීන්ට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **සීල විපත්ති**, ශීල විපත්ති වේ. **අඤ්ඤස්ස මනුස්සජාතිකස්ස වසෙන**, අන් මනුෂ්‍ය ජාතිකයකුගේ වශයෙන්; **පරපරිග්ගහිතං**[3], පරපරිගෘහිත (අන්සතු) වූවක් වීම ය; **පරපරිග්ගහිතසඤ්ඤිතා**, අන් සතුය යන සංඥාව ය; **ගරුපරික්ඛාරො**, පාදයක් හෝ ඊට වැඩි අගයක් සහිත පරිෂ්කාරයක් වීම ය; **ථෙය්‍යචිත්තං**, සොරකම් කිරීමේ චේතනාව ය; **වුත්තප්පකාරානං අවහාරානං වසෙන**, කියන ලද ආකාර ඇති අවහාරයන්ගේ වශයෙන්; **අවහාරකරණඤ්ච ඉති**[4], අවහාරකරණය (පැහැර ගැනීම) ද යනුවෙන්; **ඉමානි පඤ්ච**, මේ පස්දෙන; **එත්ථ**, මේ

---

[1] **දෙසවසෙන ච**. හෙමු; බෞසංම

[2] **විස්සාසග්ගාහෙ**. මඡසං

[3] **පරපරිග්ගහීතං**. කඞ්ඛා.පි.

[4] **අවහරණඤ්චාති**. මඡසං

සිකපදයේ; **අඞ්ගානි**, අංගයෝ ය. **අදින්නාදානසමුට්ඨානං**, සමුට්ඨාන වශයෙන් අදින්නාදාන සමුට්ඨානය යි. **කිරියා**, කිරීම් වශයෙන් ඇවතට පත්වේ. **සඤ්ඤාවිමොක්ඛං**, සංඥාවිමෝක්ෂ ය හෙවත් සංඥාවගේ අභාවයෙන් ඇවැතින් මිදේ. **සචිත්තකං**, සචිත්තක ය. **ලොකවජ්ජං**, ලෝකවද්‍ය ය. **කායකම්මං**, කායකර්ම ය. **වචීකම්මං**, අණකිරීම් වශයෙන් වචීකර්ම ය. **අකුසල චිත්තං**, අකුශල චිත්ත ය. **තිවේදනං ඉති**, ත්‍රිවේදනා ය යනුවෙන්;

**දුතියපාරාජිකං**, ද්විතීය පාරාජික ශික්ෂාපදය;
**සමත්තං**, සමාප්ත ය.

**67. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1). **නිදානය**: රජගහ නුවර.

(2). **පුද්ගලයා**: ධනිය ස්ථවිරයන් වහන්සේ.

(3). **වස්තුව**: බිම්බිසාර රජුගේ නොදුන් දැව පැහැරගැනීමේ වස්තුව.

භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ රජගහ නුවර සමීපයෙහි ගිජුකුළු පව්වෙහි වැඩවසන සමයෙහි බොහෝ දුටුමිතුරු වූ දැඩි මිතුරු වූ භික්ෂූහු ඉසිගිලි පර්වතය පසෙක තෘණ කුටි කරගෙන වස් එළඹුණහ. ආයුෂ්මත් ධනිය ස්ථවිරයන් වහන්සේ ද තෘණ කුටියක් කරගෙන එහි වස් එළඹුණහ. අනතුරුව වස් තුන් මස ඉක්මයාමෙන් පසු, විසූ වස් ඇති සෙසු භික්ෂූහු පවාරණය කොට ජනපද චාරිකාවෙහි නික්ම ගිය අතර ධනිය ස්ථවිරයෝ එහි ම වැඩවාසය කළහ. ඒ අතර වරක් ධනිය ස්ථවිරයන් වහන්සේ ගමට පිඬු පිණිස පිවිසි කල්හි තෘණ ගෙනයන ස්ත්‍රීහු ද දර ගෙනයන ස්ත්‍රීහු ද ධනිය තෙරුන්ගේ කුටිය බිඳ දමා තෘණ ද දර ද රැගෙන ගියහ. දෙවනවර ද ධනිය තෙරුන් වහන්සේ තෘණ කුටියක් සාදගත් අතර එය ද එසේ ම කඩාගෙන රැගෙන ගියහ. තෙවනවර ද එසේ ම විය.

ඉක්බිති ධනිය ස්ථවිරයෝ කුම්භකාර කර්මයෙහි දක්ෂ බැවින් මැටියෙන් කුටියක් කරවීමට සිතා තමා ම මැටි අනා සියල්ලෙන් සියල්ල මැටියෙන් කුටියක් තනා, තෘණ දැව ආදිය රැස් කොට දවාලූහ. එය රත් ඉඳුගොව්වකු සේ දැකුම්කලු විය. එකල්හි

භාග්‍යවතුන් වහන්සේ ගිජුකුළු පව්වෙන් බස්නා සේක් මෙම මැටි කුටිය දැක විමසා බලා සියලු පුවත් දැනගෙන සියල්ලෙන් සියල්ල මැටියෙන් කළ කුටියක් තැනීම සුදුසු නොවන බව වදරා, ප්‍රාණීන් නැසීම පිළිබඳ අනාගතයේ පශ්චිම ජනතාව දිට්ඨානුගතියට පැමිණීම වළක්වනු වස් ''**න භික්ඛවෙ සබ්බමත්තිකාමයා කුටිකා කාතබ්බා. යො කරෙය්‍ය ආපත්ති දුක්කටස්ස (පාරා, පි.96)**'' යනුවෙන් සියල්ලෙන් සියල්ල මැටියෙන් කළ කුටි තැනවීම නොකළ යුතු බවට සිකපදයක් ද පැනවූ සේක. තව ද ධනිය තෙරුන් වහන්සේට ගර්හා කොට ඒ මැටි කුටිය බිඳ දමන්නට නියම කළ සේක.

ඉක්බිති ධනිය ස්ථවිරයන් වහන්සේ තුන්වරක් දක්වා සිය තෘණ කුටිය ස්ත්‍රීහු කඩාගෙන ගිය බැවින් ද, මැටියෙන් කළ කුටිය භාග්‍යවතුන් වහන්සේ බිඳවාලූ බැවින් ද රාජකීය දැව භාණ්ඩාගාරයේ දැව මුදලිගෙන් දැව ඉල්ලාගෙන දැවමුවා කුටියක් කරවීමට සිතා එහි ගොස් දැව ඉල්විය. රාජකීය දැව භාණ්ඩාගාරයේ නගර ප්‍රතිසංස්කරණයට මෙන් ම ආපද සඳහා වෙන්කොට තබන ලද රජුගේ දැව පමණක් ඇති බව පැවසූ අතර ධනිය තෙරුන් වහන්සේ ඒ දැව රජුවිසින් තමාට දී ඇති යැයි පවසා දැව ඉල්ලූහ. එසේ දැව රැගෙනවිත් දැවමය කුටියක් සාදගත්හ.

ඒ අතර නගර ප්‍රතිසංස්කරණ කටයුත්තකට දැව ලබාගැනීමට පැමිණි වස්සකාර මගධ මහාමාත්‍යතුමා ධනිය තෙරුන් වහන්සේ විසින් දැව රැගෙන යාමේ පුවත අසා බිම්බිසාර මහරජු වෙත දන්වා, රජුගේ අණින් දැවමුදලිව අත්අඩංගුවට ගත්තේය. එය දැනගත් ධනිය තෙරුන් වහන්සේ බිම්බිසාර රජු වෙත ගියහ. එහි දී බිම්බිසාර රජු ධනිය තෙරුන් වහන්සේට වැඳ එකත් පසෙක සිට "වහන්ස, මා විසින් නගර ප්‍රතිසංස්කරණයට වෙන් වූ, ආපද පිණිස තබන ලද්ද වූ රාජසන්තක දැව ආර්යයන් වහන්සේට දෙන ලද්දේය යනු සැබෑ ද?" යැයි අසා සිටියේය. එවිට ධනිය තෙරුන් වහන්සේ "මහරජ සැබෑය" යැයි කීහ. "වහන්ස, රජවරු වූ අපි බොහෝ කෘත්‍ය ඇත්තෝ වෙමු. යමක් ප්‍රදානය කොට ද සිහි නො කරන්නෙමු. මඳක් සිහිකරනු මැනවි" යැයි බිම්බිසාර මහරජු ධනිය තෙරුන් වහන්සේට කී කල උන්වහන්සේ "මහරජතුමනි, අභිෂේකයෙන් පළමුව නුඹ 'මහණ බමුණන්ට තෘණ, දැව, ජලය

පරිත්‍යාග කරන ලද්දේය. කැමති සේ පරිභෝග කෙරෙත්වා’ යැයි මෙබඳු වචනයක් කී බව සිහි කරන්නෙහි ද?” යැයි ඇසූහ. රජතුමා “වහන්ස, මම සිහිකරමි. වහන්ස, ලජ්ජී වූ කුකුස් ඇත්තා වූ ශික්ෂාකාමී වූ මහණ බමුණෙක් වෙයි. උන්වහන්සේලාට ස්වල්ප මාත්‍ර දෙයෙහි ද කුකුස් උපදී. මා විසින් උන්වහන්සේලා සඳහා මෙසේ කියන ලදී. එය ද වනාහි ආරණ්‍යයෙහි වූ ආරක්ෂා නොකරන ලද දෙය යි. වහන්ස, නුඹ වහන්සේ ඒ ලේශයෙන් නොදෙන ලද දූව පැහැරගන්නට හඟින්නෙහිය. කෙසේ නම් මා වැන්නෙක් මගේ රටේ වසන්නා වූ ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් පෙළන්නේ ද, සිරගෙය ලා බඳින්නේ ද, රටින් නෙරපන්නේ ද නුඹ වහන්සේ ලෝම මාත්‍රයෙන් මිදුණාහුය. නැවත මෙබන්දක් නො කරනු මැනවි” යැයි පවසා ධනිය තෙරුන් වහන්සේ මුදවාලීය.

මෙම සිදුවීම දැනගත් මහජනතාව “මේ ශ්‍රමණ ශාක්‍යපුත්‍රයෝ අලජ්ජීහු ය. දුසිල්වත්හු ය. මුසා බස් කියන්නාහුය.” යනාදි ලෙස නුගුණ කී අතර ඒ මිනිසුන්ගේ නුගුණ කීම ඇසූ භික්ෂූන් වහන්සේලා ඒ බැව් බුදුරජාණන් වහන්සේට දන්වා බුදුරජාණන් වහන්සේ ධනිය තෙරුන් වහන්සේ කැඳවා විචාළ සේක.

“ධනිය, නුඹ රජුගේ නුදුන් දූව ගත්තෙහිය යන මෙය සැබෑ ද?” උන්වහන්සේ “භාග්‍යවතුන් වහන්ස, සැබෑවකි” යැයි පිළිතුරු දුන්හ. එකල්හි භාග්‍යවතුන් වහන්සේ ධනිය තෙරුන්ට ගර්හා කොට ඒ අසල සිටි ගිහිකල විනිසුරුවකු වූ භික්ෂුවකගෙන් මගධේශ්වර බිම්බිසාර රජතුමා යම් සොරෙකු අල්ලා පෙළනුයේ, සිරිගෙයි ලා බඳිනුයේ, රටින් නෙරපනුයේ කෙබඳු වටිනාකමකට දැයි විමසූ විට පාදයකින් හෝ පාදයක වටිනාකම ඇති භාණ්ඩයකින් හෝ යැයි පිළිතුරු දුන් කල්හි මෙම සිකපදය පනවා වදාළ සේක.

**“යො පන භික්ඛු අදින්නං ථෙය්‍යසඞ්ඛාතං ආදියෙය්‍ය, යථාරූපෙ අදින්නාදනෙ.... -පෙ- අසංවාසො”** යනුවෙනි.

ඉක්බිති සවග භික්ෂූහු රෙදි සෝදන තොටුපළෙන් රෙදි පොදියක් සොරකම් කිරීම මත ‘**ගාමා වා අරඤ්ඤා වා**’ යන අනුප්‍රඥප්තිය පනවා වදාළ සේක.

(4). **ප්‍රඥප්ති:**

1. **මූල ප්‍රඥප්තිය:** "යො පන භික්ඛු අදින්නං ථෙය්‍යසඞ්ඛාතං ආදියෙය්‍ය, යථාරූපෙ අදින්නාදනෙ.... -පෙ- අසංවාසො"
2. **අනුප්‍රඥප්තිය:** 'ගාමා වා අරඤ්ඤා වා'
3. **සාධාරණ - අසාධාරණ :** සාධාරණ ප්‍රඥප්ති ය.

(5). **ආණත්තිය:** සාණත්තික ය.

(6). **ආපත්ති:**

1. **පරිජි :** මසු පහක් හෝ ඊට වැඩි අගයක් ඇති දෙයක් සොරකම් කිරීමෙහි පරිජි වේ.

   මෙසේ පාරාජිකාපත්ති විනිශ්චය කිරීමෙහි දී ද කරුණු පසක් සලකා බලා විනිශ්චය කළ යුතු බව සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ;

   **'වත්ථුං කාලඤ්ච දෙසඤ්ච, අග්ඝං පරිභොගපඤ්චමං**

   **තුලයිත්වා පඤ්ච ඨානානි, ධාරෙය්‍යත්ථං විචක්ඛණො'**

   **(සම.පා, පි.219)**

   යනුවෙන් ගාථාවකින් දක්වේ. විස්තර කැමැත්තෝ සමන්තපාසාදිකා විනයාර්ථකථාවෙන්, සුදුසු ඇදුරුවර ඇසුරෙන් උගත යුතු.
2. **ථුල්ලැසි ඇවැත්:** පාරාජික වස්තුව ඵන්දපනය හෙවත් සෙලවීමෙහි ථුල්ලැසි වේ.
3. **දුකුළා ඇවැත්:** පැහැරගැනීම පිණිස යාම ආදි පූර්ව ප්‍රයෝගයන්හි දුකුළා වේ. මස්සකට අඩු වටිනාකමක් ඇති දෙයක් සොරකම් කිරීමෙහි දුකුළා වේ.

මෙම අදින්නාදන පාරාජිකාවේ සාමන්තාපත්තිය හෙවත් ආසන්නතම ඇවැත ථුල්ලැසි ඇවැත වේ.

(7). **අනාපත්ති:**

1. ස්වකීය සංඥාවෙන් ගන්නහුට.
2. විශ්වාසයෙන් ගන්නහුට.
3. තාවකාලිකව ගන්නහුට.

4. ප්‍රේත තිරච්ඡානගත ආදීන් සතු වූවක් ගන්නහුට.
5. පාංශුකූල සංඥාවෙන් ගන්නහුට.
6. උමතු - ආදිකාර්මිකාදීන්ට.

(8). **විපත්ති:** ශීල විපත්තිය ය.

(9). **අඞ්ග:**

1. මනුෂ්‍ය ජාතිකයකුගේ වශයෙන් පරපරිග්‍රහිත බව (අන් සතු බව).
2. පරපරිග්‍රහිත සංඥාව.
3. පාදයක් හෝ ඊට වැඩි වටිනාකමක් ඇති දෙයක් වීම.
4. සොරකම් කිරීමේ සිත.
5. යට දැක්වූ පස්විසි අවහරයන්ගෙන් එක් ආකාරයකට පැහැර ගැනීම.

(10). **සමුට්ඨාන:** ආදින්නාදාන සමුට්ඨාන ය. එනම් සචිත්තක සමුට්ඨාන තුනක් වශයෙනි.

(11). **කිරියා:** ක්‍රියා වශයෙනි.

(12). **සංඥා:** සංඥාවිමෝක්ෂ ය. එනම් "සොරකම් කරමි" යන සංඥාවගේ අභාවයෙන් ඇවතින් මිදේ.

(13). **චිත්ත:** සචිත්තක ය.

(14). **වජ්ජ:** ලෝකවද්‍ය ය.

(15). **කම්ම:** කායකර්ම වචීකර්ම (ආණත්තිකය) ය.

(16). **කුසල ත්‍රිකය:** අකුශල චිත්ත ය.

(17). **වෙදනා ත්‍රිකය:** ත්‍රිවේදනා ය.

**දුතිය පාරාජික ශික්ෂාපදය නිමියේය.**

# තතිය පාරාජිකය

**සෘ: තතියෙ,** තෘතීය පාරාජිකා ශික්ෂාපදයෙහි; **සඤ්චිච්ච ඉති,** 'සඤ්චිච්ච' යනු; **සඤ්චෙතෙත්වා,** මැනවින් සිතා යන්න යි. **සද්ධිං චෙතෙත්වා,** සමඟ සිතා යන අර්ථය යි. **පාණො ඉති,** ප්‍රාණියෙක් ය යන; **සඤ්ඤාය සද්ධිං එව,** සංඥාව සමඟ ම; **නං වධාමි,** මොහුව මරමි; **ඉති,** යන; **වධකචෙතනාය චෙතෙත්වා,** වධක චේතනාවෙන් සිතා *(ප්‍රයෝග කොට* - **කඞ්ඛා.පි, පි.23); පරිකප්පෙත්වා,** පරිකල්පනය කොට (සනිටුහන් කොට) *(විමැස* - **කඞ්ඛා.පි, පි.23**) යන අර්ථය යි.

**මනුස්සවිග්ගහං ඉති,** 'මනුස්සවිග්ගහං' යනු; **කලලතො පට්ඨාය,** කලලයේ පටන්; **ජීවමානකමනුස්සජාතිකසරීරං,** ජීවමාන මනුෂ්‍ය ජාතික ශරීරය යි.

**ජීවිතා වොරොපෙය්‍ය ඉති,** 'ජීවිතා වොරොපෙය්‍ය' යනු; **කලලකාලෙ අපි,** කලල කාලයෙහි ද; **තාපනමද්දනෙහි වා,** තැවීම්-මැඬීම්වලින් හෝ; **භෙසජ්ජසම්පදානෙන වා,** ගැබ් හෙළන බෙහෙත් දීමෙන් හෝ; **වා,** නොහොත්; **තතො උද්ධං අපි,** ඒ කලල රූපයෙන් මතුයෙහි ද, **තදනුරූපෙන උපක්කමෙන,** ඊට අනුරූප වූ උපක්‍රමයෙන්, **ජීවිතා,** ජීවිතයෙන්; **වියෝජෙය්‍ය,** වෙන් කරන්නේය. **ඉමස්ස පන අත්ථස්ස,** 'සඤ්චිච්ච මනුස්සවිග්ගහං ජීවිතා වොරොපෙය්‍ය' යන මේ අර්ථයාගේ, **ආවීභාවත්ථං**[1], ප්‍රකට කරනු පිණිස; **පාණො වෙදිතබ්බො,** ප්‍රාණියා දත යුතු වේ. **පාණාතිපාතො වෙදිතබ්බො,** ප්‍රාණඝාතය දත යුතු වේ. **පාණාතිපාතී වෙදිතබ්බො,** ප්‍රාණඝාත කරන්නා (පාණාතිපාතී) දත යුතු වේ. **පාණාතිපාතස්ස පයොගො වෙදිතබ්බො,** ප්‍රාණඝාතයාගේ ප්‍රයෝගය දත යුතු වේ.

**තත්ථ,** ඒ 'පාණො, පාණාතිපාතො' යනාදිය අතරින්; **පාණො ඉති,** ප්‍රාණියා යනු; **වොහාරතො,** ව්‍යවහාර වශයෙන්; **සත්තො,** සත්ත්වයෙක් ය. **පරමත්ථතො,** පරමාර්ථ වශයෙන්; **ජීවිතින්ද්‍රියං,** රූපාරූප ජීවිතින්ද්‍රිය වේ. **පාණාතිපාතො ඉති,** ප්‍රාණඝාතය යනු; **යාය චෙතනාය,** යම් චේතනාවක් කරණකොටගෙන; **ජීවිතින්ද්‍රියූපච්ඡේදකං පයොගං**[2], ජීවිතින්ද්‍රිය

[1] ආවිභාවත්ථං. මජසං

[2] **ජීවිතින්ද්‍රියුපච්ඡේදකපයොගං.** මජසං

සහමුලින් ම සිඳින්නා වූ ප්‍රයෝගයක්; **සමුඨාපෙති**, හටගන්වා ද; **සා චෙතනා**, ඒ චේතනා තොමෝ ය. **පාණාතිපාතී ඉති**; ප්‍රාණඝාත කරන්නා යනු; **වුත්තචෙතනාසමඞ්ගී**[1], කියන ලද ප්‍රාණඝාත චේතනාවෙන් යුත්; **පුග්ගලො**, පුද්ගල තෙමේ ය. **පාණාතිපාතස්ස පයොගො ඉති**, ප්‍රාණඝාතයාගේ ප්‍රයෝගය යනු; **පාණාතිපාතස්ස**, ප්‍රාණඝාතයට; **සාහත්ථිකො**, සාහත්ථික ය; **නිස්සග්ගියො**, නිස්සග්ගිය ය; **ආණත්තියො**[2], ආණත්තිය ය; **ථාවරො**, ථාවරය ය; **විජ්ජාමයො**, විජ්ජාමය ය; **ඉද්ධිමයො**, ඉද්ධිමය ය; **ඉති**, යනුවෙන්; **ඡප්පයොගා**[3], ප්‍රයෝගයෝ සදෙනෙකි.

**තත්ථ**, ඒ සවැදෑරුම් ප්‍රයෝගයන් අතරින්; **සාහත්ථිකො ඉති**, සාහත්ථික යනු; **සයං**, තෙමේ ම; **මාරෙන්තස්ස**, මරන්නහුගේ; **කායෙන වා**, කයින් හෝ; **කායපටිබද්ධෙන**[4] **වා**, කාය ප්‍රතිබද්ධයෙන් හෝ; **පහරණං**, පහරදීම යි. **නිස්සග්ගියො ඉති**, නිස්සග්ගිය යනු; **දූරෙ ඨිතං**, දුර සිටින්නකු; **මාරෙතුකාමස්ස**, මරනු කැමැත්තහුගේ; **කායෙන වා**, කයින් හෝ; **කායපටිබද්ධෙන වා**, කාය ප්‍රතිබද්ධයකින් හෝ; **උසුසත්තියන්තපාසාණාදීනං**[5], හී, සැත් (හෙල්ල), යන්ත්‍ර පාෂාණ (ඉඩංගනී) ආදීන්ගේ; **නිස්සජනං**[6], මුදා හැරීම යි (විසිකිරීම යි). **තත්ථ**, ඒ සාහත්ථික, නිස්සග්ගිය ප්‍රයෝගයන්හි; **එකෙකො**, එක එකක්; **උද්දිස්සානුද්දිස්ස භෙදතො**, උද්දිස්ස-අනුද්දිස්ස භේද වශයෙන්; **දුවිධො**, ද්විවිධ වේ. **තත්ථ**, එහි ලා; **උද්දිසිකෙ**[7], උදෙසා කරනු ලබන ප්‍රයෝගයෙහි; **යං උද්දිස්ස**, යමෙක් උදෙසා; **පහරති**, පහරදෙයි ද; **තස්ස මරණෙන එව**, ඔහුගේ මරණයෙන් ම; **කම්මබන්ධො**[8], කර්ම සිද්ධිය (පාරාජිකා) වෙයි. **යො කොචි**, යම් කිසිවෙක්; **මරතු ඉති**, මැරේවා යැයි; **එවං**, මෙසේ, **අනුද්දිසිකෙ**[9], නොම උදෙසා කරන ලද ප්‍රයෝගයෙහි; **පහාරප්පච්චයා**, ප්‍රහාරය හේතුවෙන්; **යස්ස කස්සචි මරණෙන**, යම් කිසිවකුගේ

---

[1] **වුත්තචෙතනායසමඞ්ගී**, මඡසං; **වුත්තචෙතනාසමඞ්ගි**. බෞසංම

[2] **ආණත්තිකො**. මඡසං

[3] **ඡ පයොගා**. මඡසං

[4] **කායප්පටිබද්ධෙන**. මඡසං

[5] **උසූයන්තපාසාණාදීනං**. කඞ්ඛා.ටී.

[6] **නිස්සජ්ජනං**. මඡසං; කඞ්ඛා.ටී.

[7] **උද්දිස්සකෙ**. මඡසං

[8] **කම්මබද්ධො**. මඡසං

[9] **අනුද්දිස්සකෙ**. මඡසං

මරණයෙන්; **කම්මබන්‍ධො**[1], කර්ම සිද්ධිය වෙයි. **ච**, එසේ ම; **උභයත්ථ අපි**, උද්දිසික-අනුද්දිසික යන ප්‍රයෝගද්වයෙහි ම; **පහරිතමත්තෙ වා මරතු**, පහරදුන් මොහොතේ ම හෝ මැරේවා; **වා**, නොහොත්; **තෙනෙව රොගෙන**, ඒ රෝගයෙන් ම; **පච්ඡා (මරතු)**, පසුව මැරේවා; **පහරිතමත්තෙ එව**[2], පහරදුන් මොහොතේ ම; **කම්මබන්‍ධො**[3], කර්මයෙන් බැඳුණේ වෙයි. **ආණත්තියො**[4] **ඉති**, 'ආණත්තිය' යනු, **අසුකං නාම මාරෙහි ඉති**, "අසවලා මරව" යැයි; **අඤ්ඤං ආණාපෙන්තස්ස**, අනිකකුට අණ කරවන්නහුගේ; **ආණාපනං**, ඇණවීම යි. **තත්ථ**, ඒ ආණත්ති ප්‍රයෝගයෙහි;

- 30 -

**වත්ථු කාලො ච ඔකාසො ආවුධං ඉරියාපථො**
**කිරියා විසෙසොති ඉමෙ ඡ ආණත්ති නියාමකා**

**(කඞ්ඛා, පි.30)**

(**වත්ථු ච**, වස්තුව ද; **කාලො ච**, කාලය ද; **ඔකාසො ච**, අවකාශය (ස්ථානය) ද; **ආවුධං ච**, ආයුධය ද; **ඉරියාපථො ච**, ඉරියාපථය ද; **කිරියා විසෙසො ච**, ක්‍රියා විශේෂය ද; **ඉති ඉමෙ**, යන මේ; **ඡ ආණත්ති නියාමකා**, ආණත්තික ප්‍රයෝග සාධනය කරන කරුණු සයකි.)

**තත්ථ**, ඒ ආණත්තික ප්‍රයෝග සාධනය කරන කරුණු අතරින්; **වත්ථු ඉති**, වස්තුව යනු; **පුග්ගලො**, පුද්ගල තෙමේ කියනු ලැබේ. **යං හි පුග්ගලං**, යම් පුද්ගලයෙකු; **මාරෙහි ඉති**, මරව යැයි; **ආණත්තො**, අණකරන ලද්දේ ද; **සචෙ**, ඉදින්; **තං එව මාරෙති**, ඔහුව ම මරයි ද; **ආණාපකස්ස**, අණකළ භික්‍ෂුවට; **ආපත්ති**, ඇවැත් වේ. **අථ වා**[5], නැතහොත්; **අඤ්ඤං මාරෙති**, අනිකකු මරයි ද; **වා**, නොහොත්; **තං මඤ්ඤමානො**, ඔහු යැයි හඟිනුයේ; **අඤ්ඤං මාරෙති**, අනිකකු මරයි ද; **ආණාපකො මුච්චති**, අණකළ භික්‍ෂුව මිදේ. **ඉමං මාරෙහි ඉති**, 'මොහුව මරව' යැයි; **ආණත්තෙ පන**, අණකළ කල්හි වනාහි;

---

[1] **කම්මබද්ධො**. මඡසං
[2] **පහරිතක්ඛණෙයෙව**. මඡසං; කඞ්ඛා.ටී.
[3] **කම්මබද්ධො**. මඡසං
[4] **ආණත්තිකො**. මඡසං
[5] **වා කාරො න දිස්සතෙ**. මඡසං

**ආණාපකස්ස දුක්කටං**, අණ කළහුට දුකුළා වේ. **කාලො ඉති**, කාලය යනු; **පුරෙභත්තාදි කාලො**, පෙරබත ආදි කාලය වේ. **සචෙ හි**, ඉදින් වනාහි; **පුරෙභත්තං මාරෙහි ඉති**, පෙරබතෙහි මරව යැයි; **ආණත්තො**, අණකරන ලදුයේ; **පුරෙභත්තං එව**, පෙරබතෙහි ම; **මාරෙති**, මරයි ද; **ආණාපකස්ස ආපත්ති**, අණ කළහුට ඇවැත් වේ. **අථ**, එතකුදු වුවත්; **අයං**[1], මේ තෙමේ; **පුරෙභත්තං මාරෙහි ඉති**[2], 'පෙරබතෙහි මරව' යැයි; **නියාමිතං**, නියම කරන ලද්දේ; **තතො**, එයින්; **පච්ඡා වා**, පසුව හෝ; **පුරෙ වා**, පෙර හෝ; **මාරෙති**, මරයි ද; **ආණාපකො මුච්චති**, අණකරන්නා මිදේ. **ඉමිනා නයෙන**, මේ ක්‍රමයෙන්; **සබ්බත්ථ**, සියලු ඔකාස, ආවුධ ආදි තැන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු ය. **ථාවරො ඉති**, ථාවර ප්‍රයෝගය යනු; **අසංහාරිමෙන**, එහා මෙහා ගෙන යා නොහැකි; **උපකරණෙන**, උපකරණයකින්; **මාරෙතුකාමස්ස**, මරනු කැමැත්තහුගේ; **ඔපාතඛණනං**[3], වළවල් (බොරු වළවල්) කැණීම; **අපස්සෙන සංවිධානං**, හේත්තු වීමෙන් මරණයට පත් වන ලෙස යම් වෑ, පොරෝ ආදිය නිතර හේත්තු වන තැනක සවිකර තැබීම ( **පිටහටු සැලසීම - කඞ්ඛා.පි, පි.23**); **අසි ආදිනං**, කඩු ආදියෙහි; **උපනික්ඛිපනං**, වෙත (ළඟ) එළවා තැබීම; **තලාකාදිසු**[4], තඩාග (වැව්) ආදියෙහි; **විසසම්පයොජනං**, විෂ මිශ්‍ර කිරීම; **රූපූපහාරො ඉති**, මනාප අමනාප රූපයන් ළඟට එළවා තැබීම යන; **එවමාදී**, මේ ආදිය යි. **ච**, එසේ ම; **එත්ථ අපි**, මේ ස්ථාවර ප්‍රයෝගයෙහි ද; **වුත්තනයෙන එව**, කියන ලද ක්‍රමයෙන් ම; **උද්දිස්ස අනුද්දිස්ස භෙදො**, උද්දිස්ස-අනුද්දිස්ස භේදය; **වෙදිතබ්බො**, දත යුතු ය.

**විජ්ජාමයො ඉති**, විජ්ජාමය ප්‍රයෝගය යනු; **මාරණත්ථං**, මැරීම පිණිස; **විජ්ජාපරිජපනං**[5], ආථර්වණික විද්‍යාධරයින් විසින් කරනු ලබන මන්ත්‍ර ජප කිරීම යි. **ඉද්ධිමයො ඉති**, ඍද්ධිමය ප්‍රයෝගය යනු; **කම්මවිපාකජාය ඉද්ධියා පයෝජනං**, කර්ම විපාකජ ඍද්ධියාගේ යෙදීම යි.

---

[1] අථායං. හෙමු; අථ යං. මජසං; බෞසංම

[2] **මාරෙහීති** පදං න දිස්සතෙ. මජසං

[3] **ඔපාතක්ඛණනං**. මජසං

[4] **තලාකාදීසු**. මජසං

[5] **විජ්ජාපරිජප්පනං**. මජසං

**68. වි:** තෙවන පාරාජික සිකපදයේ අර්ථ වර්ණනා කරනු කැමති බුදුගොස් ඇදුරුපාණෝ '**තතියෙ සඤ්චිච්චාති**' යනාදිය ඇරඹූහ.

"**සඤ්චිච්ච**" යනු මැනවින් සිතා යන අර්ථය යි. 'සං' යනු සමග යන අර්ථයේ උපසර්ගයකි. එහෙයින් **සඤ්චිච්ච** යනු 'සමග උත්සාහවත් වන බව' හැඟවෙන වචනයක් වේ. යමෙක් දැන දැන සත්ත්ව ඝාතනයක් කරයි ද හෙතෙමේ ප්‍රාණියකු ඝාතනය කරන බව දැනගෙන, 'ජීවිතයෙන් තොර කරමි' යන අදහසින් කරන බැවින් පදභාජනියෙහි ව්‍යඤ්ජනාර්ථය ගරු නොකොට අර්ථය ම දක්වමින් ''**ජානන්තො සඤ්ජානන්තො චෙච්ච අභිවිතරිත්වා වීතික්කමො (පාරා, පි.160)**'' යැයි කියන ලදී. එහෙයින් **සඤ්චිච්ච** යන්නෙන් ප්‍රාණියකු බව දැනගෙන, ජීවිතයෙන් තොර කරන බවත් දනුයේ, වධක චේතනා වශයෙන් සිතා, කල්පනා කොට, උපක්‍රම වශයෙන් ප්‍රකෘති සිත මඬිමින්, නිසැක සිත මෙහෙයවා, යම් ව්‍යතික්‍රමණයක් කරයි ද එය අදහස් වේ.

"**මනුස්සවිග්ගහ**" යන්නෙන් කලලයේ පටන් ජීවමාන මනුෂ්‍ය ජාතික ශරීරයක් අදහස් වේ. "**ජීවිතා වොරොපෙය්‍ය**" යන්නෙන් ඒ කලල රූපයේ පටන් ඒ ඒ මිනිස් ජාතික සත්ත්වයාට සුදුසු පරිදි ජීවිතයෙන් තොර කිරීම යන අදහස යි. '**සඤ්චිච්ච මනුස්සවිග්ගහං ජීවිතා වොරොපෙය්‍ය**' යන මොහුගේ අර්ථය ප්‍රකට කරනු පිණිස ප්‍රාණියා, ප්‍රාණඝාතය, ප්‍රාණඝාතකයා, ප්‍රාණඝාත ප්‍රයෝගය යන සතර දත යුතු වේ.

1. **පාණො** : පාණො (ප්‍රාණියෙක්) යනු ව්‍යවහාර වශයෙන් සත්ත්වයෙක් අදහස් වේ. පරමාර්ථ වශයෙන් රූප, අරූප ජීවිතින්ද්‍රිය වේ.

2. **පාණාතිපාතො** : පාණාතිපාතො (ප්‍රාණඝාතය) යනු යම් චේතනාවක් කරණකොටගෙන ජීවිතින්ද්‍රිය සහමුලින් ම සිඳලන ප්‍රයෝගයක් හටගනී ද එකී වධක චේතනාව වේ.

3 **පාණාතිපාතී** : ඒ ප්‍රාණඝාත චේතනාව සහිත පුද්ගල තෙමේ පාණාතිපාතී (ප්‍රාණඝාතකයා) නම් වේ.

4. **පාණාතිපාතස්ස පයොගො** : ප්‍රාණඝාතය සඳහා වන ප්‍රයෝග සයකි. (06) එනම් සාහත්ථික ප්‍රයෝගය, නිස්සග්ගිය ප්‍රයෝගය, ආණත්තික ප්‍රයෝගය, ථාවර ප්‍රයෝගය, විජ්ජාමය ප්‍රයෝගය, ඉද්ධිමය ප්‍රයෝගය යනුවෙනි.

(අ) **සාහත්ථිකො** : තමන් ම හෙවත් මරන්නාගේ කයින් හෝ කාය ප්‍රතිබද්ධයකින් පහරදීම යි. එනම් අතින්, පයින්, මිටින් යනාදි වශයෙන් කයින් හෝ කයින් නොමුදන ලද කඩු ආදියකින් හෝ පහරදීම යි.

(ආ) **නිස්සග්ගියො** : දුර සිටින තැනැත්තකු මරණයට පත්කිරීම සඳහා කයින් හෝ කාය ප්‍රතිබද්ධයකින් හී, හෙල්ල ආදි සැත්, යන්ත්‍ර පාෂාණ (ඉඩංගනී) ආදිය මුදා හැරීම යි.

මෙම සාහත්ථික හා නිස්සග්ගිය ප්‍රයෝග ද්වය ම එකිනෙක උද්දිස්ස-අනුද්දිස්ස වශයෙන් දෙවැදෑරුම් වේ. යම් පුද්ගලයෙක් අරමුණ කරගෙන සිදුකරන ප්‍රයෝගය **උද්දිස්ස** ප්‍රයෝගයක් වන අතර එයින් ඒ අරමුණ කළ පුද්ගලයා ම මරණයට පත් වුවහොත් කර්ම සිද්ධිය වේ. එනම් පරිජි වේ. එබඳු අරමුණු කිරීමකින් තොරව කවුරුන් හෝ මරණයට පත්වේවා යැයි ප්‍රයෝග කිරීම **අනුද්දිස්ස** නම් වේ. එබඳු ප්‍රයෝගයකින් කවුරුන් හෝ ඝාතනය වුවහොත් කර්ම සිද්ධිය වේ. එසේ ම මේ දෙයාකාරයෙන් ම පහරදුන් මොහොතේ ම මරණයට පත්වේ නම් හෝ පසුව ඒ පහරදීමේ හේතුවෙන් ම හටගත් ආබාධයකින් මරණයට පත්වේ නම්, පහරදුන් මොහොතේ ම කර්ම සිද්ධිය වේ.

(ඉ) **ආණත්තිකො** : 'අසවල් පුද්ගලයා මරණයට පත් කරව' යැයි අනෙකකුට අණ කරන්නහුගේ අණකිරීම යි. මෙම ආණත්තික ප්‍රයෝගය සාධනය කෙරෙන කරුණු සයක් වේ.

1. **වස්තුව** : එනම් පුද්ගලයා ය. යම් පුද්ගලයකු මරණයට පත් කරන ලෙස අණ ලැබුණේ නම්, ඒ පුද්ගලයා ම මැරීමෙන් අණ කරන්නාට ඇවැත් වේ. ඒ පුද්ගලයා හැර වෙනත් අයකු වැරදීමකින් හෝ සිතාමතා ම හෝ ඝාතනය කරයි නම් අණකරන්නා ඇවැතින් මිදේ.

2. **කාලය** : එනම් මරණයට අණ කරන කාලය යි. පෙරවරු ආදි යම් කාලයක් නියම කොට මෙම වේලාවේ මරන ලෙස අණකරයි ද එම අණකළ පරිදි නිවැරදි කාලයේ මැරීමෙන් අණකරන්නා ඇවැතට පත් වේ. වෙනත් වේලාවක මැරීමෙන් අණකරන්නා ඇවැතින් මිදේ.

3. **අවකාශය/ස්ථානය** : මරණය පිණිස යම් ස්ථානයක් නියම කළේ නම්, එම ස්ථානයේ දී ම මැරීමෙන් අණකරන්නා ඇවැතට පත් වේ. අන් තැනක දී මරණයට පත්කිරීමෙන් අණකරන්නා මිදේ.

4. **ආයුධය** : මරණය පිණිස යම් ආයුධයක් නියම කරන ලද්දේ නම්, එයින් මැරීමෙන් අණකරන්නාට ඇවැත් වේ. වෙනත් ආයුධයකින් මැරීමෙන් අණකරන්නා ඇවැතින් මිදේ.

5. **ඉරියාපථය** : මරණයට පත් කළ යුත්තේ කුමන ඉරියව්වක සිටිය දී දැයි නියම කළේ නම්, එම ඉදරියව්වෙන් සිටිය දී ම මරණයට පත් කළහොත් පමණක් අණකරන්නාට ඇවැත් වේ.

6. **කිරියා විශේෂය** : එනම් මරණයට පත් කළ යුත්තේ විදීමෙන් ද සිඳීමෙන් ද යනාදි වශයෙන් පවත්නා වූ ක්‍රියා විශේෂය යි. මෙහි දී ද අණ කළ ආකාරයෙන් මැරීමෙන් ම පමණක් අණකරු ඇවතට පත් වේ.

(ඊ) **ථාවරො** : යම්කිසි ඔබ-මොබ ගෙන යා නො හැකි උපකරණයකින් හෝ එවැනි බොරු වළවල් කැණීම්, හේත්තු වීමෙන් මරණයට පත්වන ලෙස සංවිධානය කිරීම්, වැව්-පොකුණු ආදියට විෂ මිශ්‍ර කිරීම්, මනාප අමනාප රූප දක්වීම් ආදි ප්‍රයෝගයන් ස්ථාවර ප්‍රයෝග නම් වේ. මෙහි ලා ද යට දක්වූ පරිද්දෙන් ම උද්දිස්ස-අනුද්දිස්ස භේදය දත යුතු වේ.

(උ) **විජ්ජාමයො** : අථර්වන් වේද මන්ත්‍ර දන්නා විද්‍යාධරයන් විසින් යම් යම් පුද්ගලයන් මරනු පිණිස විජ්ජා මන්ත්‍ර ජප කිරීම් ය.

(ඌ) **ඉද්ධිමයො** - කර්ම විපාකජ ඍද්ධියෙන් කරන යෙදවීම්වලින් පුද්ගලයන් මරණයට පත් කිරීම යි. එනම් නාගයන්ගේ නාග ඍද්ධි, සුපර්ණයන්ගේ සුපර්ණ ඍද්ධි, යක්‍ෂයන්ගේ යක්‍ෂ ඍද්ධි, දෙවියන්ගේ දේව ඍද්ධි, රජවරුන්ගේ රාජ ඍද්ධි ආදි නොයෙක් ආකාර වන ඍද්ධීන්ගෙන් සිදුකරනු ලබන ඝාතනය අදහස් වේ. භාවනාමය ඍද්ධි අදහස් නො වේ.

මේ අනුව දක්වන ලද සයවැදෑරුම් ප්‍රයෝග අතරින් එක්තරා, ප්‍රයෝගයකින් දිවියෙන් තොරකිරීම 'ජීවිතා වොරොපෙය්‍ය' ලෙස හැඳින්වේ. එසේ 'ජීවිතා වොරොපෙය්‍ය' යන පදයේ අර්ථ වර්ණනාව දක්වා අනතුරුව '**සත්‍ථහාරකං වාස්ස පරියෙසෙය්‍ය**' යන්නෙහි අර්ථ දක්වනු පිණිස '**සත්‍ථහාරකං වාස්ස පරියෙසෙය්‍යාති එත්‍ථ**' යනාදිය කියන ලදී.

**සඃ සත්‍ථහාරකං වාස්ස පරියෙසෙය්‍ය ඉති**, 'සත්‍ථහාරකං වාස්ස පරියෙසෙය්‍ය' යන; **එත්‍ථ**, මෙහි ලා; **හරතීති හාරකං**, යනු පද බෙදීම යි *(පැහැරගනියි නු යි හාරකං නම් වේ).* **කිං හරති**, කුමක් පැහැරගනියි ද යත්? **ජීවිතං**, ජීවිතය යි. **අථ වා**, නැතහොත්; **හරිතබ්බන්ති**, රැගෙන යා යුත්තේ නු යි; **හාරකං**, හාරක නම් වේ; **උපනික්ඛිපිතබ්බං ඉති**, වෙත එළවා තැබිය යුතු ය යන; **අත්‍ථො**, අර්ථය යි. **සත්‍ථඤ්ච තං හාරකං චාති සත්‍ථහාරකං**, යනු කර්මධාර සමාසය යි *(සැත වූයේත් එය ම ය, හාරක වූයේත් එය ම නු යි සත්‍ථහාරකං නම් වේ).* **අස්ස ඉති**, 'අස්ස' යනු; **මනුස්සවිග්ගහස්ස**, මිනිස් ජාති ඇත්තකුගේ ය. **පරියෙසෙය්‍ය ඉති**, 'පරියෙසෙය්‍ය' යනු; **යථා ලභති**, යම් සේ ලැබෙයි ද; **තථා කරෙය්‍ය**, එසේ කරන්නේය. **උපනික්ඛිපෙය්‍ය ඉති අත්‍ථො**, උපනික්ඛිපෙය්‍ය (වෙත එළවා තබන්නේය) යන අර්ථය යි. **එතෙන**, මෙයින්, **ථාවරප්පයොගං**, ස්ථාවර ප්‍රයෝගයක්; **දස්සෙති**, දක්වේ. **ඉතරථා හි**, එසේ නොවුවහොත් (පර්යේෂණාර්ථයෙන් වුවහොත්); **පරියෙට්ඨිතමත්තෙන එව**, සොයන ලද මාත්‍රයෙන් ම, **පාරාජිකො භවෙය්‍ය**, පාරාජික වන්නේය. **එතං**, මෙය; **න ච යුත්තං**, යුතු නො වේ. **අස්ස**, ඒ සිකපදයේ; **පදභාජනෙ පන**, පදභාජනියෙහි වනාහි; **ව්‍යඤ්ජනං**[1] **අනාදියිත්‍වා**, ව්‍යඤ්ජනය නොගෙන; **එත්‍ථ**, මෙහි ලා; **ථාවරප්පයොගෙ**, ස්ථාවර ප්‍රයෝගයෙහි; **සඞ්ගහිතං**, සංගෘහිත කරන ලද; **යං සත්‍ථං**, යම් සැතක් වේ ද; **තං එව දස්සෙතුං**, එය ම දක්වීමට; **අසිං වා ඉති ආදි වුතතං**, 'අසිං වා' යනාදිය කියන ලදී.

**මරණවණ්ණං වා සංවණ්ණෙය්‍ය ඉති**, 'මරණවණ්ණං වා සංවණ්ණෙය්‍ය' යනු; **වාචාය වා**, වචනයෙන් හෝ; **තාලපණ්ණාදිසු**[2] **ලිඛිත්‍වා වා**, තල්පත් ආදීන්හි ලියා හෝ; **යො**, යමෙක්; **එවං මරති**, මෙසේ මැරෙයි ද; **සො**, හෙතෙමේ; **ධනං වා ලභති**, ධනය හෝ ලබයි;

---

[1] **බ්‍යඤ්ජනං**. මජසං; කඞ්ඛා.ටී.

[2] **තාලපණ්ණාදීසු**. මජසං

**ඉති ආදිනා නයෙන,** යන ආදි ක්‍රමයෙන්; **මරණෙ ගුණං වා පකාසෙය්‍ය**[1], මරණයෙහි ගුණ හෝ පවසන්නේය. **එතෙන,** මේ 'මරණ වණ්ණං වා සංවණ්ණෙය්‍ය' යන වචනයෙන්; **අදින්නාදනෙ,** අදින්නාදන සිකපදයේ; **ආදියෙය්‍ය ඉති වුත්තත්තා,** 'ආදියෙය්‍ය' යැයි කියන ලද බැවින්; **පරියාය කථාය,** පර්යාය කථාවෙන්; **යථා මුච්චති,** යම් සේ ඇවතින් මිදේ ද; **ඉධ,** මෙම මනුස්සවිග්ගහ සිකපදයේ; **එවං න,** එසේ නො මිදේ. **සංවණ්ණෙය්‍ය ඉති වචනතො පන,** 'සංවණ්ණෙය්‍ය' යන වචනයෙන් වනාහි; **ඉධ,** මෙම සිකපදයේ; **පරියාය කථාය අපි,** පරියාය කථාවෙනුදු; **න මුච්චති ඉති,** (ඇවැතින්) නො මිදේ යැයි; **අයං අත්‍ථො,** මේ අර්ථය; **වෙදිතබ්බො,** දත යුතු. **මරණාය වා සමාදපෙය්‍ය ඉති,** 'මරණාය වා සමාදපෙය්‍ය' යනු; **සත්‍ථං වා ආහර ඉති ආදිනා නයෙන,** 'සැතක් හෝ ගෙන එව' යන ආදි ක්‍රමයෙන්; **මරණත්‍ථාය,** මරනු පිණිස; **උපායං ගාහාපෙය්‍ය,** උපායයක් ගන්වන්නේය. **එතෙන,** මේ 'මරණාය වා සමාදපෙය්‍ය' යන වචනයෙන්; **ආණත්තිකපයොගං**[2], ආණත්තික ප්‍රයෝගය; **දස්සෙති,** දක්වෙයි.

**අම්භො පුරිස ඉති එතං** , 'අම්භො පුරිස' යන මෙය; **ආලපනං,** ආලපනය යි. **කිං තුය්හිමිනා ඉති ආදි,** 'කිං තුය්හිමිනා' යන ආදිය; **සංවණ්ණනාකාරදස්සනං,** වර්ණනා කරන ආකරය දක්වීම යි. **ඉති චිත්තමනො ඉති,** 'ඉති චිත්තමනො' යනු; **ඉති චිත්තො ඉති මනො,** (**ඉති චිත්තො,** මෙසේ නුඹගේ ජීවත් වීමට වඩා මරණය උතුම් යැයි මරන සිතැත්තේ; **ඉති මනො,** එසේ මනස් ඇත්තේ) යැයි පද බෙදගත යුතු ය. **මතන්තෙ ජීවිතා සෙය්‍යො ඉති එත්‍ථ,** 'මතන්තෙ ජීවිතා සෙය්‍යො' යන මෙහි; **වුත්ත,** කියන ලද; **මරණචිත්තො,** මරන සිතැත්තේ; **මරණමනො,** මැරීම පිළිබඳ මනස් ඇත්තේ; **ඉති අත්‍ථො,** යන අර්ථය යි. **එත්‍ථ**[3], මෙහි; **මනො ඉති ඉදං,** 'මනො' යන මේ පදය; **චිත්තස්ස අත්‍ථදීපනත්‍ථං,** චිත්තයාගේ අර්ථය දීපනය කරනු පිණිස; **වුත්තං,** කියන ලදී. **තෙනෙව,** එහෙයින් ම; **අස්ස පදභාජනෙ,** ඒ සිකපදයාගේ පදභාජනියෙහි; **යං චිත්තං තං මනො ඉති ආහ,** 'යං චිත්තං තං මනො' යැයි වදළ සේක.

---

[1] **පකාසෙය්‍යා.** බෞසංම

[2] **ආණත්තිකප්පයොගං.** මජසං

[3] **එත්‍ථ ච.** මජසං

**චිත්තසඞ්කප්පො ඉති**, 'චිත්තසඞ්කප්පො' යනු; **විචිත්තසංකප්පො**, විචිත්‍ර සංකල්පනාව යි. **එත්ථ අපි**, මෙහි ද; **ඉති සද්දො**, 'ඉති' ශබ්දය; **ආහරිතබ්බො**, යොද ගත යුතු වේ. ('ඉති චිත්තසඞ්කප්පො' යැයි යොද ගත යුතු වේ). **සඞ්කප්පො ඉති ච**, 'සංකප්පො' යනු ද; **සංවිදහන මත්තස්ස**, සංවිධාන මාත්‍රයට; **එතං නාමං**, මෙය නමකි. **විතක්කස්ස එව න**, විතර්කයට ම නො වේ. **තං සංවිදහනං ච**, ඒ සංවිධානය ද; **ඉමස්මිං අත්ථෙ**, මේ අර්ථයෙහි; **සඤ්ඤාසඤ්චෙතනාධිප්පායෙහි**[1], සංඥා, සංචේතනා, අභිප්‍රායයන්ගෙන්; **සඞ්ගහං ගච්ඡති**, සංග්‍රහයට යයි. **තස්මා**, එබැවින්; **ඉති චිත්තසඞ්කප්පො ඉති**, 'ඉති චිත්තසඞ්කප්පො' යනු; **මතන්තෙ ජීවිතා සෙය්‍යො ඉති එත්ථ**, 'මතන්තෙ ජීවිතා සෙය්‍යො' යන මෙහි; **වුත්තමරණසඤ්ඤී**, කියන ලද මරන සංඥා ඇත්තේ; **මරණචෙතනො**, මරන චේතනා ඇත්තේ; **මරණාධිප්පායො ඉති**, මරන අදහස ඇත්තේ යැයි; **එවං**, මෙසේ; **එත්ථ අත්ථො**, මෙහි ලා අර්ථය; **දට්ඨබ්බො**, දත යුතු ය. **පදභාජනෙපි හි**, පදභාජනියෙහි ද; **අයං එව නයො**, මේ ක්‍රමය ම; **දස්සිතො**, දක්වන ලද්දේය. **මරණචිත්තාදීහි විනා**, මරන චිත්ත, මරන චේතනා, මරන අභිප්‍රාය හැරපියා,

- 31 -

**'එකාහං ජීවිතං සෙය්‍යො විරියමාරභතො**[2] **දළ්හං' ඉති ආදිනා**, (**දළ්හං විරියං ආරභතො**, දැඩි වීර්ය අරඹන්නහුට; **එකාහං ජීවිතං සෙය්‍යො**, එක් දවසකුදු ජීවත් වීම උතුම් මැ යි) යන ආදි වූ; **එතෙන නයෙන**, මේ ක්‍රමයෙන්; **ධම්මං භාසන්තස්ස**, ධර්මය දේශනා කරන්නහුට; **සංවණ්ණනා නාම න හොති ඉති**, (මරන) සංවර්ණනාවක් නම් නො වේ යැයි; **දස්සෙති**, දක්වේ. **අනෙකපරියායෙන ඉති**, 'අනෙකපරියායෙන' යනු; **නානප්පකාරෙන උච්චාවචෙන කාරණෙන**, නොයෙක් ආකාර ඇති කුදු මහත් උපායයන්ගෙන් යන්න යි. **පුන මරණවණ්ණං ඉති ආදි**, නැවත 'මරණවණ්ණං' යන ආදිය; **නිගමනවචනං**, විශේෂකොට නැවත දක්වන වචනයකි.

**පාරාජිකො හොති ඉති**, 'පාරාජිකො හොති' යනු; **තඞ්ඛණුප්පන්නම්පි**[3], එකෙණෙහි උපන්නා වූ ද; **මනුස්සවිග්ගහං**, මිනිස්

---

[1] **සඤ්ඤාචෙතනාධිප්පායෙහි.** මජසං; කඞ්ඛා.පි.

[2] **වීරියමාරභතො.** මජසං

[3] **තඞ්ඛණුපපන්නම්පි.** මජසං; **තං ඛණුප්පන්නම්පි.** බෞසංම

සිරුරක්; **වුත්තනයෙන,** කියන ලද ආකාරයෙන්; **ජීවිතා වොරොපෙන්තො,** දිවියෙන් තොර කරනුයේ; **පාරාජිකො හොති ඉති,** පරිජි වේ යනු යි.

**69. වි:** "**සත්ථහාරකං වාස්ස පරියෙසෙය්‍ය**" යන්නෙහි ජීවිතය පැහැර ගන්නේ නු යි 'හාරක' නම් වේ. නැතහොත් '**හරිතබ්බන්ති හාරකං**' යන්නෙන් රැගෙන යා යුතු යන අර්ථයෙන් 'හාරක' නම් වේ. '**සත්ථඤ්ච තං හාරකඤ්චාති සත්ථහාරකං**' යැයි සමාස විග්‍රහය දත යුතු ය. ඒ අනුව මිනිස් සිරුරකගේ ජීවිතය පැහැරගන්නා වූ සැතක් 'වෙත එළවා තබන්නේය' යන අර්ථය වේ. මෙහි ලා 'පරියෙසෙය්‍ය' යන්නෙන් සෙවීමක් අදහස් නො වේ. යමෙක් සැතක් සොයයි ද ඔහුට ලැබෙන සේ තැබීම අදහස් වේ. එසේ නොවුවහොත් සැතක් සෙවීම් මාත්‍රයෙන් භික්‍ෂුවක් පරිජි වේ. එසේ වීම යුතු නො වේ.

"**මරණවණ්ණං වා සංවණ්ණෙය්‍ය**" යනු මරණයෙහි ගුණ ප්‍රකාශ කිරීම යි. *'යමෙක් සැතකින් ගෙළ සිඳගෙන හෝ විෂ අනුභවයෙන් හෝ රැහැනකින් ගෙළ වැළලාගෙන හෝ ප්‍රපාතාදියකින් පැනීමෙන් හෝ යම් ක්‍රමයකින් මරණයට පත්වේ ද හෙතෙමේ මතු භවයේ ධනය ලබයි හෝ පිරිවර ලබයි හෝ සුගතිගාමී වේ'* යනාදි ක්‍රමයෙන් මරණයේ ගුණ පැවසීම යි. මෙහි ලා අදින්නාදන පරිජියට වඩා විශේෂයක් ඇත්තේය. එනම් අදින්නාදන පරිජියේ පරියාය කථාවෙන් ඇවැත් නො වේ. එහෙත් මෙම මනුස්සවිග්ගහ පරිජියේ 'සංවණ්ණෙය්‍ය' යන වචනයෙන් පරියාය කථාව ද සංග්‍රහ වේ. ඒ අනුව යම් භික්‍ෂුවක් පර්යායකින් හෝ මරණයේ ගුණ කියයි ද, ඒ හේතුවෙන් යම් මනුෂ්‍ය පුද්ගලයෙක් මරණයට පත්වුවහොත් භික්‍ෂුව පරිජි වේ.

"**මරණාය වා සමාදපෙය්‍ය**" යන්නෙන් මරණය පිණිස උපාය ගැන්වීම අදහස් වේ. එයින් ආණත්තික ප්‍රයෝගය දැක්වේ.

"**අම්භො පුරිස කිං තුය්හිමිනා**" යනාදියෙන් සංවර්ණනාකාරය දැක්වේ. "**ඉති චිත්තමනො**" යන්න '**ඉති චිත්තො ඉති මනො**' යනුවෙන් පද බෙදගත යුතු අතර *'නුඹට ජීවත් වීමට වඩා මරණය උතුම් ය යන මරන සිත ඇත්තේ'* යන්න අදහස් වේ. චිත්ත, මන යනු එකිනෙකට සමාන අර්ථ ඇති පද යුගලයක් වන අතර 'මනො' යන්න චිත්ත යන්නෙහි අර්ථය ප්‍රකට කිරීමට කියන ලදී. එහෙයින් මෙම සිකපදයේ පදභාජනියෙහි 'යං චිත්තං තං මනො' යැයි කියන ලදී. එනම් මෙම

චිත්ත ශබ්දය මතු දැක්වෙන 'චිත්තසංකප්පො' යන තැන කියවෙන විචිත්‍රාර්ථය නොව විඤ්ඤාණයට ම වචනයක් බව ප්‍රකට කරනු පිණිස 'මනො' යැයි නැවත කියන ලදී. එබැවින් එහි පුනරුක්ති දෝෂයක් නැත්තේය.

"**චිත්තසඞ්කප්පො**" යන තැන චිත්ත ශබ්දය විචිත්‍රාර්ථයෙහි වේ. '**නාහං භික්ඛවෙ අඤ්ඤං එකනිකායම්පි සමනුපස්සාමි එවං චිත්තං යථයිදං භික්ඛවෙ තිරච්ඡානගතා**' යනාදි තැන්වල මෙනි. මෙහි ද 'ඉති' ශබ්දය අධිකාර කොට ගත යුතු වේ. එනම් '**ඉති චිත්තසඞ්කප්පො**' යනුවෙනි. මෙහි 'සංකප්පො' යන පදය සංවිධාන මාත්‍රයකට නමක් වේ. විතර්කයට නො වේ. අභිධර්මයෙහි '**තක්කො විතක්කො සඞ්කප්පො**' යන්න මෙහි නොම යෙදේ. සංඥා, චේතනා, විතර්ක සංඛ්‍යාත සියල්ලගේ සංවිධානයට නමක් වේ. එබැවින් '**මතන්තෙ ජීවිතා සෙය්‍යො**' යැයි කියන ලද 'මරන සංඥා ඇත්තේ, මරන චේතනා ඇත්තේ, මරන අභිප්‍රාය ඇත්තේ' යන්න 'ඉති චිත්තසඞ්කප්පො' යනුවෙන් දැක්වේ. එනම් එබඳු මරන සිත් ආදියෙන් තොරව යම් භික්‍ෂුවක් 'එකාහං ජීවිතං සෙය්‍යො විරියමාරභතො දළ්හං' යනාදි ක්‍රමයෙන් ධර්ම දේශනා කරන්නේ වුව ද මරණයේ ගුණ වැනීමක් නො වේ ම ය.

මෙසේ කියන ලද ආකාරයේ මරණ ගුණ වැනීමකින් හෝ අන් ආකාරයකින් එකෙණෙහි උපන් මිනිස් සිරුරක් නමුදු ජීවිතයෙන් තොර කරන්නේ ද ඒ භික්‍ෂුව පරිජි ඇවැතට පැමිණේ යන අර්ථය මෙම සිකපදයෙන් දැක්වේ.

මේ අයුරින් තෙවන පාරාජික සිකපදයට අදාළ අසාධාරණ විනිශ්චය දක්වා අනතුරුව සියලු සිකපදයන්ට සාධාරණ සප්තදශාකාර විනිශ්චය දක්වනු පිණිස '**වෙසාලියං**' යනාදිය අරඹන ලදී.

**සඃ වෙසාලියං,** විශාලා මහනුවර; **සම්බහුලෙ භික්ඛූ ආරබ්භ,** බොහෝ භික්‍ෂූන් අරබයා; **අඤ්ඤමඤ්ඤං ජීවිතා වොරොපනවත්ථුස්මිං,** එකිනෙකා දිවි තොර කරගැනීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං,** පනවන ලදී. '**මරණවණ්ණං වා' ඉති අයං,** 'මරණවණ්ණං වා' යන මෙය; **එත්ථ අනුප්පඤ්ඤත්ති**[1], මෙහි ලා අනුප්‍රඥප්තිය යි. **සාධාරණ පඤ්ඤත්ති,**

---

[1] **අනුපඤ්ඤත්ති.** මඡසං

භික්ඛු-භික්ඛුණී උභය සංඝයාට සාධාරණ පැනවීම යි. **සාණත්තිකං,** සාණත්තික යි. **මාරණත්ථාය,** මැරීම පිණිස; **ඔපාතඛණනාදිසු**[1], වළවල් කැණීම් ආදීන්හි; **දුක්කටං,** දුකුළා ඇවැත් වේ. **අනුද්දිස්සඛතෙ**[2] **ඔපාතෙ,** කිසිවකු නොම උදෙසා කණින ලද වළෙහි; **යස්ස කස්සචි පතනෙපි,** යම් කිසිවකු වැටීමෙහි ද; **දුක්කටං,** දුකුළා වේ. **යක්ඛපෙතතිරච්ඡානගතමනුස්සවිග්ගහානං,** යක්‍ෂ, ප්‍රේත, තිරිසන්ගත මිනිස් සිරුර දරන්නා යන මොවුන්ට ද; **තිරච්ඡානගතස්ස ච,** තිරිසන්ගත වූවකුට ද; **දුක්ඛුප්පත්තියං අපි**[3], දුක් ඉපදවීමෙහි ද; **දුක්කටං** එව, දුකුළා ම ය. **මනුස්සජාතිකස්ස,** මනුෂ්‍ය ජාතිකයකුට; **දුක්ඛුප්පත්තියං,** දුක් ඉපදවීමෙහි; **ථුල්ලච්චයං;** ථුලැසි වේ. **යක්ඛාදීනං**[4] **මරණෙ,** යක්‍ෂාදීන් මැරීමෙහි ද; **තථා,** එසේ ම ය *(ථුලැසි ඇවැත් ම වේ).* **තිරච්ඡානගතමරණෙ පන,** තිරිසන්ගත වූවෙකු මැරීමෙහි; **පාචිත්තියං,** පචිති ඇවැත් වේ. **මනුස්සමරණෙ,** මිනිසෙක් මැරීමෙහි; **පාරාජිකං ඉති,** පරිජි වේ ය යන; **ඉමිනා නයෙන,** මේ ක්‍රමයෙන්; **සබ්බත්ථ,** සියලු තැන්හි; **පයොගභෙදවසෙන,** ප්‍රයෝග භේද වශයෙන්; **ආපත්තිභෙදො වෙදිතබ්බො,** ආපත්ති භේදය දත යුතු වේ. **අසඤ්චිච්ච,** නොමසිතා *(මෙම උත්සාහයෙන් මරමි යැයි කල්පනා නොකර);* **මාරෙන්තස්ස,** මරන්නහුට; **අජානන්තස්ස,** නොදන්නහුට; **න මරණාධිප්පායස්ස,** මරන අදහස නැත්තහුට; **උම්මත්තකාදීනඤ්ච,** උමතු-ආදිකාර්මික ආදීන්ට; **අනාපත්ති,** ඇවැත් නැත.

**තත්ථ,** ඒ අනාපත්ති වාරයෙහි; **අසඤ්චිච්ච ඉති,** 'අසඤ්චිච්ච' යනු; **ඉමිනා උපක්කමෙන,** මේ උපක්‍රමයෙන්; **ඉමං මාරෙමි ඉති,** 'මොහු මරමි' යැයි; **අචෙතෙත්වා,** නොම සිතා *(නොම සලකා);* **කතෙන උපක්කමෙන,** කරන ලද උපක්‍රමයෙන්; **මුසලුස්සාපනවත්ථුස්මිං විය,** මුසලුස්සාපන වස්තුවෙහි මෙන්; **පරෙ මතෙ අපි,** මෙරමා මියගිය කල්හිදු; **අනාපත්ති,** ඇවැත් නො වේ. **අජානන්තස්ස ඉති,** 'අජානන්තස්ස' යනු; **ඉමිනා,** මෙය කරණකොටගෙන; **අයං මරිස්සති ඉති,** 'මේ තෙමේ මිය යන්නේ' යැයි; **අජානන්තස්ස,** නොදන්නහුගේ; **උපක්කමෙන,** උපක්‍රමයෙන්; **විසගතපිණ්ඩපාතවත්ථුස්මිං විය,**

[1] **ඔපාතක්ඛණනාදීසු.** මජසං; **ඔපාතඛණනාදීසු.** කඞ්ඛා.ටී.

[2] **අනොදිස්ස ඛතෙ.** මජසං

[3] **දුක්ඛුප්පත්තියං.** මජසං

[4] **යක්ඛාදිනං.** බෞසංම

විසගතපිණ්ඩපාත වස්තුවෙහි මෙන්; **පරෙ මතෙපි**, මෙරමා මියගිය කල්හිදු; **අනාපත්ති**, ඇවැත් නො වේ. **න මරණාධිප්පායස්ස ඉති**, 'න මරණාධිප්පායස්ස' යනු; **යස්ස කස්සචි**[1], යම් කිසිවකුගේ; **මරණං**, මරණය; **අනිච්ඡන්තස්ස**, නොකැමැති වන්නහුගේ; **උපක්කමෙන**, උපක්‍රමයෙන්; **භෙසජ්ජවත්‍ථුසමිං විය**, භෙසජ්ජ වස්තුවෙහි මෙන්; **පරෙ මතෙපි**, මෙරමා මියගිය කල්හිදු; **අනාපත්ති**, ඇවැත් නැත. **එවං**, මෙසේ; **අසඤ්චිච්චාදිසු**[2]; අසඤ්චිච්ච ආදීන්හි; **විනිච්ඡයො වෙදිතබ්බො**, විනිශ්චය දත යුතු.

**සීලවිපත්ති**, මෙම ඇවත විපත්ති වශයෙන් ශීල විපත්ති ය. **මනුස්සජාතිකපාණො**, මනුෂ්‍ය ජාතික ප්‍රාණියෙක් වීම; **පාණසඤ්ඤිතා**, ප්‍රාණියෙකු යන සංඥාව තිබීම; **වධකචිත්තං**, වධක චිත්තය; **උපක්කමො**, උපක්‍රමය; **තෙන මරණං**, ඒ උපක්‍රමයෙන් මරණයට පත් වීම; **ඉති**, යනුවෙන්; **එත්‍ථ**, මේ සිකපදයෙහි ලා; **ඉමානි පඤ්ච අඞ්ගානි**, මේ පඤ්ච අංගයෝ වෙත්. **අදින්නාදනසමුට්ඨානං**, ආදින්නාදන සමුට්ඨාන ය. **කිරියා**[3], කිරියා වශයෙන් ඇවැතට පත්වේ. **සඤ්ඤවිමොක්ඛං**, සංඥවිමෝක්ෂ ය. **සචිත්තකං**, සචිත්තක ය. **ලොකවජ්ජං**, ලෝකවද්‍ය ය. **කායකම්මං**, කායකර්ම ය. **වචීකම්මං**, වචී කර්ම ය. **අකුසල චිත්තං**, අකුශල චිත්ත ය. **දුක්ඛවෙදනං ඉති**, දුක්ඛ වේදනා ය යනුවෙන්;

**තතියපාරාජිකං**, තෘතීය පාරාජික ශික්ෂාපදය,
**සමත්තං**, සමාප්ත ය.

**70. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදනය** : විශාලා මහනුවර

(2) **පුද්ගලයා** : බොහෝ භික්ෂූන්

---

[1] **'යස්ස කස්සචි'** යන්න දක්නට නොලැබේ. මඡසං

[2] **අසඤ්චිච්චාතිආදීසු**. මඡසං

[3] **කිරියං**. මඡසං

(3) **වස්තුව** : ඔවුනොවුන් දිවි තොර කරගැනීමේ වස්තුව

භාග්‍යවතුන් වහන්සේ විශාලා මහනුවර අසල මහාවනයෙහි කූටාගාර ශාලාවෙහි වැඩවිසූ සමයෙහි භික්ෂූන් හට නොයෙක් ආකාරයෙන් අශුභ භාවනාවෙහි ආනිශංස වදාළ සේක. අනතුරුව අඩ මසක් විවේකයෙන් වැඩවාසය කිරීමට තීරණය කළ අතර පිණ්ඩපාතය රැගෙන එන භික්ෂුවක් හැර අන් කිසිවෙකුත් එහි නොපැමිණිය යුතු බවට ද වදාළ සේක. භික්ෂූහු එය පිළිගෙන ඒ අඩ මස අශුභ භාවනාවෙහි යෙදී වාසය කරන්නාහු තමන්ගේ සිරුර කරණකොටගෙන දුකට, පිළිකුලට, ලැජ්ජාවට පැමිණෙත්. මෙසේ සිය සිරුර කෙරෙහි පීඩාවට, ලැජ්ජාවට, පිළිකුලට පත්ව ඔවුනොවුන් දිවි තොර කරගනිත්. මහණ වෙස්ගත් මිගලණ්ඩික නම් තැනැත්තා වෙත එළඹ 'ඇවැත්නි, අප ජීවිතයෙන් තොර කරනු මැනව. මේ පා සිවුර තොපට වන්නේය' යැයි ද කියත්.

මිගලණ්ඩිකයා බොහෝ භික්ෂූන්ගේ දිවි තොරකර ලේ වැකුණු අසිපත ගෙන වග්ගුමුදා නදිය කරා එළඹ අසිපත ධෝවනය කරන විට, විපිළිසර බවක් ඇති විය. 'ඒකාන්තයෙන් මට අලාභයකි. මවිසින් අකුශල් රැස්කරගන්නා ලදී. මම සිල්වත් භික්ෂූන් ඝාතනය කළෙමි' යනාදි ලෙස ය. එවිට එක්තරා මාර පාක්ෂික දෙවි කෙනෙක් ඍද්ධියෙන් අවුත් මිගලණ්ඩිකට 'සත්පුරුෂය ඉතා මැනවි. තට ලාභයකි. නුඹ සසරින් එතෙර නොවූවන් එතෙර කළෙහිය' යනාදි ලෙස කීවේය. එවිට මිගලණ්ඩිකයා ද නැවත සතුටුව අසිපත රැගෙන වෙහෙරෙන් වෙහෙරට පිරිවෙණින් පිරිවෙණට ගොස් 'කවරෙක් සසරෙන් එතෙර නොවූයේ ද? කවරෙකු සසරින් එතෙර කරම් ද?' යනුවෙන් පවසා එක් දිනකින් එක් භික්ෂුවකු දෙදෙනකු යනාදි ලෙස දිනකට භික්ෂූන් සැට නමක් දක්වා දිවි තොර කළේය.

භාග්‍යවතුන් වහන්සේ අඩ මසක් ඇවෑමෙන් විවේකයෙන් නැගී සිට භික්ෂු සංඝයා අඩු වී ඇති බව දැන අනඳ තෙරුන් වහන්සේගෙන් ඒ පිළිබඳ විමසූහ. එහි දී අනඳ තෙරුන් වහන්සේ මෙපවත් සැලකළ අතර භික්ෂූන්ට සුදුසු වෙනත් භාවනා ක්‍රමයක් වදරන ලෙස ද භාග්‍යවතුන් වහන්සේගෙන් ඉල්ලා සිටියහ. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ අනඳ තෙරුන් ලවා විශාලා මහනුවර ඇසුරුකොට සිටි

සියලු භික්ෂූන් උපස්ථාන ශාලාවට රැස්කරවා ආනාපානසති භාවනාව උගන්වා එහි ආනිශංස වදාළ සේක.

තව ද මේ නිදනයෙහි, මේ කරුණෙහි භික්ෂූන් විචාරා ඒ භික්ෂූන්ගේ ඔවුනොවුන් දිවි තොර කරගැනීම පිළිබඳ ගර්හා කොට **'යො පන භික්ඛු සඤ්චිච්ච මනුස්සවිග්ගහං ජීවිතා වොරොපෙය්‍ය, සත්ථහාරකං වාස්ස පරියෙසෙය්‍ය, අයම්පි පාරාජිකො හොති අසංවාසො'** යන මේ සිකපදය පනවා වදාළ සේක.

ඉක්බිති සවග භික්ෂූහු එක්තරා උපාසකයෙකුට මරණයේ ගුණ ප්‍රකාශ කිරීමේ වස්තුවෙක **'මරණවණ්ණං වා සංවණ්ණෙය්‍ය'** යන අනුප්‍රඥප්තිය පනවා වදාළ සේක.

(4) **ප්‍රඥප්තිය** :

1. **මූල ප්‍රඥප්ති** : 'යො පන භික්ඛු සඤ්චිච්ච මනුස්සවිග්ගහං -පෙ- අසංවාසො'
2. **අනුප්‍රඥප්ති** : 'මරණවණ්ණං වා සංවණ්ණෙය්‍ය'
3. **සාධාරණ අසාධාරණ ප්‍රඥප්ති** - සාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : සාණත්තිකය ය.

(6) **ආපත්ති** :

1. **පරිජි ඇවැත්** : මිනිස් පුද්ගලයකු මරණයට පත් කිරීමෙන් පරිජි වේ.
2. **ථුලැසි ඇවැත්** : මනුෂ්‍ය ජාතිකයකුට දුක් ඉපදවීමෙහි ථුලැසි වේ. යක්ෂ, ප්‍රේත, තිරිසන්ගත මිනිස් සිරුර දරන අයෙක් මරණයට පත් කිරීමෙන් ථුලැසි වේ.
3. **පචිති ඇවැත්** : තිරිසන්ගත සත්ත්වයකු මරණයට පත් කිරීමෙන් පචිති වේ.
4. **දුකුළා ඇවැත්** : මැරීම පිණිස වළවල් කැණීම් ආදියෙහි දුකුළා වේ.
   නොම උදෙසා කණින ලද වළෙක යම්කිසි මනුෂ්‍යයෙක් වැටෙයි ද දුකුළා වේ.
   යක්ෂ, ප්‍රේත, තිරිසන්ගත මිනිස් සිරුර දරන්නන්ට, තිරිසන්ගත සත්ත්වයන්ට දුක් ඉපදවීමෙහි දුකුළා වේ.
5. **සාමන්තාපත්තිය** : ථුලැසි ය.

(7) **අනාපත්ති** :

1. මෙම උත්සාහයෙන් 'මොහු මරමි' යැයි කල්පනා නොකොට මරන්නහුට.
2. මෙයින් මේ තෙමේ මැරේ යැයි නොදන්නහුට.
3. මරණය අකමැති වන මරන අදහස නොමැති අයකුට.
4. උමතු - ආදිකාර්මික ආදීන්ට.

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) **අඞ්ග** :

1. මනුෂ්‍යජාතික ප්‍රාණියෙක් වීම.
2. ප්‍රාණියෙකු යන සංඥාව ඇති බව.
3. වධක චිත්තය.
4. උපක්‍රමය.
5. ඒ උපක්‍රමයෙන් මරණයට පත්වීම.

(10) **සමුට්ඨාන** : අදින්නාදන සමුට්ඨාන ය.

එනම් කාය-චිත්ත, වාචා-චිත්ත, කාය-වාචා-චිත්ත යන තුන් සචිත්තක සමුටඨානයන්ගෙන් හටගනී.

(11) **කිරියා** : ක්‍රියා (කිරීම්) වශයෙනි.

(12) **සංඥාව** : සංඥාවිමෝක්ෂ ය. එනම් ඇවත පිළිබඳ සංඥාවගේ අභාවයෙන් ඇවතින් මිදේ.

(13) **චිත්තය** : සචිත්තක ය.

(14) **වජ්ජය** : ලෝකවද්‍ය ය.

(15) **කම්ම** : කාය-වාක් කර්ම ද්වය ය.

(16) **කුසල ත්‍රිකය** : අකුශල චිත්ත ය.

(17) **වෙදනා ත්‍රිකය** : දුක්ඛ වේදනා ය.

මෙහි ලා අනාපත්ති වාරයෙහි අසඤ්චිච්ච හෙවත් *'මෙම උපක්‍රමයෙන් මොහු මරමි'* යැයි නොසිතා කරන ලද උපක්‍රමයෙන් යම් මනුෂ්‍යයකු මරණයට පත්වීම පිළිබඳව මුසලුස්සාපන වස්තුව දත යුතු වේ.

## මුසලුස්සාපන වස්තුව

එක්තරා භික්ෂුවක් ඇතුළු ගමෙහි බොජුන් හලෙහි අසුන් පනවන්නේ මොහොල් දෙකක් තැබූ තැනින් එකක් හැරගත්තේ ය. එවිට අනෙක් මොහොල පෙරළී එක්තරා දරුවකුගේ හිස මත වැටුණේය. ඒ දරුවා කලුරිය කළ අතර මරන සිතක් නොවූ බැවින්, නොසිතා කළ බැවින් ඇවැත් නැති බව භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක. මෙම වස්තුවෙහි මෙන් *'මෙම ප්‍රයෝගයෙන් මොහු මරමි'* යැයි නොසලකා වැරදී සිදුවුණු කටයුත්තකින් මිනිසකු මරණට පත්වුව ද පරිජි නො වේ.

එසේ ම *'මෙයින් මේ තෙමේ මරණයට පත්වේ'* යැයි නොදන්නා භික්ෂුවට ඇවැත් නැති බව දක්වනු පිණිස විසගත පිණ්ඩපාත වස්තුව දත යුතු ය.

## විසගත පිණ්ඩපාත වස්තුව

එක්තරා භික්ෂුවක් විෂ මුසු පිණ්ඩපාතයක් ලැබ අසුන්හලට ගෙන ගොස් විෂ මිශ්‍ර බව නොදන භික්ෂූන්ට අග්‍ර පිණ්ඩය දුන්නේය. ඒ භික්ෂූහු කලුරිය කළ අතර නොදන සිදුකළ දෙයක් බැවින් පරිජි නොවන බව භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

මරණය අකැමැති මරන අදහස නොමැති අයකුට ඇවැත් නොවන බව පිළිබඳ භෙසජ්ජ වස්තුව දත යුතු යි.

## භෙසජ්ජ වස්තුව

එක්තරා පිණ්ඩපාතික භික්ෂුවකගේ කුලුපග වූ වඳ ස්ත්‍රියක් ඒ කුලුපග භික්ෂුවගෙන් පුතුන් වැදීම සිදුවන බෙහෙත් ඉල්ලා, අනුභව කොට ඒ හේතුවෙන් කලුරිය කළාය. එසේ මරණයට පත්වීම ඒ භික්ෂුවගේ අදහස නොවූ බැවින් ඇවැත් නො වේ යැයි වදාළ සේක.

**තතිය පාරාජික ශික්ෂාපදය නිමියේය.**

# චතුත්ථ පාරාජිකය

**සඃ** **චතුත්ථෙ**, සතර වැනි පාරාජික සිකපදයේ; **අනභිජානං ඉති**, 'අනභිජානං' යනු; **සකසන්තානෙ**, ස්වකීය සන්තානයේ, **අනුප්පන්නත්තා**, නූපන් බැවින්, **අත්තනි**, තමා කෙරෙහි; **අත්ථිභාවං**, ඇති බව, **අජානන්තො**, නොදන්නේ වේ.

**උත්තරිමනුස්සධම්මං ඉති**, 'උත්තරිමනුස්සධම්මං' යනු; **උත්තරිමනුස්සානං**, ප්‍රකෘති මිනිසුන්ට වඩා උත්තරීතර මිනිසුන්ගේ; (ඒ කවරහු ද යත්) **ඣායීනං චෙව**, ධ්‍යානලාභීන්ගේ මෙන් ම; **අරියානං ච**, ආර්යයන්ගේ ද; **ධම්මං**, අධිගත කරන ලද ධර්මය යි. (මහද්ගත ලෝකෝත්තර ධර්ම යි).

**අත්තුපනායිකං ඉති**, 'අත්තුපනායිකං' යනු; **අත්තනි**, තමා කෙරෙහි; **තං**, ඒ උතුරුමිනිස්දම්; **උපනෙති**, එළවයි. **මයි අත්ථි ඉති**, මා කෙරෙහි ඇත්තේය යැයි; **සමුදාචරන්තො**, කියනුයේ; **අත්තානං වා**, තමාව හෝ; **තත්ථ උපනෙති**, එහි එළවයි. **එත්ථ**, මෙහි; **අහං සන්දිස්සාමි ඉති**, මම දක්නා ලැබෙමි යැයි; **සමුදාචරන්තො ඉති**, කියනුයේ නු යි; **අත්තුපනායිකො**, අත්තුපනායික වේ. **තං අතතුපනායිකං**, ඒ තමා කෙරෙහි උතුරුමිනිස්දම් එළවන්නා වූ හෝ උතුරුමිනිස්දම්හි තමා එළවන්නා වූ තැනැත්තා වේ. **එවං කත්වා**, මෙසේ තමා කෙරෙහි උතුරුමිනිස්දම් එළවා හෝ උතුරුමිනිස්දම්හි තමා එළවා; **සමුදාචරෙය්‍ය ඉති**, කියන්නේය යැයි; **සම්බන්ධො**, සම්බන්ධය යි.

**අලමරියඤාණදස්සනං ඉති එත්ථ**, 'අලමරියඤාණදස්සනං' යන මෙහි; **මහග්ගතලොකුත්තරපඤ්ඤා ජානනට්ඨෙන**, මහද්ගත-ලෝකෝත්තර ප්‍රඥාව දැනගන්නා අර්ථයෙන්; **ඤාණං**, නුවණ යි. **චක්ඛුනා දිට්ඨං ඉව**[1], ඇසින් දක්නා ලද්දක් මෙන්; **ධම්මපච්චක්ඛකරණතො**, ධර්මය ප්‍රත්‍යක්ෂ කිරීම් වශයෙන්; **දස්සනට්ඨෙන**[2], දැකීම් අර්ථයෙන්; **දස්සනං ඉති**, දර්ශනය යනු යි; **ඤාණදස්සනං**, ඥානදර්ශනය නම් වේ. **අරියං**, ආර්ය වූ; **විසුද්ධං**, විශුද්ධ වූ; **උත්තමං**, උතුම් වූ; **ඤාණදස්සනං ඉති**, ඥානදර්ශනය නු යි; **අරියඤාණදස්සනං**, ආර්ය ඥානදර්ශනය වේ.

---

[1] **චක්ඛුනා ච දිට්ඨමිව.** මඡසං

[2] **දස්සනත්ථෙන.** මඡසං

**එත්‍ථ**, මෙහි ලා; **අලං පරියත්තං කිලෙසවිද්ධංසනසමත්‍ථං**, ක්ලේශ විධ්වංසනය කිරීමට සමර්ථ වූ; **අරියඤාණදස්සනං**, ආර්ය ඥානදර්ශනය; **වා**, නොහොත්;

- 32 -

**ඣානාදිභෙදෙ උත්තරිමනුස්සධම්මෙ**, ධ්‍යානාදි භේද ඇත්තා වූ උත්තරිමනුෂ්‍ය ධර්මයෙහි; **අලං**, සමර්ථ වූ; **අරියඤාණදස්සනං අස්සාති**, ආර්ය ඥානදර්ශනයක් ඇත්තේ මොහුට නු යි; **අලමරියඤාණදස්සනො**, 'අලමරියඤාණදස්සන' නම් වේ. **තං අලමරියඤාණදස්සනං**, ඒ කෙලෙසුන් නැසීමෙහි සමර්ථ වූ හෝ ධ්‍යානාදී භේද ඇති උත්තරිමනුෂ්‍ය ධර්මයෙහි සමර්ථ වූ හෝ ආර්යදර්ශනය යි.

**සමුදාචරෙය්‍ය ඉති**, 'සමුදාචරෙය්‍ය' යනු; **වුත්තප්පකාරං**[1], කියන ලද ප්‍රකාර ඇත්තා වූ; **එතං උත්තරිමනුස්සධම්මං**, මේ උත්තරිමනුෂ්‍ය ධර්මය; **අත්තුපනායිකං කත්‍වා**, තමා කෙරෙහි එළවා හෝ තමා ඒ උතුරුමිනිස්දම්හි එළවා; **කායෙන වා**, කයින් හෝ; **වාචාය වා**, වචනයෙන් හෝ; **තදුභයෙන වා**, කාය - වාග් උභය ප්‍රයෝගයෙන් හෝ; **විඤ්ඤුස්ස**, නුවණැති මනුෂ්‍ය ජාතිකයෙකුට; **ආරොචෙය්‍ය**, සැල කරන්නේය.

**ඉති ජානාමි ඉති පස්සාමි ඉති**, 'ඉති ජානාමි ඉති පස්සාමි' යනු; **එතං**, මෙම; **සමුදාචරණාකාරදස්සනං**, ප්‍රකාශ කරන ආකාරය දැක්වීම යි. **හි**, ඒ එසේ මැ යි. **අත්තුපනායිකං කත්‍වා**, උතුරුමිනිස්දම් තමා වෙත එළවා හෝ තමා ඒ උතුරුමිනිස්දම්හි එළවා; **අඤ්ඤාපදෙසෙන විනා**, 'නුඹලාගේ වෙහෙරෙහි යම් භික්‍ෂුවක් වසයි ද හෙතෙමේ ප්‍රථම ධ්‍යාන ලාභියෙකි' යනාදි ක්‍රමයෙන් අඤ්ඤාපදෙස රහිතව (අඤ්ඤාපදෙසයක් යනු තමා ඍජුව නොදක්වා අනිකකු අපදිසනය කිරීම හෙවත් දැක්වීම යි) **සමුදාචරන්තො**, කියනුයේ; **එවං සමුදාචරති**, මෙසේ කියයි. **තස්මා**, එබැවින්; **පදභාජනෙ**, පදභාජනියෙහි; **යො අයං**, යම් මේ; **'පඨමං ඣානං සමාපජ්ජිං**, ප්‍රථම ධ්‍යානයට සමවැදුණෙමි; **සමාපජ්ජාමි**, සමවදිමි; **සමාපන්නො**, සමවදින ලද්දෙමි' **ඉති ආදි භෙදො**, යන ආදි භේදය; **වුත්තො**, වදාළ සේක. **සො සබ්බො**, ඒ සියල්ල; **ඉධෙව සඞ්ගහං ගච්ඡති ඉති**, මෙහි ම (ඉති ජානාමි ඉති පස්සාමි යන මේ පදයේ ම)

[1] **වුත්තප්පාකාරං**. හෙමු

සංග්‍රහයට යයි යනුවෙන්; **වෙදිතබ්බො**, දත යුතු ය. '**ඉති ජානාමි ඉති පස්සාමි' ඉති හි**, 'ඉති ජානාමි, ඉති පස්සාමි'' යනුවෙන්; **වදන්තො**, කියනුයේ; **ඉදං වචනමත්තං එව**, මේ වචන මාත්‍රය ම; **න වදති**, නො කියයි. **අථ බො**, එතකුදු වුවත්; **ඉමිනා ච ඉමිනා ච කාරණෙන**, මේ මේ කාරණයෙන් ද; **අයං ධම්මො**, මේ උත්තරිමනුෂ්‍ය ධර්මය; **මයි අත්‍ථි ඉති**, මා කෙරෙහි ඇත්තේ ය යැයි; **දීපෙති**, දක්වයි. **සමාපජ්ජිං ඉති ආදිනි**[1], 'සමාපජ්ජිං' යනාදිය; **වදන්තෙන හි**, කියන්නහු විසින් වනාහි; **සමාපජ්ජනාදීහි කාරණෙහි**, සමවැදීම් ආදි වූ කාරණයන් කරණකොටගෙන; **අත්‍ථිතා දීපිතා හොති**, ඇති බව දක්වන ලද්දේ වෙයි. **තෙන**, එහෙයින්; **පදභාජනෙ**, පදභාජනියෙහි; **යො අයං**, යම් මේ; **'පඨමං ඣානං සමාපජ්ජිං සමාපජ්ජාමි සමාපන්නො' ඉති ආදි භෙදෙ**, යන ආදි භේදය; **වුත්තො**, කියන ලදී. **සො සබ්බො**, ඒ සියල්ල; **ඉධෙව**, 'ජානාමි පස්සාමි' යන මෙහි ම; **සඞ්ගහං ගච්ඡති ඉති**, සංග්‍රහයට යයි යන මෙය; **වුත්තං**, (අප විසින්) කියන ලදී. ("ය්වායං පදභාජනෙ 'පඨමං ඣානං -පෙ- සඞ්ගහං ගච්ඡති' ඉති තෙන වුත්තං" යනු පද සම්බන්ධය යි).

**තතො අපරෙන සමයෙන ඉති**, 'තතො අපරෙන සමයෙන' යනු; **තතො ආරොචිතකාලතො**, ඒ සැලකළ කාලයෙන්; **අඤ්ඤස්මිං**[2] **කාලෙ**, අන් කාලයෙක්හි යන්න යි. **ඉති එතං**, මෙසේ මේ 'තතො අපරෙන සමයෙන' යන්න; **ආපත්තිපටිජානනකාලදස්සනං**, ඇවැත පිළින කෙරෙන කාලය දැක්වීම යි. **අයං පන**, මේ මහණ තෙමේ වනාහි; **ආරොචිතක්ඛණෙයෙව**, ආරෝචනය කළ ක්‍ෂණයෙහි ම; **ආපත්තිං ආපජ්ජති**, ඇවැතට පැමිණේ. **ආපත්තිං පන ආපන්නො**, ඇවැතට පත් වූ භික්‍ෂු තෙමේ; **යස්මා**, යම්හෙයකින්; **පරෙන චොදිතො වා**, මෙරමා විසින් චෝදනා කරන ලදුයේ හෝ; **අචොදිතො වා**, චෝදනා නොකරන ලදුයේ හෝ; **පටිජානාති**, ඇවැත පිළින කරයි ද; **තස්මා**, එහෙයින්; **සමනුග්ගාහියමානො වා අසමනුග්ගාහියමානො**[3] **වා ඉති වුත්තං**, 'සමනුග්ගාහියමානො වා අසමනුග්ගාහියමානො වා' යැයි කියන ලදී.

---

[1] **සමාපජ්ජිං ඉති ආදිනි ච** (ච කාරය අතිරේකය). මජසං

[2] **අඤ්ඤතරස්මිං.** මජසං

[3] **සමනුග්ගාහීයමානො වා අසමනුග්ගාහීයමානො.** මජසං

**ආපන්නො ඉති**, 'ආපන්නො' යනු; **ආරොචිතක්ඛණෙ යෙව**, ආරොචනය කළ ක්ෂණයෙහි ම; **පාරාජිකං ආපන්නො**, පරිජි ඇවතට පැමිණියේ වෙයි.

**විසුද්ධාපෙක්ඛො ඉති**, 'විසුද්ධාපෙක්ඛො' යනු; **අත්තනො**, තමාගේ; **ගිහීභාවාදිකං විසුද්ධං**, ගිහි බවට පත්වීම මුල්කොට ඇති පිරිසිදු බව; **අපෙක්ඛමානො**, අපේක්ෂා කරනුයේ; **ඉච්ඡමානො**, කැමති වනුයේ (යනු යි). **අයං හි**, මේ තෙමේ වනාහි; **යස්මා පාරාජිකං ආපන්නො**, යම් හෙයකින් පරිජි ඇවතට පැමිණුනේ ද; **තස්මා**, එහෙයින්; **භික්ඛුභාවෙ ඨත්වා**, භික්ෂුභාවයෙහි සිට; **ඣානාදීනි**[1] **අධිගන්තුං**, ධ්‍යානාදිය අධිගම කිරීමට; **අභබ්බො**, අභව්‍ය ය. **ඉති**, මෙසේ; **අස්ස භික්ඛුභාවො**, උන්වහන්සේගේ භික්ෂුභාවය; **විසුද්ධි නාම න හොති**, පිරිසිදු නො වෙයි. **යස්මා පන**, යම්හෙයකින් වනාහි; **ගිහී වා**, ගිහි හෝ; **උපාසකාරාමිකසාමණෙරානං අඤ්ඤතරො වා හුත්වා**, උපාසක, ආරාමික, සාමණේරයන් අතරින් එක්තරා අයෙක් වී; **දානාදීහි**[2], දන් දීම්, සරණශීල සංවරාදියෙන්, **සග්ගමග්ගං වා**, ස්වර්ග මාර්ගය හෝ; **ඣානාදීහි**, ධ්‍යාන ආදියෙන්; **මොක්ඛමග්ගං වා**, මෝක්ෂ මාර්ගය හෝ; **ආරාධෙතුං**, සඵල කරගැනුමට; **භබ්බො හොති**, භව්‍ය වෙයි ද; **තස්මා**, එහෙයින්; **අස්ස**, උන්වහන්සේගේ; **ගිහී ආදිභාවො**, ගිහි ආදි බව; **විසුද්ධි නාම හොති**, විශුද්ධිය (පිරිසිදු බව) වෙයි. **තෙන**, එහෙයින්; **ගිහීභාවාදිකං විසුද්ධිං අපෙක්ඛමානො ඉති**, 'ගිහීභාවාදිකං විසුද්ධිං අපෙක්ඛමානො' යැයි; **වුත්තං**, කියන ලදී.

**එවං වදෙය්‍ය ඉති**, 'එවං වදෙය්‍ය' යනු; **එවං භණෙය්‍ය**, මෙසේ කියන්නේය. **කථං**, කෙසේ ද? යත්; **අජානමෙවං ආවුසො ඉති ආදි**[3], 'අජානමෙවං ආවුසො' යන ආදිය යි. **තත්ථ**, එහි; **අජානං ඉති**, 'අජානං' යනු; **අජානන්තො**, නොදන්නේ යන්න යි. **අපස්සං ඉති**, 'අපස්සං' යනු; **අපස්සන්තො**, නොදක්නේ යන්න යි. **තුච්ඡං මුසා විලපිං ඉති**, 'තුච්ඡං මුසා විලපිං' යනු; **අහං**, මම; **වචනත්ථවිරහිතතො**[4], වචනාර්ථ විරහිත බැවින්; **තුච්ඡං**, හිස් වූවක්; **වඤ්චනාධිප්පායතො**, වඤ්චන අදහස ඇති

---

[1] **ඣානාදිනි**. බෞසංම

[2] **දානාදිහි**. බෞසංම

[3] **ආදිං**. මජසං

[4] **වචනත්ථවිරහතො**. මජසං; **වචනත්ථවිරහිතො**. කඞ්ඛා.ටී.

බැවින්; මුසා, මුසාවක් (බොරුවක්); **විලපිං**, කීවෙමි; **අභණිං**, බිණීමි; **ඉති**, යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි.

**අඤ්ඤත්‍ර අධිමානා ඉති**, 'අඤ්ඤත්‍ර අධිමානා' යනු; **යො අයං**, යම් මේ; **තිලක්ඛනං ආරොපෙත්වා**, ත්‍රිලක්ෂණයට නංවා; **සඞ්ඛාරෙ සම්මසන්තස්ස**, සංස්කාරයන් සම්මර්ශනය කරන්නා වූ, **ආරද්ධවිපස්සකස්ස**, ආරද්ධ විපස්සක යෝගී හට (*උදයව්‍යයඥාන ඇත්තා හට* - **කඞ්ඛා.පි, පි.24**); **අප්පත්තෙ**[1], ස්වකීය සන්තානයේ උත්පත්ති වශයෙන් නොපැමිණි කල්හි; **පත්තසඤ්ඤිතාසඞ්ඛාතො**, 'මා විසින් උත්තරිමනුෂ්‍ය ධර්මයක් අධිගත කළෙමි' යැයි මෙසේ අධිගමනය කළ සංඥා සංඛ්‍යාත; **අධිමානො උප්පජ්ජති**, අධිමානය උපදී ද; **තං අධිමානං**, ඒ අධිමානය; **ඨපෙත්වා**, හැරපියා; **කෙවලං**, හුදෙක්; **පාපිච්ඡතාය**, ලාමක ආශා ඇති බැවින් (*බුහුමන් කැමැති* වැ - **කඞ්ඛා.පි, පි.24**); **යො**, යම් භික්ෂුවක්; **සමුදාචරෙය්‍ය**, උතුරුමිනිස්දම් ඇති බවක් පවසන්නේ නම්; **අයං අපි**, මේ තෙමේ ද; **පාරාජිකො හොති**, පාරාජික වේ; **ඉති අත්ථො**, යන අර්ථය යි.

**71. වි:** සිව්වන පාරාජික සිකපදයේ අර්ථ වර්ණනා කරනු කැමති බුද්ධඝෝෂාචාර්යපාදයෝ '**චතුත්ථෙ අනභිජානං**' යනාදිය අරඹූහ.

"**අනභිජානං**" යන්නෙන් ස්වකීය සන්තානයෙහි නූපන් බැවින් තමා කෙරෙහි ඇති බවක් නොදන්නේය යන අර්ථය වේ. '**න අභිජානං = අනභිජානං**' යනුවෙන් සමාස විග්‍රහය යි. යමෙක් විසින් යම් උතුරුමිනිස්දමක් අධිගත කරන ලද්දේ ද ඒ ධර්මය උන්වහන්සේට ප්‍රකට වන බව දත යුතු ය.

"**උත්තරිමනුස්සධම්මං**" යන්නෙන් ප්‍රකෘති මිනිසුන්ට වඩා උත්තරීතර වූ ධ්‍යානලාභී වූ ද ආර්ය වූ ද උත්කෘෂ්ට මිනිසුන් විසින් අධිගත කරන ලද මහද්ගත ලෝකෝත්තර ධර්මයෝ අදහස් වෙති. නැතහොත් භාවනා මනසිකාරයකින් තොරව ප්‍රකෘතියෙන් මිනිසුන් විසින් ඉපදවිය යුතු දශ කුශල කර්මපථ ධර්මයෝ **මනුෂ්‍යධර්ම** නම් වෙති. ධ්‍යානාදිය වනාහි ඊට වඩා අතිශයින් ශ්‍රෙෂ්ඨ වන අතර එහෙයින් ඒවා **උත්තරිමනුෂ්‍යධර්ම** නම් වේ.

---

[1] **අපත්තෙ.** මජසං

"**අත්තුපනායිකං**": මෙම උත්තරිමනුෂ්‍ය ධර්මයන් තමා කෙරෙහි ආරෝපණය කොට හෝ තමා ඒ උත්තරිමනුෂ්‍ය ධර්මයන් කෙරෙහි දක්නා ලැබෙන්නේ යැයි එහි එළවමින් හෝ පවසනුයේ '**අත්තුපනායිකං**' නම් වේ.

"**අලමරියඤාණදස්සනං**" මෙම උත්තරිමනුෂ්‍ය ධර්මයෝ ක්ලේශ විද්ධ්වංසනයට සමර්ථ වූ ආර්ය දර්ශනයට යෝග්‍ය බැවින් '**අලමරියඤාණදස්සනං**' නම් වේ. එක්තරා විදිහකට ලෞකික හා ලෝකෝත්තර සියලු ම ප්‍රඥාව '**ඤාණය**' යැයි කියනුයේ වුව ද මෙහි ලා මහද්ගත හා ලෝකෝත්තර ප්‍රඥාව ම අදහස් වේ. ඒ මහද්ගත, ලෝකෝත්තර ප්‍රඥාව දැනගැනීම් අර්ථයෙන් **ඤාණය** නම් වේ. ඇසින් දක්නා ලද්දක් මෙන් ධර්මය ප්‍රත්‍යක්ෂ කිරීම් වශයෙන් දර්ශනයක් බැවින් '**ඤාණදස්සනං**' නම් වේ. ඒ ඥානදර්ශනය ද කෙලෙසුන් කෙරෙන් දුරු වූ බැවින් පරිශුද්ධ අර්ථයෙන් ආර්ය දර්ශනයක් වේ. එහෙයින් '**අරියං විසුද්ධං උත්තමං ඤාණදස්සනන්ති අරියඤාණදස්සනං**' නම් වේ. එබඳු උතුම් ආර්ය ඥානදර්ශනයකට සුදුසු වූයේ, සමර්ථ වූයේ, යෝග්‍ය වූයේ යන්න '**අලමරියඤාණදස්සනං**' යනු යි.

"**සමුදාචරෙය්‍ය**": තමන් වෙත විද්‍යමාන නොවන උතුරුමිනිස් දම් ඇති බවක් ප්‍රකාශ කිරීම, තමා වෙත ආරෝපණයකොට ප්‍රකාශ කිරීම '**සමුදාචරෙය්‍ය**' යන්නෙන් දැක්වේ. එය ද නුවණැති මනුෂ්‍ය ජාතිකයකුට ම ආරෝචනය කළ යුතු වේ. දේව-බ්‍රහ්ම-යක්ෂ-ප්‍රේත-තිරිසන්ගත ආදි කිසිවකුට සැලකිරීමෙන් පරිජි නො වේ. තව ද ඒ ආරෝචනය කරන ආකාරය '**ඉති ජානාමි ඉති පස්සාමි**' යනුවෙන් දැක්වේ.

යම් භික්ෂුවක් '**යො තෙ විහාරෙ වසති, සො භික්ඛු පඨමස්ස ඣානස්ස ලාභී**= යම් භික්ෂුවක් නුඹලාගේ වෙහෙරෙහි වසයි ද ඒ භික්ෂුව ප්‍රථමධ්‍යානලාභියෙකි' යනාදි ලෙස තමාව ඍජුව නොදක්වා, අනුන් දක්වමින් ව්‍යාජ කථාවෙන් පැවසීම '**අඤ්ඤපදෙසය**' නම් වේ. එබඳු අඤ්ඤපදෙසයකින් කියන භික්ෂුව ද පරිජි නොවන බැවින් '**ඉති ජානාමි ඉති පස්සාමි**' යනාදි ලෙස ඍජුව ම පැවසීමෙන් ම පරිජි වන බව දැක්වේ.

මෙසේ තමා වෙත නොමැති උතුරුමිනිස්දම් ඇති බවට මුසා බස් කියන භික්ෂුව සැලකළ ක්ෂණයෙහි ම පරිජි ඇවැතට පත්වේ. අනතුරු

අවස්ථාවක චෝදනා කරන ලදුයේ හෝ චෝදනා නොකරන ලදුයේ හෝ ඇවැත ප්‍රතිඥා කරන අවස්ථාව '**තතො අපරෙන සමයෙන**' යැයි දක්වේ. එසේ ආරෝචනය කළ ක්ෂණයෙහි ම ඇවැතට පත් භික්ෂු තෙමේ ස්වකීය ගිහි බවට පත්වීම් ආදි පිරිසිදු බව අපේක්ෂා කරනුයේ '**ආපන්නො විසුද්ධාපෙක්ඛො**' යනුවෙන් දක්වේ. මෙසේ පරිජි වූ භික්ෂුව තවදුරටත් භික්ෂුභාවයේ සිටීමට අභව්‍ය වේ. ශික්ෂාපද ව්‍යාතික්‍රමණයාගේ අන්තරායකර තත්ත්වය ඇති බැවින් භික්ෂුභාවය උන්වහන්සේගේ ධ්‍යානාදිය අධිගත කිරීමට අන්තරායකර වේ. එසේ ම ස්වර්ග මෝක්ෂ අන්තරායකර ද වේ. එහෙයින් භාග්‍යවතුන් වහන්සේ '**සාමඤ්ඤං දුප්පරාමට්ඨං නිරයායූපකඩ්ඪතී**' යනු ද '**සිථිලො හි පරිබ්බාජො, භියෙ‍ය ආකිරතෙ රජං**' (**සංනි.1, පි.92**) යනු ද වදාළ සේක. එබැවින් පරිජි ඇවතට පත් භික්ෂුව 'මම භික්ෂුවක්මි' යැයි ප්‍රතිඥා කරමින් සිටීම උන්වහන්සේගේ විශුද්ධිය නො වේ ම ය. යම්හෙයකින් ගිහි වූයේ හෝ උපාසක, ආරාමික, සාමණේර භාවයන් අතරින් එක්තරා තත්ත්වයකට පත් වූයේ, දන්දීම්, තිසරණ සමාදන්ව ශීල සංවරාදියෙන් ස්වර්ග මාර්ගය ද නැතහොත් ධ්‍යානාදියෙන් මෝක්ෂ මාර්ගය හෝ සාධනය කරගත හැකි වේ. එබැවින් ඒ ගිහි ආදි භාවයන් උන්වහන්සේගේ විශුද්ධිය වේ. මෙකී විශුද්ධිය බලාපොරොත්තු වූයේ යන්න '**විසුද්ධාපෙක්ඛො**' නම් වේ.

මෙකී උතුරුමිනිස්දම් ප්‍රකාශ කිරීම ද අධිමානයෙන් තොරව පවසනුයේ ම පරිජි වේ. අධිමානය යනු '**අධිගතො මානො = අධිමානො**' කියා හෝ '**අධිකො මානො = අධිමානො**' කියා හෝ කියවෙන ආකාරයට තද මානයක් ඇති බව යි. යමෙක් සංස්කාරයන් ත්‍රිලක්ෂණයට නගා සම්මර්ශනය කරන්නේ ද එබඳු ආරබ්ධ විදර්ශකයා හට ස්වකීය සන්තානයෙහි උත්පත්ති වශයෙන් නොපැමිණි ධ්‍යානාදියට පැමිණුනාක් මෙන් අධිමානය උපදී. මෙම අධිමානය කවරෙකුට උපදී ද? කවරෙකුට නූපදී ද යත්, ආර්ය ශ්‍රාවකයන් වහන්සේලාට නූපදී. උන්වහන්සේ වනාහි මාර්ග, ඵල, නිර්වාණ, ප්‍රහීණ වූ කෙලෙස්, ඉතිරි වූ කෙලෙස් ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන් හටගත් සොම්නස් ඇත්තේ වී, ආර්ය ගුණ ප්‍රතිවේධයෙහි කාඞ්ක්ෂා නොමැතියෝය. එහෙයින් සෝවාන් වූ ආර්ය ශ්‍රාවකයා හට 'මම සකදාගාමී වූයෙමි' යනාදි ලෙස අධිමානයක් නූපදී ම ය. දුසිල්වතාට ද අධිමානය නූපදී. හෙතෙමේ ආර්යගුණ අධිගමයෙහි අත්හළ ආශා

ඇත්තේය. අත්හළ කමටහන ඇති සිල්වතාට ද නිද්දරාමතාදියෙහි යෙදුණහුට ද නූපදී. සුපිරිසිදු ශීලය ඇති, කර්මස්ථානයෙහි අප්‍රමාදී වූ නාමරූප ව්‍යවස්ථාපනය කොට ප්‍රත්‍ය පරිග්‍රහයෙන් දුරුකළ කාඞ්ක්‍ෂා ඇතිව සංස්කාරයන් ත්‍රිලක්‍ෂණයට නංවා සම්මර්ශනය කරන්නා වූ ආරබ්ධ විදර්ශක භික්‍ෂුවට ම අධිමානය උපදී. මෙහි දී ත්‍රිලක්‍ෂණයට නැංවීම යනු කලාප සම්මර්ශන වශයෙන් අනිච්චාදි ලක්‍ෂණ ත්‍රයට නැංවීම යි. ආරබ්ධ විපස්සකයා නම් 'උදයව්‍ය අනුපස්සනාවෙහි ඇරඹූ විදර්ශනාව ඇත්තාහුය' යනු කඞ්ඛාවිතරණී අභිනවටීකාව යි. මෙසේ ඇරඹූ විදර්ශනා ඇති භික්‍ෂුවට වසර දහයක්, විස්සක් ආදි බොහෝ කාලයක් කෙලෙසුන්ගේ නැගීමක් නොදකිනුයේ 'මම සෝතාපන්න වූවෙමි' යනාදි වශයෙන් හැඟේ. ශුද්ධ සමථලාභියකුට හෝ ශුද්ධ විදර්ශනාලාභියෙකුට අර්හත්‍වයට මෙපිට මාර්ග ඵල තත්ත්‍වයක් පිළිබඳ අධිමානය උපදින බව පැවසේ. සමථ-විදර්ශනාලාභී භික්‍ෂුවට තමා අර්හත්‍වයට පත්වූවාක් මෙන් අධිමානය උපදී. උන්වහන්සේගේ සමාධි බලයෙන් කෙලෙස් විෂ්කම්භනය වූයේ, විදර්ශනා බලයෙන් සංස්කාරයන් මනාව පරිග්‍රහණය වූයේ වසර හැටකුදු, වසර අසූවකුදු, වසර සියයකුදු කෙලෙස් නොම පැමිණේ. ක්‍ෂීණාශ්‍රවයන් වහන්සේ කෙනෙකුගේ මෙන් චිත්තවාරය වේ. උන්වහන්සේ මෙසේ දිගුකලක් ක්ලේශ සමුදාචරණයක් නොදක්නේ, 'මම අර්හත් වූයෙමි' යැයි හඟිති. මෙබඳු ආකාරයෙන් ඇති වන අධිමානයකින් තොරව හුදෙක් පවිටු ආශා ඇති බැවින් ම යමෙක් තමා අධිගත නොකළ ධ්‍යානාදි උතුරුමිනිස්දම් අධිගත කළේ යැයි පවසයි ද හෙතෙමේ පරිජි ඇවැතට පත් වූයේ, ප්‍රකෘති භික්‍ෂූන් සමඟ සංවාසයට නුසුදුසු වූයේ වෙයි.

## උත්තරිමනුෂ්‍ය ධර්ම

මෙම සිකපදයෙහි උතුරුමිනිස්දම් යන්න පදභාජනියෙහි දක්වෙනුයේ ''**ඣානං, විමොක්ඛං, සමාධි, සමාපත්ති, ඤාණදස්සනං, මග්ගභාවනා, ඵලසච්ඡිකිරියා, කිලෙසප්පහානං විනීවරණතා චිත්තස්ස, සුඤ්ඤාගාරෙ අභිරති** (පාරා, පි.200)'' යනුවෙනි. ඒ අනුව උතුරුමිනිස්දම් යන්නට අයත් දෑ මෙසේ ය.

1. **ඣානඃ** ප්‍රථම ධ්‍යානය, ද්විතීය ධ්‍යානය, තෘතීය ධ්‍යානය, චතුර්ථ ධ්‍යානය යි. මෛත්‍රී, අශුභ, ආනාපානසති ආදි ලෞකික ධ්‍යාන ද ලෝකෝත්තර ධ්‍යාන ද යන සියල්ල සංගෘහිත වේ.

2. **විමොක්ඛ**: සුඤ්ඤත විමෝක්ෂ, අනිමිත්ත විමෝක්ෂ, අප්පණිහිත විමෝක්ෂය යි.

3. **සමාධි**: සුඤ්ඤත සමාධි, අනිමිත්ත සමාධි, අප්පණිහිත සමාධි.

4. **සමාපත්ති**: සුඤ්ඤත සමාපත්ති, අනිමිත්ත සමාපත්ති, අප්පණිහිත සමාපත්ති.

5. **ඤාණදස්සන**: ත්‍රිවිද්‍යා ය.

6. **මග්ග භාවනා**: සතර සතිපට්ඨාන ය, සතර සම්‍යක් ප්‍රධාන ය, සතර ඍද්ධිපාද ය, පඤ්චෙන්‍ද්‍රිය ය, පඤ්ච බල ය, සප්ත බොධ්‍යඞ්ග ය, ආර්ය අෂ්ටාංගික මාර්ගය යි.

7. **ඵල සච්ඡිකිරියා** (ඵල පසක් කිරීම) : සෝවාන් ඵලය පසක් කිරීම ය, සකදාගාමී ඵලය පසක් කිරීම ය, අනාගාමී ඵලය පසක් කිරීම ය, අර්හත් ඵලය පසක් කිරීම ය.

8. **කිලෙසප්පහාන**: රාග ප්‍රහාණය, ද්වේෂ ප්‍රහාණය, මෝහ ප්‍රහාණය යි.

9. **විනීවරණතා චිත්තස්ස** (සිත නීවරණයන්ගෙන් රහිත බව): රාගයෙන් සිත නොවැසෙන බව, ද්වේෂයෙන් සිත නොවැසෙන බව, මෝහයෙන් සිත නොවැසෙන බව යි.

10. **සුඤ්ඤාගාරෙ අභිරති** (ශූන්‍යාගාරයෙහි ඇල්ම): ප්‍රථම ධ්‍යානයෙන් ශූන්‍යාගාරයෙහි ඇලීම ය, ද්විතීය ධ්‍යානයෙන් ශූන්‍යාගාරයෙහි ඇලීම ය, තෘතීය ධ්‍යානයෙන් ශූන්‍යාගාරයෙහි ඇලීම ය, චතුර්ථ ධ්‍යානයෙන් ශූන්‍යාගාරයෙහි ඇලීම ය.

මෙසේ සිව්වන පරිජි සිකපදයේ අසාධාරණ අර්ථ වර්ණනාව දක්වා. සියලු සිකපදයන්ට සාධාරණ සප්තදශාකාර විනිශ්චය ඉදිරිපත් කරනු කැමති ආචාර්යපාදයෝ '**වෙසාලියං**' යනාදිය දැක්වූහ.

**සඃ වෙසාලියං**, විශාලා මහනුවර; **වග්ගුමුදාතීරියෙ භික්ඛූ ආරබ්භ**, වග්ගුමුදාතීරයේ භික්ෂූන් අරබයා; **තෙසං උත්තරිමනුස්සධම්මාරොචන-වත්ථුස්මිං**, උන්වහන්සේලාගේ උතුරුමිනිස්දම් ආරෝචනය කිරීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අඤ්ඤත්‍ර අධිමානා ඉති අයං**, 'අඤ්ඤත්‍ර අධිමානා' යන මෙය; **එත්ථ**, මෙම සිකපදයෙහි;

**අනුප්පඤ්ඤත්ති**[1], අනුප්‍රඥප්තිය යි. **සාධාරණ පඤ්ඤත්ති**, භික්‍ෂු - භික්‍ෂුණී උභය පිරිසට ම සාධාරණ ප්‍රඥප්තිය යි. **අනාණත්තිකං**, අනාණත්තික ය. **පඨමජ්ඣානං**[2] **සමාපජ්ජිං ඉති ආදිනා නයෙන**, 'ප්‍රථම ධ්‍යානයට සමවැදුණෙමි' යන ආදි ක්‍රමයෙන්; **වුත්තප්පකාරං**, කියන ලද ආකාර ඇත්තා වූ; **අසන්තං**, තම චිත්ත සන්තානය වෙත විද්‍යමාන නොවන්නා වූ (අභූත වූ); **ඣානාදිධම්මං**, ධ්‍යාන, විමෝක්‍ෂ, සමාධි, සමාපත්ති, ඥනදර්ශන, මාර්ග භාවනා, ඵල සච්ඡිකිරියා, ක්ලේශ ප්‍රහාණ, විනීවරණතා චිත්තස්ස, සුඤ්ඤගාරෙ අභිරති යන මේ උතුරුමිනිස්දම්;

- 33 -

**ආරොචෙන්තස්ස**, ආරෝචනය කරන්නහුට; **සචෙ**, ඉදින්; **යස්ස ආරොචෙති**[3], යමෙකුට ආරෝචනය කරයි ද; **සො**, හෙතෙමේ; **මනුස්සජාතිකො හොති**, මනුෂ්‍ය ජාතිකයෙක් වෙයි ද; **අනන්තරං එව**, ආරෝචනයට අනතුරුව ම; **අයං**, මේ තෙමේ; **ඣානලාභී ඉති වා**, ධ්‍යාන ලාභියෙක් යැයි හෝ; **අරියො ඉති වා**, ආර්යයන් වහන්සේ නමක් යැයි හෝ; **යෙන කෙනචි ආකාරෙන**, යම්කිසි ආකාරයකින්; **තං අත්ථං ජානාති**, ඒ අර්ථය දනී ද; **පාරාජිකං**, පරිජි වේ. **සචෙ න ජානාති**, ඉදින් නො දනී ද; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **සචෙ පන**, ඉදින් වනාහි; **යො**, යමෙක්; **තෙ විහාරෙ**, නුඹලාගේ වෙහෙරෙහි; **වසති**[4], වසයි ද; **සො භික්ඛු**, ඒ භික්‍ෂු තෙමේ; **පඨමං ඣානං සමාපජ්ජති ඉති ආදිනා නයෙන**, ප්‍රථම ධ්‍යානයට සමවදියි යනාදි ක්‍රමයෙන්; **අඤ්ඤපදෙසෙන**, අනිකකු අපදිසනය කිරීමෙන් (වක්‍ෂ්‍යමාණ ව්‍යාජ කථාවකින්); **ආරොචෙන්තස්ස**, ආරෝචනය කරන්නහුට, **ජානාති**, අසන්නා දැනගනී ද; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **සචෙ**, ඉදින්; **න ජානාති**, නො දනී ද; **දුක්කටං**, දුකුළා වේ. **අධිමානෙන**, අධිමානයෙන්; **ආරොචෙන්තස්ස**, ආරෝචනය කරන්නහුට; **අනුල්ලපනාධිප්පායස්ස**, අභූත උතුරුමිනිස්දම් ආරෝචනය කිරීමේ කැමැත්තක් නැත්තහුට (පාපෙච්ඡාවක් නැතිව වාග්භේදමාත්‍ර කිරුම යි - **කඞ්ඛා.පි**, පි.24);

---

[1] **අනුපඤ්ඤත්ති.** මජසං

[2] **පඨමං ඣානං.** මජසං

[3] **යස්ස කස්සචි ආරොචෙති.** මජසං

[4] **වසි.** මජසං

**උම්මත්තකාදීනඤ්ච**, උමතු ආදි භික්ෂූන්ට ද; **අනාපත්ති**, අනාපත්ති ය. **සීලවිපත්ති**, ශීල විපත්ති ය. **උත්තරිමනුස්සධම්මස්ස**, උත්තරිමනුෂ්‍ය ධර්මයක්; **අත්තනි අසන්තතා**, තමා වෙත විද්‍යමාන නොවීම; **පාපිච්ඡතාය**, පවිටු ආශා ඇතිව; **තස්ස ආරොචනං**, තමා වෙත විද්‍යමාන නොවන ඒ උතුරුමිනිස්දම් ආරෝචනය; **අනඤ්ඤපදෙසො**, අඤ්ඤපදෙස රහිත බව; **යස්ස ආරොචෙති**, යමෙකුට ආරෝචනය කරයි ද, **තස්ස මනුස්සජාතිකතා**, ඔහුගේ මනුෂ්‍ය ජාතික භාවය; **තං ඛණං විජානනං**, එකෙණෙහි ම දැනගැනීම; **ඉති ඉමානි පඤ්ච**, යන මේ පස; **එත්ථ**, මේ සිකපදයෙහි; **අඞ්ගානි**, අංගයෝ ය. **සමුට්ඨානාදීනි**, සමුට්ඨානාදිය; **අදින්නාදානෙ**, අදින්නාදාන සිකපදයෙහි; **වුත්තසදිසානි එව ඉති**, කියන ලද ආකාර ම යැයි;

**චතුත්ථපාරාජිකං**, චතුර්ථ පාරාජිකය;
**සමත්තං**, සමාප්ත ය.

**72. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1). **නිදානය** : විශාලා මහනුවර.

(2). **පුද්ගලයා** : වග්ගුමුදාතීරිය භික්ෂූහු.

(3). **වස්තුව** : උතුරුමිනිස්දම් ආරෝචනය කිරීම.

භාග්‍යවතුන් වහන්සේ විශාලා මහනුවර කූටාගාර ශාලාවෙහි වැඩවාසය කරන සමයෙහි බොහෝ දුටුමිතුරු, දැඩි මිතුරු භික්ෂූහු වග්ගුමුදා නදී තීරයෙහි වස් එළඹුණහ. එකල වජ්ජි රට දුර්භික්ෂයක් ඇති වූ අතර පිණ්ඩපාතයෙන් යැපීම අපහසු විය. එහි දී ඒ භික්ෂූන්ට පිණ්ඩපාතයෙන් යැපීම දුෂ්කර බැවින් කවර නම් උපායකින් ජීවිතය පවත්වා ගන්නෙමු දැ'යි කල්පනා කිරීමේ දී ඔවුනොවුන් ගිහියන් වෙත එකිනෙකා පිළිබඳ උතුරුමිනිස්දම් ආරෝචනය කිරීමට අදහසක් පහළ විය. ඒ අනුව 'අසවලා ප්‍රථම ධ්‍යානය ඇත්තෙක් ය' යනාදි ක්‍රමයෙන් උතුරුමිනිස්දම් ආරෝචනය කරන්නට වූහ.

එකල්හි මිනිස්සු 'අපට මහත් ලාභයක් වී' යැයි වඩාත් හොඳින් සංග්‍රහ කරන්නට වූහ. ඒ භික්ෂූහු වර්ණවත්ව පිනා ගිය ඉඳුරන් ඇත්තෝ වූහ. ඉක්බිති වස් තෙමස ඇවෑමෙන් භික්ෂූහු බුදුරජාණන් වහන්සේ මුණගැසීමට කූටාගාර ශාලාව වෙත වැඩම කළ අතර එහි

විසූ භික්ෂූහු කෘශ වූවාහුය. දුර්වර්ණ වූවාහුය. එසේ වුව ද වග්ගුමුදතීරයේ භික්ෂූහු වර්ණවත් වූහ.

බුදුරජාණන් වහන්සේ ආගන්තුක භික්ෂූන් සමඟ පිළිසඳරෙහි යෙදීම පුරුද්දක් වූ බැවින් ඒ වග්ගුමුදතීරිය භික්ෂූන් සමඟ පිළිසඳරෙහි යෙදී වස් තෙමස කෙසේ ගත කළේ දැ'යි ඇසූ කල්හි ඒ භික්ෂූහු තමන් උතුරමිනිස්දම් ආරෝචනය කළ බව පැවසූහ. ඒ භූත වූ උතුරුමිනිස්දම් ද යන්න විමසූ කල්හි අභූත උතුරුමිනිස්දම් යැයි පැවසූහ.

භාග්‍යවතුන් වහන්සේ එය අසා ගර්හා කොට ලෝකයෙහි වෙසෙන මහ සොරු පස්දෙනා පිළිබඳව ධර්මදේශනාවක් සිදුකළ සේක. අනතුරුව දැහැමි කථා කොට ''**යො පන භික්ඛු අනභිජානං -පෙ- අසංවාසො**'' යන මුල් පැනවීම පනවා වදාළ සේක. අනතුරුව බොහෝ භික්ෂූහූ තමන් උතුරුමිනිස්දම් අධිගත කරන ලද සංඥවෙන් අන් භික්ෂූන් හට සැලකර පසුව කුකුස් කරන්නට වූ බැවින් ''**අඤ්ඤත්‍ර අධිමානා**'' යන අනුප්‍රඥප්තිය පනවා වදාළ සේක.

(4). **ප්‍රඥප්තිය** :

1. **මූල ප්‍රඥප්තිය** : 'යො පන භික්ඛු අනභිජානං උත්තරිමනුස්ස ධම්මං අත්තුපනායිකං අලමරියඤාණදස්සනං -පෙ- අසංවාසො'
2. **අනුප්‍රඥප්ති** : 'අඤ්ඤත්‍ර අධිමානා''
3. **සාධාරණ-අසාධාරණ ප්‍රඥප්ති** : සාධාරණ ප්‍රඥප්තිය ය.

(5). **ආණත්තිය** : අණානත්තික ය.

(6). **ආපත්ති** :

1. **පරිජි ඇවැත්** : 'ප්‍රථම ධ්‍යානයට සමවදිමි' යනාදි ක්‍රමයෙන් කියන ලද ආකාර ඇති තමා වෙත විද්‍යමාන නොවන ධ්‍යානාදි උතුරුමිනිස්දමක් තමා වෙත නගා ආරෝචනය කරන්නහුට, යමෙකුට ආරෝචනය කරයි ද හෙතෙමේ මිනිසකුව, ආරෝචනයට අනතුරුව ම 'මේ තෙමේ ධ්‍යානලාභියෙකි' හෝ 'මාර්ගඵල ලාභියෙකි' යනාදි කිසියම් ආකාරයකට දැනගනී ද පරිජි වේ.

2. **ථුල්ලච්චය ආපත්ති** : එසේ කීමෙන් අනතුරුව ම අසන්නාට අවබෝධ නො වේ ද නො දැනගනී ද ථුල්ලච්චය ආපත්ති වේ. එසේ ම 'නුඹලාගේ විහාරයේ වසන භික්ෂුව ප්‍රථම ධ්‍යානයට සමවදී' යනාදි ක්‍රමයෙන් අඤ්ඤපදේසයෙන් ආරෝචනය කිරීමේ දී අසන්නා දැනගනී ද ථුල්ලච්චය ආපත්ති වේ.
3. **දුක්කට ආපත්ති** : අඤ්ඤපදේසයෙන් ආරෝචනය කිරීමේ දී අසන්නා නො දැනගන්නේ ද දුක්කට ආපත්ති වේ.

මෙහි සාමන්තාපත්තිය ථුල්ලච්චය යි.

(7). **අනාපත්ති** :

1. අධිමානයෙන් ආරෝචනය කරන්නහුට.
2. අභූත උත්තරිමනුස්සධම්ම ආරෝචනය කිරීමේ කැමැත්තක් නැත්තහුට.
3. උම්මත්තක-ආදිකාර්මික භික්ෂූන්ට.

(8). **විපත්තිය** : ශීල විපත්ති ය.

(9). **අඞ්ග** :

1. උත්තරිමනුස්සධම්ම තමා කෙරෙහි නැති බව.
2. පවිටු ආශාවෙන් (පාපිච්ඡාවෙන්) ආරෝචනය කිරීම.
3. අඤ්ඤපදේස රහිත බව.
4. ආරෝචනය අසන්නා මිනිසකු වීම.
5. එකෙණෙහි ම දැනගැනීම.

(10). **සමුට්ඨාන** : අදින්නාදාන සමුට්ඨාන ය.

එනම් කාය-චිත්ත, වාචා-චිත්ත, කාය-වාචා-චිත්ත යන තුන් සචිත්තක සමුට්ඨානයන්ගෙන් හටගනී.

(11). **කිරියා** : කිරීම් වශයෙනි.

(12). **සංඥාව** : සංඥාවිමෝක්ෂ ය. එනම් ඇවත පිළිබඳ සංඥාවගේ අභාවයෙන් ඇවතින් මිදේ.

(13). **චිත්ත** : සචිත්තක ය.

(14). **වජ්ජ** : ලෝකවද්‍ය ය.

(15). **කර්ම** : කාය කර්ම, වාක් කර්ම යන කර්මද්වය ය.

(16). **කුසල ත්‍රිකය** : අකුශල චිත්ත ය.

(17). **වේදනා ත්‍රිකය** : දුක්ඛ වේදනාව ය.

## මහ සොරු පස් දෙනා (05)

(1) යම් පවිටු මහණෙක් භික්ෂූන් විසින් පිරිවරන ලදුයේ ගරු කරන ලද්දේ, බුහුමන් කරන ලද්දේ සිව්පස ලාභීව ගම් දනව්හි සැරිසරයි ද මේ තෙමේ ලොව විද්‍යමාන වන පළමු මහ සොරා වේ.

(2) යම් පවිටු මහණෙක් තථාගත භාෂිත ධර්මවිනය ප්‍රගුණ කොට එය තමාගේ යැයි ප්‍රකාශ කරයි ද මේ තෙමේ ලොව විද්‍යමාන වන දෙවන මහ සොරා වේ.

(3) යම් පවිටු මහණෙක්, පිරිසිදුව බඹසර හැසිරෙන භික්ෂුවකට අමූලික පරිජි ඇවැතකින් චෝදනා කරයි ද මේ තෙමේ ලොව විද්‍යමාන වන තුන්වන මහ සොරා වේ.

(4) යම් පවිටු මහණෙක් සඟ සතු ගරු භාණ්ඩ, ගරු පරිෂ්කාරයන්ගෙන් ගිහියන්ට සංග්‍රහ කරයි ද ගිහියන් පොළඹවා ගනී ද මේ තෙමේ ලොව විද්‍යමාන වන සතරවන මහ සොරා වේ.

(5) යම් පවිටු මහණෙක් සිය සන්තානයෙහි නැති උතුරුමිනිස්දම් තමා කෙරෙහි ඇතැයි කියන්නේ ද මේ තෙමේ දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත වූ ලෝකයෙහි මහණ බමුණන් සහිත වූ දෙව් මිනිසුන් සහිත වූ ප්‍රජාව කෙරෙහි ද අග්‍ර වූ ප්‍රමුඛ වූ මහ සොරා වේ. ඒ කවර හෙයින් ද යත් සොර සිතින් රටවැසියාගේ පිඬු අනුභව කරන බැවිනි.

**චතුත්ථ පාරාජික ශික්ෂාපදය නිමියේය.**

# පාරාජිකුද්දේස නිගමන කථා

**සඃ උද්දිට්ඨා ඛො ආයස්මන්තො චත්තාරො පාරාජිකා ධම්මා ඉති ඉදං,** 'උද්දිට්ඨා -පෙ- ධම්මා' යන මෙය; **ඉධ,** මේ භික්ෂු ප්‍රාතිමෝක්ෂයෙහි; **උද්දිට්ඨපාරාජිකපරිදීපනං එව,** උදෙසන ලද සතර පාරාජිකාපත්තීහු දක්වෙන වචනය ම වේ. **සමොධානෙත්‍වා පන,** ඒ ඒ තැන පැමිණියා වූ පරිජි ඇවැත් එක්කොට; **සබ්බානි එව,** සියල්ලෝ ම; **චතුවීසති පාරාජිකානි,** සූවිසි පරිජි; **වෙදිතබ්බානි,** දත යුත්තාහුය. **කතමානි චතුවීසති,** කවර සූවිස්සක් ද? යත්; **තාව,** පළමුව; **පාලියං**[1] **ආගතානි,** පෙළෙහි ආවා වූ; **භික්ඛූනං චත්තාරි,** භික්ෂූන්ගේ සතර පාරාජිකා ය; **භික්ඛුනීනං,** භික්ෂුණීන්ට; **අසාධාරණානි චත්තාරි ඉති,** අසාධාරණ පාරාජිකා සතර ය යන; **අට්ඨ,** පාරාජිකා අටදෙන ය. **තානි,** ඒ අට දෙනෙක් වූ පාරාජිකා; **පණ්ඩකාදීනං එකාදසන්නං,** පණ්ඩක ආදි වූ එකොළොස් දෙනා සම්බන්ධ; **අභබ්බභාවසඞ්ඛාතෙහි එකාදසහි පාරාජිකෙහි සද්ධිං,** වස්තු විපන්නතා ආදි පැවිදි උපසම්පදාවට අභව්‍ය භාව සංඛ්‍යාත එකොළොස් පරිජි සමඟ; **එකූනවීසති,** එකුන්විසි පරිජියකි. **ගිහීභාවං**[2] **පත්‍ථයමානාය භික්ඛුනියා,** ගිහි බව පතන්නා වූ භික්ෂුණියගේ; **විබ්භන්තභාවපාරාජිකෙන සද්ධිං,** විබ්භන්තභාවය යන පරිජිය සමඟ; **වීසති,** විස්සකි. **අපරානි පි,** අන්‍ය වූ ද; **ලම්බී**[3], දික් වූ එල්බෙන අංගජාතයක් ඇති බැවින් ලම්බී පුද්ගල තෙමේ අනභිරතියෙන් පෙළී සිය අංගජාතය මුඛයේ හෝ වර්චස් මාර්ගයේ පිවිසුවීමෙන් වන පරිජි ය; **මුදුපිට්ඨිකො,** මෘදු වූ පිටක් ඇති තැනැත්තා අනභිරතියෙන් පෙළී සිය අංගජාතය මුඛයෙහි පිවිසුවීමෙන් වන පරිජි ය; **පරස්ස අඞ්ගජාතං මුඛෙන ගණ්හාති,** යම් භික්ෂුවක් අනභිරතියෙන් පෙළුණේ අනිකකුගේ අංගජාතය සිය මුඛයෙන් ගැනීමෙන් වන පරිජි ය; **පරස්ස අඞ්ගජාතෙ අභිනිසීදති,** යම් භික්ෂුවක් අනභිරතියෙන් පෙළුණේ අනිකකුගේ අංගජාතය මත හිඳගැනීමෙන් සිය වර්චස් මාර්ගයේ පිවිසුවා ද ඉන් වන පරිජි ය. **ඉමෙසං චතුණ්ණං**[4] **ච වසෙන,** මේ සතර දෙනාගේ ද වශයෙන්; **චත්තාරි අනුලොම**

---

[1] **පාළියං.** මජසං; බෞසංම

[2] **ගිහිභාවං.** මජසං

[3] **ලම්බි.** බෞසංම

[4] ඉති ඉමෙසං **චතුන්නං** (ඉති පදය අතිරේකය). මජසං

**පාරාජිකානි ඉති**, සතර අනුලොම් පරිජි ඇවැත්හු යැයි; **වදන්ති**, කියත්. **ඉති**, මෙසේ; **ඉමානි චත්තාරි ච**, මේ සතර පරාජිකාපත්තීහු ද; **පුරිමානි වීසති**[1] **ච**, පෙර විසි පරිජි ද; **සමොධානෙත්‍වා පන**, සමෝධානය කොට; **සබ්බානි චතුවීසති පාරාජිකානි එව**, සියලු සූවිසි පරිජිහු ම; **වෙදිතබ්බානි**, දත යුත්තාහුය.

**න ලභති භික්ඛූහි සද්ධිං සංවාසං ඉති**, යනු; **උපොසථාදිභෙදං සංවාසං**, පොහොය කිරීම් ආදි භේද ඇත්තා වූ සංවාසය; **භික්ඛූහි සද්ධිං**, ප්‍රකෘති භික්ෂූන් සමඟ; **න ලභති**, නො ලබයි. **යථා පුරෙ තථා පච්ඡා ඉති**, 'යථා පුරෙ තථා පච්ඡා' යනු; **පුබ්බෙ**, පෙර; **ගිහී කාලෙ (ච)**, ගිහි කල ද; **අනුපසම්පන්න කාලෙ ච**, අනුපසම්පන්න කාලයෙහි ද; **යථා**, යම් සේ සංවාසය නො ලැබී ද; **පාරාජිකං ආපන්නො අපි**, පරිජි ඇවැතට පැමිණි භික්ෂු තෙමේ ද; **පච්ඡා**, පසුව; **තථා එව**, එසේ ම; **අසංවාසො හොති**, සංවාස රහිත වූයේ වෙයි. **තස්ස**, උන්වහන්සේට; **භික්ඛූහි සද්ධිං**, භික්ෂූන් වහන්සේලා සමඟ; **උපොසථාදිභෙදො සංවාසො**, උපෝසථාදි භේද ඇති සංවාසයක්; **නත්‍ථි ඉති**, නැත්තේය යනුවෙනි.

**තත්‍ථායස්මන්තෙ පුච්ඡාමි ඉති**, යනු; **ආයස්මන්තෙ**, ආයුෂ්මතුන් වහන්සේලා; **තෙසු චතුසු**[2] **පාරාජිකෙසු**, ඒ සිව් පාරාජිකාපත්තීන්හි, **කච්චි**, කිම? **පරිසුද්ධා අත්‍ථ**, පිරිසිදුවහු ද; **ඉති**, යැයි; **පුච්ඡාමි**, විමසමි. **කච්චිත්‍ථ ඉති**, කච්චිත්‍ථ යනු; **කච්චි එත්‍ථ**, 'කච්චි එත්‍ථ' යැයි පද බෙදගත යුතු ය. **එතෙසු චතුසු පාරාජිකෙසු**, ඒ සතර පාරාජිකාපත්තීන්හි; **කච්චි**, කිම? **පරිසුද්ධා**, පිරිසිදු ද; **ඉති**, යන; **අත්‍ථො**, අර්ථය යි. **අථවා**, නැතහොත්; **කච්චිත්‍ථ පරිසුද්ධා ඉති**, 'කච්චිත්‍ථ පරිසුද්ධා' යනු; **කච්චි**, කිමෙක් ද? **පරිසුද්ධා අත්‍ථ**, 'පරිසුද්ධා අත්‍ථ' යැයි පද බෙදගත යුතු; **භවථ ඉති අත්‍ථො**, පිරිසිදු වහු ද යන අර්ථය යි. **සෙසං**, සෙස්ස; **සබ්බත්‍ථ**, සියලු තන්හි; **උත්තානං එව ඉති**, ප්‍රකට ම ය යනුවෙන්;

**කඞ්ඛාවිතරණියා පාතිමොක්ඛවණ්ණනාය**, කඞ්ඛාවිතරණී ප්‍රාතිමෝක්ෂ වර්ණනාවෙහි; **පාරාජිකකණ්ඩවණ්ණනා**, පාරාජික කාණ්ඩ වර්ණනා තොමෝ; **නිට්ඨිතා**, නිමියාය.

[1] **වීසතීති.** මජසං

[2] **චතුසු.** මජසං

**73. වි:** පාරාජිකා ධර්ම උදෙසීමෙන් අනතුරුව කියනු ලබන '**උද්දිට්ඨා ඛො ආයස්මන්තො චත්තාරො පාරාජිකා ධම්මා**' යන මෙය උදෙසන ලද සතර පාරාජිකාපත්තීන් දක්වනු පිණිස ම කියන ලද වචනයකි. එතකුදු වුවත් ඒ ඒ තැන ආවා වූ සෙසු පාරාජිකාපත්තීන් ද සමෝධානය කොට සියලු පාරාජිකාවන් සූවිස්සක් (24) ක් ඇති බව දත යුතු ය.

## සූවිසි පරිජි (24)

**භික්ෂු-භික්ෂුණී උභය පාර්ශ්වයට සාධාරණ පරිජි** 04.

01. මෛථුනධම්ම පරිජිය
02. අදින්නාදාන පරිජිය
03. මනුස්සවිග්ගහ පරිජිය
04. උතුරුමිනිස්දම් පරිජිය

**භික්ෂුණීන්ට පමණක් අසාධාරණ පරිජි** 04

05. උබ්භජාණුමණ්ඩලිකා පරිජිය
06. වජ්ජපටිච්ඡාදිකා පරිජිය
07. උක්ඛිත්තානුවත්තිකා පරිජිය
08. අට්ඨවත්ථුකා පරිජිය

**එකාදස** (11) **අභව්‍ය පුද්ගලයෝ**

09. පණ්ඩකයා
10. තිරච්ඡානගත සත්ත්වයා
11. උභතො බ්‍යඤ්ජනකයා

    මෙම තිදෙනා වත්ථු විපන්න අහේතුක ප්‍රතිසන්ධි ලද්දෝ වෙති.

12. ථෙය්‍යසංවාසකයා
13. තිත්ථියපක්කන්තකයා

    පඤ්ච ආනන්තර්ය පාප කර්ම කරන ලද පුද්ගලයෝ

14. මාතෘඝාතකයා
15. පිතෘඝාතකයා
16. අරහන්තඝාතකයා

17. රුහිරුප්පාදකයා
18. සංඝභේදකයා
19. භික්ඛුණීදූසකයා - භික්ෂුණී දූෂණය කරන පුරුෂයා
20. භික්ෂුණියගේ විබ්භන්ත පරිජිය - එනම් භික්ෂුණිය ගිහි බව පතමින් ගිහි වස්ත්‍ර හැඳ ගැනීමකි. අධ්‍යාචාර ව්‍යතික්‍රමණයක් නොකර වුව ද මෙපමණකින් ම භික්ෂුණිය පරිජි වේ.
21. ලම්බී - දිගු අංගජාතයක් ඇති පුරුෂයා ය. හෙතෙම ප්‍රකෘතියෙන් ම අභව්‍ය නොවන අතර උපසපන් භික්ෂුවක්ව හිඳ අනභිරතියෙන් පෙළුණේ ස්වකීය අංගජාතය ස්වකීය මුඛයෙන් හෝ වසමගින් ගත්තේ ද එයින් පරිජි වේ.
22. මුදුපිට්ඨිකො - මෘදු පිටක් ඇති තැනැත්තා ය. මොහු ද උපසපන්ව හිඳ අනභිරතියෙන් පෙළුණේ ස්වකීය අංගජාතය ස්වකීය මුඛයෙන් ගැනීමෙන් පරිජි වේ.
23. පරස්ස අංගජාතං මුඛෙන ගණ්හාති - අනිකකුගේ අංගජාතය මුඛයෙන් ගැනීම.
24. පරස්ස අංගජාතෙ අභිනිසීදති - අනෙකකුගේ අංගජාතය මත හිඳ ගැනීමෙන් සිය වර්චස් මාර්ගයට පිවිසුවා ගැනීම.

මෙසේ සියලු පරිජි ඇවැත් සූවිස්සක් ඇති බව සැලකිය යුතු වේ. මොවුන් අතරින් පණ්ඩක, තිරච්ඡානගත, උභතොබ්‍යඤ්ජනක තිදෙනා වස්තු විපන්න අහේතුක පටිසන්‍ධිකයෝ වෙති. ඔවුන් හට ස්වර්ගය වාරිත නොවන අතර මාර්ග ඵල වාරිත වේ. ඔවුන්ගේ පැවිද්ද ප්‍රතික්ෂිප්ත බැවින් පාරාජික වූවන් සේ සැලකේ. ථෙය්‍යසංවාසක ආදි පුද්ගලයෝ අට දෙනා ස්වකීය ක්‍රියාවෙන් විපන්න බැවින් අභව්‍ය ස්ථානයකට පත්වූවාහු පාරාජික වූවෝ ය. ඔවුන් අතරින් ථෙය්‍යසංවාසක, තිත්ථිය පක්කන්තක, භික්ඛුණීදූසක යන තිදෙනාට ස්වර්ගය වාරිත නොවන අතර මාර්ග ඵල වාරිත වේ. ඉතිරි පස්දෙනා හට ස්වර්ග, මෝක්ෂ යන දෙක ම වාරිත වේ. ලම්බී, මුදුපිට්ඨිකා ආදි සතරදෙනා අනුලොම් පාරාජිකා ලෙස හැඳින්වේ.

මෙසේ පරිජි ඇවතකට පත්වූ භික්ෂුව ප්‍රකෘති භික්ෂූන් සමඟ උපෝසථ ආදි වූ සංවාසය නො ලබයි. පෙර ගිහි කල හෝ අනුපසපන් කාලයෙහි යම් සේ භික්ෂූන් සමඟ සංවාසය නො ලැබූයේ ද එපරිද්දෙන් ම පරිජි වූ පසු ද සංවාසය නො ලබයි.

'**තත්ථායසමන්තෙ**' යනාදියෙන් ඒ සිවු පාරාජිකාවන්හි පිරිසිදු වේ දැයි විචාරනු ලබන අතර තුන්යළ දක්වා ම විචාරනු ලැබීමෙන් නිහඬ වන භික්ෂුව පිරිසිදු යැයි දරාගන්නා බව සඳහන් කෙරේ. '**කච්චිත්ථ**' යන්න 'කච්චි එත්ථ' කියා පද බෙදගත යුතු අතර ''කච්චි අත්ථ'' කියා ද විකල්පයෙන් පද බෙද අර්ථ ගතහැකි වේ. එහි ලා 'අත්ථ' යනු √අස ධාතුවෙහි මධ්‍යම පුරුෂ බහුවචනය වේ. ඒ අනුව 'කිම පිරිසිදු වහු ද' යන්න අර්ථවත් වේ.

**භදන්තාචරිය අනුබුද්ධ බුද්ධඝෝෂ මහ තෙරිඳුන් විසින් විරචිත**
**කඞ්ඛාවිතරණී නම් මාතිකට්ඨකථාවට**
**ලියන ලද**
**විනයත්ථදීපනී නාම සවිස්තර ව්‍යාඛ්‍යානයේ**
**පාරාජිකුද්දේස වර්ණනාව නිමි.**

-//-



# සඞ්ඝාදිසේසුද්දේසය

- 34 -

**සන්නය: ඉමෙ ඛො පන ඉති**, 'ඉමෙ ඛො පන' යනු; **ඉදානි වත්තබ්බානං**, දැන් කිව යුතු ආපත්තීන්ගේ; **අභිමුඛීකරණං**, අභිමුඛ කිරීම යි. **ආයස්මන්තොති**, 'ආයස්මන්තො' යනු; **සන්නිපතිතානං**, රැස් වූවන් හට; **පියවචනෙන ආලපනං**, ප්‍රියවචනයෙන් ආමන්ත්‍රණය කිරීම යි. **තෙරස ඉති**, 'තේරස' යනු; **ගණනපරිච්ඡෙදො**, ගණන පිරිසිඳීම යි. **සඞ්ඝාදිසෙසා ඉති**, 'සඞ්ඝාදිසෙසා' යනු; **එවන්නාමකා**, මෙනම් ඇත්තාහු ය. **ධම්මා ඉති**, 'ධම්මා' යනු; **ආපත්තියො**, ඇවැත්හු වෙත්. **උද්දෙසං ආගච්ඡන්ති ඉති**, 'උද්දෙසං ආගච්ඡන්ති' යනු; **සරූපෙන**, ස්වරූපයෙන්; **උද්දිසිතබ්බතං**, උදෙසිය යුතු බවට; **ආගච්ඡන්ති**, පැමිණෙත්. **නිදානෙ විය**, නිදානුද්දේසයේ මෙන්; **'යස්ස සියා ආපත්ති' ඉති**,'යස්ස සියා ආපත්ති' යන; **සාධාරණවචනමත්තෙන න**, සාධාරණ වචන මාත්‍රයෙන් නො වේ.

## පඨම සංඝාදිසේසය

**සංවිජ්ජති චෙතනා අස්සා'ති සඤ්චෙතනා**, යනු සඤ්චෙතනා යන්නෙහි පද විග්‍රහය යි. (**අස්ස**, ඒ ශුක්‍ර විසර්ජනයට; **චෙතනා**, චේතනාවක්; **සංවිජ්ජති ඉති**, විද්‍යමාන වේ නු යි; **සඤ්චෙතනා**, සඤ්චෙතනා නම් වේ). **සඤ්චෙතනාව සඤ්චෙතනිකා**, යනු ස්වාර්ථයෙහි 'ණික' ප්‍රත්‍යය යි (**සඤ්චෙතනා එව**, සඤ්චේතනාව ම; **සඤ්චෙතනිකා**, සඤ්චේතනිකා නම් වේ). **වා**, නොහොත්;

**සඤ්චෙතනා අස්සා අත්ථීති සඤ්චෙතනිකා,** යනු අස්ත්‍යර්ථයෙහි 'ණික' ප්‍රත්‍යය යි. (**අස්සා,** මේ ඇවතට; **සඤ්චෙතනා අත්ථි ඉති,** සඤ්චේතනාව ඇත්තේ නු යි; **සඤ්චෙතනිකා,** සඤ්චෙතනිකා නම් වේ).

**සුක්කවිසට්ඨි**[1] **ඉති,** 'සුක්කවිසට්ඨි' යනු; **සුක්කස්ස විසට්ඨි**[2], 'සුක්කස්ස විසට්ඨි' යනුවෙන් පද බෙදගත යුතු වේ (**සුක්කස්ස,** ශුක්‍ර ධාතුවගේ; **විසට්ඨි,** විසර්ජනය යි). **රාගුපත්ථම්භාදිසු**[3], රාගය බලවත් වීම ආදිය අතරින්; **යෙන කෙනචි,** යම්කිසි හේතුවක් කරණකොටගෙන; **අඞ්ගජාතෙ කම්මඤ්ඤතං පත්තෙ,** අංගජාතය කර්මණ්‍ය බවට පත් වූ කල්හි; **ආරොගයාදිසු**[4], ආරෝග්‍ය බව ආදිය අතරින්, **යං කිඤ්චි,** යම් කිසිවක්; **අපදිසිත්වා,** දක්වා; **අජ්ඣත්තරූපාදිසු**[5], ආධ්‍යාත්මික රූපාදිය අතරින්; **යත්ථ කත්ථචි,** යම් කිසිවක; **මොචනස්සාදචෙතනාය,** මෝචනාස්වාද චේතනාවෙන්; **නිමිත්තෙ උපක්කමන්තස්ස,** පුරුෂ නිමිත්තෙහි උපක්‍රම කරන්නහුට; **ආසයධාතුනානත්තතො,** පිත්, සෙම් ආදි ආසයයන්ගේ ද පඨවි ආදි ධාතුන්ගේ ද නානත්වයෙන්; **නීලාදිවසෙන,** නීලාදි වශයෙන්; **දසවිධෙසු සුක්කෙසු,** දශවිධ ශුක්‍රයන් අතරින්; **යස්ස කස්සචි සුක්කස්ස,** යම්කිසි ශුක්‍ර ධාතුවකගේ; **ඨානා චාවනා ඉති අත්ථො,** තිබූ තැනින් පහවීම යන අර්ථය යි.

**අඤ්ඤත්‍ර සුපිනන්තා ඉති,** 'අඤ්ඤත්‍ර සුපිනන්තා' යනු; **සුපිනෙ,** ස්වප්නයෙහි; **යා සුක්කවිසට්ඨි**[6] **හොති,** යම් ශුක්‍ර විසර්ජනයක් වේ ද; **තං ඨපෙත්වා,** එය හැරපියා යන්න යි.

**සඞ්ඝාදිසෙසො ඉති,** 'සඞ්ඝාදිසෙසො' යනු; **අඤ්ඤත්‍ර සුපිනන්තා,** ස්වප්නයෙන් වන ශුක්‍ර මෝචනය හැරපියා; **යා සඤ්චෙතනිකා සුක්කවිසට්ඨි,** යම් මෝචනාස්වාද චේතනා සහිත ශුක්‍ර විසර්ජනයක් වෙයි ද; **අයං,** මෙය; **සඞ්ඝාදිසෙසො නාම,** සංඝාදිසෙස නම්; **ආපත්තිනිකායො ඉති අත්ථො,** ආපත්ති නිකාය යන අර්ථය යි. **එත්ථ,** මෙහි ලා; **වචනත්ථො පන,** වචනාර්ථය වනාහි; **සඞ්ඝො ආදිම්හි චෙව**

---

[1] සුක්කවිස්සට්ඨි. මජසං
[2] විස්සට්ඨි. මජසං
[3] රාගුපත්ථම්භාදීසු. මජසං
[4] ආරොගයාදීසු. මජසං
[5] අජ්ඣත්තරූපාදීසු. මජසං
[6] සුක්කවිස්සට්ඨි. මජසං (ඒවං සබ්බත්ථ)

**සෙසෙ ච ඉච්ඡිතබ්බො අස්සාති සඞ්ඝාදිසෙසො**, යනු සංඝාදිසේස යන්නෙහි විග්‍රහය යි. (**අස්ස**, මෙම ඇවතින් නැඟී සිටීමට; **ආදිම්හි චෙව**, මුල දී මෙන් ම; **සෙසෙ ච**, සෙසු අවස්ථාවල දී ද; **සඞ්ඝො**, සඞ්ඝ තෙමේ; **ඉච්ඡිතබ්බො ඉති**, කැමති විය යුත්තේ නු යි; **සඞ්ඝාදිසෙසො**, සංඝාදිසේස නම් වේ). **කිං වුත්තං හොති**, කුමක් කියන ලද්දේ ද? යත්; **ඉමං ආපත්තිං**, මෙම ඇවතට; **ආපජ්ජිත්‍වා**, පැමිණ; **වුට්ඨාතුකාමස්ස**, නැගී සිටිනු කැමැත්තහුට; **යං තං ආපත්ති වුට්ඨානං**, යම් ඒ ඇවතින් නැඟී සිටීමෙක් වේ ද; **තස්ස**, ඒ සඳහා; **ආදිම්හි පරිවාසදානත්‍ථාය**, මුල දී පිරිවෙස් දීම පිණිස; **චෙව**, මෙන් ම; **ආදිතො සෙසෙ**, මුල පටන් සෙසු අවස්ථාව වූ; **මජ්ඣෙ**, මැද දී; **මානත්තදානත්‍ථාය**, මානත දීම පිණිස; **වා**, නොහොත්; **මූලායපටිකස්සනෙන සහ**, මූලාය පටිකස්සනය සමඟ; **මානත්තදානත්‍ථාය**, මානත දීම පිණිස; **අවසානෙ**, අවසානයෙහි; **අබ්භානත්‍ථාය ච**, අබ්භානය පිණිස ද; **සඞ්ඝො ඉච්ඡිතබ්බො**, සඞ්ඝ තෙමේ කැමති විය යුත්තේ ය. **එත්‍ථ**, මෙහි; **එකම්පි කම්මං**; එකකුදු විනය කර්මයක්; **සඞ්ඝෙන විනා**, සඞ්ඝයාගෙන් තොරව; **කාතුං න හි සක්කා**, කිරීමට නොහැක්කේ ම ය. **ඉති**, මෙසේ; **සඞ්ඝො ආදිම්හි චෙව සෙසෙ ච ඉච්ඡිතබ්බො අස්සාති සඞ්ඝාදිසෙසො**, යනු යි.

**74. විස්තරය:** සංඝාදිසේසාපත්ති කාණ්ඩය පිළිබඳ අර්ථ වර්ණනාව කරන භදන්ත බුද්ධඝෝෂාචාර්යයෝ '**ඉමෙ ඛෝ පනා'ති**' යනුවෙන් අරඹන අතර එහි ලා පළමු සංඝාදිසේසාපත්තිය වන සුක්කවිසට්ඨි සිකපදයේ අර්ථ වර්ණනාව '**සංවිජ්ජති චෙතනා**' යනාදි ලෙස ඇරඹූහ.

**සඤ්චෙතනිකා** යනු මෝචනාස්වාද චේතනාව සහිතව යන අදහස යි. '**සංවිජ්ජති චෙතනා අස්සා'ති සඤ්චෙතනා**' යනු සඤ්චේතනා පදයේ විග්‍රහය යි. එනම් චේතනාව විද්‍යමාන වන බව යි. ඒ සඤ්චේතනාව ම '**සඤ්චෙතනිකා**' නම් වේ. ස්වාර්ථයෙහි 'ණික' ප්‍රත්‍යාන්ත තද්ධිතය යි. නැතහොත් '**සඤ්චෙතනා අස්සා අත්‍ථී'ති සඤ්චෙතනිකා**' යනුවෙන් ද අස්ත්‍යර්ථයේ 'ණික' ප්‍රත්‍යාන්ත තද්ධිතය යි. එනම් මේ ඇවතට චේතනා සහිත බවක් පැවතීම යි. මෙසේ චේතනා සහිතව ම සිදුකෙරෙන ශුක්‍ර විසර්ජනය වනාහි ඒ පුද්ගලයා දන්නේ ම, හොඳාකාරව දන්නේ ම වෙයි. එසේ ම ඒ ශුක්‍ර විසර්ජනය වනාහි සිතාමතා බුද්ධ ප්‍රඥප්තිය මඩිමින් ම කරනු ලබන ව්‍යතික්‍රමණයක් වේ. එහෙයින් මෙම සිකපදයේ පදභාජනියෙහි අර්ථ

මාත්‍රය ම දක්වමින් '**ජානන්තො සඤ්ජානන්තො චෙච්ච අභිවිතරිත්වා වීතික්කමො**' යැයි වදළ සේක. එනම් උපක්‍රම කරමි යැයි දැනගෙන, ශුක්‍ර විසර්ජනය කරමි යැයි හොඳකාරව ම දැනගෙන, මෝචනාස්වාද චේතනා වශයෙන් සිතා කල්පනා කොට, උපක්‍රම වශයෙන් මඬිමින්, නිසැක සිත යවා, කරනු ලබන ව්‍යතික්‍රමණයක් වේ ද එය සඤ්චේතනිකා යන්නෙන් අදහස් වේ.

**සුක්කවිසට්ඨි** යනු ශුක්‍ර ධාතුවගේ විසර්ජනය යි. එනම්, රාගාදි අඞ්ගජාතය කර්මණ්‍ය වන ආකාර (කාල) පස (05) අතරින් එක් අයුරකින් අඞ්ගජාතය කර්මණ්‍ය වූ කල්හි, ශුක්‍ර විසර්ජනය කිරීමේ අභිප්‍රාය දශය (10) අතරින් යම්කිසි අභිප්‍රායයක් පිණිස, නිමිත්තේ උපක්‍රම කරන ආධ්‍යාත්මික රූපාදි උපාය සතර (04) අතරින් එක්තරා උපක්‍රමයකින්, නීලාදි දශ ශුක්‍ර වර්‍ගයන් අතරින් යම්කිසි ශුක්‍රධාතුවක් විසර්ජනය හෙවත් ච්‍යානා චාවනය යි.

**කාල පස (05)** : එනම් අඞ්ගජාතය කර්මණ්‍ය වන හේතු පසකි.

1. රාගයෙන්
2. වර්චසින්
3. මුත්‍රා නිසාවෙන්
4. වාතයෙන්
5. උච්චාලිංග ප්‍රාණීන් දෂ්ට කිරීමෙන් (එනම් දළඹුවන් විසින් දෂ්ට කිරීමෙන්)

**උපාය සතර 04** : එනම් අඞ්ගජාතයෙහි උපක්‍රම කරන ආකාර සතරකි.

1. ආධ්‍යාත්මික රූපයෙහි උපක්‍රම කිරීම.
2. බාහිර රූපයෙහි උපක්‍රම කිරීම.
3. ආධ්‍යාත්මික - බාහිර රූප ද්වයෙහි උපක්‍රම කිරීම.
4. ආකාශයේ කටි කම්පනය.

**අභිප්‍රාය දශය (10)** : එනම් ශුක්‍ර මිදවීමේ අභිප්‍රාය දසයකි.

1. නිරෝගී බව පිණිස
2. සුඛාස්වාදය පිණිස
3. ඖෂධ පිණිස
4. දන්දීම පිණිස
5. පිනට දීම පිණිස
6. යාග කිරීම පිණිස
7. ස්වර්ගය පිණිස
8. බීජය පිණිස
9. පරීක්ෂණය පිණිස
10. ක්‍රීඩා පිණිස

**ශුක්‍ර වර්ණ දශය (10)** : ශුක්‍ර ධාතුව ඇසුරු කරගත් පිත්, සෙම්, වාතය, ලේ ආදි භේද වශයෙන් ද පඨවි ආදි ධාතු නානත්‍වය වශයෙන් ද ශුක්‍ර ධාතුව වර්ණ දශයක් වේ.

1. නීල (නිල් පැහැ) ශුක්‍ර
2. පීත (කහ පැහැ) ශුක්‍ර
3. ලොහිතක (ලේ පැහැ) ශුක්‍ර
4. ඕදාත (සුදු පැහැ) ශුක්‍ර
5. තක්‍ර වර්ණ (මෝරු පැහැ) ශුක්‍ර
6. දක වර්ණ (දිය පැහැ) ශුක්‍ර
7. තෙල වර්ණ (තෙල් පැහැ) ශුක්‍ර
8. ඛීර වර්ණ (කිරි පැහැ) ශුක්‍ර
9. දධි වර්ණ (දීකිරි පැහැ) ශුක්‍ර
10. සප්පි වර්ණ (ගිතෙල් පැහැ) ශුක්‍ර

මෙසේ රාගයෙන් අංගජාතය කර්මණ්‍ය වීම ආදිය අතරින් යම්කිසි කාලයකින් අංගජාතය කර්මණ්‍ය වූ කල්හි, ආරෝග්‍ය (නිරෝගී බව) ආදි අභිප්‍රාය අතරින් යම්කිසි අභිප්‍රායයක් දක්වා, ආධ්‍යාත්මික රූපයෙහි උපක්‍රම කිරීම ආදි උපාය අතරින් යම්කිසි උපායකින්, මෝචනාස්වාද චේතනාවෙන් නිමිත්තෙහි උපක්‍රම කොට, නීලාදි වශයෙන් දශවිධ ශුක්‍ර අතරින් යම්කිසි ශුක්‍ර ධාතුවකගේ තිබූ තැනින් පහවීම **සුක්කවිසට්ඨි** නම් වේ. මෙහි දී ශුක්‍ර පිහිටි තැන පිළිබඳ නොයෙක් අදහස් ඇති අතර ඒ කවර හෝ පිහිටි තැනින් මිදී එක් කුඩා මැස්සකුට පියහැකි පමණ ශුක්‍ර ප්‍රමාණයක් මුත්‍රා මාර්ගයට පිවිසි කල්හි පිටතට නික්මුණේ හෝ වේවා නො නික්මුණේ හෝ වේවා සංඝාදිසේස ඇවැත් වේ.

මෙහි දී '**නිමිත්තෙ උපක්කමන්තස්ස**' යනුවෙන් විශේෂයෙන් නිමිත්තෙහි ම උපක්‍රම කොට ශුක්‍ර මිදීමෙහි ඇවැත් වන බව පැවසීමෙන් හස්ත පරිකර්ම, පාද පරිකර්ම, ගාත්‍ර පරිකර්ම කිරීම් ආදියෙන් ශුක්‍ර මිදුණේ වුව ද ඇවැත් නැත. එහෙයින් සමන්තපාසාදිකා විනයට්ඨකථාවෙහි, '**සා ච ඛො නිමිත්තෙ උපක්කමන්තස්සෙව, හත්ථපරිකම්ම පාදපරිකම්මගත්තපරිකම්මකරණෙන සචෙපි අසුචි මුච්චති, අනාපත්ති**' (සම.පා, පි.369) යැයි කියන ලදී.

ඉහත සඳහන් කළ කාල, උපාය, අභිප්‍රාය, ශුක්‍ර වර්ණය යන මේවා සැලකිල්ලට ගනිමින් සඤ්චේතනිකා සුක්කවිසට්ඨිය පිළිබඳ ඇවැත්

දෙදහසක් (2000) වන බැව් අර්ථකථාවෙහි දක්වේ. දශවිධ ශුක්‍ර වර්ගයන් වෙන වෙනම ගෙන, දශවිධ අභිප්‍රායයන් පිළිබඳව වෙන වෙනම සලකා ගත් විට ශුක්‍ර මිදීම් ඇවැත් සියය (100) කි. එය ද උපාය සතර වෙන වෙනම සලකා ගත්විට ඇවැත් සාරසියය (400) කි. ඒ ශුක්‍ර විසර්ජන සාරසියය ම අංගජාතය කර්මණ්‍ය වීම් ආකාර පස වෙන වෙනම සැලකූ කල්හි ඇවැත් දෙදහසක් (2000) වේ.

ශුක්‍ර වර්ග x අභිප්‍රාය x උපාය x කාල = ඇවැත්

10 x 10 x 04 x 05 = 2000

**'අඤ්ඤත්‍ර සුපිනන්තා'** යන්නෙන් මෙම ඇවැත පිළිබඳ අනුප්‍රඥප්තිය දක්වේ. එනම් ස්වප්නයෙන් වන ශුක්‍ර මෝචනයෙන් ඇවැත් නොවන බව යි. සිහිනයෙන් ශුක්‍ර මෝචනය වීමේ දී ද මෝචනාස්වාද චේතනාවක් ඇති නමුත් එය අබ්බෝහාරික ය. එනම් ගණන් ගත යුතු මට්ටමේ නො වෙයි. එහෙයින් ස්වප්න මෝචනයෙන් ඇවැත් නැති බව වදාළ සේක. **'අත්‍ථෙසා භික්ඛවේ චෙතනා, සා ච බො අබ්බොහාරිකා (පාරා, පි.260)'** යනු එය වදාළ ආකාරය යි.

සිහින දැකීමේ හේතු සතරක් (4) අර්ථකථාවේ දක්වේ. එනම්,

1. **ධාතුක්ෂෝභ වීම:** එනම් වා, පිත් ආදිය කිපීමෙන් සිහින දැකීම යි.
2. **අනුභූත පූර්වාරම්මණය:** තමන් කලින් ගත් අරමුණක් අනුව සිහින දැකීම යි.
3. **දෙවතොපසංහාරය:** දෙවියන් විසින් සිහින පෙන්වීම
4. **පුබ්බනිමිත්ත:** මතු සිදුවන දෙයක් පිළිබඳ පූර්ව නිමිති වශයෙන් සිහින දැකීම යි. බෝසත් මවගේ පුත්‍ර ලාභය පිළිබඳ සිහිනය මෙනි.

මෙම සිව් වැදෑරුම් වූ ම සිහිනයෝ ශෛක්ෂ-පෘථග්ජනයෝ ම දකිත්. අශෛක්ෂ රහතන් වහන්සේලා සිහින නො දකිත්. සිහින දකිනුයේ නිදිගත් විට දී ද පිබිදී සිටිය දී ද යන පැනය විසඳන අර්ථකථාව දක්වනුයේ යමෙක් නිදගැනීම භවංග සිතෙන් ම වන බැවින් ද එය රූපාදි ආරම්මණ නොගන්නා බැවින් ද නිදිගත් විට සිහින දකින්නේ යැයි කීම අභිධර්ම විරෝධි බව යි. අනෙක් අතට පිබිදී සිටිය දී සිහින දකින්නේ යැයි කිවහොත් පිබිදී සිටිය දී සිදුකරනු ලබන සංව්‍යවහාරික චිත්තයෙන් වන ව්‍යතික්‍රමණයෙහි අනාපත්ති විය නොහැකි බැවින් විනය විරෝධී වේ. එසේ ම නොපිබිදුණු අයෙක්

සිහින දකියි යැයි කීමෙන් සිහින දකින්නකු නොමැති වේ. එවිට සිහිනයක් ද නොමැති වේ. එහෙත් එය එසේ නො වේ. මේ පිළිබඳ මිලින්ද ප්‍රශ්නයෙහි නාගසේන මහරහතන් වහන්සේ කියනු ලබන වචනය අනුව වහා පෙරළෙන නින්දක් හෙවත් නිතර නිතර නිදීමත් අවදි වීමත් ඇති අඩ නින්ද ඇති අයකුට ම සිහින පෙනේ. එය වඳුරාගේ නින්ද වැනි හෙයින් 'කපිනින්ද' නම් වේ. එහෙයින් මිලින්ද ප්‍රශ්නයෙහි "**කපිමිද්ධපරෙතො ඛො මහාරාජ, සුපිනං පස්සති.**" යැයි කියන ලදී.

**සඞ්ඝාදිසෙසො** යනු එකී ආපත්ති නිකායට නම යි. එහි වචනාර්ථය දක්වනුයේ '**සඞ්ඝො ආදිම්හි චෙව සෙසෙ ච ඉච්ඡිතබ්බො අස්සා'ති සඞ්ඝාදිසෙසො**' යනුවෙනි. එනම් මෙම ඇවැතින් නැගීසිටීම සඳහා මුල දී පිරිවෙස් දීම පිණිස ද මැද දී මානත දීම පිණිස හෝ මූලායපටිකස්සනය සමඟ මානත දීම පිණිස ද, අවසානයේ අබ්භානය කිරීම පිණිස ද සඞ්ඝයා කැමති විය යුත්තේ ය (ලැබිය යුත්තේය). මෙහි ලා එකදු විනය කර්මයක් හෝ සඞ්ඝයාගෙන් තොරව කළ නොහැකි බැවින් යථොක්ත නම ලැබේ. ශික්ෂාපද පදභාජනියේ "**සඞ්ඝොයෙව තස්සා ආපත්තියා පරිවාසං දෙති, මූලායපටිකස්සති, මානත්තං දෙති, අබ්භේති. න සම්බහුලා න එකපුග්ගලො තෙන වුච්චති සඞ්ඝාදිසෙසො'**ති (පාරා, පි.260)" යනුවෙන් මේ අර්ථය ම පවසන ලදී. තව ද පරිවාරපාළියෙහි,

**'සඞ්ඝාදිසෙසොති යං වුත්තං - තං සුණොහි යථා තථං**
**සඞ්ඝොව දෙති පරිවාසං - මූලාය පටිකස්සති**
**මානත්තං දෙති අබ්භෙති - තෙනෙතං ඉති වුච්චති.'**

**(පරිවා.2, පි.102)**

යැයි කියන ලදී.

මෙසේ පළමු සංඝාදිසේසාපත්තිය පිළිබඳ අසාධාරණ විනිශ්චය දක්වා, තදනන්තරව සියලු සිකපදයන්ට සාධාරණ සප්තදශාකාර විනිශ්චය දක්වනු පිණිස '**සාවත්ථියං**' යනාදිය කියන ලදී.

**සඃ සාවත්ථියං**, සැවැත් නුවර දී; **සෙය්‍යසකං ආරබ්භ**, සෙය්‍යසක භික්ෂුව අරබයා; **උපක්කමිත්වා අසුචි මොචනවත්ථුස්මිං**, උපක්‍රම කොට ශුක්‍ර මෝචන වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **එත්ථ**, මේ සිකපදයෙහි; '**අඤ්ඤත්‍ර සුපිනන්තා' ඉති අයං**, 'අඤ්ඤත්‍ර සුපිනන්තා'

යන මෙය; **අනුපඤ්ඤත්ති**[1], අනුප්‍රඥප්තිය යි. **අසාධාරණපඤ්ඤත්ති**, අසාධාරණ ප්‍රඥප්තිය යි. **අනාණත්තිකං**, අනාණත්තිකය යි. **සචෙ පන**, ඉදින් වනාහි; **පරෙන**, අනෙකකු ලවා; **අත්තනො අඞ්ගජාතෙ**, තමාගේ අංගජාතයෙහි; **උපක්කමං කාරෙත්‍වා**, උපක්‍රම කරවා; **මොචාපෙති**, මුදවවයි ද; **ආපජ්ජති එව**, ඇවැතට පැමිණේ ම ය. **චෙතෙත්‍වා**, සිතා; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **ආකාසෙ කටිකම්පනේන අපි**, ආකාශයේ කටි කම්පනයෙනුදු; **නිමිත්තෙ උපක්කමන්තස්ස**, නිමිත්තෙහි උපක්‍රම කරන්නහුට; **සචෙ න මුච්චති**, ඉදින් නො මිදේ ද; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **සචෙ පන**, ඉදින් වනාහි; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **එකා බුද්දකමක්ඛිකා**, එක් කුඩා මැස්සෙක්; **යං පිවෙය්‍ය**, යම් ප්‍රමාණයක් බොන්නේ ද; **තත්තකං අපි**, එපමණකුදු; **ඨානතො මුචචති**, තිබූ තැනින් මිදේ ද; **දකසොතං අනොතිණ්ණෙ අපි**, මුත්‍රා මාර්ගයට නොබැසගත් කල්හි ද; **සඞ්ඝාදිසෙසො**, සංඝාදිසේස වේ. **ඨානතො පන චුතං**, තිබූ තැනින් මිදුණේ වනාහි; **අවස්සමෙව**, ඒකාන්තයෙන් ම; **දකසොතං ඔතරති**, මුත්‍රා මාර්ගයට බැසගනී ද; **තස්මා**, එබැවින්; **දකසොතං ඔතිණ්ණමත්තෙ**, මුත්‍රා මාර්ගයට බැසගත් මාත්‍රයෙහි; **බහිනික්ඛන්තෙ වා**, බැහැරට නික්මුණු කල්හි හෝ; **අනික්ඛන්තෙ වා**, නොනික්මුණු කල්හි හෝ; **සඞ්ඝාදිසෙසො ඉති**, සංඝාදිසේස යැයි; **අට්ඨකථාසු වුත්තං**, අර්ථකථාවන්හි කියන ලදී.

**අනුපක්කමන්තස්ස ච**, උපක්‍රම නොකරන්නහුට ද; **අමොචනාධිප්පායස්ස ච**, මුදවන අදහස නැත්තහුට ද; **සුපිනං පස්සන්තස්ස ච**, සිහිනයක් දකින්නහුට ද; **උම්මත්තකාදීනඤ්ච**, උමතු භික්‍ෂුව ආදීන්ට ද; **මුත්තෙපි**, මිදුණු කල්හිදු; **අනාපත්ති**, ඇවැත් නො වේ. **සීල විපත්ති**, ශීල විපත්තිය යි. **චෙතනා**, මෝචනාස්වාද චේතනාව ය; **උපක්කමො**, උපක්‍රමය ය; **මුච්චනං ඉති**, මිදීමය යන; **ඉමානි තීණි**, මේ තිදෙන; **එත්ථ**, මේ සිකපදයෙහි; **අඞ්ගානි**, අංගයෝ ය. **සමුට්ඨානාදීනි**, සමුට්ඨාන ආදිය; **පඨමපාරාජිකෙ**, පළමු පාරාජික සිකපදයෙහි; **වුත්තසදිසානි එව ඉති**, කියන ලද ආකාරය ම යැයි;

**සඞ්ඝාදිසෙසකණ්ඩෙ**, සංඝාදිසේස කාණ්ඩයෙහි;
**පඨමසික්ඛාපදං**, පළමු සිකපදය යි.

[1] **අනුප්පඤ්ඤත්ති**,. මජසං

**75. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : සැවැත් නුවර ය.

(2) **පුද්ගලයා** : සෙය්‍යසක භික්‍ෂුව.

(3) **වස්තුව** : උපක්‍රම කොට ශුක්‍ර මිදවීම යි.

භාග්‍යවතුන් වහන්සේ දෙව්රම් වෙහෙරේ වැඩ වසන සමයේ ආයුෂ්මත් සෙය්‍යසක තෙරුන් වහන්සේ සසුනේ නොඇලී වාසය කරනුයේ කෘශව, දුර්වර්ණව, ඉල්පුණු නහර ඇති සිරුරින් යුතු වූවේය. එය දුටු ආයුෂ්මත් උදායි තරුන් වහනසේ කරුණු විමසා බලා හැකි තාක් මිහිරි ආහාරපාන වළඳ, කැමැති තාක් ශයනය කොට, සුව සේ වාසය කරමින් අනභිරතියක් ඇති වූ විට අතින් උපක්‍රම කොට ශුක්‍ර මුදවන්නට අනුබල දුන්හ. එය කැප වේ දැ'යි විමසූ කල කැප වන බවත් තමන් වහන්සේ ද එසේ කරන බවත් පැවසූහ.

එතැන් පටන් එසේ කල් ගෙවන සෙය්‍යසක තෙරුන් වහන්සේ පිනාගිය ඉඳුරන් ඇත්තෝ වූහ. සෙසු භික්‍ෂූහු මෙපවත් විචාරා අනභිරතියක් උපන් කල අතින් උපක්‍රම කොට ශුක්‍ර මුදවන බව අසා, අල්පේච්ඡාදි ගුණැති භික්‍ෂූන් නුගුණ කියා භාග්‍යවතුන් වහනසේට සැලකළහ. භාග්‍යවතුන් වහන්සේ සෙය්‍යසක තෙරුන් වහන්සේගෙන් කැඳවා එය විචාරා නොයෙක් ආකාරයෙන් ගර්හා කොට, නින්ද කොට '**සඤ්චෙතනිකා සුක්කවිසට්ඨි සඞ්ඝාදිසෙසො**' යන මුල් පැනවීම පැනවූ සේක.

ඉක්බිති ඇතැම් භික්‍ෂූහු මිහිරි ආහාර වළඳ මුළා වූ සිහි ඇතිව නිදන්නාහු සිහිනෙන් ශුක්‍ර මෝචනය වී කුකුස් කළාහුය. ඒ අරබයා '**අඤ්ඤත්‍ර සුපිනන්තා**' යන අනුප්‍රඥප්තිය පනවා වදළ සේක.

(4) **ප්‍රඥප්තිය**

1. **මූල ප්‍රඥප්ති** : 'සඤ්චේතනිකා සුක්කවිසට්ඨි සඞ්ඝාදිසෙසො'
2. **අනුප්‍රඥප්ති** : 'අඤ්ඤත්‍ර සුපිනන්තා'
3. **සාධාරණ-අසාධාරණ** : අසාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : අනාණත්තික ය.
එහෙත් අනිකකු ලවා තමාගේ අංගජාතයෙහි උපක්‍රම කරවා මුදවන්නේ නම් ඇවැත් වේ ම ය.

(6) **ආපත්ති**

1. **සඟවෙසෙස්** : මුදවන සිතින් නිමිත්තේ උපක්‍රම කොට යටත් පිරිසෙයින් එක් කුඩා මැස්සකුට පිය හැකි ප්‍රමාණයකුදු මුත්‍රා මාර්ගයට බැසගත් කල්හි පිටතට නික්මුණේ හෝ වේවා, නොනික්මුණේ හෝ වේවා සඟවෙසෙස් වේ.
2. **ථුලැසි** : මුදවන අදහසින් නිමිත්තෙහි උපක්‍රම කොට නොමිදුණු කල්හි ථුලැසි ඇවැත් වේ.

(7) **අනාපත්ති** :

1. උපක්‍රම නොකරන්නහුට.
2. මුදවන අදහස නොමැතියහුට.
3. සිහිනයෙන් මිදෙන්නහුට.
4. උමතු - ආදිකාර්මික භික්ෂූන්ට.

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) අඞ්ග 03

1. ශුක්‍ර මිදවීමේ චේතනාව.
2. උපක්‍රම කිරීම.
3. මිදීම.

(10) **සමුට්ඨාන** : පඨම පාරාජික සමුට්ඨාන ය. කාය චිත්ත වශයෙනි.

(11) **කිරියා** : ක්‍රියා වශයෙනි.

(12) **සංඥා** : සංඥාවිමෝක්ෂ ය.

(13) **චිත්ත** : සචිත්තක ය.

(14) **වජ්ජ** : ලෝකවද්‍ය ය.

(15) **කම්ම** : කාය කර්ම ය.

(16) **කුසල ත්‍රිකය** : අකුශල චිත්ත ය.

(17) **වෙදනා ත්‍රිකය** : දුක්ඛ වේදනා ය.

**ප්‍රථම සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# කායසංසග්ග සංඝාදිසේසය

- 35 -

**සඃ** දුතියෙ, ද්විතීය සංඝාදිසේස ශික්‍ෂාපදයේ; **ඔතිණ්ණො ඉති,** 'ඔතිණ්ණො' යනු; **සත්තා,** සත්ත්වයෝ; **යක්ඛාදීහි විය,** යක්‍ෂාදීන් විසින් (අල්ලා ගත්තාක්) මෙන්; **අන්තො උප්පජ්ජන්තෙන රාගෙන**[1], ඇතුළත උපදින්නා වූ රාගයෙන්; **ඔතිණ්ණො,** බැසගත්තේ; **සත්තා,** සත්ත්වයෝ; **කූපාදීනි විය,** ළිං ආදියට වැටෙන්නාක් මෙන්; **අසමපෙක්ඛිත්වා,** යථා ස්වභාවය සොයා නොබලා; **රජ්ජනීයෙ ඨානෙ,** ඇලිය යුතු තැන; **රඤ්ජන්තො,** ඇලෙනුයේ; **සයං වා,** තෙමේ ම හෝ; **රාගං ඔතිණ්ණො,** රාගයට බැසගත්තේ වේ ද; **එතං,** මේ; **කායසංසග්ගරාගසමඞ්ගිස්ස,** කායසංසර්ග රාගයෙන් සමන්වාගත වූ පුද්ගලයාට; **අධිවචනං,** පර්යාය වචනයකි.

**විපරිණතෙන චිත්තෙන ඉති,** 'විපරිණතෙන චිත්තෙන' යනු; **පරිසුද්ධභවඞ්ගසන්තතිසඞ්ඛාතං,** පිරිසිදු භවාංග සන්තති සංඛ්‍යාත; **පකතිං,** ප්‍රකෘතිය; **විජහිත්වා** අතහැර; **අඤ්ඤථා පවත්තෙන,** අන් ආකාරයට පවත්නා වූ; **වා,** නොහොත්; **විරූපං පරිණතෙන,** විරූපී බවට පෙරළුණා වූ; **යථා,** යම් සේ; **විරූපං පරිවත්තමානං හොති,** විරූපී බවට පෙරළෙනුයේ වෙයි ද; **ඒවං,** එසේ; **වුත්තරාගවසෙන,** කියන ලද කායසංසර්ග රාග වශයෙන්; **පරිවත්තිත්වා**[2] **ඨිතෙන,** පෙරළී සිටියා වූ; **චිත්තෙන ඉති අත්‍ථො,** සිතින් ය යන අර්ථය යි.

**76. විඃ** '**ඔතිණ්ණො**' යන පදයෙහි කර්මාර්ථ සාධන පක්‍ෂයක් ද, කර්තෘර්ථ සාධන පක්‍ෂයක් ද වෙන වෙනම දැක්විය හැකි වේ. එනම් 'කායසංසර්ග රාගය විසින් බැසගන්නා ලද්දේ' කර්මාර්ථ සාධන වශයෙන් හෝ 'කායසංසර්ග රාගයට බැසගත්තේ' යැයි කර්තෘර්ථ සාධන වශයෙනි. එය වෙන වෙනම දක්වනු පිණිස යක්ඛාදීහි විය යනු ද 'කූපාදීනි විය' යනු ද පවසන ලදී. යම් සේ සත්ත්වයන් යක්‍ෂාදීන් විසින් අල්වාගෙන තම වසඟයට ගන්නේ ද, එසේ ම රාගය විසින් සත්ත්වයන් සිය වසඟයට ගනී. අනෙක් අතට යම් සේ සත්ත්වයන් ළිං ආදියට තෙමේ ම

[1] **රාගෙන වා.** මජසං
[2] **පරිවත්තෙත්වා.** මජසං

වැටෙන්නාක් මෙන් යථා ස්වභාවය නොම සොයා බලා ඇලිය යුතු තැන ඇලෙනුයේ තෙමේ ම රාගයට බැස ගනී. එහෙයින් **'යක්ඛාදීහි විය'** යනාදිය කියන ලදී. පදභාජනියෙහි මෙම අර්ථය ස්වරූප වශයෙන් දක්වනු පිණිස **'සාරත්තො අපෙක්ඛ වා පටිබද්ධචිත්තො'** යැයි කියන ලදී.

**'විපරිණතෙන චිත්තෙන'** යනු ඒ කායසංසර්ග රාගයෙන් පෙරළුණු සිතින් යන්න යි. එසේ බැසගත් රාගයෙන් යුතු වූයේ ප්‍රකෘතියෙන් ම පිරිසිදු වූ භවාංග සන්තතිය හැරපියා සිත අන් ආකාරයකට පෙරළේ.

**සඃ මාතුගාමෙන සද්ධිං ඉති,** 'මාතුගාමෙන සද්ධිං' යනු; **තදහුජාතායපි,** එදවස උපන්නා වූ ද; **ජීවමානකමනුස්සිත්ථියා සද්ධිං,** ජීවමානක මනුෂ්‍ය ස්ත්‍රියක සමඟ යන්න යි.

**කායසංසග්ගං සමාපජ්ජෙය්‍ය ඉති,** 'කායසංසග්ගං සමාපජ්ජෙය්‍ය' යනු; **හත්ථගහණාදී**[1], අත් ගැනීම් ආදි; **කායසම්පයොගං,** කාය සම්ප්‍රයෝගයට (කයින් එක් වීමකට); **කායමිස්සීභාවං,** කාය මිශ්‍ර භාවයට; **සමාපජ්ජෙය්‍ය,** පැමිණෙන්නේය.

**හත්ථගාහං**[2] **වා ඉති ආදි පන,** 'හත්ථගාහං වා' යන ආදිය; **අස්ස,** ඒ හත්ථගාහාදි සියල්ලගේ; **විත්ථාරෙන,** විස්තර වශයෙන්; **අත්ථදස්සනං,** අර්ථ දැක්වීම යි. **තත්ථ,** එහි ලා; **හත්ථො නාම,** හස්තය (අත) නම්; **කප්පරතෝ පට්ඨාය,** වැළමිට පටන්; **යාව අග්ගනඛා,** නිය අග දක්වා වේ. **වෙණී**[3] **නාම,** වෙණිය නම්; **විනන්ධිත්වා වා,** වෙළා (ගොතා) හෝ; **අවිනන්ධිත්වා වා,** නොවෙළා (නොම ගොතා) හෝ; **සුද්ධකෙසෙහි වා,** හුදු කෙස්වලින් හෝ; **වණ්ණසුත්තකුසුමකහාපණමාලාසුවණ්ණචීරකමුත්තාවලිආදිසු**[4], වර්ණ, නූල්, මල්, කහවණු මාල, රන් වැහැරි, මුතුවැල් ආදිය අතරින්; **අඤ්ඤතර,** එක්තරා; **නීලාදි,** නිල් පැහැ ආදිය; **මිස්සේහි වා**[5], මිශ්‍ර වූ කෙස්වලින් හෝ; **කත කෙසකලාපස්ස,** කරන ලද කේශ කලාපයට;

---

[1] **හත්ථග්ගහණාදී.** මජසං
[2] **හත්ථග්ගාහං.** මජසං **(එවං සබ්බත්ථ)**
[3] **වෙණී.** මජසං
[4] **නීලාදිවණ්ණසුත්තකුසුමකහාපණමාලාසුවණ්ණචීරකමුත්තාවලිආදීසු.** මජසං; බෞසංම
[5] **අඤ්ඤතරනීලාදිමිස්සෙහි වා.** හෙමු; **අඤ්ඤතරමිස්සෙහි වා.** මජසං; බෞසංම; **කඞ්ඛාපි.**

**එතං අධිවචනං**, මෙය පර්යාය වචනය යි. **ච**, තව ද; **එත්ථ**, මෙහි; **වෙණිගහණෙන**[1], වෙණි ග්‍රහණයෙන්; **කෙසා**, කෙස්; **ලොමෙහි අපි සද්ධිං**, ලොම් ද සමඟ; **ගහිතා එව**, ගන්නා ලද්දාහු ම ය. **ඉති**, මෙසේ; **වුත්තලක්ඛණස්ස හත්ථස්ස**, කියන ලද ලක්ෂණ ඇති හස්තයකගේ; **ගහණං**, ගැනීම; **හත්ථගාහො**[2], හත්ථගාහය යි. **වෙණියා ගහණං**, වෙණියෙහි ගැනීම; **වෙණිගාහො**[3], වෙණිගාහය යි, **අවසෙසසරීරස්ස**[4] **පරාමසනං**, සෙසු ශරීරයාගේ පරාමර්ශනය; **අඤ්ඤතරස්ස වා අඤ්ඤතරස්ස වා අඞ්ගස්ස පරාමසනං**, 'අඤ්ඤතරස්ස වා අඤ්ඤතරස්ස වා අංගස්ස පරාමසනං' නම් වේ. **යො**, යම් භික්ෂුවක්; **තං හත්ථගාහං වා**, ඒ අත ගැනීමට හෝ; **වෙණිගාහං වා**, කෙස් ගැනීමට හෝ; **අඤ්ඤතරස්ස වා අඤ්ඤතරස්ස වා අංගස්ස පරාමසනං**, අවශේෂ ශරීරයාගේ පරාමර්ශනයට හෝ; **සමාපජ්ජෙය්‍ය**, පැමිණෙන්නේ ද; **තස්ස**, උන්වහන්සේට; **සඞ්ඝාදිසෙසො නාම**, සංඝාදිසේස නම්; **ආපත්තිනිකායො හොති ඉති**, ආපත්ති නිකාය වෙයි යනු යි.

**77. වි:** 'මාතුගාමෙන සද්ධිං' යන්නෙන් යටත් පිරිසෙයින් එදවස උපන් ජීවමානක මනුෂ්‍ය ස්ත්‍රිය ද ගැනේ. එසේ කායසංසර්ග සංඝාදිසේසාපත්තිය සඳහා එදවස උපන් ජීවමානක මනුෂ්‍ය ස්ත්‍රිය ද වස්තු බීජය වන බව **තදහුජාතායපි** යනාදි ලෙස කියන ලදී. එබඳු ස්ත්‍රියක් සමග කායසංසර්ගයෙහි සඞ්ඝාදිසේස වේ. මෛථුන්දම් සේවනයේ පරිජි වේ. රහෝ නිසජ්ජයෙහි (රහසිගතව එකලාව හිඳීමෙහි) පචිති වේ. යක්ෂ, ප්‍රේත, තිරිසන් ආදී ස්ත්‍රීන් පරිජියට වස්තු වන නමුදු එබඳු ස්ත්‍රීන් සමඟ කායසංසර්ගයෙන් සඟවෙසෙස් නො වේ.

'**කායසංසග්ගං සමාපජ්ජෙය්‍ය**' යනු හස්ත ග්‍රහණාදි කායසම්ප්‍රයෝගයට කාය මිශ්‍ර භාවයට පැමිණියේ යන්න යි. ඒ කායසම්ප්‍රයෝගයට පැමිණෙන ආකාරය **හත්ථගාහං වා** යනාදි ලෙස දක්වේ. **හත්ථගාහං**: වැලමිට පටන් නිය අග දක්වා **හත්ථ** යන්නට අයත් වේ. **වෙණිගාහං**: ගොතන ලද හෝ නොම ගොතන ලද, හුදු කිසිවක් මිශ්‍ර නොවූ කෙස් හෝ පඤ්ච වර්ණ නූල් මිශ්‍ර කර ගොතන

[1] **වෙණිග්ගහණෙන.** මජසං (**එවං සබ්බත්ථ**)
[2] **හත්ථග්ගාහො.** මජසං
[3] **වෙණිග්ගාහො.** මජසං (**එවං සබ්බත්ථ**)
[4] **අවසෙසස්ස සරීරස්ස.** මජසං

ලද හෝ මල්, කහවණු මාල, රන් කෙඳි හෝ මුතුවැල් ආදි කිසිවක් මිශ්‍ර කොට ගොතන ලද කෙස් **වේණි** යන්නෙන් අදහස් වේ. එසේ ම 'වේණිගාහං' යන්නේ කෙස් පමණක් නොව ලොම් ද අයත් වේ. **අඤ්ඤතරස්ස වා අඤ්ඤතරස්ස වා අඞ්ගස්ස පරාමසනං** : සෙසු ශරීරය පරාමර්ශන කිරීම අදහස් වේ. මේ අනුව මිනිස් මාගමකගේ කුමන හෝ අඟපසඟක් කායසංසර්ග රාගයෙන් යුතුව ස්පර්ශ කරන භික්ෂුවට සඟවෙසෙස් ඇවැත් වන බව ප්‍රකට වේ.

මෙසේ දෙවන කායසංසර්ග සිකපදයට අසාධාරණ විනිශ්චය දක්වා, සාධාරණ සප්තදශාකාරය සැකෙවින් දක්වනු කැමති ආචාර්යපාදයෝ '**සාවත්ථියං**' යනාදිය දැක්වූහ.

**සඃ සාවත්ථියං**, සැවැත් නුවර දී; **උදායිත්ථෙරං ආරබ්භ**, උදායි තෙරුන් වහන්සේ අරබයා; **කායසංසග්ගසමාපජ්ජනවත්ථුස්මිං**, කාය සංසර්ග සමාපජ්ජන වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අසාධාරණපඤ්ඤත්ති**, අසාධාරණ ප්‍රඥප්තිය යි. **අනාණත්තිකං**, අනාණත්තිකය යි. **ඉත්ථියා**, ස්ත්‍රිය කෙරෙහි; **ඉත්ථි සඤ්ඤිනො**, ස්ත්‍රියක යන සංඥාව ඇත්තහුට; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **ලොමෙන**, ලොම් ගසකින්; **ලෝමං**, ලොම් ගසක්; **ඵුසන්තස්සාපි**, පහසන්නහුට ද; **වා**, නොහොත්; **ඉත්ථියා**, ස්ත්‍රිය විසින්; **ඵුසියමානස්ස**, ස්පර්ශ කරනු ලබන්නහුට; **සෙවනාධිප්පායෙන**, සේවන අදහසින්; **වායමිත්වා**, වෑයම් කොට; **ඵස්සං පටිවිජානන්තස්ස**, ස්පර්ශය විඳින්නහුට; **සඞ්ඝාදිසෙසො**, සඟවෙසෙස් වේ. **එකෙන පන හත්ථෙන**, එක් අතකින්; **ගහෙත්වා**, ගෙන; **දුතියෙන හත්ථෙන**, දෙවන අතින්; **දිවසම්පි**, දවස ම වුව ද; **තත්ථ තත්ථ ඵුසන්තස්ස**, ඒ ඒ තැන පහසන්නහුට; **එකා ආපත්ති**[1], එක ම ඇවැතකි. **අගහෙත්වා**[2], නොම අල්ලාගෙන; **ඵුසන්තො පන**, පහසනුයේ; **සචෙ**, ඉදින්; **සීසතො**, හිස පටන්; **යාව පාද තාව**, යම්තාක් පා වේ ද ඒතාක්; **කායතො හත්ථං අමොචෙන්තො යෙව**, කයින් අත නොමුදමින් ම; **ඵුසති**, පහසයි ද; **එකාව ආපත්ති**, එක ම ඇවැතකි. **පඤ්චන්නං අඞ්ගුලීනං**, ඇඟිලි පස ම; **එකතො ගහණෙන අපි**[3], එකට ගැනීමෙහි ද; **එකා එව**, එක් ම ඇවැතකි. **සචෙ පන**, ඉදින් වනාහි; **නානිත්ථීනං**, නොයෙක් ස්ත්‍රීන්ගේ; **පඤ්චඞ්ගුලියො**, ඇඟිලි පසක්;

---

[1] **එකාව ආපත්ති**. මජසං
[2] **අග්ගහෙත්වා**. මජසං
[3] **ගහණෙපි**. මජසං

**එකතො ගණ්හාති**; එකට ගනී ද; **පඤ්ච ආපත්තියො**, ඇවැත් පසකි. **ඉත්ථියා**, ස්ත්‍රිය කෙරෙහි; **වෙමතිකස්ස**, විමති ඇත්තහුට; **පණ්ඩකපුරිසතිරච්ඡානගතසඤ්ඤිස්ස ච**, පණ්ඩක, පුරුෂ, තිරිසන්ගත යන සංඥා ඇත්තහුට ද; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **තථා**, එසේ ම; **කායෙන**, කයින්; **කායපටිබද්ධෙ**[1], කාය ප්‍රතිබද්ධයෙහි ද; **අමනුස්සිත්ථිපණ්ඩකෙහි ච සද්ධිං**, අමනුෂ්‍ය ස්ත්‍රීන් ද පණ්ඩකයන් ද සමඟ; **කායසංසග්ගෙපි**, කාය සංසර්ගයෙහි ද; **මනුස්සිත්ථියා පන**, මනුෂ්‍ය ස්ත්‍රියක් කෙරෙහි; **කායපටිබද්ධෙන**, කාය ප්‍රතිබද්ධයෙන්; **කායපටිබද්ධාදිසු**[2], කාය ප්‍රතිබද්ධ ආදීන්හි ද; **පුරිසකායඵුසනාදිසු**[3] **ච**, පුරුෂ කය පැහැසීම් ආදියෙහි ද; **දුක්කටං**, දුකුළා වේ. **ඉත්ථියා**, ස්ත්‍රිය විසින්; **ඵුසියමානස්ස**, ස්පර්ශ කරනු ලබන්නහුට; **සෙවනාධිප්පායස්ස අපි**, සේවන අදහස ඇතියහුට ද; **කායෙන අවායමිත්වා**, කයින් වෑයම් නොකොට; **ඵස්සං පටිවිජානන්තස්ස**, ස්පර්ශය ඉවසන්නහුට ද; **මොක්ඛාධිප්පායෙන**, මිදීමේ අදහසින්; **ඉත්ථිං ඵුසන්තස්ස**, ස්ත්‍රිය පහසන්නහුට ද; **අසඤ්චිච්ච**, නොම සිතා පහසන්නහුට ද; **අසතියා**[4], අන්‍යවිහිතව මාගමක් පහසමි යන සිහියෙන් තොරව පහසන්නහුට ද; **අජානන්තස්ස**, ස්ත්‍රියක් යැයි නොදන්නහුට ද; **අසාදියන්තස්ස**, කාය සංසර්ගය නොම ඉවසන්නහුට ද; **උම්මත්තකාදීනඤ්ච**, උමතු භික්ෂූන් ආදීන්ට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **සීලවිපත්ති**, ශීල විපත්තිය යි. **මනුස්සිත්ථී**, මිනිස් මාගමක් වීම ය; **ඉත්ථිසඤ්ඤිතා**, ස්ත්‍රියක් යන සංඥාව ඇති බව ය; **කායසංසග්ගරාගො**, කාය සංසර්ග රාගය ය; **තෙන රාගෙන වායාමො**, ඒ රාගයෙන් වෑයම් කිරීම ය; **හත්ථගාහාදිසමාපජ්ජනං ඉති**[5], අත් ගැනීම් ආදියට පැමිණීම ය යන; **ඉමානි පඤ්ච**, මේ පස; **එත්ථ**, මේ සිකපදයේ; **අඞ්ගානි**, අංගයෝ ය. **සමුට්ඨානාදීනි**, සමුට්ඨාන ආදිය; **පඨමපාරාජිකෙ**, පළමු පාරාජික සිකපදයෙහි; **වුත්තසදිසානි එව ඉති**, කියන ලද ආකාරය ම යැයි;

**දුතියසික්ඛාපදං**, ද්වීතීය ශික්ෂාපදය යි.

---

[1] කායප්පටිබද්ධෙන. මජසං (එවං සබ්බත්ථ)
[2] කායප්පටිබද්ධාදීසු. මජසං
[3] පුරිසකායඵුසනාදීසු. මජසං
[4] අස්සතියා. මජසං
[5] හත්ථග්ගාහාදිසමාපජ්ජනන්ති. මජසං

**78. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : සැවැත් නුවර.

(2) **පුද්ගලයා** : උදායි තෙරුන් වහන්සේ.

(3) **වස්තුව** : කාය සංසර්ග සමාපජ්ජනය යි.

භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩවෙසෙන සමයේ ආයුෂ්මත් උදායි තෙරුන් වහන්සේ ආරණ්‍යයෙහි වසනුයේ දර්ශනීය විහාරයක් කරවාගෙන එහි වාසය කරති. එය මැදින් ඇතුළු කාමරය ද වටේට ගමන් කළ හැකි පරිදි වටවුණු ශාලාවක් ද වෙයි. ඒ විහාරයේ ඇඳ පුටු ආදි සියල්ල නිසි ස්ථානවල තබා අලංකාරව ඇති බැවින් බොහෝ දෙනෙක් එය බැලීමට නිතර එති. දිනක් එක්තරා බ්‍රහ්මණයෙක් සිය බිරිඳ සමග එහි අවුත් විහාරය බැලීමට අවසර ඉල්ලුවේය.

උදායි තෙරුන් වහන්සේ දොරවල් හා ජනෙල් විවර කොට ඇතුළත පිවිසි අතර බ්‍රාහ්මණයා ද බැමිණිය ද ඒ පිටුපසින් පිවිසුණහ. උදායි තෙරුන් වහන්සේ ඇතැම් ජනේල වසමින් ඇතැම් ඒවා විවර කරමින් ඇවිදින අතර පිටුපසින් සිටි බැමිණියගේ අඟපසඟ පරාමර්ශනය කළහ.

බ්‍රාහ්මණ තෙමේ විහාරය බලා ආපසු ගොස් බැමිණිය සමඟ උදායි තෙරුන්ගේ ගුණ වර්ණනා කළේය. එකල්හි මොහු පැවිදි වේ දෝ යි සැක සිතුණු බැමිණිය උදායි තෙරුන්ගේ නුගුණ කියමින් 'නුඹ යම් සේ මගේ අඟපසඟ අල්ලහි ද එසේ ම උදායි තෙරුන් ද මගේ අඟපසඟ අතගෑවේය' යැයි කීවාය. එය ඇසූ බ්‍රාහ්මණයා කිපී නුගුණ කීයේය. එය අසා මහාජනයා ද ලජ්ජී භික්ෂූහු ද නුගුණ කියූ අතර එය බුදුරජාණන් වහන්සේට සැලවී, උදායි තෙරුන් පිළිවිස මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) **ප්‍රඥප්ති** :

1. **මූල ප්‍රඥප්ති** : 'යො පන භික්ඛු ඔතිණ්ණො -පෙ- සඞ්ඝාදිසෙසො'
2. **අනුප්‍රඥප්ති** : නැත.

3. **සාධාරණ-අසාධාරණ** : අසාධාරණ ප්‍රඥප්තිය යි. එනම් භික්ෂූන්ට පමණක් බලපැවැත්වෙන ඇවැතක් වේ.

(5) **ආණත්තිය** : අනාණත්තික ය.

(6) **ආපත්ති** :

1. **සඟවෙසෙස්** : ස්ත්‍රියක් කෙරෙහි ස්ත්‍රියක් යන සංඥාව ඇතිව යටත් පිරිසෙයින් ලොම් ගසකින් ලොම් ගසක් පැහැසීමෙහි ද ස්ත්‍රියක විසින් පහසනු ලබන කල්හි සේවන අදහසින් වෑයම් කොට ස්පර්ශය විඳින්නහුට ද සංඝාදිසේස වේ.
2. **ථුල්ලැසි** : ස්ත්‍රිය කෙරෙහි විමති ඇති විට ද පණ්ඩක, පුරුෂ, තිරිසන් ගත යන සංඥා ඇති විට ද පැහැසීමෙන් ථුල්ලැසි ඇවැත් වේ.
   කයින් කාය පටිබද්ධය ස්පර්ශ කිරීමෙහි ද, අමනුෂ්‍ය ස්ත්‍රියක් සමඟ ද, පණ්ඩකයන් සමඟ ද කාය සංසර්ගයෙහි ථුල්ලැසි ඇවැත් වේ.
3. **දුකුළා** : මනුෂ්‍ය ස්ත්‍රියකගේ කාය පටිබද්ධය කාය පටිබද්ධයෙන් ස්පර්ශ කිරීමෙහි ද පුරුෂ කය ස්පර්ශ කිරීමෙහි ද දුකුළා වේ.

(7) **අනාපත්ති** :

1. ස්ත්‍රිය විසින් ස්පර්ශ කරනු ලබන විට සේවන අදහස තිබුණ ද කයින් වෑයම් නොකොට ස්පර්ශය විඳින්නහුට.
2. ස්ත්‍රියක් විසින් අල්ලාගත් විට මිදෙන අදහසින් ස්ත්‍රිය පහසන්නහුට.
3. මෙම උපායෙන් 'මැය ස්පර්ශ කරමි' යනුවෙන් නොසිතා ස්පර්ශ කිරීමෙන්, නොම සිතා පාත්‍ර පිළිගැනීම් ආදියේ දී මාගමකගේ අවයවයක් පැහැසුණේ ද අනාපත්ති ය.
4. අන්‍යවිහිතව, 'ස්ත්‍රියක් පහසමි' යන සිහියෙන් තොරව ස්පර්ශ කරන්නහුට.
5. නොදන්නා භික්ෂුවට. එනම් මාගමක් බව නොදන්න දරුවකු ලෙස සිටින දැරියක කිසියම් කටයුත්තකට පැහැසීම වැනි අවස්ථාවක, ස්ත්‍රියක් යැයි නොදැන ස්පර්ශ කළ බැවින් අනාපත්ති වේ.
6. ස්පර්ශය නොම ඉවසන භික්ෂුවට.
7. උමතු - ආදිකාර්මික ආදීන්ට ඇවැත් නැත.

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) **අඞ්ග** :

1. මනුෂ්‍ය ස්ත්‍රියක් වීම.
2. ස්ත්‍රියක යන සංඥව.
3. කාය සංසර්ග රාගය.
4. ඒ කාය සංසර්ග රාගයෙන් වෑයම් කිරීම.
5. අත්ගැනීම් ආදි කාය සංසර්ගයට පැමිණීම.

(10) **සමුට්ඨාන** : පඨම පාරාජික සමුට්ඨානය යි. එනම් කාය-චිත්ත වශයෙනි.

(11) **කිරියා** : ක්‍රියා වශයෙනි.

(12) **සංඥ** : සංඥවිමෝක්ෂ ය. එනම් සංඥවගේ අභාවයෙන් ඇවැතින් මිදේ.

(13) **චිත්තය** : සචිත්තක ය.

(14) **වජ්ජය** : ලෝකවද්‍යය ය.

(15) **කර්මය** : කාය කර්ම ය.

(16) **කුසල ත්‍රිකය** : අකුශල චිත්ත ය.

(17) **වේදනා ත්‍රිකය** : ද්වි වේදනා ය. එනම් සුඛ-උපේක්ෂා වේදනා යි.

**කායසංසග්ග සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# දුට්ඨුල්ලවාචා සංඝාදිසේසය

- 36 -

**සඃ තතියෙ**, තුන්වන සඟවෙසෙස් සිකපදයෙහි; **ඔතිණ්ණතා ච**, රාගයට බැසගත් බව ද; **විපරිණතචිත්තතා ච**, සිත පෙරළී ගිය බව ද; **දුඨුල්ලවාචාස්සාදරාගවසෙන**, දුට්ඨුල්ල වාචා ආස්වාද රාග වශයෙන් (දුහුල් වචන කීම ආස්වාදනය කිරීමේ රාග වශයෙන්), **වෙදිතබ්බා**, දත යුත්තාහු ය.

**මාතුගාමං ඉති**, 'මාතුගාමං' යනු; **දුටයුල්ල අදුඨුල්ල සල්ලක්ඛණ**[1] **සමත්‍ථං** දුඨුල්ල-අදුඨුල්ල භාවය සැලකීමට සමත්; **මනුස්සිත්‍ථිං**, මනුෂ්‍ය ස්ත්‍රිය යි.

**දුට්ඨුල්ලාහි වාචාහි ඉති**, 'දුට්ඨුල්ලාහි වාචාහි' යනු; **වච්චමග්ගපස්සාවමග්ගමෙථුනධම්මපටිසංයුත්තාහි**[2] **වාචාහි**, වර්චස් මාර්ගය, පස්සාව මාර්ගය, මෛථුන ධර්මය ප්‍රතිසංයුක්ත වචනයන්ගෙන් යන්න යි.

**ඔභාසෙය්‍ය ඉති**, 'ඔභාසෙය්‍ය' යනු; **අවභාසෙය්‍ය**, පහත් කොට කියන්නේය. **වණ්ණාවණ්ණ**, ගුණ-නුගුණ; **යාචනආයාචන**, යැදීම්-අයැදීම්; **පුච්ඡනපටිපුච්ඡන**, විචාරීම්-නැවත විචාරීම්; **ආචික්ඛනානුසාසනං**, කීම්-අනුශාසනා කිරීම්; **අක්කොසනවසෙන**, ආක්‍රෝෂ කිරීම් වශයෙන්; **නානප්පකාරකං**, නොයෙක් ආකාර ඇත්තා වූ; **අසද්ධම්මවචනං වදෙය්‍ය**, අසද්ධර්ම වචන කියන්නේය.

**යථා තං ඉති එත්‍ථ**, 'යථා තං' යන මෙහි; **තං ඉති**[3], 'තං' යනු; **නිපාතමත්තං** නිපාත මාත්‍රයකි. **යථා යුවා යුවතිං ඉති අත්‍ථො**, 'යථා යුවා යුවතිං' (යම් සේ යෞවනයෙක් යෞවනියකට කියනනේ ද එසේ) යන අර්ථය යි. **එතෙන**, මෙයින්; **ඔභාසනෙ**, ඔභාසනයෙහි; **නිරාසඞ්කභාවං**, සැක රහිත බව; **දස්සෙති**, දක්වයි.

---

[1] **සංලක්ඛණ**. මජසං
[2] **වච්චමග්ගපස්සාවමග්ගමෙථුනධම්මප්පටිසංයුත්තාහි**. මජසං
[3] **න්ති**. මජසං

**මෙථුනූපසංහිතාහි ඉති ඉදං,** 'මෙථුනූපසංහිතාහි' යන මෙය; **දුට්ඨුල්ලාය වාචාය,** දුහුල් වචනයාගේ; **සිඛාප්පත්තලක්ඛණදස්සනං,** මුදුන් පැමිණි ලක්ෂණය දැක්වීම යි.

**සඞ්ඝාදිසෙසො ඉති,** 'සඞ්ඝාදිසෙසො' යනු; **ද්වින්නං මග්ගානං වසෙන;** වසමග-පසමග යන දෙවැදෑරුම් මාර්ගයන්ගේ වශයෙන්; **වණ්ණාවණ්ණෙහි වා,** ගුණ-නුගුණ කීම්වලින් හෝ; **මෙථුනයාචනාදීහි වා,** මෙවුන්දම් යැදීම් ආදියෙන් හෝ; **සිඛරිණී අසි**[1], සිඛරිණියක් (බැහැරට නික්මුණු වැදූමහ ඇත්තියක්) වෙහි. **සම්භින්නා අසි,** සම්භින්නාවක් (මුසු වූ මළමාර්ග-මුත්‍රාමාර්ග ඇත්තියක්) වෙහි. **උභතොබ්‍යඤ්ජනා අසි**[2], උභතොබ්‍යඤ්ජනාවක් (ස්ත්‍රී-පුරුෂ ලිංග දෙක ම ඇත්තියක්) වෙහි. **ඉති ඉමෙසු තීසු,** යන මේ තුන් වචන අතරින්; **අඤ්ඤතරෙන,** එක්තරා වචනයකින්; **අක්කොසවචනෙන වා,** ආක්‍රෝශ වචනයෙන් හෝ; **මාතුගාමං,** මාගමකට; **ඔභාසන්තස්ස**[3], කියන භික්ෂුවට; **සඞ්ඝාදිසෙසො නාම ආපත්තිනිකායො හොති ඉති,** සංඝාදිසේස නම් ආපත්ති නිකාය වෙයි යනු යි.

**79. වි:** තෙවන දුට්ඨුල්ලවාචා සංඝාදිසේස සිකපදයේ 'ඔතිණ්ණො' යන්න සහ 'විපරිණතෙන චිත්තෙන' යන්න දුහුල් වචන කීමේ රාගයාගේ වශයෙන් දත යුතු වේ. එකී දුහුල් වචන කීමේ රාගයෙන් බැසගෙන දුහුල් වචන කීම කෙබඳු මාගමක් සඳහා ද යන්න **'මාතුගාමන්ති'** යනුවෙන් දැක්වේ. එනම් දුට්ඨුල්ල-අදුට්ඨුල්ල වචනය සලකාගත හැකි මනුෂ්‍ය ස්ත්‍රියක් වේ. එනම් අසද්ධර්ම-සද්ධර්ම ප්‍රතිසංයුක්ත කථාව දැනගැන්මට සමත් ස්ත්‍රියකි. මහළු ස්ත්‍රියක් වුව ද මෝඩ, කෙළතොළු එකියක් අදහස් නොවන බව යි.

**'දුට්ඨුල්ලාහි වචාහි':** දුට්ඨුල්ල වචනයක් යනු වර්චස්මාර්ගීය, පස්සාවමාර්ගීය, මෛථුන ධර්මය ප්‍රතිසංයුක්ත වචනයක් වේ. ඒ අනුව වර්චස්මාර්ගීය හා පස්සාව මාර්ගීය යන මාර්ග ද්වය පිළිබඳ ගුණාගුණ කීම් වශයෙන් හෝ, මෛථුන ධර්මය යාචනාදියෙන් හෝ, සිඛරණී'සි, සම්භින්නා'සි, උභතොබ්‍යඤ්ජනා'සි යන තුන් වචනයක් අතරින් එක්තරා වචනයකින් ආක්‍රෝශ කිරීම් වශයෙන් හෝ කියනු ලබන

---

[1] **සිඛරිණීසි.** හෙමු; **සිඛරණීසි.** මජසං; කඞ්ඛා.ටී
[2] **උභතොබ්‍යඤ්ජනකාසි.** මජසං; කඞ්ඛා.ටී; **උභතොව්‍යඤ්ජනාසි. කඞ්ඛාපි.**
[3] **ඔභාසෙන්තස්ස.** බෞසංම

වචනය දුහුල් වචනයක් නම් වේ. එබඳු වචන ඒ දුට්ඨුල්ල අදුට්ඨුල්ල බව තේරුම්ගත හැකි මිනිස් මාගමකට කියන භික්ෂුවට සඟවෙසෙස් ඇවැත් වේ.

**'ඔභාසෙය්‍ය'** යන්නෙන් එකී දුහුල් වචනයක් කියනු ලබන ආකාරය දක්වේ. එය නවවැදෑරුම් කොට දක්වා තිබේ. එනම්,

1. **වර්ණනා කිරීම** : 'ස්ත්‍රී ලක්‍ෂණයෙන්, ශුභ ලක්‍ෂණයෙන් සමන්විත වෙහි' යනාදි ලෙස ගුණ කීම යි. මෙහි දී ද 'වසමඟ, පසමඟ' යන වචන සමඟ කීමෙන් ම ඇවැත් වේ.
2. **නුගුණ කීම** : මාගී ද්වය උදෙසා නුගුණ කීම යි. එහි දී ද වසමග, පසමග යන ඒවා හෝ සිබරිණී, සම්භින්නා, උභතොබ්‍යඤ්ජනා යන පද සමඟ ගටා කීමෙන් ම ඇවැත් වේ.
3. **යාචනය** : මෛථුන ධර්මය ගටා කරන යාචනයෙන් ම ඇවැත් වේ.
4. **ආයාචනය** : මෛථුන ධර්මය ගටා ම 'කවදා නුඹගේ මව පැහැදෙන්නී ද, කවදා නුඹගෙන් මෙවුන්දම ලබන්නෙම් ද' යනාදී අයැදුමෙන් ම ඇවැත් වේ.
5. **පුච්ඡනය** : මෙවුන්දම් වචනය ගැටීමෙන් ම 'කෙසේ නුඹ සැමියාට මෙවුන්දම් දෙන්නෙහි ද?' යැයි කීමෙන් ඇවැත් වේ.
6. **පටිපුච්ඡනය** : 'මෙසේ නුඹ සැමියාට දෙයි' යනාදි ලෙස කියන වචනය ද මෙවුන්දම යන්න සමඟ ගටා කීමෙන් ම ඇවැත් වේ.
7. **ආචික්ඛනය** : 'මෙසේ මෙවුන්දම දෙව' යනාදි ලෙස මෙවුන්දම් වචනය ගටා කීමෙන් ම ඇවැත් වේ. මෙය විචාළ කාන්තාවකට කීම යි.
8. **අනුසාසනය** : නොම විචාළ කාන්තාවට ඉහත ආචික්ඛනයේ පරිදි ම කීමෙන් ඇවැත් වේ.
9. **ආක්‍රෝෂ කිරීම** : සිබරණී'සි, සමභින්නා'සි, උභතොබ්‍යඤ්ජනා'සි යන මේ පද තුන තනි තනිව ම ආපත්තිකර වේ. ඒ හැරුණුකොට 'නිමිත්තක් නැති තැනැත්තිය' (අනිමිත්තා'සි) යනාදි ලෙස කියන වචන තනිව ම ආපත්තිකර නොවන අතර ආපත්තිකර පදයක් සමඟ ම කිව යුතු ය.

මේ අනුව වසමග, පසමග, මෛථුන ධර්මය, සිබරණී, සමභින්නා, උභතොබ්‍යඤ්ජනා යන මේ පද සය තනිව ම ආපත්තිකර වේ. සෙසු පදයන් මෙම පද සමඟ ගටා කීමෙන් ම ඇවැත් වේ.

**සඃ** **සාවත්ථියං**, සැවැත් නුවර; **උදායිත්ථෙරං ආරබ්භ**, උදායි තෙරුන් අරබයා; **දුට්ඨුල්ලවාචාහි ඔභාසනවත්ථුස්මිං**, දුහුල් වචන කීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අසාධාරණ පඤ්ඤත්ති**, අසාධාරණ ප්‍රඥප්ති ය. **අනාණත්තිකං**, අනාණත්තික ය. **ඉත්ථියා**, ස්ත්‍රිය කෙරෙහි; **ඉත්ථිසඤ්ඤිනො**, ස්ත්‍රී සංඥාව ඇත්තහුට; **අන්තමසො හත්ථමුද්දායපි**, යටත් පිරිසෙයින් හස්ත මුද්‍රාවෙනුදු; **වුත්තනයෙන එව**, කියූ ආකාරයෙන් ම; **ඔභාසන්තස්ස**, කියන භික්ෂුවට; **සචෙ**, ඉදින්; **සා**, ඒ ස්ත්‍රී තොමෝ; **තමත්ථං**, ඒ අර්ථය; **තස්මිං යෙව ඛණෙ**, එකෙණෙහි ම; **ජානාති**, දනගනී ද; **සඞ්ඝාදිසෙසො**; සඟවෙසෙස් වේ. **පණ්ඩකෙ**, පණ්ඩකයා කෙරෙහි; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **තස්මිං යෙව**, ඒ පණ්ඩකයා කෙරෙහි ම; **ඉත්ථි සඤ්ඤිනො**, ස්ත්‍රියක් යන සංඥා ඇත්තහුට; **දුක්කටං**, දුකුළා වේ. **පුනප්පුන**[1] **ඔභාසන්තස්ස**, යළි යළිත් කියන්නහුට ද; **ච**, එසේ ම; **සම්බහුලා ඉත්ථියො**, බොහෝ ස්ත්‍රීන්ට; **එකවාචාය ඔභාසන්තස්ස**, එක වචනයකින් කියන්නහුට ද; **වාචාගණනාය චෙව**, වචන ගණනින් මෙන් ම; **ඉත්ථිගණනාය ච**, ස්ත්‍රීන් ගණනින් ද; **ආපත්තියො**, ඇවැත් වේ. **සචේ**, ඉදින්; **යං ඉත්ථිං**, යම් ස්ත්‍රියකට; **ඔභාසති**, කියයි ද; **සා**, ඕ තොමෝ; **න ජානාති**, නොදනී ද; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **අධක්ඛකං**, අකු ඇටයෙන් යට; **උබ්භජාණුමණ්ඩලං**[2], දණ මඬලෙන් උඩ; **ආදිස්ස**, දක්වා; **වණ්ණාදිභණනෙපි**, වර්ණනා කිරීම් ආදියෙහි ද; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **පණ්ඩකෙ**, පණ්ඩකයෙකු කෙරෙහි; **දුක්කටං**, දුකුළා වේ. **උබ්භක්ඛකං**, අකු ඇටයෙන් උඩ; **අධොජාණුමණ්ඩලං**[3], දණ මඬලෙන් යට; **කායපටිබද්ධඤ්ච**[4], කාය ප්‍රතිබද්ධය ද; **ආදිස්ස**, දක්වා; **වණ්ණාදිභණනෙ**, වර්ණනා කිරීම් ආදියෙහි; **සබ්බත්ථ දුක්කටං**, සියලු තැන්හි දුකුළා වේ.

**අත්ථධම්මඅනුසාසනිපුරෙක්ඛාරානං**, '**අත්ථපුරෙක්ඛාර**' හෙවත් අටුවාව කියවන්නහුට ද, '**ධම්මපුරෙක්ඛාර**' හෙවත් පෙළ කියවන්නහුට ද, '**අනුසාසනිපුරෙක්ඛාර**' හෙවත් අනුශාසනා කරන්නහුට ද යන මොවුන්ට; **උම්මත්තකාදීනඤ්ච**, උම්මත්තක ආදීන්ට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **සීල විපත්ති**, ශීල විපත්තිය යි. **මනුස්සිත්ථි**, මනුෂ්‍ය ස්ත්‍රියක් වීම;

---

[1] පුනප්පුනං. මඡසං
[2] **උබ්භජානුමණ්ඩලං**. හෙමු; බෞසංම
[3] **අධොජානුමණ්ඩලං**. හෙමු; බෞසංම
[4] **කායප්පටිබද්ධඤ්ච**. මඡසං

**ඉත්ථිසඤ්ඤිතා,** ස්ත්‍රියක යන සංඥව ඇති බව; **දුට්ඨුල්ලවාචස්සාදරාගො,** දුට්ඨුල්ල වාචා කීම ආස්වාදනය කිරීමේ රාගය; **තෙන රාගෙන ඔභාසනං,** ඒ රාගයෙන් කීම; **තං ඛණං විජානනං,** එකෙණෙහි ම දැනගැනීම; **ඉති ඉමානි පඤ්ච,** යන මේ පස්දෙන; **එත්ථ අඞ්ගානි,** මේ සිකපදයේ අංගයෝ ය. **අදින්නාදන සමුට්ඨානං,** අදින්නාදන සමුට්ඨානය යි. **කිරියා**[1], කිරීම් වශයෙන් ඇවැතට පත්වේ. **සඤ්ඤාවිමොක්ඛං,** සංඥවිමෝක්ෂ ය. **සචිත්තකං,** සචිත්තක ය. **ලෝකවජ්ජං,** ලෝකවද්‍ය ය. **කායකම්මං,** කායකර්ම ය. **වචීකම්මං**[2], වචීකර්ම ය. **අකුසල චිත්තං,** අකුශල චිත්ත ය. **ද්විවෙදනං ඉති,** ද්වි වේදනා ය යනුවෙන්;

**තතියසික්ඛාපදං,** තෘතීය ශික්ෂාපදය යි.

**80. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදනය** : සැවැත් නුවර

(2) **පුද්ගලයා** : උදයි තෙරුන් වහන්සේ

(3) **වස්තුව** : දුහුල් වචන කීමේ වස්තුවෙහි

භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ වෙසෙන සමයේ ආයුෂ්මත් උදයි තෙරුන් වහන්සේ ආරණ්‍යයෙහි වැඩවාසය කරති. උන්වහන්සෙගේ විහාරය දර්ශනීය බැවින් එය බැලීමට බොහෝ දෙනා යත්. විහාරය බැලීමට යන ස්ත්‍රීන් උදයි තෙරුන් වහන්සේ හමුවී කථාබස් කරන විට, තෙරණුවෝ ඒ ස්ත්‍රීන්ට වසමඟ, පසමඟ ආදිය පිළිබඳ දුහුල් වචන කියත්.

මෙම ස්ත්‍රීන් අතර ධූර්ත වූවාහු මෙම බස් අසා සිනා පළ කරමින් අල්ලාප සල්ලාපයේ යෙදෙත්. ලජ්ජිත ස්ත්‍රීහු ආක්‍රෝශ කරත්. මහජනතාව මේ නුගුණ කීම අසා නුගුණ කියන්නට වූ අතර එය භික්ෂූන්ට ඇසී බුදුරජාණන් වහන්සේට සැලකර බුදුරජාණන් වහන්සේ උදයි තෙරුන් වහන්සේගෙන් විචාරා නිග්‍රහ කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

[1] **කිරියං.** මඡසං

[2] **කායකම්මකම්මං, වචීං.** බෞසංම (මුද්‍රණ දෝෂයකි)

(4) **ප්‍රඥප්තිය** :

1. **මූල ප්‍රඥප්ති** : 'යො පන භික්ඛු ඔතිණ්ණො -පෙ- සඞ්ඝාදිසෙසො'
2. **අනුප්‍රඥප්ති** : නැත.
3. **සාධාරණ අසාධාරණ** : අසාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : අනාණත්තික ය.

(6) **ආපත්ති**

1. **සඟවෙසෙස්** : ස්ත්‍රියක් හට, ස්ත්‍රිය යන සංඥාවෙන් යුතුව යටත් පිරිසෙයින් හස්ත මුද්‍රාවෙන් නමුදු යට සඳහන් කළ පරිදි දුහුල් වචන කී විට ඒ අර්ථය ඒ මොහොතේ ම අසන්නිය තේරුම් ගනී නම් එම භික්ෂුවට සඟවෙසෙස් ඇවැත් වේ.
2. **ථුල්ලච්චයාපත්ති** : පණ්ඩකයෙකුට, පණ්ඩක යන සංඥාවෙන් දුහුල් වචන කීමෙන් ථුලැසි ඇවැත් වේ.
   යම් ස්ත්‍රියකට කියයි ද ඇය නො දැනගනී නම්, ථුලැසි වේ.
   ස්ත්‍රියකට අකු ඇටයෙන් යට, දණ මඬලෙන් උඩ යම් අවයවයක් දක්වා (වසමග, පසමග හැර) ගුණාගුණ කීම් ආදි වශයෙන් දුහුල් වචන කීමෙන් ථුලැසි වේ.
3. **දුකුළා ඇවැත්** : පණ්ඩකයෙකුට ස්ත්‍රී යන සංඥාවෙන් දුහුල් වචන කීමෙන් දුකුළා ඇවැත් වේ.
   පණ්ඩකයෙකුට අකු ඇටයෙන් පහළ, දණ මඬලෙන් උඩ අවයව දක්වා දුහුල් වචන කීමෙන් දුකුළා වේ.
   අකු ඇටයෙන් ඉහළ, දණ මඬලෙන් පහළ අවයව දක්වා ගුණාගුණ කීම් ආදි වශයෙන් දුහුල් වචන කීමෙන් දුකුළා ඇවැත් වේ.

(7) **අනාපත්ති** :

1. අත්ථපුරෙක්ඛාර : අටුවාව කියාදීම
2. ධම්මපුරෙක්ඛාර : පෙළ කියාදීම
3. අනුසාසනිපුරෙක්ඛාර : අනුශාසනාවක් කිරීම.
4. උමතු ආදි භික්ෂූන්ට

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) අඞ්ග 05

1. මනුෂ්‍ය ස්ත්‍රියක් වීම.
2. ස්ත්‍රියක් යන සංඥාව
3. දුහුල් වචන කීම ආස්වාදනය කිරීමේ රාගය
4. ඒ රාගයෙන් දුහුල් වචන කීම.
5. එකෙණෙහි ම දැනගැනීම.

(10) **සමුට්ඨාන** : අදින්නාදන සමුට්ඨාන ය.

(11) **කිරියා** : කිරියා වශයෙනි

(12) **සංඥා** : සංඥාවිමෝක්ෂ ය.

(13) **චිත්ත** : සචිත්තක ය.

(14) **වජ්ජය** : ලෝකවද්‍ය ය.

(15) **කම්මය** : කායකම්ම, වචීකම්ම ය.

(16) **කුසල ත්‍රිකය** : අකුශල චිත්ත ය.

(17) **වේදනා ත්‍රිකය** : ද්වි වේදනා ය. එනම් සුඛ-උපෙක්ඛා වේදනා වේ.

**දුට්ඨුල්ලවාචා සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# අත්තකාමපාරිචරිය සංඝාදිසේසය

**සඃ චතුත්‍ථෙ**, සතරවැනි සංඝාදිසේස සිකපදයෙහි; **ඔතිණ්ණතා ච**, රාගයට බැසගත් බව ද; **විපරිණතචිත්තතා ච**, සිත පෙරළී ගිය බව ද; **අත්තකාමපාරිචරියාවසෙන**[1] **එව**, තමන්ට මෙවුන්දමින් උවටැන් කරගැනීම් වශයෙන් ම; **වෙදිතබ්බා**, දත යුත්තාහු ය.

**මාතුගාමස්ස සන්තිකෙ ඉති**, 'මාතුගාමස්ස සන්තිකෙ' යනු; **දුට්ඨුල්ලොභාසනෙ**, දුහුල් වචන කීම පිළිබඳ සිකපදයේ; **වුත්තප්පකාරාය ඉත්‍ථියා සමීපෙ**, කියන ලද ආකාර ඇති ස්ත්‍රියගේ සමීපයෙහි ය.

**අත්තකාමපාරිචරියාය ඉති**, 'අත්තකාමපාරිචරියාය' යනු; **මෙථුනධම්මසඞ්ඛාතෙන කාමෙන පාරිචරියා කාමපාරිචරියා** (**මෙථුනධම්මසඞ්ඛාතෙන**, මෙවුන්දම් සංඛ්‍යාත වූ; **කාමෙන**, කාමයෙන්; **පාරිචරියා**, උවටැන් කිරීම (මෙහෙය කිරීම); **කාමපාරිචරියා**, කාම පාරිචරියාව යි), යනු විග්‍රහය යි. **අත්තනො අත්‍ථාය කාමපාරිචරියා අත්තකාමපාරිචරියා** (**අත්තනො අත්‍ථාය**, තමා පිණිස; **කාමපාරිචරියා**, කාමයෙන් උවටැන් කිරීම; **අත්තකාමපාරිචරියා**, අත්තකාමපාරිචරියාව යි). වා නොහොත් (අනෙක් විකල්පාර්ථය නම්); **අත්තනා**, තමා විසින්; **කාමිතා**, කැමති වන ලද්දී; **ඉච්ඡිතා ඉති**, පතන ලද්දී නු යි; **අත්තකාමා**, 'අත්තකාමා' නම් වේ. **සයං**, තෙමේ ම; **මෙථුනරාගවසෙන**, මෙවුන්දම් රාග වශයෙන්; **පත්‍ථිතා**, ප්‍රාර්ථනා කරන ලද්දීය; **ඉති අත්‍ථො**, යන අර්ථය යි. **අත්තකාමා ච සා පාරිචරියා චාති අත්තකාමපාරිචරියා** (**අත්තකාමා ච සා**, අත්තකාමය වූයේත් එය ම යි; **පාරිචරියා ච ඉති**, පාරිචරියාව වූයේත් එය ම යි; **අත්තකාමපාරිචරියා**, අත්තකාමපාරිචරියා නම් වේ) යනු සමාස විග්‍රහය යි. **තස්සා අත්තකාමපාරිචරියාය**, ඒ අත්තකාමපාරිචරියාවගේ ය.

**වණ්ණං භාසෙය්‍ය ඉති**, 'වණ්ණං භාසෙය්‍ය' යනු; **ගුණං**, ගුණය; **ආනිසංසං**, ආනිශංසය; **පකාසෙය්‍ය**, ප්‍රකාශ කරන්නේය.

[1] අත්තකාමපාරිචරියවසෙන. කඞ්ඛා.ටී

- 37 -

**එතදග්ගං ඉති ආදි**; 'එතදග්ගං' යන ආදිය; **තස්සා අත්තකාමපාරිචරියාය**, ඒ අත්තකාමපාරිචරියාවගේ; **වණ්ණභාසනාකාරදස්සනං**[1], ගුණය ප්‍රකාශ කරන ආකාරය දැක්වීම යි. **තත්‍ර**, එහි ලා; **අයං**, මේ; **පද සම්බන්ධවසෙන එව**, පද සම්බන්ධ වශයෙන් ම; **සඞ්ඛෙපත්‍ථො**, සංක්ෂේප අර්ථය යි. **යා**, යම් ස්ත්‍රියක්; **මාදිසං**, මා බඳු වූ; **පාණාතිපාතාදීහි**, ප්‍රාණඝාතාදියෙන්; **පටිවිරතත්තා**[2], වෙන් වූ බැවින්; **සීලවන්තං**, සිල්වත් වූ; **මෙථුනධම්මා විරතත්තා**[3], මෛවුන්දමින් වෙන් වූ බැවින්; **බ්‍රහ්මචාරිං**, බ්‍රහ්මචාරී වූ; **තදුභයෙන අපි**, ඒ දෙකෙන් ම යුත් බැවින්; **කල්‍යාණධම්මං**[4], යහපත් ධර්ම ඇති (මා බඳු අයෙකුට); **එතෙන ධම්මෙන**, මේ මෛවුන්දමින්; **පරිචරෙය්‍ය**, උවටැන් කරන්නේ නම් (මෙහෙ කරන්නේ නම්); **අභිරමෙය්‍ය**, සතුටු කරවන්නේ නම්; **එවං**, මෙසේ; **මාදිසං**, මා බඳු අයෙකුට; **පරිචරන්තියා**, මෙහෙ කරන්නා වූ; **තස්සා**, ඇගේ; **යා අයං පාරිචරියා නාම**, යම් මේ උවටැන් කිරීමක් වේ නම්; **පාරිචරියානං**, උවටැන් කිරීම් අතරින්; **එතදග්ගං ඉති**, මෙය ම අග්‍ර ය යනුවෙනි.

**මෙථුනූපසංහිතෙන සඞ්ඝාදිසෙසො ඉති**, 'මෙථුනූපසංහිතෙන සඞ්ඝාදිසෙසො' යනු; **එවං**, මෙසේ; **අත්තකාමපාරිචරියාය**, අත්තකාමපාරිචරියාවගේ; **වණ්ණං භාසන්තො ච**, ගුණ කියනුයේ ද; **ත්වං**, නුඹ; **මය්හං**, මට; **මෙථුනධම්මං දාතුං**, මෛවුන්දම දීමට; **අරහසි**, සුදුස්සෙක් වෙහි. **ඉති ආදිනා**, යන ආදි; **මෙථුනපටිසංයුත්තෙන එව**[5] **වචනෙන**, මෛවුන්දම් ප්‍රතිසංයුක්ත වචනයෙන් ම; **යො භාසෙය්‍ය**, යම් භික්‍ෂුවක් කියන්නේ ද; **තස්ස**, උන්වහන්සේට; **සඞ්ඝාදිසෙසො**, සංඝාදිසේස වේ.

**81. වි:** මෙම සිකපදයේ **ඔතිණ්ණො විපරිණතෙන චිත්තෙන** යන්න තමාට මෛවුන්දමින් උවටැන් කරගැනීම පිළිබඳ රාගයාගේ වශයෙන් යැයි දත යුතු.

---

[1] වණ්ණභාසනාකාරනිදස්සනං. මජසං
[2] විරහිතත්තා. මජසං
[3] විරහිතත්තා. මජසං
[4] කල්ලාාණධම්මං. හෙමු; බෞසංම
[5] මෙථුනප්පටිසංයුත්තෙනෙව. මජසං

'**අත්තකාමපාරිචරියාය**' යනු තමාට මෙවුන්දමින් උවටැන් කරගැනීම සඳහා ය. නැතහොත් තමා මෙවුන්දම් රාග වශයෙන් කැමති වූ පතන ලද උපස්ථානය පිළිබඳව යන්න යි. සෙසු සියල්ල සුගම ය.

මෙහි ලා ද සඟවෙසෙස් ඇවැත් වීම සඳහා මෙවුන්දම් නිශ්‍රිත වූ වචනයෙන් ම කිව යුතු වේ. 'මම ද ක්‍ෂත්‍රියයෙක්මි. නුඹ ද ක්‍ෂත්‍රියයෙක් වෙහිය. ක්‍ෂත්‍රියයෙක් ක්‍ෂත්‍රියයෙකුට දීමට සුදුසු ය' යැයි මෙසේ උවටැන් කිරීමේ ගුණ කීමෙන් සඟවෙසෙස් නො වේ. 'මම ද ක්‍ෂත්‍රියයෙක්මි' යනාදි ලෙස බොහෝ පර්යායයන් කියා ද 'නුඹ මට මෙවුන්දම දීමට සුදුසු ය' යනාදි ලෙස කියන්නහුට ම සඞ්ඝාදිසේස වේ.

**සඃ සාවත්ථියං**, සැවැත් නුවර; **උදායිත්ථෙරං ආරබ්භ**, උදායි තෙරුන් අරබයා; **අත්තකාමපාරිචරියාය**, තමාට මෙවුන්දමින් උවටැන් කිරීමෙහි; **වණ්ණභාසනවත්ථුස්මිං**, ගුණ කියන වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අසාධාරණපඤ්ඤත්ති**. අසාධාරණ ප්‍රඥප්තිය යි. **අනාණත්තිකං**, අනාණත්තික ය. **ඉත්ථියා**, ස්ත්‍රියක් කෙරෙහි; **ඉත්ථිසඤ්ඤිනො**, ස්ත්‍රියක යන සංඥව ඇත්තහුට; **අන්තමසො**, යටත් පිරිසෙයින්; **හත්ථමුද්දය අපි**, හස්ත මුද්‍රාවෙනුදු; **වුත්තනයෙන එව**, කියූ නයින් ම; **අත්තකාමපාරිචරියාය**, අත්තකාමපාරිචරියාවගේ; **වණ්ණං භාසන්තස්ස**, ගුණ කියන්නහුට; **සචෙ**, ඉදින්; **සා**, ඕතොමෝ; **තමත්ථං**, ඒ අර්ථය; **තස්මිං යෙව ඛණෙ**, එකෙණෙහි ම; **ජානාති**, දනී ද; **සඞ්ඝාදිසෙසො**; සංඝාදිසේස වේ. **චෙ**, ඉදින්; **නො ජානාති**, නො දනී ද; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **පණ්ඩකෙ**, පණ්ඩකයෙකු කෙරෙහි; **පණ්ඩකසඤ්ඤිනො අපි**, පණ්ඩක සංඥවෙන් කියන්නහුට ද; **ථුල්ලච්චයං**; ථුලැසි වේ. **තස්මිං එව**, පණ්ඩකයෙක් කෙරෙහි ම; **ඉත්ථිසඤ්ඤිනො**, ස්ත්‍රියක් යන සංඥව ඇත්තහුට; **දුක්කටං**, දුකුළා වේ. **චීවරාදීහි වත්ථුකාමෙහි**, චීවර ආදි වස්තුකාමයන්ගෙන්; **පාරිචරියාය**, මෙහෙ කිරීමේ; **වණ්ණං භාසන්තස්ස**, ගුණ කියන්නහුට ද; **උම්මත්තකාදීනං ච**, උමතු ආදි භික්‍ෂූන්ට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **සීල විපත්ති**, ශිල විපත්තිය යි. **මනුස්සිත්ථි**, මනුෂ්‍ය ස්ත්‍රියක් වීම ය. **ඉත්ථිසඤ්ඤිතා**, ස්ත්‍රියක් යන සංඥව ඇති බව ය. **අත්තකාමපාරිචරියාය රාගො**, තමාට මෙවුන්දමින් උවටැන් කරගැනීම පිළිබඳ රාගය ය. **තෙන රාගෙන වණ්ණභණනං**, ඒ රාගයෙන් ගුණ කීම ය. **තං ඛණං විජානනං**, එකෙණෙහි ම දනගැනීම ය; **ඉති**, යනුවෙන්;

**එත්ථ**, මේ සිකපදයේ; **ඉමානි පඤ්ච අඞ්ගානි**, මේ පස් අංගයෝ ය. **සමුට්ඨානාදීනි**, සමුට්ඨාන ආදිය; **දුට්ඨුල්ලොභාසනෙ**, දුටඨුල්ලෝභාසන සිකපදයේ; **වුත්තසදිසානි එව ඉති**, කියන ලද ආකාරය ම යැයි;

**චතුත්ථසික්ඛාපදං**, චතුර්ථ ශික්ෂාපදය යි.

**82. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : සැවැත් නුවර

(2) **පුද්ගලයා** : උදායි තෙරුන් වහන්සේ

(3) **වස්තුව** : තමාට මෙවුන්දමින් උවටැන් කිරීමෙහි ගුණ කියන වස්තුවෙහි.

භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ වෙසෙන සමයේ උදායි තෙරුන් වහන්සේ බොහෝ කුලයන් කරා එළඹෙති. සැමියා මළ, මනා රූ ඇති, දකුම්කලු වූ එක්තරා ස්ත්‍රියකගේ නිවසට පෙරවරු සමයෙහි හැඳ පෙරවා පා සිවුරුගෙන වැඩමකළ උදායි තෙරුන් වහන්සේ පනවන ලද අසුනෙහි හුන්හ. එකල්හි ඒ ස්ත්‍රිය උදායි තෙරුන් වෙත එළඹ එකත් පසෙක හිඳ දහම් ශ්‍රවණය කර පැහැදී සිව්පසයෙන් පැවරීම් කළාය. උදායි තෙරුන් වහන්සේ තමන් වහන්සේට සිව්පස ලැබෙන බවත්, ඉන් ප්‍රයෝජන නැති බවත් පවසා යමක් දුලබ නම් එය දෙනු මැනව යැයි ඉල්ලා සිටියහ. ඒ කුමක්දැයි ඇසූ විට මෙවුන්දම යැයි පැවසූහ. එකල්හි ඒ ස්ත්‍රිය තෙරුන් වහන්සේට ඇරයුම් කරමින් නිදන කාමරයට ගොස් සළුව මුදා ඇඳෙහි උඩුකුරුව වැදහොත්තීය. ඉක්බිති උදායි තෙරුන් වහන්සේ ඇය වෙතට පැමිණ 'කවරෙක් නම් මේ මළ වෑහෙන දුගඳ ස්පර්ශ කරන්නේ දැයි' කෙළ ගසා ඉවත්ව ගියහ. ඒ ස්ත්‍රිය 'මේ උදායි මහණ තෙමේ ම මෙවුන්දම යැද, කවරෙක් මළ වෑහෙන දුගඳ වූ මැය ස්පර්ශ කරන්නේ ද යනුවෙන් කෙළ ගසා ගියේය. මගේ කුමක් ලාමක ද කුමක් දුගඳ ද මම කිනම් ස්ත්‍රියකට දෙවැනි වෙම් ද' යනාදි ලෙස නුගුණ කියන්නට වූවාය.

එය අසා අනෙක් ස්ත්‍රීහු ද නුගුණ කියන්නට වූ අතර එය අනෙක් අල්පේච්ඡාදි ගුණැති භික්ෂූන් වහන්සේලාට අසන්නට ලැබීමෙන්

අනතුරුව භාග්‍යවතුන් වහන්සේට සැලකළ අතර භාග්‍යවතුන් වහන්සේ උදායි තෙරුන්ගෙන් ඒ කාරණය විමසා බලා, ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) **ප්‍රඥප්තිය** : මූල ප්‍රඥප්තිය පමණි. අනුප්‍රඥප්ති නැත.
**සාධාරණ-අසාධාරණ** : අසාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : අනාණත්තික ය.

(6) **ආපත්ති** :

1. **සඟවෙසෙස්** : යම් භික්‍ෂුවක් ස්ත්‍රියකට, ස්ත්‍රියක් යන සංඥාවෙන් යටත් පිරිසෙයින් හස්ත මුද්‍රාවෙනුදු ඉහත කී පරිද්දෙන් ම අත්තකාමපාරිචරියාවගේ ගුණ වර්ණනා කළ විට, ඒ ස්ත්‍රිය ද එකෙණෙහි ම තේරුම් ගනී නම්, එම භික්‍ෂුවට සඟවෙසෙස් වේ.
2. **ථුල්ලැසි** : ස්ත්‍රිය එකෙණෙහි ම තේරුම් නො ගනී නම් ථුල්ලැසි වේ.

   පණ්ඩකයෙකුට පණ්ඩක යන සංඥාවෙන් කියයි ද ථුල්ලැසි වේ.
3. **දුකුළා** : පණ්ඩකයෙකුට ස්ත්‍රියක් යන සඥාවෙන් කියන්නහුට දුකුළා වේ.

(7) **අනාපත්ති** :

1. චීවරාදි වස්තුකාමයන්ගෙන් උවටැන් කිරීමේ ගුණ කියන්නහුට.
2. උමතු - ආදිකාර්මික භික්‍ෂූන්ට

(8) **විපත්තිය** : ශීල විපත්ති ය.

(9) **අඞ්ග** :

1. මනුෂ්‍ය ස්ත්‍රියක් වීම.
2. ස්ත්‍රියක් යන සංඥාව ඇති බව.
3. තමාට මෙවුන්දමින් උවටැන් කරගැනීම පිළිබඳ රාගය.
4. එම රාගයෙන් එහි ගුණ කීම.
5. එකෙණෙහි ම දැනගැනීම.

**සමුට්ඨානාදිය පෙර සිකපදයේ කී නයින් දත යුතු.**

**අත්තකාමපාරිචරිය සංඝාදිසේස ශික්‍ෂාපදය නිමියේය.**

# සඤ්චරිත්ත සංඝාදිසේසය

**සඃ** පඤ්චමෙ, පස්වැනි සංඝාදිසේස සිකපදයේ; **සඤ්චරිත්තං ඉති**, 'සඤ්චරිත්තං' යනු; **සඤ්චරණභාවං**, එහාමෙහා යන ස්වභාවය යි.

**සමාපජ්ජෙය්‍ය ඉති**, 'සමාපජ්ජෙය්‍ය' යනු; **සම්මා**, මැනවින් **පතිගණ්හනවීමංසනපච්චාහරණානි**[1], පණිවිඩය පිළිගැනීම, පණිවිඩය ගෙනගොස් සැලකිරීම, යළි පැමිණ පණිවිඩය පිළිගත්තේ ද යන්න සැලකිරීම යන මේ කටයුතු; **කරොන්තො**, කරනුයේ; **ආපජ්ජෙය්‍ය**, පැමිණෙන්නේය නම්.

**ඉත්ථියා වා ඉති ආදි**, 'ඉත්ථියා වා' යන ආදිය; **සමාපජ්ජනාකාර දස්සනං**, මෙම පණිවිඩ ගෙනයාමේ කටයුත්තට පැමිණෙන ආකාරය දක්වීම යි. **තත්‍ථ**, එහි ලා; **ඉත්ථියා වා පුරිසමතිං ඉති**, 'ඉත්ථියා වා පුරිසමතිං' යනු; **පුරිසෙන වා**, පුරුෂයකු විසින් හෝ; **තස්ස මාතාපිතාදීහි වා**, ඔහුගේ මව්පියන් විසින් හෝ; **පෙසිතො**, යවන ලදුයේ; **පුරිසස්ස මතිං**, පුරුෂයාගේ මතය; **අධිප්පායං**, අදහස; **ඉත්ථියා ආරොචෙය්‍ය**, ස්ත්‍රියට සැලකරන්නේය; **ඉති අත්‍ථො** යන අර්ථය යි. **පුරිසස්ස වා ඉත්ථිමතිං ඉති**, 'පුරිසස්ස වා ඉත්ථිමතිං' යනු; **ඉත්ථියා වා**, ස්ත්‍රිය විසින් හෝ; **තස්ස මාතාපිතාදිහි වා**, ඇගේ මව්පියන් විසින් හෝ; **පෙසිතො**, යවන ලදුයේ; **ඉත්ථියා මතිං**, ස්ත්‍රියගේ මතය; **අධිප්පායං**, අදහස; **පුරිසස්ස ආරොචෙය්‍ය**, පුරුෂයාට සැලකරන්නේය; **ඉති අත්‍ථො**, යන අර්ථය යි.

**ජායත්තනෙ වා ජාරත්තනෙ වා ඉති**, 'ජායත්තනෙ වා ජාරත්තනෙ වා' යනු; **ජායාභාවෙ වා**[2], භාර්යා භාවයෙහි හෝ; **ජාරභාවෙ වා**, ස්වාමි පුරුෂ භාවයෙහි හෝ යන්න යි. **පුරිසස්ස හි මතිං**, පුරුෂයාගේ මතය; **ඉත්ථියා ආරොචෙන්තො**, ස්ත්‍රියට සැලකරනුයේ; **ජායත්තනෙ ආරොචෙති**, භාර්යා භාවය පිණිස සැලකරයි. **ඉත්ථියා මතිං**, ස්ත්‍රියගේ මතය; **පුරිසස්ස ආරොචෙන්තො**, පුරුෂයාට සැලකරනුයේ ද; **ජාරත්තනෙ ආරොචෙති**, ස්වාමි භාවය පිණිස සැලකරයි. **අපි ච**, තව ද (අනෙක් අර්ථ විකල්පයක් නම්); **පුරිසස්සෙව**

---

[1] **පටිග්ගණ්හනවීමංසනපච්චාහරණානි**. මජසං; **පතිගණ්හණවීමංසනපච්චාහරණානි**. බෞසංම; **පටිග්ගණ්හණවීමංසනපච්චාහරණානි**. කඞ්ඛා.ටී

[2] **ජායභාවෙ වා**. මජසං

**මතිං**, පුරුෂයාගේ ම මතය; **ඉත්ථියා ආරොචෙන්තො**, ස්ත්‍රියට සැලකරනුයේ; **ජායත්තනෙ වා ආරොචෙති**, ජායා හෙවත් නිබඳ භාර්යා භාවයෙහි සැලකරයි. **නිබද්ධභරියභාවෙ**[1], නිති භාර්යා භාවයෙහි ය. **වා** නොහොත්; **ජාරත්තනෙ (ආරොචෙති)**, සොර අඹු බවෙහි සැලකරයි; **මිච්ඡාචාරභාවේ**, මිථ්‍යාචාර භාවයෙහි ය. **තෙන එව**, එහෙයින් ම; **අස්ස පදභාජනෙ**, මේ සිකපදයාගේ පදභාජනියෙහි; **'ජායාත්තනෙවාති ජායා භවිස්සසි. ජාරත්තනෙවාති ජාරී භවිස්සසි' ඉති**, යැයි; **වුත්තං**, වදළ සේක. **එතෙනෙව උපායෙන**, මේ ක්‍රමයෙන් ම; **ඉත්ථියා මතිං**, ස්ත්‍රියගේ මතය; **පුරිසස්ස ආරොචනෙ අපි**, පුරුෂයාට ආරෝචනයෙහි ද; **පති භවිස්සසි**, නිබඳ ස්වාමි පුරුෂයා වන්නෙහි; **ජාරො භවිස්සසි**, සොර සැමියා වන්නෙහි; **ඉති වත්තබ්බතා**, යැයි කිව යුතු බව; **වෙදිතබ්බා**; දත යුතු.

**83. වි:** "සඤ්චරිත්තං" යනුවෙන් ස්ත්‍රී පුරුෂයන් අතරෙහි පණිවුඩ හුවමාරු කිරීම අදහස් වේ. එහෙයින් **සඤ්චරණභාවං** යැයි කියන ලදී. මෙම එහා මෙහා යාම නම් කිසිවකු විසින් යවනු ලැබ යම් තැනකට යාම යි. පණිවිඩය දෙන පාර්ශ්වය වෙතින් පිළිගැනීමත්, ලැබිය යුතු පාර්ශ්වය වෙත රැගෙන ගොස් පැවසීමත්, ඒ ලැබුණු පාර්ශ්වයේ අදහස ආපසු මුල් පාර්ශ්වය වෙත ගෙනැවිත් පැවසීමත් යන ක්‍රියාවලිය සම්පූර්ණ වීමෙන් සඤ්චරිත්තය සම්පූර්ණ වේ.

පණිවුඩ හුවමාරුව සිදුකරන ආකාරය '**ඉත්ථියා වා පුරිසමතිං**' යනාදි ලෙස කියවේ. මෙයින් හෙළි වන්නේ මෙම එහා මෙහා යාම ස්ත්‍රී-පුරුෂයන් දෙදෙනෙක් අතරේ වන බව යි. එහෙයින් පදභාජනියෙහි දී '**ඉත්ථියා වා පහිතො පුරිසස්ස සන්තිකෙ ගච්ඡති. පුරිසෙන වා පහිතො ඉත්ථියා සන්තිකෙ ගච්ඡති (පාරා, පි.346)**' යැයි කියන ලදී.

"**ජායත්තනෙ වා ජාරත්තනෙ වා**" යන්න පිළිබඳ අර්ථ විකල්ප දෙකක් අර්ථකථාවෙහි සඳහන් වේ. එනම් **ජායත්තනෙ** යන්නෙන් භාර්යා භාවය ද **ජාරත්තනෙ** යන්නෙන් ස්වාමි පුරුෂ භාවය ද යන්න ප්‍රථම අර්ථ විකල්පය වේ. එවිට පුරුෂයාගේ මතය ස්ත්‍රියට ආරෝචනය කරනුයේ ජායා භාවයෙහි හෙවත් භාර්යා භාවයෙහි ආරෝචනය කෙරේ. ස්ත්‍රියගේ මතය පුරුෂයාට ආරෝචනය කරනුයේ ජාර

[1] **නිබද්ධභරියාභාවෙ. කඞ්ඛාපි.**

භාවයෙහි හෙවත් ස්වාමි භාවයෙහි ආරෝචනය කෙරේ. දෙවන අර්ථ විකල්පය පෙළෙහි එන පදභාජනිය හා ඍජුව ම සම්බන්ධ වේ. එනම් ජායා භාවය යනු නිබඳ අඹු-සැමි බවත්, ජාර භාවය යනු සොර අඹු-සැමි බවත් යන්න යි. ඒ අනුව පෙළෙහි **'ජායත්තනෙ වා'ති ජායා භවිස්සසි. ජාරත්තනෙ වා'ති ජාරී භවිස්සසි (පාරා, පි.346)'** යනුවෙන් ඉත්ථිලිංග වශයෙන් කියන ලදී. එය පුරුෂ ලිංග වශයෙන් ද යොදා කිව යුතු බවට පැමිණේ. එවිට **'ජායත්තනෙ වාති පති භවිස්සසි, ජාරත්තනෙ වා'ති ජාරො භවිස්සසි'** යනුවෙන් යෙදීම වේ.

**සඃ අන්තමසො තඞ්ඛණිකායපි ඉති**, 'අන්තමසො තඞ්ඛණිකායපි' යනු; **සබ්බන්තිමෙන පරිච්ඡේදෙන**, සියල්ලට යටත් පිරිසෙයින්; **යා අයං**, යම් මේ තැනැත්තියක්; **තඞ්ඛණෙ**, එකෙණෙහි;

- 38 -

**මුහුත්තමත්තෙ**, මොහොතක් පමණක්, **සංවසිතබ්බතො**, විසිය යුතු බැවින්; **තඞ්ඛණිකා ඉති වුච්චති**, 'තඞ්ඛණිකා' යැයි කියනු ලැබේ. **මුහුත්තිකා ඉති අත්ථො**, මුහුත්තිකාවක් (ගණිකාවක්) යන අර්ථය යි. **තස්සා අපි**, ඇයට නමුදු; **මුහුත්තිකා භවිස්සසි ඉති**, මොහොතක් සේවනය කරන්නියක් (ගණිකාවක්) වන්නෙහි ද යි; **එවං**, මෙසේ; **පුරිසමතිං**[1] **ආරොචෙන්තස්ස**, පුරුෂ මතය ආරෝචනය කරන්නහුට; **සඞ්ඝාදිසෙසා**, සඟවෙසෙස් ඇවැත් වේ. **එතෙන එව උපායෙන**, මේ ක්‍රමයෙන් ම; **මුහුත්තිකො භවිස්සසි ඉති**, මොහොතක් සේවන කරන්නෙක් වන්නෙහි ද යි; **එවං**, මෙසේ; **පුරිසස්ස**, පුරුෂයෙකුට; **ඉත්ථිමතිං ආරොචෙන්තොපි**, ස්ත්‍රියකගේ මතය සැලකරන්නේ වුව ද; **සඞ්ඝාදිසෙසං ආපජ්ජති ඉති**, සංඝාදිසේස ඇවැතට පත්වන්නේ යැයි; **වෙදිතබ්බො**, දත යුතු.

**84. විඃ** "අන්තමසො තඞ්ඛණිකායපි" යටත් පිරිසෙයින් මොහොතක් කරනු ලබන සේවනයක් උදෙසා වුව ද ස්ත්‍රී-පුරුෂයන් අතර පණිවුඩ හුවමාරුවෙන් සඟවෙසෙස් ඇවැත් වන බව දක්වේ. **තඞ්ඛණිකා** යනුවෙන් එසේ තාවකාලිකව මොහොතකට සේවනය කරනු ලබන ස්ත්‍රිය අදහස් වේ. එනම් වෛශ්‍යාව යි. එබැවින් යම් භික්ෂුවක් වෛශ්‍යාවක් වෙත මොහොතක සේවනයක් සඳහා

---

[1] **පුරිසස්ස මතිං**. මඡසං

පුරුෂයෙකුගේ පණිවුඩය රැගෙන ගොස් ආපසු සැලකරන්නේ නම් හෝ මොහොතක සේවනයක් සඳහා ස්ත්‍රීයකගේ අදහස එසේ හුවමාරු කරන්නේ නම් සංඝාදිසේසාපත්තියට පත් වේ.

මෙහි දී සංඝාදිසේසාපත්තිය සඳහා අදාළ පණිවුඩය පතිගණ්හණ, වීමංසන, පච්චාහරණ යන ත්‍රිවිධ ක්‍රියා සම්පූර්ණ විය යුතු බව ඉහත සඳහන් වුණි. එහි ලා

1. **පතිගණ්හණය** : යනු යම් පුරුෂයකු විසින් හෝ ස්ත්‍රියක විසින් හෝ ඒ අයගේ දෙමව්පියන් විසින් හෝ අසවල් තැනැත්තාට මෙම පණිවුඩය කියනු මැනව කියා යම් පණිවුඩයක් භාර කරයි ද එකී පණිවුඩය කාය-වාග් යන යම් හෝ ප්‍රයෝගයකින් භාර ගනී ද එය යි.

2. **වීමංසනය** : යනු එසේ භාර ගන්නා ලද පණිවුඩය ලැබිය යුතු පාර්ශ්වය වෙත ගෙනගොස් දීම යි. ඒ අනුව වචනයෙන් කීම හෝ ලිපි ආදියක් භාර දීම මගින් හෝ පණිවුඩය සැලකිරීම යි.

3. **පච්චාහරණය** : යනු එසේ පණිවුඩය සැලකළ පසු ඒ ස්ත්‍රිය හෝ පුරුෂයා හෝ 'මැනව' කියා පිළිගත් බව හෝ ප්‍රතික්ෂේප කළ බව හෝ ලැජ්ජාවෙන් නිහඬ වූ බව හෝ එබඳු ප්‍රතික්‍රියාව පණිවුඩය දුන් පාර්ශ්වය වෙත ආපසු පැමිණ නැවත සැලකිරීම යි. මෙම ත්‍රිවිධ ක්‍රියාවන් ම සම්පූර්ණ වීමෙන් භික්ෂුවකට සඞ්ඝාදිසේසාපත්ති වේ. මෙහි දී **දශ ස්ත්‍රීහු** සහ **දශ භාර්යාවෝ** දත යුතු.

## දශ ස්ත්‍රීහු

1. **මාතු රක්ඛිතා** : මව විසින් රකිනු ලබන, ඊශ්වරත්වය පවත්වනු ලබන වසඟයෙහි පවත්වනු ලබන ස්ත්‍රිය යි.
2. **පිතු රක්ඛිතා** : පියා විසින් රැකීම් ආදිය කරනු ලබන්නිය යි.
3. **මාතු පිතු රක්ඛිතා** : මව පියා දෙදෙනා විසින් ම රැකීම් ආදිය කරනු ලබන්නිය යි.
4. **භාතු රක්ඛිතා** : සොහොයුරා විසින් රැකීම් ආදිය කරනු ලබන ස්ත්‍රිය යි.
5. **භගිනි රක්ඛිතා** : සොහොයුරිය විසින් රැකීම් ආදිය කරනු ලබන ස්ත්‍රිය යි.

6. **ඤාති රක්ඛිතා** : නෑයන් විසින් රැකීම් ආදිය කරනු ලබන්නිය යි.
7. **ගොත්ත රක්ඛිතා** : ගෝත්‍රය විසින් රැකීම් ආදිය කරනු ලබන ස්ත්‍රිය යි.
8. **ධම්ම රක්ඛිතා** : එක් ශාස්තෘන් වහන්සේ කෙනෙක් සරණ ගිය සහධාර්මිකයන් විසින් රැකීම් ආදිය කරනු ලබන ස්ත්‍රිය යි.
9. **සාරක්ඛා** : යම් ස්ත්‍රියක් ගැබේ දී ම මැය මට අයත් වන්නී යයි වෙන්කොට ගන්නා ලද්දා වූ ස්ත්‍රිය යි.
10. **සපරිදණ්ඩා** : රජ ආදි යමෙකු විසින් 'යමෙක් මැය වෙත ගියේ නම් මෙතරම් දඩ ය' යනුවෙන් යම් ස්ත්‍රියක් අරබයා දඩ තබන ලද්දේ ද ඇය යි.

මෙම ස්ත්‍රීන් දශ දෙනා අතරින් පළමු අට (8) දෙනා ම යම් යම් පාර්ශ්ව විසින් රැකීම් ආදිය කරන බැවින් ඊශ්වරත්වය පවත්නේ ඒ රකින මව ආදි පාර්ශ්වයන් වෙත වේ. එහෙත් ඒ ස්ත්‍රීන්ට හිමියන් නොමැති බැවින් අස්වාමික ය. තමන්ගේ ස්පර්ශයට ස්වාමී වන්නේ තමන් ම වේ. මව් ආදීන් විසින් ආරක්ෂා කිරීම සිදුකරන්නේ ඒ ස්ත්‍රියගේ ස්පර්ශය අත්විඳීම පිණිස නො වේ. හුදෙක් පුරුෂයන් වෙත යාම පමණක් ම ඔවුන් විසින් වළක්වනු ලැබේ. එහෙයින් කිසිවකු විසින් අත්පත් කර නොගත් ස්පර්ශයක් ඇති බැවින්, ස්පර්ශය පිළිබඳ අන් හිමියකු නොවන බැවින් පළමු ස්ත්‍රීන් අට දෙනාහට පුරුෂයන් සමඟ සිටීමෙන් මිථ්‍යාචාරයක් නො වේ. එහෙත් **සාරක්ඛා, සපරිදණ්ඩා** යන ස්ත්‍රීන් දෙදෙනාට හිමිකරුවන් සිටින බැවින් ඔවුනට අන් පුරුෂයන් සමඟ සිටීමෙන් මිථ්‍යාචාරය වේ. එනම් තමාගේ ස්පර්ශය ස්වාමීන් සිටින, සස්වාමික ස්පර්ශයක් බැවිනි. කෙසේ නමුදු පුරුෂයාට වනාහි කවර ස්ත්‍රියකගේ වුව ද තමාට අයත් නොවන ස්පර්ශයක් වෙත යාමෙන් මිථ්‍යාචාරය වන බව දත යුතු.

## දශ භාර්යාවෝ

1. **ධනක්කීතා** : අල්ප වූ හෝ බොහෝ වූ හෝ ධනය දී මිලදීගත් භාර්යාව යි.
2. **ඡන්දවාසිනී** : තමාගේ ඡන්දයෙන්, රුචියෙන් වාසය කරන භාර්යාව යි.

3. **භොගවාසිනී** : භෝග දීමෙන් යම් ස්ත්‍රියක් වාසය කරවා ගනී ද ඒ භාර්යාව යි.
4. **පටවාසිනී** : හඳින පොරවන වස්ත්‍ර මාත්‍රයක් ලැබීමෙන් භාර්යා බවට පත්වන දිළිඳු ස්ත්‍රීහු වෙති.
5. **ඔදපත්තකිනී** : දිය බඳුනක අතදමා මේ දිය මෙන් නොවෙන්ව වාසය කරව යැයි වාසය කරවන බිරිඳ යි.
6. **ඔභතචුම්බටා** : දර ආදිය ගෙනයන ස්ත්‍රියකගේ හිසේ ඇති චුම්බටය (දර තබාගෙන යන දරණුව) පහ කොට තමා වෙත වාසය කරවන භාර්යාව යි.
7. **දසී** : තමාගේ දසියක් බිරිඳ ලෙස වාසය කරවා ගනී ද ඕ තොමෝ ය.
8. **කම්මකාරී** : වැටුපට ගෙදර වැඩ කරන කම්කරු ස්ත්‍රිය බිරිඳ කරගැනීම යි.
9. **ධජාහටා** : විදේශයකට බලහත්කාරයෙන් සේනාව සමඟ ගොස් යටත් කරගෙන රැගෙන එන බිරිඳ යි.
10. **මුහුත්තිකා** : මොහොතක සේවනයට කැඳවාගන්නා ගණිකාව යි.

මොවුන් දශ දෙනාට ම අන් පුරුෂයන් වෙත යාමෙන් මිථ්‍යාචාරය වේ. ඒ අනුව පුරුෂයෙකුට මෙම විසිදෙනා ම (20) මිථ්‍යාචාරයට නිමිති වේ. භික්‍ෂුවකට මෙම විසිදෙනා වෙත ම හෝ විසිදෙනාගේ ම පණිවුඩ හුවමාරු කිරීමෙන් සංඝාදිසේසාපත්ති වේ.

**සඃ සාවත්ථියං**, සැවැත් නුවර; **උදායිත්ථෙරං ආරබ්භ**, උදායි තෙරුන් අරබයා; **සඤ්චරිත්තසමාපජ්ජනවත්ථුස්මිං**, සඤ්චරිත්තයට පැමිණීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අන්තමසො තඞ්ඛණිකායපි ඉති අයං**, 'අන්තමසො තඞ්ඛණිකායපි' යන මෙය; **එත්ථ**, මේ සිකපදයේ; **අනුපඤ්ඤත්ති**[1], අනුප්‍රඥප්තිය යි. **සාධාරණපඤ්ඤත්ති**, සාධාරණ ප්‍රඥප්තිය යි. **පතිගණ්හාති**[2], පිළිගනියි; **වීමංසති**, ගෙන ගොස් සැලකරයි; **අන්තෙවාසිකං**[3], අතවැසියකු ලවා; **පච්චාහරාපෙති**, ආපසු

---

[1] **අනුප්පඤ්ඤත්ති.** හෙමු; බෞසංම
[2] **පටිග්ගණ්හාති.** මජසං
[3] **අන්තෙවාසිං.** මජසං

පණිවුඩය ගෙන යවයි; **ඉති ඉමිනා නයෙන**, යන මේ ක්‍රමයෙන්; **සාණත්තිකං**, සාණත්තිකය යි. **අඤ්ඤත්‍ර නාලං වචනීයාය**, නාලං වචනීය ස්ත්‍රිය හැර (භික්ෂුවගේ පණිවිඩ හුවමාරුවක් අවශ්‍ය නොවන ස්ත්‍රිය නාලං වචනීය වේ); **යාය කායචි ඉත්‍ථියා**, යම් කිසි ස්ත්‍රියකට; **අන්තමසො මාතුයා අපි**, යටත් පිරිසෙයින් මවට නමුදු; **පුරිසමතිං ආරොචෙන්තො**, පුරුෂයකුගේ අදහස සැලකරනුයේ; **'හොති කිර**[1] **හරියා ධනක්කීතා' ඉති වත්තුකාමො**, 'හොති කිර හරියා ධනක්කීතා' (අසවලාගේ ධනක්කීත බිරිඳ වෙව) යැයි කියනු කැමැතියේ; **සචෙ අපි**, ඉදිනුදු; **ඡන්දවාසිනී ඉති ආදිසු**[2], ඡන්දවාසිනී යන ආදීන් අතරින්, **අඤ්ඤතරෙන ආකාරෙන**[3], එක්තරා ආකාරයකින්; **ආරොචෙත්‍වා**, ආරෝචනය කොට; **තාය**, ඈ විසින්; **සාධු ඉති සම්පටිච්ඡිතෙ අපි**, 'මැනව' යැයි පිළිගත් කල්හි ද; **අසම්පටිච්ඡිතෙ අපි**, නොපිළිගත් කල්හි ද; **පුන ආගන්ත්‍වා**, යළි පෙරළා අවුත්; **යෙන පහිතො**, යමෙකු විසින් යවන ලද්දේ ද; **තස්ස**, ඔහුට; **තං පවත්තිං**, ඒ පුවත; **ආරොචෙති**, සැලකරයි ද; **සඞ්ඝාදිසෙසං ආපජ්ජති**, සඟවෙසෙස් ඇවැතට පැමිණේ. **සා පන**, ඕ තොමෝ; **තස්ස**, ඒ පුරුෂයාගේ; **හරියා හොතු වා මා වා**, බිරිඳ වේවා හෝ නො වේවා හෝ; **අකාරණමෙතං**, එය ඇවැතට කරුණක් නො වේ. **සචෙ අපි**, ඉදිනුදු; **යස්සා සන්තිකං**, යම් ස්ත්‍රියකගේ සමීපයට; **පෙසිතො**, යවන ලදුයේ; **තං අදිස්වා**, ඇය නොදැක; **අඤ්ඤස්ස**[4] **අවස්සාරොචනකස්ස**, අන්‍ය වූ ඒකාන්තයෙන් ම (නියත වශයෙන් ම) පණිවිඩය සැලකරන්නකුට; **ආරොචෙහි ඉති වත්‍වා**, සැලකරව යැයි කියා; **පච්චාහරති**, පෙරළා පණිවිඩය ගෙන යයි ද; **ආපජ්ජතියෙව**, ඇවැතට පැමිණේ ම ය. **මාතු රක්ඛිතං බ්‍රෑහි ඉති පෙසිතස්ස පන**, මාතුරක්ඛිත ස්ත්‍රියට කියනු මැනව යැයි යවන ලද භික්ෂුවට; **ගන්ත්‍වා**, ගොස්; **අඤ්ඤං**, අන්‍ය වූ; **පිතුරක්ඛිතාදිසු**[5], පිතුරක්ඛිතා ආදීන් අතරින්; **අඤ්ඤතරං වදන්තස්ස**, එක්තරා ස්ත්‍රියකට කියන භික්ෂුවට; **විසඞ්කෙතං හොති**, විසඞ්කේතය වෙයි. **පුරිසස්ස වා**, පුරුෂයාගේ හෝ; **ඉත්‍ථියා වා**, ස්ත්‍රියගේ හෝ; **වචනං**, වචනය; **සාධු ඉති**, මැනව යැයි; **කායෙන වා**, කයින් හෝ; **වාචාය වා**, වචනයෙන්

---

[1] **හොහි කිර.** මජසං
[2] **ඡන්දවාසිනීආදීසු.** මජසං
[3] **අඤ්ඤතරාකාරෙන.** මජසං
[4] **අඤ්ඤතරස්ස.** මජසං
[5] **පිතුරක්ඛිතාදීසු.** මජසං

හෝ; **උභයෙන වා**, කය හා වචනය යන දෙකින් ම හෝ; **පතිගණ්හිත්වා**[1], පිළිගෙන; **තස්සා ඉත්ථියා වා**, ඒ ස්ත්‍රියට හෝ; **පුරිසස්ස වා**, පුරුෂයාට හෝ; **ආරොචෙත්වා වා**, සැලකර හෝ; **ආරොචාපෙත්වා වා**, සැලකරවා හෝ; **පුන**, යළි; **යෙන පෙසිතො**, යමෙකු විසින් යවන ලද්දේ ද; **තස්ස**, ඔහුට, **තං පවත්තිං**, ඒ ප්‍රවෘත්තිය; **සයං ආරොචෙන්තස්ස වා**, තෙමේ ම සැලකරන්නහුට හෝ; **අඤ්ඤෙන ආරොචාපෙන්තස්ස වා**, අනෙකකු ලවා සැලකරවන්නහුට හෝ; **සඞ්ඝාදිසෙසො**, සඞ්ඝවෙසෙස් වේ. **එත්තාවතා හි**, මෙපමණකින්; **පතිගණ්හාති**, පිළිගනියි; **වීමංසති**, ගෙනගොස් සැලකරයි; **පච්චාහරති ඉති**[2], පෙරළා ගෙනවුත් සැලකරයි යන; **ඉදං අඞ්ගත්තයං**, මේ අංගත්‍රය; **සම්පාදිතං හොති**, සම්පාදනය වූයේ වෙයි.

**85. වි:** යම් ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ දෙදෙනා ම හෝ සිය ස්වාමි භාවය හෝ භාර්යා භාවය පිළිබඳ අත්හරින ලද ඡන්දයෙන් යුතු වේ නම්, නියත වශයෙන් ම වෙන්ව ඇති බැවින් යළි එකිනෙකා එක් කිරීමට 'මෙසේ නො කරව' යනාදි ක්‍රමයෙන් අනුශාසනයට සුදුසු වේ ද ඒ ස්ත්‍රී-පුරුෂයන් අලංවචනීය නම් වේ. එසේ අලංවචනීය නො වේ නම්, එනම් නියත වශයෙන් ම වෙන්ව නැති නම්, යම් තාවකාලික අමනාප කමකට වෙන් වී ඇති නම් එබඳු ස්ත්‍රී-පුරුෂයන් **නාලංවචනීය** නම් වේ. එබඳු නාලංවචනීය ස්ත්‍රියක් වෙත පණිඩුඩ ගෙනයාමෙන් සඤ්චරිත්ත සංඝාදිසේස ඇවැත සිදු නොවන බව විනීත වස්තුවල දී වදාළ සේක (**පාරා**, පි.374).

එබඳු නාලංවචනීය ස්ත්‍රියක් හැර එනම් නිත්‍ය වශයෙන් ම සැමියාගෙන් වෙන්ව ඇති ස්ත්‍රියකට හෝ වෙනත් යම්කිසි ස්ත්‍රියකට, අඩුම තරමේ භික්ෂුවගේ මවට හෝ පුරුෂයකුගේ අදහසක් සැලකරනුයේ ද 'ධනක්කීතා බිරිඳක් වෙව' යැයි කියනු කැමතිව වැරදී 'ඡන්දවාසිනී බිරිඳක් වෙව' යැයි හෝ කිසියම් ආකාරයකට සැලකර, ඇගේ පිළිගැනීම හෝ ප්‍රතික්ෂේපය හෝ නිහඬ බව හෝ කිසියම් පුවතක් වේ ද එය පෙරළා අවුත් පණිවිඩය ලැබිය යුතු ස්ත්‍රිය වෙත ලැබුණේ නම් පතිගණ්හණ, වීමංසන, පච්චාහරණ යන අංග ත්‍රය සම්පූර්ණ වීමෙන් සඞ්ඝවෙසෙස් ඇවැත් වේ. 'ධනක්කීතා බිරිඳක් වෙව'

---

[1] **පටිග්ගණ්හිත්වා.** මජසං (**එවං සබ්බත්ථ**)
[2] **පච්චහරතීති.** කාළවිල

යන්න වෙනුවට ඡන්දවාසිනී යනුවෙන් හෝ වෙනත් ආකාරයකින් හෝ බිරියක් වන ලෙසට පණිවුඩය ලබාදුන්නේ නම් අංග ත්‍රය සම්පූර්ණ වීමෙන් ඇවැත් වේ. ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය කිරීමේ දී 'බුදුරජාණන් වහන්සේ ප්‍රතික්ෂේප කරමි' යැයි කියනු කැමැතිව 'ධර්මරත්නය ප්‍රතික්ෂේප කරමි' යැයි කීව ද ප්‍රත්‍යාඛ්‍යානය සිද්ධ වන්නා සේ ය. ධනක්කීතා, ඡන්දවාසිනී ආදි වචන අතරින් යමක් නොකීව ද 'බිරිය, සොර බිරිය, ප්‍රජාපතිය, පුතාගේ මව, ගෙදර ස්වාමිනිය, බත් පිසන්නිය' යනාදි කිසියම් සංවාසය දනවන වචනයකින් කියන ලද්දේ නම් ඇවැත් වේ. පණිවුඩය ලබන්නිය යවන පුද්ගලයාගේ බිරිඳ වීම අත්‍යවශ්‍ය නො වේ. තව ද පණිවුඩය ලැබිය යුතු තැනැත්තා නොදක, නියත වශයෙන් ම පණිවිඩය ලබාදෙන අන් අයකුට නමුත් සැලකර, පච්චාහරණය කළේ වුව ද ඇවැතට පත් වේ.

එනමුත් 'මාතුරක්ඛිත ස්ත්‍රියට කියනු මැනව' යැයි පණිවුඩය යැවූ කල වැරදී පිතුරක්ඛිත ආදී අනෙක් ස්ත්‍රියකට කියා ද විසඞ්කේත වන බැවින් පච්චාහරණය කළ ද ඇවැත් නැත. එබැවින් පුරුෂයකුගේ හෝ ස්ත්‍රියකගේ වචනය මැනවැයි කයින් හෝ වචනයෙන් හෝ කයවචන දෙකින් ම හෝ පිළිගෙන, එය ලැබිය යුතු ස්ත්‍රියට හෝ පුරුෂයාට හෝ ආරෝචනය කොට, නැතිනම් වෙන කෙනෙකු ලවා ආරෝචනය කරවා, පෙරළා පණිවුඩය යවන ලද පුද්ගලයා වෙත ඒ ප්‍රවෘත්තිය තෙමේ ම හෝ අනෙකකු ලවා හෝ ආරෝචනය කරන භික්ෂුවට සංඝාදිසේස වේ. මෙපණකින් පතිගණ්හණ, වීමංසන, පච්චාහරණ යන මේ අංග ත්‍රය සම්පාදනය වූයේ වේ.

**සඃ ඉතො පන**, මෙම පතිගණ්හණ ආදි අංගයන්ගෙන්; **යෙහි කෙහිචි ද්වීහි අංගෙහි**, යම්කිසි අංග දෙකකින් (මෙන් ම); **පණ්ඩකෙ**[1], පණ්ඩකයා කෙරෙහි; **අඞ්ගත්තයෙන අපි**, පතිගණ්හණ ආදි අංගත්‍රයෙන් ම ද; **ථුල්ලච්චයං**, ථුලැසි ඇවැත් වේ. **එකෙන**, එක් අංගයකින්; **දුක්කටං**, දුකුළා වේ. **සඞ්ඝස්ස වා**, සංඝයාගේ හෝ; **චෙතියස්ස වා**, චෛත්‍යයක හෝ; **ගිලානස්ස වා**, ගිලනකුගේ හෝ; **කිච්චෙන**, කෘත්‍යයක් කරණකොටගෙන; **ගච්ඡන්තස්ස (ච)**, යන්නහුට ද; **උම්මත්තකාදීනං ච**, උමතු ආදි භික්ෂූන්ට ද, **අනාපත්ති**, ඇවැත් නැත. **සීලවිපත්ති**, ශිල විපත්තිය යි. **යෙසු සඤ්චරිත්තං**

---

[1] **පණ්ඩකෙ ච.** මජසං

**සමාපජ්ජති**, යම් අය කෙරෙහි සඤ්චරිත්තයට පැමිණේ ද; **තෙසං**, ඔවුන්ගේ; **මනුස්සජාතිකතා**, මනුෂ්‍ය ජාතිකත්වය; **න නාලංවචනීයතා**, නාලං වචනීය නොවන බව; **පතිගණ්හණ**[1]**වීමංසනපච්චාහරණානි ඉති**, පතිගණ්හණ, වීමංසන, පච්චාහරණය යනුවෙන්; **එත්ථ**, මේ සිකපදයේ; **ඉමානි පඤ්ච අඞ්ගානි**, මේ පස් අංගයෝ ය. **ඡ සමුට්ඨානං**, ඡ සමුට්ඨාන ය. **පණ්ණත්තිං වා**, ප්‍රඥප්තිය හෝ; **අලංවචනීය භාවං වා**, අලංවචනීය භාවය හෝ; **අජානන්තස්ස**, නොදන්නහුගේ; **කාය විකාරෙන**, කාය විකාරයෙන්; **සාසනං ගහෙත්වා**, හස්න ගෙන; **තථා එව වීමංසිත්වා**, එසේ ම හස්න භාර දී; **තථා එව**, එසේ ම; **පච්චාහරන්තස්ස**, පෙරළා ගෙන එන්නහුට; **කායතො සමුට්ඨාති**, කයින් හටගනී. **ඉත්ථන්නාමා නාම ආගමිස්සති**[2], මෙනම් ඇත්තිය එන්නීය. **තස්සා චිත්තං**, ඇගේ සිත; **ජානෙය්‍යාථ ඉති**[3], දැනගනු මැනවි යැයි; **කෙනචි වුත්තෙ**, කිසිවකු විසින් කියූ කල්හි; **සාධූති සම්පටිච්ඡිත්වා**, මැනවැයි පිළිගෙන; **තං**, ඒ පුවත; **ආගතං වත්වා**, ආවා වූ ස්ත්‍රියට කියා; **පුන**, යළිත්; **තස්මිං පුරිසෙ ආගතෙ**, ඒ පුරුෂයා පැමිණි කල්හි; **ආරොචෙන්තස්ස**, සැලකරන්නහුට; **කායෙන**, කයින්; **කිඤ්චි අකතත්තා**, කිසිවක් නොකළ බැවින්; **වාචතො සමුට්ඨාති**, වචනයෙන් හටගනී. **වාචාය**, වචනයෙන්; **සාධු ඉති**, මැනවැයි; **සාසනං ගහෙත්වා**, හස්නක් පිළිගෙන; **අඤ්ඤෙන කරණීයෙන**, අන් කටයුත්තකට; **තස්සා ඝරං ගන්ත්වා**, ඇගේ ගෙදරට ගොස්; **වා**, නොහොත්; **අඤ්ඤත්ථ ගමනකාලෙ**, අන් තැනකට යන කාලයෙහි; **තං දිස්වා**, ඇය දැක; **වචීභෙදෙන වීමංසිත්වා**, වාග් භේදයෙන් විමසා; **පුන**[4], නැවත; **අඤ්ඤෙනෙව කාරණෙන**, අන් කරුණකින් ම; **තතො අපක්කම්ම**, එතැනින් වෙන්ව; **කදාචිදෙව**, කිසියම් දිනක; **තං පුරිසං දිස්වා**, ඒ පුරුෂයා දැක; **ආරොචෙන්තස්ස අපි**, සැලකරන්නහුට ද, **වාචතො එව**[5] **සමුට්ඨාති**, වචනයෙන් ම හටගනී. **පණ්ණත්තිං**, ප්‍රඥප්තිය; **අජානන්තස්ස පන ඛීණාසවස්ස අපි**, නොදන්නා වූ ක්ෂීණාශ්‍රව රහතන් වහනසේට ද; **පිතු වචනෙන ගන්ත්වා**, පියාගේ වචනයෙන් ගොස්; **අලං වචනීයං මාතරං අපි**, අලං වචනීය වූ (පියාගෙන් නියතව ම වෙන්ව

---

[1] **පටිග්ගණ්හන.** මඡසං; **පතිගණ්හණ.** හෙමු; බෞසංම; කාළවිල
[2] **ඉත්ථන්නාමා ආගමිස්සති.** මඡසං
[3] **ජානෙය්‍යාථාති.** හෙමු
[4] **පුනපි.** මඡසං
[5] **වාචතො.** මඡසං

සිටින) මවට නමුදු; **'එහි, මෙ පිතරං උපට්ඨාහි' ඉති වත්වා,** 'එනු මැනවි, මගේ පියාට උවටැන් කරව' යැයි කියා; **පච්චාහරන්තස්ස,** පෙරළා පණිවිඩය ගෙනෙන භික්ෂුවට; **කාය වාචතො සමුට්ඨාති,** කය වචන දෙකින් හටගනී.

\- 39 -

**ඉමානි තීණි,** මේ සමුට්ඨාන තිදෙන; **අචිත්තකසමුට්ඨානානි,** අචිත්තක සමුට්ඨානයෝ ය. **තදුභයං පන ජානිත්වා,** ප්‍රඥප්තිය හා අලං වචනීය භාවය යන දෙක ම දැන; **එතෙහි තීහි නයෙහි එව,** මේ කියන ලද තුන් නයින් ම; **සමාපජ්ජන්තස්ස,** සඤ්චරිත්තයට පැමිණෙන භික්ෂුවට; **තානි එව තීණි,** ඒ තුන් සමුට්ඨානයෝ ම; **තදුභයං ජානනචිත්තෙන**[1], ප්‍රඥප්තිය හා අලංවචනීය භාවය යන දෙදෙන දන්නා සිතින්; **සචිත්තකානි හොන්ති,** සචිත්තක සමුට්ඨානයෝ වෙත්. **කිරියා**[2], කිරියා වශයෙනි. **නොසඤ්ඤාවිමොක්ඛං,** නොසංඥාවිමෝක්ෂ ය. **අචිත්තකං,** අචිත්තක ය. **පණ්ණත්තිවජ්ජං** ප්‍රඥප්තිවද්‍ය ය. **කායකම්මං,** කාය කර්ම ය. **වචී කම්මං,** වචී කර්ම ය. **එත්ථ ච,** මේ සිකපදයෙහි ද; **කුසලාදිවසෙන,** කුශලාදි වශයෙන්; **තීණි චිත්තානි,** ත්‍රිවිධ චිත්තයෝ ම වෙත්. **සුඛාදිවසෙන,** සුඛ ආදි වශයෙන්; **තිස්සො වෙදනා ඉති,** ත්‍රිවිධ වේදනාවෝ ම වෙත් යනුවෙන්;

**පඤ්චමසික්ඛාපදං,** පස්වැනි සිකපදය යි.

## 86. වි:

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : සැවැත් නුවර

(2) **පුද්ගලයා** : උදායි තෙරුන් වහන්සේ

(3) **වස්තුව** : සඤ්චරිත්ත සමාපජ්ජන වස්තුවෙහි

භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ වෙසෙන සමයෙක ආයුෂ්මත් උදායි තෙරුන් වහනසේ බොහෝ කුලයන් සමඟ කුලුපග වූයේ කුලයන් වෙත එළඹ අවිවාහක

---

[1] **තදුභයජානනචිත්තෙන.** මජසං
[2] **කිරියං.** මජසං

කුමරුන් ද අස්වාමික කුමරියන් ද දැක කුමරුන්ගේ දෙමව්පියන් වෙත කුමරියගේ ගුණ කියති. කුමරියගේ දෙමව්පියන් වෙත කුමරුගේ ගුණ කියති. මෙසේ ආවාහ, විවාහ, නැකැත් සෑදීම් ආදිය කරති.

එසමෙයහි පුරාණ ගණිකියකගේ මනා රූ ඇති දැකුම්කලු දියණියක් වූ අතර එහා ගමේ ආජීවක ශ්‍රාවකයෝ උදයි තෙරුන් හරහා කථා බස් කොට දියණිය කැඳවාගෙන ගොස් මාසයක් පමණ ලේලි තනතුරේ තබා ඉක්බිති දසියක් ලෙස පරිහරණය කළහ. ඒ කුමරිය මේ බව සිය මෑණියන්ට දන්වූ පසු ඒ පුරාණ ගණිකිය ඒ ආජීවක ශ්‍රාවකයන්ගෙන් එසේ නොකරන ලෙස ඉල්ලුවාය. 'ඔවුහු අපට නුඹ සමඟ ගනුදෙනුවක් නොමැත අපි උදයි තෙරුන් සමඟ ගනුදෙනු කළෙමු' යැයි ප්‍රතික්ෂේප කළහ. දෙවනවර ද ඒ දියණිය මෑණියන්ට පණිවුඩ එවූ පසු ඇය උදයි තෙරුන්ට මේ බව සැලකළාය. උදයි තෙරුන් ඒ ආජීවක ශ්‍රාවකයන්ට එසේ නොකරන ලෙස දැනුම් දුන් පසු ඔවුහු 'අපට නුඹ සමඟ ගණුදෙනුවක් නැත. අපේ ගණුදෙණුව ගණිකිය සමඟ' යැයි උන්වහන්සේට දෙස් නගා නින්ද ද කළහ. තෙවනවර ද ඒ දියණිය මෑණියන් වෙත පණිවුඩ එවූ පසු ඇය උදයි තෙරුන්ට ඒ බව දැනුම් දුන් කල උන්වහන්සේ ද එය ප්‍රතික්ෂේප කළහ.

ඉක්බිති ඒ ගණිකිය නුගුණ කියන්නට වූ අතර උදයි තෙරන්ට ශාප කරන්නට ද වූවාය. එසේ ම උදයි තෙරුන් හරහා විවාහ පත්ව දුකට පත් අනෙක් ස්ත්‍රීහු ද නුගුණ කියමින් ශාප කරන්නට වූහ. සැපයට පත් ස්ත්‍රීහු උදයි තෙරුන්ගේ ගුණ වැණූහ. මේ ස්ත්‍රීන්ගේ ශාපය හා ගුණ වැණුම ඇසූ භික්ෂූහු උදයි තෙරුන් පිළිබඳ නුගුණ කියා මෙම සිදුවීම භාග්‍යවතුන් වහන්සේට සැලකළ අතර භාග්‍යවතුන් වහන්සේ විමසා බලා ගර්හා කොට '**යො පන භික්ඛු සඤ්චරිත්තං සමාපජ්ජෙය්‍ය -පෙ- සඞ්ඝාදිසෙසො**' යන මුල් පැනවීම පනවා වදාළ සේක.

එසමයෙහි ධූර්තයන් පිරිසක් වෛශ්‍යාවක වෙත දූතයන් යවා ඇය නොපැමිණි කල උදයි තෙරුන් හරහා දැනුම් දීමට කතිකා කළහ. එහි දී එක්තරා උපාසක කෙනෙක් උදයි තෙරුන් එවැනි දේ නොකරන බවට ධූර්තයන් සමඟ ඔට්ටුවක් ඇල්ලීය. අනතුරුව

ධූර්තයන් උදයි තෙරුන් හරහා ඒ වෛශ්‍යාව ගෙන්වාගත් බැවින් ඔට්ටුව පැරදුණු උපාසක තෙමේ නුගුණ කියන්නට විය. ඒ බව සැලකිරීමෙන් අනතුරුව භාග්‍යවතුන් වහන්සේ උදයි තෙරුන්ට ගර්හා කොට '**අන්තමසො තඞ්ඛණිකායපි**' යන අනුප්‍රඥප්තිය වදාළ සේක.

(4) **ප්‍රඥප්ති**

1. **මූල ප්‍රඥප්ති** : 'යො පන භික්ඛු සඤ්චරිත්තං -පෙ- සඞ්ඝාදිසෙසො'
2. **අනුප්‍රඥප්ති** : 'අන්තමසො තඞ්ඛණිකායපි'
3. **සාධාරණ - අසාධාරණ** : සාධාරණ ප්‍රඥප්ති ය. එනම් භික්ෂු භික්ෂුණී උභය පාර්ශ්වයට ම සාධාරණ වේ.

(5) **ආණත්තිය** : සාණත්තික ය. පණිවුඩය පිළිගෙන ලැබිය යුතු අය වෙත ගෙන ගොස් දී වෙන කෙනෙකු ලවා පෙරළා ඒ පුවත සැලකරවීම යනාදි ක්‍රමයෙන් අණකිරීමෙන් ඇවැතට පැමිණේ.

(6) **ආපත්ති** :

1. **සඟවෙසෙස්** : කියන ලද ක්‍රමයෙන් පණිවුඩය පිළිගැනීම (පතිගණ්හණ), අදාළ පාර්ශ්වය වෙත ගෙනගොස් සැලකිරීම (වීමංසන) හා ආපසු පෙරළා පණිවුඩය දුන් පාර්ශ්වය වෙත ඒ පුවත සැලකිරීම (පච්චාහරණ) යන තුන් අංගයන් සම්පූර්ණ වීමෙන් සඟවෙසෙස් වේ.
2. **ථුල්ලැසි** : පතිගණ්හණ ආදි අංග දෙකක් පමණක් සම්පූර්ණ වීමෙන් ථුල්ලැසි ඇවැත් වේ.
   පණ්ඩකයෙකු පිළිබඳව අංග ත්‍රය ම සම්පූර්ණ වීමෙන් ද ථුල්ලැසි වේ.
3. **දුකුළා** : එක් අංගයක් පමණක් සම්පූර්ණ වීමෙන් දුකුළා වේ.

(7) **අනාපත්ති** :

1. සඞ්ඝයාගේ හෝ චෛත්‍යයක හෝ ගිලන් භික්ෂුවකගේ හෝ කටයුත්තක් වෙනුවෙන් පණිවුඩ ගෙනයාම කරන භික්ෂුවට ඇවැත් නැත.
2. උමතු - ආදිකාර්මික ආදීන්ට ඇවැත් නැත.

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) අඞ්ග 05 :

1. **මනුස්සජාතිකභාවය** එනම් යක්‍ෂ, ප්‍රේත, තිරච්ඡානගත ආදි පුද්ගලයන් අතර සඤ්චරිත්තයෙහි ඇවැත් නොවන බව යි.
2. **නාලංවචනීය නොවීම** එනම් අලංවචනීය භාවය යි. විවාහක යුවලක් නම්, නියත වශයෙන් ම වෙන්ව ඇති බව යි.
3. **පතිගණ්හණය**
4. **වීමංසනය**
5. **පච්චාහරණය**

(10) **සමුට්ඨාන** : ඡ සමුට්ඨාන ය. (සඤ්චරිත්ත සමුට්ඨාන ය.)

1. **කාය** : ප්‍රඥප්තියත්, අලංවචනීය භාවයත් නොදන්නා භික්‍ෂුවකි. කාය විකාරයකින් හස්නක් පිළිගෙන එසේ ම වීමංසනය කොට, එසේ ම කාය විකාරයකින් පච්චාහරණය කිරීම.
2. **වාචා** : ප්‍රඥප්තියත්, අලංවචනීය භාවයත් නොදන්නා භික්‍ෂුවක් හට 'අසවල් තැනැත්තිය පැමිණි විට ඇගේ අදහස දැනගනු මැනව' යැයි කියූ වචනයක් වාක් ප්‍රයෝගයකින් ම මැනවැයි පිළිගෙන, එසේ ඒ ස්ත්‍රිය පැමිණි විට වාක් ප්‍රයෝගයෙන් ම විමසා, ඒ පණිවිඩය දුන් පුරුෂයා පැමිණි විට වචනයෙන් ම ඒ පුවත දැන්වීම. එසේ ම වචනයෙන් ම මැනවැයි හසුන පිළිගෙන අන් කටයුත්තකට ඒ ස්ත්‍රියගේ නිවසට ගොස් නැතිනම් වෙනත් ගමනක් යන කලෙක ඇය දැක, වචනයෙන් ම වීමංසනය කොට, අනෙක් කරුණකට ම එතැනින් පිටව ගොස් යම් දිනක ඒ පුරුෂයා දුටුවිට ඒ පුවත සැලකිරීම.
3. **කායවාචා** : ප්‍රඥප්තිය නොදන්නා රහතන් වහන්සේ නමක් වුව ද සිය පියාගේ වචනය පිළිගෙන, පියාගෙන් නියතව ම වෙන්ව වසන (අලංවචනීය වූ) මවට 'එනු මැනවි මගේ පියාට උවටැන් කරව' යැයි කියා පෙරළා පියා වෙත පුවත දන්වයි නම්.

මෙම තුන් අවස්ථාවන්හි අචිත්තක සමුට්ඨාන වේ. එහෙත් මේ අචිත්තක බව සියල්ලෙන් සියල්ල නොදන්නා බව නොව ප්‍රඥප්තියත්, අලංවචනීය භාවයත් නොදන්නා බව යි.

4. **කායචිත්ත** : පළමු අවස්ථාවේ මෙන් කායික ප්‍රයෝගය පමණක් කරන භික්‍ෂුව ප්‍රඥප්තිය හා අලංවචනීය භාවය දැනගෙන සිටීම.

5. **වාචාචිත්ත** : දෙවන අවස්ථාවේ මෙන් වාග් ප්‍රයෝගය පමණක් කරන භික්ෂුව ප්‍රඥප්තිය හා අලංවචනීය භාවය දැනගෙන සිටීම.
6. **කාය වාචා චිත්ත** : කාය-වාග් ප්‍රයෝග ද්වයෙන් ම කරන භික්ෂුව ප්‍රඥප්තිය හා අලංවචනීය භාවය දැන සිටීම.

මේ අවස්ථා තුන සචිත්තක සමුට්ඨාන වේ.

(11) **කිරියා** : කිරීම් වශයෙනි.

(12) **සංඥ** : නොසඤ්ඤාවිමෝක්ෂ ය.

(13) **චිත්තය** : අචිත්තක ය.

(14) **වජ්ජය** : ප්‍රඥප්තිවද්‍ය ය.

(15) **කමම** : කාය කර්ම ය, වචී කර්ම ය.

(16) **කුසල ත්‍රිකය** : කුශල, අකුශල, අව්‍යාකෘත වශයෙන් ත්‍රිචිත්ත ය.

(17) **වේදනා ත්‍රිකය** : සුඛ, දුක්ඛ, මජ්ඣත්ත වශයෙන් ත්‍රිවේදනා ය.

**සඤ්චරිත්ත සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# කුටිකාර සංඝාදිසේසය

**සඃ** ඡට්ඨෙ, සවැනි සිකපදයෙහි; **සඤ්ඤාචිකාය පන ඉති** එත්‍ථ, 'සඤ්ඤාචිකාය පන' යන මෙහි; **සංයාචිකා නාම**[1], 'සංයාචිකා' නම්; **සයං**, තමා විසින්; **පවත්තිතා යාචනා**[2], උපදවන ලද යැදීම; **වුච්චති**, කියනු ලැබේ. **තස්මා**, එබැවින්; **සඤ්ඤාචිකාය ඉති**, 'සඤ්ඤාචිකාය' යන්නෙන්; **අත්තනො**, තමාගේ; **යාචනාය**, යැදීම කරණකොටගෙන; **ඉති**, යන මේ අභිප්‍රාය; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **සයං**, තෙමේ ම; **යාචිතකෙහි උපකරණෙහි ඉති අත්‍ථො**, ඉල්වාගත් උපකරණයන්ගෙන් යන අර්ථය යි. **එත්‍ථ ච**, මෙහි ලා ද; **යං කිඤ්චි**, යම්කිසි; **පරපරිග්ගහිතකං**, අන් සතු දෙයක්; **මූලච්ඡෙදවසෙන**, මුල් සිඳීම් වශයෙන් (ආපසු නොදෙන පදනමට ගැනීමට); **යාචිතුං න වට්ටති**, ඉල්වීමට නුසුදුසු ය. **තාවකාලිකං පන**, තාවකාලිකය වනාහි; **වට්ටති**, සුදුසු ය. **සහායත්‍ථාය**, සහාය පිණිස; **කම්මකරණත්‍ථාය**, කර්මාන්ත කිරීම පිණිස; **පුරිසං දෙථ ඉති**, පුරුෂයකු දෙව යැයි; **වත්තුං වට්ටති**, කීමට සුදුසු ය. **පුරිසත්‍ථකරම්පි**, පුරුෂ අත්තමක් ද; **යාචිතුං වට්ටති**, ඉල්වීමට සුදුසු ය. **පුරිසත්‍ථකරො නාම**, පුරුෂ අත්තමක් නම්; **වඩ්ඪකි**[3] **ආදිනා පුරිසෙන**, වඩුවන් ආදි පුරුෂයකු විසින්; **කත්තබ්බං**[4] **හත්‍ථකම්මං**, කළ යුතු හස්ත කර්මයකි. **තං**, ඒ අත්කම; **පුරිසත්‍ථකරං දෙහි ඉති වා**, 'පුරුෂ අත්කමක් දෙව' යැයි හෝ; **හත්‍ථකම්මං දෙහි ඉති වා**, 'අත්කමක් (හස්ත කර්මයක්) දෙව' යැයි හෝ; **වත්‍වා**, කියා; **යාචිතුං වට්ටති**, ඉල්වීමට සුදුසු ය. **හත්‍ථකම්මං නාම**, හස්ත කර්මය නම්; **කිඤ්චි වත්‍ථුං**[5] **න හොති**, කිසිදු වස්තුවක් නො වෙයි. **තස්මා**, එබැවින්; **කිං භන්තෙ ආගතත්‍ථ ඉති**, 'වහන්ස කුමකට ආවෙහු ද' යි; **පුච්ඡිතෙ වා**, විචාළ කල්හි හෝ; **අපුච්ඡිතෙ වා**, නොම විචාළ කල්හි හෝ; **යාචිතුං වට්ටති**, ඉල්වීමට සුදුසු ය. **විඤ්ඤත්තිපච්චයා**, විඥප්තිය හේතුවෙන්; **දොසො නත්‍ථි**, දෝෂයක් නැත. **මිගලුද්දකාදයො පන**, මුවවැදි ආදීහු;

---

[1] **සඤ්ඤාචිකා නාම.** මජසං
[2] **පවත්තිතයාචනා.** මජසං
[3] **වඩ්ඪකී.** බෞසංම; කාළවිල
[4] **කාතබ්බං.** මජසං
[5] **වත්‍ථු.** මජසං

**සකකම්මං**, ස්වකීය කටයුත්තට; **න යාචිතබ්බා**, නොම ඉල්විය යුත්තාහුය.

**87. වි:** "**සඤ්ඤාචිකාය**" යනු තෙමේ ම ඉල්ලාගත් වෑ පොරෝ ආදි උපකරණයන්ගෙන් යන අදහස යි. එහෙයින් '**සයං පවත්තිතා යාචනා වුච්චති**' යැයි කියන ලදී. එසේ තෙමේ ම අනුන්ගෙන් ඉල්ලාගත් උපකරණයන්ගෙන් කරවනු ලබන කුටිය **සඤ්ඤාචිත කුටිය** ලෙස හැඳින්වේ. මෙහි ලා කුටි කරවීම් ආදිය පිණිස අනුන්ගෙන් යම් යම් දෑ ඉල්වීම කළ හැකි ආකාරය පිළිබඳව සමන්තපාසාදිකා විනයාර්ථකථාහි විස්තර වශයෙන් පැමිණේ. ඉතා සංක්ෂිප්තව පවසන කල අන් සතු කිසිදු උපකරණාදියක් නොනෑ, නොපැවරූ අයෙකුගෙන් ආපසු නොදෙන අදහසින් (මුල් සිඳීම් වශයෙන්) ඉල්ලීම නොකළ යුතු අතර **අඤ්ඤාතකවිඤ්ඤත්ති දුකුළා** ඇවැත සිදු වේ. තාවකාලිකව ඉල්ලාගත හැකි අතර කාර්යය නිම වූ කල්හි ආපසු දිය යුතු වේ[1]. උපකරණයට යම් හානියක් වී ඇත් නම් ප්‍රකෘතිමත් කර දිය යුතු වේ. මුල් සිඳීම් වශයෙන් නොව තාවකාලිකව සහාය පිණිස වැඩක් කරගැනීමට පුරුෂයෙකු වුව ද ඉල්ලාගත හැකි වේ. වස්තුවක් නොවන බැවින් නොනෑ, නොපැවරූ අයෙකුගෙන් පුරුෂ අත්කමක් ද ඉල්ලාගත හැකි වේ. එසේ අත්කම් ඉල්ලීමෙන් විඥප්ති දෝෂයක් නො වේ. එහෙත් මුව වැද්දන් ආදීන්ගෙන් කළ යුතු දෙය නියම නොකොට අනියම් වශයෙන් 'අත්කමක් දෙව' යැයි නොම ඉල්විය යුතු ය. එවිට ඔවුහු මුවෙක් මරා රැගෙන ඒම කළ හැකි බැවිනි. සෙසු ඕනෑ ම දෙයක් ඉල්වීම පිළිබඳ විනිශ්චය **සමන්තපාසාදිකාවෙන්** බලා ගත යුතු වේ.

මීළඟට කුටිය පිළිබඳ විනිශ්චය දක්වනු පිණිස **කුටින්ති** යනාදිය කියන ලදී.

---

[1] සමන්තපාසාදිකා විනයාර්ථකථාවෙහි '**ඤාතිපවාරිතට්ඨානෙ පන වට්ටති**' යන්නට විමතිවිනෝදනී ටීකාව '**සකටස්ස සම්පටිච්ඡිතබ්බත්තා මූලච්ඡෙජ්ජවසෙන යාචිතුං වට්ටති**' යැයි නෑදෑ, පැවරූ අයෙකුගෙන් පිළිගත හැකි දෙයක් මුල් සිඳීම් වශයෙන් වුව ද ඉල්වීම කළ හැකි බව දක්වේ. '**තාවකාලිකං වට්ටති**' යන්න '**උභයත්ථාපි වට්ටතීති අත්ථො**' යි ඤාතිපවාරිතයන්ගෙන් මෙන්ම නොනෑ නොපැවරූවන්ගෙන් ද තාවකාලිකව ඉල්ලීම කළ හැකි බව දක්වේ. "**ඤාතිපවාරිතට්ඨානෙ පන වට්ටතීති සකටස්ස සම්පටිච්ඡිතබ්බත්තා මූලච්ඡෙජ්ජවසෙන යාචිතුං වට්ටති. තාවකාලිකං වට්ටතීති උභයත්ථාපි වට්ටතීති අත්ථො.**" (විමති, පි.229)

**සඃ කුටිං ඉති**, ‘කුටිං’ යනු; **උල්ලිත්තාදිසු**[1], උල්ලිත්තාදි කුටි අතරින්; **අඤ්ඤතරං**, එක්තරා කුටියකි. **තත්‍ථ**, එහි ලා; **උල්ලිත්තා නාම**, උල්ලිත්තා නම්; **ථම්භතුලාපිට්ඨසඞ්ඝාටවාතපානධූමච්ඡිද්දදි-භෙදං**, කණු, තුලා, දෙරබා, වා කවුළු, දුම් කවුළු ආදි භේද ඇත්තා වූ; **අලෙපොකාසං**[2], බදම කපරාරු නොකරන අවකාශයන්; **ඨපෙත්‍වා**, හැරපියා; **අවසෙසලෙපොකාසෙ**[3], සෙසු බදමයෙන් කපරාරු කරන අවකාශයෙහි; **කුඩ්ඩෙහි**[4] **සද්ධිං සට්ටෙත්‍වා**[5], බිත්ති සමඟ ගටා; **ඡදනස්ස අන්තො**, වහලයේ ඇතුළත; **සුධාය වා**, සුණු බදමයෙන් හෝ; **මත්තිකාය වා**, මැට්ටෙන් හෝ; **ලිත්තා**, පිරිබඩ කරන ලද්දේ (කපරාරු කරන ලද්දේ) වෙයි. **අවලිත්තා නාම**, අවලිත්ත නම්; **වුත්තනයෙන එව**[6], කියන ලද නයින් ම; **ඡදනස්ස බහි ලිත්තා**, වහලයේ පිටතින් පිරිබඩ කරන ලද කුටිය යි. **උල්ලිත්තාවලිත්තා නාම**, උල්ලිත්තාවලිත්ත නම්; **තථෙව**, එසේ ම; **ඡදනස්ස**, වහලයේ; **අන්තො ච**, ඇතුළත ද; **බහි ච**, පිටත ද; **ලිත්තා**, පිරිබඩ කරන ලද කුටිය යි.

**කාරයමානෙන ඉති**, ‘කාරයමානෙන’ යනු; **සයං වා කරොන්තෙන**, තමන් ම කරන්නා විසින් හෝ; **ආණත්තියා වා කාරෙන්තෙන**[7], ආණත්තියෙන් හෝ කරවන්නහු විසින් යන්න යි.

**අස්සාමිකං ඉති**, ‘අස්සාමිකං’ යනු; **කාරෙතා**[8] **දයකෙන**, කරවන්නා වූ දයකයන්ගෙන්; **විරහිතං**, විරහිත බව යි.

**අත්තුද්දෙසං ඉති**, ‘අත්තුද්දෙසං’ යනු; **එසා**, මේ කුටිය; **මය්හං වාසාගාරං ඉති**, මගේ වසන ගෘහය යැයි; **එවං**, මෙසේ; **අත්තා උද්දෙසො අස්සාති අත්තුද්දෙසො**[9], (**අස්ස**, මේ කුටියට; **අත්තා උද්දෙසො ඉති**, තමාගේ උදෙසීම ඇත්තේ නු යි; **අත්තුද්දෙසො**, අත්තුද්දෙස නම් වේ) යනු විග්‍රහය යි. **තං අත්තුද්දෙසං**, ඒ අත්තුද්දේසය යි.

---

[1] **උල්ලිත්තාදීසු.** මජසං

[2] **ආලෙපොකාසං.** හෙමු; බෞසංම; කාළවිල

[3] **අවසෙසෙලෙපොකාසෙ.** මජසං

[4] **කුට්ටෙහි.** මජසං

[5] **සටෙත්‍වා.** මජසං

[6] **තථෙව වුත්තනයෙනෙව.** මජසං

[7] **කාරාපෙන්තෙන.** මජසං

[8] **කාරෙත්‍වා.** හෙමු, බෞසංම, කාළවිල

[9] **අත්තා උද්දෙසො එතිස්සාති අත්තුද්දෙසා.** මජසං; කඞ්ඛාපි.

**88. වි: කුටිං**: උල්ලිත්තා, අවලිත්තා, උල්ලිත්තාවලිත්තා යනුවෙන් කුටිය ආකාර තුනක් දැක්වේ.

1. **උල්ලිත්තා** : කුටියෙහි කණු, තුලා, දෙරබා, වා කවුළු, දුම් කවුළු ආදි කපරාරු නොකරනු ලබන තැන් හැරපියා සෙසු කපරාරු කරනු ලබන තැන්හි බිත්ති සමඟ වහලය ද ගටා කුටිය ඇතුළත (වහලය ද සමඟ) සුණු බදාමයෙන් හෝ මැටියෙන් හෝ කපරාරු කරන ලද්දේ නම් මෙය උල්ලිත්තා කුටිය නම් වේ.
2. **අවලිත්තා** : එසේ ම කුටියේ පිටත වහලය ද සමඟ කපරාරු කරන ලද කුටිය වේ.
3. **උල්ලිත්තාවලිත්තා** : කුටියේ ඇතුළත පිටත දෙක ම වහලය ද සමඟ කපරාරු කරන ලද්ද යි.

මෙබඳු උල්ලිත්ත හෝ වේවා අවලිත්ත හෝ වේවා උල්ලිත්තාවලිත්ත හෝ වේවා කුටියේ ප්‍රමාණය දැක්වීමට **පමාණිකා** යනාදිය කීහ.

**ස: පමාණිකා කාරෙතබ්බා ඉති**, 'පමාණිකා කාරෙතබ්බා' යනු; **පමාණයුත්තා කාරෙතබ්බා**, ප්‍රමාණයෙන් යුතුව කළ යුතු බව යි. **තත්‍රිදං පමාණං ඉති**, 'තත්‍රිදං පමාණං' යනු; **තස්සා කුටියා**, ඒ කුටියේ; **ඉදං**, මේ; **පමාණං**, ප්‍රමාණය යි.

**දීඝසො ඉති**, 'දීඝසො' යනු; **දීඝතො**, දිගින් යන්න යි; **ද්වාදසවිදත්ථියො සුගතවිදත්ථියා ඉති එත්ථ**, 'ද්වාදසවිදත්ථියො සුගතවිදත්ථියා' යන මෙහි; **සුගතවිදත්ථි නාම**, සුගත් වියත නම්; **ඉදානි**, දැන්; **මජ්ඣිමස්ස පුරිසස්ස**, මධ්‍යම පුරුෂයකුගේ; **තිස්සො විදත්ථියො**, වියත් තුනකි. **වඩ්ඪකීහත්ථෙන**[1], වඩු රියනින්; **දියඩ්ඪො හත්ථො හොති**, රියන් එකහමාරක් (1 1/2) වෙයි. **මිණන්තෙන පන**, මනින්නහු විසින්; **කුටියා**, කුටියෙහි; **බහිකුඩ්ඩෙ**[2], පිටත බිත්තියේ; **පඨමං දින්නං**, පළමුව දෙන ලද, **මහාමත්තිකපරියන්තං අගහෙත්වා**[3], මහ මැටි පිඬ කෙළවර නොගෙන, **ථුසපිණ්ඩපරියන්තෙන**, දහයියා මැටි පිඬ කෙළවරින් (මහ

---

[1] වඩ්ඪකිහත්ථෙන. මජසං
[2] බහිකුට්ටෙ. මජසං (සබ්බත්ථ 'කුට්ට'); බහිකුඩ්ඩෙ. හෙමු
[3] අග්ගහෙත්වා. මජසං (එවං සබ්බත්ථ)

මැටි පිඬට පිටතින් කපරාරුව ලෙස දහයියා මුසු මැටි ආලේපයක් කර ඇති අතර ඒ කපරාරුවේ කෙළවරින්); **ද්වාදසවිදත්ථියො**, දෙළොස් වියතක්; **මිණෙතබ්බා**, මැනිය යුතු. **සචෙ**, ඉදින්; **ථුසපිණ්ඩෙන**[1], දහයියා පිඩුවෙන්; **අනත්ථිකො හොති**, ප්‍රයෝජන නැත්තෙක් වෙයි ද; **මහාමත්තිකලෙපෙනෙව**, මහ මැටි පිඬ ලේපයෙන් ම; **නිට්ඨාපෙති**, කුටියේ වැඩ නිමවෙයි ද; **සො එව**, ඒ මහ මැටි පිඬ ම; **පරිච්ඡේදෙ**, පිරිසිදීම යි.

**තිරියං ඉති**, 'තිරියං' යනු; **විත්ථාරතො**, පළලින් යන්න යි. **සත්තන්තරා ඉති**, 'සත්තන්තරා' යනු; **කුඩ්ඩස්ස**, බිත්තියේ; **බහි අන්තං අගහෙත්වා**, පිටත කෙළවර නොගෙන; **අබ්භන්තරිමෙන අන්තෙන**, ඇතුළත කෙළවරින්; **සත්ත සුගතවිදත්ථියො**, සුගත් වියත් සතක්; **පමාණං ඉති**, ප්‍රමාණය යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **එත්ථ ච**, මෙහි ලා ද; **කෙසග්ගමත්තං අපි**, කෙසගක් නමුදු; **දීඝතො**, දිගින්; **හාපෙත්වා**, අඩුකොට; **තිරියං වා**, පළල හෝ; **තිරියතො හාපෙත්වා**, පළලින් අඩුකොට; **දීඝං (වා)**, දිග හෝ; **වඩ්ඪෙතුං**, වැඩි කිරීමට; **න වට්ටති**, නුසුදුසු ය. **උභතො වඩ්ඪනෙ**, දෙපසින් වැඩි කිරීමෙහි; **කො පන වාදෙ**, කවර කථාවක් ද? **යා පන**, යම් කුටියක් වනාහි; **දීඝතො**, දිගින්; **සට්ඨිහත්ථාපි**, සැට රියනක් වතුදු;

- 40 -

**හොති** වෙයි ද; **තිරියතො**, පළලින්; **තිහත්ථා වා**, රියන් තුනක් හෝ; **ඌනකචතුහත්ථා වා**, සතර රියනකට අඩුවෙන් හෝ; **යත්ථ**, යම් කුටියක; **පමාණයුත්තො මඤ්චො**, ප්‍රමාණ යුක්ත ඇඳක් (ප්‍රකෘති වියතින් වියත් නවයක ප්‍රමාණය යනු කඞ්ඛාවිතරණී අභිනවටීකාව යි); **ඉතො චිතො ච**, ඔබ මොබ; **න පරිවත්තති**[2], පරිවර්තනය නො වෙයි ද (හැසිරවිය නො හැක්කේ ද); **පච්ඡිමකොටියා**, පැසුළු කෙළවරින් (උපරිම වශයෙන්); **චතුහත්ථවිත්ථාරා**[3] **න හොති**, රියන් හතරක් පළල නො වෙයි ද; **අයං**, මෙය, **කුටිසඞ්ඛං**[4] **න ගච්ඡති**, කුටි සංඛ්‍යාවට නො යයි. **තස්මා වට්ටති**, එබැවින් සුදුසු ය.

---

[1] **ථුසපිණ්ඩකෙන**. මඡසං
[2] **පරිවට්ටති**. මඡසං
[3] **චතුහත්ථවිත්ථාරො**. බෞසංම; කාළවිල
[4] **කුටිසඞ්ඛ්‍යං**. මඡසං

**89. වි:** සඤ්ඤාචිත කුටියේ ප්‍රමාණය පිළිබඳ '**දීඝසො ද්වාදසවිදත්ථියො සුගතවිදත්ථියා තිරියං සත්තන්තරා**' යනුවෙන් දිගින් සුගත් වියත් දෙළොසක් (12) ද පළලින් සුගත් වියත් සතක් (7) ද යන්න යි. එහි දී සුගත් වියතක් යනු මධ්‍යම පුරුෂයකුගේ වියත් තුනක් වේ. වඩු රියනින් එකහමාරකි (1 1/2). දිග පළල මැනීම කළ යුතු ආකාරය මෙසේ ය. දිග මැනීමේ දී කුටියේ පිටත බිත්තියෙන් ද පළල මැනීමේ දී ඇතුළතින් ද මැනිය යුතු ය. පිටත බිත්තියෙහි ද පළමුව තබනු ලබන මහ මැටිපිඩෙන් නොව ඊට මත්තෙන් තබන දහයියා මුසු මැටි පිඬේ පටන් එනම් කපරාරුවේ පටන් දිග දෙළොස් වියතක් මැනිය යුතු වේ. කපරාරුවට පිටතින් තීන්ත ආලේපය අව්‍යවහාරික යි. යම් කුටියක කපරාරු කිරීමකින් තොරව ම වැඩ නිමවා ඇත් ද මහ මැටි පිඩ ම පිරිසිඳීම ලෙස ගෙන දිග මැනිය යුතු වේ. පළල මැනීමේ දී ද එපරිද්දෙන් ම ඇතුළු බිත්තියෙන් සුගත් වියත් සතක් මැනිය යුතු වේ. මෙහි දී දිග පළල කියූ ප්‍රමාණය වෙනස් කරමින් දිගින් අඩු කර පළලින් වැඩි කිරීම ද පළලින් අඩු කර දිගින් වැඩි කිරීම ද නුසුදුසු ය. දෙපසින් ම වැඩි කිරීම නුසුදුසු ම ය. එහෙත් දිගින් සැටරියන් කුටියක් වුව ද පළලින් රියන් තුනක් හෝ සිව් රියනකට අඩුවෙන් හෝ ප්‍රමාණ යුක්ත ඇඳක් එහෙ-මෙහෙ පරිවර්තනය කිරීමට නොහැකි වන උපරිම වශයෙන් රියන් හතරක පළලක් නොමැති කුටියක් වෙයි නම් මෙය කුටි සංඛ්‍යාවට නො යයි. ප්‍රමාණ යුක්ත ඇඳක් යනු ප්‍රකෘති වියතින් වියත් නවයක් හෝ අටක් ඇති ඇඳකි. ඊටත් වඩා කුඩා ඇඳක කොට්ටයක් තබා අත්පා දිගහැර වැතිරීමට නොහැකි වන බැවිනි. එබඳු ඇඳක් හැරවිය නොහැකි තරම් වන පළලින් අඩු කුටියක් වේ නම්, එය කෙතරම් දිගු වුව ද කුටි සංඛ්‍යාවට නොයන බව දක්වේ. එසේ නොවන ප්‍රමාණය ඉක්මවන ලද කුටියක් කරවීමෙන් ඇවැත් වේ.

**සඃ භික්ඛූ අභිනෙතබ්බා වත්ථුදෙසනාය ඉති**, යනු; **යස්මිං පදෙසෙ**, යම් පෙදෙසක; **කුටිං කාරෙතුකාමො හොති**, කුටියක් කරවනු කැමති වෙයි ද; **තං**, ඒ ප්‍රදේශය; **සොධෙත්වා**, පිරිසිදුකොට; **පදභාජනෙ වුත්තනයෙන**, පදභාජනියෙහි කියන ලද ක්‍රමයෙන්; **තික්ඛත්තුං සඞ්ඝං යාචිත්වා**, සංඝයාගෙන් තෙවරක් ඉල්ලා; **සබ්බෙ වා**, සියලු සඞ්ඝයා හෝ; **සඞ්ඝ පරියාපන්නා**, සංඝයාට පර්යාපන්න වූ (ඇතුළත් වූ); **සඞ්ඝෙන සම්මතා**,

සංඝයා විසින් සම්මත කරන ලද; **ද්වෙ තයො භික්ඛූ වා**, භික්ෂූහු දෙතුන් දෙනෙක් හෝ; **තත්ථ**, ඒ බිමෙහි; **වත්ථු දෙසනත්ථාය**, කුටි වස්තුව දේශනා කිරීම පිණිස; **නෙතබ්බා**, කැඳවිය යුත්තාහ.

**තෙහි භික්ඛූහි වත්ථුං**[1] **දෙසෙතබ්බං අනාරම්භං සපරික්කමනං ඉති**, යනු; **තෙහි භික්ඛූහි**, ඒ භික්ෂූන් විසින්; **කිපිල්ලිකාදීනං**, කුහුඹු ආදීන්ගේ; **ආසයාදීහි තෙරසහි**, වසන ස්ථාන ආදි තෙළෙස් උපද්‍රවයන්ගෙන් ද; **පුබ්බන්නඅපරන්නනිස්සිතාදීහි**[2], පුබබන්න-අපරන්න නිශ්‍රිත ආදි වූ; **සොළසහි උපද්දවෙහි**, සොළොස් උපද්‍රවයන්ගෙන්; **විරහිතත්තා**, විරහිත බැවින්; **අනාරම්භං**, අනාරම්භ වේ (උවදුරු රහිත වේ). **ද්වීහි චතූහි**[3] **වා බලිවද්දෙහි**[4], බලිවර්දයන් දෙදෙනෙකුගෙන් හෝ සතර දෙනෙකුගෙන්; **යුත්තෙන සකටෙන**, යොදන ලද ගැලකින්; **එකං චක්කං** එක් රෝදයක්; **නිම්බොදකපතනට්ඨානෙ**[5], වහලයේ පියසි කෙළවරින් වතුර වැටෙන ස්ථානයේ ද; **එකං**, එක් රෝදයක්; **බහි කත්වා**, පිටත තබා; **ආවිඤ්ඡිතුං**, හැසිරීමට; **සක්කුණෙය්‍යතාය**, හැකි වන බවින්; **සපරික්කමනං ඉති**, සපරික්කමන (උපචාර සහිත) වේ යැයි, **සල්ලක්ඛෙත්වා**, සලකා; **සචෙ අපි**[6], ඉදිනුදු; **සඞ්ඝපහොනකා හොන්ති**, සංඝයා පොහෝනා වේ ද; **තත්ථ එව**, එහි ම ද; **නො චෙ**, සංඝයා පොහෝනා නොවේ නම්; **සඞ්ඝමජ්ඣං ගන්ත්වා**, සඟ මැදට ගොස්; **තෙන භික්ඛුනා**, ඒ භික්ෂුව විසින්; **යාචිතෙහි**, ඉල්වන ලද සංඝයා විසින්; **ඤත්තිදුතියෙන කම්මෙන**, ඤත්තිදුතිය කර්ම වාක්‍යයෙන්; **වත්ථුං**[7] **දෙසෙතබ්බං**, කුටි වස්තුව දේශනා කළ යුතු. **සාරම්භෙ චෙ ඉති ආදි**, 'සාරම්භෙ චෙ' යනාදිය; **පටිපක්ඛනයෙන**, ප්‍රතිපක්ෂ නයින්; **වෙදිතබ්බං**, දත යුතු ය.

**90. වි:** යම් බිමක කුටිය කරනු කැමති වෙයි ද ඒ ඉඩම හෙවත් වස්තුව දේශනා කිරීම පිණිස භික්ෂූන් කැඳවාගනු කැමති කුටිය කරන භික්ෂුව පළමුව කුටි බිම පිරිසිදු කොට බිම සමකොට සීමා මණ්ඩලයක්

---

1 **වත්ථු**. මජසං
2 **පුබ්බණ්ණාපරණ්ණනිස්සිතාදීහි**. මජසං
3 ද්වීහි වා චතූහි වා. **මජසං**; චතූහි. **බෞසංම; කාළවිල**
4 **බලිබද්දෙහි**. මජසං
5 **නිබ්බොදකපතනට්ඨානෙ**. මජසං
6 **සචෙ**. මජසං
7 **වත්ථුං**. මජසං

මෙන් සකස්කොට අනතුරුව සංඝයා වෙත එළඹ උතුරු සඟල සිවුර එකස්කොට, වැඩිමහලු භික්ෂූන් වැඳ උක්කුටියෙන් හිඳ, ඇඳිලි බැඳ මෙසේ සංඝයාගෙන් කුටි වස්තුව බැලීමට තෙවරක් යාචනා කළ යුතු ය.

> **"අහං භන්තෙ සඤ්ඤාචිකාය කුටිං කත්තුකාමො අස්සාමිකං අත්තුද්දෙසං, සොහං භන්තෙ සඞ්ඝං කුටිවත්ථු ඔලොකනං යාචාමි"** (පාරා, පි.384)

එසේ යාචනය කළ කල්හි හැකි නම් සියලු සඞ්ඝයා විසින් හෝ නැති නම් පෙළෙහි එන ආකාරයට සම්මත කරගත් භික්ෂූන් දෙතුන් දෙනෙක් විසින් හෝ එහි ගොස් කුටි වස්තුව බැලිය යුතු වේ. කුටි වස්තුව බැලීමට භික්ෂූන් දෙතුන් දෙනෙකු සම්මත කරගැනීම පහත පරිදි ඤත්තිදුතිය කර්ම වාක්‍යයෙන් හෝ අපලෝකන විනය කර්මයක් වශයෙන් කළ හැකි ය.

> **"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං ඉත්ථන්නාමො භික්ඛු සඤ්ඤාචිකාය කුටිං කත්තුකාමො අස්සාමිකං අත්තුද්දෙසං, සො සඞ්ඝං කුටිවත්ථුඔලොකනං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉත්ථන්නාමඤ්ච ඉත්ථන්නාමඤ්ච භික්ඛූ සම්මන්නෙය්‍ය ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුං ඔලොකෙතුං. එසා ඤත්ති.**
>
> **සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං ඉත්ථන්නාමො භික්ඛු සඤ්ඤාචිකාය කුටිං කත්තුකාමො අස්සාමිකං අත්තුද්දෙසං, සො සඞ්ඝං කුටිවත්ථුඔලොකනං යාචති, සඞ්ඝො ඉත්ථන්නාමඤ්ච ඉත්ථන්නාමඤ්ච භික්ඛූ සම්මන්නති ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුං ඔලොකෙතුං. යස්සායස්මතො ඛමති ඉත්ථන්නාමස්ස ච ඉත්ථන්නාමස්ස ච භික්ඛූනං සම්මති ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුං ඔලොකෙතුං. සො තුණ්හස්ස, යස්ස නක්ඛමති, සො භාසෙය්‍ය.**
>
> **සම්මතා සඞ්ඝෙන ඉත්ථන්නාමො ච ඉත්ථන්නාමො ච භික්ඛූ ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුං ඔලොකෙතුං. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී, එවමෙතං ධාරයාමි."**
>
> **(පාරා, පි.384)**

මෙසේ සම්මත කරනු ලබන දෙතුන් දෙනෙකු විසින් හෝ නැති නම් සියලු සඞ්ඝයා විසින් කුටිය ඉදිකරන බිම පරීක්‍ෂාකර බලා උපද්‍රව රහිත වේ නම් (අනාරම්භං), උපචාර සහිත වේ නම් (සපරික්කමනං) කුටි වස්තුව දේශනා කළ යුතු වේ.

## උපද්‍රව සහිත බව (අනාරම්භ)

එහි දී උපද්‍රව සහිත භාවය **කිපිල්ලිකානං ආසයො හොති** යනාදි ලෙස තෙළෙස් (13) ආකාර ආශ්‍රය ස්ථානයන්ගේ වශයෙන් ද **පුබ්බන්න නිස්සිතං වා හොති** යනාදි ලෙස වදළ සොළොස් (16) නිශ්‍රිත ස්ථාන වශයෙන් ද දත යුතු වේ **(පාරා, පි.386)**.

**තෙළෙස් (13) ආශ්‍රය ස්ථාන :** කිපිල්ලිකා (කුහුඹු), උපචිකා (වේ), උන්දූර (මී), අහි (සර්ප), විච්ඡිකා (ගෝනුසු), සතපදී (පත්තෑ), හත්ථි (ඇත්), සීහ (සිංහ), ව්‍යග්ඝ (ව්‍යාඝ්‍ර), දීපි (දිවි), අච්ඡ (වලස්), තරච්ඡ (කරබානා වලස්) යන මොවුන්ගේ හෝ යම්කිසි වල් වූ තිරිසන්ගත සතුන්ගේ හෝ නිබඳ වාසස්ථානය යි. එහි දී පළමු සතුන් සදෙනාගේ නිබඳ වාසස්ථානය ම නුසුදුසු වන අතර ගොදුරු පිණිස පැමිණ යන තැනක් වේ නම්, එය ඉවත් කොට භාවිත කළ හැකි වේ. සත්ත්‍වයන්ට අනුකම්පා පිණිස ඒ ස්ථාන සය ප්‍රතික්ෂිප්ත ය. ඇත්, සිංහ ආදි සෙසු ආශ්‍රය ස්ථාන සත භික්‍ෂුවට බිය සහිත බැවින්, භික්‍ෂුවගේ ආරක්‍ෂාව පිණිස ප්‍රතික්ෂිප්ත ය. එබැවින් ඔවුන්ගේ නිබඳ වාසස්ථානය පමණක් නොව නිබඳ ගොදුරු ස්ථානය ද නුසුදුසු වේ.

**සොළොස් (16) නිශ්‍රිත ස්ථාන :** පුබ්බන්න ධාන්‍ය වගාවක්, අපරන්න ධාන්‍ය වපුළ තැනක්, අබ්භාඝාත (වධ ස්ථානය), ආඝාත (දං ගෙඩිය), සුසාන (සොහොන), උය්‍යාන (උයන), රාජවත්ථු (රජු සතු ඉඩම), හත්ථිසාලා (ඇත්හල), අස්සසාලා (අස්හල), බන්ධනාගාර (සිරගෙය), පානාගාර (සුරාසැල), සූනා (මස්ලොඹු/මස් කපන ස්ථානය), රච්ඡා (රිය මග), චච්චර (සිව්මංසල), සභා (සභාව), සංසරණ (යන එන මාර්ගය) යන ස්ථාන ඇසුරු කරගත් ඉඩමක් වේ ද එය යි.

මෙසේ තෙළෙස් ආශ්‍රය ස්ථාන වශයෙන් හෝ සොළොස් නිශ්‍රිත ස්ථාන වශයෙන් හෝ උපද්‍රව සහිත ස්ථානයන්ගෙන් විරහිත බව **අනාරම්භ** නම් වේ.

## උපචාර සහිත බව (සපරික්කමනං)

ගොනුන් දෙදෙනෙක් හෝ සතරදෙනෙක් යොදන ලද ගැලකින් එක් රෝදයක් සෙවෙනි පියසෙන් වතුර වැටෙන තැන ද අනෙක් රෝදය පිටත ද තබා කුටිය වටේට ගමන් කළ හැකි නම් එබඳු උපචාරයක් සහිත බව යි. එසේ තැනහොත් ගෙය සෙවෙනි කරන්නහු විසින් කුටිය වටේට හිණිමගක් ගෙන ගමන් කළ නොහැකි වේ. එය ද උපචාර රහිත බවකි. එබැවින් එසේ හැකි පරිදි උපචාර සහිත වේ නම් එය සපරික්කමන නම් වේ.

එසේ කුටිය ඉදිකරන බිමෙහි උපද්‍රව රහිත බවත්, උපචාර සහිත බවත් සලකා, ඉදින් එහි ගිය භික්ෂූහු සංඝයාට පොහෝනා සේ සතර නමක් වෙත් නම් ඔවුන් විසින් හෝ එසේ නො වේ නම් සඟ මැදට විත් හෝ ඒ කුටිකාරක භික්ෂුව විසින් සංඝයා වෙතින් තුන් යළ දක්වා යාචනය කරනු ලදුව සංඝ තෙමේ ඤත්තිදුතිය කර්ම වාක්‍යයෙන් කුටි වස්තුව දේශනා කළ යුතු වේ. එහි දී කුටිකාරක භික්ෂුව උතුරු සඟල සිවුර එකස්කොට වැඩිමහලු භික්ෂූන්ගේ පා වැඳ උත්කුටිකයෙන් හිඳ ඇඳිලි බැඳ මෙසේ යාචනය කළ යුතු වේ.

**"අහං භන්තෙ සඤ්ඤාචිකාය කුටිං කත්තුකාමො අස්සාමිකං අත්තුද්දෙසං, සො'හං භන්තෙ සඞ්ඝං කුටිවත්ථුදෙසනං යාචාමි"**

(පාරා, පි.386)

යනුවෙන් එසේ තුන්යළ දක්වා යාචනය කළ පසු සඞ්ඝ තෙමේ ඤත්ති දුතිය කර්ම වාක්‍යයෙන් මෙසේ සම්මත කළ යුතු වේ.

**"සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං ඉත්ථන්නාමො භික්ඛු සඤ්ඤාචිකාය කුටිං කත්තුකාමො අස්සාමිකං අත්තුද්දෙසං, සො සඞ්ඝං කුටිවත්ථුදෙසනං යාචති. යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුං දෙසෙය්‍ය. එසා ඤත්ති.**

**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං ඉත්ථන්නාමො භික්ඛු සඤ්ඤාචිකාය කුටිං කත්තුකාමො අස්සාමිකං අත්තුද්දෙසං, සො සඞ්ඝං කුටිවත්ථුදෙසනං යාචති, සඞ්ඝො ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුං දෙසෙති, යස්සායස්මතො ඛමති**

**ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථුස්ස දෙසනා, සො තුණ්හස්ස. යස්ස නක්ඛමති සො භාසෙය්‍ය.**

**දෙසිතං සඞ්ඝෙන ඉත්ථන්නාමස්ස භික්ඛුනො කුටිවත්ථු. ඛමති සඞ්ඝස්ස. තස්මා තුණ්හී. එවමෙතං ධාරයාමි.”**

(පාරා, පි.386)

යනුවෙනි. මෙසේ කුටි වස්තු දේශනා නොකොට ප්‍රමාණය ඉක්මවා සඤ්ඤාචිත කුටියක් කරවන භික්‍ෂුවට සංඝාදිසේස ඇවැත් වේ.

**සඃ ආලවියං**[1], අලවි නුවර; **ආලවිකෙ භික්ඛූ ආරබ්භ**, අලවි භික්‍ෂූන් අරබයා, **සඤ්ඤාචිකාය කුටිකරණවත්ථුස්මිං**, අනුන්ගේ ඉල්ලාගත් උපකරණවලින් සඤ්ඤාචිත කුටි කිරීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අසාධාරණපඤ්ඤත්ති**, අසාධාරණ ප්‍රඥප්තිය යි. **සාණත්තිකං**, සාණත්තිකය යි. **අදෙසිතවත්ථුකං**[2], දේශනා නොකළ ඉඩමක් ඇත්තා වූ; **පමාණාතික්කන්තං**, ප්‍රමාණය ඉක්ම වූ; **කුටිං කාරෙස්සාමි ඉති**, කුටියක් කරන්නෙමි යැයි; **උපකරණත්ථං**, උපකරණ සෙවීම පිණිස; **අරඤ්ඤගමනතො**[3] **පට්ඨාය**, වනයට යාම පටන්; **සබ්බපයොගෙසු**, සියලු ප්‍රයෝගයන්හි; **දුක්කටං**, දුකුළා වේ. **ඉදානි**, දැන්; **ද්වීහි පිණ්ඩෙහි**, මැටි පිඬු දෙකකින්; **නිට්ඨානං ගමිස්සති ඉති**, කුටියේ ඉදිකිරීම් නිමවන්නේ යැයි; **තෙසු**, ඒ පිඬු දෙක අතරින්; **පඨමපිණ්ඩදානෙ**, පළමු මැටි පිඩ දීමෙන්; **ථුල්ලච්චයං**, ථුලැසි වේ. **දුතියදානෙන**, දෙවන මැටි පිඩ දීමෙන්; **ලෙපෙ ඝට්ටිතෙ**, ලේපය ගැටූ කල්හි; **සචෙ**, ඉදින්; **අදෙසිතවත්ථුකා එව වා**, නොම දේශනා කරන ලද ඉඩමක් සහිත කුටියක් පමණක් හෝ වෙයි ද; **පමාණාතික්කන්තා එව වා හොති**, ප්‍රමාණය ඉක්ම වූ කුටියක් වීම පමණක් හෝ වෙයි ද; **එකො සඞ්ඝාදිසෙසො**, එක් සංඝාදිසේසයක් ද; **ද්වෙ ච දුක්කටානි**, දුකුළා ඇවැත් දෙකක් ද වේ. **සචෙ**, ඉදින්; **උභයවිපන්නා**[4], අදේශිත වස්තුක භාවයත් ප්‍රමාණාතික්‍රාන්ත භාවයත් යන ලක්‍ෂණ දෙකින් ම යුතු කුටියක් වෙයි ද; **ද්වෙ සඞ්ඝාදිසෙසා ච**, සඟවෙසෙස් ඇවැත් දෙකක් ද; **ද්වෙ දුක්කටානි**, දුකුළා ඇවැත් දෙකක් (ද වෙයි). **සචෙ පන**,

---

[1] **ආළවියං**. මජසං

[2] **අදෙසිතවත්ථුකා**. බෞසංම

[3] **අරඤ්ඤං ගමනතො**. මජසං

[4] **උභයවිප්පන්නා**. මජසං **(සචෙ’ති පදං නත්ථි)**

ඉදින් වනාහි; **ද්වාරබන්ධනං**[1] වා, දොර උළුවහු හෝ; **වාතපානං** වා, වා කවුළු (ජනේල) හෝ; **අට්ඨපෙත්වාව**, නොතබා ම; **මහාමත්තිකාය ලිම්පති**, මහ මැටි පිඬෙන් ලේපනය කරයි ද; **තස්මිං ච ඨපිතෙ** , ඒ දොර උළුවහු හා වා කවුළු තැබූ කල්හි ද; **ලෙපො න ඝටීයති**[2], ලේපය නො ගැටෙයි ද; **රක්ඛති තාව**, තවමත් රැකෙයි (ඇවැත් නො වේ). **පුන ලිම්පන්තස්ස පන**, යළි ලේප කරන්නහුට වනාහි; **ඝට්තමත්තෙ**, ලේපය ගැටුු මාත්‍රයෙහි; **සඞ්ඝාදිසෙසො**, සඟවෙසෙස් වේ. **සචෙ**, ඉදින්; **තං**, ඒ දොර උළුවහු හෝ වා කවුළු; **ඨපීයමානං**[3], තබනුයේ; **පඨමදින්නලෙපෙන සද්ධිං**, පළමුව දුන් ලේපය සමඟ; **නිරන්තරං එව හුත්වා තිට්ඨති**, අතරක් නැතිව ම පිහිටයි ද; **පඨමං එව සඞ්ඝාදිසෙසො,** ලේපය තබා අවසන් වූ අවස්ථාවේ ම (දොර උළුවහු, වා කවුළු තැබීමට පෙර ම) සඟවෙසෙස් වේ. **කෙවලං**, හුදෙක්; **සාරම්භාය**, උවදුරු සහිත වීමෙහි; **දුක්කටං**, දුකුළා ඇවැත් වේ. **අපරික්කමනාය**, උපචාර රහිත වීමෙහි ද; **තථා**, එසේ ම දුකුළා වේ.

**91. වි:** තමන් ම ඉල්ලාගත් අන් සතු උපකරණ ඇතිව කරවාදෙන දයකයකු රහිතව තමා උදෙසා කුටියක් කරන භික්‍ෂුව කුටි ඉඩම දේශනා නොකර ප්‍රමාණය ඉක්මවා කරන්නෙමි යැයි සිදුකරන පූර්ව ප්‍රයෝගයන්හි දුකුළා ඇවැත් වේ. කුටි කර්මාන්තය නිමවීමට මැටි පිඬ දෙකක් තිබිය දී ඉන් පළමු මැටි පිඬ දීමෙන් ථුලැසි ඇවැත් වේ. දෙවන මැටි පිඬ දීමෙන් සංඝාදිසේස ඇවැත් වේ.

මෙසේ සංඝාදිසේස ඇවැත් වීමේ දී ද අදේශිත වස්තුක භාවයට හා ප්‍රමාණාතික්‍රාන්ත භාවයට වෙන වෙනම සංඝාදිසේසාපත්ති වේ. එම ලක්‍ෂණ දෙක ම ඇති විට සංඝාදිසේසාපත්ති දෙකකි. උවදුරු සහිත බවට දුකුළා ඇවැතක් ද උපචාර රහිත බවට දුකුළා ඇවැතක් ද වේ. ඒ අනුව මේ සියලු අංගයන්ගෙන් යුතු වීමෙන් සංඝාදිසේසාපත්ති දෙකක් හා දුකුළා ඇවැත් දෙකක් වේ. දොර උළුවහු හා වා කවුළු නොතබා කුටියේ වැඩ නිමකිරීමේ දී ඒ දොර උළුවහු හා වා කවුළු තැබූ කල පෙර දුන් ලේපය සමඟ අතරක් නැතිව ඒකාබද්ධව නොසිටී නම්, ඒතාක් ඇවැත් නො වේ. දොර උළුවහු ආදිය තබා යළි පිරිබඩ කිරීමක දී පෙර

---

[1] **ද්වාරබන්ධං.** මජසං
[2] **ඝටියති.** මජසං
[3] **ඨපියමානං.** මජසං

දුන් ලේපය සමඟ ඒකාබද්ධ වේ ද සංඝාදිසේස වේ. ඉදින් යම්හෙයකින් දොර උළුවහු ආදිය තැබීමෙන් පළමුව දුන් ලේපය සමඟ අතරක් නැතිව ඒකාබද්ධ වී සිටී ද ඒ දොර උළුවහු තැබීමට පෙර ලේප කෘත්‍යයාගේ නිමවීමෙන් ම සංඝාදිසේස වේ.

**සඃ විප්පකතං කුටිං**, අඩක් නිම කළ කුටිය; **අඤ්ඤස්ස දදතො**[1], අනිකකුට දෙන්නහුට; **භූමිං සමං කත්වා**, බිම සමකොට; **භින්දන්තස්ස ච**, (නොනිමි කුටිය) බිඳින්නහුට ද; **ලෙණ**, ලෙන්; **ගුහා**, ගුහා; **තිණකුටි**, තෘණකුටි; **පණ්ණච්ඡදන**, පත්‍ර සෙවිලි ඇති; **ගෙහෙසු**, ගෙවල් අතරින්; **අඤ්ඤතරං**, එක්තරා කුටියක්; **කාරෙන්තස්ස ච**[2], කරවන්නා වූ භික්ෂුවට ද; **අඤ්ඤස්ස වාසත්ථාය**, අනිකකුගේ වාසය පිණිස; **කුටිම්පි**, කුටියක් කරවන භික්ෂුවට ද; **වාසාගාරං ඨපෙත්වා**, තමාගේ වසන ගෙය හැරපියා; **උපොසථාගාරාදිසු**[3], උපෝසථාගාර ආදිය අතරින්; **අඤ්ඤතරත්ථාය**, එක්තරා දෙයක් පිණිස, **කරොන්තස්ස**[4], කරන භික්ෂුවට; **උම්මත්තකාදීනං ච**, උම්මත්තක ආදීන්ට ද; **අනාපත්ති**, අනාපත්ති ය. **සීලවිපත්ති**, ශීල විපත්ති ය. **උල්ලිත්තාදීනං අඤ්ඤතරතා**, උල්ලිත්ත ආදි කුටි අතරින් එක්තරා කුටියක් වීම; **හෙට්ඨිමපමාණසම්භවො**[5], අවම ප්‍රමාණය සහිත වීම; **අදෙසිතවත්ථුකතා**, දේශනා නොකළ කුටි ඉඩමක් සහිත වීම; **පමාණාතික්කන්තතා**, උපරිම ප්‍රමාණය ඉක්මවීම; **අත්තුද්දෙසිකතා**, තමා උදෙසා කරවන කුටියක් වීම; **වාසාගාරතා**, වාසය පිණිස කරනු ලබන ගෘහයක් වීම; **ලෙපඝටනා ඉති**, මුල් ලේපය සමඟ අවසන් ලේපය ඒකාබද්ධ වීම යන; **ඉමානි ඡ වා සත්ත වා**, මේ සයක් හෝ සතක් හෝ; **එත්ථ**, මේ සිකපදයෙහි; **අඞ්ගානි**, අංගයෝ ය. **ඡ සමුට්ඨානං**, ඡ සමුට්ඨාන ය. **කිරියා ච**[6], කිරියා වශයෙන් ද; **කිරියාකිරියා ච**[7], කිරියාකිරිය වශයෙන් ද හටගනී. **ඉදං හි**, මෙම ඇවැත වනාහි; **වත්ථුං දෙසාපෙත්වා**, කුටි වස්තුව දේශනා කරවා; **පමාණාතික්කන්තං**[8], ප්‍රමාණාතික්‍රාන්ත කුටියක්; **කරොතො**, කරන්නහුට;

---

[1] **දදතො ච**. මජසං
[2] **'ච' කාරො න දිස්සතෙ**. මජසං
[3] **උපොසථාගාරාදීසු**. මජසං
[4] **කාරෙන්තස්ස ච**. මජසං
[5] **හෙට්ඨිමප්පමාණසම්භවො**. හෙමු; බෞසංම; කාළවිල
[6] **කිරියඤ්ච**. මජසං
[7] **කිරියාකිරියඤ්ච**. මජසං
[8] **පමාණාතික්කන්තං වා**. මජසං

**කිරියතො සමුට්ඨාති**, කිරීම් වශයෙන් හටගනී. **අදෙසෙත්‍වා**[1], දේශනා නොකොට; **කරොතො**, කුටිය කරවන භික්ෂුවට; **කිරියාකිරියතො**, කිරියාකිරිය වශයෙන් (නොකළ යුත්ත කිරීම් කළ යුත්ත නොකිරීම් වශයෙන්); **සමුට්ඨාති**, ඇවැත හටගනී. **එත්‍ථ**, මෙහි ලා; **සෙසං**, සෙස්ස; **සඞ්ඝවරිත්තෙ**, සඞ්ඝවරිත්ත සිකපදයෙහි; **වුත්තසදිසං එව ඉති**, කියන ලද ආකාර ම යැයි;

**ඡට්ඨසික්ඛාපදං**, සවැනි සිකපදය යි.

**92. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : අලවි නුවර ය.

(2) **පුද්ගලයා** : අලවි නුවරවැසි භික්ෂූහු

(3) **වස්තුව** : ඉල්ලාගත් උපකරණ ඇතිව කුටි කිරීමේ වස්තුවෙහි

භාග්‍යවතුන් වහන්සේ රජගහ නුවර වේළුවනාරාමයේ වැඩ වෙසෙන සමයේ, අලවි නුවර වැසි භික්ෂූහු, කරවා දෙන දායකයන් නැත්තා වූ, තමා වෙනුවෙන් අදහස් කරන ලද්ද වූ, ප්‍රමාණය ඉක්ම වූ කුටි අනුන්ගෙන් ඉල්ලාගත් වෑ, පොරෝ ඇතිව කරත්. කරවත්, ඒවා නිම නො වෙත්. එහෙයින් භික්ෂූහු ‘පුරුෂයකු දෙව, පුරුෂ අත්තමක් දෙව’ යනාදි ලෙස යැදීම් බහුලව, විනවීම බහුලව වාසය කරත්. එයින් පීඩාවට පත් මිනිස්සු භික්ෂූන් දැක බිය වෙත්. පලායත්.

ඉක්බිති මහාකාශ්‍යප මහරහතන් වහන්සේ අලවි නුවරට වැඩමකළ අතර පිඬු පිණිස පිවිසි කල්හි මිනිසුන් බිය වී පලා යනු දැක පිණ්ඩපාතය අවසන්ව භික්ෂූන් අමතා විමසා සිටියහ. එහි දී භික්ෂූහු මහාකාශ්‍යප මහරහතන් වහන්සේට එපවත් සැලකළ අතර භාග්‍යවතුන් වහන්සේ රජගහ නුවරින් අලවි නුවරට වැඩම කළ කල්හි මහාකාශ්‍යප මහරහතන් වහන්සේ මෙපවත් භාග්‍යවතුන් වහන්සේට සැලකළහ.

---

[1] **අදෙසාපෙත්‍වා**. මජසං

භාග්‍යවතුන් වහන්සේ මෙම නිදානයෙහි, මෙම ප්‍රකරණයෙහි භික්‍ෂු සංඝයා රැස්කරවා, භික්‍ෂූන්ගෙන් විමසා, ගර්හා කොට මණිකණ්ඨ නා රජුගේ කථාවත්, හිමවත් පෙදෙසේ විසූ පක්‍ෂීන්ගේ කථාවත් දේශනා කොට යාචනයෙහි ආදීනව නොයෙක් අයුරින් වදරා මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) **ප්‍රඥප්තිය** : අසාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : සාණත්තික ය.

(6) **ආපත්ති** :

1. **සඟවෙසෙස්** : ඇවැත් අංග සම්පාදනය වන පරිදි ඒ අවසන් මැටි පිඬ තැබීමෙන්, පූර්ව ලේපය හා ඒකාබද්ධ වේ නම් සඟවෙසෙස් වේ.
2. **ථුල්ලැසි** : කුටි කර්මාන්තය නිමවීමට මැටි පිඬ දෙකක් තිබිය දී, ඉන් පළමු මැටි පිඬ දීමෙන් ථුල්ලැසි වේ.
3. **දුකුළා** : අදේශිත වස්තුකව, ප්‍රමාණාතික්‍රාන්තව කුටියක් කරන්නෙමි යැයි උපකරණ සෙවීමේ ආදි පූර්ව ප්‍රයෝගයන්හි දුකුළා වේ.
   අදේශිත වස්තුකභාවයෙන් ද ප්‍රමාණාතික්‍රාන්ත භාවයෙන් ද වෙන වෙනම දුකුළා ඇවැත් දෙකකි.
   හුදෙක් සාරම්භ භාවයෙන් ද අපරික්කමන භාවයෙන් ද වෙන වෙනම දුකුළා වේ.

(7) **අනාපත්ති** :

1. නොනිමි කුටිය අනෙකෙකුට දෙන්නහුට.
2. බිම සමකොට නොනිමි කුටිය බිඳ දමන්නහුට.
3. ලෙන් ගුහා ආදිය අතරින් එක්තරා යමක් කරන්නහුට.
4. කුටියක් වුව ද අනෙකකු පිණිස කරන්නහුට.
5. උපෝසථාගාර ආදිය අතරින් යමක් පිණිස කරන්නහුට. (වසන ගෘහය හැරපියා)
6. උමතු - ආදිකාර්මික ආදී භික්‍ෂූන්ට.

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) **අංග** :

1. උල්ලිත්ත, අවලිත්ත, උල්ලිත්තාවලිත්ත යන කුටි අතරින් එකක් වීම.

2. කුටියක් වීමට තිබිය යුතු අවම ප්‍රමාණය එනම් පළල රියන් සතරක් වීම.

3. අදේශිත වස්තු භාවය.

4. ප්‍රමාණය ඉක්මවීම. (දිග සුගත්වියත් 12, පළල සුගත්වියත් 7)

5. තමා උදෙසා කිරීම.

6. වසන ගෘහය පිණිස කිරීම.

7. ලේප ගැටීම එනම් පළමුව දුන් ලේපය අවසන් ලේපය සමඟ ඒකාබද්ධ වීම.

(10) **සමුට්ඨාන** : ෂ සමුට්ඨාන ය. එනම් සඤ්චරිත්ත සමුට්ඨානය යි.

(11) **කිරියා** :

1. කිරියා වශයෙන් : කුටි වස්තුව දේශනා කොට ප්‍රමාණය ඉක්මවා කිරීම.
2. කිරියාකිරිය වශයෙන් : කුටි වස්තුව දේශනා නොකොට කුටියක් කිරීම.

(12) **සඤ්ඤා** : නොසංඥාවිමෝක්ෂ ය.

(13) **චිත්තය** : අචිත්තක ය.

(14) **වජ්ජ** : ප්‍රඥප්තිවද්‍ය ය.

(15) **කම්ම** : කාය කර්ම ය, වචී කර්ම ය.

(16) **කුසල ත්‍රිකය** : ත්‍රි චිත්තය ය.

(17) **වෙදනා ත්‍රිකය** : ත්‍රි වේදනා ය.

**කුටිකාර සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# විහාරකාර සංඝාදිසේසය

- 41 -

**සඃ සත්තමෙ**, සත්වැනි සංඝාදිසේස සිකපදයෙහි; **මහල්ලකං ඉති**, 'මහල්ලකං' යනු; **සස්සාමිකභාවෙන**[1], කරවා දෙන දායකයන් ඇති බැවින්; **සඤ්ඤචිත කුටිතො මහන්තභාවො එතස්ස අත්ථීති මහල්ලකො**, (**සඤ්ඤචිත කුටිතො**, සඤ්ඤචිත කුටියෙන්; **මහන්තභාවො**, මහන්තභාවය; **එතස්ස අත්ථි ඉති**, මෙම විහාරයට ඇත්තේ නු යි; **මහල්ලකො**, මහල්ලක නම් වේ.) යනු විග්‍රහය යි. 'ක' ප්‍රත්‍යය යි. **වා**, නොහොත්; **යස්මා**, යම්හෙයකින්; **වත්ථුං දෙසාපෙත්වා**, විහාර වස්තුව දේශනා කරවා; **පමාණාතික්කමෙන අපි**, ප්‍රමාණය ඉක්මවීමෙන් ද; **කාතුං වට්ටති**, කිරීමට සුදුසු ය. **තස්මා**, එබැවින්; **පමාණමහන්තතාය අපි**, ප්‍රමාණයෙන් මහත් බැවිනුදු; **මහල්ලකො**, මහල්ලක නම් වේ. **තං මහල්ලකං** ඒ මහල්ලකය යි. **යස්මා පන**, යම්හෙයකින් වනාහි; **අස්ස**, ඒ විහාරයට; **පමාණමහන්තත්තං**, ප්‍රමාණ මහත් භාවය; **සස්සාමිකත්තා එව**[2], සස්වාමික බැවින් ම; **ලබ්භති**, ලබයි. **තස්මා**, එබැවින්; **තදත්ථදස්සනත්ථං**, ඒ සස්වාමිකාර්ථය දැක්වීම පිණිස; **'මහල්ලකො නාම විහාරො සස්සාමිකො**[3] **වුච්චති' ඉති** (**මහල්ලකො නාම විහාරො**, මහල්ලක විහාරය; **සස්සාමිකො වුච්චති**, සස්වාමික කියනු ලැබේ) යැයි; **ඒවං**, මෙසේ; **අස්ස පදභාජනෙ**, ඒ සිකපද පදභාජනියෙහි; **වුත්තං**, කියන ලදී. **සේසං සබ්බං**, සෙසු සියල්ල; **කුටිකාර සික්ඛාපදෙ**, කුටිකාර සිකපදයෙහි; **වුත්තසදිසං**, කියන ලද ආකාරය ම ය. **සස්සාමිකභාවමත්තමෙව**[4] **හි**, සස්වාමික භාව මාත්‍රය ම; **විසෙසං**[5], වෙනස යි.

**කොසම්බියං**, කොසඹෑ නුවර; **ඡන්නත්ථෙරං ආරබ්භ**, ඡන්න තෙරුන් අරබයා; **චෙතියරුක්ඛං**, චෛත්‍ය වෘක්ෂයක්; **ඡේදපනවත්ථුස්මිං**, සිඳවීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තභාවො (ච)**, පනවන ලද බව ද;

[1] **සසාමිකභාවෙන.** මජසං
[2] **සසාමිකත්තාව.** මජසං
[3] **සසාමිකො.** මජසං
[4] **සසාමිකභාවමත්තමෙව.** මජසං
[5] **විසෙසො.** මජසං

**අකිරියාමත්තතො**[1], අකිරිය වශයෙන් පමණක්; **සමුට්ඨානභාවො (ච),** හටගන්නා බව ද; **එකසඞ්ඝාදිසෙසතා ච,** එක් සංඝාදිසේසයක් ඇති බව ද; **එත්ථ,** මෙහි; **විසෙසො ඉති,** විශේෂය යැයි;

**සත්තමසික්ඛාපදං,** සත්වැනි සිකපදය යි.

**93. වි:** '**මහල්ලකං විහාරං**': කරවාදෙන දයකයකු ඇති බැවින් සඤ්ඤචිත කුටියට වඩා මහත් බැවින් **මහල්ලක** නම් වේ. නැතහොත් කුටි වස්තුව දේශනා කරවා ප්‍රමාණාතික්‍රාන්ත කුටියක් නමුත් කළ හැකි බැවින්, ප්‍රමාණ මහන්තතාවයෙන් ද සඤ්ඤචිත කුටියට වඩා මහත් බැවින් **මහල්ලක** නම් වේ. මෙම මහන්ත භාවය සස්වාමික බව (කරවා දෙන දයකයකු ඇති බව) හේතුවෙන් ම ලැබෙන්නක් බැවින් සිකපදයේ පදභාජනියේ '**මහල්ලකො නාම විහාරො සස්සාමිකො වුච්චති (පාරා, පි.406)**' යැයි කියන ලදී.

කුටිකාර සිකපදය සමඟ සැසඳීමේ දී මෙම සිකපදයේ එන විශේෂයන් වන්නේ,

1. **සස්වාමික** බව. එනම් කරවාදෙන දයකයෙකු ඇති බව.
2. **කිරිය වශයෙන් සමුට්ඨානයක් නොමැති වීම.** එනම් කුටිකාර සිකපදයේ කුටි වස්තුව දේශනා කළේ නමුදු ප්‍රමාණය ඉක්මවා කිරීමෙන් කිරිය වශයෙන් ඇවැත් වේ. එහෙත් මෙම සිකපදයේ ප්‍රමාණ නියමයක් නොමැති බැවින් කුටි වස්තු දේශනා නොකිරීම් සංඛ්‍යාත අකිරිය වශයෙන් ම ඇවැතට පත් වේ. කුටි වස්තු දේශනා නොකර කුටිය ඉදිකිරීමෙන් ඇවැතට පත්වන බැවින් කිරියාකිරිය සමුට්ඨානය යි. මාතිකට්ඨකථාවේ '**අකිරියාමත්තතො සමුට්ඨානභාවො**' යැයි සඳහන් වන්නේ කිරියා වශයෙන් සමුට්ඨාන භාවයක් නොමැති බව දක්වීම පිණිස වේ.
3. **ප්‍රමාණ නියමයක් නොමැති වීම.**
4. ප්‍රමාණ නියමයක් නොමැති නිසාවෙන් ම **එක් සඟවෙසෙස් ඇවැතක් පමණක් සිදුවීම.**

---

[1] **අකිරියමත්තතො.** මජසං

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : කොසඹෑ නුවර

(2) **පුද්ගලයා** : ඡන්න ස්ථවිරයන් වහන්සේ

(3) **වස්තුව** : චෛත්‍ය වෘක්ෂයක් සිඳවීමේ වස්තුවෙහි.

භාග්‍යවතුන් වහන්සේ කොසඹෑ නුවර ඝෝෂිතාරාමයේ වැඩවෙසෙන සමයේ ආයුෂ්මත් ඡන්න තෙරුන් වහන්සේගේ උපස්ථායක ගෘහපතියෙක්, ඡන්න තෙරුන් වහන්සේට විහාරයක් කරවීම සඳහා සුදුසු බිමක් බලනු මැනව යැයි ඡන්න තෙරුන් වහන්සේට දැන්වූවේය. ඡන්න තෙරුන් වහන්සේ විහාර ඉඩමක් පිරිසිදු කරනුයේ එක්තරා මිනිසුන්ගේ පිදුම් ලබන චෛත්‍ය වෘක්ෂයක් සිඳලුවේ ය. එහි දී මිනිස්සු නුගුණ කියන්නට වූ අතර එය අල්පේච්ඡ ආදි වූ භික්ෂූන් අසා, නුගුණ කියා, භාග්‍යවතුන් වහන්සේට සැලකළ අතර භාග්‍යවතුන් වහන්සේ ඒ කරුණ විමසා බලා ඡන්න තෙරුන්ට ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

කිරියා වශයෙන් සමුට්ඨානයක් නොමැති වීමත්, එක් සඟවෙසෙස් ඇවැතක් වීමත් හැර සෙසු සියල්ල කුටිකාර සිකපදය හා සමාන වේ.

**විහාරකාර සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# පඨම දුට්ඨදෝස සංඝාදිසේසය

**සඃ** අට්ඨමෙ, අටවැනි සඟවෙසෙස් සිකපදයේ; **දුට්ඨො දොසො ඉති**, ‘දුට්ඨො දොසො’ යනු; **දූසිතො චෙව**, දූෂිත වූයේ මෙන් ම, **දූසකො ච**, දූෂකයෙක් ද යන්න යි. **හි**, විස්තර කරනුයේ; **උප්පන්නෙ දොසෙ**, ද්වේෂයක් උපන් කල්හි; **පුග්ගලො**, පුද්ගල තෙමේ; **තෙන දොසෙන**, ඒ ද්වේෂයෙන්; **දූසිතො හොති**, දූෂිත වූයේ වෙයි. **පකතිභාවං**, ප්‍රකෘති භාවය, **ජහාපිතො**, අතහරින ලද්දේ (විකාරයට පැමිණෙන ලද්දේ); **තස්මා**, එහෙයින්; **දුට්ඨො ඉති වුච්චති**, දෝෂ යැයි කියනු ලැබේ. **පරඤ්ච දූසෙති**, මෙරමා ද දූෂණය කරයි; **විනාසෙති**, විනාශ ද කරයි; **තස්මා**, එහෙයින්; **දොසො ඉති වුච්චති**, දෙෂ යැයි කියනු ලැබේ. **ඉති**, මෙසේ; **දුට්ඨො දොසො ඉති එතං**, ‘දුට්ඨො දොසො’ යන මෙය; **එකස්ස පුග්ගලස්ස එව**, එක් පුද්ගලයකුගේ ම; **ආකාරනානත්තෙන**, ආකාරයන්ගේ නානාභාවයෙන්, **නිදස්සනං**, නිදර්ශනය යි.

**අප්පතීතො ඉති**, ‘අප්පතීතො’ යනු; **නප්පතීතො**, ප්‍රීති, සුඛාදියෙන් නොම එළඹියේ, **පීතිසුඛාදීහි**, ප්‍රීති, සුඛාදියෙන්; **විවජ්ජිතො**, වෙන් වූයේ (ප්‍රීති, සුඛාදියෙන් නොම එළඹියේ); **න අභිසටො** (ප්‍රීතිසුඛාදියෙන්) නොම පැතිරුණේ; **ඉති අත්‍ථො**, යන අර්ථය යි. *“නප්පතීතොති පීතිසුඛාදීහි න අභිගතො, න උපගතො. තෙනාහ සුඛිතොති”* **(විමති, පි.236)**; *“නප්පතීතොති පීතිසුඛාදීහි න අභිගතො අනුපගතො, න උපගතොත්‍යත්ථො.”* **(කඞ්ඛා.ටී, පි. 107)**

**අමූලකෙන ඉති**, ‘අමූලකෙන’ යනු; **චොදකෙන**, චෝදකයා විසින්; **චුදිතකම්හි පුග්ගලෙ**, චූදිත පුද්ගලයා කෙරෙහි; **යං අදිට්ඨං**, යම් නොදුටු; **අසුතං**[1], නොම ඇසූ; **අපරිසඞ්කිතං**, සැක නොකළ (පරිජියක් වේ ද); **ඉදං** මෙය, **එතෙසං දස්සනසවණපරිසඞ්කාසඞ්ඛාතානං මූලානං**, ඒ දර්ශන, ශ්‍රවණ, පරිසංකිත සංඛ්‍යාත මූලයන්ගේ; **අභාවතො**, අභාවයෙන්; **අමූලකං නාම**, අමූලක නම් වේ. **සො**, ඒ චූදිත පුද්ගල තෙමේ; **තං පන**, ඒ පරිජියට, **ආපන්නො වා හොතු**, පැමිණියේ හෝ වේවා; **අනාපන්නො වා**, නොපැමිණියේ හෝ වේවා; **එතං**, ඒ චූදිතයාගේ ඇවැතට පැමිණීම හෝ නොපැමිණීම; **ඉධ**, මේ සිකපදයේ; **අප්පමාණං**, ප්‍රමාණවත් නො වේ. **ච**, තව ද; **එත්‍ථ**, මෙහි

---

[1] **අස්සුතං.** මජසං (**එවං සබ්බත්‍ථ**)

ලා; **අදිට්ඨං නාම**, නොදුටු දෙය නම්; **අත්තනො**, ස්වකීය; **පසාදචක්ඛුනා වා**, ප්‍රසාද චක්ෂුෂයෙන් හෝ; **දිබ්බචක්ඛුනා වා**, දිව්‍ය චක්ෂුෂයෙන් හෝ; **අදිට්ඨං**, නොදුටු දෙය යි. **අසුතං නාම**, අශ්‍රැතය (නො ඇසූවක්) නම්; **තථෙව**, එසේ ම; **කෙනචි වුච්චමානං**, කිසිවකු විසින් කියනු ලබන්නක්; **න සුතං**, නොම අසන ලද්දේ යන්න යි. **අපරිසඞ්කිතං නාම**, අපරිසංකිතය නම්; **අත්තනො වා**, තමාගේ හෝ; **පරස්ස වා**, මෙරමාගේ හෝ; **දිට්ඨසුතමුතවසෙන**, දෘෂ්ට, ශ්‍රැත, මුත වශයෙන්; **චෙතසා**, සිතින්, **අපරිසඞ්කිතං**, සැක නොකරන ලද්ද යි. **ඉති**, මෙසේ; **එවරූපෙන අමූලකෙන**, මෙබඳු මුල් රහිත වීමෙන් යන්න යි.

**94. වි:** "**දුට්ඨො දොසො**" යන්නෙන් එක ම පුද්ගලයකුගේ ආකාර නානත්වය දක්වේ. **දුට්ඨො** යන්නෙන් ද්වේෂයෙන් දූෂිතව, ප්‍රකෘති බව විජහනය වී ඇති බව අදහස් වන අතර **දොසො** යන්නෙන් අන් අය ද දූෂණයට ලක් කරන බව පැවසේ.

"**අප්පතීතො**" යනු ප්‍රීති සුඛාදියෙන් වෙන් වූ බව යි. ප්‍රීති සුඛාදියෙන් පැතිරුණු සන්තාන නොමැති බව යි.

"**අමූලකෙන**" යනු මුල් රහිත වූවකින් යන්න යි. ඒ අමූලික බව චෝදකයාගේ වශයෙන් ම කියන ලදී. චූදිතයාගේ වශයෙන් නො වේ. චූදිතයා එකී පරිජි ඇවැතට පැමිණියේ හෝ වේවා චූදිතයාගේ ඇවැතට පත්වීමක් චෝදකයා විසින් නොම දක්නා ලද්දේ ද නොම අසන ලද්දේ ද නොම සැක කරන ලද්දේ ද එය එකී දර්ශන, ශ්‍රවණ, පරිශංකා (සැක කිරීම්) සංඛ්‍යාත මූලයන්ගේ අභාවයෙන් **අමූලක** නම් වේ.

**අදිට්ඨං** යනු ස්වකීය ප්‍රසාද චක්ෂුෂයෙන් හෝ දිව්‍ය චක්ෂුෂයෙන් හෝ නොමදක්නා ලද්ද යි. **අසුතං** යනු එසේ ම ප්‍රසාද ශ්‍රෝත්‍රයෙන් හෝ දිව්‍ය ශ්‍රෝත්‍රයෙන් හෝ කිසිවකු විසින් කියනු ලබන්නක් නොම අසන ලද්ද යි. **අපරිසඞ්කිතං** යනු තමා විසින් හෝ අනෙකකු විසින් හෝ සැක නොකරන ලද්ද යි. එසේ සැක කරන ලද්ද **පරිසඞ්කිත** නම් වේ. එහි දී තමා විසින් දක්නා ලද්ද තමාගේ දෘෂ්ටය ම වේ. තමා නොව අනෙකකු විසින් දක්නා ලද්ද ද තමාගේ ශ්‍රැතය ද අනෙකකුගේ ශ්‍රැතය ද අන් අයගේ පරිසඞ්කිතය ද යන මේ සියල්ල තමාගේ ශ්‍රැතය ම වේ. පරිසංකිතය වනාහි දිට්ඨ පරිසඞ්කිත, ශ්‍රැත පරිසඞ්කිත, මුත පරිසඞ්කිත වශයෙන් ත්‍රිවිධ වේ. **දිට්ඨ පරිසඞ්කිතය** යනු දුටු දේ අනුව සැක කිරීම යි. උදහරණයක් ලෙස භික්ෂුවක් හා මාගමක් රහසිගත

කටයුත්තකට සුදුසු ස්ථානයක සිට එනු දැක ඒකාන්තයෙන් ම මොවුන් විසින් මෙබන්දක් කරන ලද්දේ යැයි සැක කිරීම ය. **සුත පරිසඞ්කිතය** යනු ඇසූ දෙය අනුව සැක කිරීම යි. අන්ධකාරයේ හෝ පිළිසන් ස්ථානයක හෝ භික්ෂුවකගේ හා මාගමකගේ කට හඬක් ඇසී දෙවැන්නෙකු සිටින බවක් නොදන්නකු විසින් ඒකාන්තයෙන් මේ භික්ෂුව හා මාගම මෙබඳු දෙයක් කරන ලද්දේ යැයි සැක කිරීම සුත පරිසඞ්කිතය යි. **මුත පරිසඞ්කිතය** යනු තමන් දුටු දෙයක් හෝ ඇසූ දෙයක් නොව දැනුණු ගන්ධයක් වැනි දෙයක් නිසාවෙන් සැක කිරීම යි. උදාහරණයක් ලෙස ධූර්තයන් විසින් මල්, සුවඳ විලවුන්, මාංස, සුරා ආදිය ද ගෙන ස්ත්‍රියක් රැගෙන ප්‍රත්‍යන්ත විහාරයකට ගොස් මණ්ඩපයක හෝ ශාලා ආදියක තබාගෙන පරිභෝග කොට, මල් ආදිය විසුරුවා ගිය තැනක් දැක, එය කළ අය දැකගත නොහැකි බැවින් ඒ පිළිබඳ අනෙක් සුවඳ ආදියෙන් පූජා පවත්වා, අරිෂ්ට ආදියක් වළඳන ලද භික්ෂුවක් පිළිබඳ සැක කිරීම වැනි සැකයක් වේ. මෙසේ දෘෂ්ට, ශ්‍රැත, පරිසංකිත යනාදි වශයෙන් මුල් රහිතව කරනු ලබන චෝදනාව අමූලක චෝදනාව නම් වේ.

**සඃ පාරාජිකෙන ඉති**, 'පාරාජිකෙන' යනු; **භික්ඛුනො**, භික්ෂුවකගේ; **අනුරූපෙසු එකූනවීසතියා**, අනුරූප එකුන්විසි පාරාජිකා අතරින්; **අඤ්ඤතරෙන**, එක්තරා පරිජියකින් යන්න යි. **පදභාජනෙ පන** පදභාජනියෙහි වනාහි; **පාරාජිකුද්දෙසෙ**, පාරාජිකුද්දේසයෙහි; **ආගතානි එව ගහෙත්වා**, ආවා වූ පරිජි සතර ම ගෙන; **චතුන්නං අඤ්ඤතරෙන ඉති**; 'චතුන්නං අඤ්ඤතරෙන' යැයි; **වුත්තං**, කියන ලදී.

**අනුද්ධංසෙය්‍ය ඉති**, 'අනුද්ධංසෙය්‍ය' යනු; **ධංසෙය්‍ය පධංසෙය්‍ය**[1], නසන්නේය. **අභිභවෙය්‍ය**, මඩින්නේය (යන්න යි). **තං පන අනුද්ධංසනං**, ඒ අනුද්ධංසනය; **යස්මා**, යම්හෙයකින්; **අත්තනා චොදෙන්තො අපි**, තමා චෝදනා කරනුයේ ද; **පරෙන**, අනිකකු ලවා; **චොදාපෙන්තො අපි**, චෝදනා කරවනුයේ ද; **කරොති**, කරයි. **තස්මා** එහෙයින්; **අස්ස පදභාජනෙ**, මේ සිකපදයේ පදභාජනියේ; **'චොදෙති වා චොදාපෙති වා' ඉති වුත්තං**, 'චොදෙති වා චොදෙපෙති වා' (චෝදනා කරයි හෝ චෝදනා කරවයි හෝ) යැයි කියන ලදී. **තත්‍ථ**,

[1] ධංසෙය්‍ය විද්ධංසෙය්‍ය පධංසෙය්‍ය. මජසං

එහි ලා; '**වත්‍ථුසන්දස්සනා, ආපත්තිසන්දස්සනා, සංවාසපටික්ඛෙපො**[1] **සාමීචිපටික්ඛෙපො**[2]' **ඉති**, 'වත්‍ථුසන්දස්සනා -පෙ- සාමීචිපටික්ඛෙපො' යැයි; **සඞ්ඛෙපතො**, සංක්ෂේප වශයෙන්; **චතස්සො චෝදනා**, සතර චෝදනාවෝ; **වුත්තා**, කියන ලදහ. **තාසු**, ඒ සිවු චෝදනාවන් අතරින්; **වත්‍ථුසන්දස්සනා නාම**, වත්‍ථුසන්දස්සනාව (වස්තුව දැක්වීම) නම්; '**ත්‍වං මෙථුනං ධම්මං පතිසෙවි**[3]' **ඉති ආදිනා නයෙන**, 'නුඹ වහන්සේ මෙවුන්දම් සේවනය කළෙහිය' යනාදි ක්‍රමයෙන්; **පවත්තා (චොදනා)**, පැවතුණු චෝදනාව යි. **ආපත්තිසන්දස්සනා නාම**, ආපත්තිසන්දස්සනාව (ඇවැත දැක්වීම) නම්; '**ත්‍වං මෙථුනධම්මාපත්තිං ආපන්නො**' **ඉති ආදිනා නයෙන**, 'නුඹ වහන්සේ මෙවුන්දම් පාරාජිකාපත්තියට පැමිණියෙහිය' යනාදි ක්‍රමයෙන්; **පවත්තා (චොදනා)**, පැවතුණු චෝදනාව යි. **සංවාසපටික්ඛෙපො නාම**, සංවාසපටික්ඛෙපය (සංවාසය ප්‍රතික්ෂේප කිරීම) නම්; '**නත්‍ථි තයා සද්ධිං උපොසථො වා පවාරණා වා සඞ්ඝකම්මං වා**' **ඉති එවං**, (**තයා සද්ධිං**, නුඹ වහන්සේ සමඟ; **උපොසථො වා**, උපෝසථයක් හෝ; **පවාරණා වා**, පවාරණය හෝ; **සඞ්ඝකම්මං වා**, සඞ්ඝ කර්මයක් හෝ; **නත්‍ථි**, නැත්තේය) යැයි මෙසේ; **පවත්තො (පටික්ඛෙපො)**, පැවතුණු ප්‍රතික්ෂේපය යි. **එත්තාවතා පන**, මෙපමණකින්; **සීසං න එති**, ශීර්ෂයට නොම පැමිණේ (ඇවැතට පත් නො වේ).

- 42 -

**අස්සමණො'සි ඉති ආදිවචනෙහි**[4] **සද්ධිං**, 'අස්සමණො'සි' යනාදි වචනයන් සමඟ; **සට්ඨෙ එව**, ගැටූ කල්හි ම; **සීසං එති**, ශීර්ෂයට පැමිණෙයි. **සාමීචිපටික්ඛෙපො නාම**, සාමීචිපටික්ඛෙපය නම්; **අභිවාදනපච්චුට්ඨානඅඤ්ජලිකම්මසාමීචිකම්මවීජනීකම්මාදීනං**[5], අභිවාදනය, පච්චුට්ඨානය (පෙර ගමන් කිරීම), අඤ්ජලිකම්ම (ඇඳිලි බැඳීම්), සාමීචිකම්ම (සාමීචි කර්ම), වීජනිකම්ම (විජිනිපත් සැලීම) ආදීන්ගේ; **අකරණං** නොකිරීම යි. **තං**, ඒ සාමීචිපටික්ඛෙපය;

---

[1] **සංවාසප්පටික්ඛෙපො.** මජසං (**එවං සබ්බත්‍ථ**)
[2] **සාමීචිප්පටික්ඛෙපො.** මජසං (**එවං සබ්බත්‍ථ**)
[3] **පටිසෙවි.** මජසං (**එවං සබ්බත්‍ථ**)
[4] **ආදීහි වචනෙහි.** මජසං
[5] **බීජනීකම්මාදීනං.** මජසං

**පටිපාටියා**[1], පිළිවෙළින්; **වන්දනාදීනි කරොතො**, වන්දනා ආදිය කරන්නහුගේ; **එකස්ස අකත්වා**, එක් භික්ෂුවකට නොකොට; **සෙසානං**, සෙසු භික්ෂූන් හට; **කරණකාලෙ**, කරන කාලයෙහි; **වෙදිතබ්බං**, දත යුතු ය. **එත්තාවතා ච**, මෙපමණකින් ද; **චෝදනා නාම හොති**, චෝදනාවක් නම් වෙයි. **ආපත්ති පන**, ඇවත වනාහි; **සීසං න එති**, ශීර්ෂයට නො පැමිණෙයි. **කස්මා**, කවර හෙයකින්; **මම වන්දනාදීනි**, මට වැඳීම් ආදිය; **න කරොසි ඉති**, නො කරහි ද? යැයි; **පුච්ඡිතෙ පන**, විචාළ කල්හි වනාහි; **තෙන**[2], ඔහු විසින්; **අස්සමණොසි ඉති ආදිවචනෙහි සද්ධිං**, 'අස්සමණො'සි' යනාදි වචනයන් සමඟ; **ඝටිතෙ එව**, ගැටූ කල්හි ම; **සීසං එති**, ශීර්ෂයට පැමිණේ. **තස්මා**, එහෙයින්; **යො භික්ඛු**, යම් භික්ෂුවක්; **භික්ඛුං සමීපෙ**[3] **ඨත්වා**, භික්ෂුවක් සමීපයේ සිට; **'ත්වං මෙථුනං ධම්මං පතිසෙවි' ඉති වා**, 'නුඹ වහන්සේ මෛථුන්දම් සේවනය කළෙහි' යැයි හෝ; **අස්සමණොසි ඉති ආදීහි වචනෙහි වා**, 'අශ්‍රමණයෙක් වෙහි' යන ආදි වචනයන්ගෙන් හෝ; **හත්ථමුද්දාය එව වා**, හස්ත මුද්‍රාවෙන් ම හෝ; **එතං අත්ථං දීපෙන්තො**, මේ අර්ථය දක්වනුයේ; **සයං වා චොදෙති**, තෙමේ ම හෝ චෝදනා කරයි ද; **වා**, නොහොත්; **ගහට්ඨපබ්බජිතෙසු අඤ්ඤතරෙන**, ගිහි-පැවිදි අය අතරින් එක්තරා අයෙකු ලවා; **චොදාපෙති**, චෝදනා කරවයි ද; **අයං**, මෙය; **අනුද්ධංසෙති නාම**, අනුද්ධංසනය කරයි නම් වේ.

**95. වි:** "**පාරාජිකෙන ධම්මෙන**" යනු සූවිසි පරිජි ඇවැත්හි භික්ෂූන්ට සාධාරණ වූ එකුන්විසි පරිජි අතරින් එක්තරා පරිජියකින් යන්න යි. එහෙත් සිකපදයේ පදභාජනියේ '**චතුන්නං අඤ්ඤතරෙන**' යැයි සතර පාරාජිකා අතරින් එකකින් යැයි දැක්වේ. එය පාරාජිකුද්දේසයෙහි දැක්වූ ඇවැත් සතර සඳහා පමණක් කියන ලදී. එහෙයින් කියන ලදී:

> **'පාරාජිකෙනාති භික්ඛුනො අනුරූපෙසු එකූනවීසතියා අඤ්ඤතරෙන, පදභාජනෙ පන පාරාජිකුද්දෙසෙ ආගතානෙව ගහෙත්වා චතුන්නං අඤ්ඤතරෙනාති වුත්තං** (කඞ්ඛා, පි.41)[4]'

---

[1] **පටිපාතියා.** මජසං

[2] **'තෙන' පදං නත්ථි.** මජසං

[3] **පමීපෙ.** බෞසංම; කාළුවිල (මෙය මුද්‍රණ දෝෂයකි.)

[4] මේ බව විමතිවිනෝදනී ටීකාවේ ද '**යං පාරාජිකන්ති භික්ඛුනො අනුරූපෙසු එකූනවීසතියා පාරාජිකෙසු අඤ්ඤතරං**' යැයි කියන ලදී. (විමති, පි.237) විනය අටුවා

**අනුද්ධංසෙය්‍ය** යනු චෝදනා කරන්නේය යන්න යි. කිසියම් චෝදනාවකින් යම් භික්ෂුවකගේ චරිතය ඝාතනය කරන බව, මඬින බව අදහස් වේ. එහෙයින් '**අනුද්ධංසෙය්‍යාති ධංසෙය්‍ය පධංසෙය්‍ය, අභිභවෙය්‍ය අජ්ඣොත්ථරෙය්‍ය** (සම.පා, පි.421)' යැයි කියන ලදී. මෙහි එන චෝදනාව නම් ඇවැතින් චෝදනා කිරීම යි. එම චෝදනාව ද තෙමේ ම කරන චෝදනාවක් හෝ අනිකකු ලවා චෝදනා කරවීමක් හෝ අදහස් වේ. එහෙයින් සිකපදයේ පදභාජනයෙහි '**චොදෙති වා චොදාපෙති වා**' යැයි කියන ලදී. චෝදනාව සංක්ෂේප වශයෙන් වත්ථුසන්දස්සනා, ආපත්තිසන්දස්සනා, සංවාසපටික්ඛෙපො, සාමීචිපටික්ඛෙපො යනුවෙන් සතරාකාර වේ.

**වත්ථුසන්දස්සනා** යනු 'නුඹ වහන්සේ මෙවුන්දම් සේවනය කළෙහිය' යනාදි ක්‍රමයෙන් වස්තුව දක්වමින් චෝදනා කිරීම ය. **ආපත්තිසන්දස්සනා** යනු 'නුඹ වහන්සේ මෙවුන්දම් පාරාජිකාපත්තියට පැමිණියෙහිය' යනාදි ක්‍රමයෙන් ඇවැත දක්වමින් කරන චෝදනාව යි. **සංවාසපටික්ඛෙපො** යනු 'නුඹ වහන්සේ සමඟ උපෝසථයක් හෝ පවාරණයක් හෝ සංඝ කර්මයක් හෝ නැත' යනුවෙන් සංවාසය ප්‍රතික්ෂේප කිරීම යි. මෙසේ කී පමණකින් සඟවෙසෙස් ඇවැත් ශීර්ෂයට නො පැමිණේ. එසේ සංවාසය ප්‍රතික්ෂේප කිරීමේ දී 'නුඹ වහන්සේ අශ්‍රමණයෙක් වෙහිය' යනාදි වචනයන් සමඟ ගටා කී කල්හි ම ශීර්ෂයට පැමිණේ. **සාමීචිපටික්ඛෙපය** යනු අභිවාදනය (වැඳීම්) කිරීම්, පෙරගමන් කිරීම්, ඇඳිලි බැඳීම්, පවන් සැලීම් ආදි සාමීචි කර්මයන් නොකිරීම යි. ඒවා ප්‍රතික්ෂේප කිරීම යි. එම සාමීචිපටික්ඛෙපය පිළිවෙළින් වන්දනා කරන අවස්ථාව එක් භික්ෂුවකට වන්දනා නොකොට සෙස්සන්ට වන්දනා කිරීම කරන අවස්ථාවේ දත යුතු වේ. මෙපමණකින් ම චෝදනා කරන ලද්දේ වෙයි. එහෙත් සඟවෙසෙස් ඇවැත ශීර්ෂයට නො පැමිණේ. එසේ වන්දනා නොකරන විටක 'කවර හෙයකින් මට වන්දනාදිය නො කරහි ද?' යි විමසූ කල 'නුඹ වහන්සේ අශ්‍රමණයෙක් වෙහිය' යනාදි වචනයන් සමඟ ගටා චෝදනා කළ කල්හි ම ශීර්ෂයට පැමිණේ. එබැවින් යම් භික්ෂුවක්, අන් භික්ෂුවක් සමීපයෙහි සිට 'නුඹ

---

ගැටපද විවරණයෙහි '**චතුන්නං අඤ්ඤතරෙනාති පාතිමොක්ඛුද්දෙසෙ ආගතෙ ගහෙත්වා වුත්තං. ඉතරෙ අඤ්ඤතරෙනාපි අනුද්ධංසෙන්තස්ස සඞ්ඝාදිසෙසො වාති නො තක්කොති ආචරියො**' යි සඳහන් බව කඞ්ඛාවිතරණී පිටපොත යි. (**කඞ්ඛා.පි,** පිටු.32-33)

වහන්සේ මෛථුන්දම් සේවනය කළෙහිය' යනාදි වශයෙන් හෝ 'නුඹ වහන්සේ අශ්‍රමණයෙක් වෙහි' යනාදි වචනයන්ගෙන් හෝ හස්ත මුද්‍රාවෙන් හෝ මේ අර්ථය දක්වනුයේ, තෙමේ ම හෝ චෝදනා කරයි ද කිසියම් ගිහියෙකු හෝ පැවිද්දෙකු හෝ කිසියම් අයෙකු ලවා චෝදනා කරවයි ද මෙය අනුද්ධංසනය කිරීම නම් වේ.

මෙසේ අනුද්ධංසනය කිරීමේ දී ද භික්ෂුවකගේ අනුරූප පරිජි එකුන්විස්සෙන් එක්තරා එකක් ගෙන කරන චෝදනාවක් ආපත්තිකර යැයි සඳහන් බැවින් 'පණ්ඩකයෙක් වෙහි' යනාදි වචනයකින් වුව ද සඟවෙසෙස් ඇවැත් වේ. එසේ අනුද්ධංසනය කිරීමේ දී ද '**භික්ඛු භික්ඛුං සමීපෙ ඨත්වා**' යැයි සඳහන් බැවින් හස්ත විකාර, වචී ඝෝෂණයන්ගේ චෝදනා වශයෙන් පවත්නා වූ දර්ශන හා ශ්‍රවණ උපචාරයේ සිට කරනු ලබන අනුද්ධංසනය ම අදාළ වේ. ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය කිරීම හස්ත මුද්‍රාවෙන් පමණක් ශීර්ෂයට නොපැමිණෙන නමුදු මෙම අනුද්ධංසනය ද අභූතාරෝචනය ද හස්ත මුද්‍රාවෙනුදු ශීර්ෂයට පැමිණේ.

**සඃ අප්පෙවනාම නං ඉමම්හා බ්‍රහ්මචරියා චාවෙය්‍යං ඉති**, යනු; **නං පුග්ගලං**, ඒ පුද්ගලයාව (භික්ෂුව); **ඉමම්හා සෙට්ඨචරියා**, මේ ශ්‍රේෂ්ඨ චර්යාවෙන් (සසුනෙන්); **අපනෙය්‍යං**, බැහැර කරන්නේ නම්; **අප්පෙවනාම**, යෙහෙකි. **සචෙ**, ඉදින්; **අහං**, මම; **ඉමං පුග්ගලං**, මේ පුද්ගලයාව (භික්ෂුව); **ඉමම්හා බ්‍රහ්මචරියා**, මේ බඹසරින්; **චාවෙය්‍යං**, බැහැර කරන්නෙම් නම්; **වත**, ඒකාන්තයෙන්; **සාධු අස්ස**, යහපත් වන්නේය; **ඉති ඉමිනා අධිප්පායෙන**, යන මේ අදහසින්; **අනුද්ධංසෙය්‍ය ඉති**, අනුද්ධංසනය කරන්නේය යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **එතෙන**, මේ වචනයෙන්; **එකං එව චාවනාධිප්පායං ගහෙත්වා**, එකක් ම වූ සස්නෙන් නෙරපන අදහස ගෙන; **අවසෙසා**, සෙසු; **අක්කොසාධිප්පායො**, ආක්‍රෝශ අදහස; **කම්මාධිප්පායො**, චූදිතයා හට තජ්ජනීය කර්මාදි විනය කර්මයක් කරන අදහස; **උට්ඨානාධිප්පායො**, ඇවැතකින් නඟාසිටුවීමේ අදහස; **උපොසථට්ඨපනාධිප්පායො**, උපෝසථය ඨපනය කිරීමේ අදහස; **පවාරණට්ඨපනාධිප්පායො**, පවාරණය ඨපනය කිරීමේ අදහස; **අනුවිජ්ජනාධිප්පායො**, විමසන (විභාග කරන) අදහස; **ධම්මකථාධිප්පායො**, දැහැමි කථා කීමේ අදහස; **ඉති සත්ත අධිප්පායා**, යන සප්ත අභිප්‍රායයෝ; **පටික්ඛිත්තා හොන්ති**, ප්‍රතික්ෂිප්ත වෙත්.

**තතො අපරෙන සමයෙන ඉති**, 'තතො අපරෙන සමයෙන' යනු; **යස්මිං සමයෙ**, යම් සමයෙක; **අනුද්ධංසිතො හොති**, අනුද්ධංසනය කරන ලද්දේ (චෝදනා කරන ලද්දේ) වෙයි ද; **තතො අඤ්ඤස්මිං සමයෙන**, එයින් අන් සමයෙක්හි යන්න යි.

**සමනුග්ගාහියමානො**[1] **වා ඉති**, 'සමනුග්ගාහියමානො වා' යනු; **අනුවිජ්ජකෙන**, සඟ මැද බැසගත් අධිකරණය විනිශ්චය කිරීමට හුන් විනයධරයා විසින්; **'කිං තෙ දිට්ඨං' ඉති ආදිනා නයෙන**, 'නුඹ විසින් කුමක් දක්නා ලද්දේ ද' යනාදි ක්‍රමයෙන්; **අනුවිජ්ජියමානො**, විමසනු ලබනුයේ (විභාග කරනු ලබනුයේ); **උපපරික්ඛියමානො**, පරීක්‍ෂා කරනු ලබනුයේ (යන්න යි).

**අසමනුග්ගාහියමානො**[2] වා **ඉති**, 'අසමනුග්ගාහියමානො වා' යනු; **දිට්ඨාදිසු**[3], දෘෂ්ටාදීන් අතරින්; **කෙනචි වත්ථුනා වා**, කිසියම් වස්තුවක් කරණකොටගෙන හෝ; **අනුවිජ්ජකාදිසු**[4], අනුවිජ්ජකාදීන් අතරින්; **කෙනචි පුග්ගලෙන** වා[5], කිසියම් පුද්ගලයෙක් විසින් හෝ; **අවුච්චමානො**; නොකියනු ලබනුයේ (යන්න යි). **ඉමෙසං පන පදානං**, මේ පදයන්ගේ; **පරතො**, ඉදිරියෙහි එන; **'භික්ඛු ච දොසං පතිට්ඨාති' ඉති ඉමිනා**, 'භික්ඛු ච දොසං පතිට්ඨාති' යන මේ පදය සමඟ; **සම්බන්ධො**, සම්බන්ධ වේ. **ඉදං හි වුත්තං හොති**, මෙය කියන ලද්දේ වෙයි. **එවං**, මෙසේ; **සමනුග්ගාහියමානො වා**, විභාග කරනු ලබනුයේ හෝ; **අසමනුග්ගාහියමානො වා**, විභාග නොකරනු ලබනුයේ (දෘෂ්ටාදි කිසියම් වස්තුවක් කරණකොටගෙන අනුවිජ්ජක ආදීන් අතරින් කිසිවකු විසින් නොකියනු ලබනුයේ) හෝ; **භික්ඛු ච**, භික්‍ෂුව ද; **දොසං පතිට්ඨාති**, දෝෂයෙහි පිහිටයි. **පටිච්ච තිට්ඨති**, දෝෂය ඇසුරුකරගෙන සිටියි. **පටිජානාති**, දෝෂය ප්‍රතිඥා කරයි. **සඞ්ඝාදිසෙසො ඉති**, සඟවෙසෙස් ඇවැත් වේ යනු යි. **ඉදඤ්ච**, මේ 'සමනුග්ගාහියමානො' යනාදි පදය ද; **අමූලකභාවස්ස**, අමූලක භාවයාගේ; **පාකටකාලදස්සනත්ථං**, ප්‍රකට වන කාලය දක්වනු පිණිස; **වුත්තං**, කියන ලදී. **ආපත්තිං පන**,

---

[1] **සමනුග්ගාහීයමානො**. මජසං (**එවං සබ්බත්ථ**)
[2] **අසමනුග්ගාහීයමානො**. මජසං (**එවං සබ්බත්ථ**)
[3] **දිට්ඨාදීසු**. මජසං
[4] **අනුවිජ්ජකාදීසු**. මජසං
[5] **යෙන කෙනචි පුග්ගලෙන වා**. මජසං

ඇවැත වනාහි; **අනුද්ධංසිතක්ඛණෙ එව**, අනුදධංසනය කළ ක්‍ෂණයේ ම; **ආපජ්ජති**, පැමිණේ.

**අමූලකං චෙව තං අධිකරණං හොති ඉති එත්ථ** පන, 'අමූලකං චෙව තං අධිකරණං හොති' යන මේ පාඨයෙහි වනාහි; **දිට්ඨමූලාදීනං**, දෘෂ්ට මූල ආදීන්ගේ; **අභාවෙන**, අභාවයෙන්; **අමූලකං**, අමූලක ය. **සමථෙහි**, සමථයන්ගෙන්; **අධිකරණීයභාවෙන**, සංසිඳුවිය යුතු භාවයෙන්; **අධිකරණං**, අධිකරණය යි. **හි**, ඒ එසේ මැ යි. **යං**, යම් කෘත්‍යයක්; **අධිකිච්ච**, උදෙසා (ප්‍රස්තුත කරගෙන); **ආරබ්භ**, අරබයා; **පටිච්ච**, වෙනුවෙන්; **සන්ධාය**, සඳහා; **සමථා පවත්තන්ති**, සමථයෝ පවතිත් ද; **තං අධිකරණං**, එය අධිකරණය යි. **ඉධ පන**, මෙහි වනාහි; **පාරාජිකසඞ්ඛාතං**, පාරාජික සංඛ්‍යාත වූ; **ආපත්තාධිකරණමෙව**, ආපත්තාධිකරණය ම; **අධිප්පෙතං**, අදහස් කරන ලදී. **යදි හි**, ඉදින් වනාහි; **තං අධිකරණං**, ඒ අධිකරණය; **දිට්ඨාදීහි මූලෙහි**, දෘෂ්ටාදි මූලයන්ගෙන්; **අමූලකං චෙව හොති**, අමූලක ද වෙයි. **අයං**, මේ; **චොදෙතුං ආගතො භික්ඛු ච**, චෝදනා කිරීමට ආවා වූ භික්‍ෂුව ද; **දොසං පතිට්ඨාති**, දෝෂයෙහි පිහිටයි. **පටිච්ච තිට්ඨති**, දෝෂය පිළිගෙන සිටියි. **'තුච්ඡකං මයා භණිතං' ඉති ආදීනි**, 'මවිසින් හිස් වූවක් කියන ලද්දේය' යනාදිය; **වදන්තො**, කියනුයේ; **පටිජානාති**, දෝෂය ප්‍රතිඥා කරයි ද; **තස්ස භික්ඛුනො**, ඒ භික්‍ෂුවට; **අනුද්ධංසිතක්ඛණෙ එව**, අනුද්ධංසනය කළ ක්‍ෂණයෙහි ම; **සඞ්ඝාදිසෙසො ඉති**, සඟවෙසෙස් ඇවැත් වේ යන; **අයං**, මෙය; **සික්ඛාපදස්ස**, සිකපදයාගේ; **පදානුක්කමෙන**, පද පිළිවෙළින්; **අත්ථො**. අර්ථය යි.

**96. වි:** "අප්පෙව නාම නං ඉමම්හා බ්‍රහ්මචරියා චාවෙය්‍යං" යන්නෙන් චෝදකයාගේ අදහස දක්වේ. එනම් චූදිත භික්‍ෂුව සසුනෙන් නෙරපීමේ අදහස යි. අභිප්‍රායයන් ප්‍රභේද වශයෙන් අනේකාකාර වේ. චාවනාධිප්‍රාය හෙවත් සසුනෙන් නෙරපන අදහස, ආක්‍රෝශ කරන අභිප්‍රාය, විනය කර්මයක් කරන අභිප්‍රාය, ඇවැතින් නැගාසිටුවීමේ අභිප්‍රාය, උපෝසථ, පවාරණයන් ඨපනය කිරීමේ අභිප්‍රාය, යම් අධිකරණයක් විභාග කරන අභිප්‍රාය, ධර්ම කථාවක් කිරීමේ අභිප්‍රාය යනුවෙන් චෝදනා කිරීමේ නොයෙක් අදහස් වේ. ඒ සියල්ල අතරින් සසුනෙන් නෙරපන අදහසින් යුතුව ම 'මේ භික්‍ෂුව සසුනෙන් හෙවත් ශ්‍රේෂ්ඨ චර්යාවෙන් බැහැර කරන්නේ නම් මැනවි' යන මේ ආකාරයෙන් චෝදනා කරන බව දක්වේ.

එසේ යම් අවස්ථාවක චෝදනා කරන ලද්දේ ද එයින් අන්‍ය වූ අවස්ථාවක සඟ මැද බැසගත් අධිකරණයක් විනිශ්චය කිරීමට දන්නා වූ විනයධරයකු විසින් 'නුඹ විසින් කුමක් දක්නා ලද්දේ ද' යනාදි ක්‍රමයෙන් විමසනු ලබන්නේ හෝ එසේ නොම විමසනු ලබන්නේ හෝ චෝදක භික්ෂුව දෝෂයෙහි පිහිටයි ද, දෝෂය ඇසුරුකරගෙන සිටියි ද, දෝෂය ප්‍රතිඥා කරයි ද, සංඝාදිසේස වේ. එහෙයින් '**සමනුග්ගාහියමානො වා අසමනුග්ගාහියමානො වා**' යැයි කියන ලදී. මෙයින් අධිකරණයාගේ අමූලික බව, මුල් රහිත බව ප්‍රකට වන කාලය දක්වන අතර ඇවැත වනාහි අනුද්ධංසනය කළ, චෝදනා කළ අවස්ථාවේ දී ම පත්වේ.

"**අමූලකං චෙව තං අධිකරණං හොති**" යන මෙහි අමූලක බව යනු දෘෂ්ටාදි මුල් රහිත බව යි. සමථයන් කරණකොටගෙන අධිකෘත්‍ය ඇති භාවයෙන් අධිකරණ නම් වේ. අධිකෘත්‍ය ඇති බව යනු අතිරේක කෘත්‍යයක් ඇති බව යි. අධි පූර්ව √කර ධාතුව යි. යම් කටයුත්තක් ප්‍රස්තුත කරගෙන, යමක් අරබයා, යමක් වෙනුවෙන්, සම්මුඛාවිනය ආදි වූ සමථයෝ පවත්නාහු ද එය අධිකරණය නම් වේ. විවාදධිකරණ, අනුවාදධිකරණ, ආපත්තාධිකරණ, කිච්චාධිකරණ යන සිවු අධිකරණයන් අතරින් මෙහි එන අධිකරණ ශබ්දයෙන් නම් පාරාජික සංඛ්‍යාත ආපත්තාධිකරණය ම අදහස් කරන ලදී. සෙසු විවාදධිකරණ ආදීන්ගේ චෝදනා කිරීමක් නොමැති බැවිනි. එකී ආපත්තාධිකරණය යම්හෙයකින් දෘෂ්ටාදි මූලයන්ගෙන් අමූලික වේ ද මුල් රහිත වේ ද චෝදක භික්ෂුව ම දෝෂයෙහි පිහිටා සිටී ද දෝෂය ඇසුරුකොටගෙන සිටී ද මා විසින් හිස් වූ මුසාවක් කියන ලදී යනාදි ලෙස දෝෂය ප්‍රතිඥා කරයි ද, ඒ භික්ෂුවට චෝදනාව කළ ක්ෂණයෙහි ම සඟවෙසෙස් ඇවැත් වේ.

මෙසේ සිකපදයාගේ පද පිළිවෙළින් අර්ථ දක්වා තදනන්තරව සියලු සිකපදයන්ට, සාධාරණ සප්තදශාකාර විනිශ්චය දක්වනු පිණිස '**රාජගහෙ**' යනාදිය කීහ.

**සඃ** රාජගහෙ, රජගහ නුවර, **මෙත්තියභුම්මජකෙ**[1] **භික්ඛු ආරබ්භ,** මෙත්තිය භුම්මජක භික්ෂූන් අරබයා; **අමූලකෙන පාරාජිකෙන,** අමූලක

[1] **මෙත්තියභූමජකෙ.** මජසං

පරිජියකින්; **අනුද්ධංසනවත්‍ථුස්මිං**, චෝදනා කිරීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **සාධාරණපඤ්ඤත්ති**, සාධාරණ ප්‍රඥප්තිය යි. **සාණත්තිකං**, සාණත්තිකය යි. **කතූපසම්පදං**, කරන ලද උපසම්පද ඇති; **සුද්ධං වා**, පිරිසිදු හෝ; **අසුද්ධං වා**, අපිරිසිදු හෝ; **පුග්ගලං**, පුද්ගලයකුට;

- 43 -

**යෙන පාරාජිකෙන**, යම් පරිජියකින්; **චොදෙති**, චෝදනා කරයි ද; **තං**, ඔහුට; **අයං**, මේ තෙමේ; **අනජ්ඣාපන්නො ඉති**, පරිජි ඇවැතට පත් නො වූයේය යැයි; **ඤත්‍වා**, දැනගෙන; **චාවනාධිප්පායෙන**, සස්නෙන් නෙරපන අදහසින්; '**ආයස්මා**, ආයුෂ්මතුන් වහන්සේ; **මෙ**, මට; **ඔකාසං කරොතු**, අවකාශ කරාවා. **අහං**, මම; **තං** නුඹ වහන්සේට; **වත්තුකාමො ඉති**, කියනු කැමැත්තෙමි යැයි; **එවං ඔකාසං අකාරෙත්‍වා**, මෙසේ අවකාශ නොකරවා; **චොදෙන්තස්ස**, චෝදනා කරන්නහුට; **සචෙ**, ඉදින්, **සො**, හෙතෙමේ; **තඞ්ඛණං එව**[1], එකෙණෙහි ම; **මං චොදෙති ඉති**, මට චෝදනා කරයි යැයි; **ජානාති**, දැනගනී ද; **වාචාය වාචාය**, වචනයක් පාසා; **සඞ්ඝාදිසෙසො චෙව**, සඟවෙසෙසක් මෙන් ම; **දුක්කටඤ්ච**, දුකුළාවක් ද වේ. **ඔකාසං කාරෙත්‍වා**, අවකාශ කරවා; **චොදෙන්තස්ස**, චෝදනා කරන්නහුට; **සඞ්ඝාදිසෙසො එව**, සඟවෙසෙස් ම ය. **හත්‍ථමුද්දය**, හස්ත මුද්‍රාවෙන්; **සම්මුඛා චොදෙන්තස්ස අපි**, සම්මුඛයේ චෝදනා කරන්නහුට ද; **එසෙව නයො**, මේ ක්‍රමය ම වේ. **පරම්මුඛා චොදෙන්තස්ස පන**, පරම්මුඛයේ චෝදනා කරන්නහුට වනාහි; **සීසං න එති**, ඇවැත ශීර්ෂයට නො පැමිණේ. **අත්තනා සමීපෙ ඨත්‍වා**, තමා සමීපයෙහි සිට; **අඤ්ඤං භික්ඛුං**, අන් භික්‍ෂුවකට; **ආණාපෙති**, අණ කරවයි ද; **සො**, හෙතෙමේ; **තස්ස වචනෙන**, ඔහුගේ වචනයෙන්; **තං චොදෙති**, ඒ භික්‍ෂුවට චෝදනා කරයි ද; **චොදපකස්ස එව**, චෝදපක භික්‍ෂුවට ම; **වුත්තනයෙන**, කියන ලද නයින්; **ආපත්තියො**, ඇවැත් වේ. **අථ**, ඉක්බිති; **සො අපි**, ඒ අණ ලද භික්‍ෂුව ද; **මයා**, මා විසින්; **දිට්ඨං සුතං මුතං**[2], දෘෂ්ටයක්, ශ්‍රැතයක්, මුතයක්; **අත්‍ථි ඉති**, ඇත්තේ යැයි; **චොදෙති**, චෝදනා කරයි ද; **ද්වින්නම්පි ජනානං**, දෙදෙනාට ම; **තථා එව**, එසේ ම (වචනයක්

[1] **තඞ්ඛණෙයෙව**. මජසං
[2] '**මුතං**' **ඉති පදං නත්‍ථි**. මජසං

පාසා ම); **ආපත්තියො**, ඇවැත් වේ. **අක්කොසාධිප්පායෙන පන**, ආක්‍රෝශ අභිප්‍රායයෙන් වනාහි; **ඔකාසං අකාරෙත්වා**, අවකාශ නොකරවා; **වදන්තස්ස**, කියන්නහුට; **වුත්තනයෙන එව**, කියන ලද නයින් ම; **පාචිත්තියං චෙව**, පචිතියක් මෙන් ම; **දුක්කටඤ්ච**, දුකුළාවක් ද වේ. **ඔකාසං කාරෙත්වා**, අවකාශ කරවා; **වදන්තස්ස**, කියන්නහුට; **පාචිත්තියං එව**, පචිතියක් ම ය. **කම්මාධිප්පායෙන**, විනය කර්මයක් කරන අභිප්‍රායයෙන්; **අසම්මුඛා**, අසම්මුඛයේ; **සත්තවිධං අපි**, සප්තවිධ වූ ම; **කම්මං කරොන්තස්ස**, විනය කර්ම කරන්නහුට; **දුක්කටමෙව**; දුකුළා ම වේ. **වුට්ඨානාධිප්පායෙන**, ඇවැතකින් නගාසිටුවීමේ අදහසින්; '**ත්වං**, නුඹ වහන්සේ; **ඉත්ථං නාම**[1] **ආපත්ති**, මෙනම් ඇති ඇවැතට; **ආපන්නො**, පැමිණියේ වෙහි; **තං පටිකරොහි ඉති**, එයට පිළියම් කරව' යැයි; **වදන්තස්ස**, කියන්නහුට; **උපොසථං වා**, උපෝසථය හෝ; **පවාරණං වා**, පවාරණය හෝ; **ඨපෙන්තස්ස ච**, තබන්නහුට ද; **ඔකාසකම්මං නත්ථි**, අවකාශ කිරීමක් නැත. **ඨපනක්ඛෙත්තං පන**, ඨපන ක්ෂේත්‍රය; **ජානිතබ්බං**, දත යුතු ය. **අනුවිජ්ජකස්ස අපි**, අනුවිජ්ජකයෙකුට ද; **වත්ථුස්මිං ඔසටෙ**, වස්තුව බැසගත් කල්හි; **එතං**, මේ දෝෂය; **තව අත්ථි**, නුඹට ඇත්තේ ද?; **ඉති**, යනුවෙන්; **අනුවිජ්ජනාධිප්පායෙන**, විභාග කරන අදහසින්; **වදන්තස්ස**, කියන්නහුට; **ඔකාසකම්මං නත්ථි**, අවසර ගැනීමක් නැත. **ධම්මකථිකස්ස අපි**, ධර්මකථිකයෙකුට ද; **යො**, යමෙක්; **ඉදඤ්ච ඉදඤ්ච කරොති**, මේ මේ කරයි ද; **අයං අස්සමණො**, මේ තෙමේ අශ්‍රමණයෙක් ය; **ඉති ආදිනා නයෙන**, යන ආදි ක්‍රමයෙන්; **අනොදිස්සකං**, නොම උදෙසා; **ධම්මං කථෙන්තස්ස**, ධර්මය දේශනා කරන්නහුට; **ඔකාසකම්මං නත්ථි**, අවසර ගැනීමක් නැත. **සචෙ පන**, ඉදින් වනාහි, **ඔදිස්ස**, උදෙසා, **නියමෙත්වා**, නියම කොට; **අසුකො ච අසුකො ච**, අසවලා ද අසවලා ද; **අස්සමණො**, අශ්‍රමණයෙක් ය; **අනුපාසකො ඉති**, උපාසකයෙක් නො වේ ය යැයි; **කථෙති**, කියයි ද; **ආසනතො ඔරුය්හ**, ධර්මාසනයෙන් බැස; **ආපත්තිං දෙසෙත්වා**, ඇවැත් දෙසා; **ගන්තබ්බං**, යා යුතු ය.

**97. වි:** යම් උපසපන් භික්ෂුවක් පරිජි ඇවැතට පත් වූයේ හෝ වේවා නොවූයේ හෝ වේවා මේ තෙමේ පරිජි නොවූයේ යැයි දන

---

[1] **ඉත්ථන්නාමං**. මජසං; **ඉත්ථං නාමං**. බෞසංම; කාළවිල

සසුනෙන් පහ කරන අභිප්‍රායයෙන් 'ඇවැත්නි, මට අවසර දෙව, මම නුඹ වහන්සේට ඇවැතකින් චෝදනා කරනු කැමැත්තෙමි' යැයි මෙසේ අවසර ගැනීමක් නොකොට, චෝදනා කරයි ද චූදිත භික්ෂුව එකෙණෙහි ම දැනගනී ද වචනයක් පාසා සඟවෙසෙස් ඇවැතක් සහ දුකුළාවක් වේ. අවකාශ කරවා චෝදනා කරන්නහුට සඟවෙසෙස් පමණි. හස්ත මුද්‍රාවෙන් සම්මුඛයේ චෝදනා කරන්නහුට ද මෙපරිද්දෙන් ම ඇවැත් වේ.

මෙහි දී චූදිත භික්ෂුව ඇවැතට පත් වී තිබීම හෝ පිරිසිදු වීම අදාළ නො වේ. පිරිසිදු හෝ අපිරිසිදු භික්ෂුවක් පිරිසිදු යන සංඥාවෙන් යුතුව චෝදනා කරයි ද ඇවැත් වේ. එසේ ම සඟවෙසෙස් ඇවැත පිළිබඳව අවසර ගැනීම අංගයක් නො වේ. අවසර ගැනීමකින් තොරව චෝදනා කරන්නේ නම් සංඝාදිසේසාපත්තියට අමතරව අවසර නොගැනීම මත දුකුළා ඇවැත් ද වේ. අවසර ගෙන තිබේ නම් සඟවෙසෙස් ඇවැත් පමණි. තව ද චෝදක භික්ෂුව චෝදනා කළ කල්හි චූදිත භික්ෂුව එකෙණෙහි ම දැනගනී නම් පමණක්, චෝදකයාට ඇවැත් වේ. මෙහි ලා එකෙණෙහි ම දැනගැනීම නම්, ආවර්ජන සමයෙහි දැනගැනීම යි. එනම් ප්‍රකෘතියෙන් යම් පුද්ගලයෙක් යමක් ශ්‍රවණය කළ පසු එය තේරුම් ගන්නා කාලයෙහි දැනගැනීම යි. ඇසීමත් සමඟ ම පෙරපසු නොවී දැනගැනීම දුෂ්කර වේ. එබැවින් ප්‍රකෘතියෙන් යම් පුද්ගලයෙක් දැනගන්නා කාලය තුළ දැනගැනීම මෙහි එකෙණෙහි ම යන්නෙන් අදහස් වේ. එසේ ප්‍රකෘතියෙන් දැනගන්නා කාලය ඉක්මවා ගොස්, පසුව කල්පනා කර දැනගත්ත ද ඇවැත ශීර්ෂයට නො පැමිණේ. ශික්ෂා ප්‍රත්‍යාඛ්‍යානය, අභූතාරෝචනය, දුට්ඨුල්ලවාචා, අත්තකාම පාරිචරියාවෙහි ගුණ කීම, දුට්ඨදෝස, භූතාරෝචන යන සියලු තැන්හි එක ම පිරිසිදීම වේ. එනම් ප්‍රකෘති ආවර්ජන සමයෙහි දැනගැනීමෙන් ම ඇවැත් වේ. එසේ ම මෙම චෝදනාව සම්මුඛයේ කළ යුතු වේ. අසම්මුඛයේ චෝදනා කිරීමෙන් දුකුළා ඇවැත් පමණක් වන බැවින් "**පරම්මුඛො චොදෙන්තස්ස පන සීසං න එති (කඞ්ඛා, පි.43)**" යැයි කියන ලදී.

මේ අනුව අවකාශ කරවාගෙන ද සම්මුඛයේ අමූලක පරිජියකින් චෝදනා කරන්නහුට සඟවෙසෙස් වේ. අමූලක සංඝාදිසේසාපත්තියකින් චෝදනා කරන්නහුට පචිති වේ. ආචාර විපතකින් චෝදනා කරන්නහුට දුකුළා වේ. ආක්‍රෝශ අදහසින්

කියන්නහුට පචිති වේ. අසම්මුඛයේ සප්ත ආපත්තිස්කන්‍ධයන්ගෙන් ම කියන්නහුට දුකුළා වේ. අසම්මුඛයේ සත්වැදෑරුම් වූ ම විනය කර්ම කරන්නහුට දුකුළා ම වේ ය යනු සමන්තපාසාදිකාවෙහි (පි.429) එන විනිශ්චය යි.

ඇවැතකින් නඟා සිටුවන අදහසින් කියන්නහුට ද උපෝසථ හා පවාරණ ඨපනය කරන්නහුට ද අවකාශ කිරීමක් නැත්තේය. එහෙත් ඨපන ක්ෂේත්‍රය දත යුතු වේ. උපෝසථය ඨපනය කරන්නහු විසින්, '**සුණාතු මේ භන්තෙ සඞ්ඝො අජ්ජුපොසථො පණ්ණරසො, යදි සඞ්ඝස්ස පත්තකල්ලං, සඞ්ඝො උපොසථං කරෙ**' යන මේ උපෝසථ ඤත්තියෙහි 'රෙ' කාරය නොඉක්මවූ කල්හි ම යම් භික්‍ෂුවකගේ උපෝසථය ඨපනය කිරීමට ලබයි. එයින් පසු 'ය්‍ය' කාරයට පත් වූ කල්හි නො ලබයි. පවාරණයෙහි ද මෙසේ ම ය.

අනුවිජ්ජකයෙකුට හෙවත් පිළිවිසිනා විනයධරයකුට ද චෝදකයකු විසින් කියන ලද වචනය සඟ මැද කී කල්හි 'නුඹ වහන්සේට මොහු කියන දෝෂය ඇත් ද' යි විභාග කරන අභිප්‍රායයෙන් අසන්නහුට ද අවසර ගැනීමක් නැත. ධර්මකථිකයෙකුට ද 'යමෙක් මේ මේ දේ කරයි ද හෙතෙමේ අශ්‍රමණයෙක් ය' යනාදි ක්‍රමයෙන් නොම උදෙසා (නියමයක් නැතිව) කීමෙහි අවසර ගැනීමක් නැත. එහෙත් යම් භික්‍ෂුවක් නියම කොට කියයි ද ධර්මාසනයෙන් බැස අවසර නොගෙන චෝදනා කිරීමෙහි වන දුකුළා ඇවැත දේශනා කළ යුතු වේ.

**සඃ උම්මත්තකාදීනඤ්ච**, උමතු භික්‍ෂුව ආදීන්ට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **සීලවිපත්ති**, ශීල විපත්තිය යි. **යං**, යමෙකුට; **චොදෙති වා**, චෝදනා කරයි හෝ; **චොදපෙති වා**, චෝදනා කරවයි හෝ; **තස්ස**, ඔහුගේ; **උපසම්පන්නො ඉති**, උපසපන් යැයි; **සඞ්බූපගමනං**[1], ගිණීමට යන බව ය. **තස්මිං**, ඔහු කෙරෙහි; **සුද්ධසඤ්ඤිතා**, ශුද්ධ යන සංඥාව ඇති බව ය. **යෙන පාරාජිකෙන චොදෙති**, යම් පරිජියකින් චෝදනා කරයි ද; **තස්ස**, ඒ පරිජියගේ; **දිට්ඨාදිවසෙන අමූලකතා**, දෘෂ්ටාදි වශයෙන් අමූලක බව ය. **චාවනාධිප්පායෙන**, සසුනෙන් නෙරපන අදහසින්; **සම්මුඛා චොදනා**, සම්මුඛයේ චෝදනා කිරීම ය; **තස්ස**, ඒ චූදිතයාගේ; **තඞ්ඛණං විජානනං ඉති**[2], එකෙණෙහි ම දැනගැනීම යැයි; **ඉමානි පඤ්ච**, මේ පස්දෙන; **එත්ථ**, මේ සිකපදයෙහි; **අඞ්ගානි**,

---

[1] **සඞ්ඛ්‍යුපගමනං**. මජසං; **සඞ්ඛූපගමනං**. බෞසංම; කාළවිල
[2] **තඞ්ඛණවිජානනන්ති**. මජසං

අංගයෝ ය. **සමුට්ඨානාදීනි,** සමුට්ඨානාදීහු; **අදින්නාදනසදිසානි,** අදින්නාදන සාදෘශ්‍ය ය. **එත්ථ,** මෙහි; **වෙදනා පන,** වේදනාව වනාහි; **දුක්ඛා එව ඉති,** දුක්ඛ වේදනාව ම යැයි;

**අට්ඨමසික්ඛාපදං,** අටවෙනි සිකපදය යි.

**98. වි:**

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : රජගහ නුවර

(2) **පුද්ගලයා** : මෙත්තිය හා භුම්මජක භික්ෂු දෙනම

(3) **වස්තුව** : මුල් රහිත පරිජි ඇවැතකින් අනුද්ධංසන වස්තුවෙහි

භාග්‍යවතුන් වහන්සේ රජගහ නුවර වේළුවනාරාමයෙහි වැඩ වෙසෙන සමයේ උපතින් සත් හැවිරිදි වූ ආයුෂ්මත් දබ්බමල්ල පුත්‍රයන් වහන්සේ, තමන් වහන්සේට තවදුරටත් අර්හත්වය පිණිස කළ යුතු කෘත්‍යයක් නැති බැවින් සංඝයාට සෙනසුන් පැනවීමත්, බත් උදෙසීමත් කරති. සංඝයා වෙතින් ලද සම්මුති ඇතිව ස්වකීය ඍද්ධිබලයෙන් සෙනසුන් පැනවීම ද බත් උදෙසීම ද කරන අතර, එසමයෙහි මෙත්තිය භුම්මජක භික්ෂූහු නවක වූවාහු, මඳ පිනැත්තෝ වූවාහු, නිරතුරු සංඝයාගේ ලාමක සෙනසුන් හා ලාමක බත් ම ලබත්.

එසමයෙහි කල්‍යාණභක්තික නම් ගෘහපතියක් නිති බත් කොට දන් දෙන අතර, භක්තාග්‍රයෙහි අඹුදරුවන් සමඟ සමීපයෙහි සිට බතින් සූපයෙන් පිළිවිසිමින් මනාව දන් දෙයි. ඒ අතර කල්‍යාණභක්තිකගේ ඊළඟ දින දානය මෙත්තිය භුම්මජක භික්ෂූන්ට උදෙසන ලද අතර ඔවුහු මහත් බලාපොරොත්තු ඇත්තෝ වූහ. කල්‍යාණභක්තික තෙමේ පෙර දින කිසි කරුණකින් ආරාමයට ගොස් දබ්බමල්ල පුත්‍රයන් වහන්සේගෙන් හෙට දින බත සඳහා මෙත්තිය භුමමජක භික්ෂූහු පැමිණෙන බව දැනගෙන නොසතුටුව කාඩි හොදි සමඟ නිවුඩු හාලේ බත් දීමට දසියකට අණකර දොර කොටුවේ තබා දන් දීමට පිළියෙළ කළේය.

මෙසේ ඒ මෙත්තිය භුම්මජක භික්ෂූන්ගේ බලාපොරොත්තු කඩවී, දබ්බමල්ලපුත්‍රයන් වහන්සේ තමන් පිළිබඳ නුගුණ කියා ඇති බවට සැකකොට මෙත්තියා භික්ෂුණිය මාර්ගයෙන් දබ්බමල්ලපුත්‍ර තෙරුන් වහන්සේට අමූලික පරිජි ඇවැතකින් චෝදනා කළහ. මේ නිදානයෙහි මේ කරුණෙහි භාග්‍යවතුන් වහන්සේ භික්ෂු සංඝයා රැස් කරවා දබ්බමල්ලපුත්‍ර තෙරුන් වහන්සේ පිළිවිස මෙත්තියා භික්ෂුණිය නැසීමට අනුදැන වදාළ සේක. තවදුරටත් මෙම කටයුත්ත මෙහෙය වූ භික්ෂූන් පිළිබඳ විමසීමට ද අනුදැන වදාළ සේක.

ඉක්බිති මෙත්තිය භුම්මජක භික්ෂූහු දබ්බමල්ලපුත්‍ර තෙරුන් වහන්සේට අමූලික පරිජියකින් චෝදනා කළ බව දැන අල්පේච්ඡතාදි ගුණැති භික්ෂූහු නුගුණ කියූ අතර භාග්‍යවතුන් වහන්සේට මෙය සැලවී ඒ පිළිබඳව විමසා මෙත්තිය හා භුම්මජක භික්ෂූන්ට ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) **ප්‍රඥප්තිය** : සාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : සාණත්තික ය. තමා දර්ශන, ශ්‍රවණ උපචාරයේ සිට අන් භික්ෂුවකට අණකරයි ද හෙතෙමේ ඒ වචනයෙන් ඒ භික්ෂුවට චෝදනා කරයි ද චෝදපක භික්ෂුවට ම ඇවැත් වේ. එහෙත් 'අසවලා විසින් මෙසේ කියන ලදී' යැයි නොකියා තමාගේ අදහසක් සේ කීමෙන් දෙදෙනාට වචනයක් පාසා සඟවෙසෙස් වේ.

(6) **ආපත්ති** :

1. **සඟවෙසෙස්** : අමූලක පරිජියකින් තමා චෝදනා කරයි නම් හෝ අනෙකෙකු ලවා යට කියූ ආකාරයට චෝදනා කරවයි නම් සඟවෙසෙස් වේ.

2. **දුකුළා** : අවකාශ නොකරවා චෝදනා කිරීමේ දුකුළා ඇවැත් වේ (අවකාශ නොකිරීම හේතුවෙනි).

(7) **අනාපත්ති** :

1. 'පිරිසිදු භික්ෂුවක් පිළිබඳ අපිරිසිදු ය' යන සංඥවෙන් චෝදනා කිරීම.

2. 'අපිරිසිදු භික්ෂුවක් පිළිබඳව අපිරිසිදු ය' යන සංඥවෙන් චෝදනා කිරීම

3. උම්මත්තක - ආදිකාර්මිකාදි භික්ෂූන්ට.

(8) **විපත්ති** : ශීල විපත්ති ය.

(9) **අඞ්ග** :

1. චූදිත භික්ෂුව උපසපන් යන සංඛ්‍යාවට යන බව.
2. චූදිත භික්ෂුව කෙරෙහි පිරිසිදු යන සංඥාව.
3. යම් පරිජියකින් චෝදනා කරයි ද එහි දෘෂ්ටාදි වශයෙන් අමූලක බව.
4. සසුනෙන් නෙරපන අදහසින් චෝදනා කිරීම.
5. එකෙණෙහි ම දැනගැනීම.

**සමුට්ඨානාදිය අදින්නාදාන සිකපදයේ කී පරිදි වේ. මෙහි වේදනාව 'දුක්ඛ වේදනා' වශයෙනි.**

**පඨම දුට්ඨදෝස සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# දුතිය දුට්ඨදෝස සංඝාදිසේසය

**සඃ** නවමෙ, නවවෙනි සංඝාදිසේස සිකපදයේ; **අඤ්ඤභාගියස්ස ඉති** ආදිසු[1], 'අඤ්ඤභාගියස්ස' යන ආදීන්හි; **අඤ්ඤභාගස්ස ඉදං අඤ්ඤභාගො වා අස්ස අත්ථීති අඤ්ඤභාගියං**, 'අඤ්ඤභාගස්ස ඉදං අඤ්ඤභාගියං' යැයි හෝ 'අඤ්ඤභාගො අස්ස අත්ථීති අඤ්ඤභාගියං' යනුවෙන් 'අඤ්ඤභාගිය' පදයේ විග්‍රහය යි. (**ඉදං**, මේ සුදු එළුවා; **අඤ්ඤභාගස්ස**, මනුෂ්‍ය ජාතික භික්‍ෂුභාවයෙන් අන්‍ය වූ තිරශ්චීන ජාති එළුභාවයාගේ ය. **වා** නොහොත්; **අස්ස**, මේ සුදු එළුවාට; **අඤ්ඤභාගො අත්ථි ඉති**, මනුෂ්‍ය ජාතික භික්‍ෂුභාවයෙන් අන්‍ය වූ තිරශ්චීන ජාතික එළුභාවයක් ඇත්තේ නු යි; **අඤ්ඤභාගියං**, 'අඤ්ඤභාගිය' නම් වේ.)

**අධිකරණං ඉති**, 'අධිකරණං' යනු; **ආධාරො**, ආධාරය (යමකට උපනිශ්‍රය වන බව); **වෙදිතබ්බො**, දත යුතු. **වත්‍ථුඅධිට්ඨානං**, කථාව ගෙතීම (පිහිටීමේ ස්ථානය); **ඉති වුත්තං හොති**, යැයි කියන ලද්දේ වෙයි. **අට්ඨුප්පත්තියං**, අර්ථෝත්පත්තියෙහි (සිකපද නිදානයෙහි); **දබ්බො මල්ලපුත්තො නාම ඉති**, දබ්බමල්ලපුත්‍ර නම් වේ යැයි; **යො සො ඡගලකො වුත්තො**, යම් ඒ සුදු එළුවෙක් කියන ලද්දේ ද; **සො**, ඒ එළු තෙමේ; **ආයස්මතො දබ්බස්ස මල්ලපුත්තස්ස**, ආයුෂ්මත් දබ්බමල්ලපුත්‍ර තෙරුන් වහන්සේගේ; **මනුස්සජාති චෙව**, මනුෂ්‍ය ජාතිය මෙන් ම; **භික්ඛුභාවො ච**, භික්‍ෂු භාවය ද යන; **යො අයං**, යම් මේ; **භාගො**, භාගයක් (කොටසක්); **කොට්ඨාසො**; කොට්ඨාසයක්; **පක්ඛො**, පක්‍ෂයක් වේ ද; **තතො**, ඒ මනුෂ්‍ය ජාතික භික්‍ෂුභාව සඞ්ඛ්‍යාත දබ්බමල්ලපුත්‍ර තෙරුන්ගේ කොටස් කෙරෙන්; **අඤ්ඤස්ස**, අන්‍ය වූ; **තිරච්ඡානජාතියා චෙව**, තිරශ්චීනගත ජාතියාගේ ද; **ඡගලකභාවස්ස ච**, ඡකලකභාවයාගේ ද; **භාගස්ස**, භාගයකට (කොටසකට); **කොට්ඨාසස්ස**, කොට්ඨාසයකට; **පක්ඛස්ස**, පක්‍ෂයකට; **හි (යස්මා)**, *(හීති කාරණත්‍ථෙ නිපාතො. යස්මාති වුත්තං හොති.* - **කඞ්ඛා.ටී**, පි.110) යම් කරුණකින්; **හොති**, වේ ද; (**තස්මා**, එහෙයින්, **අඤ්ඤභාගියසඞ්ඛං ලභති**, අන්‍යභාගීය නමැති ව්‍යවහාරය ලබයි. *යො හි සො ඡගලකො වුත්තො, සො අඤ්ඤස්ස භාගස්ස හොතීති ච අඤ්ඤභාගියසඞ්ඛ්‍යං ලභතීති ච යොජනා.* - **විමති**, පි.245).

---

[1] **ආදීසු**. මජසං

\- 44 -

වා, නොහොත් (දෙවන අර්ථ විකල්පයක් කියනු ලැබේ); **සො අඤ්ඤභාගො**, ඒ අන්‍යභාගය (තිරශ්චීනගත, ඡකලකභාව සංඛ්‍යාත අන්‍යභාගය); **අස්ස**, මේ එළුවා හට; **අත්ථි ඉති**, යම් කරුණකින් ඇත්තේ ද; **තස්මා**, එබැවින්; **අඤ්ඤභාගියසඞ්ඛං ලභති**, අන්‍යභාගීය නමැති ව්‍යවහාරය ලබයි. **ච**, එසේ ම; **ඉමං**, මේ එළුවා; **මයං**, අපි; **දබ්බං මල්ලපුත්තං නාම**, දබබමල්ලපුත්‍ර (යැයි) නම් ඇත්තකු; **කරොම**, කරමු; **ඉති වදන්තානං**, මෙසේ කියන්නා වූ; **තෙසං**, ඒ මෙත්තිය-භුම්මජක භික්ෂූන්ගේ; **තස්ස නාමකරණසඤ්ඤාය**, ඒ නාමකරණ සංඥාවට; **යස්මා**, යම්හෙයකින්; **ආධාරො**, පිහිටීමේ ආධාරය, උපනිශ්‍රය; **වත්ථු අධිට්ඨානං**, කථාව ගෙතීම (වේ ද); **තස්මා**, එහෙයින්; (**දබ්බො මල්ලපුත්තො නාම ඉති**, දබ්බමල්ලපුත්‍ර නම් වේ යැයි; **යො සො ඡගලකො වුත්තො**, යම් ඒ සුදු එළුවෙක් කියන ලද්දේ ද; **සො**, ඒ එළු තෙමේ); **අධිකරණං ඉති**, අධිකරණ යැයි; **වෙදිතබ්බො**, දත යුතු ය. (***අධිකරණන්ති වෙදිතබ්බොති*** *එත්ථාපි 'යො හි සො 'දබ්බො මල්ලපුත්තො නාමා'ති ඡගලකො වුත්තො, සො'ති ආනෙත්වා සම්බන්ධිතබ්බං.* - විමති, පි.245) **තඤ්හි සන්ධාය**, ඒ නාමකරණ සංඥාවට පිහිට වූ එළුවා ම දක්වනු පිණිස; **'සච්චං කිර තුම්හෙ භික්ඛවෙ දබ්බං මල්ලපුත්තං අඤ්ඤභාගියස්ස අධිකරණස්ස' ඉති ආදි**, යන ආදිය; **වුත්තං**, වදළ සේක. **විවාදධිකරණාදිසු**[1], විවාදධිකරණ ආදි සතරාධිකරණයන් අතරින්; **අඤ්ඤතරං න (සන්ධාය න වුත්තං)**, එක්තරා අධිකරණයක් සඳහා නොම වදළ සේක. **කස්මා?**, කවර හෙයකින් ද? යත්; **අසම්භවතො**, අධිකරණයන්ගේ ගැනීමක් නොමැති බැවිනි. **හි**, ඒ එසේ ම ය. **මෙත්තියභුම්මජකා**, මෙත්තිය-භුම්මජකයෝ; **චතුන්නං අධිකරණානං**, විවාදධිකරණ ආදි වූ සතර අධිකරණයන් අතරින්; **කස්සචි අඤ්ඤභාගියස්ස අධිකරණස්ස**, කිසියම් අන්‍යභාගීය අධිකරණයකගේ; **කිඤ්චිදෙසං ලෙසමත්තං** ඒකදේශ ලේශ මාත්‍රයක්; **න උප්පාදියිංසු**, නොම ඉපදවූහ. ච, තව ද; **චතුන්නං අධිකරණානං**, සතර අධිකරණයන්ට; **ලෙසො නාම**, ලේශයක් නම්; **න අත්ථි**, නොම ඇත්තේය. **ජාති ලෙසාදයො**, ජාති ලේශාදි; **ලෙසා හි**, ලේශයෝ වනාහි; **පුග්ගලානං යෙව**, පුද්ගල ප්‍රතිබද්ධකොට ම; **වුත්තා**, කියන ලද්දාහුය. **විවාදධිකරණාදීනං**, විවාදධිකරණ ආදීන්ගේ; **න (වුත්තා)**, නොම කියන

[1] **විවාදධිකරණාදීසු**. මඡසං

ලද්දහුය. **තඤ්ච දබ්බො මල්ලපුත්තො ඉති නාමං,** ඒ දබබමල්ලපුත්‍ර යන නාමය ද; **අඤ්ඤභාගියාධිකරණභාවෙ ඨිතස්ස,** අන්‍යභාගීය අධිකරණභාවයෙහි (අන්‍ය කොට්ඨාස වූ ආධාර භාවයෙහි) සිටියා වූ; **තස්ස ඡගලකස්ස,** ඒ එළුවාට; **කොචිදෙසො හොති,** ඒකදේශයක් වෙයි. **ථෙරං,** තෙරුන් වහන්සේට; **පාරාජිකෙන ධම්මෙන,** පරිජි ඇවැතින්; **අනුද්ධංසෙතුං,** චෝදනා කිරීමට; **ලෙසමත්තො (හොති),** ලේශ මාත්‍රයක් ද වෙයි. **ච,** එසේ ම; **එත්ථ,** දේශ හා ලේශ යන මේ දෙකෙහි, **අස්ස,** මේ එළුවා හට; **අයං ඉති,** මේ දබබමල්ලපුත්‍ර යන මෙය යැයි; **දිස්සති අපදිස්සති අස්ස අයන්ති වොහරීයතීති දෙසො, (දිස්සති,** පෙනේය; **අපදිස්සති,** ගෙනහැර පාන්නේය; **වොහරීයති ඉති,** ව්‍යවහාර කරනු ලැබේ නු යි; **දෙසො,** දේශ නම් වේ) යනු ‘දේස’ පදයාගේ නිරුක්තිය යි. **එතං,** මෙය; **ජාති ආදීසු**[1] **අඤ්ඤතරකොට්ඨාසස්ස,** ජාති ආදිය අතරින් එක්තරා කොටසකට; **අධිවචනං,** නාමාන්තරයකි (පර්යාය වචනයකි). **අඤ්ඤම්පි වත්ථුං,** දබ්බමල්ලපුත්ත යන මේ නාමය යම් වස්තුවක පිහිටියේ ද එයින් ඡකලක සඞ්ඛ්‍යාත අන්‍ය වස්තුවෙහි; **ලිස්සති සිලිස්සති වොහාරමත්තෙනෙව ඊසකං අල්ලීයතීති ලෙසො, (ලිස්සති,** ඇලේ; **සිලිස්සති,** ගැවී නොගැවී තියේ; **වොහාරමත්තෙනෙව,** ව්‍යවහාර මාත්‍රයෙන් ම (අර්ථ වශයෙන් නොව); **ඊසකං,** ස්වල්ප මාත්‍රයක්; **අල්ලීයති ඉති,** ඇලේ නු යි; **ලෙසො,** ලේශ නම් වේ) යනු ‘ලෙස’ පදයාගේ නිරුක්තිය යි. **එතං,** මෙය; **ජාති ආදීනං,** ජාති ආදිය අතරින්; **අඤ්ඤතරකොට්ඨාසස්ස එව,** එක්තරා කොටසකට ම; **අධිවචනං,** පර්යාය වචනයකි. **යස්ස අඤ්ඤභාගියස්ස අධිකරණස්ස,** යම් අන්‍යභාගීය අධිකරණයකගේ; **කිඤ්චි දෙසං ලෙසමත්තං උපාදය,** ඒකදේශ ලේශ මාත්‍රයක් ගෙන; **පාරාජිකෙන ධම්මෙන අනුද්ධංසෙය්‍ය,** පරිජි ඇවැතකින් චෝදනා කරන්නේ ද; **තං,** ඒ අන්‍යභාගීය අධිකරණය; **යස්මා,** යම්හෙයකින්; **අට්ඨුප්පත්තිවසෙන එව,** අර්ථෝත්පත්ති වශයෙන් ම (ශික්‍ෂාපද උත්පත්තියට හේතු වූ පූර්ව පාලි කථායෙන් ම); **ආවීභූතං**[2], ප්‍රකට ද; **තස්මා,** එහෙයින්; **තං,** ඒ අඤ්ඤභාගියස්ස අධිකරණස්ස යන පදය; **අවිභජිත්වා,** විභාග නොකොට; **අධිකරණං ඉති,** අධිකරණං යන; **වචනසාමඤ්ඤතො,** වචන සාම්‍යයෙන්; **අත්ථුද්ධාරවසෙන පවත්තානි,** අර්ථ උදුරා දක්වීමේ වශයෙන්

[1] **ආදිසු.** බෞසංම; කාළවිල
[2] **ආවිභූතං.** මජසං; බෞසංම; කාළවිල; කඹිබාපි.

පවත්නා වූ; **යානි චත්තාරි අධිකරණානි ච**, යම් සතර අධිකරණ කෙනෙක් ඇත් ද; **තෙසං**, ඒ සතර අධිකරණයන්ගේ; **අඤ්ඤභාගියතා ච**, අන්‍යභාගීය බව ද (අන්‍ය පාක්ෂිකත්වය ද); **තබ්බාගියතා ච**, තබ්බාගිය බව ද (තත් පාක්ෂිකත්වය ද); **යස්මා අපාකටා**, යම්හෙයකින් අප්‍රකට ද; **විනයධරෙහි ජානිතබ්බා ච**, විනයධරයන් විසින් දත යුත්තාහු ද; **තස්මා**, එබැවින්; **තඤ්ච**, ඒ තබ්බාගිය අඤ්ඤභාගියතාවය ද; **අවසානෙ**, පදභාජනිය අවසානයේ; **ආපත්තඤ්ඤභාගියෙන චොදනං ච**, අඤ්ඤභාගිය ආපත්තියෙන් චෝදනාව ද; **ආවිකාතුං**, ප්‍රකාශ කරනු පිණිස; **'අඤ්ඤභාගියස්ස අධිකරණස්සාති ආපත්තඤ්ඤභාගියං වා හොති අධිකරණඤ්ඤභාගියං වා'** (පාරා, පි.438) **ඉති ආදි**, යන ආදිය; **පදභාජනෙ පන**, පදභාජනියෙහි, **වුත්තං**, වදළ සේක.

**99. වි: "අඤ්ඤභාගියස්ස අධිකරණස්ස"** යන පදයෙහි සඳහන් වන අන්‍යභාගිය බව දෙයාකාරයකින් අර්ථ විග්‍රහ කෙරේ. **'අඤ්ඤභාගස්ස ඉදන්ති අඤ්ඤභාගියං'** යනුවෙන් 'මේ ඡකලයා (එළුවා) මනුෂ්‍ය ජාති භික්‍ෂුභාවයෙන් අන්‍ය වූ තිරශ්චීන ජාති ඡකලක භාවයාගේ ය' යන අර්ථයෙන් 'අන්‍යභාගිය' වේ. එසේ නැතහොත් **'අඤ්ඤභාගො අස්ස අත්ථීති අඤ්ඤභාගියං'** යනුවෙන් අස්ත්‍යර්ථ තද්ධිතයක් ලෙස ද අර්ථ පැවසේ. එනම් මේ ඡකලකයාට මිනිස්-ශ්‍රමණ භාවයෙන් අන්‍ය වූ තිරිසන් ආදි භාවයක් ඇත්තේ නු යි 'අඤ්ඤභාගිය' නම් වේ. මේ අර්ථ විකල්ප දෙකෙහි ම එළුවා ආධාර ස්ථානය වශයෙන් ගෙන කියන ලදී.

**අධිකරණ** ශබ්දයෙන් යමකට ආධාර ස්ථානය හෙවත් උපනිශ්‍රය ස්ථානය දත යුතු. එනම් කථාවක් ගෙතීමේ පිහිටීම යි. මේ සිකපද නිදන කථාවෙහි ද මෙත්තිය-භුම්මජක භික්‍ෂූහු 'අපි මේ එළුවා දබ්බමල්ලපුත්‍ර යැයි නම් කරමු' යැයි නම් කරන ලද්දේ ද එසේ මනුෂ්‍ය ජාතිකයෙකු නම් කිරීමේ සංඥුවට ආධාර ස්ථානය වූයේ එළුවෙකි. ඒ එළුවාට ඇත්තේ නම් කරන ලද 'දබ්බමල්ලපුත්‍ර' යන්නට ඇති මනුෂ්‍ය භික්‍ෂුභාවයෙන් අන්‍ය වූ තිරිසන්ගත බව සහ එළු බව යි. එහෙයින් මේ එළුවා සිටින්නේ අන්‍යභාගිය බවක යන සාමි අර්ථය ප්‍රථම අර්ථ විකල්පයෙන් පැවසේ. දෙවන අර්ථ විකල්පයෙන් පැවසෙන්නේ එළුවාට ඒ අන්‍යභාගිය බවක් ඇති බව යි. මෙසේ ඒ මෙත්තිය-භුම්මජක භික්‍ෂූන්ට 'අපි මේ එළුවා දබ්බමල්ලපුත්‍ර යැයි නම් කරමු' යනුවෙන් නම් කිරීමකට ආධාර ස්ථානයක් වූ බැවින්, කථා ගෙතීමකට පිහිටීමක් වූ

බැවින් ඒ එළුවා 'අධිකරණ' යැයි දත යුතු. එහෙයින් ඒ නාමකරණ සංඥාවට ආධාර ස්ථානය වූ එළුවා ම දක්වනු පිණිස භාග්‍යවතුන් වහන්සේ,

**"සච්චං කිර තුම්හෙ භික්ඛවෙ දබ්බං මල්ලපුත්තං අඤ්ඤභාගියස්ස අධිකරණස්ස කිඤ්චිදෙසං ලෙසමත්තං උපාදය පාරාජිකෙන ධම්මෙන අනුද්ධංසෙථ" (පාරා, පි.436)**

යනුවෙන් වදාළ සේක.

එසේ නැතහොත් මෙහි එන අධිකරණ ශබ්දය විවාදධිකරණ ආදි සතර අධිකරණයන් අතරින් එක්තරා අධිකරණයක් සඳහා නොම වදාළ සේක. ඒ කවර හෙයකින් ද? යත්, මෙහි ලා විවාදධිකරණ අතරින් යම් අධිකරණයකගේ සම්භවයක් නොමැති හෙයිනි.

'**කිඤ්චිදෙසං ලෙසමත්තං උපාදය**' යන තැන '**දිස්සති අපදිස්සති අස්ස අයන්ති වොහරීයතීති දෙසො (කඞ්ඛා, පි.44)**' යන නිරුක්ති අනුව ව්‍යවහාර කරන දෙය 'දෙස' යන්නෙන් අදහස් වේ. මෙම නිදන කථාවෙහි මෙත්තිය-භුම්මජක භික්ෂූහු එළුවෙකුට 'දබ්බ' යැයි දෙන ලද නාමය 'දේශ'යකි. '**අඤ්ඤම්පි වත්ථුං ලිස්සති සිලිස්සති වොහාරමත්තෙනෙව ඊසකං අල්ලීයතීති ලෙසො (කඞ්ඛා, පි.44)**' යැයි කියූ ආකාරයෙන් අර්ථ වශයෙන් නොව ව්‍යවහාර මාත්‍ර වශයෙන් ස්වල්ප මාත්‍රයක් ඇලෙන බැවින් 'ලේශ' නම් වේ. මේ දේශ, ලේශ දෙතැන්හි අර්ථ වශයෙන් වෙනසක් නැත. මේ අනුව '**කිඤ්චිදෙසං ලෙසමත්තං උපාදය**' යන්නෙහි 'දබ්බ යන නම ගෙන' යන්න අර්ථෝත්පත්ති වශයෙන් ප්‍රකට ය. එහෙත් මෙම නිදනයෙහි මෙත්තිය-භුම්මජකයන් මෙන් සියලු අනුද්ධංසනය කරන්නවුන්ට එළුවෙක් ම අන්‍යභාගිය අධිකරණය නො වේ. සෙසු ගව මහිෂාදීහු ද වෙති. එහෙයින් පදභාජනියේ '**කිඤ්චිදෙසං ලෙසමත්තං උපාදය**' යන්න දැක්වීමට දශ ලේශයෝ දක්වන ලදහ. මෙම දශ ලේශ දැක්වෙන ගාථාවක් පුරාණාචාර්යයන් විසින්

**'ලෙසා ජාතිනාමගොත්ත-ලිඞ්ගාපත්තිවසාපි ච**
**පත්තචීවරුපජ්ඣායා-චරියා වා ව'සා දස' (කඞ්ඛා.ටී, පි.111)**

යනුවෙන් දක්වා තිබේ.

ඒ අනුව ජාතිලේශ ය, නාමලේශ ය, ගොත්‍රලේශ ය, ලිඞ්ගලේශ ය, ආපත්තිලේශ ය, පත්තලෙශ ය, චීවරලේශ ය, උපාධ්‍යායලේශ ය, ආචාර්යලේශ ය, සේනාසනලේශ ය යන දසවැදෑරුම් ලේශයන් අතුරෙන් එකක් හෝ වැඩියක් හෝ ඉදිරිපත් කරගෙන යන අදහස **'කිඤ්චිදෙසං ලෙසමත්තං උපාදය'** යැයි පැවසේ. ඒ අනුව මෙම සිකපදයේ දක්වෙන්නේ කිසියම් අන්‍යභාගිය වූ අධිකරණයකගේ ඒකදේශ ලේශ මාත්‍රයක් ගෙන පරිජි ඇවැතකින් චෝදනා කිරීම වේ. එහෙත් පදභාජනියේ **'අඤ්ඤභාගියස්ස අධිකරණස්ස'** යන්න විවරණය කරන්නේ චෝදනා සංඛ්‍යාත අන්‍යභාගිය අධිකරණය නොව විවාදධිකරණාදි සතර අධිකරණයන්ගේ අන්‍යභාගි-තද්භාගිත්‍වය යි.

මෙම සිකපදයට අදළව විවාදධිකරණාදි සතර අධිකරණයන්ගේ සම්භවයක් නොමැති නමුදු පදභාජනියේ දී **'අඤ්ඤභාගියස්ස අධිකරණස්සාති ආපත්තඤ්ඤභාගියං වා හොති අධිකරණඤ්ඤභාගියං වා (පාරා, පි.438)'** යනාදි ලෙස ආරම්භ කොට ඒ සතර අධිකරණයන්ගේ අන්‍යභාගිත්‍වය හා තද්භාගිත්‍වය ඒ කවර හෙයකින් විවරණය කළේ ද? යන අන්තර්ලීන චෝදනාවට පරිහාර වශයෙන් බුද්ධඝෝෂාචාරීහු **'යානි අධිකරණන්ති ... තෙසං අඤ්ඤභාගියතා ච තබ්බාගියතා ච යස්මා අපාකටා ජානිතබ්බා ච විනයධරෙහි (කඞ්ඛා, පි.44)'** යනාදි ලෙස කීහ. ඒ සතරාධිකරණයන්ගේ ද අන්‍යභාගි බවක් සහ තද්භාගි බවක් ඇතිමුත් එය අප්‍රකට ය. මෙම නිදන කථාවේ එන අන්‍යභාගියත්වය ප්‍රකට ය. එහෙත් ඒ අප්‍රකට වූ සතරාධිකරණයන්ගේ අන්‍යභාගි-තද්භාගිත්‍වය විනයධරයා විසින් දත යුතු ද වේ. එහෙයින් එය පදභාජනියේ වදළ බව කීහ.

**සඃ** **සෙසා විනිච්ඡයකථා**, සෙසු විනිශ්චය කථාව; **අට්ඨමෙ**, අටවැනි සිකපදයේ; **වුත්තසදිසායෙව**, කියන ලද අකාරයෙන් ම වේ. **අයං පන විසෙසො**, මේ වනාහි වෙනස යි. **ඉදං**, මේ සිකපදය; **අඤ්ඤභාගියස්ස අධිකරණස්ස**, අන්‍යභාගීය අධිකරණයකගේ; **කිඤ්චිදෙසං ලෙසමත්තං**, ඒකදේශ ලේශ මාත්‍රයක්; **උපාදය**, ගෙන; **පාරාජිකෙන ධම්මෙන**, පරිජි ඇවැතකින්; **අනුද්ධංසන වත්‍ථුස්මිං**, චෝදනා කිරීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **ඉධ ච**, මේ සිකපදයේ ද; **ආපත්තඤ්ඤභාගිය චොදනාය**; අන්‍යභාගීය ආපත්තියෙන් කරන

චෝදනාවෙහි; **තථසඤ්ඤිනො අපි**[1], පරිජි ඇවැතකට පත්වූයේය යනුවෙන් එසේ ම සංඥා ඇතිව චෝදනා කරන්නහුට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **අඞ්ගෙසු ච**, ඇවැත් අංගයන්හි ද; **අඤ්ඤභාගියස්ස අධිකරණස්ස**, අන්‍යභාගීය අධිකරණයකගේ; **කිඤ්චිදෙසං ලෙසමත්තං**, ඒකදේශ ලේශ මාත්‍රයක්; **උපාදියනතා**, ගන්නා බව; **අධිකාති**, අධික යැයි;

**නවමසික්ඛාපදං**, නවවෙනි සිකපදය යි.

## 100. වි:

## සප්තදශාකාර විනිශ්චය

මෙම සිකපදයේ සප්තදශාකාර විනිශ්චය පෙර සිකපදය ආකාරයෙන් ම දත යුතු වේ. වෙනස මෙසේ ය.

(3) **වස්තුව**: අන්‍යභාගිය අධිකරණයකගේ ඒකදේශ ලේශ මාත්‍රයක් ගෙන පරිජි ඇවැතකින් චෝදනා කිරීමේ වස්තුවෙහි පනවන ලදී.

භාග්‍යවතුන් වහන්සේ රජගහ නුවර වේළුවනාරාමයේ වැඩවෙසෙන සමයේ ගිජුකුළු පව්වෙන් බස්නා වූ මෙත්තිය-භූම්මජක භික්ෂූහු එළුවකු හා එළුදෙනක මෙවුන්දම් සේවනය කරනු දැක, ඒ එළුවාට 'දබ්බමල්ලපුත්‍ර' යැයි නම් කළහ. එළුදෙනට 'මෙත්තියා' භික්ෂුණිය යැයි නම් කළහ. අනතුරුව භික්ෂූන් හට 'අපි පෙර දබ්බමල්ලපුත්‍රයන් හට ශ්‍රැතියෙන් කීවෙමු. දැන් අප විසින් ඒ දබ්බමල්ලපුත්‍රයන් මෙත්තියා භික්ෂුණිය සමඟ මෙවුන්දම් සේවනය කරනු සියැසින් දුටුවෙමු' යැයි කීවාහු ය.

ඉක්බිති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට මෙපවත් සැලකළහ. භාග්‍යවතුන් වහන්සේ දබ්බමල්ලපුත්‍ර තෙරුන් වහන්සේගෙන් විමසා, අනතුරුව මෙත්තිය-භූම්මජක භික්ෂූන් විමසීමට අනුදත් සේක. එසේ විමසීමේ දී තමන් අන්‍යභාගිය අධිකරණයකගේ ඒකදේශ ලේශ මාත්‍රයක් ගෙන චෝදනා කළ බව පැවසූ බැවින් මෙත්තිය භූම්මජකයන්ට ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

[1] **තථාසඤ්ඤිනොපි.** මජසං

(9) අඞ්ග 06 :

1. චූදිත භික්ෂුව 'උපසපන් ය' යන සංඛ්‍යාවට යන බව.
2. චූදිත භික්ෂුව කෙරෙහි 'පිරිසිදු ය' යන සංඥාව.
3. යම් පරිජියකින් චෝදනා කරයි ද එය අමූලික බව.
4. සසුනෙන් නෙරපන අදහසින් චෝදනා කිරීම.
5. අන්‍යභාගිය අධිකරණයකගේ ඒකදේශ ලේශ මාත්‍රයක් ගෙන චෝදනා කිරීම.
6. එකෙණෙහි ම දැනගැනීම.

**දුතිය දුට්ඨදෝස සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# පඨම සඞ්ඝභේද සංඝාදිසේසය

**සඃ** දසමෙ, දසවෙනි සංඝාදිසේස සිකපදයේ; **සමග්ගස්ස සඞ්ඝස්ස ඉති**, 'සමග්ගස්ස සඞ්ඝස්ස' යනු; **සහිතස්ස**, කයින් හා සිතින් එක් වූ; **භික්ඛුසඞ්ඝස්ස**, භික්ෂු සඞ්ඝයාගේ ය. **චිත්තෙන ච**, සිතෙන් ද; **සරීරෙන ච**, සිරුරෙන් ද; **අවියුත්තස්ස ඉති අත්ථො**, වෙන් නොවූවහුගේ යන අර්ථය යි. **තෙන එව**, එහෙයින් ම; **අස්ස පදභාජනෙ**, ඒ 'සමග්ගස්ස සඞ්ඝස්ස' යන පදයාගේ පදභාජනියේ; **'සමග්ගො නාම සඞ්ඝො සමානසංවාසකො සමානසීමායං ඨිතො' (පාරා, පි.452) ඉති**, **(සමග්ගො සඞ්ඝො නාම**, සමගි සඞ්ඝයා නම්; **සමානසංවාසකො**, සමාන සංවාස ඇතියේ; **සමානසීමායං ඨිතො**, සමාන සීමාවක සිටියේ) යැයි; **වුත්තං**, කියන ලදී. **සමානසංවාසකො හි**, සමානසංවාසක තෙමේ වනාහි; **සමචිත්තතාය**, සම සිත් ඇති බැවින්; **චිත්තෙන**, සිත සමඟ; **අවියුත්තො හොති**, වෙන් නොවූයේ වෙයි. **සමානසීමායං ඨිතො**, සමාන සීමාවක සිටි භික්ෂු තෙමේ; **කායසාමග්ගිදානතො**, කාය සාමග්‍රිය දීම් වශයෙන්; **සරීරෙන අවියුත්තො**, ශරීරයෙන් වෙන් නොවූයේ වෙයි.

**භෙදාය පරක්කමෙය්‍ය ඉති**, යනු; **කථං නාම**, කෙසේ නම්; **අයං**, මේ සඞ්ඝ තෙමේ; **භිජ්ජෙය්‍ය**, බිඳෙන්නේ ද; **ඉති**, යනුවෙන්; **භෙදනත්ථාය**[1], බිඳවීම පිණිස; **වායාමෙය්‍ය**[2], වෑයම් කරන්නේය.

- 45 -

**භෙදනසංවත්තනිකං වා අධිකරණං ඉති**, යනු; **භෙදනස්ස**, බිඳවීමට; **සඞ්ඝභෙදස්ස අත්ථාය**, සංඝභේදය පිණිස; **සංවත්තනිකං කාරණං**, පවත්නා වූ හේතුවකි. **ඉමස්මිංඤ්හි ඔකාසෙ**, මේ තැනෙහි; **'කාමහෙතු කාමනිදානං කාමාධිකරණ'න්ති ආදිසු**[3] විය, 'කාමහේතු ....' යනාදි තන්හි මෙන්; **කාරණං**, හේතුව; **අධිකරණං ඉති**, අධිකරණය යැයි; **අධිප්පෙතං**, අභිප්‍රේත ය. **තං**, ඒ සංඝභේදය පිණිස පවතින අධිකරණය; **භෙදකරවත්ථුවසෙන**, භේදකර වස්තු වශයෙන්; **අට්ඨාරසවිධං (හොති)**, අටළොස් වැදෑරුම් වේ.

---

[1] **භෙදත්ථාය**. මජසං
[2] **වායමෙය්‍ය**. කඞ්ඛා.ටී.
[3] **ආදීසු**. මජසං

**සමාදය ඉති,** 'සමාදය' යනු; **ගහෙත්වා,** ගෙන ය. **පග්ගය්හ තිට්ඨෙය්‍ය ඉති,** 'පග්ගය්හ තිට්ඨෙය්‍ය' යනු; **සඞ්ඝභෙදස්ස අත්ථාය,** සංඝභේදය පිණිස; **සංවත්තනිකං,** පවත්නා වූ; **සඞ්ඝභෙදනිප්ඵත්තිසමත්ථං**[1], සංඝභේදයාගේ නිෂ්පත්තියට සමර්ථ වූ; **තං කාරණං ගහෙත්වා,** ඒ හේතුව ගෙන; **දීපෙය්‍ය චෙව,** හුවා දක්වමින් ප්‍රකට කොට කියන්නේ මෙන් ම; **නප්පටිනිස්සජ්ජෙය්‍ය**[2] **ච,** ගත් පරිද්දෙන් ම ගෙන නො අත්හරින්නේ ද (යන්න යි).

**101. වි: "සමග්ගස්ස සඞ්ඝස්ස"** යනු සිතින් ද කයින් ද ඒකීභූත වූ සංඝයාගේ යන අර්ථය යි. ඒ පිළිබඳ පදභාජනියෙහි '**සමග්ගො නාම සඞ්ඝො සමානසංවාසකො සමානසීමායං ඨිතො (පාරා, පි.452)**' යැයි සඳහන් වේ. එහි **සමානසංවාසකො** යනු සිතෙන් වෙන් නොවූ බව යි. ලබ්ධි නානාසංවාසක භාවයෙන් ද කම්ම නානාසංවාසක භාවයෙන් ද විරහිත වූයේ, සම සිත් ඇති බැවින් සිතෙන් වෙන් නො වේ. (ලබ්ධිනානාසංවාසක යනු උක්ඛිත්තානුවත්තක භික්‍ෂුව වන අතර කම්මනානාසංවාසක යනු උක්ඛිත්තක භික්‍ෂුව වේ.) **සමානසීමායං ඨිතො** යනු කයින් වෙන් නොවූ බව යි. සමාන සීමාවෙහි සිටි භික්‍ෂුව කාය සාමග්‍රිය දීම් වශයෙන් කයින් වෙන් නොවූයේ වෙයි. එනම් අත්පසින් බැහැර නොවීම යි.

**"භෙදාය පරක්කමෙය්‍ය"** යනු මේ සමගි සංඝ තෙමේ කවර නම් උපායකින් වර්ග වන්නේ දැ යි සංඝයාගේ බිඳවීම පිණිස උත්සාහ කරන්නේය. පක්‍ෂය සෙවීම කරන්නේය. 'ගණයා බිඳුවන්නේය' යන්න 'භේදය පරකකමෙය්‍ය' යන්නෙන් අදහස් වේ. '**භෙදනසංවත්තනිකං වා අධිකරණං**' යනු සමගි සංඝයාගේ බිඳවීම පිණිස පවත්නා හේතුව අදහස් වේ. මෙහි අධිකරණ ශබ්දයෙන් '**කාමාධිකරණං**' යන තැන්වල මෙන් 'කාරණාර්ථවාචී' වේ. එනම් හේතුව යි. ඒ සංඝභේද පිණිස පවත්නා හේතු, භේදකරවස්තු වශයෙන් අටළොස් වැදෑරුම් වේ.

**ධම්මවිනය භාසිතා-චිණ්ණපඤ්ඤත්තිනා දුකා**
**ආපත්ති ලහු දුට්ඨුල්ලා-සාවසෙසදුකානි ච**
**එතානට්ඨාරසභෙද-කර වත්ථූති වුච්චරෙ**
**විපල්ලාසගහිතානි-වාදමූලූපනිස්සයා'ති.** (කඞ්ඛා, ටී. පි.114)

---

[1] **සඞ්ඝභෙදනිබ්බත්තිසමත්ථං.** මජසං
[2] **නපටිනිස්සජ්ජෙය්‍ය.** හෙමු; බෞසංම; කාළවිල

යන ඒ අටළොස් භේදකර වස්තූන් ඛන්ධකයේ මෙසේ සඳහන් වේ. එනම්,

(1) අධර්මය ධර්මය වශයෙන් දැක්වීම.

(2) ධර්මය අධර්මය වශයෙන් දැක්වීම.

(3) අවිනය විනය වශයෙන් දැක්වීම.

(4) විනය අවිනය වශයෙන් දැක්වීම.

(5) තථාගත අභාෂිතය භාෂිතය ලෙස දැක්වීම.

(6) තථාගත භාෂිතය අභාෂිතය ලෙස දැක්වීම.

(7) තථාගතයන් වහන්සේ විසින් පුරුදු කළ දෙය පුරුදු නොකළ දෙය ලෙස දැක්වීම.

(8) තථාගතයන් වහන්සේ විසින් පුරුදු නොකළ දෙය පුරුදු කළ දෙය ලෙස දැක්වීම.

(9) තථාගත ප්‍රඥප්තිය අප්‍රඥප්තිය ලෙස දැක්වීම.

(10) තථාගත අප්‍රඥප්තිය ප්‍රඥප්තිය ලෙස දැක්වීම.

(11) අනාපත්තිය ආපත්තිය ලෙස දැක්වීම.

(12) ආපත්තිය අනාපත්තිය ලෙස දැක්වීම.

(13) ලහුකාපත්තිය ගරුකාපත්තිය ලෙස දැක්වීම.

(14) ගරුකාපත්තිය ලහුකාපත්තිය ලෙස දැක්වීම.

(15) දුට්ඨුල්ලාපත්තිය අදුට්ඨුල්ලාපත්තිය ලෙස දැක්වීම.

(16) අදුට්ඨුල්ලාපත්තිය දුට්ඨුල්ලාපත්තිය ලෙස දැක්වීම.

(17) සාවසේසාපත්තිය අනවසේසාපත්තිය ලෙස දැක්වීම.

(18) අනවසේසාපත්තිය සාවසේසාපත්තිය ලෙස දැක්වීම යි.

මෙබඳු සංඝභේදය පිණිස පවත්නා හේතුවක් තමන් විසින් ගෙන සිටීමත්, අන් අයට ප්‍රකට කිරීමත් '**සමාදය පග්ගය්හ තිට්ඨෙය්‍ය**' යන්නෙන් අදහස් වේ.

**සඃ භික්ඛූහි එවමස්ස වචනීයො ඉති**, යනු; **තං පග්ගය්හ තිට්ඨන්තං**, ඒ සංඝභේදකර වස්තු අන් අයට ප්‍රකට කරමින් ගෙන, නොඅතහැර සිටින්නා වූ භික්ෂුව; **යෙ**, යම් ලජ්ජී සුපේශල භික්ෂු කෙනෙක්; **සම්මුඛා පස්සන්ති**, සම්මුඛයේ දකිත් ද; වා, නොහොත්; **අසුකස්මිං නාම විහාරෙ ඉති**, අසවල් නම් විහාරයෙහි සිටිත් නු යි; **යෙ**, යම් ලජ්ජී සුපේශල

භික්ෂු කෙනෙක්; **සුණන්ති**, අසත් ද; **තෙහි**, ඒ ලජ්ජී සුපේශල භික්ෂූන් විසින්; **සබ්බන්තිමෙන පරිච්ඡෙදෙන**, යටත් පිරිසෙයින්; **අඩ්ඪයොජනමත්තං ගන්ත්වා අපි**, අඩ යොදුනක් පමණ දුරක් ගොස් ද; **අනන්තරෙ**, අනතුරු තන්හි; **'මා ආයස්මා' ඉති ආදි**, මා ආයස්මා යනාදි වූ; **යො අයං**[1] **වචනක්කමො**, යම් මේ වචන ක්‍රමයක්; **වුත්තො**, කියන ලද්දේ ද; **එවං**, මෙසේ; **වචනීයො අස්ස**, කිව යුතු වන්නේ ය. **දිස්වා වා**, දැක හෝ; **සුත්වා වා**, අසා හෝ; **අවදන්තානං**, නොකියන භික්ෂූන්ට; **දුක්කටං**, දුකුළා ඇවැත් වේ. **ච**, එසේ ම; **එත්ථ**, මෙහි ලා; **මා ඉති පදං**, 'මා' යන පදය; **පරක්කමි ඉති පදෙන (සද්ධිං ච)**, 'පරක්කමි' යන පදය සමඟ ද; **අට්ඨාසි ඉති පදෙන ච සද්ධිං**, 'අට්ඨාසි' යන පදය සමඟ ද; **'මා පරක්කමි, මා අට්ඨාසි' ඉති**, යැයි; **යොජෙතබ්බං**, යෙදිය යුතු.

**සමෙතායස්මා සඞ්ඝෙන ඉති**, යනු, **ආයස්මා**, ආයුෂ්මතුන් වහන්සේ; **සඞ්ඝෙන සද්ධිං**, සංඝයා සමඟ; **සමෙතු**, එක්වේවා. **සමාගච්ඡතු**, ඒකීභූත වේවා. **එකලද්ධිකො හොතු**, සමාන ලබ්ධි ඇත්තේ වේවා; **ඉති අත්ථො**, යන අර්ථය යි. **කිං කාරණා?**, කවර හෙයින් ද? යත්; **සමග්ගො හි සඞ්ඝො-පෙ- විහරති ඉති**, 'සමග්ගො හි සඞ්ඝො -පෙ- විහරති' යනුවෙන් වදාළ හෙයිනි.

**තත්ථ**, එහි; **සම්මොදමානො ඉති**, 'සම්මොදමානො' යනු; **අඤ්ඤමඤ්ඤසම්පත්තියා**, අන්‍යොන්‍ය සමාන දිට්ඨි, සමාන චිත්ත සංඛ්‍යාත සම්පත්තියෙන්; **සුට්ඨු මොදමානො**, මොනවට තුටු වනුයේ යනාර්ථ යි.

**අවිවදමානො ඉති**, 'අවිවදමානො' යනු; **අයං ධම්මො**, මෙය ධර්මය ය; **අයං න ධම්මො**, මෙය ධර්මය නො වේ ය; **ඉති එවං**, යැයි මෙසේ; **න විවදමානො**, විවාද නොකරනුයේ (යන්න යි). **එකො උද්දෙසො අස්සා'ති එකුද්දෙසො, (එකො උද්දෙසො**, එක් උදෙසීමක්; **අස්ස ඉති**, මොවුනට ඇත්තේ නු යි; **එකුද්දෙසො**, එකුද්දෙස නම් වේ) යනු එකුද්දෙස පදයාගේ සමාස විග්‍රහය යි. **එකතො පවත්තපාතිමොක්ඛුද්දෙසො ඉති අත්ථො**, එකට පැවතුණු පාමොක් උදෙසීම යන අර්ථය යි.

---

[1] ස්වායං. බෞසංම; කාළවිල

**ඵාසු විහරති ඉති**, 'ඵාසු විහරති' යනු; **සුඛං විහරති**, සුව සේ වෙසෙයි (යන්න යි). **එවං**, මෙසේ; **විසුං අපි**, වෙනම ම ද; **සඞ්ඝමජ්ඣෙ අපි**, සඟ මැද ද; **තික්ඛත්තුං වුච්චමානස්ස**, තෙවරක් කියනු ලබන්නහුට; **අප්පටිනිස්සජ්ජතො දුක්කටං**, ලබ්ධි නොඅතහැරීමෙන් දුකුළා වේ.

**102. වි:** මෙසේ භේදකර වස්තුවක් තමා ගෙන අන් අයට ද ප්‍රකට කරමින් වාසය කරන්නේ නම්, එබඳු අයෙක් සම්මුඛයේ දකියි නම් හෝ අසවල් නම් විහාරයෙහි වාසය කරන්නේය යැයි අසා දැනගත්තේ නම් ඒ ලජ්ජී පේශල භික්ෂූන් විසින් අවම අඩ යොදුනක් තරම් දුර වුව ද ගොස් '**මා ආයස්මා සමග්ගස්ස...**' යනාදි ලෙස කිව යුතු වේ. '**දූතං වා පණ්ණං වා පෙසෙත්වා වදතො ආපත්ති මොක්ඛො නත්ථි. සයමෙව ගනත්වා ... වාරෙතබ්බො**' යනාදි ලෙස සමන්තපාසාදිකාවෙහි (**සම.පා,** පි.439) එන බැවින් දූතයකු යැවීමෙන් හෝ ලිපි ආදියක් යැවීමෙන් ප්‍රමාණවත් නො වේ. ඇවැතින් මිදීමක් නම් නැත්තේය. තෙමේ ම ඒ භේදකර වස්තු ගෙන සිටින භික්ෂුව වෙත ගොස් 'ඇවැත්නි, සංඝභේදය ගරුක ය. සංඝභේදය පිණිස උත්සාහ නො කරව' යැයි කිව යුතු ය. හැකි නම් අඩ යොදුනට මත්තෙහි දුරට නමුදු යා යුතු වේ. නොගිලන් භික්ෂුවට අඩ යොදුන ඇතුළත ඇවැත් වේ.

මෙසේ වෙන වෙනම ද '**මා ආයස්මා සමග්ගස්ස...**' යනාදිය කිව යුතු අතර ඒ ලබ්ධි නො අතහරින්නේ නම් සඟ මැදට කැඳවාගෙන විත් යළිත් තෙවරක් කිව යුතු ය. එසේත් ලබ්ධි නො අතහරින භික්ෂුවට දුකුළා ඇවැත් වේ.

**සඃ එවඤ්ච සොති ආදිම්හි**, 'එවඤ්ච සො' යන ආදියෙහි; **සමනුභාසිතබ්බො ඉති**, 'සමනුභාසිතබ්බො' යනු; **සමනුභාසනකම්මං කාතබ්බං**, සමනුභාෂණ කර්මය කළ යුතු.

**ඉච්චෙතං කුසලන්ති**, 'ඉච්චෙතං කුසලං' යනු; **ඉති**, මෙසේ; **එතං පටිනිස්සජ්ජනං**, මේ ලබ්ධි අතහැරීම (දුරලීම); **කුසලං**, දක්ෂකමක්; **ඛෙමං**, නිර්භය භාවයක්; **සොත්ථිභාවො**, යහ බවක්; **තස්ස භික්ඛුනො**, ඒ භික්ෂුවට වෙයි.

**නො චෙ පටිනිස්සජ්ජෙය්‍ය, සඞ්ඝාදිසෙසො ඉති එත්ථ**, යන මෙහි; **සමනුභාසනකම්මපරියොසානෙ**, සමනුභාෂණ කර්මය අවසානයේ; **අප්පටිනිස්සජ්ජන්තස්ස**, ලබ්ධිය නොඅත්හරින භික්ෂුවට;

**සඞ්ඝාදිසෙසො**, සඟවෙසෙස් වේ. **සෙසං**, සෙස්ස; **උත්තානපදත්ථමෙව**, ප්‍රකට පදරුත් ම ය.

**103. වි:** භේදකර වස්තුවක් දැඩිව ගෙන සිටින භික්ෂුව සඟ මැදට ගෙනවුත් තෙවරක් '**මා ආයස්මා සමග්ගස්ස...**' යනාදි ක්‍රමයෙන් ඒ ලබ්ධිය දුරලීම පිණිස කිව යුතු ය. එසේ කීමෙන් ද ලබ්ධිය නොඅත් හරින භික්ෂුවට සමනුභාෂණ කර්මය කළ යුතු වේ. ව්‍යක්ත ප්‍රතිබල භික්ෂුවක් විසින් පෙළෙහි එන පරිද්දෙන් "**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො අයං ඉත්ථන්නාමො භික්ඛු සමග්ගස්ස සඞ්ඝස්ස භෙදාය පරක්කමති. සො තං වත්ථුං න පටිනිස්සජ්ජති**" (පාරා, පි.454)" යනාදි වශයෙන් ඤත්තිචතුත්ථ කර්ම වාක්‍යයෙන් සමනුභාෂණ කර්මය කළ යුතු වේ.

**සඃ රාජගහෙ**, රජගහ නුවර; **දෙවදත්තං ආරබ්භ**, දෙව්දත් තෙරුන් අරබයා; **සඞ්ඝභෙදාය පරක්කමනවත්ථුස්මිං**, සංඝභේදය පිණිස උත්සාහ කිරීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **සාධාරණපඤ්ඤත්ති**, සාධාරණ ප්‍රඥප්තිය යි. **අනාණත්තිකං**, අනාණත්තික ය. **සමනුභාසනකම්මෙ කරීයමානෙ**[1], සමනුභාෂණ කර්මය කරනු ලබන කල්හි; **අප්පටිනිස්සජ්ජන්තස්ස**[2], ලබ්ධිය නොඅත්හරින්නහුට; **ඤත්තිපරියොසානෙ දුක්කටං**, ඤත්තිය අවසානයේ දුකුළා ඇවැත් වේ. **ද්වීහි කම්මවාචාහි**, කම්වැකි දෙකෙන්; **ද්වෙ ථුල්ලච්චයා**, ථුලැසි ඇවැත් දෙකකි. '**යස්ස නක්ඛමති, සො භාසෙය්‍යා**'**ති එවං**, 'යස්ස නක්ඛමති සො භාසෙය්‍ය' යැයි මෙසේ; **යකාරප්පත්තාය**[3] **තතියකම්මවාචාය**, තුන්වන කර්ම වාක්‍යයේ 'ය' කාරයට පැමිණි කල්හි; **තඤ්ච දුක්කටං**, ඒ දුකුළාව ද; **තෙ ච ථුල්ලච්චයා**, ඒ ථුලැසි ඇවැත්හු ද; **පටිප්පස්සම්භන්ති**, පටිප්පස්සම්භනය වෙත්. **සඞ්ඝාදිසෙසෙයෙව**[4], සඟවෙසෙසෙහි ම; **තිට්ඨති**, සිටියි. **අසමනුභාසියමානස්ස ච**, සමනුභාෂණය නොකරනු ලබන්නහුට ද; **පටිනිස්සජ්ජන්තස්ස**[5] **ච**, ලබ්ධි අතහරින්නහුට ද; **උම්මත්තකාදීනඤ්ච**, උන්මත්තකාදීන්ට ද; **අනාපත්ති**, ඇවැත් නැත. **සීලවිපත්ති**, ශීල විපත්තිය යි. **භෙදාය පරක්කමනං**, සංඝභේදය පිණිය වෑයම් කිරීම, **ධම්මකම්මෙන සමනුභාසනං**, ධාර්මික විනය කර්මයකින්

---

[1] **කරියමානෙ**. මජසං
[2] **අපටිනිස්සජන්තස්ස**. හෙමු; බෞසංම
[3] **ය්‍ය-කාරපත්තාය**. මජසං
[4] **සඞ්ඝාදිසෙසොයෙව**, මජසං
[5] **පටිනිස්සජන්තස්ස**. හෙමු; බෞසංම, කාළවිල

සමනුභාෂණය; **කම්මවාචාපරියොසානං**, කර්ම වාක්‍ය අවසන් වීම; **අප්පටිනිස්සජ්ජනං**[1] **ඉති**, ලබ්ධි නොඅතහැරීම යන; **ඉමානි චත්තාරි**, මේ සතර; **එත්ථ**, මේ සිකපදයෙහි; **අඞ්ගානි**, අංගයෝ ය. **සමනුභාසනසමුට්ඨානං**, සමනුභාෂණ සමුට්ඨානය ය. **අකිරියං**, අකිරිය වශයෙන් ඇවැතට පැමිණේ.

**සඤ්ඤාවිමොක්ඛං**, සංඥාවිමෝක්ෂ ය. **සචිත්තකං**, සචිත්තක ය. **ලොකවජ්ජං**, ලෝකවද්‍ය ය. **කායකම්මං**, කාය කර්ම ය. **වචීකම්මං**, වචී කර්ම ය. **අකුසලචිත්තං**, අකුශල චිත්තය ය. **දුක්ඛවෙදනං**, දුක්ඛ වේදනා ය. **ඉති**, යනුවෙන්;

**දසමසික්ඛාපදං**, දසවෙනි ශික්ෂාපදය යි.

## 104. වි:

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : රජගහ නුවර

(2) **පුද්ගලයා** : දෙව්දත් තෙරුන් වහන්සේ

(3) **වස්තුව** : සංඝභේදය පිණිස උත්සාහ දැරීමේ වස්තුව

භාග්‍යවතුන් වහන්සේ රජගහනුවර වේළුවනාරාමයේ වැඩවෙසෙන සමයේ සංඝයා බිඳවීමේ අදහස ඇති දෙව්දත් ස්ථවිරයෝ කෝකාලික ආදි භික්ෂූන්ගේ ද සහාය ඇතිව භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹ වස්තු පසක් පිළිබඳ ඉල්ලීම් කළහ.

1. භික්ෂූහු දිවි ඇති තාක් ආරණ්‍යක විය යුතු ය. එසේ නොවීම වරදක් බව.
2. භික්ෂූහු දිවි ඇති තාක් පිණ්ඩපාතික විය යුතු ය. එසේ නොවීම වරදක් බව.
3. භික්ෂූහු දිවි ඇති තාක් පාංශුකූලික විය යුතු ය. එසේ නොවීම වරදක් බව.
4. භික්ෂූහු දිවි ඇති තාක් වෘක්ෂමූලික විය යුතු ය. එසේ නොවීම වරදක් බව.

---

[1] **අප්පටිනිස්සජනං.** හෙමු; බෞසංම, කාළවිල

5. භික්ෂූහු දිවි ඇති තාක් නිර්මාංස විය යුතු ය. එසේ නොවීම වරදක් බව.

මෙම වස්තු පස භික්ෂූන් උදෙසා පනවන ලෙසට දෙව්දත් තෙරුන් විසින් ඉල්ලීම් කළ ද භාග්‍යවතුන් වහන්සේ එය නොඅනුදත් බැවින් රජගහ නුවරට පිවිස ජනතාවට මේ බව දැන්වීය.

මෙහි දී අශ්‍රද්ධාවත්, නොපැහැදුණා වූ, දුර්බුද්ධි ඇති මිනිස්සු දෙව්දත් තෙරුන්ගේ පක්ෂග්‍රාහී වූ අතර සැදැහැවත්, පැහැදුණු, බුද්ධිමත්හු 'කෙසේ නම් දෙව්දත් තෙරුන් භාග්‍යවතුන් වහනසේ පිළිබඳ සංසයා බිඳවීමට උත්සාහ දරන්නේ ද?' යැයි දෙස් පළ කළහ. එය අසා ලජ්ජී භික්ෂූහු ද නුගුණ කියූ අතර භාග්‍යවතුන් වහන්සේ ද දෙව්දත් තෙරුන් පිළිවිස ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) **ප්‍රඥප්තිය** : සාධාරණ ප්‍රඥප්ති ය.

(5) **ආණත්තිය** : අනාණත්තික ය.

(6) **ආපත්ති** :

1. **සඟවෙසෙස්** : තුන්වන කර්ම වාක්‍යයේ 'යස්ස නක්ඛමති සො භාසෙය්‍ය' යනුවෙන් 'ය' කාරය ප්‍රාප්ත කල්හි සඟවෙසෙස් වේ. එහි දී පෙර සිදු වූ ථුල්ලැසි ඇවැත් හා දුකුළා ඇවැත් සන්සිඳේ.
2. **ථුල්ලැසි** : කර්මවාක්‍ය දෙක අවසානයේ ථුල්ලැසි දෙකක් වේ.
3. **දුකුළා** : සමනුභාෂණය කරන කල්හි ලබ්ධිය නොඅතහරින්නහුට ඤත්තිය කෙළවර දුකුළා ඇවැත් වේ.

(7) **අනාපත්ති** :

1. සමනුභාෂණය නොකරන ලද්දහුට
2. ලබ්ධිය අත්හරින්නහුට
3. උමතු - ආදිකාර්මික භික්ෂූන්ට[1]

---

[1] මෙම සිකපදයේ ආදිකාර්මිකයා නම් දේවදත්ත ස්ථවිරයන් වහන්සේ ය. එසේ වුව ද උන්වහන්සේට සමනුභාෂණ කර්මය නොකරන ලද්දේය. මේ සිකපදය දෙව්දත් තෙරුන් අරබයා පනවන ලද බැවින් උන්වහන්සේ ආදිකාර්මිකයා ලෙස දක්වේ. එසේ පළමුව දෙව්දත් තෙරුන් අරබයා සිකපදය පනවන ලද බැවින් උන්වහන්සේ ආදිකාර්මිකයා ලෙස ඇවැතින් මිදේ. හුදෙක් සමනුභාෂණය නොකරන්නහු ද ඇවැතින් මිදේ. දෙව්දත් තෙරුන්ට සමනුභාෂණය ද නොකරන ලද්දේ වෙයි. එහෙත් උන්වහන්සේ ඇවැතින් මිදෙන්නේ ආදිකාර්මිකයා

(8) **විපත්තිය** : ශීල විපත්ති ය.

(9) **අඞ්ග 04** :

1. සංඝභේදය පිණිස උත්සාහ කිරීම.
2. ධාර්මික විනය කර්මයකින් සමනුභාෂණය කිරීම.
3. කර්ම වාක්‍ය අවසන් වීම.
4. ලබ්ධිය නොඅතහැරීම.

(10) **සමුට්ඨාන** : සමනුභාෂණ සමුට්ඨාන යි (කාය-වාචා-චිත්ත වශයෙනි.)

(11) **කිරියා** : අකිරිය වශයෙනි. එනම් ලබ්ධිය අතහරින බව නොපැවසීම යි.

(12) **සංඥා** : සංඥාවිමෝක්ෂ ය.

(13) **චිත්තය** : සචිත්තක ය.

(14) **වජ්ජය** : ලෝකවද්‍ය ය.

(15) **කම්ම** : කාය කර්ම, වචී කර්ම ය.

(16) **කුසල ත්‍රිකය** : අකුශල චිත්ත ය.

(17) **වෙදනා ත්‍රිකය**: දුක්ඛ වේදනා ය.

**පඨම සඞ්ඝභේද සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

---

නිසාවෙන් ම වේ. අරිට්ඨ සිකපදයේ ‘අනාපත්ති ආදිකම්මිකස්ස’ යනුවෙන් සඳහන් වන නමුදු එය ප්‍රමාද ලිඛිතයක් වේ. චුල්ලවග්ගපාළි කම්මක්ඛන්ධකයේ අරිට්ඨ භික්ෂුවට සමනුභාෂණ කර්මය කළ බව ප්‍රකට වන බැවිනි. එහෙයින් අරිට්ඨ සිකපදයේ ආදිකාර්මිකයා ද ඇවැතට පත්විය. අරිට්ඨ සිකපදය හැරපියා සෙසු සියලු සමනුභාෂණ සිකපදයන්හි අනාපත්ති විනිශ්චය මෙසේ දත යුතු වේ (**සම.පා,** පි.440).

# දුතිය සඞ්ඝභේද සංඝාදිසේසය

- 46 -

**සඃ** එකාදසමෙ, එකළොස් වන සංඝාදිසේස සිකපදයේ; **තස්සෙව ඛො පන ඉති**, යනු; **යො**, යම් භික්‍ෂුවක්; **සඞ්ඝභෙදය**, සංඝභේදය පිණිස, **පරක්කමති**, වෑයම් කරයි ද; **තස්සෙව**, ඔහුට ම ය.

**අනුවත්තකා ඉති**, 'අනුවත්තකා' යනු; **තස්ස**, ඒ සංඝභේදය පිණිස ප්‍රයත්නය දරන භික්‍ෂුවගේ; **දිට්ඨිං**, දිටඨිය; **ඛන්තිං**, ඛන්තිය; **රුචිං**, රුචිය; **ගහණෙන**, ගැනීමෙන්; **අනුපටිපජ්ජනකා**, අනුව පිළිපදින්නෝ ය. **වග්ගං**, වාර්ගික; **අසාමග්ගිපක්ඛියවචනං**, අසමගි පාක්‍ෂික වචනය; **වදන්තීති**, කියත් නු යි; **වග්ගවාදකා**, වර්ගවාදකයෝ (නම් වෙත්). **යස්මා පන**, යම්හෙයකින් වනාහි; **තිණ්ණං උද්ධං**, තිදෙනාගෙන් මත්තෙහි; **කම්මාරහා න හොන්ති**, කර්මාර්හ නො වෙත්. (කවර හෙයින් ද? යත්) **හි** (යස්මා), යම්හෙයකින්; **සඞ්ඝො**, සංඝ තෙමේ; **සඞ්ඝස්ස**, සංඝයාට; **කම්මං න කරොති**, විනය කර්මය නො කරයි. **තස්මා**, එබැවින්; **'එකො වා ද්වෙ වා තයො වා'ති වුත්තං**, 'එකො වා ද්වෙ වා තයො වා' යැයි කියන ලදී.

**ජානාති නො ඉති**, 'ජනාති නො' යනු; **අම්හාකං**, අපගේ; **ඡන්දාදීනි**, ඡන්දදිය; **ජානාති**, දනියි. **භාසති ඉති**, 'භාසති' යනු; **'එවං කරොම' ඉති**, 'මෙසේ කරමු' යැයි; **අම්හෙහි සද්ධිං භාසති**, අප සමඟ බෙණෙයි.

**අම්හාකම්පෙතං ඛමතීති**, 'අම්හාකම්පෙතං ඛමති' යනු; **සො**, ඒ සංඝභේදයට ප්‍රයත්නය දරන භික්‍ෂුව; **යං කරොති**, යමක් කරයි ද; **එතං**, එය; **අම්හාකම්පි රුච්චති**, අපට ද රුචි වේ.

**සමෙතායස්මන්තානං සඞ්ඝෙන ඉති**, 'සමෙතායස්මන්තානං සඞ්ඝෙන' යනු; **ආයස්මන්තානං චිත්තං**, ආයුෂ්මතුන් වහන්සේලාගේ සිත; **සඞ්ඝෙන සද්ධිං**, සංඝයා සමඟ; **සමෙතු**, එක්වේවා. **සමාගච්ඡතු**, ඒකීභූත වේවා. **එකීභාවං ගච්ඡතු**, එකීභාවයට යේවා. **ඉති වුත්තං හොති**, යැයි කියන ලද්දේ වෙයි. **සෙසං**, සෙස්ස; **පදත්ථතො**, පදර්ථ වශයෙන්; **උත්තානමෙව**, ප්‍රකට ම ය. **එත්ථ**, මේ සිකපදයෙහි; **විනිච්ඡයකථා අපි**, විනිශ්චය කථාව ද; **දසමෙ වුත්තසදිසායෙව**, දසවැනි සිකපදයේ කී පරිද්දෙන් ම ය. **අයං පන**, මේ වනාහි; **විසෙසො**, වෙනස යි. **ඉදං**, මෙම සිකපදය; **රාජගහෙ**, රජගහ නුවර; **සම්බහුලෙ භික්ඛූ ආරබ්භ**, බොහෝ භික්‍ෂූන් අරබයා; **සඞ්ඝභෙදය පරක්කමන්තස්ස**,

සඞ්ඝභේදයට ප්‍රයත්න දරු; **දෙවදත්තස්ස**, දෙව්දත් තෙරුන්ට; **අනුවත්තනවත්ථුස්මිං**, අනුවර්තනය වීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අඞ්ගෙසු ච**, අංගයන්හි ද; **තත්‍ථ**, ඒ පළමු සිකපදයේ; **පරක්කමනං**, ප්‍රයත්න දරීම, **යථා**, යම් සේ ද; **එවං**, එසේ; **ඉධ**, මේ සිකපදයේ; **අනුවත්තනං**, අනුවර්තනය; **දට්ඨබ්බං ඉති**, දත යුතු යැයි; **එකාදසමසික්ඛාපදං**, එකොළොස් වෙනි සිකපදය යි.

**105. වි:** භේදනුවත්තක (දුතිය සඞ්ඝභේද) සිකපදයේ "**තස්සෙව ඛො පන ...**" යනාදියෙහි යම් භික්ෂුවක් සංඝභේදය පිණිස ප්‍රයත්න කෙරේ ද උන්වහන්සේට ම පක්ෂග්‍රාහී වූ අනුවර්තක වර්ගවාදී භික්ෂූන් පිළිබඳව කියනු ලැබේ. එහි අනුවර්තනය වීම යනු ඒ සංඝභේදයට ප්‍රයත්න දරන භික්ෂුවගේ ලබ්ධිය, කැමැත්ත, අභිප්‍රාය ගැනීම් වශයෙන් උන්වහන්සේට අනුව පවත්නා බව යි.

"**වග්ගවාදකා**" යනු කොටස් වී කලහ කරන්නා වූ භික්ෂූහු අදහස් වේ. '**වග්ගං අසාමග්ගිපක්ඛියවචනං වදන්තීති වග්ගවාදකා**' යන විග්‍රහය අනුව වාර්ගික වූ අසාමග්‍රි පාක්ෂිකයන්ගේ හෙවත් කලහ කරන්නන්ගේ වචන කියන බැවින් වග්ගවාදක නම් වේ. එනම් ඒ සංඝභේදය පිණිස උත්සාහ දරන්නවුන්ගේ ගුණ වැනීම පිණිස ද ඔවුන්ගේ පක්ෂය වෘද්ධි කිරීම පිණිස ද සිටියා වූ භික්ෂූහු අදහස් වෙති.

"**එකො වා ද්වෙ වා තයො වා**" යනුවෙන් 'එක් අයෙක් හෝ දෙදෙනෙක් හෝ තිදෙනෙක්' යැයි වෙන් කොට දක්වන ලද්දේ යම් තැනක භික්ෂූහු තිදෙනෙකුට වඩා වැඩි වූයේ නම්, එතැන සඞ්ඝයා යන සංඛ්‍යාවට යන බව යි. එසේ සංඝයා රැස් වූ විට සංඝයා සංඝයාට නිග්‍රහ වශයෙන් කරනු ලබන විනය කර්ම නොකරන බැවිනි. එහෙත් උබ්බාහිකාදි කර්ම බොහෝ භික්ෂූන් අරබයා වුව ද කළ හැකිය.

මෙම සිකපදයේ සෙසු පදරුත් ප්‍රකට මැ යි. සප්තදශාකාර විනිශ්චය ද දසවැනි සිකපදයේ කී පරිදි වේ. වෙනස මෙසේ ය.

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : රජගහ නුවර.

(2) **පුද්ගලයා** : බොහෝ භික්ෂූහු.

(3) **වස්තුව** : සංඝභේදයට ප්‍රයත්න දරන දෙව්දත් තෙරුන්ට අනුවර්තනය වීමේ වස්තුවෙහි.

භාග්‍යවතුන් වහන්සේ රජගහ නුවර වේළුවනාරාමයෙහි වැඩ වෙසෙන සමයෙහි, දසවැනි සිකපදයේ කී පරිදි දෙව්දත් තෙරුන් සංඝභේදය පිණිස උත්සාහවත් වූ අතර ලජ්ජී පේශල භික්ෂූහු ඒ දෙව්දත් තෙරුන් හට 'අධර්මවාදී ය, අවිනයවාදී ය' යනාදි ලෙස නුගුණ කීහ. එකල්හි දෙව්දත් පාක්ෂික කෝකාලික ආදි භික්ෂූහු 'ඇවැත්නි, එසේ නො කියවු. දෙව්දත් තෙම ධර්මවාදී ය' යනාදි ලෙස කීවාහුය. අල්පේච්ඡතාදි ගුණැති භික්ෂූහු ඒ අසා නුගුණ පළකර භාග්‍යවතුන් වහන්සේට සැලකළ කල්හි භාග්‍යවතුන් වහන්සේ ඒ බව විමසා, ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

(9) **අඞ්ග 04** :

1. සංඝභේදයට ප්‍රයත්න දරන භික්ෂුවකට අනුවර්තනය වීම.
2. ධාර්මික විනය කර්මයකින් සමනුභාෂණය කිරීම.
3. කර්ම වාක්‍යය අවසන් වීම.
4. ලබ්ධිය නොඅතහැරීම.

සෙසු සියල්ල ම දසවැනි ශික්ෂාපදයේ පරිදි දත යුතු.

**දුතිය සඞ්ඝභේද සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# දුබ්බච සංඝාදිසේසය

**සඃ** ද්වාදසමෙ, දෙළොස්වන සිකපදයේ; **දුබ්බචජාතිකො ඉති**, 'දුබ්බචජාතිකො' යනු; **දුබ්බචසභාවො**, දුර්වච ස්වභාවය යි. **වත්තුං**, කීමට; **අසක්කුණෙය්‍යො ඉති අත්‍ථො**, නොහැකි වන්නෙක් ය යන අර්ථය යි.

**උද්දෙසපරියාපන්නෙසු ඉති**, 'උද්දෙසපරියාපන්නෙසු' යනු; **උද්දෙසෙ**, උදෙසීමෙහි, **පරියාපන්නෙසු**, පර්යාපන්න වූවන් අතරින්; **අන්තොගතෙසු**[1], අනතර්ගත වූවන් අතරින් ය. **'යස්ස සියා ආපත්ති, සො ආවීකරෙය්‍ය**[2]**' ඉති එවං**, (**යස්ස**, යම් භික්ෂුවකට; **ආපත්ති සියා**, ඇවැතක් වන්නේ නම්; **සො**, ඒ ඇවැත; **ආවීකරෙය්‍ය**, කියන්නේය) යැයි මෙසේ; **සඞ්ගහිතත්තා**, සංගෘහිත බැවින්; **පාතිමොක්ඛස්ස අන්තො**, ප්‍රාතිමෝක්ෂයාගේ ඇතුළෙහි; **වත්තමානෙසු ඉති අත්‍ථො**, පවත්නා සිකපද විශේෂයෙහි (යන අර්ථය යි).

**සහධම්මිකං වුච්චමානො ඉති**, 'සහධම්මිකං වුච්චමානො' යනු; **සහධම්මිකෙන වුච්චමානො**, 'සහධම්මිකෙන වුච්චමානො' යනුවෙන් (**සහධම්මිකෙන**, සහධර්මයෙන් හෙවත් පැනවූ සිකපදයෙන්; **වුච්චමානො**, කියනුයේ) කරණාර්ථය ගත යුතු. **ච**, එසේ ම; **එතං**, මේ 'සහධම්මිකං' යන වචනය; **කරණත්‍ථෙ**[3], කරණාර්ථයෙහි; **උපයොගවචනං**, ද්විතීයා විභක්ති වචනය යි. **පඤ්චහි සහධම්මිකෙහි**, පස් සහදැහැමියන් විසින්; **සික්ඛිතබ්බත්තා**, හික්මිය යුතු බැවින්; **වා**, නොහොත්; **තෙසං සන්තකත්තා**, ඔවුන් සතු බැවින්; **සහධම්මිකං ඉති**, සහධාර්මික යැයි; **ලද්ධනාමෙන**, ලද නම් ඇත්තා වූ; **බුද්ධපඤ්ඤත්තෙන සික්ඛාපදෙන**, සර්වඥ ප්‍රඥප්ත ශික්ෂාපදයෙන්; **වුච්චමානො ඉති අත්‍ථො**, කියනු ලබනුයේ යන අර්ථය යි.

**විරමථායස්මන්තො මම වචනාය ඉති**, යනු; **යෙන වචනෙන**, යම් වචනයකින්; **මං වදථ**, මට කියහු ද; **තතො**, එයින්; **මම වචනතො**, මට කියන වචනයෙන්; **විරමථ**, වෙන් වවු. (වචනාය යනු පඤ්චමී විභක්ත්‍යාර්ථයේ චතුර්ථී වචනය යි. *'වචනායාති නිස්සක්කෙ*

---

[1] **අන්තොගධෙසු**. මජසං
[2] **ආවිකරෙය්‍ය**. මජසං; බෞසංම; කාළවිල
[3] **කාරණත්‍ථෙ**. මජසං

*සම්පදනවචනන්ති ආහ 'තතො මම වචනතො'ති* - **කඞ්ඛා.ටී, පි.118)** **මං**, මට; **තං වචනං**, ඒ වචනය; **මා වදථ ඉති**, නො කියනු මැනව යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **වදෙතු**[1] **සහධම්මෙන ඉති**, යනු; **සහධම්මිකෙන සික්ඛාපදෙන**, සහධාර්මික ශික්ෂාපදයෙන් හෝ; **සහධම්මෙන වා**, සහධර්මයෙන් හෝ; **අඤ්ඤෙනපි**, අන්‍ය වූ ද; **පාසාදිකභාවසංවත්තනිකෙන වචනෙන**, පහදවනුවට වැටෙන්නා වූ වචනයෙන්; **වදෙතු**, කියාවා.

**යදිදන්ති**, 'යදිදං' යනු; **වුද්ධිකාරණදස්සනත්‍ථෙ**, වැඩීමෙහි හේතුව දක්වීම් අර්ථයෙහි; **නිපාතො**, නිපාතය යි. **තෙන**, එහෙයින්; **යං ඉදං අඤ්ඤමඤ්ඤස්ස හිතවචනං (ච)**, යම් මේ එකිනෙකාට හිත වචනයක් ද; **(යං ඉදං) ආපත්තිතො වුට්ඨාපනං ච**, යම් මේ ඇවතින් නඟා සිටුවීමක් ද වේ ද; **තෙන අඤ්ඤමඤ්ඤවචනෙන**, ඒ ඔවුනොවුන්ගේ වචනයෙන්; **(තෙන) අඤ්ඤමඤ්ඤවුට්ඨාපනෙන**, ඒ ඔවුනොවුන් පිළිබඳ ඇවැතින් නඟාසිටුවීමෙන් (යන අර්ථය යි).

**'එවං සංවද්ධා හි තස්ස භගවතො පරිසා' ඉති එවං**, 'එවං -පෙ- පරිසා' යැයි මෙසේ; **පරිසාය වුද්ධිකාරණං**, පිරිසෙහි වෘද්ධිකාරණය; **දස්සිතං හොති**, දක්වන ලද්දේ වෙයි. **සෙසං**, සෙස්ස; **උත්තානත්‍ථමෙව**, ප්‍රකට අරුත් ඇත්තේ ම ය. **විනිච්ඡයකථාපි**, විනිශ්චය කථාව ද; **දසමෙ**, දසවෙනි සිකපදයේ; **වුත්තසදිසා එව**, කියන ලද පරිදි ම වේ. **අයං පන විසෙසො**, මේ වනාහි වෙනස යි. **ඉදං**, මේ සිකපදය; **කොසම්බියං**, කොසඹෑ නුවර; **ඡන්නත්ථෙරං ආරබ්භ**, ඡන්න තෙරුන් අරබයා; **අත්තානං අවචනීයකරණවත්‍ථුස්මිං**, තමා නො කියයුත්තෙක් කිරීමේ වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අඞ්ගෙසු ච**, අංගයන්හි ද; **තත්‍ථ**, ඒ සිකපදයේ; **යථා පරක්කමනං**, සංඝභේදයට උපක්‍රම කිරීම යම් සේ ද; **එවං**, එසේ ම; **ඉධ**, මේ සිකපදයේ; **අවචනීයකරණතා**, අවචනීයකරණ භාවය; **දට්ඨබ්බා ඉති**, දත යුත්තේ නු යි;

**ද්වාදසමසික්ඛාපදං**, දෙළොස්වෙනි සිකපදය යි.

**106. වි:** "**දුබ්බචජාතිකො**" යනු දුර්වච ස්වභාවය යි. එනම් දුර්වච බව ඇති කරනු ලබන එකුන්විසි ධර්මයන්ගෙන් සමන්විතව, තමාට කරනු ලබන අනුශාසනා ප්‍රදක්ෂිණාග්‍රාහීව, ආදර බුහුමන් ඇතිව

---

[1] වදතු. මජසං

නොගැන්මෙන් දුර්වච වන බැවින් දුර්වච ස්වභාව ඇති බව යි. ඒ දෙවචස්ස කරණීය ධර්මතාවන් මජ්ඣිමනිකාය, මූලපණ්ණාසකයේ, අනුමාන සූත්‍රයෙහි ආවා වූ නයින් දත යුතු.

"**උද්දෙසපරියාපන්නෙසු සික්ඛාපදෙසු**" යනුවෙන් ප්‍රාතිමෝක්ෂයෙහි අන්තර්ගත වූ සිකපදයන් කියැවේ. '**උද්දිසීයතීති උද්දෙසො**' බැවින් උදෙසන අර්ථයෙන් උද්දේසය යනු ප්‍රාතිමෝක්ෂය යි. "**යස්ස සියා ආපත්ති, සො ආවිකරෙය්‍ය**" යැයි ඒ උද්දේස සංඛ්‍යාත ප්‍රාතිමෝක්ෂයෙහි ඇතුළත් වූ සිකපදයන්හි යන අදහස යි.

'**සහධම්මිකං වුච්චමානො**' යන්නෙහි '**සහධම්මිකෙන**' යැයි කරණාර්ථය ගත යුතු වේ. '**සහධම්මිකං**' යනු කරණාර්ථයේ ද්විතීයා විභක්තිය යි. භික්ෂු, භික්ෂුණී, සික්ඛමානා, සාමණේර, සාමණේරී යන පඤ්ච සහධාර්මිකයන් විසින් හික්මිය යුතු බැවින් නොහොත් ඔවුන් සතු බැවින් බුදුරජාණන් වහන්සේ විසින් පනවන ලද සිකපද සහධාර්මික යැයි කියනු ලැබේ. ඒ සර්වඥ ප්‍රඥප්ත සිකපදයෙන් කියනු ලබන්නේ යනාර්ථ යි.

'**අඤ්ඤමඤ්ඤවචනෙන අඤ්ඤමඤ්ඤවුට්ඨාපනෙන**' යනු ඔවුනොවුන්ට අභිවෘද්ධිකර හිත වචනයෙන් ද ඔවුනොවුන් පිළිබඳ ඇවතින් නඟාසිටුවීමෙන් ද යනාර්ථ යි. '**යං ඉදං අඤ්ඤමඤ්ඤස්ස හිතවචනං ආපත්තිතො ච වුට්ඨාපනං**' යැයි කියන ලද්දේ එබැවිනි. ඒ අන්‍යෝන්‍ය අභිවෘද්ධිකර වචනය, අන්‍යෝන්‍ය ඇවැතින් නඟාසිටුවීම කරණකොටගෙන භාග්‍යවතුන් වහන්සේගේ පර්ෂදය වෘද්ධිප්‍රාප්ත වූයේ ම වෙයි.

සෙසු අර්ථ සුගම ය. සප්තදශාකාර විනිශ්චය ද දසවැනි සිකපදයේ පරිදි දත යුතු අතර වෙනස් වන කරුණු පහත පරිදි වේ.

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : කොසඹෑ නුවර.

(2) **පුද්ගලයා** : ඡන්න ස්ථවිරයන් වහන්සේ අරබයා.

(3) **වස්තුව** : තමා නොකියයුත්තෙකු කිරීමේ වස්තුවෙහි ය.

භාග්‍යවතුන් වහන්සේ කොසඹෑ නුවර ඝෝෂිතාරාමයෙහි වැඩ වාසය කරන සමයෙහි ඡන්න ස්ථවිරයන් වහන්සේ නොයෙක් කායික වාචසික ව්‍යතික්‍රමණයන් කරමින් ආනාචාරයෙහි හැසිරෙන

අතර සෙසු භික්ෂූහු එසේ නොකරන ලෙස අනුශාසනා කළහ. එකල්හි ඡන්න තෙරුන් වහන්සේ තමා අවවාද ලබන්නෙක් නොව අවවාද කිරීමට සුදුස්සෙක් යැයි 'බුදුන් වහන්සේ අපගේ ය' යනාදි ලෙස මාන උපදවාගෙන තමා නොකියයුත්තෙකු බවට පත් කළහ.

ඉක්බිති අල්පේච්ඡතාදි ගුණැති භික්ෂූහු ඒ පිළිබඳ නුගුණ පවසා භාග්‍යවතුන් වහන්සේට සැලකළ අතර භාග්‍යවතුන් වහන්සේ ඡන්න තෙරුන්ගෙන් විමසා, ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) **අඞ්ග** :

1. තමා නොකියයුත්තෙකු කිරීම.
2. ධාර්මික විනය කර්මයකින් සමනුභාෂණය කිරීම.
3. කර්ම වාක්‍යය අවසන් වීම.
4. ලබ්ධිය නොඅතහැරීම.

සෙසු සියල්ල දසවැනි සිකපදයේ පරිදි දත යුතු.

**දුබ්බච සංඝාදිසේස ශික්ෂාපදය නිමියේය.**

# කුලදූසක සංඝාදිසේසය

- 47 -

**සඃ** තෙරසමෙ, තෙළෙස්වෙනි සිකපදයේ; **ගාමං වා නිගමං වා ඉති එත්ථ**, ‘ගාමං වා නිගමං වා’ යන මෙහි; **නගරම්පි**, නගරය ද; **ගාමෙ**, ගාම යන්නෙහි; **අන්තොගධං එව**, අන්තර්ගත ම ය.

**උපනිස්සාය විහරති ඉති**, ‘උපනිස්සාය විහරති’ යනු; **තත්ථ**, ඒ ග්‍රාමාදියෙහි; **පටිබද්ධ**, ප්‍රතිබද්ධ වූ; **චීවරාදිපච්චයතාය**, චීවරාදි සිව්පසය ඇති බැවින්; **තං නිස්සාය වසති**, ඒ ග්‍රාමාදිය නිසා වසයි. **පුප්ඵදානාදීහි**, පුෂ්පදාන ආදියෙන්, **මනුස්සානං**, මිනිසුන්ගේ; **සද්ධං විනාසෙන්තො**, ශ්‍රද්ධාව විනාශ කරනුයේ, **කුලානි දූසෙති ඉති**, කුලයන් දූෂණය කරයි නු යි; **කුලදූසකො**, ‘කුලදූෂක’ නම් වේ. **මාලාවච්ඡරොපනාදයො**, මල් පැළ රෝපණය කිරීමාදි වූ; **පාපකා සමාචාරා අස්ස ඉති**, ලාමක හැසිරීම් ඇත්තේ ඔහුට නු යි; **පාපසමාචාරො**, පාපසමාචාර නම් වේ.

**සො භික්ඛු ඉති**, ‘සො භික්ඛු’ යනු; **සො කුලදූසකො භික්ඛු**, ඒ කුලදූෂක භික්ෂුව යි. “**ආයස්මා ඛො කුලදූසකො -පෙ- අලං තෙ ඉධ වාසෙන**” **ඉති ඉමිනා**, ‘ආයස්මා ඛො -පෙ- වාසෙන’ යන මෙයින්; **අස්ස**, ඒ කුලදූෂක භික්ෂුවගේ; **පබ්බාජනීයකම්මාරහතං**, පබ්බාජනීය කර්මාර්හ භාවය; **දස්සෙති**, දක්වේ. **එස පබ්බාජනීයකම්මකතො පන**, ඒ පබ්බාජනීය කර්මය කරන ලද භික්ෂු තෙමේ; **යස්මිං ගාමෙ වා නිගමෙ වා**, යම් ගමෙක හෝ නියම් ගමෙක හෝ; **කුලදූසකකම්මං කතං**, කුලදූෂක කර්මය කරන ලද්දේ ද; **ච**, එසේ ම; **යස්මිං විහාරෙ වසති**, යම් විහාරයක වසයි ද (ගමෙන් පිට විහාරයක); **තස්මිං ගාමෙ වා නිගමෙ වා**, ඒ ගමේ හෝ නියම් ගමේ හෝ; **චරිතුං**, පිඬු පිණිස හැසිරීමට; **නෙව ලභති**, නො ලබයි. **න විහාරෙ වසිතුං**, විහාරයෙහි විසීමට ද නො ලබයි.

**එවඤ්ච සො භික්ඛු ඉති එත්ථ**, ‘එවඤ්ච සො භික්ඛු’ යන මෙහි; **සො ඉති**, ‘සො’ යනු; **පබ්බාජනීයකම්මකතො**, පබ්බාජනීය කර්මය කරන ලද භික්ෂුව; **අධිප්පෙතො**, අභිප්‍රේත ය. **ඡන්දෙන ගච්ඡන්තීති ඡන්දගාමිනො**, (**ඡන්දෙන ගච්ඡන්ති ඉති**, ඡන්දයෙන් අගතියට යත් නු යි; **ඡන්දගාමිනො**, ඡන්දගාමිනො නම් වේ) යනු විග්‍රහය යි.

**සෙසෙසු**, සෙසු දෙසගාමිනො යනාදි පදයන්හි ද; **එස නයො**, මේ නය යි.

**සො භික්ඛු ඉති**, 'සො භික්ඛු' යනු; **සො**, හෙතෙමේ; **'ඡන්දගාමිනො' ඉති ආදීනි වදමානො**, 'ඡන්දගාමිනො' යන ආදිය කියනුයේ; **තස්ස වචනස්ස**, ඒ වචනයාගේ; **පටිනිස්සග්ගාය**, අත්හැරීම පිණිස; **එවං වචනීයො**, මෙසේ කිව යුතු වේ. **කුලදූසනනිවාරණත්ථාය න**, කුලදූෂණය වැළැක්වීම පිණිස නො වේ. **හි**, පරිහාරය කියනු ලැබේ; **කුලදූසනකම්මෙන**, කුලදූෂක කර්මයෙන්; **සො**, හෙතෙමේ; **ආපජ්ජිතබ්බා ආපත්තියො**, පැමිණිය යුතු ඇවැත්වලට; **පුබ්බෙ එව ආපන්නො**, පූර්වයේ ම පැමිණියේ වෙයි. **එවං පන**, මෙසේ වනාහි; **විසුම්පි**, වෙනම ම ද; **සඞ්ඝමජ්ඣෙපි**, සඟ මැද ද; **වුච්චමානස්ස**, කියනු ලබන්නා වූ; **අප්පටිනිස්සජ්ජතො**[1], ලබ්ධි නොඅතහරින්නා වූ; **අස්ස**, උන්වහන්සේට; **අපරං දුක්කටං**, අනෙක් දුකුළා ඇවැතක් වේ. **එවඤ්ච සො ඉති ආදි**, 'එවඤ්ච සො' යනාදිය; **ඉතො පුබ්බෙ**, මින් පෙර; **වුත්තඤ්ච**, කියන ලද්ද ද; **අවුත්තඤ්ච**, නො කියන ලද්ද ද; **සබ්බං**, සියල්ල; **උත්තානත්ථමෙව**, ප්‍රකට අරුත් ඇත්තේ ම ය. **විනිච්ඡයකථා අපි**, විනිශ්චය කථාව ද; **දසමෙ**, දසවෙනි සිකපදයේ; **වුත්තසදිසා එව**, කියන ලද ආකාර ඇත්තේ ම ය. **අයං පන විසෙසො**, මේ වනාහි වෙනස යි. **ඉදං**, මේ සිකපදය; **සාවත්ථියං**, සැවැත් නුවර; **අස්සජිපුනබ්බසුකෙ භික්ඛූ ආරබ්භ**, අස්සජි-පුනබ්බසුක භික්ෂූන් අරබයා; **ඡන්දගාමිතාදීහි**, ඡන්දගාමිතා ආදි සතර අගතියෙන්; **පාපනවත්ථුස්මිං**, දෝෂයට පමුණුවන වස්තුවෙහි; **පඤ්ඤත්තං**, පනවන ලදී. **අඞ්ගෙසු ච**, අංගයන්හි ද; **තත්ථ**, ඒ දශවෙනි සිකපදයේ; **යථා පරක්කමනං**, යම් සේ සංඝභේදයට උපක්‍රම කිරීම වේ ද; **එවං**, එසේ ම; **ඉධ**, මේ සිකපදයේ; **ඡන්දදීහි**, ඡන්දදියෙන්; **පාපනං**, දෙස් නැගීම; **දට්ඨබ්බං**, දත යුතු; **ඉති**, යනුවෙන්;

**තෙරසමසික්ඛාපදං**, තෙළෙස්වෙනි සිකපදය යි.

**107. වි:** "ගාමං වා නිගමං වා" යන තැන නගරය ද ගාම ග්‍රහණයෙන් ම ගන්නා ලද්දේ වෙයි. එහෙයින් පදභාජනියෙහි '**ගාමොපි නිගමොපි නගරම්පි ගාමො චෙව නිගමො ච** (පාරා, පි.478)' යැයි වදළ සේක. එහි නිගමය යන්න සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ

---

[1] **අපටිනිස්සජතො**, හෙමු; බෞසංම; කාළවිල

'**අපාකාරපරික්ඛෙපො සආපණො නිගමො** (පි.451)' යැයි සඳහන් බැවින් ප්‍රාකාරයකින් පරික්ෂේප නොකරන ලද කඩපිල් සහිත වූයේ '**නිගම**'ය යි. '**සපාකාරාපණං නගරං, තං තං විපරීතතො ගාමො** (**කඞ්ඛා.ටී, පි**.118)' යනු අභිනවටීකාව බැවින් නගරය යනු ප්‍රාකාරයකින් වට කරන ලද කඩපිල් සහිත වූවකි. මේ දෙකින් ම වෙනස් වූයේ ගම යි.

"**කුලදූසකො**" යනු පුෂ්පදනාදියෙන් කුලයන්ගේ ශ්‍රද්ධාව විනාශ කරමින් කුලයන් දූෂණය කරන බව යි. මෙහි දූෂණය යනු අශූචි, කසල ආදියෙන් දූෂණය කිරීම නො වේ. ස්වකීය දුෂ්ප්‍රතිපත්තිය කරණකොටගෙන ඒ කුලයන්ගේ ශ්‍රද්ධාව, පැහැදීම විනාශ කරයි. මෙසේ කුල දූෂණය වන ආකාර අටක් දැක්වේ. එනම්, (1) පුෂ්පදන හෙවත් මල් දීම, (2) ඵලදන හෙවත් ගෙඩි වර්ග දීම, (3) චුණ්ණදන හෙවත් සුණු වර්ග දීම, (4) මත්තිකාදන හෙවත් මැටි දීම, (5) දන්තකට්ඨදන හෙවත් දැහැටිදඬු දීම, (6) වෙළුදන හෙවත් උණගස් දීම, (7) වෙජ්ජික හෙවත් වෙදකම් කිරීම සහ (8) ජඞ්ඝපෙසනිය හෙවත් ගිහියන්ගේ දූත මෙහෙවර කිරීම යනුවෙනි. පදභාජනියෙහි '**කුලදූසකොති කුලානි දූසෙති පුප්ඵෙන වා ඵලෙන වා -පෙ- ජඞ්ඝපෙසනිකෙන වා** (පාරා, පි.478)' යැයි මේ කරුණු අට දැක්වෙන අතර පරිවාරපාළියෙහි ද '**අට්ඨහාකාරෙහි කුලානි දූසෙති** (**පරිවා**.1, පි.74)' යැයි දැක්වේ. මේ එකිනෙකක් පිළිබඳ විස්තර සමන්තපාසාදිකා විනයාර්ථකථාවෙන් සුදුසු ගුරුන් ඇසුරෙන් බලා දත යුතු වේ. ලාභ නිසාවෙන් පුෂ්පදනාදිය කොට සැදැහැසපන් කුලයන්ගේ සිත්ගෙන එසේ නොකරන ලජ්ජී භික්ෂූන් කෙරෙහි වන ශ්‍රද්ධාව දූෂණය කරන බැවින් මෙබඳු දෑ කුල දූෂණ කටයුතු ලෙස හැඳින්වේ.

තමන් සතු වූ හෝ අන්සතු මල් ආදියක් කුල සංග්‍රහය පිණිස දෙන්නහුට කුල දූෂණ දුකුළා ඇවැත් වේ. ඊශ්වරත්වයෙන් යුතුව සඟ සතු දේ දීමෙන් හෝ ගරු භාණ්ඩ දීමෙන් ථුලැසි වේ. මව්පියන්ට බුද්ධ පූජාව පිණිස මල් දීමෙන් ඇවැත් නො වේ. එහෙත් සැරසීම පිණිස හෝ ශිව ලිඞ්ග පිදීමාදි අන් ශාස්තෘවරයෙකුට පිදීමට නොදිය යුතු වේ. මල් පූජා කිරීමට පැමිණි ගිහියන්ට 'විහාරයේ අසවල් තැන මල් ඇත. ඒවා පූජා කරන්න' යැයි කීමෙන් ඇවැත් නො වේ.

**"පාපසමාචාරො"** යනු මල් පැළ රෝපණය කිරීමාදි ලාමක හැසිරීම් ඇති භික්ෂුව යි. එහෙයින් '**පාපකා සමාචාරා අස්සාති පාපසමාචාරො (සම.පා, පි.454)**' යැයි කියන ලදී. පදභාජනියේ '**මාලාවච්ඡං රොපෙතිපි රොපාපෙතිපි**' යනාදි ලෙස මෙම ලාමක හැසිරීම් මොනවාද යන්න වදාළ සේක. එහි දී කුල සංග්‍රහය පිණිස කරන මල් පැළ රෝපණය කිරීමාදිය අදහස් වේ. ආදි ශබ්දයෙන් මල් පැළ රෝපණය කරවීම, දිය ඉසීම, ඉස්සවීම, මල් නෙළීම, මල් නෙළවීම, මල් ගෙතීම, මල් ගෙතවීම යන මේ සියල්ල අයත් වන අතර කුල දූෂණයෙන් දුකුළා වේ. හුදෙක් බුද්ධ පූජා සඳහා මල් පැළ රෝපණය කිරීමාදිය අනාපත්ති වන අතර ඇතැම් මල් ගෙතීම්වල දී ඇවැත් වේ. විස්තර විනිශ්චය සමන්තපාසාදිකාවෙන් බලා දත යුතු.

මෙසේ කුල දූෂණයේ නිරත වන, පාපසමාචාරයන් ඇති භික්ෂුවට පබ්බාජනීය කර්මය කරන ලද්දේ නම්, ඉන්පසු උන්වහන්සේ ඒ කුල දූෂණය කරන ලද ගමේ හෝ නියම් ගමේ පිඬු පිණිස හැසිරීමට හෝ තමන් විසූ විහාරයේ වාසය කිරීමට හෝ නො ලබයි. ගම හෝ නියම්ගම යොදුන් දෙළොසක් වුව ද එහි පිඬු පිණිස හැසිරිය නොහැකි ය. විහාරය යොදුන් තුනක් විශාල වුව ද එහි විසිය නොහැකි ය. ඒ විහාරයේ වාසය කරමින් අසල ගමේ පිඬු පිණිස හැසිරීම ද නොකළ යුතු. අසල විහාරයක වසමින් ඒ ගමේ පිඬු පිණිස හැසිරීම ද නොකළ යුතු. අසල විහාරයක වසමින් ඒ අසල ගමේ පිඬු පිණිස හැසිරීම ද නොකළ යුතු. අසල විහාරයේ වසමින් ඊට ආසන්න වෙනත් ගමක පිඬු පිණිස හැසිරීම කළ හැකි වේ.

මෙසේ පබ්බාජනීය කර්මය කරන ලද භික්ෂුව සෙසු ලජ්ජී සුපේශල භික්ෂූන්ට 'ඡන්දගාමිතාදියෙන්' දෙස් නඟයි නම්, ඒ සෙසු භික්ෂූන් විසින් එසේ නොකියන ලෙස අවවාද කළ යුතු ය. එම අවවාද නොපිළිගැනීමෙන් වෙනම ම දුකුළා ඇවැත් වේ. එසේ නොපිළිගන්නේ නම් සඟ මැදට කැඳවා නැවත අවවාද කළ යුතු වේ. එවිට ද නොපිළිගන්නේ නම් යළිත් දුකුළා ඇවැත් වේ. එසේ ද ස්වකීය ලබ්ධිය නොඅතහරින භික්ෂුවට තුන්යළ දක්වා සමනුභාෂණය කළ යුතු අතර එහි විනිශ්චය පෙර කී නයින් දත යුතු.

සෙසු අර්ථ සුගම ය. සප්තදශාකාර විනිශ්චය ද දසවැනි සිකපදයේ පරිදි දත යුතු අතර වෙනස් වන කරුණු පහත පරිදි වේ.

## සප්තදශාකාර විනිශ්චය

(1) **නිදානය** : සැවැත් නුවර.

(2) **පුද්ගලයා** : අස්සජි පුනබ්බසුක භික්ෂූහු

(3) **වස්තුව** : ඡන්දගාමිතාදියෙන් දෝෂාරෝපණය කිරීමේ වස්තුවෙහි ය.

භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ වෙසෙන සමයේ කීටාගිරියේ ආවාසික වූ අස්සජි පුනබ්බුසුක නම් පාපී භික්ෂූහු කුල දූෂණයෙහි යෙදෙමින් නොයෙක් ලාමක හැසිරීම්වල නිරත වූහ. එකල්හි එක්තරා ලජ්ජී භික්ෂුවක් සැවැත් නුවර බලා වඩිනා අතරමඟ කීටාගිරියට පැමිණ ශ්‍රමණ සාරුප්‍යයෙන් යුතුව පිඬුසිඟා වැඩම කළේය. කීටාගිරි වැසි මිනිස්සු ඒ භික්ෂුව දැක උන්වහන්සේගේ සංයම ඉඳුරන් නිසාවෙන්, තමන් දූෂණය වූ ශ්‍රද්ධා ඇති බැවින් ඒ සංයම හැසිරීම හෙළා දුටහ. පිණ්ඩපාතය ද නො දුන්හ.

එකල්හි එක්තරා සැදැහැවත් උපාසකයෙක් මේ භික්ෂුව දැක කථා කොට දන් පිළිගන්වා කීටාගිරි භික්ෂූන්ගේ අනාචාරයන් පිළිබඳ භාග්‍යවතුන් වහන්සේට සැලකරන මෙන් ඉල්ලා සිටියේය. ඒ භික්ෂුව සැවැත් නුවරට වැඩමකොට භාග්‍යවතුන් වහන්සේ බැහැදැක මෙපවත් සැලකිරීමෙන් අනතුරුව භාග්‍යවතුන් වහන්සේ භික්ෂු සඞ්ඝයා රැස් කරවා මේ පිළිබඳ විමසා අස්සජි පුනබ්බසුක භික්ෂූන්ට පබ්බාජනීය කර්මය කරන ලෙස ශාරිපුත්‍ර-මෞද්ගල්‍යායන අග්‍රශ්‍රාවකයන් වහන්සේලාට භාර කළ සේක.

අග්‍රශ්‍රාවකයන් වහන්සේලා කීටාගිරියට වැඩමකොට අස්සජි පුනබ්බසුක භික්ෂූන්ට පබ්බාජනීය කර්මය කළ අතර ඔවුහු මනාව නොපිළිපදිමින් සඞ්ඝයා ක්ෂමා නොකරමින්, විනය කර්ම කළ භික්ෂූන්ට ඡන්දගාමිතාදියෙන් දෝෂාරෝපණය කළහ. මෙපවත් සැල වූ භාග්‍යවතුන් වහන්සේ කරුණු විචාරා ගර්හා කොට මෙම සිකපදය පනවා වදාළ සේක.

(4) අඞ්ග 04 :

1. ඡන්දගාමිතාදියෙන් දෝෂාරෝපණය කිරීම.
2. ධාර්මික විනය කර්මයකින් සමනුභාෂණය කිරීම.
3. කර්ම වාක්‍යය අවසන් වීම.
4. ලබ්ධිය නොඅත්හැරීම.

**කුලදූසක සංඝාදිසේස ශික්‍ෂාපදය නිමියේය.**

# සංඝාදිසේසුද්දේස නිගමන කථා

**සඃ උද්දිට්ඨා ඛො -පෙ- එවමෙතං ධාරයාමි ඉති එත්ථ**, 'උද්දිට්ඨා ඛො -පෙ- එවමෙතං ධාරයාමි' යන මෙහි; **පඨමං ආපත්ති එතෙසන්ති පඨමාපත්තිකා**, (**පඨමං ආපත්ති**, පළමුව ඇවැතට පත්වීම; **එතෙසං ඉති**, මේ ධර්මයන්ට නු යි; **පඨමාපත්තිකා**, පඨමාපත්තික නම් වේ) යනු විග්‍රහය යි. **පඨමං**, පළමුව; **වීතික්කමනක්ඛණෙ එව**, ව්‍යතික්‍රමණ ක්ෂණයේ ම; **ආපජ්ජිතබ්බා ඉති අත්ථො**, ඇවැතට පත්විය යුතු ය යන අර්ථය යි. **ඉතරෙ පන**, අනෙක් සතර ධර්මයෝ වනාහි; **යථා**, යම් සේ; **තතියෙ ච චතුත්ථෙ ච දිවසෙ හොති ඉති එත්ථ**[1], තෙවැනි සතරවැනි දවස්හි වේ යන මෙහි; '**තතියකො, චතුත්ථකො' ඉති**, තෙවැන්න, සතරවැන්න යැයි; **වුච්චති**, කියයි ද; **එවං**, මෙසේ, **යාවතතියෙ සමනුභාසනකම්මෙ**, තුන්යළ දක්වා සමනුභාෂණ කර්මය කළ කල්හි; **හොන්ති ඉති**, ඇවැතට පත් වෙත් නු යි; **යාවතතියකා ඉති**, යාවතතියක යැයි; **වෙදිතබ්බා**, දත යුතු ය.

**108. විඃ** 'උද්දිට්ඨා ඛො -පෙ- එවමෙතං ධාරයාමි' යනුවෙන් තෙළෙස් සඟවෙසෙස් ඇවැත් උදෙසා අවසන් බව දක්වේ. එනම් සුක්කවිසට්ඨි සංඝාදිසේසය, කායසංසර්ග සංඝාදිසේසය, දුට්ඨුල්ලවාචා සංඝාදිසේසය, අත්තකාමපාරිචරිය සංඝාදිසේසය, සඤ්චරිත්ත සංඝාදිසේසය, කුටිකාර සංඝාදිසේසය, විහාරකාර සංඝාදිසේසය, පඨමදුට්ඨදෝස සංඝාදිසේසය, දුතියදුට්ඨදෝස සංඝාදිසේසය, සංඝභේදක සංඝාදිසේසය, භේදානුවත්තක සංඝාදිසේසය, දුබ්බච සංඝාදිසේසය, කුලදූසක සංඝාදිසේසය යන තෙළෙස් සිකපදයෝ ය. එය පරිවාරපාළියෙහි,

**විස්සට්ඨිකායසංසග්ගං - දුට්ඨුල්ලං අත්තකාමතං**
**සඤ්චරිත්තං කුටීචෙව - විහාරො ච අමූලකං**
**කිඤ්චි දෙසඤ්ච භෙදො ච - තස්සෙව අනුවත්තකා**
**දුබ්බචං කුලදූසඤ්ච - සඞ්ඝාදිසෙසා තෙරසා**'ති. (පරිවා.1, පි.18)

යැයි කියන ලදී.

---

[1] '**තතියෙ චතුත්ථෙ ච දිවසෙ හොතීති ජරො තතියකො ....**' යනුවෙන් සමන්තපාසාදිකා විනයාර්ථකථාවෙහි 'ජර' ශබ්දයක් පැනෙයි (**සම.පා**, **පි**.454). කඞ්ඛාවිතරණී පිටපොත ද '**ජරො-ජ්වරය**' යැයි ගැටපද විවරණය කරයි (**කඞ්ඛා.පි**, **පි**.39)

ඒ තෙළෙස් සඟවෙසෙස් අතරින් පළමු සිකපද නවය (09) **පඨමාපත්තික** නම් වන අතර, සෙසු සිකපද සතර (04) **යාවතතියක** නම් වේ. එහෙයින් '**නවපඨමාපත්තිකා, චත්තාරො යාවතතියකා**' යැයි කියන ලදී.

"**නවපඨමාපත්තිකා**": යම් සඟවෙසෙස් සිකපදයක වස්තු ව්‍යතික්‍රමණ ක්‍ෂණයේ ම ඇවැතට පත්වේ නම් එම සිකපද '**පඨමං ආපත්ති එතෙසන්ති පඨමාපත්තිකා**' යන විග්‍රහයට අනුව පඨමාපත්තික නම් වේ. සුක්කවිසට්ඨි සංඝාදිසේස සිකපදයේ පටන් ද්විතීය දුට්ඨදෙස සිකපදය දක්වා නවයක් වූ ශික්‍ෂාපදයෝ වස්තු ව්‍යතික්‍රමණ ක්‍ෂණයේ ම ඇවැතට පත්වන බැවින් **පඨමාපත්තික** සිකපද නම් වේ.

"**චත්තාරො යාවතතියකා**": සෙසු සංඝභේදක සිකපද ආදී සිවු සිකපදයෝ '**යාව තතියෙ සමනුභාසනකම්මෙ හොන්තීති යාවතතියකා**' යන විග්‍රහය පරිදි තුන්යළ දක්වා සමණුභාෂණය කිරීමෙන් පත්වන ඇවැත් වන බැවින් **යාවතතියක** නම් වේ.

එහි ලා යම් භික්‍ෂුවක් සංඝභේදයට උත්සාහවත් වීම් ආදි ව්‍යතික්‍රමණය කළ පමණින් සඟවෙසෙස් නො වේ. පළමුව ඒ භික්‍ෂුවට එසේ නොකරන ලෙස අවවාද කළ යුතු අතර ඒ අවවාද නොපිළිගන්නේ නම් දුකුළා ඇවැත් වේ. නැවත සඟ මැදට කැඳවා අවවාද කළ යුතු අතර එවිට නොපිළිගන්නේ නම් දුකුළා වේ. එසේත් නොපිළිගන්නා භික්‍ෂුවට තුන්යළ දක්වා සමනුභාෂණ කර්මය කළ යුතු වේ. එනම් '**සුණාතු මෙ භන්තෙ සඞ්ඝො, අයං ඉත්ථන්නාමො භික්ඛු සමග්ගස්ස සඞ්ඝස්ස භෙදාය පරක්කමති (පාරා, පි.454)**' යනාදි ක්‍රමයෙන් ඤත්තිචතුත්ථ කර්ම වාක්‍යයෙන් තුන්යළ දක්වා සමනුභාෂණය කළ යුතු වේ. සමණුභාෂණ කර්මය කරන කල්හි ද ලබ්ධි නොඅත්හරින භික්‍ෂුවට ඤත්තිය අවසානයේ දුකුළා ඇවැත් වේ. කර්ම වාක්‍ය දෙකක් අවසන් වීමෙන් ථුලැසි ඇවැත් දෙකක් වේ. '**යස්ස නක්ඛමති සො භාසෙය්‍ය**' යනුවෙන් තෙවන අනුශ්‍රාවණයේ '**ය්‍ය**' කාරයට පැමිණීමත් සමඟ ලබ්ධි නොඅතහරින භික්‍ෂුවට පූර්වයේ පැමිණි දුකුළා ඇවැත සහ ථුලැසි ඇවැත් දෙක සංසිඳෙන අතර සංඝාදිසේසාපත්තියෙහි පිහිටයි.

මෙසේ සඟවෙසෙස් ඇවැතට අවන් භික්ෂුව ඉන් නැගීසිටීම පිණිස කළ යුතු පිරිවෙස් පිරීම්, මානත් හා අබ්භාන කර්මයන් පිළිබඳව අර්ථ විවරණය කරනු පිණිස '**යාවතිහං ඉති**' යැයි අරඹන ලදී.

**සඃ යාවතිහං**[1] **ඉති**, 'යාවතිහං' යනු; **යත්තකානි අහානි**, යම් පමණ දින ගණනක් (යන අර්ථය යි). **ජානං පටිච්ඡාදෙති ඉති**, 'ජානං පටිච්ඡාදෙති' යනු; **ජානන්තො**, දනුයේ; **පටිච්ඡාදෙති**, පැමිණි ඇවැත සබ්‍රහ්මචාරීන් වහන්සේලාට ආරෝචනය නොකිරීම් වශයෙන් මුවහ කෙරේ (සඟවයි). **තත්‍ථ**, ඒ 'ජානං පටිච්ඡාදෙති' යනුයෙහි; **පටිච්ඡාදනලක්ඛණස්ස**, පිළිසන් කිරීමේ ලක්‍ෂණයාගේ; **අයං මාතිකා**, මේ මාතෘකාව ය.

**ආපත්ති ච හොති**, සඟවෙසෙස් ඇවැතෙක් වෙයි ද; **ආපත්තිසඤ්ඤී**[2] **ච**, සඟවෙසෙස් ඇවැතෙක් වූයේ යන සංඥ ඇත්තේ ද වෙයි. **පකතත්තො ච හොති**, ප්‍රකෘති භික්ෂුවක් වූයේ, එනම් උක්ෂේපණීය කර්ම කොට පහ නොකරන ලද භික්ෂුවක් වෙයි ද; **පකතත්තසඤ්ඤී ච**, තමා ප්‍රකෘති භික්ෂුවක් ය යන සංඥව ඇත්තේ ද වෙයි. **අනන්තරායිකො ච හොති**, ගමන බාධක වූ රාජ චෝරාදි අන්තරාය නැත්තේ වෙයි ද; **අනන්තරායිකසඤ්ඤී ච**, අන්තරාය නැති බවට සංඥ ඇත්තේ ද වෙයි. **පහූ**[3] **ච හොති**, තමන් සබ්‍රහ්මචාරීන් වහන්සේලා වෙත ගොස් ආරෝචනය කරන්නට නිසි (සමර්ථ) වෙයි ද; **පහූසඤ්ඤී ච**, සබ්‍රහ්මචාරීන් වහන්සේලා වෙත ගොස් ආරෝචනය කරන්නට නිසි යන සංඥ ඇත්තේ ද වෙයි. **ඡාදෙතුකාමො ච හොති**, සඟවනු කැමැත්තේ වෙයි ද; **ඡාදෙති ච**, සබ්‍රහ්මචාරීන් වහන්සේලාට ආරෝචනය නොකිරීම් වශයෙන් සඟවයි ද; **ඉති**, යනුවෙනි.

**තත්‍ථ**, ඒ මාතිකායෙහි; **ආපත්ති ච හොති, ආපත්තිසඤ්ඤී ච ඉති**, යනු; **යං ආපත්තිං**, යම් ඇවැතකට; **ආපන්නො**, පැමිණියේ වෙයි ද; **සා**, ඒ ඇවැත තොමෝ; **තෙරසන්නං**, තෙළෙස් සඟවෙසෙස් අතරින්; **අඤ්ඤතරා හොති**, එක්තරා ඇවැතක් වෙයි. **ච**, තව ද; **සො අපි**, ඒ භික්ෂුව ද; **තත්‍ථ**, ඒ ඇවැත්හි; **වත්‍ථුවසෙන වා**, ශුක්‍ර මෝචනාදි

[1] **යාවතීහං**. මඡසං
[2] **ආපත්තිසඤ්ඤි**. හෙමු (**එවමූපරි සඤ්ඤීති රස්සතා**)
[3] **පහු**. මඡසං; බෞසංම; කාළවිල

ව්‍යතික්‍රමණ වස්තු වශයෙන් හෝ වේවයි; '**ඉදං**, මේ ව්‍යතික්‍රමණය; **භික්ඛූනං න වට්ටති' ඉති**, භික්ෂූන්ට නුසුදුසු යැයි; **නාමමත්තවසෙන වා**, නාම මාත්‍ර වශයෙන් හෝ; '**අයං**, මෙම ව්‍යතික්‍රමණය; **ඉත්‍ථන්නාමා ආපත්ති' ඉති**, මෙනම් ඇති ඇවැත යැයි (මේ සඟවෙසෙස් නම් ඇවැත යැයි); **ආපත්තිසඤ්ඤීයෙව හුත්‍වා**, ඇවැතක් ය යන සංඥාව ඇත්තේ ම වී; '**ඉදානි**, දැන්; **නං**, ඒ ඇවැත; **කස්සචි**, කිසිවෙකුට; **න ආරොචෙස්සාමි ඉති**, නො සැලකරන්නෙමි යැයි; **එවං**, මෙසේ; **ඡාදෙතුකාමො එව**, සඟවනු කැමැත්තේ ම; **ධුරං නික්ඛිපිත්‍වා**, ආරෝචනය කිරීමේ උත්සාහය බහා තබා; **අරුණං**[1] **උට්ඨාපෙති**, ඇවැතට පත් දවස, රෑ ගෙවා අරුණු නංවයි ද; **ආපත්ති**, ඇවැත; **ඡන්නා හොති**, සඟවන ලද්දේ (පිළිසන් වූයේ) වෙයි.

- 48 -

**සචෙ පන**, ඉදින් වනාහි; **එත්‍ථ**, මෙහි ලා; **අනාපත්තිසඤ්ඤී වා හොති**, ඇවැත් නැති යන සංඥා ඇත්තේ හෝ වෙයි ද; **අඤ්ඤාපත්තික්ඛන්ධසඤ්ඤී වා**, අන් ආපත්තිස්කන්ධයක් යන සංඥා ඇත්තේ හෝ වෙයි ද; **වෙමතිකො වා**, විමති ඇත්තේ හෝ වෙයි ද; (කිසිවකුටත් ආරෝචනය නො කරන්නෙමි යැයි උත්සාහය අතහරී ද) **අච්ඡන්නාව හොති**, ඇවැත නොම සඟවන ලද්දේ වෙයි.

**පකතත්තො ඉති**, 'පකතත්තො' යනු; **අනුක්ඛිත්තො**, උක්ෂේපණීය කර්ම කොට පහ නොකරන ලද්දේ; **සමානසංවාසකො**, සමාන සංවාසක භික්ෂුවක් ය. **චෙ**, ඉදින්; **සො**, ඒ භික්ෂු තෙමේ; **පකතත්තසඤ්ඤී හුත්‍වා**, තමා ප්‍රකෘති භික්ෂුවක් යන සංඥා ඇත්තේ වී; **වුත්තනයෙන එව**, යට කියන ලද 'නදානි කස්සචි ආරොචෙස්සාමි' යන ක්‍රමයෙන් ම; **ඡාදෙති**, සඟවයි ද; **ඡන්නා හොති**, ඇවත සඟවන ලද්දේ වෙයි.

**අනන්තරායිකො ඉති**, 'අනන්තරායිකො' යනු; **යස්ස**, යම් භික්ෂුවකට; **දසසු**, දශවිධ වූ; **රාජචොරඅග්ගිඋදකමනුස්ස අමනුස්සවාළසිරිංසපජීවිතබ්‍රහ්මචරියන්තරායෙසු**[2], රජ, සොර, ගිනි, ජල, මනුෂ්‍ය, අමනුෂ්‍ය, සැඩ මෘගාදි, සර්ප, ජීවිත, බ්‍රහ්මචරිය

---

[1] **අරුණ.** බෞසංම

[2] **වාල.** හෙමු; **සරීසප.** මජසං

අන්තරායයන් අතරින්; **එකොපි**, එක අන්තරායකුදු; **නත්ථි**, නැත්තේ වෙයි ද; **ච**, ඉදින්; **සො**, ඒ භික්ෂු තෙම; **අනන්තරායිකසඤ්ඤී**, අනතුරු නැත යන සංඥා ඇත්තේ; **ඡාදෙති**, සඟවයි ද; **ඡන්නා**[1] **හොති**, ඇවත සඟවන ලද්දේ වෙයි.

**පහූ ඉති**, 'පහූ' යනු; **යො**, යම් භික්ෂුවක්; **භික්ඛුනො සන්තිකං**, සභාග භික්ෂුවකගේ සමීපයට; **ගන්තුඤ්චෙව**, යෑමට මෙන් ම; **ආරොචෙතුඤ්ච**, ආරෝචනය කිරීමට ද; **සක්කොති**, හැකි වෙයි ද (හෙතෙමේ ය). **ච**, ඉදින්; **සො**, හෙතෙමේ; **පහූසඤ්ඤී හුත්වා**, ආරෝචනය කිරීමට භික්ෂුවක් සමීපයට යාමට හැකිය යන සංඥාව ඇතිව; **ඡාදෙති**, සඟවයි ද; **ඡන්නා හොති**, ඇවැත සඟවන ලද්දේ වෙයි.

**'ඡාදෙතුකාමො ච හොති, ඡාදෙති ච' ඉති ඉදං**, 'ඡාදෙතුකාමො ච හොති, ඡාදෙති ච' යන මෙය; **උත්තානමෙව**, ප්‍රකට ම ය. **සචෙපි හි**, ඉදිනුදු වනාහි; **සො**[2], ඒ භික්ෂු තෙමේ; **සභාගං දිස්වා**, අවෛරී සභාග භික්ෂුවක් දැක; **අයං**, මේ තෙමේ; **මෙ**, මාගේ; **උපජ්ඣායො වා**, උපාධ්‍යායන් වහන්සේ හෝ; **ආචරියො වා**, ආචාර්යයන් වහන්සේ හෝ (වේ); **ඉති**, යනුවෙන්; **ලජ්ජාය**, ලජ්ජාවෙන්; **නාරොචෙති**, ආරෝචනය නො කරයි ද; **ඡන්නාව හොති**, ඇවැත සඟවන ලද්දේ ම වෙයි. **ඉධ**, මෙහි; **උපජ්ඣායාදිභාවො හි**, උපාධ්‍යාය යනාදි භාවය; **අප්පමාණං**, ඇවැතින් මිදීමට ප්‍රමාණවත් නො වේ. **සභාගමත්තමෙව**, (අවෛරී) සභාග මාත්‍රය ම; **පමාණං**, ප්‍රමාණවත් වේ. **අයං**, මේ; **ජානං පටිච්ඡාදෙති ඉති පදස්ස**, 'ජානං පටිච්ඡාදෙති' යන පදයාගේ; **සඞ්ඛෙපතො**, සංක්ෂේප වශයෙන්; **අත්ථවිනිච්ඡයො**, අර්ථ විනිශ්චය යි.

## ඇවැත් සැඟවීමෙහි ලා ප්‍රධාන ලක්ෂණ

**109. වි:** "යාවතිහං ජානං පටිච්ඡාදෙති" යන්නෙහි 'යාවතිහං' යන්නෙන් ඇවැත පිළිසන් වූ දින ගණන පිරිසිඳීම අදහස් වේ. එහෙයින් **'යත්තකානි අහානි'** යැයි කියන ලදී. 'අහානි' යනු දවස් ගණන යන අර්ථය යි. ඒ අනුව යම් පමණ දින ගණනක් දැන දැන ම ඇවැත සඟවන

[1] **ඡන්තා.** බෞසංම
[2] **යො.** බෞසංම; කාළවිල

ලද්දේ ද එම දින ගණන මෙයින් අදහස් වේ. මෙහි ලා දූන දූන ම ඇවැත් සැඟවීමෙහි ලා ප්‍රධාන ලක්‍ෂණයෝ දසයක් (10) වෙත්. එනම්,

(1) **ආපත්ති ච හොති** = සඟවෙසෙස් ඇවැතක් වෙයි

(2) **ආපත්තිසඤ්ඤී ච** = සඟවෙසෙස් ඇවතක් වූයේ යන සංඥ ඇත්තේ ද වෙයි

(3) **පකතත්තො ච හොති** = ප්‍රකෘති භික්‍ෂුවක් වූයේ (උක්‍ෂේපණීය කර්මයකින් පහ නොකරන ලද්දේ) වෙයි

(4) **පකතත්තසඤ්ඤී ච** = 'ප්‍රකෘති භික්‍ෂුවක් ය' යන සංඥව ඇත්තේ ද වෙයි

(5) **අනන්තරායිකො ච හොති** = ගමන බාධක වූ රාජ චෝරාදි අන්තරාය නැත්තේ වෙයි

(6) **අනන්තරායිකසඤ්ඤී ච** = අන්තරාය නැති බවට සංඥ ඇත්තේ ද වෙයි

(7) **පහූ ච හොති** = හෙතෙමේ සබ්‍රහ්මචාරීන් වහන්සේලා වෙත ගොස් ආරෝචනය කරන්නට නිසි (සමර්ථ) වෙයි

(8) **පහූසඤ්ඤී ච** = සබ්‍රහ්මචාරීන් වහන්සේලා වෙත ගොස් ආරෝචනය කරන්නට සමර්ථ යන සංඥ ඇත්තේ ද වෙයි

(9) **ඡාදෙතුකාමො ච හොති** = සඟවනු කැමැත්තේ වෙයි

(10) **ඡාදෙති ච** = ඇවැත සඟවයි යන දශ ලක්‍ෂණයෝ ය.

## ආපත්ති ච හොති ආපත්තිසඤ්ඤී ච

යම් ඇවැතකට පැමිණියේ ද එය තෙළෙස් සඟවෙසෙස් ඇවැත් අතරින් එක්තරා ඇවතක් විය යුතු බව '**ආපත්ති ච හොති**' යන්නෙන් දක්වේ. එහි ලා ඒ ඇවැත ශුක්‍ර විසර්ජනාදි ව්‍යතික්‍රමණ සංඛ්‍යාත වස්තු වශයෙන් හෝ මෙම කටයුත්ත භික්‍ෂූන් හට නුසුදුසු ය යන නාම මාත්‍ර වශයෙන් හෝ 'මෙය මෙනම් ඇවතක්' යැයි ඇවැත් සංඥ ඇතිව 'කිසිවකුට ආරෝචනය නො කරන්නෙමි' යැයි ආරෝචනය කිරීමේ උත්සාහය බහා තබා, ඇවැතට පත් දවස්, රෑ ගෙවා අරුණු නංවයි ද

ඇවැත පිළිසන් වූයේ වෙයි. මෙහි දී හුදෙක් වස්තු නාම වශයෙන් ම ඇවැත් සංඥා ඇතිව සඟවන්නහුට පමණක් නොව 'යම් ඇවතක් සඟවමි'යි ඇවැත් යන සංඥාවෙන් යුතුව සඟවා ද ඔහුට ද ඇවැත පිළිසන් වූයේ ම වෙයි. එතකුදු වුවත් අනාපත්ති සංඥාවෙන් හෝ, සඟවෙසෙස් ඇවැත හැර පචිති ආදි අනෙක් ආපත්ති ස්කන්ධයක් ය යන සංඥාවෙන් හෝ ඇවැත් පිළිබඳ විමතියෙන් හෝ 'කිසිවකුට ආරෝචනය නො කරන්නෙමි' යැයි වසනු කැමැත්ත ඇතිව සඟවන ලද්දේ වුව ද, ඇවැත පිළිසන් නො වෙයි. ඇවැත් නොවී ඇවැත් යන සංඥාවෙන් හෝ අනාපත්ති සංඥාවෙන් හෝ සඟවන්නහු විසින් වුව ද පිළිසන් නොවූයේ ම වෙයි. ලහු ඇවැතක් ගරු ඇවැතක් කියා සිතා සඟවයි ද නැතහොත් ගරු ඇවැතක් ලහු ඇවැතක් කියා සඟවයි ද අලජ්ජී පක්‍ෂයේ සිටී. එහෙත් සඟවෙසෙස් ඇවැතක් පිළිසන් නොවූයේ වෙයි. එසේ ම ගරු ඇවැතක් ලහු ඇවැතක් යන සංඥාවෙන් යුතුව දේශනා කරන ලද්දේ වුව ද නොම දේශනා වේ. පිළිසන් ද නො වේ.

## පකතත්තො ච හොති පකතත්තසඤ්ඤී ච

ප්‍රකෘති භික්‍ෂුවක් යනු ත්‍රිවිධ උක්ෂේපණීය විනය කර්ම නොකරන ලද සමානසංවාසක භික්‍ෂුවක් වේ. හෙතෙමේ ප්‍රකෘති භික්‍ෂුවක් ය යන සංඥා ඇතිව ම සඟවාලයි ද ඇවැත පිළිසන් වේ. කිසියම් භික්‍ෂුවකට සංඝයා විසින් උක්ෂේපණීය කර්මය කරන ලද්දේ නම් ඒ භික්‍ෂුව අප්‍රකෘති භික්‍ෂුවක් හෙවත් නානාසංවාසක භික්‍ෂුවක් වේ.

නානාසංවාසක භාවය දෙවැදෑරුම් වේ. එනම් (1) **කම්මනානාසංවාසක** සහ (2) **ලබ්ධිනානාසංවාසක** වශයෙනි. යම් භික්‍ෂුවකට ත්‍රිවිධ උක්ෂේපණීය කර්ම[1] අතරින් එකක් හෝ කරන ලද්දේ නම් ඒ භික්‍ෂුව **කම්මනානාසංවාසක** භික්‍ෂුවක් නම් වේ. එසේ උක්ඛිත්තක භික්‍ෂුවකගේ ලබ්ධිය ගත් අනෙක් භික්‍ෂුවක ද නානාසංවාසක භාවයට පත් වන අතර හේ **ලබ්ධිනානාසංවාසක** නම් වේ. ඒ නානාසංවාසක භික්‍ෂුව සමඟ විනය කර්ම නොකළ යුතු වේ.

[1] ඇවැත් නොදැකීමේ (ආපත්තියා අදස්සනෙ) උක්ෂේපණීය කර්මය, ඇවැතට පිළියම් නොයෙදීමේ (ආපත්තියා අප්පටිකම්මෙ) උක්ෂේපණීය කර්මය සහ පවිටු දෘෂ්ටි අත නොහැරීමේ (පාපිකාය දිට්ඨියා අප්පටිනිස්සග්ගෙ) උක්ෂේපණීය කර්මය යනුවෙන් ත්‍රිවිධ උක්ෂේපණීය කර්මය දත යුතු.

එසේ ම ඔවුනට පිරිවෙස් මානත් ආරෝචනය නොකිරීමෙන් ද රාත්‍රී සිඳීමක් නො වේ. එහෙයින් යම් ආවාසයක නානාසංවාසක භික්ෂුවක් සිටියේ නමුදු එය භික්ෂූන් රහිත ආවාසයකට සමාන වේ. එහෙයින් කියන ලදී.

> **"නානාසංවාසකෙහි සද්ධිං විනයකම්මං කාතුං න වට්ටති. තෙසං අනාරොචනෙපි රත්තිච්ඡෙදෙ නත්‍ථි. අභික්ඛුකාවාසමෙව හොති."** (සම.පා, පි.864)."

ඒ නිසාවෙන් ම නානාසංවාසක භික්ෂුවට ද ඇවැත් ආරෝචනය කිරීම තවත් එබඳු නානාසංවාසක භික්ෂුවක් සමග ම වේ. ඇවැතට පත් භික්ෂුව තමන් නානාසංවාසක යැයි සිතා සෙසු භික්ෂූන්ට ඇවැත් ආරෝචනය නොකළේ ද පිළිසන් නො වේ. තමන් එසේ නානාසංවාසක නොවූයේ නම් ප්‍රකෘති භික්ෂුවක් වන බව දැන දැන ම ඇවැත සඟවාලයි නම් **'පකතත්තො ච හොති පකතත්තසඤ්ඤී ච'** යැයි කියූ ආකාරයෙන් ඇවැත පිළිසන් වේ. එතකුදු වුවත් 'සංඝයා විසින් මට විනය කර්මය කරන ලද්දේය' යන අප්‍රකෘති සංඥාවෙන් යුතුව සඟවයි ද පිළිසන් නො වේ. අප්‍රකෘති (උක්ඛිත්ත) භික්ෂුවක් විසින් ප්‍රකෘති යන සංඥාවෙන් හෝ අප්‍රකෘති යන සංඥාවෙන් හෝ සඟවන ලද්දේ වුව ද පිළිසන් නො වේ. එහෙයින් පරිවාරපාළියෙහි

> **'ආපජ්ජති ගරුකං සාවසෙසං, ඡාදෙති අනාදරියං පටිච්ච**
> **න භික්ඛුණී නො ච ඵුසෙය්‍ය වජ්ජං, පඤ්හාමෙසා කුසලෙහි චින්තිතා'**
> **(පරිවා.2, පි.298)**

යනුවෙන් මෙම උක්ඛිත්තක භික්ෂුව සඳහා කියන ලදී.

## අනන්තරායිකො ච හොති අනන්තරායිකසඤ්ඤී ච

යම් ඇවැතකට පත් භික්ෂුවක් හට රාජ, චෝර ආදි දශවිධ අන්තරායයන් අතරින් එකකුදු නැත්තේ වේ ද හෙතෙම **අනන්තරායික** නම් වේ. ඒ අනන්තරායික භික්ෂුව තමා අනන්තරායික යන සංඥාවෙන් යුතුව ඇවැත සඟවයි නම් එම ඇවැත සඟවන ලද්දේ වේ.

රජුන්ගෙන් වන අන්තරාය රාජ අන්තරාය නම් වේ. තමා හට ඇවැත ආරෝචනය කිරීම සඳහා අන් උපසපන් භික්ෂුවක් වෙත යාමට රජුගෙන් යම් අනතුරක් වේ නම්, එය යි. සෙසු අන්තරායයන් ද මේ

නයින් ම සැලකිය යුතු වේ. මෙහි දී ප්‍රකෘතියෙන් ම බියවන සුලු භික්‍ෂුවක් ඒ බියවන සුලු බව නිසා ම අන්ධකාරයේ අමනුෂ්‍ය ආදි බියෙන් අනතුරක් නැත යන සංඥවෙන් යුතු වී ඇවැත සඟවයි ද පිළිසන් නො වේ. එසේ ම යම් පර්වත විහාරයක වසන භික්‍ෂුවකට කඳුරැළි, ගංගා ආදිය පසුකරගෙන ගොස් ඇවැත ආරෝචනය කළ යුතු වෙයි ද අතරමඟ සැඩ මෘගයන් ආදීන්ගෙන්, අමනුෂ්‍ය ආදීන්ගෙන් බිය පවතී ද නැතහොත් මාර්ගයෙහි පිඹුරන් වැනි සතුන් වැදහොවී ද ගඟ උතුරා යයි ද මෙබඳු අනතුරක් ඇති කල්හි අනතුරක් නැත යන සංඥවෙන් සඟවාලූයේ නමුදු පිළිසන් නො වේ. යම් අනතුරක් ඇති භික්‍ෂුව අනතුරු සහිත සංඥවෙන් සැඟවීමෙහි පිළිසන් නො වේ ම ය. අනතුරක් නොමැති භික්‍ෂුව වුව ද තමාට අනතුරක් ඇත යන සංඥවෙන් ආරෝචනය නො කරයි නම් ඇවැත පිළිසන් නො වේ[1].

## පහූ ච හොති පහූසඤ්ඤී ච

යම් ඇවැතකට පත් භික්‍ෂුවක් සභාග භික්‍ෂුවක් සමීපයට යාමට සමර්ථ වේ ද එසේ ම ගොස් ආරෝචනය කිරීමට හැකි වේ ද හෙතෙමේ **පහූ** නම් වේ. ඒ භික්‍ෂුව තමා පහූ යන සංඥවෙන් (හැකිය යන සංඥවෙන්) යුතු වී ඇවැත සඟවාලයි ද සඟවන ලද්දේ වේ.

ඉදින් මුඛයේ සුළු හෝ ගඩුවක් වෙයි ද හකු රුදවක් හෝ වේ ද දත් කැක්කුමක් හෝ වේ ද ප්‍රමාණවත් භික්‍ෂාව නොලැබුණේ වේ ද මෙපමණකින් ආරෝචනය කිරීමට හෝ ඒ සඳහා යාමට නොහැකි වන්නේ නො වේ. එහෙත් තමා නොහැකිය යන සංඥවෙන් සිටී ද, මේ තෙමේ හැකිව නොහැකිය යන සංඥ ඇති බැවින් ආරෝචනය නොකළ ද ඇවැත පිළිසන් නො වේ. නොහැකියාවක් ඇති භික්‍ෂුව

---

[1] මේ පිළිබඳ සිංහල අකුරෙන් මුද්‍රිත සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ සඳහන් පාඨයට අතිරේක පාඨයක් බුරුම ඡට්ඨ සංගායනා මෘදුකාංගගත අර්ථකථාවේ දක්නට ලැබේ. ඒ මෙසේ ය. **‘එකස්මිං පන සතියෙව අන්තරායෙ අන්තරායිකසඤ්ඤී හුත්වා ඡාදෙති, අච්ඡන්නාව හොති. අන්තරායිකස්ස පන අන්තරායිකසඤ්ඤිස්ස වා අනන්තරායිකසඤ්ඤිස්ස වා ඡාදයතො අච්ඡන්නාව හොති** (මජසං)’ තව ද විනයාලංකාර ටීකාවෙහි **‘අනන්තරායිකස්ස පන අන්තරායිකසඤ්ඤිස්ස ඡාදයතො අච්ඡන්නාවා’ති පාඨො** (මජසං)’ යැයි සඳහන් බැවින් ද අනතුරක් නොමැති භික්‍ෂුව නමුදු තමන්ට අනතුරක් ඇති සංඥවෙන් ආරෝචනය නො කරයි නම් ඇවැත පිළිසන් නොවන බව නිශ්චය කළ හැකි වේ.

විසින් ගමන් කිරීමට හෝ සැලකිරීමට නොහැකියාව ඇති බැවින් කුමන සංඥවෙන් සැඟවූයේ නමුදු පිළිසන් නො වේ.

## ඡාදෙතුකාමො ච හොති ඡාදෙති ච

එනම් 'ඇවැත කිසිවකුටත් නො සැලකරන්නෙමි' යන සඟවන කැමැත්ත ඇතිව සැඟවීම යි. යම් භික්ෂුවක් ඇවැතට පැමිණ සඟවන්නෙමි යැයි අදහස අතහැර පෙරබතෙහි හෝ පසුබතෙහි හෝ රාත්‍රී ප්‍රථම යාමාදීන්හි හෝ ලජ්ජී ධර්මයට බැස, රෑ ගෙවී අරුණු නැංවීමට පෙර ම ආරෝචනය කරයි ද මෙය සඟවන කැමැත්ත ඇතිව නොසැඟවීම යි. යම් භික්ෂුවක් භික්ෂූන් රහිත ආවාසයක වසනුයේ ඇවැතකට පැමිණ, සභාග භික්ෂුවකගේ පැමිණීම අපේක්ෂාවෙන් සිටිනුයේ නැතහොත් සභාග භික්ෂුවකගේ සමීපයට යාම පිණිස අඩ මසක් හෝ මසක් පමණ කාලයක් ඉක්මවන්නේ ද මෙම භික්ෂුව සඟවන කැමැත්ත නොමැතිව සඟවන්නේ වෙයි. මේ අවස්ථා දෙකෙහි ම ඇවැත නොම සඟවන ලද්දේ වේ. යම් භික්ෂුවක් ඇවැතකට පත්ව එකෙණෙහි ම ගින්නක් පැගූ පුරුෂයෙකු මෙන් වහා ඉවත්ව සභාග ස්ථානයකට ගොස් ඇවැත හෙළි කරයි ද මේ තෙමේ සඟවන කැමැත්ත නැත්තේ ම නොම සඟවන්නේ වෙයි.

යම්හෙයකින් සභාග භික්ෂුවක් දැක ද 'මේ තෙමේ මාගේ උපාධ්‍යායන් වහන්සේ ය, ආචාර්යයන් වහන්සේ ය' යනාදි ලෙස සිතා ලජ්ජාවෙන් ආරෝචනය නො කරයි ද ඇවැත සඟවන ලද්දේ වෙයි. උපාධ්‍යාය බව ආදිය මෙහි ලා ඇවැත ප්‍රතිච්ඡන්න භාවයෙන් මිදීම පිණිස ප්‍රමාණවත් නො වේ. අවෛරී සභාග භික්ෂුවක් වීම පමණක් ම සෑහේ. එසේ අවෛරී භික්ෂුවක් යනු තමන්ගේ හිත කැමති භික්ෂුවකි. එහෙයින් යම් පුද්ගලයෙක් තමන් ආරෝචනය කරන ඇවැත පිළිබඳ අසා යම් කලහයක්, විවාදදියක් ඇති කරන්නේ නම් නින්ද පරිභව කරමින් හැසිරෙන්නේ නම් හෙතෙමේ විසභාග පුද්ගලයෙක් වේ. එබඳු විසභාග ආචාර්ය උපාධ්‍යායන් වහන්සේ හමුවේ නමුදු ආරෝචනය නොකිරීමෙන් ඇවැත පිළිසන් නො වේ.

මෙම ඇවැත් ප්‍රතිච්ඡන්න වීමෙහි ලා, යම් භික්ෂුවක් පෙරබතෙහි ඇවැතට පත් වූයේ ද නැතහොත් පසුබතෙහි හෝ දහවල් හෝ රාත්‍රියෙහි හෝ අරුණු නැංවීම දක්වා කාලය තුළ යම් කාලයක

ඇවැතට පත් වේ ද ඒ රැය ගෙවා අරුණු නැංවීම දක්වා කාලය තුළ ආරෝචනය කළ යුතු වේ. ආරෝචනය නොකොට ම අරුණු නැංවීමෙන් ඇවැත පිළිසන් වූයේ වෙයි. එසේ පිළිසන් වීමෙන් දුකුළා ඇවැතකට ද පත් වේ. සභාග සඟවෙසෙස් ඇවැතකට පත් භික්ෂුවක් හමුවේ ඇවැත් ආරෝචනය නොකළ යුතු අතර එසේ කිරීමෙන් ඇවැත පිළිසන් භාවයෙන් මිදෙන අතර දුකුළාවෙන් නො මිදේ. එහෙයින් පිරිසිදු භික්ෂුවක් හමුවේ ම ඇවැත් ආරෝචනය කළ යුතු ය.

## සඟවෙසෙස් ඇවැත් ආරෝචනය කිරීම

කිසියම් සංඝාදිසේසාපත්තියකට පැමිණි භික්ෂුව යට කී නයින් ඊළඟ අරුණ නැඟීමට පෙරාතුව තවත් පිරිසිදු උපසපන් භික්ෂුවක් සමීපයේ ස්වකීය ආපත්තිය ආවීකරණය (හෙළි කිරීම) කළ යුතු ය. එසේ හෙළි කිරීම ඇවැතට පැමිණි වස්තුව වශයෙන් හෝ නැතහොත් පත් වූ ඇවැත වශයෙන් හෝ ඒ දෙයාකාරයෙන් ම හෝ කළ හැකි වේ. එබැවින්, '**තුය්හං සන්තිකෙ එකං ආපත්තිං ආවීකරොමි** = නුඹ වහන්සේ සමීපයේ එක් ඇවතක් හෙළි කරමි' යැයි හෝ '**ආචික්ඛාමි** = කියමි', '**ආරොචෙමි** = සැලකරමි' යනුවෙන් හෝ '**මම එකං ආපත්තිං ආපන්නභාවං ජානාහි** = මාගේ එක් ඇවැතකට පැමිණි බව දැනගනු මැනවි' යැයි පැවසීමෙන් හෝ එසේත් නැතිනම් '**එකං ගරුකාපත්තිං ආවීකරොමි** = එක් ගරුකාපත්තියක් හෙළි කරමි' යනාදි නයින් හෝ කියයි ද ආවීකරණය සිද්ධ ය. එතකුදු වුවත් ගරුකාපත්තියකට පැමිණි භික්ෂුව ලහුකාපත්තියක් ආවීකරණය කරමි යැයි ආරෝචනය කළ ද ඇවැත පිළිසන් වේ.

මෙසේ '**යාවතිහං ජානං පටිච්ඡාදෙති**' යන පදයාගේ සංක්ෂේපයෙන් අර්ථ විවරණය කළ මාතිකට්ඨකථාව අනතුරුව එසේ ඇවැත සඟවන ලද භික්ෂුව විසින් පිළිපැදිය යුතු ආකාරය දැක්වීම '**තාවතිහං**' යනුවෙන් කියන ලදී.

**සඃ** තාවතිහං[1] **ඉති**, 'තාවතිහං' යනු; **තත්තකානි අහානි**, එපමණ දින ගණනක් යන්න යි. **පටිච්ඡාදිතදිවසතො පට්ඨාය**, ප්‍රතිච්ඡාදනය කරන ලද දින පටන්; **ආරොචිතදිවසො යාව**, ආරෝචිත දිනය

[1] **තාවතීහං**. මඡසං

යම්තාක් ද; **තාව**, ඒතාක්; **දිවසපක්ඛමාසසංවච්ඡරවසෙන**, දවස්, පක්‍ෂ, මාස, සංවත්සර වශයෙන්; **යත්තකො කාලො අතික්කන්තො**, යම් පමණ කාලයක් ඉක්මවන ලද්දේ ද; **තත්තකං කාලං ඉති අත්ථො**, එපමණ කාලයක් ය යන අර්ථය යි.

**අකාමා පරිවත්‍ථබ්බං ඉති**, ‘අකාමා පරිවත්‍ථබ්බං’ යනු; **න කාමෙන**, කැමැත්තෙන් නො වේ ය. **න වසෙන**, රිසියෙන් නො වේ ය. **අථ ඛො**, එනම් (අභිප්‍රාය කිම ද යත්); **අකාමෙන**, අකැමැත්තෙන්; **අවසෙන**, නොරිසියෙන් ම; **පරිවාසං**, පිරිවෙස; **සමාදය වත්‍ථබ්බං**, සඟ මැද සමාදන්ව විසිය යුතු (සඟවෙසෙස් ඇවැත පිළියම් නොකළ භික්‍ෂුවට එකී ඇවැත කරණකොටගෙන ස්වර්ග මෝක්‍ෂ ආවරණය වන බැවින් අකැමැතියහු විසිනුදු පිරිවෙස් විසිය යුතු ය යන අර්ථය යි.) **තත්‍ථ**, ඒ වාක්‍යයෙහි; **පටිච්ඡන්නපරිවාසො**, පටිච්ඡන්න පරිවාසය ය; **සුද්ධන්තපරිවාසො**, සුද්ධන්ත පරිවාසය ය; **සමොධානපරිවාසො ච ඉති**, සමොධාන පරිවාසය ද යැයි; **තිවිධො පරිවාසො**, පරිවාස ත්‍රිවිධ වේ. **තත්‍ථ**, ඒ අතරින්; **තාව**, පළමු කොට; **පටිච්ඡන්නපරිවාසො**, පටිච්ඡන්න පරිවාසය; **යථාපටිච්ඡන්නාය ආපත්තියා**, යට කී පරිද්දෙන් පිළිසන් වූ ඇවැතට; **දාතබ්බො**, දිය යුතු. **හි**, යම්හෙයකින්; **කස්සචි**, කිසිවෙකුට; **එකාහපටිච්ඡන්නා**[1] **ආපත්ති හොති**, එක් දිනක් පිළිසන් වූ ඇවැත් වේ. **කස්සචි**, කිසිවෙකුට; **ද්වීහාදිපටිච්ඡන්නා**[2], දින දෙක තුන යනාදි වශයෙන් පිළිසන් වූ ඇවැත් වේ. **කස්සචි**, කිසිවෙකුට; **එකා ආපත්ති හොති**, එක් ඇවැතක් වේ. **කස්සචි**, ඇතැමෙකුට; **ද්වෙ වා**, ඇවැත් දෙකක් හෝ; **තිස්සො වා**, ඇවැත් තුනක් හෝ; **තදුත්තරි වා**, ඉන් මත්තෙහි හෝ වේ. **තස්මා**, එහෙයින්; **පටිච්ඡන්නපරිවාසං දෙන්තෙන**, පටිච්ඡන්න පිරිවෙස දෙන්නහු විසින්; **පඨමං එව**, පළමුව ම; **වුත්තනයෙන**, කියූ ක්‍රමයෙන්; **පටිච්ඡන්නභාවං ඤත්‍වා**, පිළිසන් වූ බව දැනගෙන; **තතො**, ඉන්පසු; **පටිච්ඡන්නදිවසෙ ච**, පිළිසන් වූ දින ගණන ද; **ආපත්තියො ච**, ඇවැත් ද; **සල්ලක්ඛෙත්‍වා**, සලකා බලා; **සචෙ**, ඉදින්; **එකා**, එක ඇවැතක්; **එකාහපටිච්ඡන්නා**[3] **හොති**, එක් දිනක් පිළිසන් වූයේ වෙයි ද; “**අහං, භන්තෙ, එකං**

---

[1] **එකාහප්පටිච්ඡන්නා.** මජසං (එවමුපරි)
[2] **ද්වීහාදිප්පටිච්ඡන්නා.** මජසං
[3] **එකාහප්පටිච්ඡන්නා.** මජසං (එවමුපරි)

**ආපත්තිං ආපජ්ජිං සඤ්චෙතනිකං සුක්කවිසට්ඨිං**[1] **එකාහපටිච්ඡන්නං" ඉති එවං**, 'අහං භන්තෙ -පෙ- එකාහපටිච්ඡන්නං' (**භන්තෙ**, වහන්ස; **අහං**, මම; **එකාහපටිච්ඡන්නං**, එක් දිනක් පිළිසන් වූ; **සඤ්චෙතනිකං**, සඤ්චේතනික වූ; **එකං සුක්කවිසට්ඨිං ආපත්තිං**, එක් ශුක්‍ර විසර්ජන ඇවැතකට; **ආපජ්ජිං**, පැමිණියෙමි) යනාදි ක්‍රමයෙන් මෙසේ; **පරිවාසං යාචාපෙත්‍වා**, පිරිවෙස (තුන් යළ දක්වා) යාචනය කරවා; **ඛන්ධකෙ ආගතනයෙන**, ඛන්ධකයෙහි (චුල්ලවග්ගපාළි සමුච්චයක්ඛන්ධකයෙහි) ආවා වූ ක්‍රමයෙන්; **කම්මවාචං වත්‍වා**, කර්ම වාක්‍යය කියා; **පරිවාසො දාතබ්බො**, පිරිවෙස දිය යුතු. **අථ**, තව ද; **ද්වීහතීහාදිපටිච්ඡන්නා**[2] **හොති**, දින දෙක තුනක් යනාදි ලෙස ප්‍රතිච්ඡන්න වූයේ වේ ද; **ද්වීහපටිච්ඡන්නං තීහපටිච්ඡන්නං චතුහපටිච්ඡන්නං පඤ්චාහපටිච්ඡන්නං -පෙ- චුද්දසාහපටිච්ඡන්නං ඉති එවං**, 'ද්වීහපටිච්ඡන්නං -පෙ- චුද්දසාහපටිච්ඡන්නං' යැයි මෙසේ; **යාව චුද්දසදිවසානි**, තුදුස් දින දක්වා; **දිවසවසෙන**, දවස් වශයෙන්; **යොජනා කාතබ්බා**, යෙදීම කළ යුතු. **පඤ්චදසදිවසපටිච්ඡන්නාය**, පසළොස් දවසක් පිළිසන් වූ ඇවැතට; **'පක්ඛපටිච්ඡන්නං' ඉති**, 'පක්ඛපටිච්ඡන්නං' යැයි; **යොජනා කාතබ්බා**, යෙදීම කළ යුතු. **තතො**, ඒ පක්ෂයේ පටන්; **යාව එකූනතිංසතිමො දිවසො**, එකුන්තිස්වන දවස යම්තාක් ද; **තාව**, ඒතාක්; **'අතිරෙකපක්ඛපටිච්ඡන්නං' ඉති**, 'අතිරෙකපක්ඛපටිච්ඡන්න' යැයි ද; **තතො**, තිස්වන දවස පටන්; **'මාසපටිච්ඡන්නං අතිරෙකමාසපටිච්ඡන්නං ද්වෙමාසපටිච්ඡන්නං**[3] **තෙමාසපටිච්ඡන්නං -පෙ- අතිරෙකඑකාදසමාසපටිච්ඡන්නං' ඉති එවං**, 'මාසපටිච්ඡන්නං -පෙ- අතිරෙකඑකාදසමාසපටිච්ඡන්නං' යැයි මෙසේ; **යොජනා කාතබ්බා**, යෙදීම කළ යුතු. **සංවච්ඡරෙ පුණ්ණෙ**, සංවත්සරයක් පිරුණු කල්හි; **'එකසංවච්ඡරපටිච්ඡන්නං' ඉති**, 'එකසංවච්ඡරපටිච්ඡන්නං' යැයි ද; **තතො පරං**, එතැන් පටන්; **අතිරෙකසංවච්ඡරං ද්වෙසංවච්ඡරං එවං**, 'අතිරෙකසංවච්ඡරං ද්වෙසංවච්ඡරං' යැයි මෙසේ; **යාව**, යම්තාක්; **සට්ඨිසංවච්ඡරඅතිරෙකසට්ඨිසංවච්ඡරපටිච්ඡන්නං ඉති**, 'සට්ඨිසංවච්ඡරඅතිරෙකසට්ඨිසංවච්ඡරපටිච්ඡන්නං' යැයි ද; **තතො**

---

[1] **සුක්කවිස්සට්ඨිං**. මජසං (එවමුපරි)
[2] **ද්වීහතීහාදිප්පටිච්ඡන්නා**. මජසං (එවමූපරි)
[3] **ද්වෙමාසපටිච්ඡන්නං අතිරෙකද්වෙමාසපටිච්ඡන්නං**. මජසං

**හියොයාපි** වා, ඊට වැඩියෙන් හෝ ද; **වත්‍වා**, කියා; **යොජනා කාතබ්බා**, යෙදීම කළ යුතු.

**සචෙ පන**, ඉදින් වනාහි; **ද්වෙ (ආපත්තියො වා)**, ඇවැත් දෙකක් හෝ; **තිස්සො (ආපත්තියො වා)**, ඇවැත් තුනක් හෝ; **තදුත්තරිං**[1] වා **ආපත්තියො හොන්ති**, ඉන් මත්තෙහි හෝ ඇවැත්හු වෙත් නම්; **'එකං ආපත්ති'න්ති යථා වුත්තං**, 'එකං ආපත්තිං' යැයි යම් සේ කියන ලද්දේ ද; **එවං**, එසේ; **"ද්වෙ ආපත්තියො, තිස්සො ආපත්තියො"ති**, 'ද්වෙ ආපත්තියො, තිස්සො ආපත්තියො' යැයි; **වත්තබ්බං**, කිව යුතු. **තතො පරං පන**, ඉන් මත්තෙහි වනාහි; **සතං වා හොතු**, ඇවැත් සියයක් හෝ වේවා;

- 49 -

**සහස්සං වා**, දහසක් හෝ වේවා; **'සම්බහුලා'ති**, 'සම්බහුලා' යැයි; **වත්තුං වට්ටති**, කීමට සුදුසු ය. **නානාවත්‍ථුකාසු අපි**, නානාවස්තුක ඇවැත්හි ද; **"අහං, භන්තෙ, සම්බහුලා සඞ්ඝාදිසෙසා ආපත්තියො ආපජ්ජිං එකං සුක්කවිසට්ඨිං එකං කායසංසග්ගං එකං දුට්ඨුල්ලවාචං එකං අත්තකාමං එකං සඤ්චරිත්තං එකාහපටිච්ඡන්නායො"ති එවං**, 'අහං, භන්තෙ -පෙ- එකාහපටිච්ඡන්නායො' යැයි මෙසේ; **ගණනවසෙන වා**, ඇවැත් ගණන වශයෙන් හෝ; **"අහං, භන්තෙ, සම්බහුලා සඞ්ඝාදිසෙසා ආපත්තියො ආපජ්ජිං නානාවත්‍ථුකායො එකාහපටිච්ඡන්නායො"ති එවං**, 'අහං, භන්තෙ -පෙ- නානාවත්‍ථුකායො එකාහපටිච්ඡන්නායො' යැයි මෙසේ; **වත්‍ථුකිත්තනවසෙන වා**, නාමය සමඟ වස්තුව කීර්තනය කිරීම් වශයෙන් හෝ; **"අහං, භන්තෙ, සම්බහුලා සඞ්ඝාදිසෙසා ආපත්තියො ආපජ්ජිං එකාහපටිච්ඡන්නායො"ති එවං**, 'අහං, භන්තෙ -පෙ- එකාහපටිච්ඡන්නායො' යැයි මෙසේ; **නාමමත්තවසෙන වා**, නාම මාත්‍ර වශයෙන් (වස්තු කීර්තනය හැර) හෝ; **යොජනා කාතබ්බා**, යෙදීම කළ යුතු. **තත්‍ථ**, ඒ 'නාමමත්තවසෙන වා' යන්නෙහි; **නාමං**, නාමය; **සජාතිසාධාරණං**, සජාති සාධාරණය; **සබ්බසාධාරණඤ්ච**, සර්ව සාධාරණය ද (යනුවෙන්); **දුවිධං**, දෙවැදෑරුම් වේ. **තත්‍ථ**, එහි; **සඞ්ඝාදිසෙසො ඉති**, 'සඞ්ඝාදිසෙසො' යන්න; **සජාතිසාධාරණං**, සජාති

[1] **තදුත්තරි.** මජසං

සාධාරණ ය. **ආපත්ති ඉති**, 'ආපත්ති' යන්න; **සබ්බසාධාරණං**, සර්ව සාධාරණ ය. **තස්මා**, එබැවින් ('ආපත්ති' යන්න සර්ව සාධාරණ බැවින්); **"සම්බහුලා ආපත්තියො ආපජ්ජිං එකාහපටිච්ඡන්නායො" ඉති එවං**, 'සම්බහුලා ආපත්තියො ආපජ්ජිං එකාහපටිච්ඡන්නායො' යැයි මෙසේ; **සබ්බසාධාරණනාමවසෙන අපි**, සර්ව සාධාරණ නාම වශයෙනුදු; **වත්තුං වට්ටති**, කීමට සුදුසු ය. **ඉමම්පි**[1] **පරිවාසාදිවිනයකම්මං**[2], මේ පරිවාසාදි විනය කර්මය; **වත්ථුවසෙන (ච)**, වස්තු වශයෙන් (ශුක්‍ර විසර්ජන ආදි ව්‍යතික්‍රමණ වශයෙන්) ද; **ගොත්තවසෙන (ච)**, ගෝත්‍ර වශයෙන් ද; **නාමවසෙන (ච)**, නාම වශයෙන් ද; **ආපත්තිවසෙන ච**, ඇවැත් වශයෙන් ද; **කාතුං වට්ටති එව**, කිරීමට සුදුසු ම ය. **තත්ථ**, එහි ලා; **සුක්කවිසට්ඨි ඉති**, 'සුක්කවිසට්ඨි' යනු; **වත්ථුඤ්චෙව**[3], ව්‍යතික්‍රමණයක් බැවින් වස්තුව මෙන් ම; **ගොත්තඤ්ච**, අනෙක් ඇවැත් සමඟ සාධාරණ නොවන බැවින් ගෝත්‍රය ද වෙයි (**'ගන්තායතීති ගොත්තං. සජාතිතො අඤ්ඤත්ථ කායසංසග්ගාදීසු ගන්තුං අදත්වා බුද්ධිං, වචනඤ්ච රක්ඛතීති අත්ථො (කඞ්ඛා.ටී, පි.122)'** යනු කඞ්ඛාවිතරණී අභිනවටීකාව යි. ඒ අනුව සුක්කවිසට්ඨි යන ස්වජාතියෙන් අන්‍ය වූ කායසංසර්ග ආදි වූ අනික් තැනකට යා නොදී රක්නා බැවින් ගොත්ත නම් වේ). **සඞ්ඝාදිසෙසො ඉති**, 'සඞ්ඝාදිසෙස' යන මෙය; **නාමඤ්චෙව**, ඇවැත් නාමය මෙන් ම; **ආපත්ති ච**, ඇවැත ද වෙයි. **තත්ථ**, එහි; **"සුක්කවිසට්ඨිං කායසංසග්ගං" ඉති ආදිවචනෙන අපි**, 'සුක්කවිසට්ඨිං කායසංසග්ගං' යන ආදි වචනයෙනුදු; **"නානාවත්ථුකායො" ඉති වචනෙන අපි**, 'නානාවත්ථුකායො' යන වචනයෙනුදු; **වත්ථුඤ්චෙව**[4] **ගොත්තඤ්ච**, වස්තුව මෙන් ම ගෝත්‍රය ද; **ගහිතං හොති**, ගන්නා ලද්දේ වෙයි. **"සඞ්ඝාදිසෙසො" ඉති වචනෙන අපි**, 'සඞ්ඝාදිසෙසො' යන වචනයෙනුදු; **"ආපත්තියො" ඉති වචනෙන අපි**, 'ආපත්තියො' යන වචනයෙනුදු; **නාමං චෙව ආපත්ති ච**, නාමය මෙන් ම ඇවැත ද; **ගහිතා හොති**, ගන්නා ලද්දේ වෙයි. **තස්මා**, එබැවින්; **එතෙසු**, මොවුන් අතරින්;

---

[1] ඉදඤ්හි. මජසං
[2] **පරිවසාදිවිනයකම්මං**. කාළවිල
[3] **වත්ථු චෙව**. මජසං
[4] **වත්ථු චෙව**. මජසං

**යස්ස කස්සචි වසෙන**, යම්කිසි වචනයකගේ වශයෙන්; **කම්මවාචා කාතබ්බා**, කර්ම වාක්‍යය කළ යුතු.

## පිරිවෙස් පිරීම

**110. වි:** සඟවෙසෙස් ඇවැතකට පත් වූ භික්ෂුව විසින් ඒ ඇවැත යම් දින ගණනක් සඟවන ලද්දේ ද එපමණ දින ගණනක් අකැමැත්තෙන් නමුදු පිරිවෙස් පිරිය යුතු බව '**අකාමා පරිවත්‍ථබ්බං**' යැයි කියන ලදී. පිළියම් නොකළ භික්ෂුවට එකී ඇවැත කරණකොටගෙන ස්වර්ග, මෝක්ෂ ආවරණය වන බැවින් අකැමැතියහු විසිනුදු මෙසේ පිරිවෙස් විසිය යුතු වේ. ඒ මේ පරිවාසය ත්‍රිවිධාකාර වේ.

1. පටිච්ඡන්න පරිවාසය
2. සුද්ධන්ත පරිවාසය
3. සමෝධාන පරිවාසය යනුවෙනි.

මෙයට අමතරව **අපටිච්ඡන්න පරිවාසයක්** ද ඇති අතර එය බුදු සසුනේ පැවිදි උපසම්පදව අපේක්ෂා කරන අන්‍ය තීර්ථකයන් වෙනුවෙන් අනුදන වදළ බැවින් මේ සංඝාදිසේස කථාවේ දී අදාළ නො වේ. එහෙයින් එය මෙහි දී අනභිප්‍රේත ය.

### පටිච්ඡන්න පරිවාසය

සංඝාදිසේසාපත්තියකට පත් භික්ෂුවක් ස්වකීය ආපත්තිය ආරෝචනය නොකිරීම් වශයෙන් යම් දින ගණනක් සඟවන ලද්දේ නම් ඒ ඇවැත පිළිසන් වූ දින ගණන අනුව දිය යුතු පිරිවෙස පටිච්ඡන්න පරිවාසය නම් වේ. ඇතැමෙකුට ඇවැත් එක්දිනක් පිළිසන් වූයේ වෙයි. ඇතැමෙකුට දෙතුන් දිනක් පිළිසන් වූයේ වෙයි. සමහරෙකුට එක් ඇවැතක් වන අතර තවත් සමහරෙකුට ඇවැත් දෙක තුනක් වේ. එබැවින් යථොක්ත දශ කාරණා සලකා බලා ආපත්ති පටිච්ඡන්නාපටිච්ඡන්න භාවය නිශ්චය කරගෙන, පිළිසන් වූ දින ගණන ද ඇවැත් ගණන ද අනුව පටිච්ඡන්න පරිවාසය දිය යුතු ය.

පළමුව ඇවැතට පත් භික්‍ෂුව සංඝයා වෙත එළඹ උතුරුසඟල එකස්කොට පෙරවා වැඩිහිටි භික්‍ෂූන්ගේ පා වැඳ උත්කුටිකයෙන් හිඳ ඇඳිලි බැඳ මෙසේ පිරිවෙස ඉල්ලිය යුතු ය.

**"අහං භන්තෙ එකං ආපත්තිං ආපජ්ජිං සඤ්චෙතනිකං සුක්කවිසට්ඨිං එකාහපටිච්ඡන්නං. සො'හං භන්තෙ සඞ්ඝං එකිස්සා ආපත්තියා සඤ්චෙතනිකාය සුක්කවිසට්ඨියා එකාහපටිච්ඡන්නාය එකාහපරිවාසං යාචාමි."**

යැයි තුන්යළ දක්වා ඉල්ලිය යුතු.

මෙහි දී ඇවැත් පිළිසන් වූ දින ගණන අනුව ඉහත ඉල්ලීම වෙනස් කරගත යුතු වේ. ඒ අනුව දින දෙක, තුන, හතර ආදි වශයෙන් 14 ක් දක්වා පිළිසන් වූයේ නම් '**ද්වීහපටිච්ඡන්නං, තීහ-චතුහ-පඤ්චාහ-ඡාහ-සත්තාහ-අට්ඨාහ-නවාහ-දසාහ-එකාදසාහ-ද්වාදසාහ-තෙරසාහ-චුද්දසාහපටිච්ඡන්නං**' යැයි යෙදිය යුතු ය. දින 15 ක් පිළිසන් වූයේ නම් '**පක්ඛපටිච්ඡන්න**' යැයි ද එතැන් පටන් දින 29 දක්වා පිළිසන් වූයේ නම් '**අතිරෙකපක්ඛපටිච්ඡන්නං**' යැයි ද මසක් පිළිසන් වූයේ නම් '**මාසපටිච්ඡන්නං**' යැයි ද එතැන් පටන් '**අතිරෙකමාසපටිච්ඡන්නං**' යැයි ද මාස දෙකක් නම් '**ද්වෙමාසපටිච්ඡන්නං**' යැයි ද යළි '**අතිරෙක ද්වෙමාසපටිච්ඡන්නං**' යැයි ද මෙසේ යෙදීම කළ යුතු ය. වසරක් සපිරේ නම් '**එකසංවච්ඡර-පටිච්ඡන්නං**' යනාදි වශයෙන් ද ඉන් මත්තෙහි ද සුදුසු පරිදි යෙදීම කළ යුතු ය.

එසේ ම පිළිසන් වූ ඇවැත් ගණන අනුව ද සලකා බලා යෙදීම කළ යුතු වේ. එක් ඇවැතක් ඇති විට '**එකං ආපත්තිං**' යැයි ද ඇවැත් දෙකක් ඇති විට '**ද්වෙ ආපත්තියො**' යැයි ද ඇවැත් තුනක් ඇති විට '**තිස්සො ආපත්තියො**' යැයි ද යෙදිය යුතු ය. පිළිසන් වූ ඇවැත් තුනකට වඩා වැඩි වන විට '**සම්බහුලා ආපත්තියො**' යැයි යෙදිය යුතු ය.

ශුක්‍ර විසර්ජන, කායසංසර්ග ආදි අනේකවිධ වස්තූන්ගෙන් යුත් ඇවැත් ඇති විට ඒවා සමූහ වශයෙන් ගෙන '**එකං සුක්කවිසට්ඨිං, එකං කායසංසග්ගං**' යනාදි ක්‍රමයෙන් හෝ නැතහොත් වස්තුව කීර්තනය කරමින් '**සම්බහුලා සඞ්ඝාදිසෙසා ආපත්තියො ආපජ්ජිං නානාවත්ථුකායො එකාහපටිච්ඡන්නායො**' යනුවෙන් හෝ යෙදීම කළ හැකි වේ. ශුක්‍ර විසර්ජනාදි වස්තුව කීර්තනය නොකොට හුදෙක් නාම

මාත්‍ර වශයෙන් ද යෙදීම කළ හැකි වේ. නාමය සජාතිසාධාරණ සහ සර්වසාධාරණ යනුවෙන් දෙවැදෑරුම් වේ. ඒ අතරින් 'සඞ්ඝාදිසෙස' යන සජාතිසාධාරණ නාමය යොදා '**සම්බහුලා සඞ්ඝාදිසෙසා ආපත්තියො ආපජ්ජිං එකාහපටිච්ඡන්නායො**' යනුවෙන් ද පිරිවෙස ඉල්ලීම කළ හැකි වේ. නැතහොත් සර්වසාධාරණ නාමය වන 'ආපත්ති' යන්න යෙදීමෙන් '**සම්බහුලා ආපත්තියො ආපජ්ජිං එකාහපටිච්ඡන්නායො**' යනුවෙන් ද යෙදිය හැකි වේ.

පිරිවෙස ඉල්ලීම පමණක් නොව සියලු පිරිවෙස්, මානත් ආදිය යාචන සහ දන කර්ම වාක්‍යයන් සකස් කරගැනීමේ දී මෙම ක්‍රමයට විනයධරයා විසින් අදාළ කර්ම වාක්‍ය නිර්මාණය කරගත යුතු වේ. මෙම පිරිවෙස් ආදි විනය කර්මයන් 'වත්‍ථු' වශයෙන් හෝ 'ගොත්ත' වශයෙන් හෝ 'නාම' වශයෙන් හෝ 'ආපත්ති වශයෙන්' හෝ කළ හැකි වේ. '**සුක්කවිසට්ඨිං, කායසංසග්ගං**' යනාදි ලෙස සඳහන් කිරීමෙන් හෝ '**නානාවත්‍ථුකායො**' යැයි සඳහන් කිරීමෙන් වස්තුව ද ගෝත්‍රය ද ගන්නා ලද්දේ වෙයි. '**සඞ්ඝාදිසෙසො**' යැයි හෝ '**ආපත්තියො**' යැයි සඳහන් කිරීමෙන් නාමය ද ආපත්තිය ද ගන්නා ලද්දේ වෙයි. එබැවින් ඒ වස්තු ආදිය අතරින් යම්කිසි වචනයක් යෙදීමෙන් කර්ම වාක්‍යය නිර්මාණය කර ගත හැකි වේ. යථෝක්ත ආකාරයට '**එකං ආපත්තිං ආපජ්ජිං සඤ්චෙතනිකං සුක්කවිසට්ඨිං**' යැයි යෙදීමෙන් නාමය ද වස්තු ගෝත්‍රයෝ ද ගන්නා ලද්දාහු ම වෙත්. ඒ කවරාකාරයකට හෝ අදාළ ඇවැතට පත් භික්ෂුවගේ නම යොදා කර්ම වාක්‍යය නිර්මාණය කිරීම විනයධරයා විසින් කළ යුතු ය.

අනතුරුව පිරිසිදු වූ සඞ්කර දෝෂ විරහිත වූ බද්ධාබද්ධ සීමාවකට ගොස් '**සීමට්ඨක සඞ්ඝං සොධෙත්‍වා, ඡන්‍දාරහානං භික්ඛූනං ඡන්දං ආහරිත්‍වා, සමග්ගස්ස සඞ්ඝස්ස අනුමතියා** (සම.පා, පි.1039)' යැයි කියූ ක්‍රමයට අත්පසට කැඳවීම හා බැහැර කළ යුතු අය සීමාවෙන් බැහැර කිරීම් වශයෙන් සීමස්ථ සංඝයා පිරිසිදු කරවාගෙන, ඡන්දය දීමට සුදුසු අත්පසට නොපැමිණෙන භික්ෂූන්ගේ ඡන්දය රැගෙන විත්, සමඟි සංඝයාගේ අනුමැතියෙන්, එක් ඥප්තියකින් ද අනුශ්‍රාවණ තුනකින් ද යුත් ඥප්තිචතුර්ථ කර්මයෙන් පිරිවෙස දිය යුතු ය. මෙහි දී පිරිවෙස ලබාගැනීමට නියමිත කර්මාර්හ භික්ෂුව අතහැර සෙසු සංඝයා අවම වශයෙන් සිවුනමක් සිටින සීමාවක දී මෙම පරිවාසදාන විනය කර්මය කළ යුතු වේ.

සංඝයා වෙතින් පිරිවෙසක් ලබාගැනීමට අපේක්ෂිත භික්ෂුව "**තෙන භික්ඛවෙ උදයිනා භික්ඛුනා සඞ්ඝං උපසඞ්කමිත්වා එකංසං උත්තරාසඞ්ගං කරිත්වා ....** (චුල්ල.1, පි.202)" යැයි කියූ ක්‍රමයෙන් සංඝයා වෙත එළඹ පිරිවෙස යාචනය කළ යුතු වේ. සංඝයා වෙත එළඹීම සිදුවන්නේ **සංඝයාගේ අත්පසට පැමිණීමෙනි.** එසේ නොවුවහොත් බොහෝ දුර සිටින භික්ෂුවකට වුව ද විනය කර්ම කළ හැකි විය යුතු ය. එබැවින් පිරිවෙස ඉල්ලන භික්ෂුව රැස් වූ සංඝයාගේ අත්පස අතනොහැර පිරිවෙස ඉල්ලීම කළ යුතු වේ. පිරිවෙස පමණක් නොව සෙසු සියලු විනය කර්මවල දී ද මෙසේ ම පිළිපැදිය යුතු වේ.

එසේ ම පිරිවෙස් දීම් ආදි විනය, කර්ම වාක්‍යය කියන අවස්ථාවේ ද අදාළ කර්මාපේක්ෂකයා සංඝයාගේ අත්පස සිටිය යුතු වේ. කර්ම වාක්‍යයෙහි '**අයං ඉත්ථන්නාමො භික්ඛු**' යනුවෙන් කර්මාපේක්ෂකයා දක්වන අතර එහි දී '**අයං**' යනුවෙන් පැවසීමට නම් කර්මාපේක්ෂකයා අත්පස සිටිය යුතු බව උපසම්පදා විනය කර්මයේ දී '**අයං ඉත්ථන්නාමො**' යන්න විවරණය කරන විමතිවිනෝදනී ටීකාව මෙසේ පවසයි.

> **"තත්ථ 'අය'න්ති උපසම්පදාපෙක්ඛස්ස හත්ථපාසෙ සන්නිහිතභාවදස්සනං, තෙන ච හත්ථපාසෙ ඨිතස්සෙව උපසම්පදා රුහතී'ති සිජ්ඣති. හත්ථපාසතො බහි ඨිතස්ස අය'න්ති න වත්තබ්බතො."** (විමති, පි.391)

> මෙහි 'අයං' යනු උපසම්පදාපේක්ෂකයා අත්පස සිටින බව දැක්වීම යි. එහෙයින් අත්පස සිටියහුට ම උපසම්පදාව රුහනය වේ යැයි ද සිද්ධ ය. අත්පසින් බැහැර සිටියහුට 'අයං' යැයි නොකිය හැකි බැවිනි.

එබැවින් විනය කර්මයක දී කර්මාපේක්ෂකයා සංඝයාගේ අත්පස නොසිටී නම් කර්ම වාක්‍යයෙහි 'අයං' යැයි කිව නොහැකි වේ. යම් හෙයකින් කර්ම වාක්‍යය කියන අවස්ථාවේ කර්මාපේක්ෂකයා අත්පස නොසිටී නම් විනය කර්මය අසිද්ධ වේ. මෙය උපසම්පදා විනය කර්මයට පමණක් නොව සියලු විනය කර්මයන්ට බලපාන පොදු රීතියක් බව සැලකිය යුතු.

මෙසේ සංඝයා වෙතින් පිරිවෙස ලබාගැනීමෙන් අනතුරුව කළ යුත්තේ කුමක් ද යි දක්වනු වස් '**කම්මවාචාපරියොසානෙ ච**' යනාදිය කියන ලදී.

**සඃ කම්මවාචාපරියොසානෙ ච**, කර්ම වාක්‍ය අවසානයේ ද; **සචෙ**, ඉදින්; **අප්පභික්ඛුකො ආවාසො හොති**, අල්ප භික්ෂූන් ඇති ආවාසයක් වෙයි ද; **රත්තිච්ඡෙදං අනාපජ්ජන්තෙන**, රත්තිච්ඡේදයට නොපැමිණෙන්නහු විසින්; **වසිතුං සක්කා**, විසීමට හැකි වෙයි ද; **තත්ථෙව**, ඒ විහාරස්ථානයේ ම; **"පරිවාසං සමාදියාමි, වත්තං සමාදියාමි" ඉති**, 'පරිවාසං සමාදියාමි, වත්තං සමාදියාමි' යැයි; **තික්ඛත්තුං**, තෙවරක්; **වත්තං සමාදාතබ්බං**, වත සමාදන් විය යුතු. **සමාදියිත්වා**, සමාදන්ව; **තත්ථෙව**, එහි ම; **සඞ්ඝස්ස ආරොචෙත්වා**, සඞ්ඝයාට ආරෝචනය කොට; **පුන**, නැවත; **ආගතාගතානං භික්ඛූනං**, පැමිණි පැමිණි භික්ෂූන්ට; **ආරොචෙන්තෙන**, ආරෝචනය කරන්නහු විසින්; **වත්තභෙදඤ්ච**, වත් බිඳීම ද; **රත්තිච්ඡෙදඤ්ච**, රත්තිච්ඡේදය ද; **අකත්වා**, නොකොට; **පරිවසිතබ්බං**, පිරිවෙස් විසිය යුතු. **සචෙ**, ඉදින්; **පරිවාසං සොධෙතුං**, පිරිවෙස පිරිසිදු කරගැන්මට; **න සක්කා හොති**, නොහැකි වන්නේ වෙයි ද; **නික්ඛිත්තවත්තෙන**, නික්ඛිත්ත වත වශයෙන්; **වසිතුකාමො හොති**, වසනු කැමැත්තේ වෙයි ද; **තත්ථෙව සඞ්ඝමජ්ඣෙ වා**, ඒ සඟ මැද ම හෝ; **එකපුග්ගලස්ස සන්තිකෙ වා**, එක් භික්ෂුවක් සමීපයේ හෝ; **"පරිවාසං නික්ඛිපාමි, වත්තං නික්ඛිපාමි" ඉති**, 'පරිවාසං නික්ඛිපාමි, වත්තං නික්ඛිපාමි' යැයි; **පරිවාසො නික්ඛිපිතබ්බො**, පිරිවෙස නික්ෂේප කළ යුතු (බහා තැබිය යුතු). **එත්ථ ච**, මෙහි ලා ද; **එකපදෙන අපි**, එක් පදයකිනුදු; **පරිවාසො**, පිරිවෙස; **නික්ඛිත්තො හොති**, නික්ෂේප කරන ලද්දේ වෙයි. **ද්වීහි පන**, පද දෙකකින්; **සුනික්ඛිත්තො එව**, මනාව නික්ෂේප කරන ලද්දේ ම වෙයි. **සමාදනෙ අපි**, සමාදන් වීමෙහිදු; **එසෙව නයො**, මෙම ක්‍රමය ම වේ. **නික්ඛිත්තකාලතො පට්ඨාය**, වත නික්ෂේප කරන ලද කාලයේ පටන්; **පකතත්තට්ඨානෙ**[1] **තිට්ඨති**, ප්‍රකෘති ස්ථානයේ සිටියි.

**අථ**, ඉක්බිති; **අනෙන**, ඒ පිරිවෙස් පිරිය යුතු භික්ෂුව විසින්; **පච්චූසසමයෙ**, අළුයම් කාලයේ; **එකෙන භික්ඛුනා සද්ධිං**, එක් භික්ෂුවක් සමඟ; **පරික්ඛිත්තස්ස විහාරස්ස**, පිරිකෙව් කරන ලද විහාරයේ;

[1] **පකතත්තට්ඨා න. බෞසංම** (මෙය මුද්‍රණ දෝෂයක් විය යුතු ය.)

**පරික්ඛෙපතො**, පරික්ෂේපයෙන්; **අපරික්ඛිත්තස්ස**, පිරිකෙව් නොකරන ලද විහාරයේ; **පරික්ඛෙපාරහට්ඨානතො**, පරික්ෂේපයට සුදුසු ස්ථානයෙන්; **ද්වෙ ලෙඩ්ඩුපාතෙ අතික්කමිත්වා**, ලෙඩ්ඩුප්පාත දෙකක් ඉක්මවා; **මහාමග්ගතො ඔක්කම්ම**, මහාමාර්ගයෙන් ඉවත්ව; **ගුම්බෙන වා**, ලැහැබෙන් හෝ; **වතියා වා**, වැටෙන් හෝ; **පටිච්ඡන්නට්ඨානෙ නිසීදිත්වා**, පිළිසන් ස්ථානයේ හිඳ; **අන්තොඅරුණෙ එව**, ඇතුළු අරුණෙහි ම; **වත්තං සමාදියිත්වා**, වත සමාදන්ව; **ආරොචෙතබ්බං**, ආරෝචනය කළ යුතු. **යං අඤ්ඤං භික්ඛුං අපි**; යම් අනෙක් භික්ෂුවක් නමුදු; **පස්සති**, දකී ද; **තස්ස අපි**, උන්වහන්සේට ද; **ආරොචෙතබ්බං එව**, ආරෝචනය කළ යුත්තේ ම ය. **අරුණෙ උට්ඨිතෙ**, අරුණු නැඟි කල්හි; **තස්ස සන්තිකෙ**, ඒ භික්ෂුවගේ සමීපයේ; **වත්තං නික්ඛිපිත්වා**, වත නික්ෂේප කොට; **විහාරං ගන්තබ්බං**, විහාරයට යා යුතු. **සචෙ**, ඉදින්; **සො**, ඒ කැටුව ගිය භික්ෂු තෙමේ; **පුරෙ අරුණෙ එව**, අරුණට පෙර ම; **කෙනචි කරණීයෙන**, කිසියම් කටයුත්තකට; **ගතො**, ගියේ ද; **විහාරං ගන්ත්වා**, විහාරයට ගොස්; **සබ්බපඨමං**, සියල්ලන්ට පළමුව; **යං භික්ඛුං පස්සති**, යම් භික්ෂුවක් දකී ද; **තස්ස ආරොචෙත්වා**, උන්වහන්සේට ආරෝචනය කොට; **නික්ඛිපිතබ්බං**, නික්ෂේප කළ යුතු. **එවං සල්ලක්ඛෙත්වා**, මෙසේ සලකා; **යාව රත්තියො පූරෙන්ති තාව**, පිළිසන් වූ රාත්‍රී ගණන පිරෙන තාක්; **පරිවත්ථබ්බං**, පිරිවෙස විසිය යුතු. **අයං**, මේ; **සඞ්ඛෙපතො**, සංක්ෂේප වශයෙන්; **පටිච්ඡන්නපරිවාසවිනිච්ඡයො**, පටිච්ඡන්නපරිවාස විනිශ්චය යි.

- 50 -

**විත්ථාරො** පන, විස්තරය වනාහි; **සමන්තපාසාදිකාය විනයසංවණ්ණනාය**, සමන්තපාසාදිකා විනය සංවර්ණනාවෙහි; **වුත්තනයෙන එව**, කියූ ක්‍රමයෙන් ම; **වෙදිතබ්බො**, දත යුතු.

**III. වි:** කර්ම වාක්‍යය අවසානයේ ඒ පිරිවෙස ගත් භික්ෂුව විසින් සීමා මාලකයේ දී ම **'පරිවාසං සමාදියාමි වත්තං සමාදියාමි'** යැයි තෙවරක් කියා පිරිවෙස සමාදන් විය යුතු ය. එහි දී එක් පදයකින් හෝ පද දෙකින් ම හෝ සමාදන් වීම කළ හැකි වේ. මෙසේ වත සමාදන් වී ඒ සීමාවේ සිටින භික්ෂූන්ට එහි දී ම පිරිවෙස ආරෝචනය කළ යුතු වේ.

## පිරිවෙස ආරෝචනය

පාරිවාසික භික්ෂුව විසින් සෙසු භික්ෂූන්හට පිරිවෙස ආරෝචනය කළ යුතු වේ. එහි දී පහත අර්ථය යම්කිසි භාෂාවකින් කියා ආරෝචනය කළ යුතු වේ.

> **"අහං භන්තෙ එකං ආපත්තිං ආපජ්ජිං සඤ්චෙතනිකං සුක්කවිසට්ඨිං එකාහපටිච්ඡන්නං. සොහං සඞ්ඝං එකිස්සා ආපත්තියා සඤ්චෙතනිකාය සුක්කවිසට්ඨියා එකාහපටිච්ඡන්නාය එකාහපරිවාසං යාචිං. තස්ස මෙ සඞ්ඝො එකිස්සා ආපත්තියා සඤ්චෙතනිකාය සුක්කවිසට්ඨියා එකාහපටිච්ඡන්නාය එකාහපරිවාසං අදාසි. සොහං පරිවසාමි. වෙදියාමහං භන්තෙ. වෙදියතීති මං සංඝො ධාරෙතු."**
>
> (සම.පා, පි.872)

පිළිසන් ඇවැත් සහ දින ගණන් අනුව සුදුසු පරිදි මෙම වාක්‍යය වෙනස් කර ගත යුතු වේ. එක් භික්ෂුවකට ආරෝචනය කරන විට **'වෙදියතීති මං ආයස්මා ධාරෙතු'** යැයි ද දෙදෙනෙකුට ආරෝචනය කරන විට **'ආයස්මන්තා ධාරෙන්තු'** යැයි ද තිදෙනෙකුට නම් **'ආයස්මන්තො ධාරෙන්තු'** යැයි ද කිව යුතු වේ. සතර දෙනෙක් හෝ ඊට වැඩි නම් **'සඞ්ඝො'** යැයි කිව යුතු.

ආරෝචනය කොට ඒ විහාරයේ ම එදවස පටන් පිරිවෙස පුරන්නේ නම් පැමිණෙන පැමිණෙන භික්ෂූන්ට ආරෝචනය කරමින් වත්තභේදය ද රත්තිච්ඡේදය ද නොවී වත පිරිය යුතු වේ. එසේ නො වේ නම්, පහසු වෙනත් විහාරස්ථානයකට යන්නේ නම් හෝ එදින ම නොපුරන්නේ නම් ඒ සීමා මාලකයේ දී ම **'වත්තං නික්ඛිපාමි, පරිවාසං නික්ඛිපාමි'** යැයි වත නික්ෂේප කළ යුතු වේ.

## වත්තභේදය සහ රත්තිච්ඡේදය

පිරිවෙස් පුරන භික්ෂුව විසින් කළ යුතු යැයි භාග්‍යවතුන් වහන්සේ විසින් පනවා ඇති සය අනූවක් වත්පිළිවෙත් අතරින් කිසිවක් දැන දැන නොකර සිටින භික්ෂුවට දුකුළා ඇවැතක් සිදු වන අතර එය **වත්තභේද දුකුළාව** නම් වේ. පිරිවෙස සමාදන්ව පුරන ලද නමුදු යම්කිසි දිනයක් අසම්පූර්ණ වන්නේ නම් එය **රත්තිච්ඡේදය** නම් වේ. මෙම

රත්තිච්ඡේදය **සහවාසො, විප්පවාසො, අනාරෝචනා** යනුවෙන් කරුණු තුනකින් සිදුවන බව වදාළ සේක.

1. **සහවාසො :**

පිරිවෙස් පුරන භික්ෂුව වෙනත් ප්‍රකෘති භික්ෂුවක් සමඟ එක් වහලක් යට ශයනය කිරීම **සහවාස** නම් වේ.

> **"න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා පකතත්තෙන භික්ඛුනා සද්ධිං එකච්ඡන්නෙ ආවාසෙ වත්ථබ්බං. න එකච්ඡන්නෙ අනාවාසෙ වත්ථබ්බං. න එකච්ඡන්නෙ ආවාසෙ වා අනාවාසෙ වා වත්ථබ්බං"** (චුල්ල.1, පි.166)

යනුවෙන් වදාළ බැවින් පාරිවාසික භික්ෂුව සෙසු ප්‍රකෘති භික්ෂූන් සමඟ එක් වහලක් යට ශයනය නොකළ යුතු වේ. එය වාසය පිණිස කළ කුටි සෙනසුන් ආවාසයක් හෝ වේවා, චෛත්‍යඝර, බෝධිඝර ආදි අනාවාසයක් හෝ වේවා එක් වහලක වැසි දිය වැටෙන සීමාවෙන් ඇතුළත ශයනය නොකළ යුතු වේ. එහි දී නානා උපචාරයෙහි නමුදු එක් වහලක් යට ශයනය කිරීමෙන් රත්තිච්ඡේදය වේ. එදවස උපසපන් ප්‍රකෘති භික්ෂුවක් නමුදු යම් සෙනසුනකට පළමුව පිවිස නිද සිටී නම්, සැටවස් පිරුණු පාරිවාසික භික්ෂුවක් වුව ද පසුව පිවිස දැන දැන නිදගැනීමෙන් රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද වේ. නොදැන නිදගත්තේ නම් රත්තිච්ඡේදය පමණක් වේ. පාරිවාසික භික්ෂුව පළමුව පිවිස නිද සිටින විට ප්‍රකෘති භික්ෂුවක් පසුව පිවිස ඒ වහලයට ම නිදගත්තේ නම්, පාරිවාසික භික්ෂුව නො දනී නම් රත්තිච්ඡේදය පමණක් වේ. දනී නම් රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද වේ.

ප්‍රකෘති භික්ෂුවක් සමඟ පමණක් නොව සෙසු පාරිවාසික භික්ෂුවක් සමඟ නමුදු එක් වහලක් යට ශයනය නොකළ යුතු වේ. වදාළේ මැ යි.

> **"න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා පාරිවාසිකෙන බුඩ්ඪතරෙන භික්ඛුනා සද්ධිං -පෙ- එකච්ඡන්නෙ ආවාසෙ වත්ථබ්බං. න එකච්ඡන්නෙ අනාවාසෙ වත්ථබ්බං. න එකච්ඡන්නෙ ආවාසෙ වා අනාවාසෙ වා වත්ථබ්බං"**
> (චුල්ල.1, පි.166)

එසේ පාරිවාසික වැඩිමහලු භික්ෂුවක් සමඟ එක් වහලක් යට අනෙක් පාරිවාසික නවක භික්ෂුවක් දැන දැන ශයනය කරයි නම් ඒ

වැඩිමහලු භික්ෂුවට රත්තිච්ඡේදය වේ. නවක භික්ෂුවට රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද යන දෙක ම වේ. දෙදෙනා ම නොදනිත් නම් රත්තිච්ඡේදය පමණි. සම වස් ඇති පාරිවාසික භික්ෂූන් දෙනමක් එක් වහලක් යට ශයනය කරත් නම් ඒ බව නොදන්නහුට රත්තිච්ඡේදය පමණක් වන අතර දැනගන්නහුට රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද වේ (**සම.පා**, පි.865).

2. **විප්පවාසො**

පාරිවාසික භික්ෂුව අන් භික්ෂූන් නොමැති සෙනසුනක තනිවම විසීම **විප්පවාස** නම් වේ. පාරිවාසිකක්ඛන්ධකයෙහි,

> **"න භික්ඛවෙ පාරිවාසිකෙන භික්ඛුනා සභික්ඛුකා ආවාසා අභික්ඛුකො ආවාසො ගන්තබ්බො අඤ්ඤත්‍ර පකතත්තෙන, අඤ්ඤත්‍ර අන්තරායා."**
>
> (චුල්ල.1, පි.160)

යනාදි ලෙස වදාළ බැවින් පාරිවාසික භික්ෂුව දැන දැන කිසියම් රාත්‍රියක් ප්‍රකෘති භික්ෂුවක් නොමැතිව ගත කරන්නේ නම් රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද වේ. එහෙයින් ම පාරිවාසික භික්ෂුව අරඤ්ඤිකාංගය සමාදන් නොවිය යුතු වේ. ප්‍රකෘතියෙන් ම සමාදන් වී සිටින්නකු නම් දෙවැනි ප්‍රකෘති භික්ෂුවක් කැඳවාගෙන ගොස් ආරණ්‍යයෙහි අරුණු නැංවිය යුත්තේ ය. මෙසේ ප්‍රකෘති භික්ෂුවක් නොමැතිව අරුණු නංවයි නම් **විප්පවාසය** නිසාවෙන් රත්තිච්ඡේදය වේ.

3. **අනාරොචනා**

පාරිවාසික භික්ෂුව විසින් යම් දිනක ආගන්තුක භික්ෂූන් ආදි කිසිවෙකුට පිරිවෙස ආරෝචනය නොකළේ නම් එදින රත්තිච්ඡේදය වන අතර එය **අනාරෝචනා** නම් වේ.

> **"පාරිවාසිකෙන භික්ඛවෙ භික්ඛුනා ආගන්තුකෙන ආරොචෙතබ්බං, ආගන්තුකස්ස ආරොචෙතබ්බං, උපොසථෙ ආරොචෙතබ්බං, පවාරණාය ආරොචෙතබ්බං, සචෙ ගිලානො හොති දූතෙනපි ආරොචෙතබ්බං."**
>
> (චුල්ල.1, පි.160)

යන දේශනා පාළියට අනුව පිරිවෙස සමාදන්ව සිටින අතරතුර ආගන්තුකව අන් සෙනසුනකට ගියේ නම්, එහි වසන සියලු භික්ෂූන්ට පිරිවෙස ආරෝචනය කළ යුතු වේ. ඒ භික්ෂූන් සියලුදෙනා එක් තැනක සිටී නම් එහි දී සියලු දෙනාට ම එකවිට ආරෝචනය කළ හැකි වේ. එකිනෙකා වෙන වෙනම වෘක්ෂමූලාදියෙහි වසත් නම් ඒ ඒ තැනට ගොස් ආරෝචනය කළ යුතු වේ. එක් භික්ෂුවකට හෝ දැන දැන ආරෝචනය නො කරයි නම් රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද වේ. සොයා බලන ලද්දේ නමුදු එක් භික්ෂුවක් හෝ නොදැක ආරෝචනය නො කළේ නම් රත්තිච්ඡේදය පමණක් වේ.

එසේ ම පාරිවාසික භික්ෂුව වසන සෙනසුනට ආගන්තුක භික්ෂුවක් හෝ භික්ෂූන් වහන්සේලා හෝ නිතර පැමිණෙන්නාහු නම් ඒ පැමිණි පැමිණි සියලු දෙනාට ද ආරෝචනය කළ යුතු වේ. ආරෝචනය නොකිරීමෙන් රත්තිච්ඡේදය ද වත්තභේදය ද යට කියූ නයින් දත යුතු. විහාරය මැදින් යම් ආගන්තුක භික්ෂු පිරිසක් ගමන් කරත් නම් ඔවුන්ට ද ආරෝචනය කළ යුතු වේ. පාරිවාසික භික්ෂුව නොදැන ගියේ නම් ආරෝචනය නොකිරීමෙන් රත්තිච්ඡේදය වේ. ඊළඟ අරුණට පෙර දැනගත්තේ නම් ඒ භික්ෂූන් සිටින තැනකට ගොස් ආරෝචනය කළ යුතු වේ. හමුවීමට නොහැකි වුවහොත් රත්තිච්ඡේදය වේ. ආගන්තුක භික්ෂූහු විහාරයට නොපිවිස උපචාර සීමාවට පමණක් පිවිස ආපසු ගිය විටක උන්වහන්සේලාගේ කුඩ හකුළන හඬක් හෝ කිවිසුම් හඬක් හෝ එවැනි කිසියම් ශබ්දයක් ඇසී 'ආගන්තුක භික්ෂූන් ය' යන සංඥාවට ගියේ නම් ඔවුන් සිටින තැනකට හෝ ගොස් ආරෝචනය කළ යුතු වේ. එසේ නොකරන්නේ නම් වත්තභේදය ද රත්තිච්ඡේදය ද වේ. පසුපස ලුහුබැඳ ගියේ නමුදු හමුවීමට නොහැකි වූයේ නම් රත්තිච්ඡේදය පමණි. යම් ආගන්තුක භික්ෂුවක් රාත්‍රියේ ම උපචාර සීමාවට පැමිණ රාත්‍රියේ ම ආපසු වැඩම කරයි නම් පාරිවාසික භික්ෂුවට අනාරෝචනයෙන් රත්තිච්ඡේදය වේ. නොදන්නා බැවින් වත්තභේද දුකුළාව නො වේ.

නදී ආදියක නැව් නැඟී යන භික්ෂුවක් හෝ අහසින් ගමන් කරන භික්ෂුවක් හෝ ඉතා දුර සිටින භික්ෂුවක් නමුදු දුටුවේ නම්, භික්ෂුවක් යන සංඥාවට පැමිණියේ නම් ආරෝචනය කළ යුතු වේ. මහ හඬින් කථා කර හෝ වේගයෙන් ලුහුබැඳ හෝ ආරෝචනය නො කරන්නේ

නම් රත්තිච්ඡේදයත් වත්තභේද දුකුළාවත් වේ. වැයම් කොට හමුවීමට නොහැකි වූයේ නම් වත්තභේද දුකුළාව නො වේ.

පාරිවාසික භික්ෂුව විසින් ආරෝචනය කළ යුත්තේ කවර භික්ෂුවකට ද යන්න මෙසේ සැකෙවින් දක්විය හැකි වේ. ස්වකීය උපචාර සීමාවට ඇතුළු වූ ප්‍රකෘති භික්ෂුවක් නම් ඒ බව දැනගත්තේ හෝ නොදැනගත්තේ හෝ ආරෝචනය කළ යුතු වේ. උපචාර සීමාවට බැහැර සිටින යම්කිසි භික්ෂුවක් දකීමෙන් හෝ භික්ෂුවකගේ ශබ්දයක් ඇසීමෙන් 'මේ තෙමේ භික්ෂුවක් ය' යන ව්‍යවස්ථාපනයට ගියේ නම් ආරෝචනය කළ යුතු වේ. එහෙයින් කරවීකතිස්ස ස්ථවිරයන් වහන්සේ **"සමණො අයන්ති වවත්‍ථානමෙව පමාණං. සචෙපි අවිසයො හොති වත්තභෙද දුක්කටමෙව නත්‍ථි. රත්තිච්ඡේදො හොතියෙව (සම.පා, පි.864)** 'මේ තෙමේ භික්ෂුවක් ය' යන ව්‍යවස්ථාපනය ම ප්‍රමාණවත් වේ. එය අවිෂය වේ නම් (තීරණය කළ නොහැකි නම්) වත්තභේද දුකුළාව නැත්තේ ම ය. රත්තිච්ඡේදය වේ ම ය" යැයි කීහ. මේ සියලු තැන්හි දැන දැන කරන අනාරෝචනයෙන් වත්තභේද දුකුළාව සමඟ රත්තිච්ඡේදය වන අතර ප්‍රමාණවත් උත්සාහයක් දරා අසමත් වන අවස්ථාවල සහ නොදැන අනාරෝචනයෙන් සිදුවන්නේ රත්තිච්ඡේදය පමණි. නානාසංවාසක භික්ෂුවට අනාරෝචනයෙන් රත්තිච්ඡේදය නො වේ.

නොදැන සිදුවන අනාරෝචනයෙන් නමුදු රත්තිච්ඡේදය වන බැවින් යම්හෙයකින් නියමිත දින ගණන සපුරා නොමැති විටක ඇවැතින් නැඟීසිටීම නොසිදුවේ. රත්තිච්ඡේදය වූ බව නොදැන, නියමිත දිනගණන නොපුරා ඇතිව සෙසු මානත් පිරීම්, අබ්භාන කර්ම ආදිය කළ නමුදු ඒ සියල්ල අසිද්ධ වේ. එබැවින් ඇවැත් පිළිසන් වූ දින ගණනට අතිරේකව දින කිහිපයක් පිරිවෙස් පිරීම සුදුසු බව අර්ථකථාගත මඟපෙන්වීම යි (**සම.පා,** පි.864).

## පාරිවාසික වත

පිරිවෙසක් පුරන භික්ෂුවක් විසින් සම්පූර්ණ කළ යුතු වත් පිළිබඳ විනයපිටකයේ චුල්ලවග්ගපාළි පාරිවාසිකක්ඛන්ධකයේ විස්තර වශයෙන් සඳහන් වේ. භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩවාසය කරන සමයේ පිරිවෙස් පුරන භික්ෂූහු ප්‍රකෘති භික්ෂූන්ගේ වැඳීම්, අසුනෙන් නැගිටීම් ආදිය ඉවසන්නට වූ අතර ඒ පිළිබඳ

අල්පේච්ඡ භික්ෂූන් විසින් නුගුණ කියා භාග්‍යවතුන් වහන්සේට සැලකළ කල්හි භාග්‍යවතුන් වහන්සේ ඒ පිළිබඳව විමසා බලා ගර්හා කොට පිරිවෙස් පුරන භික්ෂූන් උදෙසා පාරිවාසික වත අනුදැන වදළ සේක. ඒ අනුව පිරිවෙස් පුරන භික්ෂුව විසින් පිළිපැදිය යුතු වත් අනූහයක් (96) ඇති අතර එය විස්තර වශයෙන් පාරිවාසිකක්ඛන්ධකය සහ එම අර්ථකථාව ඇසුරෙන් විනයෙහි හසල දැනුමැති පළපුරුදු ඇදුරුවරයා ඇසුරෙන් උගත යුතු ය.

## නික්ඛිත්තවත්ත ක්‍රමය

පාරිවාසික භික්ෂුව විසින් යට කියන ලද ආකාරයට වත්තභේදය ද රත්තිච්ඡේදය ද නොසිදුවන ආකාරයෙන් ඇවැත පිළිසන් වූ දින ගණනට සමාන දින ගණනක් හෝ ඊට අතිරේක දින ගණනක් පිරිවෙස පිරිය යුතු වේ. එතකුදු වුවත් සෙනසුනේ භික්ෂූන්ගේ ගණන ඉතා වැඩි නම්, ආරෝචනය කිරීම අපහසු වේ නම් වත නික්ෂේප කරමින් පූරණය කළ හැකි වේ. එය '**නික්ඛිත්තවත්ත ක්‍රමය**' ලෙස හැඳින්වේ. භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර වැඩවාසය කරන සමයේ ඒ සැවැත් නුවර මහාභික්ෂු සන්නිපාතයක් වූ බැවින් පාරිවාසික භික්ෂූන්ට පිරිවෙස ශෝධනය කරගැනීමට නොහැකි විය. මේ කරුණ බුදුරජාණන් වහන්සේට සැලකළ කල්හි බුදුරජාණන් වහන්සේ පිරිවෙස නික්ෂේප කිරීමට අනුදැන වදළ සේක. අනතුරුව සැවැත් නුවර භික්ෂූන් වහන්සේලා ඒ ඒ අත නික්ම ගිය පසු පිරිවෙස ශෝධනය කරගැනීමට හැකියාව ඇති වූ විට නැවත වත සමාදන් වීමට ද අනුදැන වදළ සේක.

මෙහි දී බුදුරජාණන් වහන්සේගේ අධ්‍යාශය දන්නා මහාකාශ්‍යප මහරහතන් වහන්සේ ආදිකොට ඇති පූර්වාචාර්යයන් වහන්සේලා විනය නය ක්‍රමය සලකා බලා මෙම නික්ඛිත්තවත්ත ක්‍රමයට පිරිවෙස් මානත් පුරන ආකාරය විවරණය කළහ. මෙය විස්තර වශයෙන් **සමන්තපාසාදිකා** විනයාර්ථකථාවේ සඳහන් වන අතර සංක්ෂිප්තව මෙසේ දැක්විය හැකි වේ.

නික්ඛිත්ත වත්ත ක්‍රමයට පිරිවෙස පුරන භික්ෂුව පිරිවෙස ලබාගත් සීමා මාලකයේ දී ම '**පරිවාසං සමාදියාමි, වත්තං සමාදියාමි**' යැයි සමාදන්ව, රැස්ව සිටින සංඝයාට ආරෝචනය කර එහි දී ම වත නික්ෂේප කළ යුතු වේ. එහි දී නික්ෂේප කිරීමට නොහැකි වූයේ නම්

එක් භික්‍ෂුවක් වෙත හෝ ගොස් සීමාවේ දී වත ආරෝචනය නොකළ භික්‍ෂුවක් නම් නැවත ආරෝචනය කොට නික්ෂේප කළ යුතු වේ.

අනතුරුව අළුයම් කාලයේ එක් භික්‍ෂුවක් සමඟ උපචාර සීමාවෙන් බැහැරට ගොස් සුදුසු තැනක හිඳ අරුණට පෙර ඒ අනෙක් භික්‍ෂුව සමීපයේ වත සමාදන්ව ආරෝචනය කළ යුතු වේ. මෙහි දී විහාරයේ භික්‍ෂූන් වහන්සේලාගේ සජ්ඣායනා හඬ ආදිය නොඇසෙන සේ ශ්‍රවණ උපචාරයෙන් බැහැරට ගමන් කළ යුතු වේ. එහෙයින් යම් පරික්ෂේප කරන ලද විහාරයක් නම් ඒ පරික්ෂේපයෙන් ද පරික්ෂේප නොකළ විහාරයක් නම් පරික්ෂේපයට සුදුසු සීමාවෙන් ද ලෙඩ්ඩුප්පාත දෙකක් ඉක්මවිය යුතු යැයි සඳහන් වේ[1]. එසේ ම මාර්ගයේ ගමන් ගන්නා සෙසු භික්‍ෂුවක් සම්මුඛ වීම වැළැක්වීම පිණිස මහාමාර්ගයෙන් ඉවත්ව පඳුරකින් හෝ වැටකින් හෝ වැසුණු ස්ථානයක සිටිය යුතු යැයි දැක්වේ[2]. එබඳු ස්ථානයක දී වත සමාදන්ව ආරෝචනය කොට අරුණ උදවන තෙක් එහි ම සිටිය යුතු වේ. මෙසේ වත සමාදන්ව සිටින අතර යම්කිසි අන් භික්‍ෂුවක් දකී නම් හෝ කිසියම් භික්‍ෂුවකගේ හඬක් ඇසේ නම් උන්වහන්සේට ද ආරෝචනය කළ යුතු වේ. ආරෝචනය නොකළ හොත් රත්තිච්ඡේදය ද වත්තභේද දුකුළාව ද වේ. මෙහි දී ද ඉහත සඳහන් කළ ආකාරයට ම භික්‍ෂුවක් ය යන ව්‍යවස්ථාපනය ප්‍රමාණවත් වේ. එහෙයින් බොහෝ දුර සිටින භික්‍ෂුවක් විසිනුදු එම අවස්ථාවේ කරන යම්කිසි හඬක් අසයි නම්, මේ තෙමේ භික්‍ෂුවක් ය යන සංඥාවට යයි නම් ආරෝචනය කළ යුතු ම වේ. පාරිවාසික භික්‍ෂුව සිටින තැන දෙළොස් රියන් උපචාර සීමාවට යම් භික්‍ෂුවක් ඇතුළු වූයේ නම් ආරෝචනය කළ යුතු ම වේ. නොදන හෝ එසේ ඇතුළුව ගියේ නම් රත්තිච්ඡේදය වේ. නොදන්නා බැවින් වත්තභේද දුකුළාව නො වේ[3].

අරුණ නැගි කල්හි වත නික්ෂේප කළ යුතු වේ. කැඳවාගෙන ගිය භික්‍ෂුව නොසිටියේ නමුදු රත්තිච්ඡේදයක් නො සිදුවේ. එබැවින් ආපසු

---

[1] **'පරික්ඛිත්තස්ස විහාරස්ස පරික්ඛෙපතො අපරික්ඛිත්තස්ස පරික්ඛෙපාරහට්ඨානතො ද්වෙ ලෙඩ්ඩුපාතෙ අතික්කමිත්වා ....'** (සම.පා, පි.868)

[2] **'මහාමග්ගතො ඔක්කම්ම ගුම්බෙන වා වතියා වා පටිච්ඡන්නට්ඨානෙ නිසීදිත්වා ....'** (සම.පා, පි.868)

[3] **'ද්වාදසහත්ථං උපචාරං ඔක්කමිත්වා අජානන්තස්සෙව ගච්ඡති, රත්තිච්ඡේදෙයෙව හොති. වත්තභෙදෙ පන නත්ථි'** (සම.පා, පිටු.868,873).

විහාරයට පැමිණ යම් භික්ෂුවක් පළමුව දකී ද ඒ තමන් කැඳවාගෙන ගිය භික්ෂුව නො වේ නම් උන්වහන්සේට යළි ආරෝචනය කොට නික්ෂේප කළ යුතු වේ. විහාරස්ථානයේ සියලු භික්ෂූන්ට ආරෝචනය කිරීමක් අවශ්‍ය නො වේ. අනික්ඛිත්ත වත්ත ක්‍රමයට වත් පුරන භික්ෂුවට සමස්ත විහාර උපචාර සීමාව ම උපචාරය වන නමුදු මෙම නික්ඛිත්ත වත්ත ක්‍රමයට වත පුරන භික්ෂුවගේ උපචාරය වන්නේ **දෙළොස් රියන් උපචාරය** යි. එහෙයින් වජිරබුද්ධිටීකාවෙහි කියන ලදී.

> **"වත්තං නික්ඛිපිත්වා වසන්තස්ස උපචාරසීමාගතානං සබ්බෙසං ආරෝචනකිච්චං නත්ථි. දිට්ඨරූපානං සුතසද්දානං ආරොචෙතබ්බං. අදිට්ඨඅස්සුතානම්පි අන්තොද්වාදසහත්ථගතානං ආරොචෙතබ්බං."**
>
> **(මජසං)**

මෙසේ පටිච්ඡන්නපරිවාසය පිළිබඳ විවරණය කළ බුදුගොස් ඇදුරුපාණෝ අනතුරුව සෙසු සුද්ධන්තාදි පරිවාසයන් විවරණය කරමින් '**ඉතරෙසු පන**' යනාදිය කීහ.

**සඃ ඉතරෙසු පන ද්වීසු**, සෙසු සුද්ධන්තපරිවාස, සමෝධානපරිවාස යන පිරිවෙස් දෙක අතරින්; **"ආපත්තිපරියන්තං න ජානාති, රත්තිපරියන්තං න ජානාති" ඉති**, 'ආපත්තිපරියන්තං න ජානාති, රත්තිපරියන්තං න ජානාති' යන; **ඉමස්මිං වත්ථුස්මිං**, මේ වස්තුවෙහි; **ඛන්ධකෙ අනුඤ්ඤාතො**, ඛන්ධකයෙහි අනුදන්නා ලද්දේ; **සුද්ධන්තපරිවාසො නාම**, 'සුද්ධන්තපරිවාසය' නම් වේ. **සො**, ඒ සුද්ධන්තපරිවාසය; **චුල්ලසුද්ධන්තො**[1] **මහාසුද්ධන්තො ඉති**, 'චුල්ලසුද්ධන්තය මහාසුද්ධන්තය' යැයි; **දුවිධො**, දෙවැදෑරුම් වෙයි. **එස දුවිධොපි ච**, මේ දෙවැදෑරුම් වූ ම සුද්ධන්තපරිවාසය; **රත්තිපරිච්ඡෙදං**, ඇවැත් පිළිසන් වීමේ රාත්‍රී පිරිසිඳීම; **සකලං වා**, සියල්ල හෝ; **එකදෙසං වා**[2], කොටසක් හෝ; **අජානන්තස්ස ච**, නොදන්නහුට ද; **අසරන්තස්ස**[3] **ච**, සිහි නොකරන්නහුට ද; **තත්ථ වෙමතිකස්ස ච**, ඒ රාත්‍රී පිරිසිඳීමෙහි ලා විමති ඇත්තහුට ද; **දාතබ්බො**, දිය යුතු. **අහං**, මම; **එත්තිකා ආපත්තියො**, මෙපමණක් ඇවැත්වලට;

---

[1] **චූළසුද්ධන්තො.** මජසං
[2] **එකච්චං වා.** මජසං
[3] **අස්සරන්තස්ස.** මජසං

**ආපන්නො ඉති**, පැමිණියේ වෙමි යැයි; **ආපත්තිපරියන්තං පන**, ඇවැත් ගණන පිරිසිඳීම; **ජානාතු වා**, දනීවා හෝ; **මා වා**, නොදනීවා හෝ; **එතං අකාරණං**, මෙය නොකරුණකි (සුද්ධන්තපරිවාසය දීමට හේතුවක් නො වේ). **තස්ස දානවිධි**, ඒ සුද්ධන්තපරිවාසය දෙන විධිය; **ඛන්ධකෙ ආගතො**, ඛන්ධකයෙහි පැමිණියේය. **විනිච්ඡයකථා පන**, විනිශ්චය කථාව වනාහි; **විත්ථාරතො**, විස්තර වශයෙන්; **සමන්තපාසාදිකායං වුත්තා**, සමන්තපාසාදිකාවෙහි කියන ලදී.

**ඉතරො පන**, අනෙක් පිරිවෙස වනාහි; **සමොධානපරිවාසො නාම**, ‘සමොධානපරිවාසය’ නම් වේ. **සො**, ඒ සමොධානපරිවාසය; **ඔධානසමොධානො**, ඔධානසමොධානය; **අග්ඝසමොධානො**, අග්ඝසමොධානය; **මිස්සකසමොධානො ඉති**, මිස්සකසමොධානය යැයි; **තිවිධො හොති**, තෙවැදෑරුම් වෙයි. **තත්ථ**, ඒ අතරින්; **ඔධානසමොධානො නාම**, ‘ඔධානසමොධානය’ නම්; **අන්තරාපත්තිං ආපජ්ජිත්වා**, අන්තරාපත්තියකට පැමිණ; **පටිච්ඡාදෙන්තස්ස**, සඟවන්නහුට; **පරිවුත්ථදිවසෙ**, පිරිවෙස් පුරන ලද දින ගණන (*‘මූලායපටිකස්සනෙන පරිවුත්ථදිවසෙ මානත්තාචිණ්ණදිවසෙ ච සබ්බෙ ඔධුනිත්වා’* යනු අටුවා බැවින් මෙහි පරිවුත්ථදිවසෙ යනු උපලක්ෂණ කොට ‘මානත්තාචිණ්ණදිවසෙ ච’ යනු ද ගත යුතු - **කඞ්ඛා.පි, පි.41**); **ඔධුනිත්වා**, මූලායපටිකස්සන විසින් මකා දමා; **මක්ඛෙත්වා**, මකා දමා; **පුරිමාය ආපත්තියා**, පෙර ඇවැතෙහි; **මූලදිවසපරිච්ඡෙදෙ**, මුල් දින පිරිසිඳීමෙහි; **පච්ඡා ආපන්නං ආපත්තිං**, පසුව පැමිණි ඇවැත; **සමොදහිත්වා**, බහා ලා (*පක්ඛිපිත්වා යුතැනි* - **කඞ්ඛා.පි, පි.41**); **දාතබ්බපරිවාසො වුච්චති**, දිය යුතු පිරිවෙස කියනු ලැබේ. **අග්ඝසමොධානො නාම**, ‘අග්ඝසමොධානය’ නම්; **සම්බහුලාසු ආපත්තිසු**[1], බොහෝ ඇවැත් අතරින්; **එකා වා**, එක් ඇවැතක් හෝ; **ද්වෙ වා**, ඇවැත් දෙකක් හෝ; **තිස්සො වා**, ඇවැත් තුනක් හෝ; **සම්බහුලා වා**, බොහෝ ගණනක් හෝ; **යා ආපත්තියො**, යම් ඇවැත්හු; **සබ්බචිරපටිච්ඡන්නායො**[2], සියල්ලන්ට ම වැඩි කාලයක් පිළිසන් වූවාහු වෙත් ද; **තාසං**, ඒ ඇවැත්වල; **අග්ඝෙන**, අගයෙන් (පිළිසන් වූ දින ගණනින්); **සමොධාය**, සමෝධානය කොට; **තාසං**, ඒ ඇවැත්වල; **රත්තිපරිච්ඡෙදවසෙන**, රාත්‍රී පිරිසිඳීම් වශයෙන්; **අවසෙසානං**

---

[1] **ආපත්තීසු**. මජසං
[2] **සබ්බචිරප්පටිච්ඡන්නායො**. මජසං

**ඌනතරපටිච්ඡන්නානං**[1] **ආපත්තීනං**[2], සෙසු අඩු රාත්‍රී ගණනක් පිළිසන් වූ ඇවැත්වලට; **දාතබ්බපරිවාසො වුච්චති**, දිය යුතු පිරිවෙස කියනු ලැබේ. **මිස්සකසමොධානො නාම**, 'මිස්සකසමොධානය' නම්; **නානාවත්ථුකායො ආපත්තියො**, නොයෙක් වස්තූන් සහිත ඇවැත්; **එකතො කත්වා**, එකට කොට; **දාතබ්බපරිවාසො වුච්චති**, දිය යුතු පිරිවෙස කියනු ලැබේ. **අයං**, මේ; **තිවිධෙ අපි සමොධානපරිවාසෙ**, ත්‍රිවිධ වූ ම සමොධානපරිවාසයෙහි; **සඞ්ඛෙපකථා**, සංක්ෂේප කථාව යි. **විත්ථාරො පන**, විස්තරය වනාහි; **සමන්තපාසාදිකායං**, සමන්තපාසාදිකාවෙහි; **වුත්තො**, කියන ලදී. **ඉදං**, මේ; **පරිවත්ථබ්බං ඉති පදස්ස**, 'පරිවත්ථබ්බං' යන පදයාගේ; **විනිච්ඡයකථාමුඛං**, විනිශ්චය කථා මුඛය යි.

## සුද්ධන්තපරිවාසය

**112. වි:** ඇවැත පිළිසන් වූ දින ගණන සම්පූර්ණයෙන් ම හෝ කොටසක් හෝ නොදන්නා භික්ෂුව, සිහි නොකරන භික්ෂුවට සහ ඒ පිළිබඳ විමති ඇති භික්ෂුවට දෙනු ලබන පිරිවෙස **සුද්ධන්තපරිවාසය** නම් වේ. පැමිණි ඇවැත් ගණන මෙපමණක් යැයි දැනගැනීම මෙහි දී වැදගත් නො වේ. මෙය චූලසුද්ධන්තය, මහාසුද්ධන්තය යනුවෙන් දෙවැදෑරුම් වේ.

**චූලසුද්ධන්තය** : ඇවැත් පිළිසන් වූ දින ගණන නිශ්චය කොට කිව නොහැකි නමුදු තමන් පිරිසිදුව සිටි කාලය නිශ්චය කරගත හැකි නම් ඒ පිරිසිදු කාලය හැරපියා සෙසු කාලය අනුව පුරනු ලබන පිරිවෙස **චූලසුද්ධන්ත පරිවාසය** නම් වේ. මෙය නිශ්චය කරගැනීම පිණිස උපසම්පදාවේ පටන් අනුපිළිවෙළින් ඉදිරියට හෝ ඇවැත් ආරෝචනය කළ දිනයේ පටන් පිළිවෙළින් පිටුපසට පිරිසිදුව සිටි කාලය විමසා බැලිය යුතු වේ. පිරිවෙස සමාදන්ව පුරන අතරතුර අතිරේක කාලයක් පිරිය යුතු යැයි සිහි වේ නම් එසේ පිරීමේ වරදක් නැත. නැවත පිරිවෙස් ගැනීමක් අවශ්‍ය නො වේ.

**මහාසුද්ධන්තය** : ඇවැත් පිළිසන් වූ දින ගණනක් පිළිබඳ කිසිදු අදහසක් නොමැති භික්ෂුවක් උපසම්පදාවේ පටන් ඇවැත් ආරෝචනය

---

[1] **ඌනතරප්පටිච්ඡන්නානං.** මජසං
[2] **ආපත්තිනං.** හෙමු

කළ දින දක්වා සියලු කාලය පිරිවෙස් පිරිය යුතු වේ. එය **මහාසුද්ධන්ත පරිවාසය** නම් වේ. විස්තර වශයෙන් **සමන්තපාසාදිකා** විනයාර්ථකථාවෙන් බලා දත යුතු.

## සමෝධානපරිවාසය

මෙය ඔධානසමෝධාන, අග්ඝසමෝදන, මිස්සකසමෝධාන යනුවෙන් ත්‍රිවිධාකාර වේ.

**ඔධානසමෝධානය** : පිරිවෙස් පුරන භික්‍ෂුවක් අන්තරාපත්තියකට පත්ව එය ද පිළිසන් වූයේ නම්, ඒ දක්වා පිරිවෙස් පිරූ දින ගණන මකා දමා පෙර ආපත්තියේ මුල් දින ගණන සමඟ පසුව පිළිසන් වූ දින ගණන ඇතුළත්කොට දෙනුලබන පිරිවෙස යි. පිරිවෙස් පුරන අතර හෝ මානත්තාරහ අවස්ථාවේ හෝ මානත පුරන අතරතුර හෝ අබ්භානාරහ අවස්ථාවේ අන්තරාපත්තියකට පත්ව පිළිසන් වූයේ නම් මෙම ඔධානසමෝධාන පරිවාසය දෙනු ලැබේ.

**අන්තරාපත්තිය** : පිරිවෙස් පුරන, මානත්තාරහ, මානත පුරන හෝ අබ්භානරහ අවස්ථාවේ සිටින භික්‍ෂුවක් ඒ අතරතුර කිසියම් සඟවෙසෙස් ඇවැතකට පත් වූයේ නම් එය **අන්තරාපත්තිය** ලෙස හැඳින්වේ. අතරතුර පැමිණි ඇවැත යන අර්ථය යි. පිරිවෙස හෝ මානත නික්ෂේප නොකර සිටින අතරතුර මෙසේ අන්තරාපත්තියකට පත්වේ. යම් අවස්ථාවක නික්ෂේප කර සිටී නම් ප්‍රකෘති භික්‍ෂුවක් ලෙස සැලකෙන බැවින් ඇවැතකට පැමිණිය ද එය අන්තරාපත්තියක් බවට පත් නො වේ. මෙසේ අන්තරාපත්තියකට පත්ව, එම අන්තරාපත්තිය ද පිළිසන් වූයේ නම්, ඔහුට **මූලායපටිකස්සනය** කර ඒ පිරිවෙස් පිරූ දින ගණන් සහ මානත් පිරූ දිනගණන් සියල්ල මකා දමා වැඩිපුර පිළිසන් වූ දින ගණන තුළ අඩුවෙන් පිළිසන් වූ දින ගණන අන්තර්ගත කොට සමෝධාන පිරිවෙස දිය යුතු ය. උදාහරණයක් ලෙස මූලාපත්තිය පක්‍ෂයක් (දින 15 ක්) පිළිසන්ව තිබුණේ නම් අන්තරාපත්තිය ඊට වඩා අඩු කාලයක් නම්, ඒ දක්වා පිරූ දිනගණන මකා දමා යළි දින 15 කට සමෝධාන පිරිවෙසක් දිය යුතු ය. ඒ අනුව නැවත දින 15 ක් පිරිවෙස් විසිය යුතු වේ.

මූලායපටිකස්සනයෙන් සිදුවන්නේ අන්තරාපත්තියකට පත් වූ විට ඒ දක්වා පිරිවෙස්, මානත් පුරන ලද දින ගණන් මකා දැමීම යි.

නොහොත් ඒ දක්වා කරන ලද සියලු ඇවැතින් නැඟීසිටීමේ කටයුතු ආපසු මුලට ඇදීම යි. සඟවෙසෙස් ඇවැතින් නැඟීසිටීමේ ව්‍යාපාරයේ නියැලි භික්‍ෂුව නොගැළපෙන ඇවැතකට පත් වූ බැවින් එයට නිග්‍රහ කිරීම පිණිස මෙම මූලායපටිකස්සනය කරනු ලැබේ. එහෙයින් පරිවාරපාළියෙහි **‘මූලායපටිකස්සනා කිස්ස කාරණා’** යන පැනයට විසඳුම් ලෙස **‘මූලායපටිකස්සනා නිග්ගහත්ථාය’** යැයි පැවසේ (**පරිවා.2**, පි.138).

අන්තරාපත්තියකට පත්ව එය ද පිළිසන් වූයේ නම් මූලායපටිකස්සනය කරන සමෝධාන පිරිවෙස දිය යුතු යැයි සඳහන් වන බැවින් මූලායපටිකස්සනය කිරීම අන්තරාපත්තියකට පත් වූ නිසා බව ද සමෝධාන පිරිවෙස දීම අන්තරාපත්තිය පිළිසන් වූ නිසා බව ද දත යුතු ය. ඒ අනුව අන්තරාපත්තිය පිළිසන් නොවූයේ නම් මූලායපටිකස්සනය පමණක් කළ යුතු වේ. චුල්ලවග්ගපාළියෙහි සඳහන් අන්දමට උදයි ස්ථවිරයන් වහන්සේ පස් දිනක් පිළිසන් වූ සඟවෙසෙස් ඇවැතකට පත්ව සංසයා වෙතින් පිරිවෙස් ගෙන පුරමින් සිටින අතරතුර පිළිසන් නොවූ අන්තරාපත්තියකට පත් වෙති. එහි දී බුදුරජාණන් වහන්සේ අනුදැන වදාළේ මූලායපටිකස්සනය කරන ලෙස පමණි (**චුල්ල.1**, පි.212). එහෙයින් පාළිමුත්තකවිනයවිනිච්ඡය සංග්‍රහයෙහි ද අන්තරාපත්තිය පිළිසන් නොවූ විටක නැවත පිරිවෙස් දීමක් නොමැති බව කියන ලදී (**පාළිමු**, පි.330). එසේ අන්තරාපත්තිය පිළිසන් නොවූ විටක මූලායපටිකස්සනය කර පෙර පිරිවෙස ම නැවත පිරිය යුතු වේ.

**අග්ඝසමෝධානය** : දින එකක්, දෙකක්, තුනක් යනාදි වශයෙන් නොයෙක් දින ගණන් පිළිසන් වූ බොහෝ ඇවැත් ඇති භික්‍ෂුවකට වැඩි ම කාලයක් පිළිසන් වූ ඇවැත සලකා ඒ දින ගණන සමඟ සෙසු අඩු කාලයක් පිළිසන් වූ දින ගණන් ගළපා (සමෝධාය), ඒ වැඩි ම කාලයට දෙනු ලබන පිරිවෙස යි. උදාහරණයක් ලෙස දින 10 ක් පිළිසන් වූ ඇවැත් සහ ඊට වඩා අඩු දින ගණන් පිළිසන් වූ ඇවැත් ඇති භික්‍ෂුවකට ඒ වැඩි ම පිළිසන් දින ගණන වන දින 10 ට අග්ඝසමෝධාන පිරිවෙසක් දිය හැකි වේ. ඒ අනුව දින 10 ක් පමණක් පිරිවෙස් විසීම ප්‍රමාණවත් වේ.

**මිස්සකසමෝධානය** : ශුක්‍ර විසර්ජන, කායසංසර්ග ආදී නොයෙක් වස්තූන් සහිත නොයෙක් ඇවැත් එකතු කොට දෙනු ලබන පිරිවෙස මිස්සකසමෝධාන පිරිවෙස නම් වේ.

මේ ත්‍රිවිධ පරිවාසයන් පිළිබඳ සංක්ෂේප විනිශ්චයක් වන අතර එකිනෙක පිරිවෙස දිය යුතු ආකාරය පිළිබඳ විස්තරාර්ථ වර්ණනාව **සමන්තපාසාදිකා** විනයාර්ථකථාවෙන් බලා දත යුතු. මෙසේ '**පරිවත්‍ථබ්බං**' යන පදය අර්ථ විවරණය ගෙනහැර දක්වා තදනන්තරව පුරන ලද පිරිවෙස් ඇති භික්ෂුව විසින් මානත් පිරිය යුතු ආකාරය විවරණය කරමින් '**උත්තරිං ඡාරත්තන්ති**' යනාදිය කියන ලදී.

**සඃ උත්තරිං ඡාරත්තං ඉති**, 'උත්තරිං ඡාරත්තං' යනු; **පරිවාසතො උත්තරිං**[1], පිරිවෙසට මත්තෙහි; **ඡ රත්තියො**, රාත්‍රී සයකි. **භික්ඛුමානත්තාය ඉති**, 'භික්ඛුමානත්තාය' යනු; **භික්ඛූනං**, භික්ෂූන්ට; **මානනභාවාය**[2], බුහුමන් පිණිස; **ආරාධනත්‍ථාය ඉති**, සිත් සතුටු කිරීම පිණිස යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **පටිපජ්ජිතබ්බං ඉති**, 'පටිපජ්ජිතබ්බං' යනු; **වත්තිතබ්බං**, පැවතිය යුතු ය යන්න යි. **මානත්තඤ්ච**[3] **පන එතං**, මෙකී මානත ද; **පටිච්ඡන්න අපටිච්ඡන්නවසෙන**, පටිච්ඡන්න අපටිච්ඡන්න වශයෙන්; **දුවිධං**, දෙවැදෑරුම් වේ. **තත්‍ථ**, ඒ අතරින්; **යස්ස**, යම් භික්ෂුවකට; **අපටිච්ඡන්න**[4] **ආපත්ති හොති**, පිළිසන් නොවූ ඇවැත් වේ ද; **තස්ස**, උන්වහන්සේට; **පරිවාසං අදත්‍වා**, පිරිවෙසක් නොදී; **මානත්තං එව දතබ්බං**, මානත ම දිය යුතු. **ඉදං**, මෙය; **අපටිච්ඡන්නමානත්තං**[5], අපටිච්ඡන්න මානත යි. **යස්ස**, යම් භික්ෂුවකගේ; **පටිච්ඡන්නා හොති**, ඇවැත පිළිසන් වූයේ වෙයි ද; **තස්ස**, උන්වහන්සේට; **පරිවාසපරියොසානෙ**, පිරිවෙස කෙළවර; **දතබ්බං මානත්තං**, දිය යුතු මානත; **පටිච්ඡන්නමානත්තං ඉති වුච්චති**, පටිච්ඡන්න මානත යැයි කියනු ලැබේ. **ඉදං**, මේ පටිච්ඡන්න මානත; **ඉධ අධිප්පෙතං**, මෙහි අදහස් කරන ලදී. **එතෙසං උභින්නම්පි**

---

[1] **උත්තරි.** මජසං
[2] **මානභාවාය.** මජසං
[3] **භික්ඛුමානත්තඤ්ච**, මජසං
[4] **අප්පටිච්ඡන්න.** මජසං
[5] **අප්පටිච්ඡන්නමානත්තං.** මජසං

**පන**, මෙකී දෙවැදෑරුම් වූ ම මානතගේ; **දානවිධි ච**, දෙන විධිය ද; **විනිච්ඡයකථා ච**, විනිශ්චය කථාව ද; **සමන්තපාසාදිකායං**, සමන්තපාසාදිකාවෙහි; **වුත්තනයෙන වෙදිතබ්බා**, කියූ ආකාරයෙන් දත යුතු. **එත්ථ**, මෙහි ලා; **අයං පන**, මේ වනාහි; **සඞ්ඛෙපො**, සංක්ෂේපය යි.

**සචෙ**, ඉදින්; **අයං**, මේ භික්ෂු තෙමේ; **වත්තං නික්ඛිපිත්වා**, වත නික්ෂේප කොට; **පච්චූසසමයෙ**, අළුයම් කාලයේ; **සමාදතුං ගච්ඡති**, සමාදන් වීමට යයි ද; **සබ්බ පච්ඡිමෙන**[1], සියල්ලට යටත් පිරිසෙයින්; **චතූහි භික්ඛූහි**[2] **සද්ධිං**, භික්ෂූන් සිව් නමක් සමඟ; **පරිවාසෙ වුත්තප්පකාරං පදෙසං ගන්ත්වා**, පිරිවෙසෙහි කියූ ආකාරයේ ප්‍රදේශයකට ගොස්; **"මානත්තං සමාදියාමි, වත්තං සමාදියාමි" ඉති**, 'මානත්තං සමාදියාමි, වත්තං සමාදියාමි' යැයි; **සමාදියිත්වා**, සමාදන්ව; **තෙසං**[3] **ආරොචෙත්වා**, ඒ භික්ෂූන්ට ආරෝචනය කොට; **තතො**, ඉන් පසු; **තෙසු ගතෙසු වා**, උන්වහන්සේලා ගිය කල්හි හෝ; **අගතෙසු වා**, නොගිය කල්හි හෝ; **පුරිමනයෙන**, පෙර පිරිවෙසෙහි කී ක්‍රමයෙන්; **පටිපජ්ජිතබ්බං**, පිළිපැදිය යුතු.

## මානත පිරීම

**113. වි:** පුරන ලද පිරිවෙස් ඇති භික්ෂුව විසින් භික්ෂූන්ට බුහුමන් පිණිස සදිනක් (සයරැයක්) මානත් පිරිය යුතු බව '**උත්තරිං ඡාරත්තං**' යනාදි ලෙස කියන ලදී. මෙම මානත ද අපටිච්ඡන්න මානත, පටිච්ඡන්න මානත, පක්ඛමානත, සමොධාන මානත යැයි චතුර්විධ වේ.

### අපටිච්ඡන්නමානත

සඟවෙසෙස් ඇවැතකට පත්ව පිළිසන් නොවූ භික්ෂුවකට එකී ඇවැතින් නැඟී සිටීම පිණිස පිරිවෙස් පිරීමක් අවශ්‍ය නොවන අතර භික්ෂූන්ට බුහුමන් පිණිස සදිනක මානතක් පිරිය යුතු වේ. එය නොපිළිසන් වූ ඇවැතක් වෙනුවෙන් පුරන බැවින් **අපටිච්ඡන්න මානත**

---

[1] **සබ්බන්තිමෙන පරිච්ඡෙදෙන.** මජසං; **සබ්බ පච්ඡිමෙන පරිච්ඡෙදෙන.** බෞසංම; කාළවිල
[2] **චතූහි භික්ඛූහි.** බෞසංම
[3] **නෙසං.** මජසං; බෞසංම; කාළවිල

නම් වේ. මෙහි දී ද පිරිවෙසේ කියූ ක්‍රමයෙන් ම එක් ඇවැතකට පත් වූයේ නම් 'එකං ආපත්තිං' යැයි ද ඇවැත් දෙකකට හෝ තුනකට පත් වූයේ නම් 'ද්වෙ ආපත්තියො' හෝ 'තිස්සො ආපත්තියො' යැයි ද ඇවැත් තුනකට වැඩි නම් 'සම්බහුලා ආපත්තියො' යැයි ද කියා මානත දිය යුතු ය. නානාවස්තුක ඇවැත් ද එකට එක්කොට දිය හැකි වේ. ඒ සියල්ල පිරිවෙසේ කියූ ක්‍රමයෙන් ම දත යුතු වේ.

## පටිච්ඡන්නමානත

සඟවෙසෙස් ඇවැත් පිළිසන්ව ඒ වෙනුවෙන් සංඝයා වෙතින් පිරිවෙස් ලබාගෙන පුරන ලද පිරිවෙස් ඇති භික්ෂුව විසින් සදිනක් සංඝයාට බුහුමන් පිණිස පිරිය යුතු මානත පටිච්ඡන්නමානත නම් වේ.

## පක්ඛමානත

භික්ෂුණියකට දිය යුතු මානත යි. එනම් ඇවැත් පිළිසන් වූයේ හෝ වේවා, පිළිසන් නොවූයේ හෝ වේවා කිසියම් සඟවෙසෙස් ඇවැතකට පත් භික්ෂුණියක් විසින් අනිවාර්යයෙන් ම අඩ මසක් පිරිය යුතු මානත පක්ඛමානත නම් වේ. භික්ෂුණියට පිරිවෙස් පිරීමක් නොමැති අතර ඇවැත පිළිසන් වූයේ නමුදු මෙම පක්ඛමානත ම පිරිය යුතු වේ. එය ද භික්ෂුණී සංඝයා වෙතින් ගෙන භික්ෂු-භික්ෂුණී උභය සංඝයා වෙත පිරිය යුතු වේ.

## සමෝධානමානත

මෙය ද ඕධානසමෝධාන මානත, අග්ඝසමෝධාන මානත, මිස්සකසමෝධාන මානත යැයි ත්‍රිවිධාකාර වේ. අන්තරාපත්තීන්ට පත්ව මූලායපටිකස්සනය කර නැවත පිරිවෙස් පුරා අනතුරුව ඒ සියලු ඇවැත් වෙනුවෙන් එක් මානතක් පුරයි නම් එය ඕධානසමෝධාන මානත නම් වේ. අග්ඝසමෝධාන පිරිවෙස අවසානයේ දෙනු ලබන මානත අග්ඝසමෝධාන මානත නම් වන අතර මිස්සකසමෝධාන පිරිවෙස අවසානයේ දෙනු ලබන මානත මිස්සකසමෝධාන මානත නම් වේ.

මෙසේ ඇවැතට අනුරූපව සංඝයා වෙතින් සදිනක මානත ලබාගෙන ඒ සීමා මාලකයේ දී ම '**මානත්තං සමාදියාමි, වත්තං සමාදියාමි**' යැයි කියූ ක්‍රමයෙන් මානත සමාදන් වී රැස් වූ භික්ෂූන්ට මානත ආරෝචනය කළ යුතු වේ. නික්ඛිත්ත වත්ත ක්‍රමයට පුරන්නේ නම් හෝ වෙනත් සෙනසුනක හෝ වෙනත් දිනක සිට මානත පුරන්නේ නම් ඒ සීමාවේ දී ම '**මානත්තං නික්ඛිපාමි, වත්තං නික්ඛිපාමි**' යනාදි ක්‍රමයට වත නික්ෂේප කළ යුතු වේ.

## මානත ආරෝචනය හා රත්තිච්ඡේදය

ඇවැතට අනුරූපව සකස් කරන ලද කර්ම වාක්‍යයෙන් සදිනක මානත ලබාගත් භික්ෂුව අඛණ්ඩව සදිනක් මානත පූරණය කළ යුතු වේ. මෙහි දී පිරිවෙස් පිරීමට වඩා ඇති වෙනසක් වන්නේ මානත '**දෙවසිකං ආරොචෙතබ්බං** (චුල්ල.1, පි.184)' යනුවෙන් දිනපතා ආරෝචනය කළ යුතු බව යි. එබැවින් වත සමාදන්ව සිටින දින හයේ ම ආරෝචන කෘත්‍යය කළ යුතු වේ. එක් දිනක හෝ ආරෝචනය සිදු නොවුවහොත් රත්තිච්ඡේදය වේ. රාත්‍රියට වත සමාදන්ව සිට උදේ නික්ෂේප කරන්නේ නම් එවිට ද ආරෝචනය කළ යුතු බවට පැමිණේ. එදිනට කළ යුතු ආරෝචනය ඉතිරිව ඇති බැවින් සෙනසුන් වැසි භික්ෂුවක් එදින පිටව ගියහොත් උන්වහන්සේට කළ යුතු ආරෝචනය නොසිදුකිරීමෙන් රත්තිච්ඡේදය වේ. මෙහි දී ද පිරිවෙසේ කියූ ක්‍රමයෙන් ම ආරෝචන වාක්‍යය සකස් කරගෙන යම්කිසි භාෂාවකින් අසන්නාට තේරුම් යන ආකාරයෙන් කිව යුතු වේ.

මානත රත්තිච්ඡේදය සිදුවන ආකාර හතරක් '**සහවාසො, විප්පවාසො, අනාරොචනා, ඌනෙ ගණෙ චරණං** (චුල්ල.1, පි.188)' යැයි භාග්‍යවතුන් වහන්සේ උපාලි මහරහතන් වහන්සේගේ පැනයකට පිළිතුරු වශයෙන් දේශනා කොට වදාළ බැවින් පිරිවෙසෙහි රත්තිච්ඡේද වන දෝෂයන්ට අමතරව 'ඌනගණ චරණය' යනුවෙන් ද දෝෂයක් මානතෙහි සිදුවිය හැකිය. එනම් මානත පුරන භික්ෂුව ප්‍රකෘති භික්ෂූන් සිවු නමකට වඩා අඩු සංඛ්‍යාවක් සමඟ මානත පිරීම යි. එබැවින් සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ '**සචෙපි තීහි භික්ඛූහි සද්ධිං වසති, රත්තිච්ඡේදො හොතියෙව** (**සම.පා**, පි.867)' යැයි කියන ලදී. ඒ අනුව

ප්‍රකෘති භික්ෂූන් සිවු නමක් හෝ ඊට වැඩිපුර ඇති සෙනසුනක මානත පිරීම කළ යුතු වේ.

## නික්ඛිත්තවත්ත ක්‍රමය

සෙනසුනේ බොහෝ භික්ෂූහු සිටිත් නම්, මානත ශෝධනය කරගැනීම අපහසු නම් පිරිවෙස සේ ම මානත ද නික්ඛිත්ත වත්ත ක්‍රමයට පිරිය හැකි වේ. එහි දී පිරිවෙසේ කියූ ක්‍රමයෙන් ම අලුයම් කාලයේ සෙනසුනේ උපචාර සීමාවෙන් බැහැරට තවත් ප්‍රකෘති භික්ෂූන් සිව් නමක් හෝ ඊට වැඩි පිරිසක් සමඟ යා යුතු ය. මෙහි දී පිරිවෙසට වඩා විශේෂය වන්නේ මානත පිරීමට සිටිය යුතු භික්ෂූන්ගේ ගණන අවම වශයෙන් සිවු නමක් වීම ය. ඉහත දක්වන ලද 'ඌනගණෙ චරණ දෝෂය' වළක්වා ගැනීමට මෙසේ අවම සිවු නමක් සමඟ යා යුතු වේ.

එහි දී උපචාර සීමාවෙන් බැහැරට ගොස් විහාරස්ථානයේ භික්ෂූන්ගේ සජ්ඣායන ශබ්දදිය නොඇසෙන පරිදි ලෙඩ්ඩුප්පාත දෙකක් පමණ ඈතට ගොස් මාර්ගයේ ගමන් ගන්නා භික්ෂූන් සම්මුඛ වීම වැළැක්වීම පිණිස මහාමාර්ගයෙන් ඉවත්ව, සෙසු භික්ෂූන් දෙළොස් රියන් උපචාරයට පැමිණීම වැළැක්වීමට හා සෙසු භික්ෂූන්ගේ දර්ශනයක් ඇති නොවනු පිණිස පඳුරු, ලැහැබ් ආදියකින් වැසුණු තැනක හිඳ මානත සමාදන් වී එහි සිටින භික්ෂූන්ට ආරෝචනය කළ යුතු වේ. අනතුරුව අරුණ උදවන තෙක් වැඩසිටිය යුතු අතර **අරුණ උදවීමෙන් පසු යළිත් ආරෝචනය කොට නික්ෂේප කළ යුතු වේ.** අරුණ උදවන විට තමන් සමඟ ගිය භික්ෂූන් කිසියම් කරුණකට ආපසු වැඩම කළේ නමුදු මානත්තචාරික භික්ෂුව තමන් සමඟ වැඩි භික්ෂූන් සිටින බව සලකා මානත පුරයි නම් ඌනගණ චරණ දෝෂයක් නොවන බව සමන්තපාසාදිකාවේ:

> **"අයඤ්ච යස්මා ගණස්ස ආරොචෙත්වා භික්ඛූනඤ්ච අත්ථිභාවං සල්ලක්ඛෙත්වා වසි, තෙනස්ස ඌනෙ ගණෙ චරණදොසො වා විප්පවාසො වා න හොති."**
>
> (සම.පා, පි.868)

යැයි කියන ලදී. එසේ ම විමතිවිනෝදනී ටීකාවේ ද,

**"ආරෝචනාය කතාය සබ්බෙසුපි භික්ඛූසු බහි විහාරගතෙසු ඌනෙ ගණෙ චරණදෙසො වා විප්පවාසදෙසො වා න හොති ආරොචිතත්තා සහවාසස්සාති දස්සෙති." (විමති, පි.450)**

යැයි ඒ බව තහවුරු කර කියන ලදී.

එසේ බැහැරට වැඩම කළ භික්ෂූන් ආපසු විහාරයට වැඩම කර ඇත් නම්, මානත්තචාරික භික්ෂුව ද අරුණ නැඟි පසු ආපසු විහාරයට වැඩම කොට පළමුව මුණගැසෙන භික්ෂුව සමීපයේ ආරෝචනය කොට වත නික්ෂේප කළ යුතු වේ. මෙසේ අඛණ්ඩව සදිනක් මානත පූරණය කළ යුතු වේ.

## මානත අඛණ්ඩව පිරිය යුතු බව

පුරන ලද පිරිවෙස් ඇති භික්ෂුව විසින් ඊට අතිරේකව සදිනක් මානත පිරිය යුතු බව '**උත්තරිං ඡාරත්තං භික්ඛුමානත්තාය**' යනාදි වශයෙන් පැවසේ. මෙහි දී සදිනක් අඛණ්ඩව මානත පිරිය යුතු වේ. එනම් අතර මැද රත්තිච්ඡේදය නොවිය යුතු බව යි. යම්හෙයකින් අතර මැද රත්තිච්ඡේදය වුවහොත් යළිත් මුල සිට මානත පිරිය යුතු බවට පත් වේ. මේ බව සමන්තපාසාදිකා විනයාර්ථකථාවේ '**එවං ඡාරත්තං මානත්තං අඛණ්ඩං චරිත්වා** (සම.පා, පි.869)' යැයි සඳහන් වේ.

එහෙත් ඇතැමෙක් මානත කඩ කොට පිරිය හැකි බවත්, මෙම සමන්තපාසාදිකා පාඨයේ 'අඛණ්ඩං' යන්නෙන් අදහස් වන්නේ හුදු රත්තිච්ඡේදය නොවිය යුතු බවත් පවසති. ඔවුන්ගේ අදහස වන්නේ අතර මැද රත්තිච්ඡේදයක් වුවහොත් ඒ වෙනුවට තවත් දිනක් මානත පිරීමෙන් පිරිසිදු බවට පත්වන බව යි. එහෙත් මෙම අදහස සදෙස් බව විනය නය ක්‍රම ඔස්සේ මෙන් ම ව්‍යාකරණානුකූලව ද හෙළි වේ. මේ ඒ බවට පරිහාරය යි.

මානත පිරීමේ දී '**අඛණ්ඩං**' යැයි සඳහන් වීමෙන් රත්තිච්ඡේදය නොවිය යුතු බව අදහස් වේ නම් එය පිරිවෙසට ද එය අදාළ විය යුතු ය. පිරිවෙස පිරීමේ දී වුව ද යම් දිනක් රත්තිච්ඡේදය වුවහොත් යළිත් ඒ දිනය සම්පූර්ණ කළ යුතු වේ. එහෙත් පිරිවෙස පිරීම පිළිබඳ සඳහන් වන තැන '**එවං යත්තකානි දිවසානි ආපත්ති පටිච්ඡන්නා හොති, තත්තකානි තතො අධිකතරානි වා කුක්කුච්චවිනොදනත්ථාය පරිවසිත්වා** (සම.පා, පි.873)' යැයි සඳහන් වනවා මිස අඛණ්ඩව පිරිය

යුතු බවක් සඳහන් නො වේ. එහෙත් මානත අඛණ්ඩව පිරිය යුතු බව විශේෂයෙන් සඳහන් වන බැවින් එය පිරිවෙස හා මානත අතර වෙනස බව වටහා ගත යුතු ය. එබැවින් මානත පිරීමේ දී දින සය ම අඛණ්ඩව පිරිය යුතු වේ.

'**ඡාරත්තං මානත්තං**' යන තැන 'ඡාරත්තං' යන්නෙන් අදහස් වන්නේ 'රාත්‍රී සයක්' (මෙහි රාත්‍රී ශබ්දය දින පර්යාය වශයෙන් ගත හැකි බැවින් දින සයක් යනු අභිප්‍රාය යි) යන්න යි. එහෙයින් 'ඡාරත්තං' යන්න විවරණය කරන සමන්තපාසාදිකා විනයාර්ථකථාව 'ඡ රත්තියො' යැයි කීහ. එහෙත් මෙහි දී බුදුරජාණන් වහන්සේ 'ඡ රත්තියො' යැයි නොකියා 'ඡාරත්තං' යැයි ද්විතීයා විභක්ති වචනයෙන් පවසන ලද්දේ මෙම දින සය අඛණ්ඩව පූරණය කළ යුතු බව පැවසීමට වේ. එය එසේ ම ය. යම්කිසි කාල පරිච්ඡේදයක් පුරාවට අතරතුර කඩ වීමක් නොමැතිව අඛණ්ඩව සිදුකරන ක්‍රියාවක් දැක්වීමට ද්විතීයා විභක්තිය යෙදෙන අතර එය '**අත්‍යන්තසංයෝගයේ ද්විතීයාව**' ලෙස හැඳින්වේ. '**කාලද්ධානමච්චන්තසංයොගෙ (කච්චා, පි.59)**' යන කච්චායන ව්‍යාකරණ සූත්‍රය අනුව කිසියම් කාලයක් හෝ අද්ධානයක් හෙවත් දුරක් පුරාවට අතරක් නැර පවතින ද්‍රව්‍යයක්, ක්‍රියාවක් හෝ ගුණයක් දැක්වීමට ඒ කාල හා අද්ධාන වාචී ශබ්දය ද්විතීයා විභක්තියෙන් පැවසේ. (*'අච්චන්තං සංයොගො අච්චන්තසංයොගො, නිරන්තරසංයොගො'ති වුත්තං හොති'* යනු කච්චායන ටීකාව යි.) මාසයක් පුරාවට අඛණ්ඩව මාංස සහිත බත් අනුභව කරන බව පැවසීමට 'මාසං මංසොදනං භුඤ්ජති' යැයි 'මාස' ශබ්දය ද්විතීයා විභක්තියෙන් පැවසේ. යොදුනක් පුරාවට අඛණ්ඩව වනපෙත ඇති බව කීමට 'යොජනං වනරාජි' යැයි 'යොජන' ශබ්දය ද්විතීයා විභක්තියෙන් තබනු ලැබේ.

මෙම ව්‍යාකරණ සිද්ධාන්තය ත්‍රිපිටක පාළිය පුරාවට විශේෂයෙන් ම විනය පිටකයේ දැකිය හැකි වේ. භාග්‍යවතුන් වහන්සේ ප්‍රථමාභිසම්බෝධියෙන් අනතුරුව බෝධිවෘක්ෂ මූලයේ සත් දිනක් අඛණ්ඩව එක ම පලඟකින් වැඩසිටි බව දැක්වීමට '**අථ ඛො භගවා බොධිරුක්ඛමූලෙ සත්තාහං එකපල්ලඞ්කෙන නිසීදි**' යැයි 'සත්තාහං' යන්න ද්විතීයා විභක්තියෙන් වදළහ. විමතිවිනෝදනී නම් වූ විනයටීකාව '**සත්තාහන්ති අච්චන්තසංයොගෙ එතං උපයොගවචනං**'

යැයි තදීය අර්ථ විවරණය කළේ එබැවිනි. එය ම උදනාර්ථකථාවේ ද **'සත්තාහන්ති සත්ත අහානි සත්තාහං, අච්චන්තසංයොගත්‍ථෙ එතං උපයොගවචනං'** යැයි කියන ලදී. ප්‍රථම නිස්සග්ගිය සිකපදයේ දී **'දසාහපරමං අතිරෙකචීවරං ධාරෙතබ්බං'** යැයි දස දිනක් උපරිම කොට අතිරේක සිවුරක් දැරිය යුතු බව පනවන ලදී. එහි 'දසාහපරමං' යැයි ද්විතීයා විභක්තියෙන් වදළේ අතරක් නැර දස දිනක් අතිරේක සිවුරක් ළඟ තබා නොගත යුතු බව දැක්වීමට වේ. එහෙයින් තදර්ථකථාව **'තං දසාහපරමං කාලං ධාරෙතබ්බන්ති අත්‍ථො'** යැයි විවරණය කළ අතර **'දසාහපරමං කාලන්ති අච්චන්තසංයොගවචනං'** යනු ඒ පිළිබඳ ටීකාව යි. තව ද අච්චෙකචීවර සිකපදයේ **'දසාහනාගතං කත්තිකතෙමාසික-පුණ්ණමං'** යන තැන ද 'දසාහනාගතං' යනු අත්‍යන්ත සංයෝගයේ ද්විතීයා විභක්තිය යි. දසදිනකින් නොපැමිණි වප් පොහොය ඇති හෙවත් වප් පොහොයට දස දිනක් තබා යන අර්ථය යි. ඒ දස දිනය ද අඛණ්ඩව විය යුතු බැවින් අත්‍යන්තසංයෝග වශයෙන් ද්විතීයා විභක්තියෙන් කියන ලදී. එහෙයින් සමන්තපාසාදිකා විනයාර්ථකාථාවේ **'අච්චන්තසංයොගවසෙන භුම්මත්‍ථෙ උපයොගවචනං (සම.පා, පි.529)'** යැයි කියන ලදී. මෙසේ ම දිරත්තතිරත්තං, තියෝජනපරමං ආදි තවත් බොහෝ තැන්වල අතරක් නොමැතිව අඛණ්ඩව පවතින කාලය දැක්වීමට ද්විතීයා විභක්තිය යෙදේ. මෙම 'ඡාරත්තං මානත්තං' යන තැන ද සර්වඥයන් වහන්සේ එකී අත්‍යන්ත සංයෝගාර්ථය දැක්වීම පිණිස ම සප්තමී විභක්තියෙන් පැවසිය හැකි අර්ථය ද්විතීයා විභක්තියෙන් පැවසූහ.

**'ඡ රත්තියො සමාහටා, ඡන්නං රත්තීනං වා සමාහාරො ඡරත්තං'** යන ක්‍රමයට සමාහාර දිගු සමාස වශයෙන් රාත්‍රී (දින) සයක් යන්න 'ඡරත්ත' යනු සිද්ධ ය. 'තයො ලොකා සමාහටා තිලොකං' යි කියූ ක්‍රමයෙනි. ඒ 'ඡරත්ත' යන්න ම 'ඡාරත්තං' යි සුඛෝච්චාරණය පිණිස 'ඡ' කාරය දීර්ඝ කර කියනු ලැබේ. එහෙයින් කියන ලදී විනයත්‍ථමඤ්ජුසා නම් කඞ්ඛාවිතරණී අභිනව ටීකාවේ:

> **'ඡ රත්තියො සමාහටා, ඡන්නං රත්තීනං වා සමාහාරො ඡරත්තං, ඡරත්තමෙව ඡාරත්තං, අවයවබ්‍යතිරෙකෙන සමුදයස්සාභාවතො ඡ රත්තියොති අත්‍ථො වුත්තො'**
>
> **(කඞ්ඛා.ටී, පි.127)'**

'ඡාරත්තං' යන තැන අත්‍යන්තසංයෝග වශයෙන් ද්විතීයා විභක්ත්‍යර්ථය ගත යුතු බව බුරුම රට ඡට්ඨසංගායනා ත්‍රිපිටක මෘදුකාංගාගත පාචිත්‍යාදියොජනාපාළි ග්‍රන්ථයෙහි මෙසේ සඳහන් වේ.

**ඡාරත්තන්ති ඡ රත්තියො සමාහටාති ඡාරත්තං, සමාහාරෙ දිගු. 'ඡරත්ත'න්ති වත්තබ්බෙ සුඛුච්චාරණත්ථං ඡ කාරස්ස දීඝං කත්වා එවං වුත්තං. අච්චන්තසංයොගෙ චෙතං උපයොගවචනං.**

**(මඡසං)**

තව ද විනයවිනිශ්චයෙහි

**පරිවුත්ථපරිවාසස්ස, මානත්තං දෙය්‍යමුත්තරි**
**ඡ රත්තියො පටිච්ඡන්නා, පටිච්ඡන්නවසා දුවෙ.**

**(විවිනි. 531 ගාථා)**

යන ගාථාවට විවරණ සපයන විනයවිනිශ්චය ටීකාව 'උත්තරි ඡ රත්තියො' යන තැන ශේෂ වූ චරණ ක්‍රියාව ආධ්‍යාහාර කරගත යුතු බව පවසයි. එහි ලා චරණ ක්‍රියාවගේ වශයෙන් අත්‍යන්තසංයෝගයේ උපයෝග වචනය යෙදෙන බවත් ඒ අනුව 'මානත්තං දෙය්‍යං' යනුවෙන් යෙදීම බවත් දක්වේ. (**චරිතන්ති සෙසො. චරණකිරියාය අච්චන්තසංයොගෙ උපයොගවචනං. මානත්තං දෙය්‍යන්ති යොජනා.** - **මඡසං**)

මෙසේ ග්‍රන්ථාන්තරයෙනුදු පුරාණාචාර්යයන් වහන්සේලා විසින් 'ඡාරත්තං මානත්තං' යනු අත්‍යන්තසංයෝගයේ උපයෝග වචනය බව ම සලකන ලදී. ඒ අනුව සමන්තපාසාදිකාවේ එන '**එවං ඡාරත්තං මානත්තං අඛණ්ඩං චරිත්වා** (සම.පා, පි.869)' යනු අතරක් නැර අඛණ්ඩව සදිනක් මානත පිරීම සඳහා බව නිගමනය කළ හැකි වේ.

ව්‍යාකරණානුකූලව ද්විතීයා විභක්ති නිර්දේශය සප්තමී විභක්තිය දැක්වීම පිණිස ද යෙදෙන අවස්ථා ඇති බැවින් 'ඡාරත්තං' යනුවෙන් ද්විතීයා විභක්ති නිර්දේශය 'සය දිනෙක්හි' යන සප්තමී විභක්ත්‍යර්ථය පිණිස පමණක් බවත්, එයින් අත්‍යන්ත සංයෝගාර්ථයක් දීපනය නොවන බවත් පවසන්නේ නම් ඊට පරිහාර මෙසේ ය.

ද්විතීයා විභක්ති නිර්දේශය සප්තමී විභක්තිය දැක්වීම සඳහා ත්‍රිපිටක පාළිය පුරාවට යෙදෙන බව දැකගත හැකි වේ. උදාහරණයක් ලෙස සූත්‍ර

පිටකය පුරාවට එකිනෙක සූත්‍ර නිදානය දැක්වීමේ දී 'එකං සමයං' යනුවෙන් 'සමය' ශබ්දය ද්විතීයා විභක්තියෙන් දැක්වෙන්නේ සප්තමී විභක්ත්‍යර්ථයෙනි. එබැවින් 'එකං සමයං' යන තැන පුරාණාචාර්යයන් වහන්සේලා විසින් 'එකස්මිං සමයෙ' යැයි අර්ථය වර්ණනා කරන බව බුදුගොස් ඇදුරුතුමාණෝ දීඝනිකායාර්ථකථාවේ පවසති (දීනිඅ[1], පි.26). මෙ පරිද්දෙන් ම 'පුබ්බණ්හ සමයං නිවාසෙත්වා' යනාදි තැන්හි ද සප්තමී විභක්ත්‍යර්ථ දීපනය පිණිස ද්විතීයා විභක්ති නිර්දෙශය කළ බැව් පිළිගත යුතු ය. එතකුදු වුවත් ඒ සියලු තැන්හි අත්‍යන්තසංයෝගාර්ථය ද දීපනය වන බැව් තදීය අර්ථකථා විග්‍රහයෙන් දැක්වේ. 'එකං සමයං' යන්න විවරණය කරන දීඝනිකායාර්ථකථාවඃ

> **"ඉධ පන අඤ්ඤස්මිඤ්ච එවං ජාතිකෙ අච්චන්තසංයොගත්ථො සම්භවති. යං හි සමයං භගවා ඉමං අඤ්ඤං වා සුත්තන්තං දෙසෙසි, අච්චන්තමෙව තං සමයං කරුණාවිහාරෙන විහාසි, තස්මා තදත්ථජොතනත්ථං ඉධ උපයොගවචනනිද්දෙසො කතොති."**
>
> (දී.නි.අ, පිටු.25-26)
>
> (මෙ තැන්හි ද අන් මෙබඳු තැන්හි ද අත්‍යන්තසංයෝගාර්ථය ලැබේ. යම් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ මේ සූත්‍ර දේශනාව හෝ අන් සූත්‍ර දේශනාවක් දේශනා කළ සේක් ද අත්‍යන්තයෙන් ම එසමයෙහි කරුණා විහාරයෙන් වැඩවාසය කළ සේක. එහෙයින් එකී අත්‍යන්තසංයෝගාර්ථ දීපනය පිණිස මෙහි උපයෝග වචන නිර්දේශය කරන ලද්දේ ය.)

යැයි ඒ බැව් ස්ඵුට වේ. එසේ ම 'පුබ්බණ්හසමයං' යන තැන ද අත්‍යන්තසංයෝගාර්ථය දීපනය වන බව මජ්ඣිමනිකායාර්ථකථාවෙහි මෙසේ දැක්වේ.

> **පුබ්බණ්හසමයන්ති දිවසස්ස පුබ්බභාගසමයං. පුබ්බණ්හසමයෙති අත්ථො, පුබ්බණ්හෙ වා සමයං පුබ්බණ්හසමයං, පුබ්බණ්හෙ එකං ඛණන්ති වුත්තං හොති, එවං අච්චන්තසංයොගෙ උපයොගවචනං ලබ්භති.** (මනිඅ,[2] පි.136)

[1] දීඝනිකායට්ඨකථා (දීනිඅ), සංස්ඃ ධම්මකිත්ති සිරි දේවමිත්ත ස්ථවිර, බෞසංම, 2009
[2] මජ්ඣිමනිකායට්ඨකථා (මනිඅ), සංස්ඃ ධම්මකිත්ති සිරි ධම්මානන්ද ස්ථවිර, හෙමු, 2014

('පුබ්බණ්හසමයං' යනු දවසේ පූර්වභාග සමය යි. 'පුබ්බණ්හසමයෙ' යන අර්ථය යි. 'පුබ්බණ්හෙ වා සමයං පුබ්බණ්හසමයං' යනු විග්‍රහය යි. (සප්තමී තත්පුරුෂ සමාසය යි). පෙරවරුවේ එක් ක්‍ෂණයක් යැයි කියන ලද්දේ වෙයි. මෙසේ අත්‍යන්තසංයෝගයේ උපයෝග වචනය (ද්විතීයා විභක්ති වචනය ලැබේ.)

එබැවින් මේ 'ඡාරත්තං මානත්තං' යන තැන වුව ද යමෙක් සප්තමී විභක්ත්‍යර්ථය ඇසුරු කරගෙන කියන ලද ද්විතීයා විභක්ති නිර්දේශය බව කියන්නේ නමුදු එහි ලා ද අත්‍යන්තසංයෝගාර්ථය ම දීපනය වන බැව් මොනවට පැහැදිලි ය. තව ද 'ඡාරත්තං මානත්තං' යන තැන හුදු සප්තමී විභක්ත්‍යර්ථය ගත යුතු බව සහ ඒ අනුව අතරතුර රාත්‍රී සිඳීම් සහිතව කඩකොට මානත පිරිය හැකි බවට ග්‍රන්ථාන්තරයෙනුදු කිසිදු පිහිටක් නැත්තේ ම ය.

චුල්ලවග්ගපාළි සමුච්චයක්ඛන්ධකයෙහි පාරිවාසික චත්තාළීසකයෙහි '**ඉධ පන භික්ඛවෙ භික්ඛු මානත්තං චරන්තො විබ්භමති. විබ්භන්තකස්ස භික්ඛවෙ මානත්තචරියා න රූහති (චුල්ල.1, පි.288)**' යැයි සඳහන් වන්නේ මානත පුරමින් සිටින අතරතුර උපැවිදි වුවහොත් ඒ පුද්ගලයාගේ මානත රූහනය නොවන බවයි. එහෙත් යළි පැවිදිව උපසම්පද වුවහොත් මුලින් පුරන ලද මානත දින ගණන තබා ඉතිරි දින ගණන පමණක් පිරිය යුතු බව සඳහන් වේ. ඒ අනුව මානත පුරන ලද දින ගණන අතහැර සෙසු දින ගණන පමණක් පිරිය යුතු බව '**යං මානත්තං දින්නං සුදින්නං, යං මානත්තං චිණ්ණං සුචිණ්ණං, අවසෙසං චරිතබ්බං (චුල්ල.1, පි.288)**' යැයි සඳහන් වේ. ඒ අනුව අතරතුර කඩ වූ මානත ඉතිරිය පිරීම යුතු නො වේ ද? යන ගැටළුව ඇති වේ. මෙහි සඳහන් වන්නේ මානත පිරීම අතරතුර උපැවිදි වීම, සාමණේර බවට පත් වීම වැනි ඇවතින් නැගී සිටීමට අසමත් පුද්ගලයෙකු බවට පත් වීමයි. එවැනි අවස්ථාවක දී කඩ වූ මානත යළි උපසම්පද වී ඇවතින් නැගී සිටීමට සමත් පුද්ගලයකු වීමෙන් අනතුරුව නතර කළ තැන් පටන් ආරම්භ කිරීම යුතු වේ. ඒ අනුව උපසම්පද වූ සීමා මාලකයේ දී ම මානත සමාදන්ව ආරෝචනය කළ යුතු බව ඇදුරු මතයයි. එහෙත් ඇවතින් නැගී සිටීමට සමත්ව සිටිය දී අතරතුර කඩ කිරීම නො කළ යුතු බව '**අඛණ්ඩං චරිතබ්බං**' යන අර්ථකථා පාඨයෙන් හෙළි වේ.

තව ද '**ගරුකලහුකෙසු ගරුකෙ ඨාතබ්බං**' යනු විනය ලක්‍ෂණය යි (**සම.පා**, පි.557). එනම් ගරුක ලහුක තැන්හි පැමිණ ගරු තැන පිහිටිය යුතු බව යි. සඞ්ඝවෙසෙස් ඇවැත වනාහි නැගීසිටීම පිණිස මුල, මැද, අග යන තුන් තැන්හි සංඝයාගේ මැදිහත් වීම අත්‍යවශ්‍ය බවට පනවා වදාළ ආපත්තියක් වේ. ඒ නිසා ම සඞ්ඝවෙසෙස් ඇවැතකට පත් වූ භික්ෂුවක් විසින් ඉන් නැගීසිටීමේ ක්‍රියාවලිය මහත් ගෞරවයෙන් පිළිපැදිය යුතු වේ. එහි ලා ගරු තැන පිහිටිය යුතු තැන ගරු තැන ම පිහිටිය යුතු වේ. එය ලුහු සේ සැලකීම නො මැනවි. එහෙයින් ග්‍රන්ථාන්තරයෙන් සුප්‍රකට වූ සදිනක් නොකඩවා අතරක් නැර මානත පුරා අබ්භාන කර්ම කර නැගීසිටීමේ ක්‍රියාදමය ලුහු කොට නොසැලකිය යුතු. යම්හෙයකින් මානත නිසි පරිදි සම්පූර්ණ නොවූයේ නම් ඒ භික්ෂුව 'චිණ්ණමානත්ත' බවට පත් නො වේ. එබඳු භික්ෂුවක් විෂයෙහි අබ්භාන කර්ම වශයෙන් ප්‍රකෘති සංඝයා වෙත ඇතුළත් කර ගත්තේ නමුදු එය අසිද්ධ ය. එබැවින් මෙබඳු ශංසය සහිත ස්ථානවල දී සුපිරිසිදු ථෙරවාදී ග්‍රන්ථාගත විනිශ්චය සහ විනයෙහි දක්‍ෂ විනයධරයන්ගේ විනිශ්චය නොඅතහැර අනුගමනය කළ යුතු බැව් සිහිපත් කළ යුතු වේ.

මෙසේ සදිනක මානත පූරණය කිරීම පිළිබඳ අර්ථ විග්‍රහ ඉදිරිපත් කර අනතුරුව පුරන ලද මානත් ඇති භික්ෂුව අබ්භාන කිරීම වශයෙන් ප්‍රකෘති සංඝයාට ඇතුළත් කරගන්නා ආකාරය දක්වනු වස් '**යත්ථ සියා...**' යනාදිය ඇරඹූහ.

**සඃ යත්ථ සියා**[1] **වීසතිගණො ඉති එත්ථ**, 'යත්ථ සියා වීසතිගණො' යන මෙහි; **වීසති සඞ්ඝො ගණො අස්ස ඉති වීසතිගණො**, යනු වීසතිගණ පදයාගේ විග්‍රහය යි (**වීසතිසඞ්ඝො**, විසිනමක් වූ සංඝ තෙමේ; **ගණො**, ගණයා; **අස්ස ඉති**, එයට ඇත්තේ නු යි; **වීසතිගණො**, වීසතිගණ නම් වේ). **තත්‍ර ඉති**, 'තත්‍ර' යනු; **යත්‍ර**, යම් සීමාවෙක්හි; **සබ්බන්තිමෙන පරිච්ඡෙදෙන**, සියල්ලට යටත් පිරිසෙයින්; **වීසතිගණො භික්ඛුසඞ්ඝො**, විංශද්ගණ භික්ෂු සංඝ තෙමේ; **අත්ථි**, ඇත්තේ ද; **තත්ථ**, එහි යන්න යි. **අබ්භෙතබ්බො ඉති**, 'අබ්භෙතබ්බො' යනු; **අභිඑතබ්බො**, 'අභි එතබ්බො' යැයි පද බෙදගත යුතු. **සම්පටිච්ඡිතබ්බො**, පිළිගත

[1] **යස්ස සියා**, හෙමු

යුත්තේය යන අර්ථය යි. **අබ්භානකම්මවසෙන**, අබ්භාන කර්ම වශයෙන්; **ඔසාරෙතබ්බො ඉති**, ඔසාරණය (ප්‍රකෘති සංඝයා වෙත ඇතුළත් කරගැනීම) කළ යුත්තේ යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **වා**, නොහොත්; **අව්හාතබ්බො**, (ප්‍රකෘති භික්ෂූන් අතරට) කැඳවිය යුතු ය; **ඉති අත්ථො**, යන අර්ථය යි. **අබ්භානකම්මං පන**, අබ්භාන කර්මය වනාහි; **පාළිවසෙන**, පෙළ වශයෙන්; **ඛන්ධකෙ**, ඛන්ධකයෙහි ද; **විනිච්ඡයවසෙන**[1], විනිශ්චය වශයෙන්;

- 51 -

**සමන්තපාසාදිකායං**, සමන්තපාසාදිකාවෙහි ද; **වුත්තං**, කියන ලදී. **අනබ්භිතො ඉති**, 'අනබ්භිතො' යනු; **න අබ්භිතො**, 'න අබ්භිතො' යන්න යි. **අසම්පටිච්ඡිතො**, නොපිළිගන්නා ලද්දේ; **අකත අබ්භානකම්මො ඉති**, නොකරන ලද අබ්භාන කර්ම ඇත්තේ යැයි; **වුත්තං හොති**, කියන ලද්දේ වෙයි. **වා**, නොහොත්, **අනව්හාතො ඉති අත්ථො**, (ප්‍රකෘති භික්ෂූන් අතරට) නොකැඳවන ලද්දේය යන අර්ථය යි.

**තෙ ච භික්ඛූ ගාරය්හා ඉති**, 'තෙ ච භික්ඛූ ගාරය්හා' යනු; **යෙ**, යමෙක්; **ඌනභාවං ඤත්වා**, විංශද්ගණ භික්ෂු සංඝයාට වඩා අඩු බව දැන; අබ්භෙන්ති, අබ්භාන කර්මය කරත් ද; **තෙ භික්ඛූ ච**, ඒ කාරක සංඝ භික්ෂූහු ද; **ගරහිතබ්බා**, ගැරහිය යුත්තාහුය. **සාතිසාරා සදෙසා**, දෙස් සහිතයහ. **දුක්කටං**, දුකුළාවකට; **ආපජ්ජන්ති ඉති**, පැමිණෙත් ය යන; **අත්ථො**, අර්ථය යි. **අයං තත්ථ සාමීචි ඉති**, 'අයං තත්ථ සාමීචි' යනු; **අයං**, මේ; **තත්ථ**, එහි; **අනුධම්මතා**, අනුධර්මතාවය යි (මාර්ගානුකූල ප්‍රතිපත්ති ප්‍රයෝග යි). **ලොකුත්තරධම්මං අනුගතා**, ලොව්තුරු දහම් අනුව පැවැත්තා වූ; **ඔවාදනුසාසනී**, අවවාදනුශාසනීය වූ; **සාමීචි ධම්මතා**, සාමීචි ධර්මතාවය යි (ව්‍රත ධර්මය යි). **එත්ථ**, මෙහි ලා; **සෙසං**, සෙස්ස; **වුත්තනයං එව ඉති**, කියන ලද නය ඇත්තේ ම නු යි,

**කඞ්ඛාවිතරණියා පාතිමොක්ඛවණ්ණනාය**, කඞ්ඛාවිතරණී
ප්‍රාතිමෝක්ෂ වර්ණනාවගේ; **සඞ්ඝාදිසෙසකණ්ඩවණ්ණනා**,
සංඝාදිසේස කාණ්ඩ වර්ණනා තොමෝ;
**නිට්ඨිතා**, නිමියාය.

---

[1] 'ඛන්ධකෙ විනිච්ඡයවසෙනා'ති පදං නත්ථි. හෙමු

## අබ්භානය

**114. වි: 'චිණ්ණමානත්තො භික්ඛු යත්ථ සියා වීසතිගණො භික්ඛුසඞ්ඝො'** යනාදි ලෙස සඳහන් වන දේශනා පාළියේ අර්ථය වර්ණනා කරනු පිණිස **'යත්ථ සියා'** යනාදිය කියන ලදී.

යථොක්ත ආකාරයට පිරිවෙස් පුරා අනතුරුව සංඝයා වෙත එළඹ මානත ගෙන සමාදන්ව අවම වශයෙන් භික්ෂූන් සතර නමක් සිටින සෙනසුනක රත්තිච්ඡේද නොවී නොකඩකොට පුරන ලද මානත් ඇති භික්ෂුව 'චිණ්ණමානත්ත' භික්ෂුවක් ලෙස හැඳින්වේ. එසේ පුරන ලද මානත් ඇති භික්ෂුව අබ්භාන කර්මයට සුදුසු වේ. එනම් අබ්භානාර්හ වේ. ඒ අබ්භානාර්හ භික්ෂුව සංඝයා වෙත එළඹ අබ්භාන කර්ම වශයෙන් ප්‍රකෘති සංඝයාට ඇතුළත් කිරීම කරවාගත යුතු වේ.

එහි දී නික්ඛිත්ත වත්ත ක්‍රමයට මානත පුරන ලද භික්ෂුව පළමුව අබ්භානාර්හ කළ යුතු වේ. මානත නික්ෂේප කර ඇති විට ඒ භික්ෂුව ප්‍රකෘති භික්ෂුවකගේ ස්ථානයේ සිටී. එසේ ප්‍රකෘති භික්ෂුවකට අබ්භාන කර්ම නොකළ යුතු වේ. එහෙයින් පළමුව මානත සමාදන් කරවිය යුතු වේ. එසේ සමාදන් වූ කල්හි අබ්භානාර්හ වේ. එසේ අබ්භානාර්හ භික්ෂුව විසිනුදු පළමුව මානත ආරෝචනය කර අබ්භානය ඉල්විය යුතු වේ. අනික්ඛිත්ත වත්ත ක්‍රමයට මානත පුරන්නේ නම් යළි සමාදන් වීමක් නොමැත.

එසේ අබ්භාන කර්මය සඳහා සිටිය යුතු භික්ෂූන් ගණන දැක්වීම 'යත්ථ සියා වීසතිගණො භික්ඛුසඞ්ඝො' යැයි කියන ලදී. එනම් මේ අබ්භාන කර්මය වූ කලි විංශද්වාර්ගික භික්ෂු සංඝයා විසින් කළ යුතු විනය කර්මයක් වන්නේය. එනම් අබ්භාන කර්මාර්හ භික්ෂුව හැරුණුකොට සෙසු කායසාමග්‍රිය පිණිස අත්පසට රැස් වූ භික්ෂූන්ගේ ගණන විසිදෙනෙක් විය යුතු බව යි. එක් භික්ෂුවක් හෝ අඩු වුවහොත් අබ්භාන කර්මය නො සිදුවේ. එහෙයින් මෙසේ කියන ලදී, **'එකෙනපි චෙ ඌනො වීසතිගණො භික්ඛුසඞ්ඝො තං භික්ඛුං අබ්භෙය්‍ය, සො ච භික්ඛු අනබ්භිතො'** යනුවෙන් ඒ විංශද්වාර්ගික භික්ෂු සංඝයාට අඩු පිරිසක් සහිත සංඝයා යම් අබ්භානාර්හ භික්ෂුවකට අබ්භාන කර්මය කළ ද ඒ භික්ෂුව අනබ්භිත වේ. එනම් ප්‍රකෘති සංඝයා විසින්

නොපිළිගත්, නොකරන ලද අබ්භාන කර්ම ඇති, ස්වකීය සඟවෙසෙස් ඇවැතින් නොනැඟීසිටි භික්ෂුවක් වෙයි.

තව ද යම් සඟ පිරිසක විංශද්වාර්ගික භික්ෂු සංඝයාට වඩා අඩු පිරිසක් සිටී නම්, එබඳු භික්ෂු පිරිසක් විසින් දන දන අබ්භානාර්හ භික්ෂුවකට අබ්භාන කර්ම නොකළ යුතු වේ. එසේ කිරීමෙන් ඒ අබ්භාන කර්මය නොසිදු වනවා පමණක් නොව කාරක සංඝයා ද ගැරහිය යුතු බවට පත් වේ. දෙස් සහිත වේ. දුකුළා ඇවැතකට පත් වේ.

**භදන්තාචරිය අනුබුද්ධ බුද්ධඝෝෂ මහ තෙරිඳුන් විසින් විරචිත**
**කඞ්ඛාවිතරණී නම් මාතිකට්ඨකථාවට**
**ලියන ලද**
**විනයත්ථදීපනී නාම සවිස්තර ව්‍යාඛ්‍යානයේ**
**සංඝාදිසේසුද්දේස වර්ණනාව නිමි.**

-//-



## සසුනට දිරි දීමට සමත් භික්ෂුව;

**පච්චත්ථිකා යෙන වජන්ති නිග්ගහං**
**මහාජනො සඤ්ඤපනඤ්ච ගච්ඡති**
**සකඤ්ච ආදායං සමයං න රිඤ්චති**
**සො බ්‍යාකරං පඤ්හමනූපඝාතිකං**

යම් වචනයකින් පසමිතුරෝ නිග්‍රහයට යෙත් ද මහාජනයා අවබෝධයට ද යේ ද යමක් කියනුයේ ස්වකීය ආචාර්යවාදය ද ගෙන සමය සිස් නො කරයි ද හෙතෙමේ කිසිවෙකුට හිංසා නොකරමින් ප්‍රශ්නය විසඳන්නේය.

(උපාලි මහරහතන් වහන්සේ)

# ආශ්‍රිත ග්‍රන්ථ

## ප්‍රාථමික මූලාශ්‍රය

**අංගුත්තරනිකාය, ප්‍රථම භාගය.** 2006. බුජමු. දෙහිවල: බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය.

**අංගුත්තරනිකායට්ඨකථා, ප්‍රථම භාගය.** 1923. සංස්. ධම්මකිත්ති සිරි ධම්මානන්ද හිමි., කොළඹ: සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථා.** 1991. සංස්. කරන්දන ජිනරතන හිමි., කොළඹ: සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**කඞ්ඛාවිතරණී මාතිකට්ඨකථා.** 1924. සංස්. කාළුවිල ඉන්දරතන හිමි., කාළුවිල: දෙන් ඒබ්‍රහම් රාජපක්ෂ මුදලාලි.

**කඞ්ඛාවිතරණී නම් වූ ප්‍රාතිමෝක්ෂ වර්ණනාව.** 2012. සංස්. කාළුවිල ඉන්දරතන හිමි., දෙහිවල: බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය.

**කඞ්ඛාවිතරණී පිටපොත.** 1936. සංස්. කළුකොඳයාවේ පඤ්ඤසෙබර හිමි., කොළඹ: ජී. ඩී. ශරණතිලක ජයශේඛර.

**කච්චායනසරූපවිඤ්ඤපන.** 2015. සංස්. හික්කඩුවේ සුමඞ්ගල හිමි., කොළඹ: ඇස්. ගොඩගේ සහ සමාගම.

**කුදුසික හා පුරාතන විස්තර සන්නය.** 1954. සංස්. මොරගල්ලේ සිරි ඤාණෝභාසතිස්ස හිමි., කොළඹ: ඇම්. ඩී. ගුණසේන.

**චුල්ලවග්ගපාළි, ප්‍රථම භාගය.** 2013. බුජමු. බණ්ඩාරගම: ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

**චුල්ලවග්ගපාළි, ද්විතීය භාගය.** 2013. බුජමු. බණ්ඩාරගම: ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

**දීඝනිකාය, ප්‍රථම භාගය.** 2006. බුජමු. දෙහිවල: බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය.

**දීඝනිකායට්ඨකථා, ප්‍රථම භාගය.** 1918. සංස්. ධම්මකිත්ති සිරි දෙවමිත්ත හිමි., කොළඹ: සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**දීඝනිකායට්ඨකථා, ද්විතීය භාගය,** 1925. සංස්. බෝරුග්ගමුවේ රේවත හිමි., කොළඹ: සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**පාරාජිකපාළි.** 2013. බුජමු. බණ්ඩාරගමඃ ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

**පරිවාරපාළි, ප්‍රථම භාගය.** 2013. බුජමු. බණ්ඩාරගමඃ ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

**පරිවාරපාළි, ද්විතීය භාගය.** 2013. බුජමු. බණ්ඩාරගමඃ ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

**පාලිමුත්තකවිනයවිනිච්ඡය සඞ්ගහො.** 1931. සංස්. දෙහිගස්පේ පඤ්ඤාසාර හිමි, පලන්නොරුවේ විමලධම්ම හිමි හා වේරගොඩ අමරමොලි හිමි., ඒ. කුරුප්පු.

**පාලිමුත්තකවිනයවිනිච්ඡයසඞ්ගහටීකා.** 1908. සංස්. කහඳමුවදෙර පඤ්ඤාසාර හිමි., ඇම්. ඇම්. පී. විජයරත්න අප්පුහාමි, කේ. ඇල්. දවිත් ද සිල්වා.

**මජ්ඣිමනිකාය, ප්‍රථම භාගය.** 2006. බුජමු. දෙහිවලඃ බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය.

**මජ්ඣිමනිකාය, ද්විතීය භාගය.** 2006. බුජමු. දෙහිවලඃ බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය.

**මජ්ඣිමනිකාය, තෘතීය භාගය.** 2006. බුජමු. දෙහිවලඃ බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය.

**මජ්ඣිමනිකායට්ඨකථා, ප්‍රථම භාගය.** 1933. සංස්. ධම්මකිත්ති සිරි ධම්මානන්ද හිමි., කොළඹඃ සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**මජ්ඣිමනිකායට්ඨකථා, ද්විතීය භාගය.** 1943. සංස්. ධම්මකිත්ති සිරි ධම්මානන්ද හිමි., කොළඹඃ සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**මජ්ඣිමනිකායට්ඨකථා, තෘතීය භාගය.** 1952. සංස්. ධම්මකිත්ති සිරි පඤ්ඤාසාර හිමි., කොළඹඃ සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**මජ්ඣිමනිකායට්ඨකථා, චතුර්ථ භාගය.** 1947. සංස්. ධම්මකිත්ති සිරි පඤ්ඤාසාර හිමි., කොළඹඃ සයිමන් හේවාවිතාරණ මුද්‍රණාලය.

**මහාවග්ගපාළි, ප්‍රථම භාගය.** 2013. බුජමු. බණ්ඩාරගමඃ ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

**මහාවග්ගපාළි, ද්විතීය භාගය.** 2013. බුජමු. බණ්ඩාරගමඃ ශ්‍රී ලංකා ධර්මචක්‍ර ළමා පදනම.

